# දිවැසින් දුටු දෙව්ලොව සැප 1-25

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද සිට ඔබ අලුත් දහම් වැඩසටහනක් සමඟ එකතු වෙනවා. මේ අදින් ආරම්භ වෙන මේ දහම් වැඩසටහනේ නම දිවැසින් දුටු දෙව්ලොව සැප. අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ ආශිර්වාදයෙන් තමයි මීට කලින් අපි දිවැසින් දුටු බියකරු සසර දහම් වැඩසටහන සිද්ධ කලේ. ඉතින් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපිට අවවාද අනුශාසනා කලා මේ සතර අපායේ බය හැකිතරමක් මේ සැදැහැවතුන්ට කියලා දෙන්න සතර අපායේ නොවැටීම පිණිස. කර්ම කර්මඵල අදහා ගැනීම පිණිස. ඒ වගේම අපිට ආශිර්වාද කලා දෙව්ලොව සැප පිළිබඳවත් කියලා දෙන්න, හේතුව පිනෙහි විපාක තේරුම් ගැනීම පිණිස. ඒ වගේම දෙව්ලොව රැකවරණයක් සලසාගන්න පුලුවන්ද කියන කාරණාව තේරුම් කරදීම පිණිසත්, ඒ වගේම පිනේ විපාක හොඳට තේරුම් ගැනීම පිණිසත් දෙව්ලොව සැප පිළිබඳව කියලා දෙන්න කියලා. මොකද මේ ජීවිතේ ආදීනව කියලා එකකුත් තියෙනවා, ආශ්වාදය කියලා එකකුත් තියෙනවා. එතකොට යන සංසාරයේ ආදීනව සතර අපායේ ඔය විදියට විඳිනවා. ආශ්වාදය සුගති සම්පත්තිවල විඳිනවා, ප්‍රකටව. නමුත් ජීවිතයක ඕනම මොහොතක ආදීනව, ආශ්වාද ආදිය තිබෙනවා. ඉතින් දෙව්ලොව, දෙව්ලොවත් අයිති සසරට තමයි.

බ්‍රහ්ම ලෝකයත් අයිති සසරට තමයි. නමුත් දෙව්ලොව තියෙන ආදීනවය තමයි අනිත්‍යයි. යම් තාක් ඒ පුණ්‍ය විපාකය දෙනවාද, ඒ තාක් ඒ දෙව්ලොව සැප විඳිනවා. ඉන් අනතුරුව ඒ දෙව්ලොව සැප එහෙම්මම අනිත්‍යය වෙලා යනවා. ආයෙත් සසරට වැටෙනවා. ඒක තමයි දෙව්ලොව තියෙන ආදීනවය. නමුත් දෙව්ලොව සැපයක් තියෙනවා. ඒ සැපයත් තේරුම්ගන්න. ඒ වගේම දිව්‍යලෝකය ගැන ඇයි මේච්චර කියන්නේ කියලා අද ආරම්භක දේශනාවේම යම් කරුණු ටිකක් අපි මේ පින්වතුන්ට අද කියලා දෙනවා. ඉතින් අද දවසේ මේ වැඩසටහන ආරම්භ කරන්න පළවෙනි දායකත්වය දරනවා, ගිරාදුරුකෝට්ටේහි අගලවහි පදිංචි පින්වත් අසංක ප්‍රියදර්ශන පුතාත්, සසිකලා ජීවන්ති දියණියත් විසින්. අසංක පුතාත්, සසිකලා ජීවන්ති දියණියත් යුගදිවියට පිවිසීම මුල් කරගෙන ආශිර්වාද සලසාගන්න තමයි මේ වැඩසටහන සිද්ධ කරන්නෙ. ඒ වගේම බොහෝ දෙනාට බය තැතිගැනීම කැන්දූ, ලෝක ව්‍යසනයක්ව පැවතෙන කොරෝනා වෛරසය මේ ලෝක ධාතුවෙන් තුරන් වීම පිණිසම මේ පුණ්‍යානුභාවයෙන් ආශිර්වාද කරන්නටත් ඒ පින්වතුන් බලාපොරොත්තු වෙනවා. ඒ නිසා අද දවසේ මේ ආරම්භ වෙන දහම් වැඩසටහනින් ඔබ ගොඩාක් යහපත සලසාගන්න. ඔබ කරන පින්කම් වල විපාක කොයි වගේද කියලා හොඳට ඉගෙනගන්න අවස්ථාවක් ලැබෙනවා, ඒ වගේම එක එක පින්කම් වල එක එක ආනිසංස ඔබට ඉගෙනගන්න ලැබෙනවා. විශාල යහපතක් ඔබට සැලසෙනවා. ඉතින් පින්වතුනි, පහුගිය කාලයේ ආරම්භ වුනු, මේ ලෝක ව්‍යසනයක් වුනු මේ කොරෝනා වසංගතය මුල් කරගෙන තමයි අපි මේ සසර ගැන දහම් වැඩසටහන ආරම්භ කළේ. ඉතින් බොහෝ දෙනා දිවැසින් දුටු බියකරු සසර දහම් වැඩසටහන අහලා ගොඩාක් දෙනා දායකත්වය දැරුවා, ඉදිරියටත් දිගටම මේ දහම් වැඩසටහන පවත්වගෙන යන්න කියලා. ඉතින් ඒ නිසා තමයි අපි දෙවෙනි කොටසත් මේ ආරම්භ කළේ, විමානවත්ථුව ඇසුරින් දහම් දේශනා සිද්ධ කරන්න. එතකොට විමානවත්ථුවේත් දහම් දේශනා ඉගෙනගත්තට පස්සෙ ඛුද්දක නිකායේ දෙවෙනි පොත් වහන්සේ සම්පූර්ණයෙන් ඉගෙන ගැනීමේ වාසනාව මේ පින්වතුන්ට සැලසෙනවා. ඉතින් පින්වතුනි, මේ සසර මේ බියකරු සසරත්, ඒ වගේම මේ දෙව්ලොව සැපත් දුටුවේ බුදුරජාණන් වහන්සේ. දැන් මේ විමානවත්ථුවේ දෙවියන්ගේ කතා අපිට විමානවත්ථුවේම කතා අසූ පහක් ඉගෙන ගන්න ලැබෙනවා. ඉතින් ඒ කතාත් ඒ වගේම වංශ කතා ඇසුරින් දෙවියන්ගේ කතාත්, ඒ වාගේම අටුවා වල එන දෙවියන්ගේ කතාත්, ඒ වාගේම

අද කාලේ මේ යුගයේ දිව්‍යලෝකවල ගියෙ කවුද ඒ අයගේ කතාත් ඔබට මේ දේශනා මාලාවේ අවසානෙට අහන්න ලැබෙනවා. ඉතින් ඒ නිසා බොහොම සන්තෝෂයට පත්වෙන්න මේ ධර්මය ඉගෙන ගන්න ලැබෙන එක. අපිට පිහිට පිළිසරණ පිණිස පවතින්නේම ධර්මය තමයි පින්වත්නි. වෙන කිසිම පිහිටක් පිළිසරණක් නෑ, ඔබ දුටුවාද පහුගිය කාලයේ මේ මිනිසුන්ට වුන ව්‍යසනය. ඒ වාගේම රොත්ත පිටින් මිනිස්සු මැරිලා ගිය හැටි. අසරණ වුනු හැටි. ඒ වගේම මිලමුදලින් ප්‍රශ්න විසඳගන්න බැරිවුනු හැටි. ඉතින් ඒ නිසා ජීවිතේ කාටත් අවසානයේ ඉතිරි වෙන්නේම ධර්මයම විතරයි. තමන් කරගත්තු කුසලයක් අකුසලයක් තිබ්බොත් ඒකමයි තමන්ගේ නියමුවා බවට පත්වෙන්නෙ. ඉතින් ඒක නිසා ඒ කරුණු කාරණා තේරුම් ගන්න. ඉතින් පින්වතුනි බුදුරජාණන් වහන්සේට මේ සසර ගමන දැකීමේ විශේෂ ඥාණයක් තියෙනවා. උපතින් උපතකට යන හැටි. ඒ පිළිබඳව බුදුරජාණන් වහන්සේ දේශනා කරපු දේශනාවක් මහා සිංහනාද සූත්‍රයේ තියෙනවා, බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් සාරිපුත්ත, තථාගතයන් වහන්සේට ඥාණයක් තියෙනවා මේ උපත ලබන ක්‍රම පිළිබඳව ඒ කියන්නෙ බිත්තර අස්සේ උපදිනවා සත්ත්වයා, ඒකට කියනවා අණ්ඩජ උපත. දැන් බලන්න මේ සංසාරේ යද්දි සත්ත්වයෝ බිත්තර අස්සෙත් උපදිනවා. ඊළඟට ජලාබුජ. ජලාබුජ කියන්නෙ මව්කුසේ උපදිනවා. ඊළඟට සංසේදජ, සංසේදජ කියන්නෙ තෙත් පරිසරයේ නැත්නම් ඔය කුණු වෙන තැන්වල, කුණු මාළු ඔය වගේ තියෙන තෙත් පරිසරවල උපදිනවා. ඊළඟට තමයි ඕපපාතිකව, ඕපපාතිකව කියලා කියන්නෙ මව්පියන් දෙදෙනෙක් නැතිව ඕපපාතිකව, අර ක්‍රම තුනෙන් තොරව පහළ වෙන එකට කියනවා ඕපපාතික උපතක් කියලා. ඉතින් මේ විදියට උපත් සිද්ධ වෙන ආකාරය බුදුරජාණන් වහන්සේට වැටහෙනවා. ඒ වගේම බුදුරජාණන් වහන්සේ දන්නවා සාරිපුත්ත මහරහතන් වහන්සේට දේශනා කරනවා, පින්වත් සාරිපුත්ත ඉපදීම් පවා පහක් තියෙනවා, ඒ පහ මොනවාද, නිරය, තිරිසන් යෝනිය, ප්‍රේත ජීවිතය, මිනිස් ජීවිතය, දිව්‍ය ජීවිත. ඔන්න ඉපදීම් ජීවිත පහ. එතකොට පින්වත්නි මෙතන අසුර අපාය ගැන කිව්වෙ නැහැ. කිව්වෙ නිරය, තිරිසන්, ප්‍රේත, මිනිස්, දිව්‍ය කියලා. එතකොට, නමුත් ඔබට අසුර අපාය ගැන ඉගෙනගන්න ලැබුන වෙලාවෙ ඔබට තේරෙන්න ඇති අසුර අපායේ ස්වභාවය පෙරේත ලෝකෙට සමානයි. ප්‍රේත ලෝකයේ යම්කිසි එක්තරා ස්වභාවයක් වගේ තමයි පේන්නෙ අසුර ලෝකෙ. ඒ අසුර අපාය ගැන ඉගෙනගත්ත ඒ දහම් කොටසෙ ඒක ඔබට තේරෙන්න ඕන, ඉතින් ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ ප්‍රේත කොට්ඨාශයට

තමයි අසුර අපාය දාලා තියෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා, බුදුරජාණන් වහන්සේට පේනවා, දන්නවා, දකිනවා නිරය ගැන, නිරයේ උපදින්න හේතු වන මග, නිරයේ උපතට හේතු වන වැඩපිළිවෙල, බුදුරජාණන් වහන්සේ දන්නවා යම්කිසි කෙනෙක් මරණින් මත්තේ ගිහිල්ලා නිරයේ උපත ලබනවානම් ඒකත් බුදුරජාණන් වහන්සේට පේනවා. තිරිසන් ලෝකෙ යන විදිය, ප්‍රේත ලෝකෙ යන විදිය, බුදුරජාණන් වහන්සේට පේනවා. ඒ වගේම මනුස්ස ජීවිත වල උපදින හැටි බුදුරජාණන් වහන්සේට පේනවා. ඒ වගේම දෙවියො ගැන වදාළා. පින්වත් සාරිපුත්ත, මම දෙවියන් ගැනත් දන්නවා. දිව්‍යලෝකෙ උපදින්න හේතු වන මාර්ගයත් දන්නවා. දිව්‍ය ලෝකෙ උපදින්න හේතුවන වැඩපිළිවෙලත් දන්නවා. දිව්‍යලෝකෙ උපදින විදියට ජීවත්වෙලා මරණින් පස්සෙ ඉතා යහපත් ඉපදීම නම් වූ ස්වර්ග ලෝකෙ උපදිනවානම් මම ඒකත් දන්නවා. එතකොට මේ දිව්‍ය ලෝක ගැන දන්නේ, දකින්නේ, විස්තර කලේ බුදුරජාණන් වහන්සේ. එතකොට අපි අද යම්කිසි විදියකට දිව්‍යලෝකෙ ගැන විස්තරයක් කියනවානම් ඒක බුදුරජාණන් වහන්සේ වදාළ දෙයක්නෙ. එතකොට දිව්‍යලෝකෙ ගැන කියන එක කාටහරි නිවනට බාධාවක් නම්, බුදුරජාණන් වහන්සේනේ මේවා දේශනා කලේ. එතකොට යම්කිසි කෙනෙක් දිව්‍යලෝක කතාවට ගැරහුවොත්, එහෙම නැත්නම් අමනාප වුනොත්, අසතුටු වුනොත් එයා අසතුටු වෙන්නෙ මා සමඟවත්, අපි සමඟවත්, මේ වැඩසටහන සමඟවත්, මහමෙව්නාව සමඟවත් නෙවෙයි. ඔහු අසතුටු වෙන්නේ, අමනාප වෙන්නේ, අපැහැදෙන්නේ, ගරහන්නේ බුදුරජාණන් වහන්සේගේ බුද්ධ දේශනාවට. මොකද මේ කියන ඒවා මම ඇහින් දැක්ක දෙයක් නෙවේ කියන්නෙ. බුදුරජාණන් වහන්සේ දැක්ක දේවල්. ඉතින් ඒ නිසා මේක හොඳට තේරුම් ගන්න. බුදුරජාණන් වහන්සේම වදාළා මමයි මේක දන්නේ, දැක්කේ කියලා. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා, බුදුරජාණන් වහන්සේ මේ ලෝකෙ ඉක්මවා ගිය නිවන ගැනත් දන්නවා. ඒ වගේම බුදුරජාණන් වහන්සේ ඒ නිවන් අවබෝධ කරන්න හේතු වන මාර්ගය, වැඩපිළිවෙල, නිවන අවබෝධ වන විදිය, ඊට අනුව කරන්න ඕන කටයුතු, ආශ්‍රවයන් ක්ෂය කරලා, ආශ්‍රව රහිත වෙලා, චිත්ත විමුක්තිය, ප්‍රඥා විමුක්තිය අවබෝධය තමා තුලින්ම දකිනවා නම් ඒකත් බුදුරජාණන් වහන්සේ දන්නවා දකිනවා නිවන ගැන. බුදුරජාණන් වහන්සේ මේ මනුස්සයෙක් එක එක උපතට යන විදිය පින්වත්නි දකිනවා බුදුරජාණන් වහන්සේගේ ඥාණය උපමා වදාළා. ඒ කියන්නෙ අපි කියමු කෙනෙක් නිරයේ යනවා කියලා. දැන් මේකෙන් හොඳට තේරෙනවා,

කොහොමද සතර අපායට වැටෙන්නේ, ඒ වගේම කොහොමද දිව්‍යලෝක වලට යන්නේ, කොහොමද නිවන් දකින්නේ කියලා. ඔන්න මේ කාරණාව තේරුම් ගන්න. මේ මජ්ඣිම නිකායේ සිංහනාද සූත්‍රයේ තියෙන කොටසක් මේ උපුටා දක්වන්නේ. සාරිපුත්ත, මම සමහර පුද්ගලයන්ගෙ සිත් ගැන මගේ සිතෙන් විමසලා අඳුනගන්නවා, මේ පුද්ගලයො ඔය විදියට ජීවත් වුනොත් නම් දිගින් දිගටම ඔය වැඩපිළිවෙල තුල හිටියොත් නම්, ඔය විදියට ජීවත් වුනොත්, දිගින් දිගට ඒ වැඩපිළිවෙල කලොත්, ඒ වගේම මැරුණට පස්සේ සැප රහිත වූ නිරයේ උපදිනවා කියලා මට පේනවා. ඉතින් මම යම්දවසක, පස්සෙ කාලෙ දිවැසින් බලනවා ඒ පුද්ගලයා කොහෙද ඉපදුනේ කියලා, ඇත්තටම සාරිපුත්ත නිරයේ ඉපදිලා සිටිනවා මම දකිනවා. සාරිපුත්ත මං උපමාවක් කියන්නම්. සාරිපුත්ත කෙනෙක් ඉන්නවා, සාරිපුත්ත තියෙනවා පාරක්, ඒ පාර ඉවරවෙන්නෙ මනුස්සයෙකුගෙ ප්‍රමාණයට වැඩිය, ඒ කියන්නෙ අඩි හයකට වැඩියෙ ගැඹුරු ගිනිඅඟුරු වළක් තියෙනවා, ගිනිදැල් නෑ, දුම් නෑ, ගිනි අඟුරුම පිච්චි පිච්චි තියෙනවා. එතෙන්ට තමයි එක පාරක් වැටිලා තියෙන්නෙ. ඉතින් මට පේනවා එක මනුස්සයෙක් එතනින් යන්න, ඒ පාරට වෙන පාරක් නෑ, එක තනි පාරක් තියෙන්නෙ. ඉතින් මට පේනවා එක මනුස්සයෙක් හොඳටම පෑවිල්ලට අහුවෙලා, හොඳටම දුක් විදලා, කලන්තෙ හැදිලා, වතුර පිපාසෙ, ඒ මනුස්සයා අර පාරෙ එනවා. ඒ පාර තියෙන්නෙ ඉවරවෙන්නෙ ගිනි අඟුරු වළකින්. විශාල ගිනිඅඟුරු වළකට තමයි ඒ පාරෙ ගිය කෙනා වැටෙන්නෙ. ඊටපස්සෙ දැන් නුවණැති පුරුෂයෙකුට හිතෙනවා අයියෝ, මේ මනුස්සයා මේ පාරෙ ගියොත් නම් ඊළඟට මේ ගමන නතර කලේ නැත්නම් මේ මනුස්සයා නම් ගිහිල්ලා වැටෙන්නෙම ගිනි අඟුරු වලට කියලා. ඉතින් මට ඒ මනුස්සයා පස්සෙ කාලෙක දකිනවා අනේ ගිනි අඟුරු වලේ වැටිලා පිච්චි පිච්චී, පිච්චි පිච්චී ඉන්නවා. ආන්න ඒ වගේ තමයි සාරිපුත්ත නිරයේ යන පාර. ඔන්න නිරයට වැටෙනවා නම් ගිනි අඟුරු වලකට වැටීම උපමා කලා. බඩගින්නෙන් පිපාසයෙන් යන අසරණයාම වැටුනානෙ ඒකට. ඒ වගේ සංසාරෙ යන සත්ත්වයාම වැටෙනවානෙ නිරයට. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මම දකිනවා තිරිසන් ලෝකෙ ඉපදෙන උපත මේ විදියට උපමාවකින්. ඒ තමයි මනුස්සයෙක්ගෙ ප්‍රමාණයට වැඩිය විශාල අශූචි වළක් තියෙනවා. ඒ අශූචි වළට යන්න පාරක් තියෙනවා. කෙනෙක් ඒ පාරෙම යනවා, නවතින්නෙත් නෑ, පාර වෙනස් කරන්නෙත් නෑ, ඉතින් ගිය ගමන් වැටෙන්නෙ ඒ අශූචි වලට. ඉතින් පස්සෙ කාලෙක දකිනවා අශූචි වළට වැටිලා ඉන්නවා, ආන්න ඒ වගේ තමයි සාරිපුත්ත

මමත් දකිනවා මේ එක්තරා සත්ත්වයෙක් එක වැඩපිළිවෙලක ඉන්නවා, දිගින් දිගටම ඒක කරනවා. එතකොට යම් පාපයක් දිගින් දිගටම කිරීම නතර නොකිරීම, සංවර නොවීම, පාර වෙනස් නොකරගැනීම තමයි මේ සතර අපායෙ වැටෙන්න හේතු වෙන්නෙ. ඒක තමයි පින්වතුනි පසුගිය කාලෙ දිගින් දිගටම සතර අපාය ගැන දේශනා කරනකොට අනේක වචනයෙක් නොයෙක් වචනයෙන් අපි විස්තර කලා මේ සතර අපායට වැටෙන්නේ ඒ පාපය දිගින් දිගට කරන කෙනා කියලා. අඩුපාඩු හදාගත්ත කෙනා පාර වෙනස් කලා. තෙරුවන් සරණ ගිය කෙනා සීලයේ පිහිටියා නම් පාර වෙනස් කරගන්නවා. ඉතින් ඒ නිසා මේ ඒ අයට සතර අපායෙන් මිදෙන්න, ගැලවෙන්න පුලුවන්. ඉතින් බුදුරජාණන් වහන්සේ තිරිසන් ලෝකයේ උපත අශුචි වලකට වැටීම වගේ උපමා කලා. පෙරේත ලෝකෙ උපමා කලේ බුදුරජාණන් වහන්සේ ඔන්න කෙනෙක් යනවා පාරක. ඒ පාර ඉවරවෙන්නේ ගහක් ළඟ, ඒ ගහේ එක කොළයක් නෑ, වේලිලා ගිය ගහක්. මැරිච්ච දඬු විතරක් තියෙන ගහක්. ඉතින් බඩගින්නෙන් පිපාසයෙන් පැවිල්ලට අහුවෙලා මනුස්සයෙක් යනවා, ඉතින් අර පාරෙ ගිහිල්ලා, ඒ පාර ඉවර වෙන්නෙ එතෙන්ට, ඉතින් මනුස්සයෙක්ට හිතෙනවා මේකා ගියොත් නම් අර ගහ ළඟට තමයි යන්නේ, පස්සෙ කාලෙක දකිනවා අර ගහට හේත්තු වෙලා ඔහේ ඉන්නවා. හැබැයි හෙවණක් නෑ, වැස්ස නෑ, කන්න නෑ, බොන්න නෑ, මොකුත් නෑ, හැබැයි අර අශුචි වලේ වැටුනෙත් නෑ, ගිනිඅඟුරු වලට වැටුනෙත් නෑ, ප්‍රේත ලෝකෙ ඔය වගේ. බුදුරජාණන් වහන්සේ දැක්කා මේ මනුස්ස ලෝකෙ උපදින හැටි. ඒ තමයි හොඳ නිල්පාට කොළ තියෙන, සීතල හෙවණ තියෙන විශාල නුග ගහක් තියෙනවා. එතකොට එතෙන්ට යන්න තියෙන පාර, එක පාරක් තියෙන්නෙ. ඉතින් මනුස්සයෙක් බඩගින්නෙ, පිපාසයෙන්, පැවිල්ලට අහුවෙලා යනවා. ඉතින් ඒ මනුස්සයට ඉතින් යම් සැපක් තියෙනවා අර නුග ගහ ළඟ. ඇයි නුග ගහ යට සීතලයි, හෙවණයි, යම් සැපක් තියෙනවා. නමුත් ඒ මනුස්සයට ඇත්තටම තියෙන්නෙ බඩගින්න, පිපාසය, දාහය. ඉතින් ඇත්තටම බලන්න අපි මනුස්ස ලෝකෙට ආවා, එතකොට අපිට තියෙන ප්‍රශ්න ටික නේද මේ, රාග ගින්න, ද්වේෂ ගින්න, මෝහ ගින්න, අවිද්‍යාව, තෘෂ්ණාව නොවීම. ඉතින් අපේ ගෙවල් දොරවල් හදාගෙන යාන වාහන තියාගෙන දරු මල්ලන් සමඟ ඔබ සිටිනවා. නමුත් ඉතින් ඒ සැපය වින්දට අර සංසාර දුකින් නිදහස් වීමේ ඒ ශාන්තිය, ඒ සැනසිල්ල, ගින්දර නිමුණු බව හිත්වල නැනෙ. ඉතින් අර නුග ගහයට සීතල හෙවණේ හාන්සි වෙලා හිටියට, ඒ මනුස්සයා බඩගින්නෙන් ආවෙ, පිපාසෙන් ආවෙ. ඒ මනුස්සයගේ ඒ

ප්‍රශ්නෙ විසඳුන් නෑ. බුදුරජාණන් වහන්සේ දිව්‍යලෝක වල උපත දකිනවා. ඒක තමයි, එක්කෙනෙක් යනවා පාරක. ඒ පාර ඉවරවෙන්නෙ ලස්සන මාළිගාවකින්. ඒ මාළිගාවෙ හෙවණ තියෙනවා, ඒ මාළිගාවෙ සිරියහන් තියෙනවා, ඒ මාළිගාව හරිම සොඳුරුයි. ඉතින් කෙනෙක් ඒ පාරෙ යනවා. නුවණැති පුරුෂයෙක් දකිනවා එතෙන්ට තමයි යන්නෙ. ඉතින් ගිහිල්ලා අරයා ඇඳවල් වලට වෙලා හාන්සිවෙලා සැනසිල්ලෙ ඉන්නවා. මාළිගාව හැමතැනම ඇවිදිනවා. ඒ වාගේ කියනවා දිව්‍යලෝකෙ. අප්‍රමාණ සැප තියෙනවා. හැබැයි මතක තියාගන්න, අර බඩගින්නෙන් ආවෙ, පිපාසෙන් ආවෙ, බොහෝම ක්ලාන්ත වෙලා ආවෙ. එතකොට මූලික ප්‍රශ්න විසඳුන් නෑ එයාගෙ. ඒවගේ තමයි දිව්‍යලෝකෙ ගියත් කෙලෙස්දාහය තියෙනවා. තෘප්තිමත් නොවීම තියෙනවා. ඉතින් නමුත් සැප තියෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දැක්කා එක මාවතක්, නිවන් දකින අය දැක්කෙ. එක පාරක් තියෙනවා. ඒ පාර ගිහිල්ලා ඉවර වෙන්නෙ සීතල තැන් තියෙන, ලස්සන නිල්කැට වතුර තියෙන, සුදු වැලි තලාවක් තියෙන, ලස්සන වන රොදක් තියෙන තැනක් තියෙන්නෙ. ඉතින් එයා අර පාරෙ ගියාට පස්සෙ අර පොකුණෙ නාලා වතුර බීලා බඩ පුරවගෙන එයා සැනසිල්ලෙ අර ලඳු කැලෑවට වෙලා, සුදු වැල්ලෙ සැනසිල්ලෙ ඉන්නවා. එතකොට අර විසිතුරු අර මාළිගාව වගේ විසිතුරු කැටයම් අනංමනං ඒවා නෑ. නමුත් මූලික ප්‍රශ්නෙ විසඳුනා. ආන්න ඒවගේ තමයි කෙලෙස් සන්සිඳීම නම් වූ ශාන්ත වූ, ප්‍රණීත වූ, අමා මහ නිවන. මූලික ප්‍රශ්න ඔක්කොම විසඳුනා. ඉතින් ඔය විදියට මාර්ගය, බුදුරජාණන් වහන්සේ දන්නවා, දකිනවා. එතකොට පින්වතුනි, ඒ විදියට තමයි දිව්‍යලෝකයේ ගමන තියෙන්නෙ. එතකොට මේ බුද්ධශාසනයක් ගත්තොත් ඒ බුද්ධ ශාසනයේ අපි වුනත් නොයෙක් එක මේ දිව්‍යලෝකෙටවත් මේ සැදැහැවතුන්ට යාගන්නට ඇත්නම් හොඳයි කියන අදහස අපෙත් තියෙනවා. ඒ හේතුව කරුණු කාරණා හොඳට හොයලා බලලා පින්වත්නි. ගොඩාක් අයගෙ තියෙන්නෙ නිවන කියපු ගමන් කලබලය තියෙන්නෙ. හේතු සකස් කිරීම නෙවෙයි තියෙන්නෙ කලබලය. හරීයට කලබලයි. ඉතින් ඒ නිසා පින්වතුනි ගොඩාක් අය කලබලය නිසා නිවන් දකින්න ඕන නිවන් දකින්න ඕන කියලා ඉක්මන් වෙච්ච ගොඩාක් අය අර්බුදම හදාගත්තා. ඊටපස්සෙ තමන්ම දන්නැතිව ඒ නිවන ගැන දේශනා කරපු ශාස්තෲන් වහන්සේට ගැරහුවා. දන්නෙම නැතිව කුසල් කියලා අකුසල් කලා. දැන් අද වුනත් නිවන නිවන කියලා මහලොකුවට කියන්න යන අය දිව්‍යලෝකයක් ගැන කියපු ගමන්ම ගරහනවනෙ. මොකක්ද දිව්‍යලෝක,

දිව්‍යලෝක කියලා ගිහිල්ලා පස්කම් සැප විඳින්නද කියලා. එතකොට බලන්න බුදුරජාණන් වහන්සේයි දිව්‍යලෝක ගැන වදාළේ. දැන් අපි විමානවත්ථුව ගත්තොත් එහෙම විමානවත්ථුව එහෙම දේශනා කළොත් විමානවත්ථු දේශනාව කියනවා මේ වගේ, උපමාවක් කියනවා විමානවත්ථුවට. දැන් අපි ඉදිරියට ඉගෙන ගන්න දෙවියන්ගේ විස්තර ඒ මාවතේ කරපු කුසල් අකුසල් වල විස්තර මේ බුද්ධ භාෂිත. කන්දක් මුදුනෙන් සීතල දියදහරක් ඇවිල්ලා ඇලදොළ ගංගා විදියට ගිහිල්ලා ඒක මහා සාගරයට ගිහිල්ලා අවසානයේ කෙනෙකුට ප්‍රමාණය කරන්න බැරි තරම් සාගරයට ඇතුල් වෙනවා ඒ ජලය. ආන්න ඒ වගේ තමයි කියනවා මේ දෙවියන්ගේ කතා, දෙවියෝ විසින් කියලා දේවභාෂිත වෙලා. මුගලන් මහරහතන් වහන්සේ ආදී රහතන් වහන්සේලාගෙන් පැවතගෙන ඇවිල්ලා ඒක ශ්‍රාවකභාෂිත වෙලා, අවසානයේ ඒ කතාව බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා බුදුරජාණන් වහන්සේගේ මුවින් පිටවෙනවා, බුද්ධභාෂිත බවට පත්වෙනවා. එතකොට අර චූටි දියඇල්ල ගංගා වශයෙන් ගිහිල්ලා මහා සාගරයට ගිහිල්ලා ප්‍රමාණය කරන්න බැරිවෙනවා වගේ ඒ දෙවිකෙනෙක්ගෙන් ඇතිවෙන කතාව ඒක ශ්‍රාවකයන්ගෙන් බුදුරජාණන් වහන්සේට ගිහිල්ලා බුද්ධ භාෂිතයක් වෙලා තුන් ලෝකයාම වන්දනාමාන කරන තථාගත ශ්‍රී බුද්ධ වචනය බවට පත්වෙනවා. ඉතින් මිහිදු මහරහතන් වහන්සේ ලංකාවට වැඩම කරලා ලංකාවේ මිනිස්සුන්ට ඉස්සෙල්ලාම කියලා දුන්නු දහම් පරියායක් තමයි පින්වත්නි මේ පේතවත්ථු, විමානවත්ථු. ඉන් පේතවත්ථුව දිවැසින් දුටු බියකරු සසර කියලා මීට කලින් වැඩසටහන් කියලා අපි ඉගෙන ගත්තා. අද පටන් ගන්නේ, දිවැසින් දුටු දෙව්ලොව සැප, ඒ දහම් වැඩසටහනේ නාමය, අපිට මේ වැඩසටහන මේ නමින් කරගෙන යන්න කියලා අපිට ආශිර්වාද කලේ අපගේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ. ඉතින් ඒ නිසා අද කාලයට ඉතාමත් උචිත දේ මොකක්ද කියලා ලොකු ස්වාමීන් වහන්සේ හොඳට දන්නවා. ඒ නිසා පින් කරන ජනී ජනයාගේ සතුට පිණිසත් ඒ වගේම සොම්නස පිණිසත් ඒ වගේම පින් කිරීම පිණිස ඔබගේ උනන්දුව සහ වැටහීම ඇතිවීම පිණිසත් මෙයින් උපකාරී ඇතිවෙනවා මේ ධර්ම පරියාය. ඊළඟට පින්වත්නි හොඳට මතක තියාගන්න, මේ බුද්ධ ශාසනයේ, මේ බුද්ධ ශාසනය ගත්තොත් ඇත්තටම වැඩිපුරම ධර්මය අවබෝධ කරලා තියෙන්නෙ දෙවිවරු. වැඩිපුරම ධර්මය අවබෝධ කරලා තියෙන්නෙ දෙවිවරු. ඒකට හේතුව ඒක මම කිව්වොත් ඔබ හිතයි මේ හාමුදුරුවො කියපු එකක් කියලා. මම ඒකට මිලිඳුප්‍රශ්නෙන්, නාගසේන මහරහතන් වහන්සේගෙන් අහනවා මිලින්ද රජතුමා, ස්වාමීනී මේ

ගිහි අය මේ බුද්ධ ශාසනයේ මාර්ගඵල ලැබුවාද කියලා අහන ප්‍රශ්නෙට ධූතාංග පිළිබඳව ප්‍රශ්නෙදි නාගසේන රහතන් වහන්සේ මෙසේ වදාළා. ඒ නාගසේන මහරහතන් වහන්සේ කුමක්ද වදාළේ, මහරජාණෙනි, සැවැත්නුවර භාග්‍යවතුන්වහන්සේගේ උපාසක උපාසිකාවෝ පන්කෝටියක් පමණ ආර්යශ්‍රාවකයෝ සිටියා. ඔවුන්ගෙන් තුන්ලක්ෂ පනස් හත්දහසක් අනාගාමීයී, ඒ සියල්ලෝම ගිහියෝ, පැවිද්දෝ නෙවෙයි. එතකොට මේ මනුස්ස ලෝකෙ කෝටි පහක් අවබෝධ කරලා තියෙනවා, ගන්ඩබ්බ රුක්ෂ මූලයේ යමක මහා ප්‍රාතිහාර්යය දක්වන අවස්ථාවේදී විසිකෝටියක්, එතකොට විසිකෝටියෙන් විශාල ප්‍රමාණයක් දෙවිවරු. ඊටපස්සෙ චූලරාහුලවාද සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවේදී රාහුල ස්වාමීන් වහන්සේ රහත්වෙච්ච අවස්ථාවේදී අසූහාරදාහක් දෙවිවරු ධර්මය අවබෝධ කලා. ඒ ඔක්කොම දෙවිවරු. මහාමංගල සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවේදීත්, සමචිත්ත පරියාය දේශනාව වදාළ අවස්ථාවේ, පරාභව සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවෙත්, පුරාබේත සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවෙත්, කලාවිවාද සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවෙත්, චූලව්‍යුහ සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවෙත්, මාබිව්හ සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවෙත්, සුවටක සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවෙත්, සාරිපුත්ත සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවෙත් ගණනාතික්‍රාන්ත වූ දෙව්පිරිසට ධර්මය අවබෝධ වුනා. එතකොට ඔය සූත්‍ර දේශනාවල් කරනකොට මාර්ග ඵල ලබපු දෙවිවරු ප්‍රමාණය ගණනාතික්‍රාන්තයි. ගණනින් කියන්න බෑ. ගණනින් කියන්න බෑ. මනුස්ස ලෝකේ ධර්මය අවබෝධ කරපු මිනිස්සු ගාණ කියන්න පුලුවන්. මහරජාණෙනි රජගහනුවර භාග්‍යවතුන්වහන්සේගේ - දැන් ඔය සැවැත්නුවරදී වෙච්ච දේවල් - මහරජාණෙනි රජගහනුවර භාග්‍යවතුන් වහන්සේගේ උපාසක උපාසිකාවො ආර්ය ශ්‍රාවකයෝ තුන්ලක්ෂ පනස්දහසක් සිටියා. ඔන්න රජගහනුවර. නැවත ධනපාල ඇත්රජා දමනය කළ අවස්ථාවේ අනූකෝටියක් ප්‍රාණීන්, වැඩි පිරිසක් දෙවිවරු. ඊළඟට පාෂාණක චෛත්‍යස්ථානයේ පරායන සමාගමේ දාහතර කෝටියක්, ඒ දාහතර කෝටියම දෙවිවරු, නැවත ඉන්දසාල ගුහාවේදී ඉන්දසාල ගුහාවේ අසූහාරදහකට අධික ප්‍රමාණයක් ධර්මය අවබෝධ කළා. ඔක්කොම දෙවිවරු. නැවත බරණැස ඉසිපතන මිගදායේදී ප්‍රථම ධර්ම දේශනය කරන අවස්ථාවේ දහඅට කෝටියක් බ්‍රහ්මයෝ ධර්මය අවබෝධ කලා. පමණ කළ නොහැකි දෙවියෝ එදා පළවෙනි ධර්ම දේශනාවෙදි ධර්මය අවබෝධ කලා. ගණන් කල නොහැකි දෙවිවරු. නැවත තව්තිසා භවනේ පඬුපුල් අස්නයේ වැඩ හිඳ දෙවියන්ට අභිධර්මය වදාළ අවස්ථාවේ අසූකෝටියක් දෙවියෝ, අභිධර්මය

දේශනා කරනකොට පඬුපුල් ආසනයේ අසූකෝටියක් දෙව්වරු ධර්මය අවබෝධ කරලා තියෙනවා. සංකස්ස නගරද්වාරයේ දෙව්ලොවින් වැඩම කොට ලෝක විවරණ ප්‍රාතිහාර්යය දක්වන අවස්ථාවේ දෙව්මිනිස් තිස් කෝටියක් ධර්මය අවබෝධ කලා, දෙව්වරු වැඩියි. මහරජාණෙනි, කපිලවස්තු නිග්‍රෝධාරාමයේ බුදුරජුන්ගේ පරම්පරා විස්තරය දෙසූ අවස්ථාවේ මහාසමය සූත්‍ර දේශනාව වදාළ අවස්ථාවේ ගණන් කළ නොහැකි තරම් දෙවියන් හට ධර්ම අවබෝධය වුනා. යලි සුමනමාලාකාර සමාගමේදී, ගරහදින්න සමාගමේදී ඒ කියන්නේ ගරහදින්නගේ කතාවෙදි, ආනන්ද සිටුවරයාගේ සමාගමේදී, ජම්බුක ආජීවක සමාගමේදි, මණ්ඩුක දේවපුත්ත සමාගමේදී, මට්ටකුණ්ඩලී දේවපුත්ත සමාගමේදී, සුලසා නගරසෝභනී සමාගමේදී, සිරිමා නගරසෝභනී සමාගමේදී, පේසකාර දියණියගේ සමාගමේදී, චූලසුභද්‍රා සමාගමේදී, සාකේත බ්‍රාහ්මණයාගේ ආදාහනය දකින්න පැමිණි ජනයා රැස්වූ අවස්ථාවේදී, සූනාපරන්ත සමාගමේදී, සක්දෙවිඳු ප්‍රශ්න ඇසූ වේලේ රැස්වූ දේව සමාගමේදී, තිරෝකුඩ්ඩ දේශනාව කළ අවස්ථාවේ, රතනසූත්‍රය දේශනා කල අවස්ථාවේ, වෙන් වෙන් වශයෙන් අසූහාරදහසක් ප්‍රාණීන් හට ධර්මය අවබෝධ වුනා. එක කාරණාවකට අසූහාරදාහ ගාණේ. වැඩිපුර දෙව්වරු. මහරජාණෙනි, භාග්‍යවතුන් වහන්සේ ලෝකයේ ජීවමානව වැඩ ඉන්න කාලේ ඇතුළු මණ්ඩල, මධ්‍ය මණ්ඩල, මහා මණ්ඩල යන ප්‍රදේශයේ පිහිටි සොළොස් මහා ජනපද යම් තැනක භාග්‍යවතුන් වහන්සේ වැඩ සිටිත්ද, ඒ තැන බොහෝ සෙයින් එක්කෙනෙක්, සිව්දෙනෙක්, පස්දෙනෙක්, දහදෙනෙක්, දහස් දෙනෙක් වශයෙන් නෙවෙයි, සියදහස් ලක්ෂ ගණන් දෙව්වරු ධර්මය අවබෝධ කලා. මිනිස්සුද ධර්මය අවබෝධ කලා. ශාන්ත වූ නිර්වාණයට පැමිණුනා. මහරජාණෙනි යම්සේ දෙව්වරු සිටිත්ද, ඔවුහු ගිහියෝය, පැවිද්දෝ නොවෙති. මහරජාණනි, අන්‍යයෝ නොවෙති, කෝටි ලක්ෂගණන් දෙව්වරුද, කාමභෝගීව ගිහිගෙයි වසනා ගිහියෝද, ශාන්ත වූ පරම වූ නිර්වාණය සාක්ෂාත් කලා කියලා ගිහිගෙදරදී නිවන් දැකපු අය ගැන වදාළා නාගසේන මහරහතන් වහන්සේ. බලන්න ඒ විස්තර ඔක්කොම කියවගෙන යනකොට, මේක තියෙන්නෙ ධම්මපදයේ විස්තර, විමානවත්ථු වල තියෙන විස්තර, සූත්‍ර වල තියෙන විස්තර, මුලු ත්‍රිපිටකයේම කරුණු නාගසේන මහරහතන් වහන්සේට අප්‍රමාණ මතක ශක්තියක් සහ පටිභාණ ශක්තියක් තිබ්බා. උන්වහන්සේට තත්පරේට ත්‍රිපිටකාගත කරුණු ඉක්මණට ගොනු වෙලා එනවා. ඉතින් උන්වහන්සේ සියල්ල හිතින් මතක් කර කර ඒ මොහොතේ මිලිඳු රජ්ජුරුවන්ට

කියන්නෙ. මේ විස්තර ටික බැලුවහම හොඳටම පේනවා මේ බුද්ධ ශාසනයේ වැඩිපුරම මාර්ගඵල අවබෝධ කරලා තියෙන්නෙ පින්වත්නි, දෙවිවරු. ඒ දෙවියන්ගේ එවැනි වූ ස්වභාවයක් තියෙනවා. දැන් උදාහරණයකට බලන්න, අද කාලෙ කෙනෙක් ධර්මය අවබෝධ කරන්න යනකොට එයාට පැමිණෙන කරදර බාධක ටික බලන්න, අද කාලෙ. ගෙවල්වල කරදර, ඒ වගේම ගමේ කරදර - සිල් ගන්නවත් බැනෙ, ඒකටත් මොනවාහරි කියනවානෙ - ඊළඟට කුමාක්හරි භාවනාවක් කරගෙන යනකොට ඔන්න අමනුස්සයෙක් ඔළුවට සෙට් වෙනවා, අමනුස්ස කරදර, ඥාති කරදර, හඳිහූනියම් කරදර, මේ ඔක්කෝම මනුස්ස ලෝකෙ තියෙන ඒවානෙ. ඊළඟට දැන් මේ බලන්න එක එක කරදර, වසංගත, ව්‍යසන එනකොට මිනිස්සුන්ට බණ භාවනා කරන්න අවස්ථාව නැතිවෙලා යනවානෙ. මිනිස්සුන්ගේ හිත්වලට ගොඩාක් බය තැතිගැනීම් එනවානෙ. ඊටපස්සෙ වෙහෙර විහාර - දැන් ඇඳිරිනීතිය දැම්මා කියන්නකො- ඉතින් වෙහෙරක් විහාරයක් වැඳගන්න බැනෙ. ඉතින් ඊටපස්සෙ ගෙදර එක්කෙනෙක් බණක් භාවනාවක් කරන්න කියලා පටන්ගන්නකොට ගෙදර ඔක්කොම ප්‍රවෘත්ති බලලා විස්තර ටික ඔක්කොම ගෙදර සාකච්ඡා වෙනවා. අර යාන්තම් අමාරුවෙන් හිතක් එකළහක් කරගන්න එක්කෙනාට අර විස්තර ආවට පස්සෙ ආයෙ දහමක් සිහිකරන්න බැරිව යනවා. ඒකයි නිතර නිතර ධර්මය අහන්න කියන්නෙ. ඉතින් මේ තියෙන අලකලංචි සැලකිය අයුරින් නැතිවෙනවා දෙව්ලොවදි. අනිත් එක දිව්‍යලෝකයේ ඉපදෙන්න කියලා යම්කිසි කෙනෙක් කුසල් කලොත් එහෙම ඒක එයා කරන්නෙ බුද්ධ ශාසනයක නම්, බුද්ධ ශාසනයේ පැහැදිලා නම් පින් කරන්නෙ පින්වත්නි, ඒ බුද්ධ ශාසනයේ පැහැදිලා පින් කරන කෙනා, උදාහරණයකට හිතන්නකො බොහෝම සතුටින් ධර්මය අහලා ගොඩාක් ආශාවෙන් ධර්මය අහලා ගොඩාක් ආශාවෙන් පින් කරන කෙනෙක් දිව්‍යලෝකෙක ඉපදුනා. දෙවියන්ගෙ කාලෙන් කාලෙට දිව්‍ය සභාවේ දහම් කතාව දේශනා කරනවා. මම හිතනවා මනුස්ස ලෝකෙට වැඩිය ගොඩාක් ධර්මය කියන තැනක් තමයි දිව්‍ය ලෝකය. සමහර අය විමාන පිටින් ඉන්නවා ධර්ම සාකච්ඡාවට පමණක් දෙවිවරු. ඊළඟට ඈත ඉඳලා දෙවිවරු එනවා. දැන් ඔය හත්ථක දිව්‍ය පුත්‍රයා වෙන්න ඕන මට මතක විදියට. ඒ හත්ථක දිව්‍ය පුත්‍රයා හරි ලස්සනට බණ කියනවා. ඉතින් ඒ දිව්‍ය පුත්‍රයා බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා කියනවා, ස්වාමීනී, හත්ථක දිව්‍ය පුත්‍රයාගෙන් බණ අහන්න ඕන කියලා බොහෝ දුර ඉඳලා දෙවිවරු පැමිණෙනවා කියනවා විමාන පිටින්. එහෙනම් දිව්‍ය ලෝකෙ දහම් කතාව, බණ කීම තියෙනවානෙ. බුද්ධ

කාලයේ දෙවියන්ගේ ධර්ම දේශනා කතා ප්‍රකට නොවුනේ, කාලෙන් කාලෙට රහතන් වහන්සේලා දෙව්ලොව වඩිනවා. තථාගත බුදුරජාණන් වහන්සේ දෙව්ලොව වඩිනවා. එතකොට ඒ දෙවිවරු ටික ඔක්කෝම ටික බලාගෙන ඉන්නේ, බුදුරජාණන් වහන්සේ වඩිනකල්. රහතන් වහන්සේලා වඩිනකල්. පිරිවරාගන්නවා. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේගේ රහතන් වහන්සේලාගේ ඒ යුගය අවසන් වෙච්ච ගමන් අර දෙවිවරු දහම් දෙසනවා. දැන් හිතන්නකො අද කාලේ තථාගතයන් වහන්සේ වැඩහිටියා නම් මහරහතන් වහන්සේලා වැඩ හිටියා නම් අපි බණ කියන එකක් නෑ. අපි උන්වහන්සේලා ළඟ වැද වැටීගෙන පිළිසරණ හොයනවා. මේක කොහොමද පුරුදු කරන්නේ කියලා. ඒ භාග්‍යවතුන් වහන්සේ නැති නිසා, ඒ මහරහතන් වහන්සේලා නැති නිසා තමයි අද කාලේ පුලුවන් විදියට අපි බණ ටිකක් කියන්නෙ මේ. ඒ වාගේ දිව්‍යලෝකයේත් බුදුරජාණන් වහන්සේ නොවඩින නිසා, දිව්‍යලෝකයේත් රහතන් වහන්සේලා දැන් නොවඩින නිසා, දෙවිවරු දහම් කතාව කරනවා. ඒ දෙවිවරු අපි වගේ නෙවෙයි. ඒ දෙවිවරුන්ට මේ දහම් පරියාය මතකයි. ඒ වගේම විශේෂත්වයක් තියෙනවා. ඒ දෙවිවරු බුදුරජාණන් වහන්සේගෙන්ම තමන්ගේ සවන්පතට ධර්මය අහපු අය. බුදුරජාණන් වහන්සේ දැක්ක අය. ඒ වගේම රහතන් වහන්සේලාට උපස්ථාන කරලා දෙව්ලොව ගිය අය. මාර්ගඵල ලැබූ අය. ඔවුන්ගේ ඇසුර ගොඩාක් වෙනස්. ඔවුන්ගේ ඇසුර ගොඩාක් වෙනස්. අන්න ඒ සම්පත්තිය දකින නිසා ඒ යහපත සියයට සීයක් දකින නිසා තමයි දෙව්ලොව හොඳයි කියන වචනය නිතර පිටවෙන්නෙ. නැත්නම් දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන පංචකාමය විඳගෙන නන්දන වනයේ නැටුම් ගැයුම් කරගෙන හිටපාන් කියලා කියන කතාවක් අපි කියන්නේ නැහැ. මේ කියන්නෙ ධර්මාවබෝධයට සත්පුරුෂ ඇසුරට අවස්ථාවක් ලබාගන්න කියලා. ඒ නිසා හොඳට ඒ කරුණු කාරණා තේරුම් ගන්න. නැත්නම් ගොඩාක් මිනිස්සු මැරෙනකොට තමන්ගෙ ඥාතීන් ඒ වගේම පවුල් ගෙවල් ඉඩකඩම් යානවාහන වලනෙ හිත පිහිටුවාගන්නෙ. දැන් පහුගිය කාලෙ කොරෝනා රෝගීන් මැරෙනකොට එයාලා වීඩියෝ කෝල් අරන්, ස්කයිප් කෝල් අරගෙන තමන්ගෙ ගෙදර ඉන්න ඥාතීන් එක්ක කතා කර කර ආයෙ ඔයාලා මට දකින්න ලැබෙන්නෑ කියලා කොච්චර නම් මරණය පෙනි පෙනී ජීවත් වෙලා ඉන්න අය ගැන හිත පිහිටවගෙනද ගොඩක් අය මැරුණෙ. දැන් බලන්න තමන්ගේ පවුලේ සියලු දෙනා මැරීගෙන යද්දින් ජීවත් වෙලා හිටපු කෙනා මමත් ඉඳලා වැඩක් නෑ, මමත් උඹලත් එක්කම යනවා කියලා සියදිවි හානිකරගත්තා එක එක රටවල.

ඒ වාගේ සිද්ධි සිද්ධ වුනා. ඉතින් ඔයාලා හිතන්නෙ ඒ වාගෙ ජීවිත සුගතියක් කරා යයිද. සුගතියක් කරා යන්නෙ නෑ. මොකද චේතෝ පණිධි හේතුහි සච්චාගච්චං සුගතිං, හිත පහන් බවේ තියෙන්න ඕන සුගතියක උපදින්න. දෙව්ලොවක උපදින්න සිත පහන් බවක තියෙන්න ඕන. පැහැදිලා තියෙන්න ඕන. කිලිටි නොවී තියෙන්න ඕන. ඒ කොහොමද ඒ පහන් බව තියෙන්නෙ කිලිටි නොවෙන්නෙ, කොහොමද තමන් කරන පිනකින් දෙව්ලොවක උපදින විදියට හිත හැදෙන්නෙ කියන කරුණු කාරණා විස්තර ඔබට අපි දහම් දේශනා මාලාවෙන් හොඳට ඉගෙනගන්න අවස්ථාව ලැබෙනවා. ඉතින් ඒ නිසා පින්වත්නි හොඳට කරුණු කාරණා තේරුම් ගන්න දිව්‍යලෝකය පිළිබඳව. ඊළඟට තමයි දැන් කෙනෙකුට මේ පුංචි දෙයක්, බුද්ධ කාලයේ පුංචි දෙයක් පූජා කරලා දෙව්ලොව ඉපදිලා තියෙනවා. ඒ වාගේම තමයි අපි කියමුකො දෙයක් පූජා කරන්න නෑ කියලා. ඔන්න උදාහරණයක් ගත්තොත් එහෙම මනුස්ස ලෝකෙ හිටියා ගොඩාක් දුප්පත් මනුස්සයෙක්, ඒ මනුස්සයා හිඟා කකා ජීවත් වෙන්නෙ. කඩමාලු ඇඳගන්නෙ. ඊටපස්සෙ කන්න බොන්න දෙයක් නෑ, ඊටපස්සෙ මෙයාට හිඟාකකා යනකොට මිනිස්සු රැස් වෙලා හිටපු තැනක් හම්බවුනා. ඒ මිනිස්සු අයිනෙ හිටියා මොනවාහරි දෙයි කියලා. ඒ බුදුරජාණන් වහන්සේ දහම් දෙසන තැන. එයා බණ ඇහුවා. බණ අහලා ඒ ධර්මය තේරුම් ගත්තා. දිවි හිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ ගියා, ධර්මය සරණ ගියා, සංඝයා සරණ ගියා. සිල් පද පහ කඩ නොකොට ආරක්ෂා කලා. පඤ්ච සීලය. ආයෙත් හිඟාකකාම ජීවත් වුනා. හැබැයි අර කාරණා හතර තියෙනවා. බුදුරජාණන් වහන්සේ ගැන පුදුම ශ්‍රද්ධාවක් තියෙනවා. ධර්මය ගැන, සංඝරත්නය ගැන, සිල් පද පහත් රකිනවා. මෙයා මැරිලා දෙවියන් අතර ඉපදුනා. දෙව්ලොව සියලු දෙවියන්ට වැඩිය දිව්‍ය ආයු, වර්ණ, සැප, බල අධිපතිකමින්, දිව්‍ය රූප, ශබ්ද, ගන්ධ, රස, පහසින් අනිත් දෙවිවරුන්ට වැඩිය අධිපති. ඉතින් මෙයාගෙ කලින් ජීවිතේ ගැන දන්න දෙවිවරු තැන් තැන් වලදී එකතු වෙලා කුටු කුටු ගෑවා. අහෝ භවත්නි බලන්නකො මේ කාරණාව, මේ දෙවියා මනුස්ස ලෝකෙ ඉන්න කාලෙ, කඩමාලු ඇඳගෙන හිටියේ. මේ දෙවියා මනුස්ස ලෝකෙ ඉන්න කාලෙ හිඟා කකා ජීවත් වුනේ. ඉන්ඩ තැනක් තිබ්බෙ නෑ, දැන් බලන්නකො දෙව්ලොවට ඇවිල්ලා තව්තිසාවෙ අනිත් දෙවිවරුන්ට වැඩිය දිව්‍ය සැප බල වර්ණ ආයු වල අධිපතිකම් දක්වනවානෙ. මෙහෙමත් දේවල් සිද්ධ වෙනවානේ කියලා අර දෙවිවරු කුටු කුටු ගෑවා. සක්දෙවිඳු කතා කරලා කිව්වා දෙවිවරුනි එහෙම කියන්න එපා. ඔබ මේ නිකම් අහක යන ඒවාට

ගරහලා නොදන්නා කරුණු කාරණා කියන්න යන්න එපා. පින්වත් දෙව්වරුනි, මේ දිව්‍යපුත්‍රයා මනුස්ස ලෝකයේ ඉද්දින් දිවිහිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ ගියා, ධර්මය සරණ ගියා, ආර්ය මහා සංඝරත්නය සරණ ගියා. ඊළඟට සිල් පද පහක් ආරක්ෂා කලා. අන්න ඒ කාරණා පහෙන් දන් දුන්න දෙව්වරුන්ටත් වැඩිය වෙහෙර විහාර හදලා දිව්‍යලෝකෙ ගිය දෙවියන්ටත් වැඩිය මේ දෙවියා ආනුභාවයෙන් වැඩියි. එතකොට කල්පනා කරන්න අනේ රුපියලක් නැතිවුනත්, කෙනෙකුට දෙන්න දෙයක් නැතිවුනත්, බුදුරජාණන් වහන්සේ සරණ යන එක, ධර්මය සරණ යන එක, ආර්ය මහා සංඝ රත්නය සරණ යන එක, පන්සිල් පද පහ රකින එක කොච්චර වටිනවද කියලා. කොච්චර වටිනවද කියලා. එතකොට එහෙනම් අපි නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස කියලා, බුද්ධං සරණං, ධම්මං සරණං, සංඝං සරණං ගච්ඡාමි කියලා පන්සිල් පද පහ සමාදන් වෙච්ච තැනම එයාගෙ සම්පූර්ණ සුගතියම තියෙනවානෙ. එතන එයාට මනුස්ස ලෝකෙ අත්හැරිය ගමන් ඒ ටිකම රැක්කත්, අපි මේ පන්සිල් ගන්න කොටසම රැක්කත් එයාට දිව්‍යලෝකෙ අප්‍රමාණ සැප තියෙනවානෙ. ඒකයි මම කිව්වෙ දිව්‍යලෝකෙ මෙච්චර බණ අහලා, මෙච්චර අවංකවම ඔබ ඉන්නවා මෙතන මේ ධර්මය අහන පින්වත්තු, ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන් විදුලියෙනුත්, ඒ අන්තර්ජාලය ඔස්සේත් අප්‍රමාණ එකදිගට බණ අහන පින්වතුන් ඉන්නවා. පුදුම ආසාවෙන් බණ අහන පින්වතුන් ඉන්නවා. පින්වතුනි ඔබ දිව්‍යලෝකෙට ගියාට පස්සෙ දෙවියන් අතර දිව්‍ය සැපයෙන් සැපවත්ව ඉද්දින් ඔබට දෙව්කෙනෙක් බණ කියනවා කියලා අහන්න ලැබුනොත් එහෙම ඔබ හිතන්නෙ ඔබ ඒ බණට කන් යොමුකරන්නෙ නැතිව ඉදියි කියලා හිතනවා, මෙච්චර ලංකාවේ, මෙච්චර මනුස්ස ජීවිතේ මෙච්චර බණ අහලා, දෙවියෝ අතරට ගියාට පස්සෙ ඒ පින් බලයෙන් බණ අහන්නැතිව ඉදියි. අනිවාර්යයෙන් බණ අහනවා. ජීවිතේ කැරකි කැරකී, ඔහේ හැමතැනම කැරකි කැරකී යද්දී සත්පුරුෂයෝ හම්බෙච්ච ගමන්, උතුම් අය හම්බෙච්ච ගමන් ඉක්මණට අපේ ජීවිත වෙනස් වුනානෙ. මේ මනුස්ස ලෝකෙ අලකලංචි ගොඩ මැද එහෙම එකේ දෙව්ලොව අපි ඉපදිලා ඉදිද්දි උතුම් සත්පුරුෂයො, මාර්ගඵල ලාභීන් හම්බුනොත් ඔබ හිතන්නෙ අපි මගහැරගනී කියලද, මග හැරෙන්නෑ. මොකද අපේ හැම ප්‍රාර්ථනාවකම තියෙනවා සත්පුරුෂයන්ගේ ඇසුර අපිට ලැබේවා කියලා. පින්වතුනි ජනවසභ දිව්‍ය පුත්‍රයා තවම සිටිනවා. ඊළඟට දිව්‍ය ලෝකෙ සනන්කුමාර කියන බ්‍රහ්මරාජයා කාලෙන් කාලෙට ඇවිල්ලා සක්දෙව්දුගේ

විමානෙ දහම් දෙසනවා. දැන් ඉන්න ශක්‍රදේවේන්ද්‍රයා සෝතාපන්න එක්කෙනෙක්. සක්දෙවිඳු දහම් දෙසනවා. නොයෙක් දෙවිවරු දහම් දෙසනවා. ඒ ඒ වගේම මනුස්ස ලෝකෙ ත්‍රිපිටකධාරීව හිටපු සමහර තෙරුන් වහන්සේලා ඒ ධර්මය ආසාවෙන් රැකගෙන ධර්මය පුරුදු කරලා දෙව්ලොව ඉපදිලා ඒ විදියටම දහම් කතාව කරගෙන යන දෙවිවරු අදට ඉන්නවා. ඉතින් ඒ නිසා දිව්‍යලෝකයේ රැකවරණයක් තියෙනවා. මනුස්ස ලෝකෙට වඩා. අපි ඊළඟ තැන බලන්නෙපෑ. මනුස්ස ලෝකෙට වඩා. ඒ නිසා පුලුවන් අය එක දිගට මේ දහම පුරුදු කරන්න, ඒ වගේම පින් දහම් රැස්කරගන්න, කුසල්දහම් රැස් කරගන්න. දෙව්ලොව තියෙන සැපය ගැන කල්පනා කරන්න. ඊළඟට කල්පනා කරන්න බුදුරජාණන් වහන්සේගේ ශාසනයකනෙ පින්වතුනි අපි පින්දහම් රැස් කරන්නෙ. මේ ගොඩාක් පින් කරන්නෙ බුද්ධ ශාසනයක. බුද්ධ ශාසනයේ රැස් කරගන්න පින පින්වතුනි, බුද්ධ ශාසනයකම තමයි විපාක දෙන්නෙ. ඒකට මං උපමාවක් කියන්නම්. පින්වතුනි ඔන්න, කෙකණියක් ඉන්නවා. මේ කෙකණිය ගැබ් ගන්නේ, මේ කෙකණිය පැටව් ලැබෙන විදියට ඒ කෙකණිය ගැබ් ගන්නේ කොකෙක් එක්ක එකතු වෙලා නෙවෙයි, කෙකණිය ගැබ් ගන්නේ වළාකුළු හඬට, ඒ කියන්නේ මේඝ සර්ජනා, විදුලි කොටන හඬට. විදුලි කොටන හඬට තමයි කෙකණිය ගැබ් ගන්නෙ. ඊට්පස්සෙ කෙකණිය ගැබ් ගත්තට පස්සෙ ගැබ මෝරනවා. මෝරලා පින්වතුනි එහෙම කෙකණිය වදන්නෑ. කෙකණිය වදන්නෙ ආයෙත් මේඝ සර්ජනාවක් ඇහෙන්න ඕන. විදුලි කොටන හඬක් ඇහෙන්න ඕන. එතකොට කෙකණිය ගැබ් අරගෙන අවුරුදු දහයක් විදුලි කොටලා වැස්සක් ආවෙ නැත්නම් වදන්නෑ. බිහිකරන්නෑ, එතකොට යම් දවසක මේඝ සර්ජනාවක් කරනවාද එදාට තමයි වදන්නෙ. ඈ ගැබ් ගන්නෙත් මේඝ සර්ජනාවෙන්. වදන්නෙත් මේඝ සර්ජනාවෙන්. අන්න ඒ වගේ තමයි කියනවා උපාලි මහරහතන් වහන්සේ දේශනා කරනවා මේ බුද්ධ ශාසනයේ අපි මේ පිහිටුවාගන්න චේතනා ප්‍රාර්ථනා මෝරා මෝරා තියෙනවා කියනවා. ඒක මේ වෙන ලෝකවල ඉපදුනා කියලා එක එක්කෙනත් එක්ක එකතු වුනා කියලා ඒක නැසෙන්නෑ කියනවා. ඒක වෙනමම තියෙනවා. යම් දවසක බුදුරජාණන් වහන්සේ නමක්, ශ්‍රාවකයන් වහන්සේ නමක් ධර්මය දේශනා කරන තැනක් සත්පුරුෂයෙක් මුණගැහිච්ච ගමන් බුද්ධ ශාසනයේ කරපු පින විපාක දෙනවා. ඒ නිසා මනුස්ස ලෝකෙ අපි දැන් පින් කරගන්නෙ කුසල් කරගන්නෙ බුද්ධ ශාසනයේ. බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් සෑය බෝධිය මුල් කරගෙන, ඒ වගේම ධර්මය අහ අහා ඒ වගේම සංඝයාට ඇප උපස්ථාන කර කර අපි පින්

කරගන්නවා. ඊළඟට අපේ අඩුපාඩු බණ පද අහ අහා අපේ අඩුපාඩු හදාගෙන, ධර්මය නිසා අපි පඤ්චසීලය හදාගෙන ඒ වගේම අපි සිල්ගුණදම් රැකලා මේ අඩුපාඩු හදාගෙන කුසල් පින්දහම් රැස් කරගන්නෙ බුද්ධ ශාසනය නිසාමයි. අපිට මේවා උරුම වුනේ, මව්ගෙන් පියාගෙන් පරම්පරාවෙන් නෙවෙයි. බුද්ධ ශාසනයෙන් ආවෙ අපිට මේ පින් ටික, කුසල් ටික. එහෙනම් මේක විපාක දෙන්නෙ බුද්ධ ශාසනයකමයි. එහෙනම් ඒක හොඳට දන්න නිසා, සත්පුරුෂයො මේ කාරණාව දන්නවා. ඒ නිසා තමයි කියන්නෙ බුද්ධ ශාසනයක පින් කරගෙන දෙව්ලොවට යන්න. බුද්ධ ශාසනයක පින් කරගෙන දෙව්ලොවක ඉපදුනාට පස්සෙ ඒ දෙව්ලොවදි තමන් ඒ මනුස්ස ජීවිතයේ රැස් කරගත්ත ඒ ශාසනික පුණ්‍ය ධර්මයන්, ඒ දෙවියන්ගේ සත්පුරුෂ ඇසුරේදී, දහම් කතා ඉදිරියේදී ඔබට විපාක පිණිස එනවා. සමහර අයට ධර්මය අවබෝධ වෙන්නෙ මනුස්ස ලෝකෙ නෙවෙයි පින්වතුනි, එයාලට ධර්මය අවබෝධ වෙන්නෙ දෙව්ලොවදි. උදාහරණයක් ගත්තොත් එහෙම මට්ටකුණ්ඩලී දිව්‍යපුත්‍රයා, බුදුරජාණන් වහන්සේ ඇසුරු කරගෙන දහම් කතාවෙන් පිළසරණක් ගන්න ලැබුනෙ මනුස්ස ලෝකෙදි නෙවෙයි. එහෙනම් අර බිම වැටිලා ඉන්නකොටම බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනවානෙ. නෑ, ඔහුට දෙව්ලොව ඉපදෙන්න සිද්ධ වුනා. කන්ථක අශ්වයා දෙව්ලොව ඉපදුනා. ඊටපස්සෙයි සෝවාන් වුනේ. ඡත්ත මානවකට මනුස්ස ලෝකෙදි බුදුරජාණන් වහන්සේ දේශනා කලේ ඡත්ත මානවක, මේ තුනුරුවන් සරණ සජ්ඣායනා කර කර යන්න. යෝවාද තම්පවරො මානුගේසු, ඊළඟට මේ සිල් පද පහ රකින්න අධිෂ්ඨාන කරගන්න. එතකොට එයා පඤ්චසීලය අධිෂ්ඨාන කරගෙන අර ගාථා තුන කිය කියා ගියා. එතකොට තමයි හොරු ගහලා මැරුනෙ. ඊටපස්සෙ දෙව්ලොව ඉපදුනා. ඊටපස්සෙ දෙවියෙක් විදියට ආවට පස්සෙ අහපු ධර්මය අහලා තමයි සෝවාන් වුනේ. ඉතින් බුදුරජාණන් වහන්සේට තිබුනනෙ අර මුලින්ම දේශනා කරන්න. සමහර අයට ධර්මය අවබෝධ වෙන්නෑ මනුස්ස ලෝකෙ. ඔහුට ධර්මය අවබෝධ වෙන්නෙ දෙව්ලොවදි. එහෙම එකකුත් තියෙනවා පින්වත්නි. තවත් උපමා ඕන තරම් තියෙනවා. එක ස්වාමීන් වහන්සේ නමක් අච්ඡරා සූත්‍රය ගත්තොත්, එක ස්වාමීන් වහන්සේ නමක් ගොඩාක් ධර්මයේ හැසිරෙනවා. මනුස්ස ලෝකෙ ගොඩාක් ධර්මය පුරුදු කරනවා. ඉතින් ඒ ස්වාමීන් වහන්සේ සක්මන් කරද්දිම නහරයක් පුපුරලා අපවත් වුනා, එහෙම්මම ඒ ස්වාමීන් වහන්සේවත් දන්නෑ, හුස්ම හිරවෙලා අපවත් වුනා. දෙව්ලොව ඉපදුනා. ඉතින් දෙව්ලොව ඉපදිලා දෙව්වරු

පිරිවරාගෙන ඉද්දි, ඒ දෙවියා දැනගත්තා මං දැන් මේ දිව්‍යලෝකෙට ඇවිල්ලා ඉන්නෙ, අම්මෝ නිවන් දකින්නයි මගේ කැමැත්ත තියෙන්නෙ කියලා ඒ මොහොතේම එතනින් අතුරුදහන් වෙලා බුදුරජාණන් වහන්සේ ළඟ පහළ වුනා. පහළ වුනාට පස්සෙ බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කළා. ඒ ධර්මය දේශනා කරනකොට තමයි ඒ දෙවියා සෝවාන් වුනේ. බුදුරජාණන් වහන්සේට සෑම දෙයක්ම පේනවනෙ, දකිනවනෙ. දවසට බුදුරජාණන් වහන්සේ ශ්‍රාවකයන්ගෙ හිත හය වතාවක් දකිනවා. ඉතින් කෙනෙක්ගේ ඉන්ද්‍රියන් මෝරලා නම් පොඩ්ඩක්වත් සසරේ ප්‍රමාද වෙන්න දෙන්නෙ නෑ බුදුරජාණන් වහන්සේ, ඍද්ධියෙන් ආලෝකයක් එවලා හරි ඔහුව සසර දුකින් නිදහස් කරවනවා. එතකොට බුදුරජාණන් වහන්සේ දන්නවා සමහර අයට ධර්මය අවබෝධ වෙන්නෙ දෙව්ලොව උපදිද්දි. ඉතින් ඒ නිසා පින්වත්නි එහෙම එකක් තියෙනවා. ඉතින් ඒ කරුණු කාරණා තේරුම් ගන්න. ඊළඟට මේ ජීවිතයේදීම ධර්මය අවබෝධ කරගන්න කෙනෙකුට සෝවාන් වෙන්න, සකෘදාගාමී වෙන්න, අනාගාමී වෙන්න, අර්හත්වයට පත්වෙන්න මේ ජීවිතයේදීම පුණ්‍ය සංස්කාර සහ නුවණ තියෙනවානම් ඒ අය තර්ක විතර්ක කර කර ඉන්නෙ නෑ. ඒ අය අනිත් අයට ගරහා ගරහා ඉන්නෙත් නෑ. ඒ අය දන්නවා ඒක පුරුදු කරන විදිය. ඒ වගේම ඒ අය මේ බුද්ධ ශාසනයේ තියෙන බුද්ධ වචනය එහෙම හැල්ලුවට ලක්කරන්නෑ. අද කාලෙ මේ ජීවිතයේදීම නිවන් දකින්න ඕන කියන කට්ටිය කොච්චර දෙව්ලොවට ගරහනවද, කොච්චර පින්වලට ගරහනවද, කොච්චර ස්ථූප පූජාවල්වලට ගරහනවද, කොච්චර බෝධිවන්දනාවලට ගරහනවද, බලන්න අද කාලෙ වෙනස. ඉතින් ඒ කාරණාවෙන්ම තේරෙනවා මේ අයට නම් මේ ජීවිතේ නෙවෙයි ඊළඟ ජීවිතේක වත් නිවනක් නෑ කියලා. හේතුව ඔබම දන්නවානෙ. සතර අපායෙ විස්තර අහගෙන යනකොට කොච්චර ස්ථූප පූජා වන්දනා වලට ගරහන අයට කොච්චර තියෙනවද වෙනම සතර අපායෙ තියෙනවානෙ දුක් වෙනමම. ඉතින් ඒ නිසා මේ කරුණු කාරණා තේරුම් ගන්න. ඉතින් මූලික වශයෙන් තමයි පින්වත්නි ඔය කරුණු කාරණා ටික විස්තර කළේ. මේ වැඩසටහන ආරම්භයත් එක්ක. ඉතින් අපි ඊළඟ දවසේ ඉදලා ඒ දෙවියන්ගේ දිව්‍ය ලෝකවල ස්වභා ඉතාමත් සුන්දර ආකාරයෙන් අපි ඉගෙන ගනිමු. ඉගෙන ගෙන ඒ දිව්‍ය සැප ගැන සතුට ඇතිකර ගනිමු. ඒ වගේම විශේෂයෙන්ම ඒ කුසල් අකුසල් ගැන තේරුම් ගනිමු. සතර අපාය, ඒවගේ කර්ම තේරුම් ගන්න. දිව්‍යලෝක තියෙනවා පින්වතුනි, චාතුම්මහාරාජිකය, තාවතිංසය, යාමය, තුසිතය, නිම්මාණරතිය, පරනිම්මිත වසවර්තිය කියලා

දිව්‍ය ලෝක හයක්. බ්‍රහ්ම ලෝක තියෙනවා, බ්‍රහ්ම ලෝක වල උපදින්නේ බ්‍රහ්මවිහාර සහ සමාධිය මුල්කරගෙන. ඉතින් ඉස්සර ගෙවල් වල මිනිස්සුන්ගෙ තියෙනවා, මුන්ට හය හතර තේරෙන්නෑ කියලා. හය කියන්නෙ දිව්‍යලෝක හය. හතර කියන්නේ සතර අපාය. එතකොට සතර අපායේ උපදින්නෙ පව් අකුසල් නිසා. දෙව්ලොව උපදින්නේ පින් කුසල් නිසා. ඒ නිසා පින් පව් තේරෙනවා කියන එක තමයි හය හතර තේරෙනවා කියලා කියන්නෙ. එතකොට අපි මෙච්චර කාලයක් මේ උගන්වන්නේ හය හතර තේරුම් ගනිල්ලා කියලා. එතකොට වයසින් ගිහිල්ලා මෝරලා කෙස් පැහුණට පස්සෙත් මිනිස්සු හය හතර දන්නෙ නෑ, පින් පව් තේරෙන්නෑ, කුසල් අකුසල් තේරෙන්නෑ. ඒ නිසා පව් ගැනත් තේරුම් ගන්න, පවේ විපාක ගැනත් තේරුම් ගන්න. පින් ගැනත් තේරුම් ගන්න, පිනේ විපාක ගැනත් තේරුම් ගන්න. පින් පව් ගැන තේරුම් ගන්න එක අයිතියි ලෞකික සම්මා දිට්ඨියට. ලෞකික සම්මාදිට්ඨිය හේතුවෙනවා ලෝකෝත්තර සම්මාදිට්ඨියට. සම්මාදිට්ඨිය අයිති වෙන්නෙ ප්‍රඥා සම්පත්තියට. එතකොට ඔබ මේ පින් පව් ගැන ඉගෙන ගන්න එක, දානය ගැන ඉගෙන ගන්නවාට වැඩිය, සීලය ගැන ඉගෙනගන්නවාට වැඩිය මහත්වූ ආනිසංස සලසන ප්‍රඥාවට උපකාරක ධර්මයක්. ප්‍රඥාවෙන් තමයි කෙලෙස් නසන්නෙ. ඇත්තටම පින් පව් ගැන ඉගෙන ගන්න එකෙන් ඔබගේ කෙලෙස් නැසෙනවා. ඊළඟ එක තමයි මේ පව් කරන්න ලැජ්ජාව ඇතිවෙනවා. විපාකයට භය, පව් කරන්න ලැජ්ජාව ඇතිවෙනවා. මේ ලැජ්ජා භය නැති කමින් තමයි අවිද්‍යාව පෝෂණය වෙන්නෙ. ලැජ්ජා භය තිබ්බොත් තමයි විද්‍යාව පෝෂණය වෙන්නෙ. ඉතින් ඒ නිසා පින්වතුනි නිවන් මාර්ගයට ඒකාන්තයෙන් උපකාරක ධර්මයක්මයි මේ පේතවත්ථු, විමානවත්ථු. බුදුරජාණන් වහන්සේගේ බුද්ධ භාෂිත, රහතන් වහන්සේලා මතකයෙන් දරාගෙන ආපු ඒවා, මිහිඳු මහරහතන් වහන්සේ ලංකාවට දායාද කරපු ධර්මය. ඒ ධර්මය ඔබට ඉගෙන ගන්න ලැබෙන එක ගැන සතුටු වෙන්න. ඉතින් ඒ නිසා ඔබ සියලු දෙනාට මේ පින් බලයෙන් සුගති සම්පත්තිය ගෞතම සසුනේ පිහිට සැලසේවා කියලා එක හිතින් ආශිර්වාද කරනවා.

අද දවසේ මේ උතුම් වැඩසටහන ආරම්භ කිරීම පිණිස දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන ආරම්භ කිරීම පිණිස ගිරාදුරුකෝට්ටේ අගලවහි පදිංචි පින්වත් අසංක ප්‍රියදර්ශන පුතාත්, සසිකලා ජීවන්ති දියණියත් තමයි දායකත්වය දැරුවෙ. ඉතින් මේ දරුවන් විශාල පිනක් රැස්කරගත්තා. ඉතින් මේ දරුවන්ගේ විවාහ ජීවිතයට පාතැබීම මුල්කරගෙන ආශිර්වාද සලසන්න, ඒ

නිසා මේ දෙව්ලොව ගැන මේ සොඳුරු කතාවට ආරම්භක වැඩසටහන කිරීමම ඔබගේ සොඳුරු ජීවිතයට, ඔබගේ පින් කුසල් ජීවිතයේ පින් කුසල් රැස් කරගැනීම පිණිස උපකාරක ධර්මයක් වෙනවා නියතයි. ඉතින් අපි සෙත් ප්‍රාර්ථනා කරනවා ඔයාලා දෙන්නගේ ජීවිතය පින්බරව ගෙවේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරමින් අපි පින් අනුමෝදන් කරමු, අපි රැස් කරගත්තු සියලූම පින් සියලු දෙවි දේවතාවුන් වහන්සේලාට අනුමෝදන් වෙත්වා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා මේ පින්වතුන් සියලු දෙනාත් ඒ වාගේම මේ ලක්වැසියනුත්, ඒ වාගේම ලෝකවාසී සියලුදෙනාත් ආරක්ෂා කරත්වා. මේ ලෝක ව්‍යසනය, වසංගත දුරින්ම දුරු කරන්න දෙවියන්ගේ දිව්‍ය ඍද්ධියෙන් උපකාර කරත්වා කියන අදහස තියෙනවා සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වාගේම පින්වත්නි, මේ පින් අනුමෝදන් වෙත්වා දායකත්වය දැරූ පින්වතුන් නමින් මීට මාස අටකට පෙර මියපරලොව ගිය එන්.එම්.නන්දාවතී මෑණියන්ට මේ පින් අනුමෝදන් වෙත්වා, නන්දාවතී මෑණියන්ටත් ඔබ කවුරුන් නමින් මියපරලොව ගිය ඥාතීන්ටත් මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. ඒ වගේම පරමපූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ සියලු පින් බලයෙන් නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු ලක්වැසි ලෝවැසි සියලුම සඟරුවනටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් අනුමෝදන් වී ගෞතම සසුනේ ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම පින්වත් අසංක ප්‍රියදර්ශණ පුතා ගිරාදුරුකෝට්ටේ අගලවති, ඒ වගේම සසිකලා ජීවන්ති දියණියට මේ පින් අනුමෝදන් වී ඒ දරුවන්ගේ යුගදිවියට මේ පින් බලයෙන් සෙත් ප්‍රාර්ථනා වේවා. මේ දරුවන්ට ජීවිතේ ඒකාන්තයෙන්ම තුණුරුවන් සරණින් පින් බලයෙන් සාර්ථක වේවා, පින්බර වේවා. ඒ වගේම පින්බර දුවාදරුවන් ලැබේවා. මේ දරුවන්ට ධර්මය පුරුදු කරගන්න ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම සෙත් ප්‍රාර්ථනා කරනවා මහමෙව්නා අසපුවේ අනගාරික පින්වත් ශසික ඉසාර සොහොයුරාට, ඒ පැවිදි ජීවිතයට මේ පින් ඒකාන්තයෙන්ම උපකාර වේවා කියලා සහෝදරයා විසින්. ඒ වගේම සුජීවත්ව සිටින පින්වත් මෑණියන්ට, පියාණන් දෙපළට, සහෝදර සහෝදරියන්ට ධර්මාවබෝධය පිණිස මේ පින් උපකාරී වේවා කියලා පින් පමුණුවනවා, ඒ ආකාරයෙන් ඒ සියලු පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ ධර්ම දායකත්ව සලසන සියලු දෙනාටත්, ඒ වගේම මේ මාධ්‍ය පවත්වාගෙන යාමට ආධාර උපකාර කරන

සියලු දෙනාටත්, කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත් පින් අනුමෝදන් වේවා. හැදූ වැඩූ දෙමව්පියන්ට, අකුරු කෙරූ ගුරුවරුන්ට, ඔබ සියලු දෙනාට, ඥාති බන්ධුමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වී, මේ රැස් කල ධර්මය ශ්‍රවණය කරලා, ධර්මය බෙදාහැරලා, පින් කුසල් ගැන අහලා, බුද්ධ වචනය අහලා රැස් කරගත්තු සියලුම පින් බලයෙන් සුගති රැකවරණයත්, අමා නිවනත් සැලසේවා කියලා පින් පමුණුවනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=MpbkQkAgXUk&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=1

සාදු සාදු සාදු!!!

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. නමස්කාර වේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද අපි දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහනේ දෙවැනි දවස තමයි අද අපි මේ ධර්මය ඉගෙන ගන්න. ඉතින් අද දවසින් විමානවත්ථුව ආරම්භ වෙනවා. ඔබට ගොඩක් පින්කම් සහ පින්කම් වල විපාක ඉගෙන ගන්න ලැබෙනවා. ඒ වගේම බුදුරජාණන් වහන්සේ දෙව්ලොව ගැන වදාළ දේවල්, රහතන් වහන්සේලා දැකපු දේවල් ඒවා ඔබට අහන්න ලැබෙනවා. සාමාන්‍යයෙන් පින්වතුනි මේ වගේ දේවල් වෙනත් ආගම් වල අයට අහන්නම ලැබෙන්නෑ. වෙනත් රටවලට අහන්න ලැබෙන් නෑ, ඒ අයට අහන්න ලැබෙන්නෙ සුරංගනා කතා. ඒ වගේම එයාලගේ පුරාණව තිබෙන දේවල්. ඉතින් පින්වතුනි අද දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ පදිංචි පින්වත් නිල්මිණී නවරත්න මහත්මිය සහ රොහාන් මහත්මයා සහ දරු දෙදෙනා විසින්. ඉතින් මේ පින්වතුන් බලාපොරොත්තු වෙනවා මේ උතුම් දහම් වැඩසටහන සිද්ධ කරලා සියලු දෙනාට සෙත් ප්‍රාර්ථනා කරන්නටත් ඒ වගේම ලෝක ව්‍යසනයක් වූ මේ වසංගත රෝගය මේ

ලෝකෙන්ම තුරන් වීම පිණිසත් මේ පින අනුමෝදන් කරන්නටත් මේ පින්වතුන් බලාපොරොත්තු වෙනවා. ඉතින් පින්වතුනි අපිට බුදුරජාණන් වහන්සේ නිසා තමයි මේ නොපෙනෙන ලෝකයක් ගැන තේරුම් ගන්න ලැබෙන්නෙ. නොපෙනෙන ලෝකය තේරුන්නැතිනම් වැටෙන අමාරුව හිතාගන්න බෑ, ඔබට මතකයිද අසුර අපාය ගැන කියද්දි, විනිපාතික අසුර නිකායක් ගැන කිව්වා අග්ගිමුඛ අසුර කියලා. ඒ කියන්නෙ ඒ ප්‍රේත ලෝකෙක ඉපදිච්ච පිරිසක් ඉන්නවා ඒ පිරිස කට ඇරිය ගමන් කටින් ගින්දර එනවා. මහ යක්ෂ ස්වභාවයක් ශරීරයේ තියෙන්නෙ දාහය. කට ඇරියම කටින් ගින්දර එනවා. එතකොට ඒක එයා විඳින කර්ම විපාකයක්. එතකොට දැන් සාමාන්‍ය මනුස්සයෙකුට ඔය වාගේ කෙනෙක් දර්ශනය වුනොත් මොකද කරන්නෙ. එයා කටින් ගිනි පිටකරන මහා තේජස්වී මහා යක්ෂෝත්තමයාණන් වහන්සේ නමක් දුටු සේක කියලා එතුමාගේ පින්තූරය ඇඳලා, පහන් තියලා, ඝණ්ටාර හොල්ලලා, කොච්චර දේවල් කරනවාද. නමුත් විඳින්නේ කර්ම විපාකයක්. දැක්කද, අපිට ජේන්නැති දේවල්. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ දේශනාවෙන්ම මේවා තේරුම් ගන්නට ඇත්නම් ලොකු දෙයක් පින්වත්නි. සමහර අය දිව්‍ය ස්වභාවයෙන් එනවා. සමහර අය වෙස් මාරු කරගෙන එනවා. එක එක ලෝක වලින්, දෙවිවරු කියලා. දැන් එක්කෙනෙක් ළඟට මට මේ කෙනෙක් ඇවිල්ලා කිව්වා, ස්වාමීනී, මම එක්තරා දෙවි කෙනෙක් දැක්කා ඒ දෙවි කෙනා ඇවිල්ලා කියලා තියෙනවා එයාට මෙහෙම කරන්න, මෙහෙම කරන්න කියලා එයාට ලොකු විස්තරයක් කියලා, ඊටපස්සෙ මෙයා ඉතින් අවධානෙන් අහගෙන ඉඳලා ඊටපස්සෙ එයා විස්තරේ කියලා අනිත් පැත්ත හැරිලා ගිහිල්ලා. අනිත් පැත්ත හැරෙනකොට තනිකර පිටපැත්ත ඇටසැකිල්ලක්. පිටපැත්ත සම්පූර්ණයෙන්ම ඇටසැකිල්ලක්. මේ පින්වත්නි එක්තරා ප්‍රේත නිකායක්. දැන් ඔය කාම ප්‍රේතියක් ඉන්නවානෙ, කාම ප්‍රේතිය කියන්නෙ මනුස්ස ලෝකයේ කාම සේවනයේන්ම පෙරේත වෙලා උපදින කෙනෙක්. ඒ අයට නමක් තියෙනවා මෝහිනී කියලා. එයාගේ ශරීරය ඉස්සරහින් ලස්සන කාන්තාවක් වගේ. එයා අනිත් පැත්ත හැරුනහම ඇටසැකිල්ලක්. ඉතින් කර්ම විපාකයක් ගෙවන්නේ. එතකොට කර්ම විපාකයක් ගෙවන ඒ දුගති ලෝකයක ඉන්න අයට තමයි මනුස්සයො මෙච්චර සැලිලා ඉන්නෙ. දැන් බලන්න අපිට මේ ලෝක ගැන තේරුම් ගන්න නම් අනිවාර්යයෙන් බුදුරජාණන් වහන්සේගේ බුද්ධ දේශනාව ඇහින් දැකලා, ඇහින් දැක්කත් බැනෙ, කර්ම විපාක, මේක කුමකින්ද හටගත්තෙ, ඇත්තටම මෙයා කව්ද, මෙයාට පුලුවන් දේවල් මොනවාද, මෙයා

මෙතනින් පස්සෙ යන්නෙ කොහාටද, ඒවා ඔක්කොම දන්නෙ බුදුරජාණන් වහන්සේනෙ. බුදුරජාණන් වහන්සේ තමයි දන්නේ දිව්‍යලෝකෙක උපදින විදිය. දැන් මේ බලන්න බුදුරජාණන් වහන්සේගේ දිවැස ගැන තියෙනවා. බුදුරජාණන් වහන්සේ ඒවා දකින්නෙ දිවැසින්. ඒකනේ මේ දිවැසින් දුටු දෙව්ලොව සැප කියන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේගේ දිවැස කොයි වගේද. සාරිපුත්ත මහරහතන් වහන්සේට දේශනා කලා. සාරිපුත්ත තථාගතයන් වහන්සේ දහම් දෙසන්නේ පිරිස් මැද, දසබල ඥාන තුළ පිහිටලා. ඒ ඥාන තුළ පිහිටලයි තථාගතයන් වහන්සේ සිංහනාද කරන්නෙ. බුදුමුවින් එක වචනයක් පිටවුනත් ඒක සිංහනාදයක්. සාරිපුත්ත එයින්, ඒ දසබල ඥාන තුලින් එකක් තමයි දිවැස කියන එක. පුණචපරං සාරිපුත්ත තථාගතෝ දිබ්බෙන චක්ඛුනා විසුද්ධේන අතික්කන්තුමානසිකේන සත්පී විපස්සති, සාරිපුත්ත තථාගතයන් වහන්සේ දිවැසින් යුතුව, දිව්‍ය ඇසින්, පිරිසිදු දිව්‍ය ඇසින් මේ මිනිස් සත්ත්වයා මේ මිනිස් ලෝකයෙන් එහා ගිය දේවල් දකිනවා. මිනිස් හැකියාව ඉක්මවා ගිය දේවල් දකිනවා. කොහොමද දකින්නෙ චවමානි උපපජ්ජමානී, මිනිස්සු මෙහෙන් මැරෙනවාත් දකිනවා, මැරිලා ඉපදෙනවාත් දකිනවා. අපි හරියට මැරෙන විදියවත් දන්නෑ. අපේ හුස්ම හෝස් ගාලා ගියා කියලා විතරයි අපි හිතන්නෙ. අපි කල්පනා කරන්නෙ. බුදුරජාණන් වහන්සේ චුත වෙන මොහොතත් දකිනවා, ඉපදෙන මොහොතත් දකිනවා. ඊටපස්සෙ හීනේපනීතේ, එයාගේ උපත හීන එකක්ද, ප්‍රණීත එකක්ද, ස්වන්නේ දුබ්බන්නේ, හොඳ උපතක්ද නරක උපතක්ද. සුගතේ දුග්ගතේ, සුගතියෙද, දුගතියෙද කියලත් බුදුරජාණන් වහන්සේ දකිනවා. යථා කම්මෝපගේ සත්තේ පජානාතී, කර්මානුරූපව සත්ත්වයා උපතක් කරා යනහැටි දකිනවා. ඉමේ වතබොන්තෝ සත්තා කාය දුච්චරිතේන සමන්නාගතා, කයෙන් දුෂ්චරිතයේ යෙදිලා, වචනයෙන් දුෂ්චරිතේ යෙදිලා, මනසින් දුෂ්චරිතයේ යෙදිලා ආර්ය උපවාද කරලා, මිථ්‍යා දෘෂ්ටික වෙලා, මිථ්‍යා දෘෂ්ටික කර්ම සමාදන් වෙලා, තේ කායස්ස භේදං පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා, එයා මැරුනට පස්සෙ අපාය නම් වූ විනිපාත නිරයේ උපදිනවා. එතකොට අපි මීට කලින් කරපු වැඩසටහන් මාලාවේ ඒ සතර අපාය බුදුරජාණන් වහන්සේ දකින්නෙ දිවැසින්. දැන් අපි ඉගෙන ගන්න දිව්‍යලෝකයත් බුදුරජාණන් වහන්සේ දකින්නෙ දිවැසින්. බුදුරජාණන් වහන්සේ දැක්කා ඉමේවා පනබොන්තෝ කාය සුචරිතේන සමන්නාගතා, මේ සත්ත්වයෝ කයින් යහපත් දේවල් කරලා, වචී සුචරිතේන සමන්නාගතා, වචනයෙන් යහපත් දේවල් කරලා, මනෝ සුචරිතේන

සමන්නාගතා, මනෝ සුචරිතයෙන් සමන්නාගත වෙලා, අරියානං අනුපවාදකා, ආර්යයන් වහන්සේලාට උපවාද නොකර, දැන් පේනවා නේද දෙව්ලොවක උපදින්න බෑ ආර්යයන් වහන්සේලාට උපවාද කලොත්. උතුම් අයට ගැරහුවොත් දෙව්ලොවක උපදින්න බෑ. ආර්යයන් වහන්සේලාට උපවාද නොකර ඉන්න කෙනා තමයි දෙව්ලොවක උපදින්නෙ. ආර්යයන් වහන්සේලාට උපවාද නොකර. සම්මාදිට්ඨිකා, සම්මාදිට්ඨියෙන් යුතු වෙලා. සම්මාදිට්ඨි කම්මසමාදානා, සම්මා දිට්ඨියෙන් යුතු දේවල්, ඒ සම්මා දිට්ඨිය කියන්නෙ පින් පව් අදහගෙන කරන කර්ම. එතකොට දැන් ඒකෙන් තේරෙනවා පින්වත්නි සමහර වෙලාවට, අපි කියමුකො දාන සීල භාවනා ආදී වශයෙන් වුනත් ඒ කර්ම සම්මාදිට්ඨියෙන් යුතු වුනොත් තමයි ඒක ඒකාන්ත සුගතියට උපකාරී වෙන්නෙ. දැන් සාමාන්‍යයෙන් පිටරටවල්වලින් ආධාර උපකාර කරනවා, ඒවා හොඳයි, යහපත් දේවල්, ඒවගේ විපාක තියෙනවා. ඊළඟට ඒ අය වැරදි නොකර ඉන්නවා. සමහර විට මිත්‍යා දෘෂ්ටික කෙනෙක් ඉන්නවා පන්සිල් කඩන්නෑ. එතකොට ඒවා යහපත් දේවල්. ඊළඟට මිත්‍යා දෘෂ්ටික කෙනෙක් ඉන්නවා, දන් දෙනවා, හැබැයි යහපත් දේවල්. නමුත් එයාගේ සුචරිතය ඒකාන්තයෙන් සුගතිය පිණිස පවතින්නෙ කර්මය කර්ම ඵල විශ්වාසයත් එක්ක තිබ්බොත්. සම්මා දිට්ඨි කම්ම සමාදානා, සම්මා දිට්ඨික කර්මයන්ගෙන් සමාදන් වෙලා, අන්න එහෙම වුනාම තේ කායස්ස භේදා පරම්මරණං සුගතිං සග්ගං ලෝකං උපපන්නා, අන්න එයා මැරිලා ගිහිල්ලා ස්වර්ගයේ උපදිනවා.ආන්න ඔය විදියට මිනිස් ස්වභාවය ඉක්මවා ගිය දිවැසින් බුදුරජාණන් වහන්සේ මේ සත්ත්වයෝ උපදින මැරෙන හැටි ගිහිල්ලා මේ සත්ත්වයෝ සුගතියේ දුගතියේ උපදින හැටි දකිනවා. බුදුරජාණන් වහන්සේ වදාළා ඉදම්පි සාරිපුත්ත තථාගතස්ස තථාගත බලං, ඔය දිවැස කියන එක සාරිපුත්ත තථාගතයන් වහන්සේගේ තථාගත බලයක්. යං බලං ආගම්ම, ඒ බලයට පැමිණ තමයි තථාගත වූ තථාගතයන් වහන්සේ ආසබන්ඨාණං පටිජානාතී, බය නැතිව ශ්‍රේෂ්ටව කතා කරන්නෙ. පරිසාස සිහනාදං නාදති, පිරිස් මැද සිංහනාද කරනවා, කිසිම බයක් නෑ. ධම්මචක්කං පවත්තති, උතුම් ධර්ම චක්‍රය පවත්වනවා කියනවා. ඉතින් මේ විදියට බුදුරජාණන් වහන්සේ දස බල ඥාන තුල පිහිටලා දේශනා කරපු විස්තරයක් තමයි මේ සුගති උත්පත්තිය කියන එක, දෙව්ලොව කතාව. ඒ නිසා නැවත නැවත කියන්නේ මේ ධර්මය වනාහි මම කියන දෙයක් නෙවෙයි, මම සොයාගත්ත දෙයකුත් නෙවෙයි, මම දැක්ක දේකුත් නෙවෙයි, මේ වනාහි බුදුරජාණන් වහන්සේ දස බල ඥානයෙන් දැකපු දෙව්ලොවයි. ඉතින් පින්වතුනි

යහපත් මිනිස්සු, පින් කරන මිනිස්සු, හොඳ මිනිස්සු හොයාගන්න පුලුවන්. කොහොමද හොයාගන්නේ, ඒකට සූත්‍ර දේශනාවක් තියෙනවා පින්වත්නි, ඒ සූත්‍ර දේශනාව බාලපණ්ඩිත දේශනාවේම එක්තරා කොටසක්. පින්වත් මහණෙනි, සත්පුරුෂ නුවණැත්තා ඇතුළුව ඒ සත්පුරුෂ නුවණැති බව පෙන්වන ලක්ෂණ ඒ සත්පුරුෂ කම දැන ගන්න පුලුවන් නිමිති, සත්පුරුෂ කම නුවණැති බව ඉස්මතු වෙන චර්යාවන් තුනක් තියෙනවා. ඒ කියන්නෙ යම්කිසි මනුස්සයෙක් හොඳයි නම්, සත්පුරුෂයි නම් නුවණයි නම් ඒක පිටට පේන කරුණු තුනක් තියෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඒ තමයි යම් හෙයකින් පින්වත් මහණෙනි, සත්පුරුෂයා දැනගන්නෙ කොහොමද, ඒ චරිත තුන මොනවාද, එයා හිතන්නෙ යහපත් සිතිවිලි, හොඳ දේවල් හිතනවා. සත්පුරුෂයා, හොඳ මනුෂ්‍යයා, නුවණැති මනුෂ්‍යයා, හොඳ දේවල් හිතනවා. යහපත් දේවල්මයි කියන්නෙ. හොඳ දේවල් කියනවා. ඊළඟට යහපත් වැඩමයි කරන්නෙ. හොඳ දේවල්, යහපත් දේවල් තමයි එයා කරන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඉතින් පින්වත් මහණෙනි, හොඳ දේවල් හිතන්නැත්නම්, හොඳ දේවල් කියන්නැත්නම්, හොඳ දේවල් කරන්නැත්නම් එයා කොහොමද හොඳ මනුස්සයෙක් කියලා හොයාගන්නෙ. ඒවා කරන නිසා, ඒවා හිතන නිසා කියන නිසානෙ ඒ මනුස්සයා හොඳ මනුස්සයෙක් කියලා අපි තේරුම් ගන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඔන්න ඔය ක්‍රමයට මේ භවතා සත්පුරුෂ නුවණැත්තෙක්ය කියලා ලෝකයාට හොයාගන්න පුලුවන්. ඉතින් පින්වත් මහණෙනි, ඒ සත්පුරුෂයාට මේ ජීවිතයේදීම සැප තුනක් උපදිනවා. දැන් දිව්‍යලෝකෙට යන්න කලින් මෙහෙන් යන හැටි කියාදෙන්න එපැයි. ඒකයි මේ කියන්නෙ. ඒ හොඳ මනුස්සයාට, සත්පුරුෂ මනුස්සයාට, මොළේ කියලා එකක් තියෙන නුවණ තියෙන මනුස්සයාට සතුටු තුනක් උපදිනවා. ඒ තමයි, මිනිස්සු එකතු වුනාට පස්සෙ හොඳ දේවල් කතා කරනවා, පන්සිල් රකින එක ගැන, තෙරුවන් සරණ ගිය එක ගැන, දන්දෙන එක ගැන, සිල් රකින ඒවා ගැන, කට්ටිය එකතු වෙලා කතා වෙනවා. කට්ටිය එකතු වෙලා කතා කරනකොට එයාට සතුටක් උපදිනවා මං දන්දෙන කෙනෙක්නෙ, මං පන්සිල් රකින කෙනෙක්නෙ, මං හොර වැඩ කරන්නැති කෙනෙක්නෙ, මං පින් කරන කෙනෙක්නේ කියලා සතුට උපදිනවා. හොඳ දේවල් කතා කරද්දී සතුට උපදින්නෙ හොඳ මිනිස්සුන්ට. එහෙනම් හොඳ දේවල් කතා කරද්දි රුස්සන්නැත්තෙ නරක මිනිස්සුන්ට. ඒ නිසා බණ කියනකොට රුස්සන්නැත්තේ එයාගෙ චරිතේ නිසා මිසක්කා බණේ වැරැද්දක් නෙවෙයි.

ඉතින් ඒ නිසා දැන් ඒකනේ මං කිව්වෙ අර බුදුරජාණන් වහන්සේම නිම්මාණරතිය දිව්‍යලෝකෙ උපදින නිම්මාණරති මනාපකායික වෘතය ධර්මදේශනාව කරනකොට පෙලක් කිපුනා, පෙලක් හැදුනා. එතකොට කිපුනෙ එයාලගේ චරිතෙ වැරැද්ද. අනුමෝදන් වෙන්නේ තමන්ගේ චරිතයේ යහපත් බව. මේ තියෙන්නෙ ඒවා කතා කරනකොට සතුට උපදින්නෙ තමා තුල තියෙනවානම් හැදෙන්න කැමති කෙනා තුල. ඉතින් ඕක සත්පුරුෂ මනුස්සයාට තමයි ඒ සැපය උපදින්නෙ. ඊළඟට තියෙනවා මේ දකිනවා ඔන්න දෙවෙනි සැපය තමයි, මේ හොඳ මිනිහා සත්පුරුෂ මනුස්සයා, නුවණැති මනුස්සයා දකිනවා වැරදි කරලා දඬුවම් විඳින මිනිස්සු, ඔන්න බේබද්දෙක් අහුවෙලා ලැජ්ජාවට පත්වෙන ඒවා, හොරවැඩ කරලා සල්ලාලකම් කරලා අහුවෙලා ඊළඟට ඔය වගේ දේවල්. ඊළඟට මිනිස්සු ලෝභකමින් කුණකමින් හම්බුකරගෙන තියාගෙන ඉඳලා ඒවා දාලා යනවා, තමන්ට මොකවත් නෑ. ඔය වාගේ දේවල් දකිනවා. ඉතින් නරක වැඩවල දඬුවම් දකිනකොට, නින්දා අපහාස දකිනකොට එයාට හිතෙනවා අප්පේ මංනම් යාන්තම් බේරුණා. මං ඉස්සර බිව්වා, දැන්නම් බොන්නෑ. එයාට අදාළ නෑ, ඒ නිසා දැන් දෙන දඬුවම් එයාට අදාළ නෑ. වෙන මිනිස්සුන්ගේ දඬුවම් දැකලා එයා හිතන්නෙ. ඒ නිසා දන් දෙන එක ගැන එයා සතුටු වෙනවා. ඉතින් එයාට හරි සතුටුයි, එයා දන්නවා මගේ ළඟ වැරදි නෑ මේ වගේ දඬුවම් නින්දා අපහාස විඳින්න, දැන් මා තුල වැරැද්දක් නෑ. ඒ නිසා එයාට ඒ සතුටත් එයාට තියෙනවා. ඒ දෙවෙනි සතුට. තුන්වෙනි සතුට තමයි, මෙන්න මේක බලාගන්න පින්වතුනි මේ දේශනාව, මේ කාරණාව අහගන්න, පුදුම සහගතයි. පින්වත් මහණෙනි, නැවත තවත් කාරණාවක් මේ කියන්නෙ, සත්පුරුෂ නුවණැත්තා පුටුවක වාඩිවෙලා ඉන්න වෙලාවක වේවා, ඇඳක හාන්සි වී ඉන්න වෙලාවක වේවා බිම දිගාවී සිටින වෙලාවක වේවා, තමන් ඉස්සර කරපු පින්, කයින් කරපු යහපත් දේවල්, වචනයෙන් කියපු යහපත් දේවල්, මනසින් හිතපු යහපත් දේවල් තමන්ට මැවිලා පේන්න පටන් ගන්නවා. ඔන්න අවසාන කාලෙ වෙන දේවල්. තනිවෙච්ච ගමන් තමන් කරපු හොඳ දේවල් පේන්න ගන්නවා. හොඳ මනුස්සයාට. ඒකමයි හිතට මතුවෙවී එන්නේ. මේක බුද්ධ වචනයක්. එතකොට මරණාසන්න වෙනකොට, නැතිනම් හුදෙකලා වෙනකොට තනියෙන් ඉන්නකොට හොඳ දේවල්ම හිතට එන්න ගන්නවා. ඊටපස්සෙ ඒකමයි හිතට එන්නෙ. ඒකමයි හිත වැළඳගන්නෙ. ඊටපස්සෙ ඒකෙමයි හිත, වෙන එකකට ගන්න බෑ. පව් කලත් ඒක වෙනවා අනිත් පැත්තට. හොඳ කළොත් ඒක ඒ පැත්තට වෙනවා. හොඳ යහපත් දේවල්,

හොඳ දේවල් කලොත් අවසානයේ වෙන දේවල් පින්වත්නි මේ. උපමාවක් කියනවා පින්වත් මහණෙනි, විශාල පර්වතයක ඡායාව හවස් වෙද්දි පොළොවෙ වැතිරෙනවා. ඇත්තටම ඉතින් ඉර නැගලා ඇවිල්ලා මද්දහන වෙනකොට කන්දක හෙවනැල්ල කොහෙද ඕවා හොයන්න බැනෙ. හැබැයි ඉර බැහැගෙන යනකොට අර කන්දෙ හෙවනැල්ල පොළොවෙ වැතිරීගෙන යනවා, ඒක වළක්වන්න බෑ, ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, ඔය වගේ තමයි සත්පුරුෂ මනුස්සයා අවසාන කාලෙ ගතකරනකොට, නැත්නම් ඇඳක හාන්සිවෙලා පුටුවක ඔහේ හුදෙකලාවක ඉන්නකොට තමන් කරපු හොඳ දේවල්ම තමන්ගෙ හිතට එනවා. හිත ඒකෙම තියෙනවා වෙනතකට ගන්න බෑ. හිත වැළඳගන්නවා අර යහපත් ක්‍රියාවල. නරක මනුස්සයාටත් ඕකයි අනිත් පැත්තට. ඉතින් පින්වත් මහණෙනි, එතකොට සත්පුරුෂ නුවණැත්තාට මෙහෙම හිතෙනවා. ඒකාන්තයෙන් මං අතින් පව් කෙරුන් නෑ, මං ඒවයින් වැළකුණා, මං රෞද්‍ර වුන්නෑ, නපුරු වුන්නෑ, මං හොඳ දේවල්, මං හොඳට පින් කරගත්තා, මං පරලොවට යහපත් දේවල් කරගත්තා. මට දුක් වෙන්න දෙයක් නෑ, එයාට හිතෙනවා. හරී සතුටුයි එයාට. ඊටපස්සෙ මම මැරුණට පස්සෙ මමනෙ දෙව්ලොව යන්නෙ. සුගතියට යන්නෙ අපිනෙ. මම මැරුණට පස්සෙ සුගතියට යන්නැතිව කවුරු යන්නද. එයාට හිතෙනවා. ඊටපස්සෙ මේ විදියට එයාට දුක නෑ, වැළපෙන්නෑ, කෑකොස්සන් ගැහිලි නෑ, එයා සුවසේ මැරිලා යනවා. ඊටපස්සෙ මෙයා මැරිලා ගිහිල්ලා, මැරිලා සුගතියේ උපදිනවා. ඔන්න දෙව්ලොව ඉපදුනා දැන්. සුගතියේ ඉපදුනාට පස්සෙ, බුදුරජාණන් වහන්සේ ලස්සන දේශනාවක්, විස්තරයක් කරනවා, පින්වත් මහණෙනි, ඉතින් ඒ සත්පුරුෂ නුවණැත්තා කයින් යහපතේ යෙදිලා, වචනයෙන් යහපතේ යෙදිලා, මනසින් යහපතේ යෙදිලා කය බිඳී මරණින් මතු සුගති සංඛ්‍යාත ස්වර්ග ලෝකයේ උපදිනවා. පින්වත් මහණෙනි, යමෙක් යම් දෙයක් අරඹයා මනා කොට කියයි නම් ඒකාන්තයෙන්ම ඉෂ්ට වූ, ඒකාන්තයෙන් කාන්ත වූ, ඒකාන්තයෙන් මනාප වූ තැනක් තියෙනවා කියලා, පින්වත් මහණෙනි, ඒ ඉෂ්ටකාන්ත වූ, මනාප ප්‍රියමනාප තැනට තමයි ස්වර්ගයයි කියලා කියන්නෙ, දෙව්ලොවයි කියලා කියන්නෙ. පින්වත් මහණෙනි, ස්වර්ගයේ ඇති යහපත් සැපය කොතරම්ද යත් උපමාවකින් වත් පැවසීම ලෙහෙසි දෙයක් නෙවෙයි. දිව්‍ය ලෝකයේ සැප කියන එක උපමාවකින් වත් පැවසීම ලේසි දෙයක් නොවෙයි පින්වත් මහණෙනි, කවුද මේ දේශනා කරන්නෙ, අපේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේ. සියල්ල දේශනා කිරීමේ දක්ෂ බුදුරජාණන්

වහන්සේ දේශනා කරනවා දෙව්ලොව සැප විස්තර කරන්නත් අමාරුයි කියලා. කොහොමද, ඊළඟට මේ දිව්‍යලෝකෙ උපදින්නේ සත්පුරුෂයා. එතකොට දිව්‍යලෝකය පිණිස දහම් කරුණු කියද්දි ඒවගේ තෙදගන්වද්දි කට්ටිය කියනවානම් ඕවා කියන්න එපා කියලා, කියන්නෙ සත්පුරුෂ දහම කියන්න එපා කියලනෙ. එහෙනම් මිනිස්සුන්ට සැපය ගැන කියන්න එපා කියලනෙ කියන්නෙ. මේ භාග්‍යවතුන් වහන්සේ ප්‍රශංසා කරපු දේ එපා කියලනේ කියන්නෙ. ඉතින් ඒ නිසා පින්වතුනි එක එක්කෙනා කට තියන පලියට කියූ පමණින් අනුමෝදන් වෙන්න එපා. අපි මේක තේරුම් ගන්න ඕන. මහමෙව්නාවෙනුත් බණ අහපු පිරිස ඉන්නවා ඉස්සර. අනේ ඉස්සර නම් නිවන් දකින්න බණ කිව්වා, දැන් දිව්‍යලෝක ගැනත් කියාගෙන යනවා, මේක නම් හරියන්නෑ දැන් පාර වැරදිලා කියලා. එහෙමනම් පාර වරදින්න ඇත්තෙ ඔබට. මේ ධර්මය තථාගතයන් වහන්සේ දේශනා කලේ. පින්වතුනි මනුස්සයාගෙ හිත ක්‍රමානුකූලව වැඩෙන්නෙ. අපි නිවන පිණිස ධර්මය දේශනා කරනවා තමයි, ලොකු ස්වාමීන් වහන්සේ ධර්මය නිවන පිණිස, නිවනටම ඕන කාරණා ටික අරන් මහමෙව්නාවේ ආරම්භයේ දහම් දෙසූ බව හැබෑව. ඉතින් අපි ඇහුවා ස්වාමීනී, ඒ විදියට එක දිගට ධර්මය දේශනා කරන් අද දක්වාම ඒ විදියට ධර්මය දේශනා කලේ නැත්තෙ ඇයි? ලොකු ස්වාමීන් වහන්සේ කිව්වා ඒ විස්තර දිගින් දිගටම කියද්දින් තේරුණා කිව්වා මිනිස්සුන්ට මනුස්සකම්වත් නෑ කියලා, කෙලෙහිගුණවත් නෑ කියලා. සත්පුරුෂ කම් නෑ කියලා. හැබැයි නිවන ගැන කීමේ වටිනාකම තමයි ඒ නිවන ගැන කියනකොටයි නිවන් දකින්න බාධා පිණිස කරුණු ටික ඉස්මතු වුනේ. ඒ තමයි මනුස්සකම නෑ. එතකොට මනුස්සකම මනසේ නැතිව එයාට නිවන කියන්නෙ ලෝකෙ උත්තරීතර දේ. අග්‍රම දේ. අග්‍රම මානසික මට්ටම. ඉහළම දේ තමයි නිවන කියන්නෙ. ලෝකෝත්තර දේ. ලෝකෙන් එතෙර වූ දෙයක්. එතකොට මනුස්ස ලෝක, දිව්‍යලෝක, බ්‍රහ්ම ලෝක ආදිය මේ ලෝකෙට අයිති දේවල්. එතකොට නිවන කියන්නෙ ලෝකෝත්තරයි, මේ ලෝකෙන් එහා ගිය දෙයක්. එතකොට මේ ලෝකෙන් එහා පැරෂුට් එකෙන් යන්න බෑ. මේ ලෝකෙන් එහා පැරෂුට් එකෙන් යන්න බෑ. ඒ කියන්නෙ ක්‍රමාණුකූලව යන්නෙ. එහෙනම් මනුස්සයෙක්ගේ ඉස්සෙල්ලාම වැඩෙන්න ඕන මනුෂ්‍යත්වය. මනුස්සයෙක්ගේ හිතේ ඊළඟට වැඩෙන්න ඕන දිව්‍යත්වය. මනුස්සයෙක්ගෙ හිතේ ඊළඟට වැඩෙන්න ඕන බ්‍රහ්මත්වය. මනුස්සයෙක්ගේ හිතේ ඒ බ්‍රහ්මත්වයත් ඉක්මවා ගිය තැන තමයි ඒ ලෝකෝත්තර ධර්ම වැඩෙන්නෙ. එතකොට ඒ නිසා ඒ කරුණු කාරණා

හොඳට තේරුම් ගන්න. අංගුලිමාල කඩුවක් අරගෙන ගිහිල්ලා ලෝකයේ රෞද්‍රව දැඩි සිතින් වාසය කලාද, ඔහුට ධර්මය අවබෝධ කරන්න අන් අයගේ හැඬීමේදී උණුවෙන හදවතක් ඕන වුනා. ඒ නිසා ඔහු භාග්‍යවතුන් වහන්සේ ළඟ පැවිදි වුනා. වෙනත් අම්මා කෙනෙක් අඬන දුක දරාගන්න බැරි විදියට හදවත උණුවුනා. පිරිත දේශනා කලා. පස්සෙ කාලෙ අර්හත්වයට පත්වුනා. එච්චර එන්න ඕන මුලට කරුණාව එන්න ඕන. ඒ නිසා කරුණා මෛත්‍රිය නැතිව කඩාබිඳගෙන යන ගමනක් නෙවෙයි පින්වතුනි නිවන කියන්නෙ. ඒ නිවන කියන්නෙ ඒතං සාන්තං, සාන්ත දෙයක්. ඒතං පණීතං, ඒක ප්‍රණීත දෙයක්. යදිදං සබ්බ සංකාර සමතෝ, මේ සියලු සංස්කාරයන් සංසිදිච්ච තැන. සබ්බෝපරී පටිනිග්ගස්සෝ, සියලු කෙලෙස් සහිත කර්ම සංසිදී ගිය තැන. තණ්හක්කයෝ, තණ්හාව ක්ෂය වුන තැන, විරාගව නොඇලුනු තැන. නිබ්බාණං, ඒක තමයි නිර්වාණය. ඉතින් ඒ නිසා ඒ තත්ත්වෙට ගන්න දැන් බලන්න ඔබ මනුස්ස ගුණධර්ම තියෙන කෙනෙක්ද, අපි දැන් හිතනවා ඔබ මනුස්සකම තේරෙන අය වෙන්නැති කියලා, ඒ හින්දා දැන් ඔබට දිව්‍යත්වය ගැන කියලා දෙනවා. ක්‍රමානුකූලව. ඒ නිසා ඔබ, ඔබ තුළ ඇති කරගන්න ඔබගේ මනස ඉහළට ගන්න. මනස ඉහළට ගන්න පින්වත්නි. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ දිව්‍යලෝකෙක ඉපදුනාට පස්සෙ ඒ දිව්‍යලෝකයේ තියෙන සැපසම්පත කියන එක වචනෙන් කිව නොහැකියි කියලා. උපමාවකින් පැවසීමත් ලෙහෙසි නැත. එතකොට එහෙම කියනකොට ස්වාමීන් වහන්සේ නමක් වන්දනා කරලා කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස අනේ උපමාවක්වත් දේශනා කරන්න. භාග්‍යවතුන් වහන්සේ වදාළා පුලුවනි භික්ෂුව. භික්ෂුව, මේ ලෝකයේ මේ මනුස්ස ලෝකයේ අග්‍රම සැප විඳින මනුස්ස ලෝකෙ පංචකාම සැප වැඩිපුරම විඳින කෙනා තමයි සක්විති රජ්ජුරුවෝ. ඒ සක්විති රජ්ජුරුවන්ට මාණික්‍ය හතක් තියෙනවා. ඒ මාණික්‍ය හත තමයි භික්ෂුව, ඒ සක්විති රජ්ජුරුවන්ට තියෙනවා චක්‍ර රත්නය, ඒ කියන්නෙ ඒ රජ්ජුරුවෝ උපෝසථය සමාදන් වෙලා රාත්‍රී කාලයේ හවස් කාලයේ රාත්‍රී කාලයේ ජනෙල් කවුළුව ළඟ ඉන්නකොට ආකාසේ පහළවෙනවා විශාල කරත්ත රෝදයක් වාගේ මැණිකක්. අහසේ පහළවෙනවා. ඉතින් ඒ රජ්ජුරුවෝ කරත්ත රෝදයක් වගේ විශාල චක්‍ර රත්නයට, කරත්ත රෝදයක් වගේ මැණිකට පැන් ඉහිනවා භවත් චක්‍ර රත්නය කැරකේවා කියලා. ඉතින් ඊටපස්සෙ ඒක කැරකෙනකොට ඒ රජ්ජුරුවො නිකන්ම අහසට යනවා. ඇමතිවරු සේනාව ඔක්කොම අහසට යනවා. නිකම්ම, අර මැණිකෙ

ආනුභාවයට වෙන්නෙ ඒක. ඔක්කොම අහසට ගිහිල්ලා ඒ කරත්ත රෝදය පිටිපස්සෙන් අහසින් යනවා. ගිහිල්ලා මේ පෘථිවියම ඒ රජතුමාගේ අතට පත්වෙනවා. මොකද ඒ මැණික යම් රාජ්‍යයකට ගියොත් එහෙම ඒ රාජ්‍යයේ ඉන්න රජතුමා, සක්විති රජතුමාට නැමිලා කියනවා මේ රාජ්‍යය ඔබවහන්සේගේයි. ඔබ වහන්සේ කියන විදියටයි අපි පාලනය කරන්නෙ. ඊටපස්සෙ කියනවා එහෙනම් සත්තු මරන්න එපා, හොරකම් කරන්න එපා, වැරදිකාම සේවනය කරන්න එපා, බොරු කියන්න එපා, මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්න එපා කියලා මෙතෙක් ඔබ පාලනය කරපු විදියට පාලනය කරන්න, ඔය ප්‍රතිපත්තියේ පිහිටලා හිටින්න කියලා සක්විති රජ්ජුරුවෝ කියලා මුළු පෘථිවියේම සක්විති රජ්ජුරුවෝ අග රජු බවට පත්වෙනවා. ඒ කාලෙට කිසිම අර්බුදයක් කලකෝලහාල මොකවත් නෑ, ඒ සක්විති රජතුමාගෙ රාජ්‍ය කාලෙ. ඊටපස්සෙ ඒ මැණික ඇවිල්ලා අන්තඃපුර දොරටුවෙ ආකාසයේ තියෙනවා ඒ මාණික්‍යය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා භික්ෂුව ඒ සක්විති රජ්ජුරුවන්ට පහළ වෙනවා මනිරත්නය. ඒ කියන්නෙ විශාල මැණිකක්, ඒ මැණිකෙන් එළිය විහිදෙනවා යොදුනක්. යොදුනක් කියන්නෙ කිලෝමීටර් දහයක්. සැතපුම් හතක් විතර එළිය විහිදිළා යනවා. ඉතින් රජ්ජුරුවෝ දවසක් මේක විශාල කණුවක් මුදුනේ තියලා, රාත්‍රී කාලයේ මැණික තිබ්බා. මිනිස්සු ඔක්කොම නැගිට්ටා යොදුනක මිනිස්සු ඉර පායලා කියලා, එච්චර එළියයි. අද කාලෙ කොහෙද මේ එළිය තියෙන මැණික්. ඔබ නම් දැක්කද දන්නෑ මම නම් දැකලා නෑ එළිය තියෙන මැණිකක්. කියන්නෙ මැණිකෙන් එළිය විහිදෙන ඒවා දැකලා නෑ. මිනිස්සු අද කාලෙ මැණික අරන් ටෝච් එක ගහලා තමයි බලන්නෙ මැණික දිහා. අර මාණික්‍යරත්නය යොදුනක් එළිය විහිදෙනවා. ඊටපස්සෙ පින්වත්නි, ඒ රජ්ජුරුවන්ට පහළ වෙනවා හස්තිරත්නය. ඒ කියන්නෙ ඇතෙක් පහළ වෙනවා, ඒ ඇතා උදේ රජතුමා මූණ හෝදලා උදේ කෑම වෙනකොට ඒ ඇතා පිට නැගලා අහසින් මුලු පෘථිවිය වටේම ගිහිල්ලා එනවා. එච්චර ඉක්මණට. අශ්වයෙක් පහළ වෙනවා. උදේ මුහුණ සෝදලා උදේ කෑම වෙනකොට ඒ අතරතුර වෙලාවෙ ආකාසයෙන් පෘථිවිය වටේම ගිහිල්ලා එනවා අශ්වයා පිට. ඒ රජතුමාට පහළ වෙනවා පරිනායක රත්නයක්. දිවැස් තියෙනවා, ඕනම නිධානයක් පේනවා. වතුරෙ ඉඳලා උනත් රත්තරන් දියන් කියනකොට වතුර දෙබෑ කරලා රත්තරන් අරන් දෙනවා. පුරෝහිතයෙක් පහළ වෙනවා. ඊළඟට පුතාලා ටිකක් පහළ වෙනවා. ප්‍රධාන පුතෙක් සහිතව පුතාලා දාහක්. සම්පූර්ණ රජතුමාගෙ කර්තව්‍ය, රාජකෘත්‍යය දරුවො ඔක්කොම

කරන්නෙ, රජතුමාට කිසිම බරක් දෙන්නෑ. ඊළඟට ඒ රජතුමාට පහළ වෙනවා ස්ත්‍රී රත්නයක්. හරී සොඳුරු රූප සොබාවෙන් යුතු ස්ත්‍රී රත්නයක් පහළ වෙනවා. ඇ වැඩිය උසත් නෑ, ඇ වැඩිය කෙට්ටුත් නෑ, ඊළඟට ඇ වැඩිය කළුත් නෑ, ඇත්තටම ස්ත්‍රී රත්නයේ ස්වභාවය තියෙනවා මේ බලන්න, පිනට තමයි ඒ රජ්ජුරුවන්ගේ පිනට තමයි එවැනි වූ බිරිඳක් ලැබෙන්නෙ. සක්විති රජතුමාට ස්ත්‍රී රත්නයකුත් ලැබෙනවා. ස්ත්‍රී රත්නය ඉතාමත් රූප සම්පන්නයි, දර්ශනීයයි, සුන්දරයි, ඉතා උතුම් වූ රූප සෞන්දර්යයෙන් යුක්තයි, ඉතා උසත් නෑ, මිටිත් නෑ, ඉතා කෙට්ටුත් නෑ, ඉතා මහතත් නෑ, ඉතා කළුත් නෑ, ඉතා සුදුත් නෑ, මිනිස් පැහැය ඉක්මවා ගිහිනුත් නෑ, දිව්‍ය වර්ණයට ඇවිල්ලත් නෑ, සුදුත් නෑ, කළුත් නෑ, පින්වත් මහණෙනි, ස්ත්‍රී රත්නය කායික පහස මෙබඳු ස්වරූපයෙන් යුක්තයි. ඒ රජතුමාගේ බිරිඳගේ කායික පහස ගැන කියනවා. ඒ කියන්නෙ හොඳින් පෙලාපු හිඹුල් පුළුන් වගේ කියනවා. කපු පුලුන් වගේ කියනවා. පින්වත් මහණෙනි, ස්ත්‍රී රත්නයේ පාදයන් පරිසරය සීතල වෙලාවට ඇගේ පාදයන් උණුසුම් වෙනවා කියනවා. පරිසරය උණුසුම් වෙනකොට ඇගේ පාදයන් සිසිල් වෙනවා කියනවා. ඒ වගේම පින්වත් මහණෙනි, ඒ ස්ත්‍රී රත්නයෙහි ශරීරයෙන් සඳුන් සුවඳ හමනවා කියනවා. මුවින් මහනෙල් මල් සුවඳ හමනවා කියනවා. ඒ ස්ත්‍රී රත්නයෙහි ශරීරයෙන් සඳුන් සුවඳ හමනවා කියනවා. මුවින් මහනෙල් මල් සුවඳ හමනවා කියනවා. ඒ වගේම පින්වත් මහණෙනි, ඒ ස්ත්‍රී රත්නය සක්විති රජු නැගිටින්න පළමුවෙන් නැගිටිනවා කියනවා. රජුට පසුව නිදියනවා. කුමක් කළ යුතු දැයි නිතර නිතර විමසනවා. බලන්න කලින් අවදි වෙන එක, පස්සෙ නිදාගන්න එක, රජු සතුටු වන දේවල්ම කරන එක, ප්‍රියමනාප රජතුමාම කැමති දේවල් කතා කරන එක, මේ ස්ත්‍රී රත්නය සිහිනෙකින්වත් රජතුමා ඉක්මවා යන්නෑ. කයින් ඉක්මවා යන එක ගැන කවර කතාද. පින්වත් මහණෙනි, බලන්න කිව්වා සක්විති රජතුමාගෙ පිනට ලැබෙන බිරිඳ. එතකොට ඕනම කෙනෙකුට තමන්ගෙ බිරිඳක් ලැබෙනවා නම් එයාගෙ කරුමෙට අනුව තමයි ලැබෙන්නෙ හොඳ හෝ නරක. ඒ නිසා මේ පිරිමි පාර්ශ්වයටත් මේකෙන් හොඳ කාරණාවක් ගන්න තියෙනවා, ඒ තමයි ඔබට ලැබුණු බිරිඳ ඔබගේ කර්මයට අනුව තමයි ලැබුනෙ. ඒ වගේම තමයි බිරිඳටත් කියන්න තියෙන්නෙ, ඔබට ලැබුනු ස්වාමියා නුඹගේ කර්මය අනුව තමයි ලැබුනෙ. ඒ නිසා මේ තෝ තෝ කිය කියා එක එක්කෙනාට ඇඟිල්ල දික් කරගන්න විදියක් නෑ, ඔයාලා ඔයාලාම කරපු කර්ම. ඒ නිසා ඔයාලගේ පවුල් ජීවිතය යහපත් වෙන්නෙ හෝ අයහපත් වෙන්නේ හෝ දුක් සහිත වෙන්නෙ හෝ සැප සහිත හෝ වෙන්නෙ

ඔයාලම සසරේ කරපු දේවල්. ඉතින් බලන්න මේ සක්විති රජතුමාගෙ පිනට ස්ත්‍රී රත්නය පහළ වෙන හැටි. ඉතින් මේ සක්විති රජතුමා ඔය විදියට මහා සැප සම්පත් භුක්ති විඳ විඳ ඉන්නවා. සක්විති රජතුමාට ඍද්ධි හතරක් තියෙනවා. ඒ තමයි ඒ සක්විති රජ්ජුරුවො තමයි මනුස්ස ලෝකෙ ඉන්න ලස්සනම කෙනා. ඇයි දෙතිස් මහා පුරුෂ ලක්ෂණ තියෙනවා. ඒක ඍද්ධියක්. සක්විති රජතුමා තමයි මනුස්ස ලෝකෙ ඉන්න ආයුෂ වැඩිම කෙනා. දීර්ඝායුෂ තියෙන කෙනා. සක්විති රජතුමා තමයි මනුස්ස ලෝකෙ ඉන්න ලෙඩ අඩුම කෙනා. සක්විති රජතුමා තමයි මනුස්ස ලෝකෙ ඉන්න ප්‍රියමනාපම කෙනා. ඉතින් පින්වත් මහණෙනි, සක්විති රජ්ජුරුවො වීදියේ සංචාරය කරද්දි මිනිස්සු කෑගහලා කියනවා අනේ පින්වත් රජතුමනී, පොඩ්ඩක් හිමින් යන්නකෝ. හිමින් යන්නකෝ. අපිට ඔබවහන්සේ දිහා බලන්න ඕන කියනවා. එච්චර ප්‍රියමනාපයි කියනවා. ඉතින් කියනවා පින්වත් මහණෙනි, තමන්ගේ එකම පුතාට අම්මා ආදරේ කරනවා වගේ තමයි කියනවා රටවැසියෝ රජ්ජුරුවන්ට ආදරය කරන්නෙ. එච්චර සැප සම්පත් විඳිනවා කියනවා සක්විති රජ්ජුරුවෝ. පින්වත් මහණෙනි, කිසිම අර්බුදයක් නැතිව ඔච්චර සැප සම්පත් විඳ විඳ මනුස්ස ලෝකෙ අප්‍රමාණ සැප විඳින ඒ සක්විති රජවරු පහළ වෙනවා. පින්වත් මහණෙනි මොකක්ද මේ ගැන කියන්නෙ, බුදුරජාණන් වහන්සේ පොඩි අතින් ගන්න පුලුවන් පොඩි ගලක් ගත්තා. පින්වත් මහණෙනි මොකක්ද මේ ගැන කියන්නෙ, වඩාත් විශාල මොකක්ද, මේ චූටි ගලද, හිමාල පර්වතයද. ස්වාමීනී හිමාල පර්වතය මේ ගලෙන් මෙච්චර පංගුවයි කියලාවත් කියන්න බෑ, එච්චර විශාලයි හිමාල පර්වතය කිව්වා. පින්වත් මහණෙනි, මං සක්විති රජ කෙනෙක්ගෙ ඔය සැපයක් කිව්වා නේද, ඒක මේ පොඩි ගල වගේ. දිව්‍යලෝකෙ සැප හිමාල පර්වතය වගේ කිව්වා. කොහොමද. මොකද මේ කට්ටිය දිව්‍යලෝකෙ යන්න බය. මොකද දිව්‍යලෝකෙට ඔච්චර අමනාප. බුදු කෙනෙක් දේශනා කරන්නෙ. පින්වත් මහණෙනි, දිව්‍යලෝකෙ සැප විඳපු කෙනෙක් මනුස්ස ලෝකෙට ආවොත් එහෙම උපදින්නෙ ධනවත් පවුල්වල, හොඳට කෑමබීම තියෙන පවුල්වල, එතකොට ඒ අය හොඳට ජීවත් වෙනවා. සැපසේ ජීවත්වෙනවා. හොඳට අඳිනවා. හොඳට කනවා. හොඳට බොනවා, බොනවා කියන්නෙ මේ බීම නෙවෙයි. රා අරක්කු මත්ද්‍රව්‍ය නෙවෙයි. හොඳට කාලා බීලා ඇඳලා ඉන්නවා. ඉතින් ඒ ඉඳලා මෙයාලට හිත නැවෙනවා කියනවා, බුදුරජාණන් වහන්සේ කියනවා හොඳට යාන වාහන සුවඳ විලවුන් ගෙවල් දොරවල් ආදිය උතුම් විදියට එයාට ලැබෙනවා. ඊටපස්සෙ ඔහු කරන්නෙ

ආයෙමත් කයින් යහපත්, ඒ කියන්නෙ එයා ආයෙමත් හොඳ දේවල්ම කරනවා. ඊටපස්සේ එයා යහපත් දේවල් යහපත් දේවල්ම කරලා ආයෙ සුගතියෙම උපදිනවා. ඉතින් සුගතියේ ඔය වගේ වැඩපිළිවෙලක් තියෙනවා කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මනුස්ස ලෝකෙ ඉඳලා කෙනෙක් දිව්‍ය ලෝකෙට ගියොත් දුප්පත් මනුස්සයෙකුට කෝටි ප්‍රකෝටි ගාණක ලොතරැයියක් ඇදුනා වගේ කියනවා. ඒ කියන්නෙ සූදුවක් දිනුවා වගේ කියලා කියන්නෙ මේකෙ. රුපියල් දහයයි තිබ්බෙ ඒ මනුස්සයාට. දහයට ලොතරැයියක් ගත්තා. කෝටි ප්‍රකෝටි ගාණක් හම්බෙනවා එයාට. එයාට හිතාගන්නවත් බෑ. ඒ වගේ කියනවා මනුස්සයෙක් දිව්‍යලෝකෙ ගියොත්. එයාට හිතාගන්නවත් බෑ කියනවා ඒ සැපසම්පත් ටික. ඉතින් ඒ නිසා ඒකනෙ දිව්‍ය අප්සරාවක් දැක්කොත් සාමාන්‍ය මනුස්සයෙක්, රාග සහිත මනුස්සයෙක් උණු ලේ වමනය කරනවා කියනවානෙ. ඒ දරාගන්න බෑ කියනවානෙ. සාමාන්‍යයෙන් පින්වතුනි, ඇත්තටම දෙවියන්ගේ දිව්‍ය ආලෝකයක් දැක්කත් සාමාන්‍ය මනුස්සයෙක් කලන්තෙ දාලා වැටෙනවා. සාමාන්‍ය මිනිස්සු කලන්තෙ දාලා වැටෙනවා දිව්‍ය ආලෝකය දැක්කම. එච්චරම. ඉතින් ඒකනෙ එක දෙවියෙක් එනකොට මුළු දෙව්රම්වෙහෙරම බබළනවානෙ ආලෝකයට විතරක්. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ බාලපණ්ඩිත සූත්‍රයේ සත්පුරුෂයාගේ උත්පත්තිය ගැන ඔය විදියට වදාළා. ඉතින් පින්වතුනි ඕන්න ඔය විදියට තමයි සත්ත්වයෝ මැරුණට පස්සෙ දෙව්ලොව උපදින්නේ. ඉතින් ඒ උපදින මනුස්සයාගේ කුමක් හෝ කර්මයක්, කාය කර්මයක්, වචී කර්මයක්, මනෝ කර්මයක් යහපත් විදියට තියෙනවා. ඉතින් පින්වතුනි, දැන් අපි දැන් මේ මොහොතේ ඉඳලා අපි ඉගෙන ගනිමු විමාන වත්ථුව. මේ විමානවත්ථුව හරි සුන්දරයි දිව්‍යලෝක විස්තරය. මේ දේශනාව බුදුරජාණන් වහන්සේගේ බුද්ධ භාෂිත ශ්‍රාවකයන් වහන්සේලාගේ අර්හත් භාෂිත, දෙවියන්ගේ දිව්‍ය භාෂිත, ඍෂිභාෂිත ඒ ආදී වශයෙන් සොඳුරු සුභාෂිත විදියට තමයි මේ ධර්මය තියෙන්නෙ. අපගේ අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ අපගේ පරම පූජනීය කල්‍යාණමිත්‍ර වූ පරමෝත්තම ආචාර්‍ය වූ මිහිඳු මහරහතන් වහන්සේ ලක්වැසි ජනයාගේ හිත ධර්මයෙන් ඉස්සෙල්ලාම සැනසුවේ මේ විමානවත්ථු, පේතවත්ථු දේශනා කරලා. ඔබත් ඒ ධර්මය ශ්‍රවණය කරන්න. ඔබගේ හිතද බොහෝ සේ සැනසී යනවා. ඔබගේ හිත කුසලයෙන් පිනෙන් පිරී යනවා. ඉතින් පින්වතුනි මේ බලන්න මේ බුද්ධ ශාසනය නැමැති සරුසාර කෙතේ පුංචි බීජයක් වැපිරුවත් විශාල ඵලයක් ලැබෙන හැටි

බලන්න. මේ විමානවත්ථුව මුගලන් මහරහතන් වහන්සේ දේවතාවියක්ගෙන් අහන්නෙ. ඒ දේවතාවිය හරි පුදුම සහගතයි. මුගලන් මහරහතන් වහන්සේ දිව්‍ය ලෝකෙ චාරිකාවේ වඩිද්දි මේං මේ වාගේ දෙව්දුවක් දැක්කා. පළවෙනි විමාවත්ථුව. මුගලන් මහරහතන් වහන්සේ දේශනා කරනවා, පීඩංතේ සෝවණ්ණයං මුලාරං, ඔබට ඉතාමත් උදාර පීඨයක්, පුටුවක් තියෙනවා රත්තරන්. මනෝජවං ගච්ඡති යේන කාමං, ඒ කියන්නෙ මනසේ ජවයෙන්, හිතේ වේගෙන් යනවා කැමති තැනකට. පින්වත් දෙව්දුව ඔබ පැළඳගෙන ඉන්න ඔය දිව්‍ය සළුපිළි දිව්‍ය මල්මාලා හරිම ලස්සනයි. ඔබ ඔය වාඩිවී ඉන්න ආසනය හරිම උදාරයි. රත්තරනින් කළ එකක්. ඔබ කැමති දිසාවකට ඔය ආසනයෙන් හිතේ වේගෙන් ගමන් කරන්නෙ, එතකොට ඔබ බබළනවා. වළාකුලු ඇතුලින් දිලිසෙන විදුලි එළියක් වගේ කියනවා. වළාකුළු ඇතුලෙන් පේන දිලිසෙන විදුලි එළියක් වගේ කියනවා, එච්චර ඔබ ලස්සනයි කියනවා. ලස්සන රත්තරන් විමානෙක ඉන්නෙ. ලස්සන රත්තරන් ආසනයක් එක්ක ඔබ යන්නෙ. හිතේ වේගෙන් යනවා. ඇත්තෙන්ම ඔබට මෙවැනි ලස්සනක් ලැබුනෙ කොහොමද, මොනවගේ පිනක්ද ඔබ කලේ. ප්‍රිය උපදන සැප සළසන මේ වගේ පිනක් කොහොමද කරගත්තෙ මනුස්ස ලෝකෙ ඉද්දි. මහානුභාව පුච්ඡාමිතං දේව, මහානුභාවසම්පන්න දෙව්දුව, මං ඔබෙන් අහනවා. මනුස්ස භූතා කිමකාසි පුඤ්ඤං, මනුස්සයෙක් වෙලා ඉද්දි මොකක්ද කරගත්තු පින. කේණාසි ඒවං ජාලිතානුභාවං. මෙච්චර බැබලෙන පින මොකක්ද, වණ්ණෝච සබ්බ දිසා පකාස තීති, ඔබගේ වර්ණයෙන් හැම පැත්තම බබළනවා. පින්වතුනි ඔබ දිව්‍ය ලෝකය කියන එක තේරුම් ගන්න ඉක්මන් වෙන්න එපා. පුදුම විදියේ දිව්‍ය විමාන තියෙන්නෙ. මේ එක දිව්‍ය විමානයක්. මේ කතා ඔක්කොම ටික අහගෙන යනකොට දිව්‍ය ලෝකෙ ගැන යම් හැඟීමක් හිතට එයි. ඊටපස්සෙ කියනවා සා දේවතා අත්තවනා මොග්ගල්ලානේන පුච්ඡිතං. මුගලන් මහරහතන් වහන්සේ තමයි ඇහුවෙ. ඒ දෙව්දුව හරියට සතුටුවුනා, එයා කරපු පින අහපු එක ගැන. ඉතින් මගෙන් මේ ප්‍රශ්නය ඇහුවනේ කියලා සතුටුවෙලා තමන් කරපු පින කිව්වා. කිව්වා ස්වාමීනී, මං රජගහනුවර හිටියේ. මං රජගහනුවර ඉද්දින් - ඉස්සෙල්ලා වන්දනා කලා- මුගලන් මහරහතන් වහන්සේ වැදලා එකත්පස්ව හිටගෙන කියනවා ස්වාමීනී මං රජගහනුවර හිටියේ, මිනිස්සු හරීයට පින් කරනවා, සැවැත් නුවර පින් කරනවා. ඉතින් එක එක ජනපද වල මිනිස්සු පින් කරනවා. කොසොල් මහා රජ්ජුරුවෝ මහා අසදෘශ දානය දුන්නා. ඊළඟට විශාඛාව පූර්වාරාමය හැදුවා. ඉතින් ඕවා රටේ ලෝකෙ පැතිරිලා ගියා. ඉතින්

මිනිස්සු කතා වුනා එහෙනම් පින් කරන්න ගොඩක් සල්ලි ඕන කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහපු අය කිව්වා නෑ රහතන් වහන්සේලා කියලා තියෙනවා, සමහර රහතන් වහන්සේලා අර්හත්වයට පත්වෙලා තියෙන්නෙ කලින් ජීවිතේ එක මලක් හරි පූජා කරලා ඒ පින් බලෙන් කියලා. නත්ථි චිත්තේ පසන්නාම් අප්පිකානාම දක්ඛිණා, හිත පැහැදුනොත් එහෙම දක්ෂිණාව, දෙන දේ පුංචියි කියලා නෑ. අප්පංදින්නං බහුං හෝතී, පොඩ්ඩක් දුන්නොත් ගොඩාක් විපාක ලැබෙනවා. නුග ගහ විශාලව පැතිරෙනවා, නමුත් නුග ඇටේ චූටියි. ඒ වගේ. ඉතින් මේවා ගැන මං අහනකොට අහලා අහනකොට මටත් හිතුනා කවදාහරි මමත් කොහොමහරි පිනක් කරගන්නවා කියලා. ඇයි ඒ දවස්වල හැම ජනපදයකම හැම ගමකම ස්වාමීන් වහන්සේලා දකින්න නෑ, නමුත් ඉතින් කටින් කටට අහලා මටත් ආස හිතුනා මොකක්හරි පිනක් කරගන්න. එහෙම මම දවසක් ඉන්නකොට මම දැක්කා අපේ ගෙදරට එකපාරම ස්වාමීන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වැඩියා. ඒ කියන්නෙ සංඝයා චාරිකාවෙ වඩිනකොට ඒ ගමට වැඩලා එක ස්වාමීන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වැඩලා. ඊටපස්සෙ ඒ ස්වාමීන් වහන්සේ පිණ්ඩපාතෙ වැඩියට පස්සෙ ස්වාමීනී වඩින්න, ස්වාමීනී වඩින්න කියලා පුටුවක් ගෙනත් ඒ පුටුවට රත්තරන් පාට වගේ. රත්තරන් පැහැය මුසු වස්ත්‍රයක් අතුරලා. මොකද ඒ ගෙදර එක පුටුවයි තියෙන්නෙ. ඒ පුටුවෙ තමයි ඔය ගෑණු කෙනා ඉඳගන්නෙ. ඉතින් අර සාමාන්‍යයෙන් පුටුවට ස්වාමීන් වහන්සේ නමක් වැඩියාට පස්සෙ ඒ වස්ත්‍රයක් අතුරන්නෙ අර ඒ අය පරිභෝග කරපු නිසා. ඒ නිසා තමයි වස්ත්‍රයක් අතුරන්නෙ. දැන් අපි බණ කියද්දි මේ ආසන වල වස්ත්‍ර අතුරන්නැත්තේ, මේවා සංඝයාටම පූජා කරලා ගිහි අය පරිභෝග කරන්නෑ, ඒ නිසා මේවට වස්ත්‍රයක් ඇතිරීම අත්‍යවශ්‍ය නෑ, නමුත් ගිහි ගෙදරකින් ගෙවල්වල මිනිස්සු සංඝයාට දෙන ආසනයේ වස්ත්‍රයක් අතුරන්නේ ඒක ඒ මිනිස්සු පරිභෝග කරන නිසා. අළුත් වීම පිණිසයි. ඉතින් මේ ස්වාමීන් වහන්සේ ආසනයේ වැඩ හිටියා. ඊටපස්සෙ හරී සතුටුයි. ගෙදර තිබ්බ දානෙ ටිකක් පාත්‍රයකට බෙදලා ස්වාමීනී කියලා දානෙ වළඳන්න කිව්වා. ඊටපස්සෙ උන්වහන්සේ දානෙ වැළඳුවා. වළඳලා පුණ්‍යානුමෝදනාව කලා. වැඳගෙන සතුටින් අහගෙන හිටියා. ඊටපස්සෙ කියනවා ස්වාමීනී, ඊටපස්සෙ ස්වාමීන් වහන්සේ වඩිනකොට කිව්වා ස්වාමීනී මං ඔබ වහන්සේලා ඉන්න කොතෙන්ට හරි මේ පුටුව එවනවා. මං මේකත් පූජා කරනවා. ඉතින් අපිට හිතාගන්න බැනෙ. අපිට හිතාගන්න බැරිවුනාට එහෙම දෙයක් වුනා. අද කාලෙ ඕවා නෑ.

අද කාලෙ එහෙම ඒ වාගේ දේවලට අවස්ථාවක් යෙදෙන්නෑ. මැයට දෙන්න පිරිකරක් නෑ. ඉඳගෙන හිටපු පුටුව දුන්නා. ඊටපස්සෙ ස්වාමීනී පුටුව මං දෙනවා. උන්වහන්සේ නිහඬ වුනා. උන්වහන්සේ වඩින දිසාව බලලා ළඟ මනුස්සයෙක්ට කිව්වා, අන්න අර තෙරුන් වහන්සේ වඩින්නෙ කොතනටද එතනට මේ පුටුව ගිහින් දීපන් කියලා. ඉතින් ගියා ඉතින්, ඒ ආවට පස්සෙ ඇහුවෙ නෑ ඔය පුටුව කොහෙද තියන්නෙ, කැලේ තියනවාද, ඔය මනුස්සයා හරියට ගිහිල්ලා දුන්නද, ඒවා ඇහුවෙ නෑ. මට පුදුම සතුටුයි කියනවා. හැබැයි එදායින් පස්සෙ මට ස්වාමීන් වහන්සේලා දකින්නට ලැබුනෙත් නැහැ. නමුත් මං හරියට සතුටු වුනා. මං හිත හිතා හිටියෙ පිනක් කරගන්න ඕන කියලා. ස්වාමීනි මං පස්සෙ කාලෙක මං මැරුනා කරදර පිට. ඉතිං මං මැරුණට, මැරෙන වෙලාවෙ සිහිවුනා මං කරපු පිනම. මං මේ විමානෙ උපන්නෙ. බලන්න ස්වාමීනී මං දුප්පත් ගෙදරක හිටියේ. දැන් දිව්‍ය අප්සරාවක්. ලක්ෂ ගාණක් දිව්‍ය අප්සරාවො. ස්වාමීනී මං එදා රත්තරන් පාට මුසු වූ වස්ත්‍රයක්නෙ ආසනයට දැම්මෙ. ස්වාමීනී මේ බලන්න කිව්වා මගේ ආසනය රත්තරන් පාටයි කිව්වා. මේ ආසනය වට කරලා තමයි මාළිගාව හැදිලා තියෙන්නෙ. මේ ආසනෙත් එක්කම මට හිතේ වේගෙන් යන්න පුලුවන් කිව්වා. මං කරගත්ත පින ඕකයි කිව්වා. මට මහා ලොකු වෙනත් කරපු පින් මතක නෑ කිව්වා. ඉතින් මේ විදියට කරලා හරීයට සතුටු වුනා. කියනවා ස්වාමීනී, මහානුභාවසම්පන්න වූ ස්වාමීන් වහන්ස, මිනිස් ලෝකයේදී ඔය පින තමයි මං කරගත්තෙ. ආනුභාවසම්පන්නව බැබලි බැබලි ඉන්න පින ඕක තමයි. මගේ සිරුරින් විහිදෙන එළියෙන් හැම දිසාවම බබළනවා. ඇයි දීලා සතුටුවුනානෙ. මූණු එල්ලෙන්නෑ, මූණෙනුත් සතුට පේනවා. දන් දීලා, දැන් දිව්‍යලෝක ඉපදුනාට පස්සෙ සම්පූර්ණයෙන් ප්‍රකාශ වෙනවා, රශ්මිධාරාව විහිදෙනවා සතුටට. ඉතින් ඒ නිසා පින කියන එක පුදුම සහගතයි. එක දවසක් පින් කරලා. ඊටපස්සෙ දැන් ඊළඟට තියෙනවා දෙවෙනි එක, ඒත් පීඨවස්තුවක්. ඒත් මුගලන් මහරහතන් වහන්සේ අහන්නෙ මේ දෙව්දුවගේත් ඔය විදියටම ආසනයක්, හිතේ වේගෙන් ගමන් කරනවා, හැබැයි වෛරෝඩි මාණික්‍යයක්, නිල්පාට වෛරෝඩි මාණික්‍යයක් වාගේ කියනවා ඒ දිව්‍යාංගනාවගේ ආසනය. අර විදියටමයි ඒ පින සිද්ධ වෙලා තියෙන්නෙ. නමුත් ඒ කාන්තාව වෙනත් ප්‍රදේශයක එක්කෙනෙක්. එයා ඒ ආසනය පූජා කරනකොට අතුරලා තියෙන්නෙ නිල් පාට වස්ත්‍රයක්. දැන් බලන්නකො පින්වත්නි ආසන පූජාවත් ආවා, ආසනයට අතුරපු දේ, දැන් රත්තරන් පාට වගේ සළුවක් අතුරලා ආසනය රත්තරන් පාට වුනා. දැන්

මෙයාට ලැබුනු ආසනය තමයි නිල්පාට මාණික්‍යමය ආසනයක්. ඉතින් මේ දෙව්දුවත් තමන් කරපු පින කිව්වා, මං මනුස්ස ලෝකෙ හිටියේ. ආගන්තුක ස්වාමීන් වහන්සේ නමක් වැඩම කලා. මං උන්වහන්සේට වැඩ හිටින්න ආසනයක් පූජා කලා, වන්දනා කලා, නමස්කාර කලා, මට පුලුවන් හැටියට දානෙ පූජා කලා. ඒ පින තමයි කිව්වා මට මේ විපාක දෙන්නෙ දෙව්ලොව. ඉතින් මං හැමදිසාවකම බැබලෙනවා කියනවා. ඊළඟට මේ විමානවත්ථුවේ මං මේ ආසන සම්බන්ධව තියෙන කරුණු කාරණා ටික කියන්නෙ, ඊළඟ දෙව්දුවත් අර විදියට අප්‍රමාණ දිව්‍ය සැපසම්පත් වලින් වාසය කරනවා. එයාගෙනුත් මුගලන් මහරහතන් වහන්සේ අහනවා කොහොමද මේ මොකක්ද කරගත්තු පින කියලා. එතකොට එයා පින විදියට කියන්නෙ ස්වාමීනී මමත් ආසනයක් පූජා කලා. ඈ පූජා කරලා තියෙන්නෙ කහ පාට ආසනයක් පූජා කරලා තියෙන්නෙ. ඈට ලැබුනේ, කහපාට රත්තරන් පාට ආසනයක්. ඒත් කලින් වගේම. ඊළඟට ඒ දෙව්දුවත් තමන්ගේ විස්තරේ කියනවා අනේ ස්වාමීනී, මට ස්වාමීන් වහන්සේ නමක් දැකගන්න ලැබුනා, මං ආරාධනා කලා, මං ගොඩාක් පැහැදිලා උන්වහන්සේට වැඩහිටින්න ඔය වගේ ආසනයක් පූජා කරලා ආසනෙත් අරන් යන්න දුන්නා කිව්වා. දැන් මේ ආසනේ අරන් යනකොට ස්වාමීන් වහන්සේ පිණ්ඩපාතෙ වැඩලා ආසනේ කරේ තියාගෙන ගියෙ නෑ, මනුස්සයෙකුට කියනවා අර තෙරුන් වහන්සේ වඩින දිශාවට මේකත් අරන් යන්න කියලා. හිත හිතා සතුටු වෙනවා. කරපු පින් හිත හිතා සතුටු වෙනවා. ඊටපස්සෙ තවත් දිව්‍ය විමානෙකට මුගලන් මහරහතන් වහන්සේ වැඩම කරනවා. ඒ දිව්‍ය විමානෙත් ඒ වාගේ තමයි, ලස්සන වෛරෝඩි මාණික්‍යයෙන් කරපු ආසනයක් එක්ක තමයි ඒ දිව්‍යාංගනාව සිටින්නෙ, සිතේ වේගෙන් ගමන් කරනවා, දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන මල්වලින් සුසැදුන සොඳුරු සුවද හමන දිව්‍ය විමානයක්. ඊටපස්සෙ කියනවා මොකක්ද කරපු පින? ඊටපස්සෙ කියනවා මං කලින් ජීවිතේ කරගත්ත පින ස්වාමීනී, ඒකෙන් තමයි මේ බැබළෙන්නෙ, මම භික්ෂූන් වහන්සේ නමක් දැක්කා. උන්වහන්සේ කිසි කැළඹීමක් නැති භික්ෂුවක්. පුදුමාකාර ශාන්ත ස්වභාවයක් තිබ්බෙ. ඉතින් මගේ හිත ගොඩාක් පැහැදුනා. දැන් බලන්න පැහැදෙන එක, මගේ දෑතින්ම උන්වහන්සේට වැඩහිටින්න පුටුවක් දුන්නා. ඉතින් ඒ පිනෙන් තමයි මේ ලස්සන මට ලැබුනෙ. හිතේ වේගෙන් යන යානාවත්, ඕන තැනක මගේ ආසනේ ඕන දිසාවකට හැරෙනවා, ඕනම පිරිසක් ඒ ආසනෙන් ගෙනියන්න පුලුවන්. ඉතින් ස්වාමීනී මං කරගත්ත පින ඔක තමයි කියලා ආසන පූජාවේ ආනිසංස ඒ දෙව්දුව කිව්වා,

මුගලන් මහරහතන් වහන්සේ දහම් දෙසුවා. ස්වාමීන් වහන්සේ නමක් වැඩියට පස්සේ පැහැදිලා හිත හිතා ඉඳලා එක මොහොතක් පැහැදිලා පුටුවක් පූජා කරලා ඔච්චර සැප විපාක සැලසුනු දෙව්දුව මුගලන් මහරහතන් වහන්සේ වැඩි වෙලාවෙ බණ අහන්නැතිව ඉඳියිද. ඒ දේවතාවියො හතර දෙනාම බණ ඇහැව්වා. ධර්මයේ පැහැදීමට පත්වුනා. දහම තේරුම් ගත්තා. බලන්න මනුස්ස ලෝකෙ පුංචි පිනක් කරලා දෙව්ලොව රහතුන්ගෙන් බණ ඇහුවනෙ. රහතුන්ගෙන් බණ ඇහුවා, ධර්මය අවබෝධ කලා. මුගලන් මහරහතන් වහන්සේ තථාගතයන් වහන්සේට වදාළා විස්තරේ. බුදුරජාණන් වහන්සේ ඒ විස්තරය මුල් කරගෙන මේ පින් පව් වල, පිනේ විපාක ගැන ධර්ම දේශනා කලා. ඒ අනුව තමයි විමානවත්ථුවට මේ විස්තරය ආවෙ. ඔය ආසන සම්බන්ධව තියෙන තවත් වෙන වෙන පින්කම් කරපු අයගේ විස්තර අපි ඉදිරියට ඉගෙන ගනිමු. මෙන්න පිනේ විපාක. පුංචි දෙයක් කළත් අප්‍රමාණ විපාක සැලසෙනවා. ඉතින් ඒ නිසා අපි කාටත්, ඔබ මීට වැඩිය පින් කරලා ඇති, ඒවා සිහි කරන්න. ඒ පිනෙන් ඔබ සතුටු වෙන්න. ජීවිතේ අමතක නොවෙන විදියටම ඒ පිනෙන් හිත සතුටු කරගන්න. ඉතින් ඒ නිසා ඒ විදියට ඔබගේ හිත බොහෝ සේ පිනෙන් කුසලයෙන් පැහැදේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සඳහා ඔස්ට්‍රේලියාවේ පදිංචි පින්වත් නිල්මිණි නවරත්න මහත්මිය, රොහාන් මහත්මයා සහ දරු දෙදෙනා විසින් තමයි දායකත්වය දරන්නෙ. ඉතින් මේ පින්වතුන් විශාල පිනක් අද දවසේ රැස් කරගත්තා, ඉතින් මේ පින්වතුන් රැස් කරගත්ත පින, ඒ වගේම අපි ධර්මය දේශනා කරලා, ඔබ ධර්මය ශ්‍රවණය කරලා මේ රැස් කරගත්ත පින, පින් කැමති සියලු දෙවිවරුන්ට අනුමෝදන් වේවා, ලක්වැසි ලෝවැසි සියලු දෙවිවරු මේ පින් සතුටින් අනුමෝදන් වී, මේ පින් බලයෙන් ඒ දෙවියන්ගේ දිව්‍ය සම්පත් වැඩිවේවා තව තව. ඒ වගේම ලක්දෙරණත්, ඒ වගේම මේ ලෝකයටත් ව්‍යසනයක්ව පවතින මේ වසංගත දුරින්ම දුරු කරලා සෙත සලසන්න දෙවියෝත් දිව්‍ය ඍද්ධියෙන් උපකාර කරත්වා, මේ පින් බලය දෙවිවරුන්ට අනුමෝදන් වෙත්වා කියලා අපි පින් පමුණුවනවා. ඒ වගේම මීට වසර අටකට පෙර මියපරලොව ගිය එඩ්මන්ඩ් පෙරේරා මහත්මයාට මේ පින අනුමෝදන් වේවා. ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා. ඒ වගේම මේ පින අනුමෝදන් වේවා, පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපිට සිංහලට පරිවර්තනය කරලා මේවා කියවන්න සැලැස්වූවා. අපිට අනුශාසනා කලා,

අවවාද කලා, ආශිර්වාද කලා, අපිට දහම් දායාදය ලබලා දුන්නා. ඉතින් පින්වත් පරම පූජනීය ගුරු දේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සඟරුවන, ඒ වගේම අනගාරිකා මැණිවරු, පැවිදි අපේක්ෂක දරුවන් ගෞතම සසුනේ ධර්මාවබෝධය ලබත්වා කියලා මේ පින් පමුණුවනවා. ඒ වගේම අද දවසේ මේ අප්‍රමාණ ධර්ම දාන පින රැස්කරගන්නේ ඔස්ට්‍රේලියාවේ පදිංචි නිල්මිණී නවරත්න මහත්මිය, රොහාන් මහත්මයා සහ දරු දෙදෙනාට මේ පින් අනුමෝදන් වේවා, සුජීවත්ව සිටින සිසිරා අමරතුංග මැණියන්ට නිදුක් නිරෝගී සුවපත්භාවය දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ඒ වගේම විශේෂයෙන්ම ලෝක ව්‍යසනයක්ව පැතිරෙන ඒ කොරෝනා වෛරසය දුරින්ම දුරු වෙලා, මේ ලෝකෙන්ම දුරින්ම දුරු වෙලා මේ වසංගත ව්‍යසන දුරු වෙලා මනුස්සයාට සැනසිල්ල ලැබේවා. රෝගීව සිටින අය සුවපත් වේවා. සියලු දෙනාට මේ පින් බලයෙන් සැනසිල්ල සැලසේවා. ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනයේ, ලක්විරු ගුවන්විදුලියේ ඒ දායකත්ව දරන සියලු දෙනාට, කාර්ය මණ්ඩලයේ සියලුදෙනාට, මව් දෙමව්පියන්ට, ඥාතී බන්ධුමිත්‍රාදීන්ට පින් සැලසේවා, මේ පින් බලයෙන් අපි කාටත් සුගති රැකවරණයත් ඒ වගේම ගෞතම බුද්ධ ශාසනයේ සත්පුරුෂ ඇසුරේ දහමේ පිහිට සලසාගන්න වාසනාව ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=UApSlme7qmI&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=3

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන අද මේ විදියට ආරම්භ වෙනවා. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ නවාංග

ශාස්තෘ ශාසනයේ ගාථා කියන දහම් පරියායට අයිති විමානවත්ථු පේතවත්ථු දහම් කාණ්ඩයේ කොටසේ විමානවත්ථුවයි අපි මේ කතා කරන්නෙ. අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ අයි.ජේ.කේ. අබයකෝන් පියාණන් සහ අජන්තා ඉද්දගොඩ මැණියන් ඇතුළු පවුලේ සියලු දෙනා. මේ පින්වතුන්ගේ එකම අරමුණ මේ කොරෝනා වෛරසය මේ ලෝකයෙනුත් මේ රටිනුත් තුරන් වේවා, මේ රෝගීන් සුවපත් වේවා. මේ ව්‍යසන දුරින්ම දුරු වෙලා මනුෂ්‍ය වර්ගයාට සැනසිල්ල සැලසේවා කියන අදහසින් තමයි මේ පින්කම කරන්නෙ. අපිත් එක හිතින් ඒ සත්පුරුෂ අදහසට ආශිර්වාද කරනවා මේ පින් බලයෙන් මේ සියලු කරදර බාධා ව්‍යසන දුරු වේවා, රෝගීන් සුවපත් වේවා කියන අදහස. ඉතින් පිනේ විපාක, පින්වල විපාක ගැන තමයි අපි මීට කලින් කතා කළේ. කලින් වැඩසටහනේ ආසන පූජාවේ පින ගැන කතා කලා. අදත් හරී ලස්සන විස්තරයක් තියෙනවා ආසන පූජාවේ විපාක. මීට කලින් ආසන පූජා කරපු දිව්‍යාංගනාවො හතර දෙනෙක්ගේ විස්තර කතා කලා. අනිත් එක පුදුමය පින්වත්නි, ඒ දිව්‍යාංගනාවො තව්තිසාවෙ ඉපදිලා තියෙන්නෙ. පින්වතුනි මනුස්ස අවුරුදු පනහක් චාතුම්මහාරාජික දිව්‍ය ලෝකෙ එක දවසයි. එවැනි දවස් 30 ක් මාසයයි, මාස 12ක් අවුරුද්දයි. එවැනි අවුරුදු 500ක් ආයුෂ, මිනිස් අවුරුදු වලින් ගත්තොත් මිනිස් අවුරුදු ලක්ෂ අනූවක් ආයුෂ තියෙනවා චාතුම්මහාරාජිකයේ ඉපදුනොත්. චාතුම්මහාරාජිකයේ ඉන්නෙ දතරාෂ්ට්‍ර, විරුඪ, විරූපාක්ෂ, වෛශ්‍රමණ කියන සතරවරම් දෙවිවරු තමයි දිසා හතර පාලනය කරමින් මේ රාජ්‍යය කරන්නෙ. වෛශ්‍රමණ කුවේර දිව්‍ය රාජයා ඒ රාජ්‍යයේ සියලු රජවරු අතර අග්‍රව සිටිනවා. නමුත් සතරවරම් දෙවියන්ම තමයි ඒ චාතුම්මහාරාජික දිව්‍යලෝකය පාලනය කරන්නෙ. යක්ෂ, නාග, ගාන්ධර්ව, කුම්භාණ්ඩ වශයෙන් ඒ පිරිවර සහිතව ඒ දිව්‍ය ලෝකෙ තියෙන්නෙ. තව්තිසාව ඊළඟට තියෙන ලෝකෙ, සක්දෙවිඳුගෙ ලෝකෙ, මනුස්ස අවුරුදු සීයක් සක්දෙවිඳුගෙ ලෝකෙ එක දවසයි. දවස් 30ක් මාසයයි. මාස 12ක් අවුරුද්දයි. ඒ අවුරුදු 1000ක් ආයුෂ තියෙනවා. මිනිස් අවුරුදු වශයෙන් ගත්තොත් එහෙම පින්වත්නි, මිනිස් අවුරුදු තුන්කෝටිහැටලක්ෂයක් ආයුෂ තියෙනවා. මිනිස් අවුරුදු තුන්කෝටිහැටලක්ෂයක්. අපේ ඥාතීන් දෙව්ලොව ඉපදිලා හිටියොත් එහෙම ඒ අය තුන්කෝටි හැටලක්ෂයක් අවුරුදු දෙව්සැප විඳිද්දි අර ඥාතීන් සසරේ වැටි වැටි යනවා. උපත් කීයක්ද ඒ අතර. ඉතින් අනිත් එක තමයි බලන්න දැන් එක ආසනයක්, තව්තිසාවෙනේ දැන් ඔය ආසන පූජා කරපු අය ඉපදිලා තියෙන්නෙ. එතකොට එක සංඝයා වහන්සේ නමකට, හැබැයි ඉතින් ඒ

රහතන් වහන්සේලා, ඒ නිසා එච්චර විපාක සැලසෙනවා. අනිත් එක තමයි හිතේ, පහන් සිත වැඩියි. සතුට වැඩියි. බලන්න අර ආසන පූජා කරද්දි ඒ ආසනයත් එක්කම දෙනවා, ඒකට මොකද වුනේ කින්ද මන්ද කියලා ආයෙ හෙවිල්ලක් නැනෙ. අද කාලෙ මනුස්සයෙක් සෙම්බුවක් පූජා කලත් ඒ සෙම්බුවට හාමුදුරුවො මොකක්ද කලේ කියලා බලනවානෙ. පුටුවක් පූජා කලත් පන්සලට යන ගානෙ අන්න බලාපං මං පූජා කරපු පුටුව කියලා පුටුවෙත් නම ගහලා තියෙනවානෙ රොසලින් කියලා. ඉතින් ඒ වාගේ අද කාලේ ඒ වාගේ මොකක්දො එකක් තියෙන නිසා ඒ පිනත් මොකක්දෝ වෙලා මිනිස්සුන්ගෙ මූණත් එල්ලිලා වගේ තියෙනවා. දැන් මෙයාලගේ දිව්‍ය සැප වැඩිවෙන්න එකක් තමයි හොඳට සතුටින්, හොඳට සැපසේ තමයි ඒ පින කරලා සතුටු වෙලා තියෙන්නෙ. ඉතින් ඊටපස්සෙ මනුස්ස අවුරුදු දෙසීයක්, යාම ලෝකෙ එක දවසයි. ඒ එවැනි දවස් 30ක් මාසයයි. මාස 12ක් අවුරුද්දයි. එවැනි අවුරුදු දෙදාහක්, ගණන් හදලා බලන්න. ඊටපස්සෙ තුසිතයනෙ. තුසිත දිව්‍ය ලෝකෙ තමයි දුටුගැමුණු රජ්ජුරුවො ඉන්නෙ, සද්ධාතිස්ස රජ්ජුරුවො ඉන්නෙ, නන්දිමිත්‍ර, වේළුසුමන, ඔය ඔක්කොම ඉන්නෙ තුසිතයෙ. මහා මෛත්‍රී බෝධි සත්ත්වයෝ ඉන්නෙ තුසිතයේ. එතකොට තුසිතයේ ආයුෂ, මනුස්ස අවුරුදු 400ක් තුසිතයේ එක දවසයි. එවැනි දවස් 30ක් මාසයයි. මාස 12ක් අවුරුද්දයි. එවැනි දිව්‍ය අවුරුදු 4,000ක් ආයුෂ තියෙනවා. ඊටපස්සෙ, තුසිත, ඊළඟට තියෙනවා, නිම්මාණරතිය. මිනිස් අවුරුදු 800ක් නිම්මාණරතියෙ එක දවසයි. එවැනි දවස් 30ක් මාසයයි, මාස 12ක් අවුරුද්දයි. දිව්‍ය අවුරුදු 8000ක් ආයුෂ තියෙනවා. ඊටපස්සෙ පරනිම්මිත වසවර්තිය. පරනිම්මිත වසවර්තියේ ආයුෂ, මනුස්ස අවුරුදු 1,600ක් පරනිම්මිත වසවර්තියේ එක දවසයි. එවැනි දවස් 30ක් මාසයයි. මාස 12ක් අවුරුද්දයි. එවැනි දිව්‍ය අවුරුදු 16,000ක් ආයුෂ තියෙනවා පරනිම්මිත වසවර්තියේ. එතකොට කොහොමද කියලා බලන්න. දැන් නිම්මාණරතියෙ තමයි ඉන්නේ විශාඛා, නිම්මාණරතියෙ ඉන්නෙ. එතකොට විශාඛා, ඊළඟට ස්වාමියාට ඉතාමත් ආදරයෙන් උපස්ථාන කරපු දාසියක් වගේ ගුණධර්ම දියුණු කරපු කාන්තාවො නිම්මාරණරතියෙ උපදින්නෙ. ඉතින් නිම්මාණරතියෙ ඉන්න විශාඛාවට බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා දැන් දවස් 3ක් 4ක් විතර. ඉතින් ඒ නිසා කොච්චර මාර්ගඵල ලාභී දෙවිවරු දිව්‍යලෝකෙ ඉන්නවද. ඒ නිම්මාණරතියෙ ඉන්නෙ සුනිම්මිත කියලා දිව්‍යරාජයෙක්. ඒ දිව්‍යරාජයාගේ බිරිඳ වෙලා තමයි විශාඛා ඉපදුනේ. ඒවගේ විස්තර ඔක්කොම මේ විමානවත්ථුවෙ තියෙනවා. ඉතින් ඊළඟට තියෙන්නෙ

බ්‍රහ්ම ලෝක. ඒ බ්‍රහ්ම ලෝක වල ආයුෂ තියෙන්නෙ කල්ප ගණන්. කල්ප එක, කල්ප දෙක, කල්ප හතර, කල්ප පන්සීය, කල්ප හැටදාහ ඔය විදියට තමයි ආයුෂ තියෙන්නෙ බ්‍රහ්ම ලෝකවල. එතකොට පින්වත්නි, ඒ නිසා දිව්‍යලෝක සැප කියන්නෙ, ආසනයක් පූජා කරපු පින බලන්නකො අවුරුදු තුන්කෝටි හැටලක්ෂයක් විපාක දෙන්න ගත්තනේ, පිනේ විපාක. ඉතින් ආසන පූජාවේ ආනිසංස තමයි, ආසනයක් පූජා කලාට පස්සෙ දිව්‍යලෝකෙ එවැනි සැප විඳිනවා, මනුස්ස ලෝකෙ ආවට පස්සේ උසස් කුලවල උපදින්නෙ, පහත් කුලවල උපදින්නෑ. හරි නම්බුකාරයි. අනිවාර්යයෙන් එයාට රැකියාවේ තැනක් තියෙනවා. එයා ඉගෙන ගන්න ස්කෝලෙ එයාට තැනක් තියෙනවා. එයාගෙ ගමේ එයාට තැනක් තියෙනවා. දැන් ආසනයක් කියන්නෙ කෙනෙකුට ඉන්න තැනක්නෙ. ඒකෙ විපාක ඒ විදියට ලැබෙනවා. ඒ පිනේ විපාකය ඔහුට ආවට පස්සෙ ඔහු වෙනුවෙන් තැනක් තියෙනවා ලෝකෙ. ආයෙ කවුරුවත් එයාට කැපිලි කෙටිලි නෑ, මොකද එයා සංසාරේ පිනක් කරලා. එයාට ගියත් එයාට අදාල තැන එයාට දෙනවා. ආසන පූජාවේ පින. නම්බුකාරයි. වැදගත් පවුල්වල උපදිනවා. ආසන පූජාවේ පින. එතකොට දැන් මේ බලන්න අදත් ඒ වගේ විස්තරයක් තමයි අපි ඉගෙන ගන්නෙ. මේ කුන්ජ විමානය කියලා. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දෙව්දුව දැක්කෙ, දිව්‍යලෝක චාරිකාවෙ වඩිද්දි. ඒ දිව්‍යාංගනාවගෙන් අහනවා මුගලන් මහරහතන් වහන්සේ පින්වත් දෙව්දුව ඔබගේ මේ ඇත් වාහනය උත්තම එකක්. නොයෙක් මැණික් වලින් මේ ඇතාව සරසලයි තියෙන්නේ. හරිම සිත්කළුයි. ශක්ති සම්පන්නයි. වේගවත් ගමනක් තියෙන්නෙ. අහසින් ගමන් කරන්නෙ, ඇතාගෙ ගමන. එතකොට පින්වත්නි මේවා අටුවාවල විස්තර කරලා තියෙනවා මේ ඇත් වාහනය. ඉතින් අපි ඒවා බැලුවා ඒ තියෙන විස්තර කියන්න නම් පොතම අරන් කියවන්න ඕන, එච්චරම ඒ ඇතාගේ ලස්සන ගැන විස්තර කරලා තියෙනවා. ඒ විමානෙ ගැන, ඒ ඇතාගෙ උඩ තමයි ඒ දෙවියන්ගේ විමානය තියෙන්නෙ. හිතන්නකො ඇත් පන්තියක් වටේට තියලා උඩ ලස්සන කරඬුවක් තිබ්බා කියලා. ඒ වගේ තමයි අර ඒ දිව්‍යාංගනාවගේ විමානය තියෙන්නෙ ඇත්තු උඩ. ඊටපස්සෙ කියනවා පින්වත් දෙව්දුව ඔබේ ඇස් පවා නෙළුම් පෙති වගේ. මේ ඇතා බබලන්නෙ නෙළුම් මල් පාටින්. නෙළුම් රේණු වලින් මේ ඇතාගෙ ඇඟ වැහෙන්න සැරසිලා තියෙනවා. රනින් කල නෙළුම් මල් මාලාවක් මේ ඇතා පැළඳගෙන ඉන්නෙ. ඇතාගෙ ලස්සනට මල්මාලා පළඳවලා නෙළුම් වලින් මේ ඇතා ගමන් කරන්නෙ නෙළුම් පිරුණු මාවතක. ඒ ඇතා යනකොටත් නෙළුම් මල් පිරුණු මාවතක

තමයි යන්නෙ. ඒ නෙළුම් මල්වලින් මේ මාවත බබලනවා. සුන්දර විදියට මේ ඇතා පා තබමින් යනහැටි අපූරුයි. දැන් මේ රහතන් වහන්සේ නමක් කියන්නෙ, දේශනා කරන්නෙ. ඒ ඇත්වාහනය ගමන් කරද්දි මිහිරි නාදය පැතිරෙනවා. රනින් කල සීනු වලින් ඒ නාදය පැතිරෙන්නෙ. පංචාංගික තූර්ය නාදය වගේම එය සුන්දරයි. මේ ඇත්රජාගෙ පිට උඩ ඉන්න ඔබ දිව්‍ය සළු පිළි වලින් ලස්සනට සැරසිලා ඉන්නෙ. ඔබ පිරිවරාගත් අනෙක් දිව්‍ය අප්සරාවන්ට වඩා ගොඩාක් ඔබ සුන්දරයි. අනිත් අප්සරාවන්ට වැඩිය ඔබ පුදුම සුන්දරයි. ඔබ මේ පුණ්‍ය විපාකය ලැබුවේ දානයක් පූජා කරලද. නැතිනම් සීලයක් රැකලද, එහෙම නැත්නම් අත්දෙක එක් කරලා වැඳපු පිනක්ද කියලා අහනවා. එතකොට බලන්න දාන, සීල වගේම විශාල පිනක් තමයි අත් දෙක එකතු කරලා පහන් සිතින් වදින එක. මුගලන් මහරහතන් වහන්සේ අහනවා අත් දෙක එකතු කරලා පහන් සිතින් වැඳපු පිනක්ද මේ කියලා අහනවා. මොකක්ද ඔබ මේ කරගත්තු පින? ඉතින් මුගලන් මහරහතන් වහන්සේ මේ ඇහුවෙ, ඉතින් මේකට මේ දිව්‍යාංගනාව මෙන්න මේ විදියට උත්තර දුන්නා. මං සත්පුරුෂයන් වහන්සේ නමක් දැක්කා. උන්වහන්සේ ගුණ සම්පන්නයි, ධ්‍යාන වඩනවා. ධ්‍යානයෙනුයි වාසය කරන්නෙ. ඉතින් මං ලස්සනට මල් අතුරලා අලුත් පිරුවටයකින් සරසලා ආසනයක් පිළියෙල කරලා උන්වහන්සේට පූජා කලා. ඒ ආසනය වටේ බිම ලස්සනට නෙළුම් මල් මාලාවක් තැන්පත් කලා. නෙළුම් මල් පෙති ලස්සනට විසුරුවලා දැම්මෙ මේ අත්වලින්මයි කියනවා. ඉතින් මේකෙ කතාව මම ඔබට කියන්නම්. ඒ තමයි රජගහනුවර බිම්බිසාර රජ්ජුරුවො නියෝගයක් කලා අහවල් දවසෙ උත්සවයක් තියෙනවා වීදි සරසපල්ලා කියලා. ඉතින් රඹ තොරන් තියලා සරසලා ධජ පතාක උස්සලා ලස්සනට සැරසුවා වීදි. ඉතින් බිම්බිසාර රජ්ජුරුවො ඇතා පිට නැගලා ලස්සනට රාජශ්‍රීයෙන් ශ්‍රී විභූතියෙන් සේනාව පිරිවරාගෙන ඒ වීදියේ වඩිනකොට දුප්පත් කාන්තාවක් මේක දැක්කා. දැකලා කම්මුලට අත තියාගෙන කල්පනා කලා, අම්මේ මෙහෙම සැපක්. මෙච්චර සැපක්. ඉතින් මෙහෙමත් සැප සම්පත් තියෙනවනේ අප්පා කියලා කල්පනා කලා. ඊටපස්සෙ නිතරම වෙහෙරට බණ අහන්න යන අයගෙන් ඇහුවා මගේ අම්මෝ මෙච්චර සැප සම්පත් ලබන්නෙ මොන පින්කම් කරලද. ඊටපස්සෙ අර බණ අහපු මිනිස්සු කිව්වා පින්වල විපාක අපි අහලා තියෙන්නෙ මෙහෙමයි. ඒ තමයි ආසන පූජා කළොත් උසස් නම්බුකාර විදියට උපදිනවා. උසස් කුල වල උපදිනවා. ඊටපස්සෙ වස්ත්‍ර පූජා කලොත් ලස්සන වෙලා උපදිනවා. ඊළඟට ආහාර දුන්නොත් භව භෝග ඇතිවෙනවා.

යානවාහන පූජා කලොත් සැප පහසුකම් ඇතිවෙනවා. ඊටපස්සෙ පහන් පූජා කලොත් ලස්සන ඇස් ලැබෙනවා. ඊටපස්සෙ මේ විදියට අපි මේ එක එක විදියට එක එක පින්කම් තියෙනවා. ඉතින් ගෙවල් දොරවල් පූජා කලොත් සියල්ලම පූජා කලා වෙනවා කියලා මෙයා අර කින්දක සූත්‍රයේ තියෙන විදියට ඒ මිනිස්සු ඉතින් අහපු බණ අර කාන්තාවට කිව්වා. මේ කාන්තාව කල්පනා කලා මාත් කරන්න ඕන මෙහෙම පින්කම්. හැබැයි ඉතින් මේවගේ තියෙනවා අර පින්කම් වල ආනිසංස අහලා තියෙනවා. මාත් මේවගේ පින්කම් කරන්න ඕන කියලා කල්පනා කරලා මෙයා මොකද කලේ, කල්පනා කර කර හිටියා දැන් යම් දවසක පිනක් කරගන්නවා කියලා. මං ඒකයි කිව්වෙ අර පින ගැන හිතට දාගෙන තියාගන්න. මම පින් කරන්න ඕන කියලා. ඒකට අවස්ථාවක් එනවා. දැන් මෑ තාම පින් කලේ නෑ, සිතට අදහසක් තියාගෙන හිටියා මං කොහොමහරි පින් කරන්න ඕන කියලා. ඔහොම ඉන්නකොට මෙයාගෙ අම්මා කලාතුරකින් මෑගේ මෑණියන් කලාතුරකින් ඈත ඉඳලා - මෑ විවාහක කාන්තාවක් - ඈත ඉඳලා ඈ බලන්න ආවා. ඈ බලන්න එනකොට ඈ වෙනුවෙන් ගෙනාවා පන්වලින්, වේවැල් වලින් වියපු වගේ ආසනයක්. ඒ කියන්නෙ පුටුවක්, වේවැල් පුටුවක් වාගෙ එකක්. ඊටපස්සෙ සළු දෙකක්. ඊටපස්සෙ මී පැණි, හකුරු, ඔය වාගේ දේවල් ගොඩාක් අරන් අම්මා ඇවිල්ලා දුව බලලා පුතේ තාත්තා අසනීපෙන් ඉන්නෙ මං යනවා කියලා උදේ ඇවිල්ලා හවසම ගියා. දැන් අර ටික දැක්ක ගමන් මෙයාට හිතුනෙ කොහොම හරි මේකෙන් නම් පිනක් කරගන්න ඕන. මේකෙන් කොහොමහරි පිනක් කරගන්න ඕන කියලා හිත හිතා ඉඳලා කල්පනා කලා, මේවා හිත හිතා ඉඳලා හරියන්නෑ හෙට උදේම දානයක් හදන්න ඕන, මේ වීදි වල සංඝයා වඩිනවා කියලා අපිට ආරංචියි, අපේ ගෙදරටත් ගෙන්න ගන්න ඕන කියලා මෑ පාන්දරම අර හාල් වලින් හකුරු ගිතෙල් ඒවා දාලා කිරිබතක් හැදුවා. කිරිබතක් හදලා තව හිතවත් කෙනෙක් යවලා නෙළුම් මල් ගෙනාවා. ඊටපස්සේ අර ආසනය ගේ ඉස්සරහපිට තියලා ඒ ආසනයට අර ගෙනාපු එක සලුවක් අතුරලා, එක සලුවක් උඩ වියන වගේ බැඳලා, අර ගෙනාපු නෙළුම් මල් දෙපැත්තේ තියලා දානෙත් හදලා ඉක්මණට ගෙදරට ආපු කෙනෙක් පිටත් කලා වීදිවල මේ වෙලාවෙ සංඝයා පිණ්ඩපාතෙ වඩිනවා, අපේ ගෙදරට කවුරුහරි වඩම්මවගෙන එන්න කියලා. පින කියන්නෙ බලන්න, එක එක්කෙනාගෙ පින විපාක දෙන හැටි, ඒ මනුස්සයා දුවගෙන යනකොට ඉස්සරහ වීදියේ පිණ්ඩපාතෙ වඩින්න ඇවිල්ලා හිටියේ සාරිපුත්ත මහරහතන් වහන්සේ. පුදුම දෙයක්. සාරිපුත්ත මහරහතන් වහන්සේ. ප්‍රඥාවෙන් අග්‍ර, කිණිහිරියා මලින්

පැහැයෙන් බබලන, බිමට නෙත් ඇති අපේ මහරහතන් වහන්සේ. ඉතින් සාරිපුත්ත මහරහතන් වහන්සේගේ පාත්‍රය අරන් අර මනුස්සයා, ස්වාමීනී වඩින්න උපාසිකාවක් දානෙ හදලා තියෙනවා කියලා මේ වඩම්මගෙන ආවා. සාරිපුත්ත මහරහතන් වහන්සේ ගෙදරට වැඩියා, වන්දනා කලා. අර ආසනේ අසුන් ගත්තා. ඊටපස්සෙ මොකද කලේ, ඈ එනකල් සංඝයා වඩිනකල් නෙළුම් මල් මාලාවක් ගොතලා තිබ්බෙ. ස්වාමීන් වහන්සේ වැඩියාට පස්සෙ අර ඉස්සරහින් නෙළුම් මල් මාලාව තිබ්බා. ඊටපස්සෙ වැන්දා. නෙළුම් මල් රේණු ඉස්සා අර ස්වාමීන් වහන්සේ වැඩ ඉන්න තැනට. ඊටපස්සෙ නෙළුම් මල් වටේ තියලා ඉස්සෙල්ලා වැඳලා ඊටපස්සෙ දානෙ පූජා කලා. පින්වතුනි, ඒ උතුම් ලෝකෙ උතුම් පින්කම් කරනවා. අද බෑ. අදකාලෙ හාමුදුරුනමක් ඉඳලා ඔය වාගේ නෙළුම් මල් ඉස්සොත් එහෙම බයිනවා කතා දෙකක් නෑ. එතකොට ඒ පින්කම් ඒ යුගයටම හරියනවා. ඒ ලෝක හරි පුදුමයි, බුද්ධ කාලය කියන්නෙ. ඊටපස්සෙ දානය පූජා කලා. දානෙ පූජා කරලා වන්දනා කරලා සාරිපුත්ත මහරහතන් වහන්සේ අනුමෝදනා බණ වදාළා. ඔන්න බලන්න එයාගෙ හිතට ඒ බණ ගියෙ නෑ. එයාගෙ හිතට බණ ගියෙ නෑ, අර පූජාව තමයි හිතට ගියෙ. මේ සංස්කාර. ඒ ධර්මය යන්නෙ පිනට යොමුවෙන්නෙ සංස්කාර. මීටපස්සෙ මැට කුමක්ද වෙන්නෙ කියලා බලන්න. ඊටපස්සෙ ඈ සාරිපුත්තයන් වහන්සේ වඩිනකොට මෙයා මොකද කලේ, ස්වාමීන් වහන්සේ අවසරයි, මේවත් පිළිගන්න කියලා අර ආසනයත් වස්ත්‍රයත් අරගෙන උඩ වියනත් තිබ්බ හතර පැත්තෙ නූල් හතර කපලා ඒවත් නවලා ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේට පූජා කලා. අර මනුස්සයෙකුට කිව්වා, මේ ස්වාමීන් වහන්සේට මේ පුටුවත් වෙහෙරට ගිහින් දීපන් කියලා. ඉතින් ඒ මිනිස්සු ඒවා ගිහිල්ලා දෙනවා. සාරිපුත්ත මහරහතන් වහන්සේ නිහඬව හිටියා. ඉතින් හරිම සතුටුයි, හරිම සතුටුයි. තව්තිසාවෙ ඉපදුනා, මරණින් මත්තෙ. එක දානයයි පූජා කරලා තියෙන්නෙ. තව්තිසාවෙ ඉපදුනා. තුන්කෝටි හැටලක්ෂයක් ආයුෂ. ඊටපස්සෙ තමයි මේ වාගේ, දැන් බලන්න මේ පිනේ විපාක කියන්නෙ, ඇනා පිට නැගලා එනකොටනේ මේ හිත පිහිටියෙ, සැප සම්පත් විඳින්න ඕන කියලා. දැන් මැගේ විමානෙත් ඇතෙක් උඩ හැදුනා. සම්පූර්ණ විමානෙ නෙළුම් මල්, ඇතාගෙ මල් මාලා, බලන්න ඒ දානෙකදි දෙන දේවල් පවා බලපාන හැටි. පුදුම සහගතයි. ඊටපස්සෙ තමයි දෙව්ලොව ඉපදිලා මේ අප්‍රමාණ සැපසම්පත් භුක්ති විඳින්නෙ, ඔන්න ඕක තමයි ස්වාමීනී, මං කරගත්ත පින කියලා කිව්වා. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ ඇයටත් පිරිවර දෙව්වරුන්ටත් ධර්මය දේශනා කලා, ඇය

ධර්මය අවබෝධ කලා, තේරුම් ගත්තා. බලන්නකො මේ දෙව්ලොව ගිහිල්ලා තියෙන වටිනාකම. අනිත් එක රහතන් වහන්සේලාගෙන් බණ අහන්න ලැබිච්ච වාසනාව ඇයට. බලන්න මනුස්ස ලෝකෙ කරගන්න බැරි දේ, මනුස්ස ලෝකෙ පින කලා, දෙව්ලොවදී ධර්මය ඇහුවා. ඉතින් ගොඩාක් සතුටු වුනා මුගලන් මහරහතන් වහන්සේ ආසන පූජාව ගැන කියපු ඒ ආනිසංසය අහලා. ඉතින් පින්වත්නි ඒ ආනිසංසය ඒ දහම් කතාව අහලා ගොඩාක් ඒ දෙවිවරු සන්තෝෂයට පත්වුනා. මුගලන් මහරහතන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේට කියා හිටියා ස්වාමීනී මේ වාගේ දෙව් විමනක් දුටුවා කියලා, ඉතින් ඒවා මුල් කරගෙන භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසුවා. ඊටපස්සෙ තමයි මේවා විමානවත්ථුවට එකතු වෙලා මේ දේශනා හැදෙන්නෙ. ඊටපස්සෙ පින්වත්නි, තව විශේෂ පිනක් ගැන අද කතා කරන්න ඕන. ඒ ආසන පින, එතකොට ආසන පූජා කිරීමේ, ආසන කියන්නෙ පුටු, සෙනසුන්, යමකින් ඉඳගන්න පහසුද, ඒවා පූජා කිරීම, දන්පැන් පූජා කිරීම, හිත පහදවා ගැනීම, මේවා නේද ඒ දෙව්ලොව උපතට හේතු වෙලා තියෙන්නෙ. ශ්‍රද්ධා, සීල, සුත, ත්‍යාග, ප්‍රඥා සේඛ බලවලින් තමයි දෙව්ලොව උපදින්නෙ. එතකොට බලන්න අර ඇතිවෙච්ච සිත එයාට ඒ ත්‍යාගසම්පත්තිය ගැන හිතේ ඇතිවෙච්ච පැහැදීම. අනිත් එක තමයි කරන පින් වලින් සතුටු වෙවී ඉන්නවා. දැන් අද කාලෙ තියෙන්නෙ මීට වැඩිය පින් කරපු අය ඇති. නමුත් මිනිස්සු සතුටු වෙවී ඉන්නෑ කරන පින්කම් වලින්. ඉතින් ඒකයි මේ විස්තර කියලා දෙන්නෙ. දැන් ඊළඟ විමානයේ පුණ්‍ය විපාකය හරිම පුදුම සහගතයි. මේ තියෙන්නෙ පැන් පූජාවේ පින්. පින්වත් දෙව්දුව, රත්තරනින් නිමකල ලස්සන වහලයක් ඇති නැවකයි ඔබ ඉන්නෙ. දිව්‍ය වූ නෙළුම් මල් පිපුණු පොකුණකට බැහැලා අතින් නෙළුම් නෙළමින් නේද ඉන්නේ. ඒ දිව්‍යාංගනාවගේ විමානය තියෙන්නෙ විශාල පොකුණක් මැද, ඒක නැවක් වගේ. එතකොට නැවක් වගේ දිව්‍ය විමානය ලස්සනට තියෙනවා. ඊටපස්සෙ ඉතින් ඒ නැවෙන් පාත්වෙලා අර පොකුණෙ හැදිච්ච මල් කඩාගන්න පුලුවන්. ඊටපස්සෙ ඇත්තෙන්ම ඔබ පුදුම ලස්සනක්. පුදුම ලස්සන දිව්‍යාංගනාවක්. දිව්‍ය අප්සරාවො පිරිවරාගෙන ඉන්නෙ. කොහොමද මෙහෙම පින් ලැබුනෙ. මොකක්ද ඔබ ආනුභාවයෙන් බැබලි බැබලි ඉන්න පින මොකක්ද කලේ. මෙච්චර සැප විදින්න තරම්. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ කාරණාව ඇහුවේ. ඇ මෙන්න මේ කාරණාව කියාහිටියා. ඒ කලින් ජීවිතේ මං හිටියේ මනුස්ස දුවක් වෙලා. එදා මං පිපාසයෙන් කලන්තෙ හැදිලා වැටිලා හිටිය ස්වාමීන් වහන්සේලා කීපනමක් දැක්කා. මං ඉක්මණට

නැගිටලා උන්වහන්සේලාට වළඳන්න පැන් ටිකක් පූජා කරගත්තා. මේක මෙහෙමයි වෙලා තියෙන්නෙ. ඒ කාලේ ස්වාමීන් වහන්සේලා සැවැත්නුවර වඩිද්දි එක්තරා ගම්මානයක් මැදින් වැඩියා. එතකොට උන්වහන්සේලා එක ගමකට වැඩම කරලා ගොඩාක් මහන්සියි. ගොඩාක් මහන්සියි. එතකොට උන්වහන්සේලා ඒ මහන්සියට එහෙම්මම ගස් යට ඉඳගෙන ගස්වලට හේත්තු වෙලා හිටියා. එතකොට ඒ ළඟ තිබ්බ ළිඳකින් පැන්, වතුර ගෙනියන්න දාසියක් ආවා. එතකොට දැන් ස්වාමීන් වහන්සේලාට පැන් පිපාසය තිබ්බට අච්චර ළිඳකින් වතුර ගන්න ක්‍රමයක් නෑ. ඊටපස්සෙ අර දාසිය දැක්කා සංඝයා වහන්සේලා හේත්තුවෙලා වැටිලා ඉන්නවා, ඈ හිතුවෙ වැටිලා ඉන්නවා කියලා කලන්තෙන්, ඊටපස්සෙ මේ වතුර නැති නිසා තමයි කියලා ඉක්මණට වතුර ඇදලා කළේට වතුර අරන් ස්වාමීනී මේ පැන් බොන්න කියලා වතුර හැලුවා ස්වාමීන් වහන්සේලා ළඟට. උන්වහන්සේලා අර කලෙන් වැටෙන වතුර අරන් වැළඳුවා. ඒ වතුරෙන් මුහුණ හෝදගත්තා. ඇයට පුදුම සතුටුයි. ඉතින් ස්වාමීන් වහන්සේලාට පැන් පූජා කලා. හරිම සතුටුයි. ඉතින් ඈ එක එක මිනිස්සුන්ගේ ගෙවල් වල වහල්කම් කර කර හිටියා. එච්චරයි. නමුත් අර සංඝයාට පැන් පිදුවා කියලා යමක් ඇද්ද, මෙන්න විපාකය. මං ඕකයි කිව්වා ස්වාමීනී කරගත්තු පින. ඈ කියනවා ඉතින් කවුරුහරි කෙනෙක් පිපාසෙන් කලන්තෙ හැදිලා වැටිලා ඉන්න කෙනෙකුට ඉක්මණින්ම වළඳන්න පැන් ටිකක් දුන්නොත් ඒ කෙනාට සීතල දිය දහර පිරී ගිය ලස්සන මල් ගොඩක් පිරුණු සුදු නෙළුම් පිපිලා තියෙනව ගංඟාවන් පහළ වෙනවා කියලා ඒ දිව්‍යාංගනාව කියනවා. බලන්න අර පැන් පොදක් දීමේ විපාක. දැන් තව්තිසාවෙනෙ. අවුරුදු තුන්කෝටි හැටලක්ෂයක්නෙ. ඒ කියන්නෙ තවමත් ඇය ඉන්නවානෙ. පැන් ටිකක් පිදීම. පැන් පූජාවේ ආනිසංස. එතකොට අපිට මේවා විශ්වාස කරන්න බැරිද ඔබට. ඒ අපි විශ්වාස කරන්නැත්තෙ, යම්කිසි කෙනෙක් විශ්වාස කරන්නැත්නම් ඒ කියන්නෙ එයා පිනේ විපාක ගැන දන්නෑ, පින ගැන දන්නෑ. සංඝයාගෙ උතුම් බව දන්නෑ. අප්පං දින්නං බහුං හෝතී, චූටි දෙයක් පූජා කලොත් අප්‍රමාණ පින් ලැබෙනවා. ඒ එහෙම වෙන්නෙ ඒ කෙත සරුසාර නිසා. ඉතින් ඒ නිසා, ඊටපස්සෙ ඈ කියනවා එතකොට ඒ දිව්‍ය විමාන වටකරගෙන ලස්සන සුදු වැලිතලා හැදෙනවා. ඒ මතින් තමයි සිහිල් දිය දහරාවන් ඇති ලස්සන ගංඟාවන් හැම තිස්සෙම ගලාගෙන බහින්නෙ. ඉතින් ඒ හැමතැනකම මල් පිපුණු අඹ ගස් තියෙනවා, සල්ගස් තියෙනවා. තිලක ගස් තියෙනවා, දඹ ගස් තියෙනවා, ඇහැළ ගස් තියෙනවා. .. ගසුත් තියෙනවා දිව්‍ය විමානෙ ලස්සන කියන්නෙ. ඇගේ

දිව්‍යවිමානේ අෑ එතකොට හිතුවා පැන් පුදන සියලු දෙනාට මේ වගේ විපාක හම්බෙනවා කියලා. එවැනි බිම් පෙදෙස් වල තමයි දිව්‍ය විමාන පහළ වෙන්නෙ. ඒ ශ්‍රේෂ්ට දිව්‍ය විමාන පුදුම විදියෙ සුන්දරත්වයෙන් යුක්තයි. ඉතින් ස්වාමීනී එදා මා කළ ඒ පින්කමින් තමයි මේ විපාකය ලැබුනෙ. පින් කළ අයට තමයි මේ වගේ සම්පත් ලැබෙන්නෙ. පැන් පූජාවේ පින. ඒ පිනෙන් තමයි මෙවැනි ලස්සනක් මට ලැබුනෙ. ඒ පිනෙන්මයි මේ සම්පත් ලැබුනෙ. සිතට ප්‍රීතිය උපදවන මේ සැප සම්පත් ඔක්කෝම ලැබුනෙ ඒ නිසාමයි. මහානුභාව සම්පන්න වූ පින්වත් ස්වාමීන් වහන්ස, ඉතින් මනුස්ස ලෝකයේදී ඔය පින තමයි මං කරගත්තෙ. ආනුභාව සම්පන්නව බැබලි බැබලි ඉන්න පින ඕක තමයි. මගේ සිරුරින් විහිදෙන එළියෙන් හැම දිසාවම බබළනවා. එතකොට පින් කරපු කෙනාගෙ ශරීරයෙන් පවා රැස් විහිදෙනවා. එයාගෙ විමානයම බබලනවා. පැන් පූජා කරපු පින. ඉතින් මුගලන් මහරහතන් වහන්සේගෙන් එයා ධර්මය ඇහුවා. ඒ ධර්මය තේරුම් ගත්තා, භාග්‍යවතුන් වහන්සේගේ සසුනේ පිහිට ගත්තා. බලන්න මනුස්ස ලෝකෙදි කරගත්තු පින. ඊළඟ දිව්‍ය විමාන කතාවත් ඒ වගේ එකක්. මේකත් හරි පුදුම සහගතයි. මේකෙ මේ කතාව බුදුරජාණන් වහන්සේ සම්බන්ධයි. මේ දෙවියන්ගෙන් ප්‍රශ්න අහන්නේ බුදුරජාණන් වහන්සේ. ඒ තමයි බුදුරජාණන් වහන්සේ කෝසලේ ඉඳලා තූන කියන ගමට වැඩම කළා. ඒ වැඩම කරනකොට ඒ තූන ගමේ මිනිස්සුන්ට ආරංචි වුනා භාග්‍යවතුන් වහන්සේ වැඩම කරනවා කියලා. ඒ ගමේ මිනිස්සු බමුණු අය. බුදුරජාණන් වහන්සේට අමනාපයි. ගමේම රාවයක් ඇති කලා අපිට ආරංචියි හෙට දවසේ ශ්‍රමණ භවත් ගෞතමයන් මේ ගමට වඩිනවා කියලා, කාටවත් පැන් දීම තහනම් කිව්වා. ඇප උපස්ථාන කිරීම, දානෙ දීම, ඒ ඔක්කොම තහනම් කෙරුවා. ඉතින් ඒ නිසා කවුරුහරි ඒවා කලොත් බලාගෙනයි කියලා ඔන්න ගමට නීතියක් දැම්මා. ඊටපස්සෙ ඒ එදා හවස්කාලෙ. පහුවදා උදේම භාග්‍යවතුන් වහන්සේ කෝසල ඉඳලා වඩිනවා. වඩිනකොට ගඟක් හරහා යන්න තියෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ ඍද්ධියෙන් ගඟ හරහා සංඝයා සමඟ වැඩම කලා. ඉතින් ආනන්ද ස්වාමීන් වහන්සේ පවා බුදුරජාණන් වහන්සේගේ ඍද්ධියෙන් ගඟ තරණය කරලා තියෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේගේ ඍද්ධියෙන් මෙතනින් අතුරුදන් වෙලා ගඟේ එහාපැත්තෙන් මතුවෙලා තියෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ තූන කියන ගමට වැඩම කලා. වැඩම කරලා ගඟේ ඉඳලා ගම ඇතුලට වැඩම කලා, දුරයි, ඊළඟට ඉර අව්ව වැඩීගෙන එන වෙලාව. ඉතින් බුදුරජාණන් වහන්සේ ගහක් මුල වැඩ හිටියා.

සංඝයාත් ගහක් මුල වැඩහිටියා. ඊටපස්සෙ අර ගමේ දාසියො, පැන් ගෙනියන දාසියො වතුර අරගෙන ඒ ගම ඇතුලට යනකොට ඒ යන පාරෙ තමයි බුදුරජාණන් වහන්සේ සංඝයාත් එක්ක වැඩ ඉන්නෙ. ඔතන හිටපු එක දාසියකට හිතුනනෙ පැන් පූජා කරන්න ඕන කියලා. එතකොටම ඇට හිතුනා දැන් බමුණො කියලා තියෙන්නෙ කිසි දෙයක් දෙන්න තහනම්. ඊටපස්සෙ මෑ කල්පනා කලා ඕන එකක් වෙද්දෙන්, මම දහදුක් විදිනවා, ජීවිතේට කියලා පිනක් කරගෙන නෑ, කුසලයක් කරගෙන නෑ, හැමදාම වතුර අදින එකයි, දාසකම් කරන එකයි, උයන එකයි, බත් තම්බන එකයි, ඔය දාසකම්මයි මං කර කර හිටියෙ, මට කිසි පිනක් කරගන්න බැරිවුනා. ඒ නිසා මං නම්, බලන්න මේ කොච්චර සොදුරු දර්ශනයක්ද කියලා. මේ රන්කදක් වගේ උත්තමයෙක් වැඩ ඉන්නවා, සංඝයා වැඩ ඉන්නවා. මං නම් දෙන්න ඕන පැන් ටිකක් කියලා අනිත් අයට කිව්වා මම වතුර ටිකක් දෙනවා මේ සංඝයාට, ශ්‍රමණයන් වහන්සේලාට. අර ගෑණු ටික කිව්වා ඒයි ඔහේට මතක නැද්ද ඊයෙ ගමේ ගිය කතාව. මැරෙන්නද හදන්නෙ කියලා කිව්වා. යමන් යන්න කිව්වා. මට බෑ, උඹලා ඕන එකක් කියපල්ලා මං පැන් දෙනවා කියලා. අනිත් දාසියො ටික දිව්වා කල අරන්. මෑ ඇවිල්ලා බුදුරජාණන් වහන්සේ ළඟ ඉස්සරහ කියා සිටියා ශ්‍රමණයන් වහන්ස මේ පැන් ටිකක් වළදන්න. ඇ කලේ පාත් කලා බුදුරජාණන් වහන්සේ ශ්‍රී හස්තයෙන් පැන් අරන් වැළඳුවා. අනෙක් සංඝයාටත් පූජා කරන්න කිව්වා. ඇ සංඝයා ඔක්කෝටම පැන් පූජා කරනවා, කළේ වතුර ඉවරවෙන්නෑ, පුදුම සතුටුයි, බුදුරජාණන් වහන්සේට වන්දනා කරලා ඇ ගියා. දැන් බලන්න බුදුරජාණන් වහන්සේ එතන ධර්මය දේශනා කලේ නැහැ. මොකද ඇට ඒ ධර්මය අවබෝධ කරන සංස්කාරය මනුස්ස ජීවිතේ එතන හැදෙන් නෑ. ඊටපස්සෙ ඇ ගමට යනකොට, අර ගෑණු ටික ගිහිල්ලා කියනවානෙ. ගෑණියෙකුට මොනවාහරි පණිවිඩයක් දුන්නොත් යන රාවය දන්නවනේ, අරුන් ඔක්කොම කියලා. අර මෙයා වැඩකරන ගෙදර බමුණා එනකල් ඉන්නවා එළියෙ සක්මන් කර කර. වරෙන් වරෙන් කියලා. ඊටපස්සෙ දැන් ඇ අරෙහෙන් හිනාවෙවී එනවා. වර කිව්වා. ආයෙ කතා මොකුත් නෑ, ආපු ගමන් කණ හරහා ගැහුවා, එහෙම්මම වැටුනා. වැටිච්ච ගමන්ම ගැහුවෙ පයින්. ගහලා ගහලා ගහලා යටිබඩට පාරක් වැදුනා. එහෙම්මම හුස්ම ටික ගියා. මෙන්න දිව්‍යලෝකෙ. දිව්‍යවිමානය පහළ වුනා, අප්‍රමාණ සැප. ඊටපස්සෙ එච්චරයි එතන කතාව. හවස්කාලයේ භාග්‍යවතුන් වහන්සේ වදාළා ආනන්ද, පැන් ටිකක් අරන් එන්න. ඒ ගමේ ළිංවලට පිදුරු දාලා. එතකොට ළිංවල පිදුරු. වතුර

ගන්න බෑ. ඒකනේ අර දාසියන් උදෙන්ම ගත්තෙ. වතුර අරන් අරන් ඇලා ළිඳ ළඟින් පිටත් වෙනකොට ළිං වහනවා ඒ එක්කම. පුදුම දේවල් වෙලා තියෙන්නෙ පින්වත්නි. ඊටපස්සෙ මොකද වුනේ, ළිං වහලා. ආනන්ද ස්වාමීන් වහන්සේට කිව්වා පින්වත් ආනන්ද පැන් අරන් එන්න. ආනන්ද ස්වාමීන් වහන්සේ ළිඳ ළඟට ගියා. ඊටපස්සෙ ළිඳේ පිදුරු. ආයෙ ආවා ස්වාමීනී, ළිං වහලා පිදුරු. ආනන්ද ආපහු වඩින්න, පැන් අරන් එන්න. ආනන්ද ස්වාමීන් වහන්සේ දහසක් දේවල් හිතේ තියාගෙන වඩිනවා. වඩිනකොට පින්වත්නි මේ මහපොළොව, මේක ඒ විස්තර දිහා බලනකොට පින්වත්නි මේ ධරණී මාතාව, මේ පොළෝ මහී කාන්තාවම කරපු දෙයක් තමයි, අර ළිදෙන් ඇතුලෙන් උල්පත් ඉනෙව්වා, එතකොට වතුර මතුවෙලා මතුවෙලා උඩින් පිදුරු යනවා. ළිඳ උඩින් වතුර වැක්කෙරෙනවා. එතකොට ආනන්ද ස්වාමීන් වහන්සේ යනකොට ආශ්චර්යයියි, අද්භූතයි. ළිං උතුරනවා. ඉතින් ආනන්ද ස්වාමීන් වහන්සේ පැන් අරන් ඇවිත් භාග්‍යවතුන් වහන්සේට පූජා කලා. අච්චායං බන්තේ අද්භූතං බන්තේ, ස්වාමීනී, ආශ්චර්යයියි, අද්භූතයි, තථාගතයන් වහන්සේගේ ගුණකද මේ මහපොළොව දන්නවා ඒකාන්තයි කිව්වා. අර වතුර ගලන එක නතර වෙන්නෑ, ළිං වලින් වතුර ගලලා ගලලා ඇලවල් පිරිලා, ගඟ පිරිලා ඒ ගම ටික ටික දැන් යටවෙනවා. බුදුරජාණන් වහන්සේ එක තැන වැඩ ඉන්නවා. ඊටපස්සෙ ගමේ මිනිස්සු ඔක්කොම කල්පනා කලා මේක නම් වුනේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට පැන් දුන් නැති නිසාමයි, යමල්ලා මේකෙන් අපි සමාව ගන්න ඕන කියලා රෑ පාන්දරම දුවගෙන ඇවිල්ලා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ වැඳවැටිලා සමාව ඉල්ලුවා. තූන ගමේ මිනිස්සු. සමාව ඉල්ලපු ගමන්ම අර වතුර ගලන එක නැවතුනා. එහෙම්මම වතුර ටික ටික අඩුවෙවී ගියා. මිනිස්සු සමාව ඉල්ලනවා, ස්වාමීනී දානෙට වඩින්න, ඔබ වහන්සේ අද මෙතනම වැඩ ඉන්න කියලා, ඉක්මණට ගමේ මිනිස්සු දානෙ හැදුවා. මණ්ඩප හැදුවා. එච්චර සේනාවක් ඉන්නවා ඉතින් මේ ගමේ. ආන්න ඒ දානය පූජා කරලා අවසන් වෙනකොට ආන්න ඒ වෙලාවේ අර දිව්‍යාංගනාව කල්පනා කලා මං දෙව්ලොව උපදින්න මොකක්ද කරපු පින කියලා. මං දෙව්ලොව උපදින්න මොකක්ද කරපු පින කියලා ඇය කල්පනා කලා. ඇය කල්පනා කරනකොට පෙනුනා, පෙනිලා ඇ තමන්ගේ දිව්‍ය විමානෙත් එක්කම අර ගමේ මිනිස්සු දානෙ දීලා අනුමෝදනා බණ අහන වෙලාවේ දිව්‍ය විමානෙත් එක්කම බුදුරජාණන් වහන්සේ ඉස්සරහට පැමිණිලා, බුදුරජාණන් වහන්සේගේ සිරිපා කමල වන්දනා කලා. ඒ වෙලාවෙ බුදුරජාණන් වහන්සේ තමයි ඇයගෙන් අහන්නෙ, පින්වත් දෙව්දුව රත්තරනින්

නිමකල ලස්සන වහලයක් ඇති නැවකයි ඔබ ඉන්නෙ. දිව්‍ය වූ නෙළුම් මල් පිපුණු පොකුණට බැහැලා අතින් නෙළුම් නෙලමින් නේද ඉන්නෙ. එතකොට ඒ දිව්‍ය විමානයේ ස්වභාවය කියන්නෙ. බලන්න අර පැන් පූජා කරපු විපාකෙට විශාල පැන් විලක මැද තමයි දිව්‍ය විමානය තියෙන්නෙ. එතකොට බලන්න ඒ දිව්‍ය විමානෙ තියෙන වතුර පවා පිනක විපාකයක් විදියට තමයි හැදෙන්නෙ. මාළිගාව පිනක විපාකයක් විදියට හැදෙන්නෙ. දිව්‍ය අප්සරාවො ඈ පිරිවරා ගන්නෙ පිනක විපාකයක් හැටියට. ඒ ඔබේ දිව්‍ය විමානයේ සුවිශාල මන්දිර තියෙනවා. හරි අපූරුවට කාමර වශයෙන් බෙදිලා තියෙනවා. හාත්පස සතර දිබ්බාගයම මේ විමානයෙන් දිලිසෙනවා. ඇත්තෙන්ම ඔබට මෙවැනි ලස්සනක් ලැබුනෙ කොහොමද, මොකක්ද කරපු පින? දෙව්දුව ඔබ මොකක්ද කරපු පින කියලා අහනවා. සා දේවතා අත්තමනා සම්බුද්ධේන පූජිතා, ඒ බුදුරජාණන් වහන්සේ ඒ කාරණාව ගැන අහපු එක ගැන ඒ දිව්‍යාංගනාව ගොඩාක් සතුටු වුනා. සතුටු වෙලා බුදුරජාණන් වහන්සේට කියා හිටිනවා මං ඒ කලින් ජීවිතේ මනුස්ස දුවක් වෙලා හිටියේ. එදා මං පිපාසයෙන් කලන්තෙ හැදිලා වැටිලා හිටිය ස්වාමීන් වහන්සේලා කීපනමක් දැක්කා. මං ඉක්මණට නැගිටලා උන්වහන්සේලාට වළඳන්න පැන් ටිකක් පූජා කරගත්තා. එතකොට ඒ දාසිය හිතපු විදිය, ස්වාමීන් වහන්සේලා කලන්තෙන් වැටිලා හිටියා කියලා තමයි ඇයට ඒ වෙලාවෙ කල්පනාව ඇවිල්ලා තියෙන්නෙ. අර බුදුරජාණන් වහන්සේත් එක්ක වැඩ ඉන්නකොට. ඉතින් ඒ නිසා කියනවා මං කලන්තෙ හැදිලා වැටිලා හිටිය ස්වාමීන් වහන්සේලාට පැන් පූජා කලා. ඉතින් කවුරුහරි කෙනෙක් පිපාසෙන් කලන්තෙ හැදිලා වැටිලා ඉන්න කෙනෙකුට වළඳන්න පැන් ටිකක් දුන්නොත් ඒ කෙනාට සීතල දියදහර පිරී ගිය ලස්සන මල් පිපුණු සුදු නෙළුම් මල් පිරී තිබෙන ගංඟාවන් පහළ වෙනවා. එතකොට ඒ දිව්‍ය විමානය වටකරගෙන සිනිදු වැලි තියෙන ගංඟා, අර ඉස්සෙල්ලා විමානෙ කිව්වෙ, ඒ විදියට ගොඩාක් දේවල් පහළ වෙනවා කියලා ඒ පින විස්තර කරනවා. ඉතින් මං කලේ ඔන්න ඔය පින තමයි. ඉතින් ස්වාමීනී මං මනුස්ස ලෝකෙ ඉද්දින් ඔය පින තමයි කලේ. මගේ දිව්‍ය විමානෙ සුවිශාල මන්දිර තියෙනවා. හරි අපූරුවට කාමර බෙදලා තියෙනවා. හාත්පස සතර දිබ්බාගයේම ඒ විමාන දිලිසෙනවා. ඒ පිනෙන් තමයි මෙවැනි ලස්සනක් ලැබුනෙ. ඒ පිනෙන් තමයි හිතට ප්‍රිය උපදවන මේ සැප සම්පත් ඔක්කෝම ලැබුනෙ. මහානුභාවසම්පන්න භාග්‍යවතුන් වහන්ස, මිනිස් ලෝකයේදි ඔය පින තමයි කරගත්තෙ. ආනුභාවසම්පන්නව බැබලි බැබලී ඉන්න පින, ඕක තමයි මගේ සිරුරෙන්

හැමදිසාවම බබලනවා කියලා විස්තර කිව්වා. පුදුමේ මේ විමානවත්ථුව කියවනකොට මට පුදුමෙ තමයි, ගහලා මරපු කතා නැනෙ. අර මිනිස්සු ඔක්කෝම ඉන්නවානේ, කියන්න තිබුනනෙ ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස අන්න අර බමුණා තමයි මට ගහලා මැරුවෙ. ඒවා නෑ. දෙවිවරුන්ගේ ඒවගේ කතා, වෛරය නෑ, තරහා නෑ, පරණ සිද්ධි නෑ. ඒවා තියෙන්නෙ මලපෙරේතයන්ගේ, යක්ෂයන්ගේ, යක්ෂණියන්ගේ, භූතයන්ගේ තමයි තියෙන්නේ තෝ මට මෙහෙම කලා, හිටපිය තොට. මේ ඒවා නෑ, ගහපු විස්තර මරපු විස්තර මොකවත් නෑ. ස්වාමීනී, මං පැන් පිදුවා, පිනේ විපාක කියන්නෙ. අද වුනත් බලන්න දැන් ඔන්න දිව්‍යලෝකෙ යන අයනම්, වන්දනා ගමනක් ගියාට පස්සෙ වැඳපු පුදපු දේවල් කියන්න ඕන. ඒක ඇතුලෙ වංහුං, අරකි මෙහෙමයි, මේකි මෙහෙමයි, සංස්කාර ඒවා. දඹදිව ගිහිල්ලා ඇවිල්ලා වැඳපු ඒවයි කියන්න ඕන. කියන්නෙ අම්මෝ උන් ඉන්න විදිය කිසිම චාරයක් නෑ, කැතයි අරකයි මේකයි. යකෝ ඉන්දියාව නම් එපා වෙනවා කියලා මේ එහෙම කතා කියනවා. අර හතලිස් ගාණ වැඳපු කතා කියන්නෑ. ඉතින් ඒ නිසා හෙදට මතක තියාගන්න. සාරි කඩවල් වල විස්තර, අම්මේ බලන්නෙපෑ සාරි කඩවල් කියනවා. වජිරාසනය කියනකොට එහෙම එකක් දන්නෑ කියනවා. මේ දඹදිව ගිහිල්ලා ඇවිල්ලා. එතකොට හිතට යන්නෙ ඒක තමයි සංස්කාරය. පහත් සංස්කාර. හිතට යන්නෙ ලාමක දේවල්. මේ බලන්නකො තව්තිසාවෙ දෙවඟනො. මනුස්ස ලෝකෙ ගුටිකාපු ඒවා මොකුත් නෑ, කරපු පිනම කියනවා. කරපු පිනම කියනවා. බුදුරජාණන් වහන්සේ ඇයට දහම් දෙසුවා. ඒ ධර්ම දේශනාව අවසානයේ දෙවඟන සෝවාන් වුනා. සෝවාන් වුනා කියන්නෙ මොකක්ද, පැන් පූජාවේ ආනිසංස බලන්න, සෝවාන් වුනා. එකසිය තිස් හයක් අපායවල්වල ගිනි නිවුනා. පැන් පූජාවේ ආනිශංස. ගිනි සිසිල් වුනා. තිරිසන් යෝනියේ අප්‍රමාණ තිරිසන් උපත්වල ගින්දර නිවුනා. පැන් පූජාවේ ආනිසංස. කෝටි ගණන් ප්‍රේත ආත්මවල ගින්දර නිවුනා. පැන් පූජාවේ ආනිසංස. කෝටි ගණන් අසුර අපායේ ගින්දර නිවුනා. පැන් පූජාවේ ආනිසංස. සක්කායදිට්ඨි විචිකිච්ඡා සීලබ්බතපරාමාස නැතිවුනා. පැන් පූජාවේ ආනිසංස. දැක්කද මනුස්ස ලෝකෙ දාසියක් වෙලා ඉද්දින් ජීවිතේ දෙවෙනි තැන තියාගෙන පින් කලා. පැන් ටිකක් පූජා කලා. පුදුම සහගතයි බුද්ධ කාලෙ නම්. බුදුරජාණන් වහන්සේ සමහර වෙලාවට ඇටම අනුකම්පා පිණිස වඩින්න ඇති. නමුත් මේ ධර්ම දේශනාව ඇයට දේශනා කරනකොට ඒ තූන ගමේ ගොඩාක් මිනිස්සු සෝවාන් වුනා. බුදුරජාණන් වහන්සේව සරණ ගියා. ශාසනේ පිහිට ගත්තා.

බලන්න පින්වත්නි ස්වභාව. සමහර පින්වල විපාක තියෙනවා ඒවා විපාක දෙන්නෙ මනුස්ස ලෝකෙ නෙවෙයි දෙව්ලොව. දැන් බලන්න මේ දිව්‍යාංගනාවට වෙච්චි දේ. පැන් පූජාවේ ආනිසංස පින්වත්නි. ඒ නිසා පහන් සිතින් පැන් පූජාවන් කරන්න. බලන්න රන්කොත් වෙහෙරේ විසිහතරදාහක් රහතන් වහන්සේලාට පැන් පූජා කලා. විපාකය සුලුපටු නෑ. අසත්පුරුෂයො ගරහනවා. සත්පුරුෂයො අනුමෝදන් වෙනවා. එදා ඉඳලා අද දක්වා මේ පැන් භාජන අරන් ගිහිල්ලා අදටත් අහිංසක උපාසක උපාසිකාවෙ ගෙදර භාග්‍යවතුන් වහන්සේට රහතන් වහන්සේලාට පැන් පූජා කරනවා. ඒවාගේ විපාක එනවාමයි. විපාක එනවාමයි. පැන් පූජාවේ ආනිසංස. ඉතින් ඒ නිසා පැන් පූජාවේ ආනිසංස තමයි ශරීර දාහය සංසිඳවෙනවා. උෂ්ණයෙන් නිවන් දකින ජීවිතය දක්වාම මොහොත දක්වාම ශරීරයේ දාහ හට ගන්නෑ, පැන් පූජාවේ ආනිසංස. සිසිල් වූ කයක් ලැබෙනවා. ඒ වගේම කවදාවත් වතුර නැතිව ජීවිතේ කවදාවත් වතුර නැතිව පීඩා විඳින් නෑ, ඒ වාගෙ කෙනෙක් මනුස්ස ලෝකෙ ඉපදිලා කොතන ළිඳක් හෑරුවත් වතුර මතුවෙනවා. මේ පැන් පූජාවේ ආනිසංස. ඉතින් ඒ නිසා පින්වත්නි අපිට ඒ වචනෙන් වචනෙ එකින් එකට මෙච්චර මෙච්චර ආනිසංස තියෙනවා කියලා කියන්න තරම් අපිට ඥානයක් නෑ. නමුත් ඔය තේරෙන විදියට දන්න විදියට අහලා තියෙන විදියට ඔය විස්තර කියන්නෙ පින්වත්නි. ඒ නිසා සතුටු වෙන්න බුද්ධ ශාසනයක පින් කිරීම ගැන. ඊළඟට දැන් මේකෙ අවස්ථා කිහිපයක්ම තියෙනවා මේ පැන් පූජාවේ ආනිසංස ගැන නාවාවිමානවත්ථු, නැවක විමානවස්තුව කියලා විමාන වස්තු තුනක් විතර තියෙනවා, ඒ ඔක්කොම තියෙන්නෙ කලන්තෙ හැදිලා හිටපු ස්වාමීන් වහන්සේලාට පැන් පූජා කරලා. සමහර වෙලාවට එයාලා ගෙදර ගියාට පස්සෙ බමුණො, ඒ ගමේ බමුණො ගහලා එයාලා මරලා. නමුත් ඒ පිනම සිහි කර කර ඉඳලා. අනේ මේ උන්නාන්සේ නමකට වතුර දෙන්න ගිහිල්ලා මට වෙච්චි වැඩේ, ඒ දුක් ගැනවිලි නෑ. තමන් කරපු පිනට ගරහන් නෑ. අද කාලෙ මිනිස්සු තමන්ගෙ පිනට ගරහනවනෙ. මටම කියලා තියෙනවා අනේ මෙච්චර පින් කරන මටම ඇයි හාමුදුරුවනේ මෙහෙම වෙන්නෙ කියලා අහනවා. එතකොට මේ ජීවිතේ කරදර ඇතිවෙන්නෙ පින් කරපු නිසාද. අනිත් එක බලන්න ඈට පැන් පූජා කිරීමේ විපාකය හම්බවුනේ ඒ ජීවිතේ නෙවෙයි. දෙව්ලොවදි හම්බවුනේ. කර්මය දිට්ඨධම්මවේදනීය වශයෙනුත් හම්බවෙනවා, උපපජ්ජවේදනීය වශයෙන් ඊළඟ ජීවිතෙත් හම්බවෙනවා, එහෙම නැත්නම් අපරාපරිය සංසාරේ කවදාහරි තැනක. දැන් ඈට ඒ ජීවිතේ විපාක දුන් නෑ, පැන් පූජා කරලා ආවෙ

බුදු කෙනෙකුටනෙ. දැන් අද කාලෙ කෙනෙකුට නම් බුදුහාමුදුරුවන්ටත් පැන් පූජා කරලා ඇවිල්ලා මට වෙච්චි වැඩේ කියලා ගරහනවා. දෙව්ලොව යන්නෙ පහන් සිතින්. එතකොට මැගෙ තිබ්බ විශේෂ දේ තමයි මැ මරණය කැමති වුනා, පිනම සිහි කලා. මම මෙච්චර පින් කරලා තියෙනවා. අද කාලෙ ඔලුවෙ කැක්කුමක් ආවත් කල්පනා කරනවා ඊයෙ රුවන්වැලිසෑය වැඳලා ආවෙ, අනේ ඇයි දෙයියනේ මට අද ඔලුවෙ කැක්කුම කියලා. මිනිස්සු ඉන්නෙ අමුතු ලෝකවල. ඒ නිසා ඔය ලාමක හිත්වලින් නම් දිව්‍යලෝකෙ යන්න හිතන්න එපා. හිත හොඳට සතුටු කරගන්න. අද ඉඳලාවත් හැදෙන්න. කරපු පින් හොඳට සිහි කරන්න. පින් පොතක් හදන්න. හදලා සතුටු වෙවී ඉන්න කරපු පින්කම් වලින්. මේ බලන්න ඒ නිසා තමයි අදටත් දිව්‍යලෝකෙ සත්පුරුෂ දෙවිවරු ඉන්නවා. ඒ දෙවිවරු දහම් දෙසනවා. ඉතින් ඒ ධර්මය අවබෝධ කරගන්න කෙනෙකුට අවස්ථාව ලැබෙනවා. ඉතින් මේ ඒ කාලෙ වෙච්ච සිද්ධි කියන්නෙ. පින්වත්නි පැන් පූජාවේ ආනිසංස ඒ විදියට තියෙන්නෙ, අප්‍රමාණ සැප විඳිනවා, ඉතින් ඈ නිසා මුළු ගමටම යහපතක් වුනා. ඇගෙ සිද්ධිය නිසා ගොඩාක් මේ කතාව තුන ගමේ පැතිරිලා යන්නෙ. ඉතින් මේ පින් කරන එක්කෙනෙක්ගෙන් ලොකු පිරිසක් සැනසිල්ලට පත්වෙනවා. ඉතින් ඒ නිසා පැන් පූජාවේ ආනිසංස සහ ආසන පූජාවේ ආනිසංස තමයි අද ධර්ම දේශනාවෙන් අපිට විමානවත්ථුවෙන් කියවන්න ලැබුනේ. ඒ නිසා ඔබගේ ජීවිතයට ඔබත් මේ වගේ පින් කරලා ඇති. ඒ කරපු පින් ගැන සතුටු වෙන්න. ඉතින් ඒ පිනෙන් ඔබ සැනසේවා. ඒ පින් බලයෙන් ඔබට ගෞතම බුදුසසුනේ පිහිට ලැබේවා කියලා එක සිතින් අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

පින්වත්නි අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ අයි.ජේ.කේ. අබේකෝන් පියාණන් සහ අජන්තා ඉද්දගොඩ මැණියන් ඇතුළු පවුලේ සියලු දෙනා. ඉතින් මේ පින්වතුන්ගේ අරමුණ කොරෝනා වෛරසය මේ ලක්දෙරණිනුත් ඒ වගේම ලෝකෙනුත් දුරුවෙලා සියලු මනුස්ස වර්ගයාට සැපය සැලසේවා කියන අදහස. ඉතින් ඒ නිසා අපි එකහිතින් මේ රැස් කරගත්ත අනන්ත පින අධිෂ්ඨාන කරලා මේ පින් බලයෙන් ලක්දෙරණත්, ඒ වගේම ලෝකයේත් එන වසංගත ව්‍යසන දුරින්ම දුරු වෙලා මනුස්ස වර්ගයාට සැනසිල්ල රැකවරණය ආරක්ෂාව සැලසේවා කියලා එක සිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. ඒ වගේම පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වුන දෙවියෝ මේ සියලුදෙනා ආරක්ෂා

කරත්වා, ගෞතම බුද්ධ ශාසනයේ දියුණුව පිණිස දෙවියන් කටයුතු කරත්වා කියලා දෙවියන්ට පින් පමුණුවනවා. ඒ වගේම අබේකෝන් පියාණන්, අජන්තා ඉද්දගොඩ මැණියන්, ඇතුලු පවුලේ නමින් මියපරලොව ගිය ඥාතීන්ට පින් අනුමෝදන් වේවා. ඔබ කවුරුත් නමින් මියගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරමපූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් බලයෙන් නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සියලු ස්වාමීන් වහන්සේලාටත් අනගාරිකා මැණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූදරුවන්ටත් ගෞතම බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ සැලසේවා. ඒ වගේම රැස් කරගන්නට යෙදුනා වූ සියලු පුණ්‍ය ධර්මයන් අබේකෝන් පියාණන්ටත් අජන්තා ඉද්දගොඩ මැණියන්ටත් ඒකාන්තයෙන් අනුමෝදන් වී නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැලසේවා. ඒ වගේම ගෞතම බුද්ධ ශාසනයේ පිහිට ඒ පවුලේ සියලු දෙනාටම සැලසේවා. මේ පින් බලයෙන් ධර්මාවබෝධ කරන්නට වාසනාව සැලසේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලියේ ධර්ම දායකත්ව සලසන සියලු දෙනාටත් ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත්, අපි හැදූ වැඩූ දෙමාපියන්ටත්, ඥාතී හිතමිත්‍රාදීන්ටත් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙත්වා. ඔබ සියලු දෙනාට මේ පින් බලයෙන් ඔබ රැස් කරගන්න පින් බලය කුසල් බලය ගෞතම බුද්ධ ශාසනයේ මනුස්ස ලෝකයේ හෝ දිව්‍ය ලෝකයේ හෝ වේවා තථාගත බුදුරජාණන් වහන්සේගේ දෙසූ දහමේ පිහිට පිළිසරණ ලබන්න ඒකාන්තයෙන් මේ පින් මහෝපකාරී වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=VzdZx8U42L8&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=4

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපි මේ දිනවල දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සමඟ තමයි එකතුවෙලා මේ ධර්මය ඉගෙනගන්නෙ. මේ විමානවත්ථු වර්ණනාව තථාගත බුදුරජාණන් වහන්සේ විසින් වදාළ ශ්‍රාවකයන් වහන්සේලා විසින් වදාළ දහම් කරුණු එකතුව තියෙන්නෙ. නවාංග ශාස්තෘ ශාසනය තුල ගාථා ධර්මයන් තමයි මේ විමාන වත්ථු අයිති වෙන්නෙ. මිහිඳු මහරහතන් වහන්සේ ලංකාවට වැඩම කරලා ඉස්සෙල්ලාම ජනී ජනයාට හුරු කරපු දහම් පරියායක් තමයි මේ විමානවත්ථු පේතවත්ථු. ඉතින් අද දවසේ මේ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ මාතර පදිංචි පින්වත් කේ.එස්. දිලිනි සෙව්වන්දි මහත්මිය විසින්. මියපරලොව ගිය බුද්ධිකා අලහකෝන් මෑණියන්ට පින් පිණිසත් ඒ වගේම කොරෝනා වෛරසය මේ ලක්දෙරණුත් ලෝකයෙනුත් තුරන්ම වෙලා මේ ලෝක සත්ත්වයාට සියලු රැකවරණය ආශිර්වාදය සැනසිල්ල සැලසේවා කියන අදහසින් තමයි මේ පින රැස් කරගන්නෙ. ඉතින් ඒ නිසා පින්වත්නි, මේ පින්වතුන් බොහෝ පින් රැස් කරගන්නවා මේ ධර්මදානය දීලා. මේ ධර්මය අහන්න සලස්වලා. මේ බුදු කෙනෙක්ගේ ධර්මය, බුද්ධ ශාසනයේ ධර්මය අන් අයට අහන්න සලස්වනවා කියන එක සුලුපටු පිනක් කියලා හිතන්න එපා, අනන්ත අප්‍රමාණ පින් සැලසෙනවා. ඉතින් ඒ නිසා ඒ ගැන හිතලා සන්තෝෂයට පත්වෙන්න. එතකොට දෙව්ලොව පිණිස පවතින මාවත බුදුරජාණන් වහන්සේ විසින් වදාළා. නොයෙක් ආකාරයෙන්. සමස්ථයක් වශයෙන් ගත්තොත් එක්කො කාය සුචරිතයක්, වචී සුචරිතයක්, මනෝ සුචරිත, සිතින් කයින් වචනයෙන් වන යහපත් දේවල් දන්දීම්, ඊළඟට ආර්යයන් වහන්සේලාට කරන සත්කාර සම්මාන, සම්මාදිට්ඨිය, මේ ආදී දේවල් මුල්වෙනවා දෙව්ලොව ඉපදීම පිණිස. සෑම විස්තරයකම දෙව්ලොව යන යම්කිසි හේතුවක් තියෙනවා. ඊළඟ කාරණාව තමයි මේ දෙවිවරුන්ගේ තියෙන විශේෂත්වය ඒ දෙවිවරු ඉතාමත්, මනුස්ස ලෝකෙදින් පින කරන කාලෙ සතුටින්ම පින් කරලා. අපිට මෙතෙක් හම්බවුනේ ගොඩාක් දුෂ්කරතා මැද පින් කරපු අය. මහා පෝසත්ව භවබෝග තිබිලා ගොඩාක් පින් කරපු අයට වැඩිය අපිට මුණ ගැහුනෙ අසරණව පින් කරපු අය. සමහර අයට පිනක් කරලා ජීවිතෙත් නැතිවෙලා. ඒ වගේ නමුත් ඒ හිත අසරණ කරගෙන නෑ. එතකොට අදත් අපිට ඒ වගේ විස්තර දැනගන්න

ලැබෙනවා. දානං සග්ගස්ස සෝපානං, දන්දීම කියන එක සුගතියට ඉණිමගක් වගේ මාවතක් කියලා බොහෝ දෙනා නිතර කතා කරන දහම් පාඨයක් ඒක. දන්දීම කියන එක හරී උපකාරයි. ඒ වගේම තමයි මේ හැම දහම් කතාවකම ඒ දෙවිවරුන්ගේ තියෙනවා හරි, මනුස්ස ජීවිතේ සංසිඳිච්චි චරිත. හරි ආවේගකාරී එහෙම චරිත නෙවෙයි. දැන් බලන්න අදත් තියෙනවා එක්තරා දේව විමානයක්, මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දෙව් විමානය දැක්කෙ. ඊට කලින් අපි කතා කලා නාවා විමානය කියලා, ඒ දිව්‍ය විමානය තියෙන්නෙ පොකුණක් මැද. එවැනි විමානවත්ථු තුනක් තියෙනවා. ඒ එක දිව්‍යාංගනාවක් කරලා තියෙන්නෙ පිපාසෙන් හිටපු සංඝයා ළිඳ ළඟට වැඩියට පස්සෙ පැන් පූජා කලා. අනෙක් දෙවෙනි විමානයේ හිටපු දෙව්දුව කරලා තියෙන්නෙ පිපාසෙන් හිටපු ස්වාමීන් වහන්සේ නමක් ගෙදරට වඩම්මලා පැන් ටිකක් පූජා කරලා. තුන්වෙනි නාවා විමානවත්ථුවෙ තියෙන්නෙ තුන ගමේ බුදුරජාණන් වහන්සේ ප්‍රධාන සංඝයාට පැන් පූජා කරපු දාසියක්. ඈ බුදුරජාණන් වහන්සේට දන් දුන්නා කියලා ඒ බමුණාගෙන්, ගෙදර බ්‍රාහ්මණයාගෙන් ගුටිකාලා මැරුණා. නමුත් ඈ තුල කොච්චර ඉවසීමක් සංසිඳීමක් තිබුනද. ඈ ගිහිල්ලා ඉපදුනේ දෙව්ලොව. ඈ බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා සෝවාන් වුනා. දැක්කද මනුස්ස ලෝකෙ කරපු කර්ම ඒ යහපත් දේවල් වල විපාක, දිව්‍යලෝකෙදින් විපාක දෙන හැටි. ඉතින් ඒ නිසා අද දවසේදි තියෙන්නෙ හරි ලස්සන පහන් පූජාවේ ආනිසංස. එතකොට මේක සිද්ධ වුනේ මෙහෙමයි. ඒ තමයි පින්වත්නි, පෝය දවසක මිනිස්සු ඔක්කෝම ගිහිල්ලා පෝය දවසෙ වෙහෙරෙ හවස්කාලෙ, ඉස්සර ඉතින් සිල් අරන් උදේ ඉඳන් හැන්දෑ වෙනකල්ම වෙහෙරෙ ඉන්නවා කියලා නෑ බුද්ධ කාලෙ. බුද්ධ කාලෙ උදේම උපෝසථය සමාදන් වෙලා වැඩකටයුතු නවත්තලා එදාට බණ භාවනා කරගෙන ගෙදර ඉඳලා හවස් කාලයේ මල් පහන් අරගෙන වෙහෙරට යනවා. ගිහිල්ලා සංඝයාගෙන් බණ අහලා හවස්වෙලා හෙමිහිට ගෙදරට ඇවිල්ලා පහුවදා එළිවෙනකල් උපෝසථය ආරක්ෂා කරනවා බුද්ධ කාලයේ. එතකොට ඔහොම මිනිස්සු ටිකක් වෙහෙරට ගිහිල්ලා හවස් කාලයේ බණ ඇහුවා. බණ අහලා එන්න හදනකොට එක උපාසිකාවක් දැක්කා වෙහෙරේ කොතනකවත් පහන් දල්වලා නෑ. එතකොට වෙහෙරට ඇතුල්වෙන තැනම දම්සභා මණ්ඩපය තියෙන්නෙ. එතකොට දම්සභා මණ්ඩපෙත් නෑ. ඊටපස්සෙ මොකද කලේ ඈ ඉක්මණට පණිවිඩයක් යවලා ගෙදරින් තෙලුයි තිර ආදිය ගෙනල්ලා පහන් දැල්වූවා. පහනක් දල්වලා, එතකොට දම් සභා

මණ්ඩපයේත් ඉස්සරහ තියෙන පහන දැල්වුවා, දැන් ඒකෙන් තමයි මුලු දම් සභා මණ්ඩපයම එලිය වැටෙන්නෙ. ඉතින් සංඝයා හවස් කාලයේ දම්සභා මණ්ඩපයට වඩිනවා දැක්කා, ඈට පුදුම සතුටුයි අර සංඝයා දහම් සාකච්ඡා කරන්නෙ ඔක්කොම කරන්නෙ අර ඈ දල්වපු පහන් එලියෙන්. ඉතින් ඈට පුදුම සන්තෝසයි. ඊටපස්සේ පස්සෙ කාලෙක ඈ කළුරිය කලා යම් රෝගයකින්. දෙව්ලොව තව්තිසා දිව්‍යලෝකෙ ඉපදුනා. ඈගෙ දිව්‍ය විමානයෙ නම ජෝතිරස විමානය. පහන් ආලෝකයක් පුදලා. ඊටපස්සේ මුගලන් මහරහතන් වහන්සේ තමයි දෙව්ලොව වැඩියේ. මුගලන් මහරහතන් වහන්සේ දැක්කා අර දිව්‍යාංගනාව ඉන්නවා. දිව්‍යාංගනාවගෙන් අහනවා පින්වත් දෙව්දුව, ඔබ ඔය සුන්දර රූපයෙන් බැබලි බැබලි ඉන්නේ හැම දිසාවම බබලන ඕෂධී තාරකාවක් වගේ ඇත්තටම මේ වාගේ ලස්සනක් මොන පිනකින්ද. මෙච්චර ප්‍රිය උපදවන සැප සම්පත් මොන පිනකින්ද ලැබුනෙ. ඔබගේ ශරීරයෙන් එළියක් විහිදෙනවා හරිම නිර්මල පැහැදිලියි. මොකක්ද ඔය තරම් බබලන පින. ඒ වගේම සියළු අඟ පසඟෙන්, ශරීරයෙනුත් රැස් විහිදෙනවා. එතකොට දෙවිවරුන්ගේ ස්වභාවය බලන්න. එතකොට කියනවා දෙව්දුව, මනුස්ස ලෝකෙ ඉන්න කාලෙ මොකක්ද කලේ ඔච්චරම ආනුභාව සම්පන්න වෙන්න මහා පිනක් කරලා තියෙනවා නේද. ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේ අහපු ප්‍රශ්නෙට දෙව්දුව උත්තර දෙනවා, මං අතීත ජීවිතේ මිනිස් ලෝකේ මනුස්ස දුවක් වෙලා හිටියා. ඊටපස්සෙ මහා ඝන අන්ධකාරයක් තිබුනා. පහන් ආලෝකයක් අවශ්‍යම වෙච්චි වෙලාවක්. ඉතින් මං ඒ පහන් ආලෝකය ලබා දුන්නා. දැන් බලන්න ආලෝක පූජාවේ ආනිසංස. ආලෝක පූජාවේ ආනිසංස. කවුරුහරි කෙනෙක් ඝන අන්ධකාරය පවතින විට පහන් ආලෝකය අත්‍යවශය වන විට ඒ වෙලාවට පහන් පූජා කරනවා නම් ආන්න ඒ කෙනොට ජෝතිරස කියන දිව්‍ය විමානයේ උපදින්න පුලුවන්. ඒ විමානෙ ගොඩාක් ලස්සන මල් වර්ග තියෙනවා. සුදු නෙළුම් වර්ග තියෙනවා. ඒ පිනෙන් තමයි මට මෙච්චර ලස්සන ලැබුනෙ. ඒ පිනෙන්මයි මේ සම්පත් ලැබුනෙ. එතකොට මේ ප්‍රිය උපදවන සැප සම්පත් ඔක්කොම ලැබුනෙ ඒ නිසා. මගේ ශරීරයෙන් එළිය විහිදෙන්නෙ ඒ පින නිසා. මගේ සියළු අඟ පසඟෙන් එළිය විහිදෙන්නෙ ඒ පින නිසා. මහානුභාවසම්පන්න ස්වාමීන් වහන්ස මං ඕක තමයි මනුස්ස ලෝකෙ කරගත්තෙ, පහනක් පූජා කරපු එක. දැන් බලන්න එයාට ඒ දිව්‍ය ලෝකෙ දිව්‍ය සම්පත්තිය සලසා දුන්නනෙ. කොච්චර සතුටින් ඈ ඒ පින සිහිකර කර ඉන්න ඇතිද. එතකොට අද කාලෙ මිනිස්සු කොච්චර පහන් පූජා කරලා තියෙනවාද. කොච්චර ආලෝක

විදුලි ආලෝක කොච්චර පූජා කරලා තියෙනවාද. සතුටු වෙන්න ඕන ඒවා ගැන. හිත හිතා සතුටු වෙන්න ඕන. නමුත් මෙච්චර මිනිස්සුන්ට පින් තියෙද්දි අද කාලේ මිනිස්සු පසුතැවෙන ඒවා හිතන්නෙ. මොකාක්හරි වැරදිච්ච දෙයක්, මොකක්හරි සීලයක් කැඩිච්ච එකක්, කවුරුහරි කියපු එකක්, හිත රිදෙන දෙයක්, මොකක්හරි දුකක් හිත හිතා ඉන්නවා අච්චර පින් තියෙද්දි. ඒ අසනීපෙ මෙයාලට තිබ්බෙ නෑ. මෙයාලත් පින් කලා. ඔයාලත් පින් කලා. මෙයාලා ඒ හිත සතුටින් ඉඳලා දිව්‍ය ලෝකෙ ගියා. දැන් අද කාලෙ ඉන්න අයට අසනීපයක් තියෙනවා. ඒ තමයි කොච්චර යහපත් හොඳ දේවල් තමන්ගෙන් වුනත් තමන්ට වැරදිච්ච තැනක් අල්ලගෙන මොකාක්හරි දුක් වෙවී ඉන්නවා. අසතුටු වෙවී ඉන්නවා. පසුතැවි තැවී ඉන්නවා. එතකොට ඒ දුක්ඛ දෝමනස්ස තියෙන අයට දෙව්ලොව සම්පත්තියට බාධායි. ඉතින් ඒ නිසා ඒ පහන් පූජාව. ඒ පහන් පූජාවේ ආනිසංස බලනකොට පින්වතුනි ඉස්සර බුදුරජාණන් වහන්සේ වනයේ වැඩිය වෙලාවක මීට කල්ප ලක්ෂයකට කලින්, පදුමුත්තර බුදුරජාණන් වහන්සේ එක්තරා මානවකයෙක් බුදුරජාණන් වහන්සේ ඉස්සරහා පහනක් දැල්වූවා. හරී සතුටුයි මෙයාට. බුදුරජාණන් වහන්සේ නිරෝධ සමාපත්තියෙන් වැඩ ඉන්නෙ. ආයෙ තෙල් ඉවරවෙනකොට තිරයක් දාලා ආයෙ පහන පත්තු කලා. දවස් හතක් බුදුරජාණන් වහන්සේට පහන් පූජාව සිද්ධ කලා. ඒ පිනෙන් තමයි අපේ බුද්ධ ශාසනයේ දිවැසින් අග්‍ර කෙනා බවට පත්වුනේ. පහන් පූජාවේ ආනිසංස නිසා තමයි ඇස් ලැබෙනවා, පුණ්‍ය විපාකයක් විදියට දිවැස් ලැබෙනවා. පහන් පූජාවේ ආනිසංස. ඊටපස්සෙ ඉස්සර බුදුරජාණන් වහන්සේගේ ස්තූපය වටා පහනක් අරන් රෑ එළිවෙනකල් සක්මන් කරලා තියෙනවා අනුරුද්ධ මහරහතන් වහන්සේ සංසාරයේ. ඒ පිනට තමයි මේ බුද්ධ ශාසනයේ දිවැස් ලාභීන් අතර අග්‍ර වුනේ. දිවැස් ලාභීන් අතර අග්‍ර භික්ෂුණියක් ඉන්නවා. ඒ භික්ෂුණීන් වහන්සේ සංසාරයේ කරලා තියෙන්නෙ, මං හිතන්නෙ සකුලා කියලා නම, ඒ භික්ෂුණීන් වහන්සේ සංසාරෙ කරලා තියෙන පින තමයි පහන් පූජාව. ඒ හින්දා තමයි දිවැස් ලැබුනෙ. එච්චර විපාකයි. පින්වතුනි අතීත කාලෙ බුදුරජාණන් වහන්සේ නමක් වැඩ හිටියා ඒ බුදුරජාණන් වහන්සේගේ නම පබස්සර. ඒ බුදුරජාණන් වහන්සේගේ කාලෙ දිවා රාත්‍රී කියලා දෙකක් නෑ. ඒ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න කාලෙ දවල්ම විතරයි. මිනිස්සු දිවා රාත්‍රී හඳුනගන්නෙ උදේට නෙලුම් පිපෙනවා හවසට පරවෙනවා. හවසට කුමුදු මල් පිපෙනවා උදේට පරවෙනවා. මල් පිපෙන එකෙන් තමයි දිවා රාත්‍රී හඳුනගෙන මිනිස්සු නිදාගන්නෙ. නැත්නම් මුළු පෘථිවියේම ආලෝකයක් වැටිලා තිබ්බා

පබස්සර බුදුරජාණන් වහන්සේ නිසා. අනිත් සෑම බුදුරජාණන් වහන්සේ නමක්ම ඒ බුදුරජාණන් වහන්සේගේ කැමැත්ත අනුවයි රැස් විහිදෙන්නෙ. බුදුරජාණන් වහනසේ ඒ රැස් මාලාව විහිදීම හිතෙන් අයින් කරපු ගමන් ශරීරයෙන් එකපාරම එහෙම රැස් විහිදි විහිදී යන්නෑ. පබස්සර බුදුරජාණන් වහන්සේගේ ඒක වළක්වන්න බෑ, පබස්සර බුදුරජාණන් වහන්සේගේ ශරීරයෙන් නිකම්ම රැස් විහිදෙනවා. ඒකට හේතුව තමයි කියනවා අතීතයේ චෛත්‍යයකට පහනක් අරන් රෑ පැදකුණු කරලා. ඒ පැදකුණු කරනකොට කරනකොට ප්‍රීතිය උපදිනවා. ඊටපස්සෙ පහන් ගොඩාක් අරන් අතින් පැදකුණු කලේ. ඒත් ප්‍රීතිය උපදිනවා. ඊටපස්සෙ හිසේ පහනක් තියාගෙන සෑය පැදකුණු කරලා. ඒත් ප්‍රීතිය උපදිනවා. ඊටපස්සෙ මොකද කරලා තියෙන්නෙ ඇඟ හැමතැනම රෙදි වෙලාගෙන ඇඟේ තෙල් හලාගෙන මගේ මුළු ජීවිතයම සෑයට පහනක් වේවා කියලා ශරීරයට ගිනි තියාගෙන. මේක මේ අතීතයේ වෙච්චි දෙයක්. ඉතාම කල්ප ලක්ෂ ගාණකට කලින්. අසංඛෙය්‍ය ගාණකට කලින් වෙච්චි දෙයක් මේ කියන්නෙ. ඊටපස්සෙ මුළු ශරීරයම ගිනිගෙන පහනක් වගේ සෑය පැදකුණු කරලා තියෙනවා. එළිවෙනකොට මුළු ශරීරයම ගිනි අරන් රෝම කූපයකටවත් හානි වෙලා නෑ රෙදි ටික විතරයි ගිනි අරන් තියෙන්නෙ. ඒ ශ්‍රද්ධාවට. ඉතින් ඒ විශේෂ අමුතු සහගත, පුදුම සහගත පින කරපු නිසා ඒ පබස්සර බුදුරජාණන් වහන්සේ සම්බුදු වුනාට පස්සෙ ඒ භාග්‍යවතුන් වහන්සේගේ ශරීරයෙන් ලෝක ධාතුව පුරාම රශ්මියක් විහිදිලා ගිහිල්ලා තියෙනවා. මේ බලන්න පින්වල එක එක විපාක. ඒ වාගේම රහතන් වහන්සේලාගේ ජීවිත කතා තියෙන ආපදානයේ තියෙනවා එක ආපාදනයක් එක පහනක් පූජා කරලා, බුදුරජාණන් වහන්සේගේ ආදාහන චිතකයට පහනක් පූජා කරලා, ඒ පහන එයා විටින් විට බලලා තියෙනවා, එළිවෙනකල්ම පත්තු වෙලා. ඉතින් ඒකෙ විපාක විදියට, එයා ඒකෙන් සන්තෝසයෙන් තව්තිසා දිව්‍යලෝකෙ ඉපදිලා ඒ මුළු ඒකදීප කියලා ඒ පහනේම බැලූ තෙක් මානෙ එකම පහන් යායක්. හැමතැනම පහන් දැල්වෙනවා. ඒ විමානෙට කියලා තියෙන්නෙ ඒකදීප විමානය කියලා. දැන් වෙන දෙව් කෙනෙක් ඒ විමානෙ පහළ වුනොත් එහෙම අර පහන් නෑ. ඒක පිනට ඒ සිද්ධ වෙන්නෙ. ඊටපස්සෙ ඒ ශරීරයෙන් සූර්යාලෝකය වාගේ විශාල රශ්මියක් විහිදිලා තියෙනවා, මේ චිතකයට පහනක් දල්වලා. ඒ වගේම පවුරු පර්වත ගල් විනිවිද හාත්පස යොදුන් සීයක් දුරත් තියෙනවා. ඒ කියන්නෙ මසැසට කිලෝමීටර් දාහක් පේනවා, අඳුරක් නෑ. පහන් පූජාවේ ආනිසංස. ඊළඟට හැත්තෑ හත් වරක්

දෙව්ලොව ඉපදිලා තියෙනවා. තිස් එක් වාරයක් සක්දෙවිඳු වෙලා ඉපදිලා තියෙනවා. විසිඅට වාරයක් සක්විති රජ වෙලා ඉපදිලා තියෙනවා. මනුස්ස ලෝකෙ ඉපදුනාට පස්සෙ ඇස්පිය හෙළලා නෑ. එච්චර ඒ පහන් පූජාවේ ආනිසංස. ඊටපස්සෙ මේ අපේ ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ අර්හත්වයට පත්වෙලා තියෙනවා, අප්‍රමාණ දිව්‍ය ඇසක් පහළ වෙලා තියෙනවා. මේ ඔක්කොම පහන් පූජාවේ ආනිසංස. තව තියෙනවා පංච දීපය. පහන් පහක් පූජා කරපු ස්වාමීන් වහන්සේ නමක් ගැන. අතීතයේ පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ බෝධිය වටා පහන් පූජා කරලා තියෙනවා. දිව්‍ය හෝ මනුස්ස ලෝකෙ ඉපදෙද්දි අහසේ දඬු වැටක පහන්, ඒ කියන්නෙ එයා දිව්‍ය හෝ මනුස්ස ලෝකෙ උපදිද්දි කවදාවත් අඳුරක් නෑ, හැම වෙලාවෙම ආලෝකය පහළ වෙලා තියෙනවා. රාත්‍රියක වත් අඳුරකට වැටිලා නෑ. ඊටපස්සෙ තියෙනවා යොදුන් සීයයක් දුර මසැසින් බලන්න පුලුවන්. ඊළඟට සක්විති රජ වෙලා, දෙව්ලොව ඉපදිලා, අවසානෙ අර්හත්වයට පත්වෙලා තියෙනවා. මේ ඔක්කොම පහන් පූජාවේ ආනිසංස. සාමාන්‍යයෙන් පහන් පූජාව තියෙන්නෙ හොඳ ඇස් ලැබීම පිණිස තමයි. සාමාන්‍යයෙන් ඇස් දුර්වල අය, ඊළඟට ඇස් රෝග පිණිස බෝධි පූජාවල් කරන අය අනිවාර්යයෙන් කළ යුතු පූජාවක් තමයි පහන් පූජාව. ඊගාවට විශේෂයෙන් කණ්ණාඩි දාන අය ගොඩ ඉන්නවානෙ දැන්. අනිවාර්යයෙන් ඒ අය නිතර විශේෂයෙන් පූජා විදියට පහන් පූජාව. ඇස් රෝග හටගන්නෑ. ඇස් රෝග හටගන්නැති විදියේ ආමිස පූජාවක් තමයි පහන් පූජාව. ඒ වගේම තමයි ඇස් රෝග හටගන්නැති විදියේ බලවත් පිනක් තමයි සිල්වතුන්, ගුණවතුන්, බෝධි, විහාර, ස්ථූප දැකලා සන්තෝස වෙන එක. ආර්යයන් වහන්සේලා දැකලා සතුටු වෙන ඇස් වලට ඇස් රෝග හටගන්නෑ. ඉතින් ඒ නිසා ඒ වාගේ පින්කම් තියෙනවා. ඊළඟට අපිට මුණගැහිලා තියෙනවා සමහර අයගෙ මිනිස්සුන්ගෙ ජීවිත වල ඉන්න පෙරේතයො තද අන්ධකාරයේ අගක් මුලක් නැතිව ආතක් පාතක් නැතිව ඉන්න පෙරේතයො ඉන්නවා තද අන්ධකාරයේ. ඒ වාගේ ප්‍රේතයන්ට පින් දීමේදී ආලෝක පූජාවක් කරලා පින් දුන්නොත් එහෙම ඒ ප්‍රේතයාට ඒ අන්ධකාරය නැතිවෙලා යනවා. ඉතින් ඒ නිසා මේ පහන් පූජාව ඒ වගේ දෙයක්. එච්චර ආනිසංස තියෙන දෙයක්. ඉතින් බලන්න එක එක පින්කම් වලට තියෙන ආනිසංස. දැන් බලන්න අර බලන්න එක පහනක් පූජා කරලා කල්ප ලක්ෂයක් සුගතියේම ඉපදිලා තියෙනවානෙ. ඒ වාගේ දැන් මේ දෙව්දුව එක පහනක් පූජා කරලා ඊළඟ ජීවිතේ දෙව්ලොව ගිහිල්ලා ඒකෙනෙ කතා කරන්නෙ මේ. සමහරවිට මේ ආයුෂ ඉවරවුනාම

ආයෙත් දෙවියන් අතර, ආයෙත් දෙවියන් අතර, මොකක්ද කරලා තියෙන පින, එක පහනක් පූජා කරලා. එච්චර ආනිසංස. හේතුව බුදුරජාණන් වහන්සේ, සංඝයා, මේ බුද්ධශාසනයේ සරුකෙතක් නිසා. ඒක නිසා පුංචි දෙයක් කලොත් අප්‍රමාණ පින් සැලසෙනවා. ඊළඟට මෙයාලගේ ජීවිතේ තියෙන විශේෂ දේ තමයි අර මං මුලින් කිව්වා වගේ පසුතැවිලි වෙන්නෑ. හඬලා වැළපිලා වෙන දුක්වෙච්ච ඒවා එයාලා ඒවා හිත හිතා ඉන්නෑ. කරපු පිනම කුසලයම සිහි කරගෙන ඉන්නවා. හරී සතුටින් ඉන්නවා. ඉතින් ඒ නිසා ඉද නන්දති පෙච්ච නන්දති කත පුච්ඡතො උභයත්ථ නන්දති පුඤ්ඤං මෙ කතන්ති නන්දති භීයො නන්දි සුග්ගතිං ගතො, මේ ලෝකෙ  සන්තෝසෙන් ඉන්නවා පින් කරපු අය. පරලෝකෙත් සතුටු වෙනවා. ගොඩාක් සතුටු වෙන්නෙ පරලෝකෙ ගිහිල්ලා. මං පින් කලා කියලා හරියට සතුටු වෙනවා. ඉතින් සුගතියෙ ගිහිල්ලා අප්‍රමාණ සැපයට පත්වෙනවා. ඒ නිසා ඔබ කල පින් ඔබ කල කුසල් නිතර සිහි කරලා සතුටින් ඉන්න. ඊළඟ පුණ්‍ය කර්මයත් හරි පුදුම සහගත දෙයක්. ඒ තමයි භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ උදේ කාලයේ මහා කරුණාවෙන් ලෝකය දෙන බලනකොට බුදුජාණන් වහන්සේ සැවැත්නුවරදින් ගන්ධකුටියේ, බුදුරජාණන් වහන්සේ දැක්කා රජගහනුවර එක්තරා ගමක, එක්තරා ගැබිණි මාතාවක් ඉන්නවා, ඈ අද දවසේ මැරෙනවා, මැරිලා උපදින්නේ නිරයේ. එතකොට බුදුරජාණන් වහන්සේට මහා කරුණා ඇසට පේනවා අද දවසේ මැරෙන අයත් පේනවා. අද දවසේ මැරෙන අය ගිහිල්ලා උපදින තැනත් පේනවා. අද දවසේ ධර්මය අවබෝධ කරන අය, පිහිට වෙන අය ඒ ඔක්කෝම බුදුරජාණන් වහන්සේගේ මහා කරුණාවට පේනවා, ඒක විශේෂ ඥානයක්. ඒ ඥානයට කියනවා මහා කරුණා සමාපත්ති ඥානය කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේට පෙනුනා. බුදුරජාණන් වහන්සේ ඉන්නෙ සැවැත් නුවර වැඩ ඉන්නෙ. ඈ ඉන්නෙ රජගහනුවර. අතිශයින් දුරයි ඒ රාජධානි දෙක. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ එදා උදේ සිවුරු පොරවාගෙන පාත්‍රය රැගෙන දෙව්රම්වෙහෙරෙන් අතුරුදන් වුනා. රජගහනුවර ඈ ඉන්න ගමේ වීදියේ පහළ වුනා. පහළ වෙලා අර ගෙදර දොරටුව ළඟින් ඇතුල් වුනා. ඇතුල් වුනාට පස්සෙ මොකද බුදුරජාණන් වහන්සේ දැක්කා මෑ මැරිලා අද නිරයේ යන්න ගියාට මැගෙ හිතේ චිත්තප්‍රසාදයක් උපදින ස්වභාවය තියෙනවා. පැහැදෙන ස්වභාවය තියෙනවා. ඒ නිසා ඒක උපද්දන්න පුලුවන්. බලන්න ඊයෙ බුදුරජාණන් වහන්සේ වැඩියෙ නෑ, අද වැඩියෙ. හේතුව සමහර අයට කර්මානුරූපව ඒ චිත්තප්‍රසාදය උපදින්නෙ මරණය මොහොතෙ. පුදුම සහගත

දේ ඒකයි. එතකොට ඔබ හිතන්න සමහර අය පසුගිය කාලෙ කලබල අස්සෙ සතර අපාය ගැන කියන්න ගියා, මේ බය වෙලා ඉන්න අතරෙ මොන අපායක් ගැන කියනවාද කියලා. නමුත් සමහර අයට බය තැතිගැනීම් උපදිච්ච වෙලාවෙ තමයි සතර අපා බය කියන එක තේරෙන්නෙ. මරණයේ භය, සසරේ භය, උපදින්න තියෙන භය, ඒක තේරෙන්නෙ කරදරේකට පත්වෙන්න ඕන. දැන් අර බලන්නකොට කපිලවස්තුවේ අතපය කපපු කන්‍යාවියො පන්සිය ශාක්‍ය කුලයේ, කුමාරයා. එතකොට බුදුරජාණන් වහන්සේට තිබ්බනෙ ඒ ශාක්‍ය කුමාරිකාවොන්ට ඊට කලින් බණ කියන්න. එහෙම බණ දේශනා කලේ නෑ. අතපය කපලා එක මස් ගොඩක් විදියට දාලා තියෙන වෙලාවෙ තමයි ඒ භික්ෂූන් වහන්සේ නමක් දහම් දෙසුවෙ. එතකොට තමයි අවබෝධ වුනේ. ඒ නිසා සමහර අයට ධර්මය අවබෝධ කරගන්න හොඳ බැට ටිකක් කන්න ඕන. හොඳට බැට කන්න ඕන. එතකොට තමයි යාන්තම් මේ ධර්මයේ පිහිට තේරෙන්නෙ. ඉතින් ඒ නිසා තමයි කරදර අස්සේ නමුත් මේ ධර්මය දේශනා කරන්නෙ. ඉතින් දැන් බලන්න, මේ වෙලාවෙ අද මරණය ඈගෙ. බුදුරජාණන් වහන්සේ ඉස්සරහ පිණ්ඩපාතෙ වැඩියා, ඈ ඒ වෙලාවෙ තල වේල වේල හිටියේ. ඉතින් බුදුරජාණන් වහන්සේ දැක්ක ගමන් පුදුම පැහැදීමක් ඇතිවුනා. ඊටපස්සෙ අර වේලපු තල ටිකක්ම අරන් බුදුරජාණන් වහන්සේගේ පාත්‍රයට පූජා කරලා වැන්දා, හරිම සතුටින් හිටියා, අනේ මේ දෙවියන් බඹුන් වඳින රජවරු පවා වඳින ලෝකයේ ප්‍රසිද්ධ වෙලා ඉන්න ඒ සුන්දර ශ්‍රමණයන් වහන්සේ රජගහනුවරට වැඩලා මං ජීවිතේට හිතුවෙ නෑ ඒ උත්තමයා දැකගන්න ලැබෙයි කියලා අනේ අපේ ගෙදර දානෙට වැඩියානෙ. මට ඉතින් තිබ්බෙ තලනෙ, ඒවා හරි පූජා කලා කියලා සන්තෝසෙන් හිටියා. ඊටපස්සෙ එදා හවස් කාලයේ ඈ ගර්භනී මාතාවක්, එහෙම්මම මැරුණා. ඉතින් මැරිලා ගිහිල්ලා තමයි මේ දෙව්ලොව ඉපදුනේ. තව්තිසාවෙ. හිටියෙ කොහෙ යන්නද, නිරයේ යන්න. දැක්කද බුදු කෙනෙකුට දානෙ පූජා කිරීමේ, වන්දනා කිරීමේ ආනිසංසය. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දිව්‍ය විමානය දැක්කෙ. පින්වත් දෙව්දුව ඔබ ඔය සුන්දර රූපෙන් බැබලෙමින් ඉන්නේ, හැම දිසාවෙම බැබලෙන ඕෂධී තාරකාවක් වගේ. ඕෂධී තාරකාව කියන්නෙ ඉරබටු තරුව වගේ විශාල ආලෝකය විහිදෙන හැම දෙනාටම පේනවා කියන එක. ඇත්තෙන්ම මෙහෙම ලස්සනක් කොහොමද ලැබුනෙ. මෙච්චර ප්‍රිය උපදවන දිව්‍ය සැප. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ මේ කාරණාව අහනකොට කියනවා, අතීතයේ මං මනුස්ස ලෝකයේ මනුස්ස දුවක් වෙලා හිටියා. ඉතින් මට බුදුරජාණන්

වහන්සේව දැකගන්න ලැබුනා. උන්වහන්සේ කැළඹිලා නෑ, අතිශයින්ම ප්‍රසන්නයි, කෙලෙසුන්ගෙන් තොරයි, දන් පැන් ලැබීමට සුදුසු වූ බුදුරජාණන් වහන්සේ ගැන මං පැහැදීමෙන්මයි හිටියේ. දානෙට පූජා කරගන්න මොනවත් තිබුනෙ නැති නමුත් මම අකමැත්තෙන් නමුත් මං මේ දැතින් තල දෝතක් පූජා කලා. ඒ කියන්නෙ එයාට පූජා කරන්න වෙන දෙයක් තිබ්බෙම නෑ. හොඳයිද නැද්ද දන්නෙත් නෑ, තල ටිකක් අමුවෙන් පූජා කරන එක. ඉතින් පූජා කලා. ඒ පිනෙන් තමයි මට මෙච්චර දිව්‍ය සැපක් ලැබුනේ කියනවා. ඉතින් ඒ නිසා මුගලන් මහරහතන් වහන්සේ ඇයට දහම් දෙසුවා. ඇට ගෞතම ශාසනයේ ධර්මයේ පිහිට සැලසුනා. කොච්චර ආනිසංසයක්ද කියලා බලන්න. කොච්චර ආනිසංසයක්ද කියලා බලන්න. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඒ මුගලන් මහරහතන් වහන්සේ ඇයට දහම් දේශනා කරද්දි ඇය ඒ ධර්මයේ පිහිට සලසාගත්තා. බලන්න මනුස්ස ලෝකයේ බුදුරජාණන් වහන්සේ ඇයට දහම් දෙසන්න ගියෙ නෑ. ඒ කියන්න ඇයට හැකියාව තියෙන්නෙ හිත පහදවගන්න විතරයි. අන්න ඔය කාරණාව සත්පුරුෂයන්ට හොඳට තේරෙන නිසා තමයි මහමෙව්නාවේ වුනත් ධර්මයක් දේශනා කරනවා, ස්ථූප තියෙනවා, බෝධි තියෙනවා, විහාර තියෙනවා, සමහර අයට බණ අහලාම ධර්මය තේරෙන්නෑ, ඒ අයට පිහිට සලසාගන්න පුණ්‍ය සංස්කාර නෑ. ඒ අයට චෛත්‍ය පූජා, බෝධි පූජා, විහාර පූජා, එහෙම තමයි එක එක්කෙනාට හරියන්නෙ. ඉතින් මහමෙව්නාව කියන්නෙ ඒ හැම සංස්කාරයක්ම තියෙන ඕනම කෙනෙකුට දහමේ පිහිට සලසාගන්න පුලුවන් විදියෙ පරිසරයක් තියෙනවා. මේ ඇත්ත කතාව කියන්නෙ. ඉතින් චෛත්‍ය වඳින්න පුලුවන්. බෝධි වඳින්න පුලුවන්, දන් පැන් පූජා කරන්න පුලුවන්, වෙහෙර විහාර හදන්න පුලුවන්. බණ දහම් ඉගෙන ගන්න පුලුවන්, පොත්පත් කියවන්න පුලුවන්. ඊළඟට භාවනා තියෙන වැඩසටහන් තියෙනවා, ඒවට සහභාගී වෙන්න පුලුවන්. සති භාවනා තියෙනවා, පැවිදි බව තියෙනවා, ඊළඟට ධර්මය දේශනා කරන්න අවස්ථාව තියෙනවා, භාවනා පුරුදු කරන්න අවස්ථාව තියෙනවා. කොච්චර මේ බුද්ධ ශාසනයෙක් පිහිට ගන්න සුන්දර තැනක් විදියට තියෙනවාද. ඉතින් ඒ නිසා ඒවා සත්පුරුෂයො තමයි ලෝකෙට දායාද කලේ. ඉතින් එක එක්කෙනාට පුලුවන් දේවල්. ඉතින් ඒ නිසා පින්වතුනි ඔන්න ඔයවාගේ විමානවස්තුත් තියෙනවා. ඊළඟට තියෙන දිව්‍ය විමානයේ, මේක නම් හරී අගෙයි, ඒ තමයි මේ විමානයහරිම ලස්සනයි. ලස්සන මල් පිරිලා තියෙනවා. හරී රූප සෝභා ඇති දෙව්වරුන් දිව්‍යාංගනාවන් නිතරම ගැවසෙනවා. කොස්වාලිහිණියන්, දිව්‍ය

මොණරුන්, දිව්‍ය හංසයන් පිරිලා ඉන්නවා. කෝකිලයන්ගේ මධුර වූ හඬ හැමතැනම පැතිරෙනවා. දිව්‍ය ලෝකෙත් සත්තු සිව්පාවො ඉන්නවා හැබැයි මේ අය කර්මානුරූපවයි. කර්මානුරූපව කියන්නෙ අපායෙ විස්තරේ ඉගෙනගන්නකොට දැක්කා නේද ඒ ගිජු ලිහිණියෝ උකුස්සෝ ඒ කෙනාගෙ පාපෙට අනුවනෙ හැදෙන්නෙ. ඒ වගේ තමයි මෙතන මේ දිව්‍ය විමානයේ ඒ දිව්‍ය සත්තු ඇහැට ප්‍රිය උපදවන, කණට මිහිරි හඬ ගෙනත් දෙන සුන්දර දර්ශනයක්ව පවතින ඒ සතා සිව්පාවා ඒ දිව්‍ය විමානයේ ඉන්න කෙනාගේ පිනට පහළ වෙන්නෙ. එතකොට ඒ දෙවියා ඒ විමානයෙන් චුත වෙච්චි ගමන් මේ ඔක්කොම අතුරුදහන් වෙනවා. ඉතින් කියනවා, දැන් ඔය කියන්නෙ සමහර වෙලාවට තාත්තා ඉද්දින් මේ ගෙදර පුදුම ලස්සනට තිබ්බා. තාත්තා නැතිවුනත් හරි මේ ගෙදර පාළු වෙලා ගියා. ඒකෙ හේතුව තමයි තාත්තගෙ පිනට තමයි ඒ ගෙදර එළිය වෙලා සතුටින් පිරිලා තිබ්බෙ. ඒ පින තියෙන කෙනා නැතිවෙච්ච ගමන් ආයෙ මූසල වෙලා යනවා. ඉතින් ඒ නිසා මේ පින්වල ස්වභාවය. ඊටපස්සෙ තියෙනවා පින්වත් දෙව්දුව ඔබ මහානුභාවසම්පන්නයි. එක එක විදියෙ ස්වරූප ඇති ඍද්ධි ප්‍රාතිහාර්යය දක්වනවා. එයාට ගොඩාක් ඍද්ධි තියෙනවා. ඊටපස්සෙ දිව්‍ය අප්සරාවන් නටනවා, ගී කියනවා, සතුටු වෙනවා. මහානුභාවසම්පන්න දෙව්දුව, ඔබ මහා ඍද්ධිමත් කෙනෙක්. මේ වාගේ නම්, මේක නම් පුදුම පිනක් කිව්වා. මොකක්ද ඇහුවා කරපු පින. ඊටපස්සෙ කිව්වා, හරි ලස්සනයි. අහං මනුස්සේසු මනුස්ස භූතා පතිබ්බතා නාඤ්ඤමනා අහෝසිං, කියනවා මං මනුස්ස ලෝකෙ මනුස්ස දුවක් වෙලා ඉද්දි මං කරපු ලොකුම පින තමයි පතිවෘතාව රැක්කා කිව්වා. මගේ තිබ්බ ජීවිතේ එකම විශේෂ ගුණය තමයි කිව්වා පතිවෘතාව රැක්කා කිව්වා මං. වෙන මනුස්සයෙක් ගැන හිතුවෙ නෑ කිව්වා. පතිවෘතාව රැකපු අය දිව්‍ය ලෝකෙ ඉපදුනාට පස්සෙ පින්වතුනි අනිත් දෙවිවරු පවා හිස නවනවා. දැන් මෑගෙ උපස්ථානෙට දෙවිවරුත් එනවා. මෑ ස්ත්‍රියක්. දැන් බලන්න ඇහැට කණට ප්‍රියමනාප දේවල්ම විමානයේ හටගත්ත හැටි. ඒ කියන්නෙ ස්වාමියෙකුට බිරිඳකගෙන් ලැබෙන ප්‍රියමනාපම වස්තුව තමයි ඒ ස්වාමියාව ඉක්මවන් නැති එක. වෙන පිරිමියෙක් ගැන වෙන මිනිස්සු පිටිපස්සෙ යන්නැති එක. ස්වාමියාගේ ප්‍රියමනාපම වස්තුව දීමේ විපාක විදියට දිව්‍ය ලෝකෙ වෙන කිසිම දෙවිවරුන්ට නැති ප්‍රියමනාප වස්තු තියෙනවා. පතිවෘතාව රැකපු කාන්තාවකට සසරේ උපදිද්දි වෙන කෙනෙකුට බනින්වත් හිතෙන්නෑ කියනවා එයාට. එච්චර ආනුභාවයක් තියෙනවා පතිවෘතාව සහ බඹසර, කුමරි බඹසර

රකිනවා. ඒ කියන්නෙ විවාහ වෙනකල් කාම සේවනයක් තනියෙන් හෝ බාහිර කෙනෙක් සමඟ කරන්නෑ. ඊටපස්සෙ විවාහ වුනාට පස්සෙ ස්වාමියාව ඉක්මවා හැසිරෙන්නෑ. ඒ බඹසර ඒ පතිවෘතාව කොච්චර බලවත්ද කියනවානම් දිව්‍ය ලෝකෙ ඉපදුනාට පස්සෙ දෙවිවරු පවා ඇයට යටත් වෙනවා. මනුස්ස ලෝකෙ ඉපදෙද්දි ස්වාමියාටවත් කටක් ඇරලා වචනයක් කියන්න හිතෙන් නෑ කියනවා එයාට ඒ පින් බලේට. අද ගෙවල් වල දෙපැත්තට තෝ තෝ කියලා රණ්ඩුසරුවල් වෙන එකේ සද්දෙට වචන පිටකරගැනීමේ විපාක තමයි සංසාරෙ බඹසර රැකලා නෑ. ඒවගේ විපාක තමයි එකිනෙකා යට කරගනිමින් නපුරු වචන කියමින් වාසය කරනවා. මේ බලන්න මේ දෙව්දුව, මම කරපු එකම පින තමයි කියනවා පතිවෘතා රැකපු එක. ඊටපස්සෙ කියනවා මාතාවො පුත්තං අනුරක්ඛමානා, මං මගේ ස්වාමියාව රැක්කෙ එකම පුතා රකින අම්මා කෙනෙක් වාගේ කියනවා. මේ මාතු භරියා. මං මගේ ස්වාමියාව දැක්කෙ මගේ දරුවෙක් වගේ කියනවා. කොහොමද. ඊටපස්සෙ කියනවා, කුද්දා පහන් නපරුසං අහෝච, මනුස්සයා කරන වැඩ නිසා මට තරහා ආපු අවස්ථා තියෙනවා කියනවා. කවදාවත් මං කටින් සැරට වචනයක් කියලා නෑ කියනවා, මගේ හිතට තරහා ආවත්. මෙන්න පින්, මෙන්න කුසල්. ස්වාමියා කරන වැරදි වලට සමහර විට පුදුම තරහක් එනවා කියනවා හිතට, නමුත් කවදාවත් සැරට වචනයක් කියලා නෑ කියනවා. ඊටපස්සෙ ඒකෙ තියෙනවා සච්චේ ඨිතා මෝස වජ්ජං පහාය, මං ඇත්ත, මගේ මනුස්සයාට බොරුවක් නම් මං කියලා නෑ කියනවා, මං ඇත්තම කතා කලා කියනවා. ඊටපස්සෙ ධානිරතා සංගහිත්තභාවා, මම දන් දුන්නා, ස්වාමියාට හොඳට කන්න බොන්න දුන්නා. ගෙදර ඉන්න අයට හොඳට කන්න බොන්න දුන්නා, හොරෙන් කෑවෙ නෑ මං. ජීවිතේට මම ස්වාමියාට නොදී හොරෙන් කාලා නෑ කියනවා. ගෙදර ඉන්න මිනිස්සුන්ට මං හොඳට කන්න බොන්න දුන්නා කියනවා, හංගලා නෑ කියනවා. කොහොමද. මෙන්න ස්ත්‍රීන්. මෙන්න ගුණවත් කාන්තාවන්. මේ ගුණ තියෙන අයනෙ දෙව්ලොව යන්නෙ. ඊටපස්සෙ තියෙනවා අන්නංච පාණංච පසන්නචිත්තා, මනුස්සයෙකුට කන බොන කෑම ටිකක් දුන්නත් පැහැදිලා දුන්නෙ. කුටු කුටු ගගා මුහුණ එල්ලගෙන මං දිලා නෑ කියනවා. මනුස්සයාටත් මූළු එල්ලන් ආ කනවා, ආ බොනවා කියලා එහෙම නෑ කියනවා. තේ කෝප්පයක් දුන්නත් අත් දෙකෙන් දෙන්නෙ. මහත්තයා මේක බොන්න කියලා. තේ එක මේසෙ උඩ තියලා ආ මේක බොනවා, මේ හිඟන්නෙකුට දෙනවා වගේ, එහෙම දීලා නෑ. මේ විපාක තමන්ට එන්නෙ. දැන් බලන්න මනුස්සයාටයි යටත්

වෙලා හිටියෙ, මේ ජීවිතේ මේ අවුරුදු කීයක්ද මේ, මනුස්සයාට යටත් වෙලා හිටියා. දෙව්ලොව ගියාට පස්සෙ දිව්‍යලෝකෙ දෙවිවරුන් ඈට යටත්. ඈට යටත්. ඊටපස්සෙ කියනවා සක්කච්ච දානං වෙප්පුලං අදාසි, මම කෑමක් බීමක් හැදුවත් හොඳට පිළිවෙලට හදලා දෙන්නෙ කියනවා. දිය රහට නෙවෙයි කියනවා. හොඳට තියෙන එක හොඳට හදලා දුන්නා කියනවා. මිනිස්සුන්ට දුන්නා කියනවා. කාටද මොනවද දෙන්නෙ තියෙන්නෙ, දුන්නා කියනවා. හංඟ ගැනිලි නෑ. හරි ලස්සන ජීවිතයක්. මෙන්න දිව්‍යලෝකෙ යන පින්. ඊටපස්සෙ තේන මේ තාදිසෝ වන්නෝ, තේන මේ ඉදමිජ්ඣති, මේක තමයි මගේ ලස්සන බැබලෙන පැහැයේ පුණ්‍ය විපාකය. වෙනත් දෙවිවරුන්ට නැති දිව්‍ය සෘද්ධි තියෙනවා මේ දිව්‍යාංගනාවට. ඊටපස්සෙ කියනවා උප්පජ්ජංති මේ භෝගා යේ කේචි මනසෝපියා, මට මොනවාහරි භවබෝග ලැබෙනවා නම් ප්‍රියමනාප, ප්‍රිය උපදවන දේවල්මයි කියනවා ලැබෙන්නෙ. අකමැති කිසි දෙයක් නෑ. ඒකනේ අපි කියන්නෙ මනුස්සයාට ප්‍රියමනාප විදියට කතා කරනකොට ඉවසලා ඉන්නකොට මනුස්සයාගෙ හිත, මෙයා මෙච්චර සලකද්දි මනුස්සයා මෙයාගෙ හිත රිද්දලා තියෙනවානෙ. මෙයාට ගොඩාක් තරහා ආපු අවස්ථා තියෙනවානෙ. හැබැයි වචනයක් කියලා නෑ. කොහොමද විපාකය ආපු හැටි. වෙන දෙවිවරුන්ට නැති සැප මෙයාට ලැබිලා තියෙනවා. ඊටපස්සෙ ඒ නිසා තමයි මේ ඔක්කොම කියනවා. අනේ ස්වාමීනි, ඔන්න ඕක තමයි කියනවා මං කරපු පින. මුගලන් මහරහතන් වහන්සේ මැට දහම් දෙසුවා. මෑ සෝවාන් වුනා දිව්‍ය විමානෙම. මොකක්ද ලොකුම පින? ස්වාමියාට යටත් වෙලා ඉන්න එක. පතිවෘතාව. අද ඉඳලා පුරුදු කරගන්න ගුණධර්ම පින්වතුනි, දැන් ඒකනෙ කියන්නෙ කොච්චර මේ දහම් දෙසනවාද. මේ ධර්මය පුරුදු කරලා පින්වතුනි දෙව්ලොව ගියොත් ඒ ආනුභාව සම්පන්න සත්පුරුෂ දෙවියන්ගේ දහම් අසද්දි එහෙම තමන්ට ජීවිත අවබෝධයක් කරා යන්න පුලුවන්. මේ උදාහරණ තියෙන්නෙ. මේ උදාහරණ තියෙන්නෙ. ඉතින් ඒ නිසා පින්වතුනි මෙච්චර කරදර කම්කටොළු මැද්දෙ මෙච්චර බණදහම් ඉගෙනගෙන ආසාවෙන් සංසාර දුකින් නිදහස් වෙන්න කැමැත්තක් තියෙනවානම් ඔබට ඔබ කරන යහපත් ගුණධර්මත් එක්ක සත්පුරුෂයන්ගේ ඇසුරට වැටුනට පස්සෙ ඔබ අනිවාර්යයෙන් දහමෙන් ප්‍රයෝජනයක් ගන්න කෙනෙක් බවට පත්වෙනවා. බුද්ධ ශාසනයේ පිහිට නැතිවෙලා නෑ පින්වත්නි. ඒ පිහිට ලබාගන්න පුලුවන්, මනුස්ස ලෝකයේ වේවා, දිව්‍ය ලෝකයේ වේවා. පතිවෘතාව ඒ සා විපාකයි. ඊළඟ දිව්‍ය විමානෙත් ඒ වගේ එකක්. ඒ දිව්‍ය විමානෙ වෛරෝඩි මාණික්‍ය වලින්

සරසලා ලස්සන කැටයම් තියෙනවා. ප්‍රභාශ්වරයි. ඒ විමානෙට නැගගත් ඔබ සිතූ සිතූ පරිද්දෙන් එක එක විදියට ඍද්ධි ප්‍රාතිහාර්යයන් දක්වනවා. ඔබව වටකරගෙන සිටින මේ දිව්‍ය අප්සරාවන් නටනවා. සතුටු කරවනවා. එච්චර අෑ ඒ අධිපති දිව්‍ය විමානයේ. මහානුභාව ඇති පින්වත් දෙව්දුව ඔබ ඍද්ධිමත් කෙනෙක්. මිනිස් ලෝකෙ මොකක්ද කරපු පින, අනෙක් දෙවිවරුන්ට වැඩිය ඍද්ධිය වැඩි ඇයි. ඊටපස්සෙ කියනවා අනේ ස්වාමීනී, අහං මනුස්සේසු මනුස්ස භූතේසු උපාසිකා චත්තුමතෝ අහෝසී, මං මනුස්ස ලෝකෙ ඉද්දින් බුදුරජාණන් වහන්සේගේ උපාසිකාවක්, තෙරුවන් සරණ ගිය. දැන් බලන්නකො මේ වචන පවා, උපාසිකා චක්කුමතෝ අහෝසි, මං චක්කුමතයන් වහන්සේගේ ඇස් ඇතියාණන් වහන්සේගේ බුදුරජාණන් වහන්සේගේ උපාසිකාවක්. අද කියන්නෙ මොකක්ද මං අහවල් පන්සලේ උපාසිකාවක්. එහෙම නෙවෙයිද කියන්නෙ අද කාලෙ. අහවල් ගමේ උපාසිකාවක්. අහවල් හාමුදුරුවන්ගෙ දායිකාවක්. එහෙම නේද කියන්නෙ. මෙන්න වෙනස. මම බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවක්. හරි ලස්සනයි. වචනයේ පවා තියෙනවා පින්වතුනි ඒක. ඊටපස්සෙ තියෙනවා පාණාතිපාතා විරතා හෝතිං, මං සත්තු මැරුවෙ නෑ. ලෝකෙ අදින්නං පරිවජ්ජයිස්ස, මම හොරකම් කලේ නෑ. අමජ්ජපානෝච මුසා අභාසිං, මං සුරාව ගත්තෙ නෑ, බොරු කිව්වෙ නෑ. සකේන සාමිනාව අහොසිං තුට්ටත්වා, මං මගේ ස්වාමියාගෙන් විතරයි සතුටු වුනේ, වෙන මිනිහලා ගැන පෙරේතකම් කලේ නෑ. අන්නංච පානංච පසන්නචිත්තා, පැහැදුනු හිතින් තමයි මනුස්සයෙකුට කෑමක් බීමක් දුන්නත් දුන්නෙ. සක්කච්චං දානං විපුලං අදාසි, දෙන දේ පිළිවෙලට දුන්නා. තේන මේ තාදිසෝ තේන මේව මිජ්ජති උප්පජ්ජන්ති මේ භෝගා මනසෝපියා, දැන් මේ බලන්න කිව්වා මේ ඍද්ධිය, සැපය, මට කැමති දේ උපදිනවා කිව්වා මේ විමානෙ. මෑ මොකක්ද කරලා තියෙන්නෙ පන්සිල් රැකලා. පන්සිල් පද පහ රැකලා. ඒ වගේම තෙරුවන් සරණ තිබ්බා. තෙරුවන් සරණ තිබ්බා කියලා හොඳටම පැහැදිලියි, ඇයි කියන්නෙ මම බුදුරජාණන් වහන්සේගේ උපාසිකාවක්. අහවල් පන්සලේ දායිකාවක්වත්, අහවල් හාමුදුරුවන්ගේ දායිකාවක්වත්, ඒ කතා නෑ. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවක්. කොච්චර ලස්සනද ඒ වචනය. ඉතින් බලන්න ඒ පිනේ විපාක කියනවා මං හැම දිසාවම බබලනවා කියනවා. අනිත් දෙවිවරු මාගේ යටතේ ඉන්නෙ කියනවා. මේත් දෙවෙනි පතිව්‍රතාව රැකපු දෙවඟනගේ විමානය මේ. මුගලන් මහරහතන් වහන්සේ දහම් දෙසුවා, අෑ දහමේ පිහිට සලසාගත්තා. අදටත් දිව්‍ය සැප විඳිමින් ඉන්නවා. අවුරුදු

තුන්කෝටි හැට ලක්ෂයයි මේ දිව්‍ය විමානයේ ආයුෂ. ඉතින් සමහර වෙලාවට මේ ආයුෂ ඉවරවෙලා ආයෙත් දෙවඟනක් වෙනවා. පුදුම, මේ බුද්ධ ශාසනයේ කරන පින් සුලුපටු ඒවා නෙවෙයි. බුද්ධ ශාසනයේ සංඝයාට එක දන් හැන්දක් පූජා කරලා රැස් කරගත්ත පින් බුදුරජාණන් වහන්සේ නැති කාලෙක අසංඛෙය්‍යක් ජීවිතේ හිටියත් ඒ කියන්නෙ කල්ප අසංඛෙය්‍යක් හිටියත් බුදුවරු නැති කාලෙක බුද්ධ ශාසනයේ දන් හැන්දක් පූජා කරන පින අර කල්ප අසංඛෙය්‍යටම රැස් වෙන්නෑ. ඒකයි පින්වතුනි, අපි මේ පෙරේතකමට කියනවා නෙවෙයි දන් දෙන්න, දන් දෙන්න, කුසල් කරන්න කියලා. මේ බුද්ධ ශාසනයේ කරන පින් සුලුපටු දේවල් නෙවෙයි. අනිත් එක මනුස්සයෙක්ගෙ හිතක් පැහැදිලා සන්තෝසයෙන් දන් දෙන්න ලැබෙන්නෙ කොච්චර කලාතුරකින්ද පින්වතුනි. කොච්චර මිනිස්සු දෙන අය ඉන්නවද, දීලා කුටු කුටු ගානවා. දීලා හිතේ කිසිම සතුටක් නැති, පින කියන එක හිතට දැනෙන්නැති අය කොච්චර ඉන්නවාද. ඉතින් පිනක් කරලා ඒක හිතට දැනෙන්න ඒක මනසිකාරයක් කරගන්න බෑ, මොකක්හරි මරාලයක් කඩාපාත් වෙනවා. තමන් උදව් කරපු තැනින්ම තමන්ගෙ හිත රිද්දනවා. එතකොට මිනිස්සු ශක්තිමත් නෑ අර කරපු පින ගැන හිතලා සතුටු වෙන්න. ඔය විදියට ගොඩාක් මිනිස්සුන්ට පුණ්‍ය සංස්කාර අහිමි වෙලා යනවා. ඉතින් ඒ නිසා බලන්න මේ පින්වල විපාක. පින්වතුනි තව තියෙනවා දිව්‍ය විමානයක්. ඒ දිව්‍ය විමානෙත් ගොඩාක් සන්තෝෂෙන් ඉන්න දිව්‍යාංගනාවක්, හැබැයි මේ ඔක්කෝම දිව්‍යාංගනාවො ඉතින්. තවම හම්බුන්නෑ පිරිමි දෙවි කෙනෙක්. ඔක්කොම දිව්‍ය අප්සරාවො එතකොට දැන් පේනවා දිව්‍යලෝකෙත් සමහර වෙලාවට පින් වැඩි දිව්‍යාංගනාවො ඇලා තමයි ඉතින් මේ දිව්‍ය විමානයේ අධිපති. ඊටපස්සේ මෑ කරපු පින තමයි ඒ දිව්‍යාංගනාව, මනුස්ස ලෝකෙ ඉද්දින් ස්වාමීන් වහන්සේනමක් පිණ්ඩපාතෙ වැඩලා, දෙන්න මොනවත් තිබිලා නෑ. ඈ කරලා තියෙන්නෙ, ගෙදර කැවුමක් තිබිලා, ඒ කැවුම පූජා කරලා. ඒ පිණ්ඩපාතෙට උදේට තිබ්බ කෑම ඇයට කැවුමක් විතරයි. ඒක පූජා කරලා. ඒ පින් බලයෙන් දෙව්ලොව ආවා. ඉතින් මුගලන් මහරහතන් වහන්සේට කියනවා ස්වාමීනී මං කරපු පින එච්චරයි. මට පුදුමයි කියනවා ස්වාමීනී, නිදුකාණන් වහන්ස එක කැවුමක් පූජා කරලා මට මෙච්චර සැපසම්පත් ලැබුනේ කොහොමද කියලා. ඒකාන්තයෙන්ම මේ බුද්ධ ශාසනයේ පින් කරන එකනම් ශ්‍රේෂ්ටයි කියනවා. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ ඈට දහම් දේශනා කරනවා. ඒ ධර්මයේ පිහිට පිලිසරණ ලබාගන්නවා. ඊළඟට තියෙන දාහතර වෙනි විමානවත්ථුවත්

ඒකෙත් ඒ දිව්‍යාංගනාව කරලා තියෙන, අප්‍රමාණ සැප විඳිනවා. ඒත් කරලා තියෙන පින තමයි, ඒ අතීතයේ ජීවිතේදින් මං මනුස්ස ලෝකෙ මනුස්ස දුවක් වෙලා මාමණ්ඩියගේ ගෙදර ලේලියක් හැටියටයි හිටියෙ. ඉතින් මට ස්වාමීන් වහන්සේ නමක් දැකගන්න ලැබුනා. උන්වහන්සේ කැළඹිලා නෑ, අතිශයින්ම ප්‍රසන්නයි. කෙලෙසුන්ගෙන් තොරයි. මං උන්වහන්සේ ගැන ගොඩාක් පැහැදුනා. මෙයා පූජා කරලා තියෙන්නෙ කැවුමක් නෙවෙයි, මෙයි පූජා කරලා තියෙන්නෙ පිට්ටු. උම්මාසපිංකං දක්වා මෝදාමි නන්දනි, මං පිට්ටු ඩිංගිත්තක් මං උදේට දානෙට තිබ්බෙ, මං ඒක පූජා කලා. ඒ පින් බලයෙන් මං දැන් සැනසිල්ලෙ ඉන්නෙ කියනවා. තේන මේ තාදිසෝ වන්නෝ තේන මේ දිච්ඡතීති, මං මේ වර්ණයනේ සෘද්ධියෙන් සැප විඳින්නේ මට කැමති කැමති භවබෝග මේ දිව්‍ය විමානයේ උපදින්නේ එක ස්වාමීන් වහන්සේ නමකට උදේට මට තිබ්බ කෑම පිට්ටුවක් පූජා කලා. ඒකෙ පින් බලේට කියනවා. ඉතින් ස්වාමීනී මනුස්ස ලෝකෙ ඕකයි මං කරගත්ත පින කියනවා. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ ඇට බණ කියනවා. ඇය ඒ ධර්මයේ පිහිට පිළිසරණ සලසාගන්නවා. පුංචි දෙයක් වුනත් හිත පැහැදීමෙන් දුන්නොත් එහෙම ලැබෙන විපාකය දෙස බලන්න. සමහර විට ඇයට මේක මෙච්චර දැනෙන්න ඇත්තෙ එකක් තමයි අර ස්වාමීන් වහන්සේගේ සංවරකම, සමහර ස්වාමීන් වහන්සේලා දැක්කම එකපාරම මතක හිටිනවානෙ. ඒ ස්වාමීන් වහන්සේගේ සංවරකම. ඊළඟ එක තමයි සමහර විට මෑ එදා උදේ බඩගින්නෙ ඉන්න ඇත්තෙ. එතකොට තමන් බඩගින්න ඉඳලා දෙන දානෙ ජීවිතේම මතකයි. ඔබත් කවදා හරි දවසක ඔබට බඩගින්නේ ඉඳලා යම්කිසි කෙනෙකුට යමක් දෙන්න ලැබුනොත් එහෙම ඒ කියන්නෙ ඒක දුන්නොත් බඩගින්නෙ ඉන්න සිද්ධ වෙනවා. ඒ වගේ අවස්ථා මහගැර ගන්න එපා. ඒවා අහඹු අවස්ථා. ඒවා ආයෙ එන්නෑ ජීවිතේට. බඩගින්නෙ ඉඳලා දන්දෙන එක. එතකොට අපිට දාන දාහක් අතරෙ අර බඩගින්නෙ ඉඳලා කරපු පින මතකෙට එනවා. පින කියන්නෙ පුදුම සහගත දෙයක්. සමහර විට අපි කරන්නෙ චූටි දෙයක්. විපාකෙ මහා විශාලයි. අපි මේ සරුසාර කුඹුරෙ බුද්ධ ශාසනය නැමැති කෙතේ අපි නුග ඇටයක් වගේ චූටි දෙයක් පැළ කරන්නෙ. නමුත් ඒ නුග පැළේ පැළවෙලා විශාල රුක්ෂ වනස්පති වෘක්ෂයක් බවට පත්වෙනවා. ඒ වගේ තමයි විපාකය හිතාගන්නවත් බෑ. ඉතින් ඒ නිසා ඔය විදියට තමයි අද අපිට මේ කාලය ඇතුලත කතා කරගන්න තියෙනව දෙවිවරුන්ගේ දිව්‍ය ස්වභා. මේවා තේරුම් ගන්න. මේවා පොතෙන් බලලා විමානවත්ථු පොත ගෙන්නගන්න, මහමෙව්නාවෙ තියෙනවා

පරිවර්තන පොත්. ඊටපස්සෙ ඔය විදියට ගෙන්න ගෙන ඒ විමානවත්ථුවෙ බලලා මෙන්න කරපු පින් ටික, දිව්‍ය ලෝකෙ යෑම පිණිස කරපු පින් ටික බලන්න. විපාක බලන්න. එතකොට ඒවා බල බලා තමන්ගෙ ජීවිතේ පින් කුසල් පුරුදු කරන්න. සමහර අය ඉන්නවා පින් කරන්න දන් නෑ, මොකක්ද මං කරන පින කියලා අහනවා. හාමුදුරුවනේ මොකක්ද දැන් අපි කරන්න ඕන පින්කම් කියලා අහනවා. මේ තියෙන්නෙ පින්කම්. ඒ නිසා මනුස්සයෙක් විදියට කරන්න පුලුවන් පින්කම් ලැයිස්තුගත කරගන්න. හැම පිනක්ම කරගන්න. අපේ ජීවිතේ ටික කාලයයි තියෙන්නෙ. මේ කරදර දැන් මේ ව්‍යසන පේනවා නේද මනුස්ස ජීවිත වලට වෙච්ච හානි. මිනිස්සුන්ගෙ ඇතිවෙන බය තැතිගැනීමේ පේනවද. බලන්න මොහොතකටහරි මේ පින් ගැන අහනකොට හිත සතුටුවෙනවානෙ. අපි දැන් කොරෝනා ගැන විස්තර අහලා අපේ හිතේ ලොකු සංවේග බය තැති ගැනීම් එනවා ඒ විස්තර අහනකොට. දැන් බලන්න මේ පින් ගැන අහනකොට අපේ හිත එහෙම්මම සන්සිඳිලා යනවා. අපි කරපු පින් මතක් වෙන්න ගන්නවා. තව පින් කරන්න ඕන කියලා හිතෙනවා. මේ තමයි ධර්මයේ තියෙන ආශ්වයයී. ඒ නිසා ඔබ සියලු දෙනාගෙ ජීවිතය පිනෙන් පිරේවා කියලා අපි එක හිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා. ඉතින් අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප සදහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ මාතර පදිංචි පින්වත් කේ.එස්. තිළිණි සෙව්වන්දි මහත්මිය විසින්. ඉතින් ඇගේ විශේෂ ප්‍රාර්ථනාවක් තමයි ලක්දෙරණට ලෝකයට ව්‍යසනයක් වූ මේ කොරෝනා වසංගතය මිහිමඬලෙන් තුරන් වේවා. සියලු මනුස්ස වර්ගයාට යහපත නිදුක් නිරෝගී සුව සැලසේවා කියන අදහස ඉතින් අපි රැස් කරගත්ත සියලූම පින් බලයෙන් මේ කොරෝනා වසංගතය දුරින්ම දුරු වෙලා මනුස්ස වර්ගයාට යහපත සැනසිල්ල රැකවරණය සැලසේවා කියන අදහස අපි සිහි කරනවා. ඉතින් මනුස්ස වර්ගයාට මේ ලෝකයට, අපේ ලක් දෙරණට සියලු ආරක්ෂාව සැනසිල්ල සැලසේවා කියලා අපි පින් පමුණුවනවා ආශිර්වාද කරනවා. ඒ වගේම පින් අනුමෝදන් කරනවා පින් කැමැති සියලු දෙවිවරුන්ට, දෙවියන් මේ පින් අනුමෝදන් වෙත්වා, දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. මේ පින්වතුනුත් ඒ වගේම අපගේ මව්රට ලෝකයත් ආරක්ෂා කරත්වා දෙවිවරු, මේ පින් අනුමෝදන් වේවා කියලා දෙවියන්ට පින් පමුණුවනවා. ඒ වගේම පින් පමුණුවනවා මියපරලොව ගිය බුද්ධිකා අලහකෝන් මෑණියන්ට මේ පින් අනුමෝදන් වේවා. ඒ බුද්ධිකා අලහකෝන් මෑණියන් ඇතුලු ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම මේ රැස් කරගන්නට යෙදුනු සියලූම

පුණ්‍යධර්මයන් අනුමෝදන් වෙත්වා පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට. අපිට ගෞතම බුද්ධ ශාසනයේ මෙච්චර පිහිටක් පිළිසරණක් සැනසිල්ලක් ලැබුනා. අපිට මෙච්චර සතුටින් පින් කරගන්න ලැබුනේ, ලොකු ස්වාමීණ් වහන්සේගේ සත්පුරුෂ ඇසුර නිසා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා කියලා අපි පින් පමුණුවනවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයටත් අනාගරිකා මෑණිවරුන්ටත් පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් ගෞතම බුදු සසුනේ ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම පින්වත් කේ.එසේ. දිලිනි සෙව්වන්දි මහත්මියට මේ පින් අනුමෝදන් වේවා. එතුමියට චතුරාර්ය සත්‍යය ධර්ම අවබෝධයට අද මේ ධර්මදානයේ පින ඒකාන්තයෙන් හේතු උපකාර වේවා. එතුමියට බුද්ධ ශාසනයේ පිහිට ලැබේවා කියලා අපි පින් පමුණුවනවා. ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන් විදුලියේ ධර්ම දේශනා සඳහා දායකත්වය දරමින් පින් රැස් කරගන්න සියලු දෙනාට, ඒ වගේම මාධ්‍යය පවත්වගෙන යන්නට උපකාර කරන සියලු දෙනාට, කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, අප හැදූ වැඩූ දෙමව්පියන්ට, අකුරු කෙරූ ගුරුවරුන්ට, සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් ගෞතම බුද්ධ ශාසනයේ ජීවිතේ පිනෙන් කුසලයෙන් පුරවා ගන්නටත්, බුදු සසුනේ පිහිට පිළිසරණ ලබන්නටත් වාසනාව ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=8FkY2ysyOQI&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=5

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපි මේ දිනවල මේ ධර්මය ඉගෙනගන්නේ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහනත් එක්ක එකතු වෙලා. ඉතින් මේ වැඩසටහන

තුලින් අපිට පිනත් පිනේ විපාකත් ඒ වගේම ඒ පිනේ විපාක නිසාම කල්‍යාණමිත්‍රයන් වහන්සේලා මුණ ගැහෙන හැටි අපිට මේ විස්තර වලින් දැනගන්න ලැබෙනවා. විමානවත්ථුවේ බුදුරජාණන් වහන්සේගේ බුද්ධ දේශනාවේ ඛුද්දක නිකායට අයිති විමානවත්ථු තමයි අපි ඉගෙන ගනිමින් යන්නෙ. ඉතින් අද දවසේ මේ දහම් දේශනාව ශ්‍රද්ධා රූපවාහිනියේත් ලක්විරු ගුවන් විදුලියේත් විකාශනය කරවන්නේ හෝමාගම පදිංචි පින්වත් සුනේත්‍රා ඒකනායක මහත්මිය විසින්. එතුමිය මියපරලොව ගිය අයට පින් පිණිසත් සුජීවත්ව සිටින අයට සෙත් පිණිසත් ධර්මාවබෝධයට පින් පිණිස මේ ධර්ම දානය අද දවසේ සිද්ධ කරගන්නවා. පින්වතුනි, අපිට මේ බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලැබෙන්නේ අපි තුලම ගුණධර්ම දියුණු කරගැනීම තුලින්, සංසාරයේ පිනක් අපි තුල තියෙන්න ඕන. පෙර කරන ලද පින් ඇති බව බුදුරජාණන් වහන්සේ බොහෝ සේ වර්ණනා කරනවා. ඉතින් පින් තියෙන කෙනා බුද්ධ කාලයේ ඉතින් එක එක ස්වරූපයෙන් උපදිනවා. දුප්පත් පවුල්වල, පෝසත් පවුල්වල, සමහර වෙලාවට පින් තියෙන කෙනා පිස්සියක් වෙලා පටාචාරා වගේ දුවන චරිත වෙන්න පුලුවන්. නමුත් ඒ සියලු දෙනා බුද්ධ ශාසනේ සැනසෙනවානේ ඉතින්. දැන් බලන්න අද අපිට ඉගෙනගන්න තියෙන විමානවත්ථුව හරී අපූරු සිද්ධියක්. දීර්ඝ සිද්ධියක්. හොඳට කන් යොමාගෙන අහන්න. හරිම පුදුම සහගතයි මේ බුද්ධ කාලයේ සිද්ධ වෙලා තියෙන දේවල්. රජගහනුවර සිටුතුමාගේ දාසයෙක් හිටියා පුණ්ණ කියලා. ඒ පුණ්ණ දාසයා දැන් සිටුතුමාගේ නියෝගයට අනුව කුඹුරු කෙත්වතු අස්වද්දමින් ඉන්නවා. උත්සව කාලයක් ආවා. එතකොට ඔක්කෝම උත්සව, දැන් ඔය අවුරුදු කාලෙදි උත්සව කරන්නෙ, ඒ වගේ ඉතින් ඔක්කෝම වෙන වැඩක් කරන්නෑ. සිටුතුමත් උත්සව කලා, ඉතින් සිටුමාළිගාවෙ ඔක්කොම උත්සව වලට යනවා. පුණ්ණ දුගියගෙන් ඇහුවා මොකද උඹ හෙට මොකද කරන්නෙ. හෙට උත්සව දවස. අනේ සිටුතුමනි අපි දුප්පත් මිනිස්සු අපිට මොන උත්සවද, මට ඔබ වහන්සේ බත් වැටුප් දෙන්න මම හෙට දවසේත් කුඹුරුම හාන එක කරන්නම් කිව්වා. හා ඉතින් උඹගේ කැමැත්තනෙ උඹ ඒක කරපන්, අපි වෙනදා විදියටම බත්වැටුප් දෙන්නම්. ඉතින් මෙයා එදා හවස ගෙදර ගිහිල්ලා ඔහුගේ බිරිඳගේ නම උත්තරා. පුණ්ණ දාසයාගේ. දුවෙකුත් ඉන්නවා ඇගේ නමත් උත්තරා. ඊටපස්සේ මොකද වුනේ ගිහිල්ලා කිව්වා, ඕනතරම් මේ මිනිස්සු සැපසම්පත් විඳිනවා, අපි ඉතින් පින් කරලා නැනෙ, අපි දුප්පත් මිනිස්සු, අපි එදාවේල හොයාගෙන ඉන්නෙ, අපි මොකක්හරි ගොවිතැනක් බතක් කරලා මේ

හම්බෙන එකෙන් ජීවත් වෙමු කියලා. ඊටපස්සෙ කිව්වා එහෙනම් මං හෙට උදේම කුඹුරට යනවා, උඹ වෙනදටත් වැඩිය බත්ටිකක් උයාගෙන වරෙන්, මං හොඳට වැඩ කරන්නම්. කියලා පුණ්ණ දාසයා වැඩට ගියා. කුඹුර හාන්න, උදේ පාන්දරම. ඉස්සර මිනිස්සුන්ගෙ තියෙනවා ඔය අයිස් ගැහිලි නෑ, දැන් සිටුතුමා නියෝග කරපු ගමන් අදාළ වැඩටික කරනවා, ළඟට වෙලා බලාන ඉන්න ඕන නෑ. අද බලන්න තියෙන කරුමෙ කියන්නෙ, වැඩක් කරනකොට ළඟම ඉන්න එපායැ. ඒ වැඩ බලන කෙනා නැතිනම් ගෙහිමියා, අයිතිකාරයා ඩිංගක් එහෙ මෙහ ගියාම අනිත් එවුන් ඔහේ පෙරලිලා ඉන්නවා. ඉතින් ඒ තමන් කරන දේවල් තමන්ටමයි. සංසාරයේ තමන්ට වැඩක් කරන්න ගිහිල්ලා ඒ කට්ටිය ඉන්න තැනක විතරක් වැඩ කරලා නැතිවෙනකොට අයිස් ගැහුවොත් ඒවගේ නිකම් ඔහේ හිටියොත් ඒවගේ විපාක ඉතින් තමන්ටම එයි. තමනුත් සංසාරයේ තමන් වැඩක් පටන් ගත්තට පස්සෙ තමන්ගෙ ළඟ ඉන්නකල් වැඩේ කෙරෙයි, නැත්නම් නෑ. එකිනෙකා කරගන්න කර්ම එකිනෙකා අරගෙන යනවා. මේ පුණ්ණ දාසයා එහෙම කෙනෙක් නෙවෙයි. ආයෙ කවුරුත් බලන්න නෑ, මේ සිටුතුමාගෙ කුඹුරු හාන්නෙ. කීවා මං වෙනදටත් වැඩිය වැඩ කරන්නම්, උඹ වෙනදටත් වැඩිය බත් උයාගෙන වරෙන් කියලා. ඔන්න දැන් පුණ්ණ දාසයා ගිහිල්ලා කුඹුරේ වැඩ. අපේ ධර්මසේනාධිපති වූ, කිණිහිරියාමලේ පැහැයෙන් බබළන රන්වන් සිරුරැති ධර්ම සේනාධිපති ප්‍රඥාවෙන් අග්‍රේෂ්වර සොඳුරු මුවමඬලක් ඇති නිහතමානී ගුණයෙන් බබළන සාරිපුත්ත මහරහතන් වහන්සේ දවස් හතක් නිරෝධ සමාපත්තියට සමවැදිලා හිටියේ. ඒ නිරෝධ සමාපත්තියට සමවදිනකොට දවස් හතක් හුස්මවත් වැටෙන්නෑ, ඒ හත්වෙනි දවසේ අනිවාර්යයෙන්ම උන්වහන්සේට දානෙ ලැබෙන්න ඕන. නිරෝධ සමාපත්තියට සමවැදුනු කෙනෙකුට. ඒ දවස ඇතුලත දානෙ ලැබුනෙ නැත්නම් පිරිනිවන් පානවා. දානෙ ලැබුන්නැත්නම් පිරිනිවන් පානවා. එතකොට අනිවාර්යෙන් නිරෝධ සමාපත්තියෙන් සමවැදිච්ච කෙනෙකුට දානයක් පූජා කලොත් ඒ දානය දිට්ඨධම්මවේදනීය වෙනවා. ඒ කියන්නෙ දානය පූජා කරන කෙනාට එදාම විපාක හම්බවෙනවා. ඉතින් ඒ නිසා ඒ වාගේ දවසකට ඒ උත්තමයන් වහන්සේලා අසරණ කෙනෙක් හොයාගෙනම තමයි යන්නෙ. සාරිපුත්ත මහරහතන් වහන්සේ දිවැසින් දැක්කා පුණ්ණ දුගියා, උදයකාලයේ. ඊටපස්සේ ඔහුට පින් පුරවන අදහසින් සාරිපුත්ත මහරහතන් වහන්සේ ඔහු ගොවිතැන් කරන කුඹුර ළඟට උදේ වැඩියා. එතකොට පුණ්ණ දුගියා කුඹුරේ වැඩ කරන්න යනකොට කුඹුර අයිනෙ ගහක් යට සාරිපුත්ත මහරහතන්

වහන්සේ වැඩ ඉන්නවා. අනේ ළඟට ගිහිල්ලා වන්දනා කරලා දැහැටි - දත් මදින්නෙ ඒ කාලෙ දැහැටි කූරු වලින් - ඒ දැහැටි කූරු නාලිය, කරඳ ඔය වගේ ලීවලින්නෙ ගන්නෙ. එතකොට ඒ ළඟ තිබ්බ නාලිය ලීයකින් දැහැත්තක් හදලා පූජා කරලා පැන් පාත්‍රයට පැන් ගෙනල්ලා පූජා කරලා වැන්දා. එච්චරයි, ඊටපස්සෙ කුඹුරෙ වැඩට ගියා. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ කල්පනා කලා මෙයාට මේ පින ප්‍රමාණවත්. දිවැසින් බැලුවා ඔහුගේ බිරිඳ දවල් කාලයේ ආහාර අරන් එනවා. උන්වහන්සේ භාවනාවෙන් වැඩ ඉඳලා හරියටම ඈ දානෙ අරන් එන පාරෙ ඈ එන පාරට මුණගැහෙන විදියට වැඩියා. එතකොට උත්තරා හොඳට කෑම හදාගෙන එන ගමන් කල්පනා කලා, අම්මේ ශ්‍රමණයන් වහන්සේ නමක් දැක්කාමයි, වෙනදා උත්තමයන් වහන්සේලා මුණගැහෙනවා දෙන්න දෙයක් නෑ, සමහර වෙලාවට අපිට දෙන්න දෙයක් තිබ්බ වෙලාවට ආර්යයන් වහන්සේලා මුණ ගැහෙන්නෑ. අද දෙන්න දේකුයි ආර්යයන් වහන්සේලාත් මුණගැහිලා තියෙනවා. අනේ මං කොහොමහරි දෙනවා, ඉතින් මනුස්සයාට කොහොමහරි පස්සෙ හරි උයාගෙන යන්න බැරියැයි කියලා ඉක්මණට අර ගෙනිච්ච කෑම එක බිම තියලා සාරිපුත්ත මහරහතන් වහන්සේට ආරාධනා කලා අනේ ස්වාමීනී ආහාර ටිකක් තියෙනවා මට අනුකම්පාවෙන්, ගැත්තාට අනුකම්පා කරන්න, මේක පිලිගන්න ස්වාමීනී කියලා. සාරිපුත්ත මහරහතන් වහන්සේ වැඩහිටියා, දානෙ ටිකක් බෙදනකොටම සාරිපුත්ත මහරහතන් වහන්සේ ඇති කිව්වා. අනේ ස්වාමීනී, දුප්පත් අපිට අනුකම්පා පිණිස මේක පිළිගන්න කියලා ඔක්කොම දානෙ බෙදුවා. සාරිපුත්ත මහරහතන් වහන්සේ වැළඳුවා. හරී සතුටුයි. ඉක්මණට ගෙදර දුවලා ආයෙ ඉව්වා. දැන් අරයා පුණ්ණ දාසයා වැඩ කරලා පාර දිහා බලනවා, වැඩ කරනවා, සී සානවා, පාර දිහා බලනවා, බඩගින්න. දැන් එයි දැන් එයි කිය කියා හිටියා නෑ. ඕන්න පරක්කු වෙලා එනවා දැන් ආහාර අරගෙන. දැන් ඈ, මොලේ කියන්නෙ මේකයි පින්වත්නි, උත්තරා දැනගත්තා දැන් පරක්කු වුනා, දැන් අනිවාර්යයෙන් අතේ තියෙන එකෙන් හරි දමලා ගහනවා එන්න පරක්කු වෙච්චි එකට. එතකොට හානි වෙන්නෙ මං කරගත්ත පිනට. මුලින්ම මේකට විසඳුමක් යොදාගන්න ඕන කියලා, අර ඈතින්ම එනකොට කිව්වා, ස්වාමීනී සතුටු වෙන්න, අද සාරිපුත්ත මහරහතන් වහන්සේ මට මුණගැහුනා, අනේ මං ගෙනාපු කෑම ටික උන්වහන්සේට පූජා කලා, ඉක්මණට ඔබවහන්සේට මේ දෙවෙනිපාර හදාගෙන එන ගමන් කිව්වා. අරෙහෙන් එන්න කලින්ම කෑගහලා කිව්වා. එතකොට ඔන්න බලන්න මොළේ. ප්‍රශ්න විසඳගන්න

හැටි. එතකොට ඒ පුණ්ණ දාසයා කිව්වා මමත් උදේ පැන් පූජා කලා, කමක් නෑ කමක් නෑ, ඔය තියෙන එකක් අරන් වරෙන් දැන් ඉතින් කියලා. එතකොට බලන්න මොළේ. සමහර ප්‍රශ්න ගෙවල්වල ඇවිස්සෙන්නේ නෝනලා හොරෙන් මොනවාහරි දේවල් කරනවා. ස්වාමියා ඒක වටින් ගොඩින් දැනගන්නෙ. එතකොට ප්‍රශ්න. ඊටවැඩිය හොඳයි කෙලින්ම කිව්වා නම්. කලින්ම කිව්වා නම්. ප්‍රශ්නයක් කලින්ම කියන එක හරි වටිනවා. ගෙවල්වල ප්‍රශ්න ගොඩාක් ඇවිස්සෙන්නෙ මනුස්සයා වටින් ගොඩින් දැනගන්නෙ. එතකොට දැනගෙන අහනකොට අරයට කටඋත්තරත් නෑ, ඉතින් ගොත ගගහා මොනවාහරි පචයක් ඇදබානවා. ඉතින් ඔය විදියට ගෙවල් වල අර්බුද ගොඩාක් ඇතිවෙනවා. මේ බලන්න පින රැකගන්න හැටි. කුසල් රැකගන්න හැටි. මොළය නිසා. ඊටපස්සෙ ඒ දෙන්නා හොඳට පුණ්ණ දුගියාට කෑම දීලා හොඳට කෑම කාලා ඔහු ඇගේ ඔඩොක්කුවේ නිදාගත්තා. ඉතින් ඇටත් නින්ද ගියා. ටික වෙලාවක් ගිහිල්ලා ඇස් අරිනකොට අර පිනේ විපාක කියන්නේ, මෙතෙක් හාපු කුඹුරේ අර පස් පිඩලි මෙහෙම පෙරලිලා තියෙනවානෙ, ඒවා රත්තරන් පාටට පේනවා. ඊටපස්සෙ පුණ්ණ කියනවා උත්තරාට, උත්තරා, මේ බලාපන්කො මේවා මට රත්තරන් පාටට පේනවානෙ. බලාපන්කො බඩගින්නෙ ඉඳලා එකපාරම කාපුවාම ඔලුව අවුල් වෙන හැටි. මට පේන්නෑනෙ බං කියලා. ඊටපස්සෙ කිව්වා ස්වාමීනී ඔබ වහන්සේට විතරක් නෙවෙයි මටත් පේනවානෙ කිව්වා. මේ මටත් රත්තරන් පාටනේ. අපි දෙන්නටම මොකක්හරි වුනාවත්ද කියලා යමංකො බලන්න කියලා දැන් ගෑණියි මිනිහයි දෙන්නම පුණ්ණ දුගියයි, උත්තරයි දෙන්නම කුඹුරට ගිහිල්ලා බැලුවා ඇත්තටම රත්තරන්නෙ. ඊටපස්සෙ කිව්වා, කතා දෙකක් නෑ, ආර්ය වූ සාරිපුත්තයන් වහන්සේට පුදපු දානයේ විපාක, මේ වගේ ඒවා ගෙනිහිල්ලා හංගගෙන භුක්ති විදින්නත් බෑ. මේවා කෙලින්ම දැන් රජතුමාට දෙමු කිව්වා. ඊටපස්සෙ මේ රත්තරන් කුට්ටියක් අරගෙන ගිහිල්ලා බිම්බිසාර රජතුමාට කිව්වා, රජතුමනි, මේන්න මගේ කුඹුරෙ රත්තරන් පහළ වෙලා තියෙනවා, මං අද වැඩ කරපු කුඹුරෙ. ඔබවහන්සේ ගෙන්න ගන්න කිව්වා. ඊටපස්සෙ රජතුමා බොහෝම සන්තෝසයට පත්වෙලා ගිහිල්ලා කට්ටියට කිව්වා එහෙනම් අරන් වරෙල්ලා කුඹුරෙ තියෙන ඒවා. ඒ කුඹුරෙ තියෙන රත්තරන් අපේ රජ්ජුරුවන්ට මේවා ගෙනියන්න එපායැ කියලා කරත්තවලට පටවනකොට - දැන් මේ රත්තරන් - කරත්තෙට දාපු ගමන් පස් වෙනවා. ඇවිල්ලා කිව්වා ස්වාමීනී, ඒවා පස්වෙනවනේ. ඇයි කියලා ඇහුවා. ඊටපස්සෙ ඉතින් අනේ මං දන්නෑ. ඇහුවා උඹලා කොහොමද ගත්තෙ කියලා

ඇහුවා. අපේ රජ්ජුරුවන්ට කියලා. එහෙම නෙවෙයි, මේ මනුස්සයා අද පිනක් කරලානේ. මේ මනුස්සයාගේ පින. පුණ්ණ දුගියාගේ ධනය කියලා ගනින් කිව්වා. පුණ්ණ දුගියාගේ ධනය කියලා ගන්නකොට රත්තරන්. දැක්කද පින් බලය කියන එක. ගෙනල්ලා ගොඩ ගැහුවා. කරත්ත අසූ ගාණක්. ඊටපස්සෙ මිනිස්සුන්ගෙන් ඇහුවා මේ වගේ ධනයක් තියෙන කෙනෙක් ඉන්නවද කියලා, අනේ නෑ. මේ වගේ අයට මොනවද කරන්න ඕන කියලා ඇහුවා, සිටු තනතුරක් දෙන්න ඕන කිව්වා. සිටු තනතුරක් දුන්නා. පුණ්ණ සිටුවරයා. ඊටපස්සෙ පුණ්ණ සිටුවරයාට ගෙයකුත් දීලා, ඒ වස්තුවත් දීලා ඒ සිටු තනතුරයි ගෙට ගෙවදීමයි එක දවසේ කරලා භාග්‍යවතුන් වහන්සේට දානයක් පූජා කලා. බුදුරජාණන් වහන්සේ දහම් දෙසද්දි පුණ්ණ දාසයයි, උත්තරා බිරිඳයි, උත්තරා දියණියයි තුන්දෙනාම සෝවාන් වුනා. දානයේ විපාක. පුදුම සහගතයි. ඊටපස්සෙ තමන් දැන් යම්ගෙදරක වැඩ කරානෙ සිටුවරයෙක්ගෙ. ඒ ගෙදරින් විවාහ යෝජනාවක් ආවා ඒ සිටුතුමාගෙ, රජගහනුවර සිටුතුමාගේ පුතාට පුණ්ණගෙ දුව උත්තරා විවාහ කරලා දෙන්න කියලා. ඇ හරි ලස්සනයි. ඊටපස්සෙ පුණ්ණ එච්චර කැමති වුන්නෑ, දන්නවා එයාලා හරි මිත්‍යාදෘෂ්ටිකයි කියලා. ඊටපස්සෙ මොකද කෙරුවෙ, සිටුතුමා කිව්වා එහෙම කරන්න එපා, මේක මගේ ඉල්ලීම, ඒ නිසා කොහොමහරි ඔබගේ දුව අපේ පුතාට විවාහ කරලා දෙන්න කියලා. ඊටපස්සෙ ඔන්න් විවාහ කරලා දුන්නා. ගිහිල්ලා මාස ගාණක්, වස් කාලයේ මාස දෙකහමාරක් හිටියා සංඝයා වහන්සේ නමකට දන් හැන්දක් බෙදිල්ලක් නෑ. ඇ සෝවාන් වෙච්චි කෙනෙක්නෙ. තාත්තට පණිවිඩයක් එව්වා, තාත්තෙ ඇත්තටම සංසාරෙ පින වගේම පව්කාරකමත් විපාක දෙනවා නේද, මේ බලන්න ඇවිල්ලා මෙච්චර කාලයක් වෙනවා තවම දන් හැන්දක් බෙදුවෙ නෑ, මගේ කරුමයක් වෙන්න ඇති තාත්තේ කියලා තාත්තාට ලියුම්කඩදහියක් යැව්වා. තාත්තත් ඒකට උපක්‍රමයක් කලා, විශාල කහවණු පොදියක් යැව්වා, දුව මේ කහවණු පොදිය දීලා දවසට ඔය රජගහනුවර ඉන්නවා සිරිමා කියලා ගණිකාවක්. ඇය දවසකට කහවණු දාහකට ගන්න පුලුවන්. ඇ ගෙන්නලා තමන්ගේ ස්වාමියාට භාරදීලා උඹ නිදහස් වෙයන් ගෙදරින්. නිදහස් වෙලා සිත්සේ සංඝයා වඩම්මලා දානෙ දීපන්. එතකොට මගේ පණිවිඩේ සිටුතුමාට කියාපන්. එතකොට උඹට බාධාවක් වෙන්නෑ කියලා පණිවිඩේ යැව්වා. ඊටපස්සේ සාමාන්‍යයෙන් සිරිමා ගණිකාව ඇසුරු කරන්නෙ රජවරු, ප්‍රධාන සිටුවරු. මොකද සිරිමා ගණිකාව ළඟට යන එක ලේසි නෑ, විශාල ධනයක් ඕනෙ. එතකොට උත්තරා ඇය ගෙන්නුවා. සල්ලි දුන්නා, කහවණු පොදියක්

දුන්නා. දවසකට දාහ ගානෙ ගන්න කියලා තමන්ගේ ස්වාමියාට දුන්නා. එතකොට ස්වාමියා කල්පනා කලා අම්මේ මේ වගේ අය ගාවට රජවරුනෙ යන්නෙ, මට ළඟටම ගෙදරටම ගෙනල්ලා දුන්නනෙ කියලා උත්තරා ඉල්ලුවනෙ දවස් ගාණක් දැන් මට නිදහසේ දානෙ දෙන්න ඕන කියලා. අරයා ඒකට හරි ඉහලින් කැමති වුනා. ඊටපස්සෙ ඔන්න දැන් සිරිමා ඇවිල්ලා ගෙදර ඉන්නවා. දැන් උත්තරා දාන ශාලා හදනවා, ඊටපස්සෙ දානෙට කැවිලි පෙවිලි හදනවා, ඒ ඔක්කෝම කරනවා. ඊටපස්සෙ ඉතින් එයා දාන ශාලාවෙ එහෙ යනවා, මෙහෙ යනවා, දැන් හෙට තමයි මහා දානෙ. බුද්ධ ප්‍රමුඛ මහා සංඝරත්නයට. ඊටපස්සෙ අර උත්තරා බැඳපු කෙනා - දැන් බලන්නකො හොඳ ගුණවත් මාර්ගඵල ලාභී ශ්‍රාවිකාවොත් මිත්‍යාදෘෂ්ටික පවුල්වලට සම්බන්ධ වෙන හැටි නේද. සංසාරයේ ස්වභාවය. ඉතින් අර මනුස්සයා ජනෙල් කවුලුවෙන් බලනවා, උත්තරා දාන ශාලාවෙ කැවුම් බදිනවා, උයනවා දැලි ගාගෙන. ඉතින් කල්පනා කරනවා, මේ ගෙදර ප්‍රධාන සිටු කුමාරි වෙලා මෑ ඉන්නෙ. මේකිට සංසාරෙ කරුමයක්නේ මේ කුස්සියේ ගිහිල්ලා දැලි ගාගෙන වැඩ කරගෙන දාසියක් වගේ. මොනවා කරන්නද අපි ඒකට කියලා මුන්ගෙ කරුමෙ කියලා හිනාවුනා. දැන් ජනේලෙ ළඟ අර මනුස්සයා තනියෙන් හිනාවෙනකොට සිරිමා කාමරේ, සිරිමා ළඟට ආවා. ඇවිල්ලා හිනාවුනේ කොහෙද කියලා බැලුවා, අර උත්තරා වැඩ කරන දිහා බලලා හිනාවෙන්නෙ. ඊටපස්සෙ බලන්න මේ සිරිමාගේ තියෙන කුහකකම. මේවා තේරුම් ගන්න, නමුත් මෙයා මේ ඔක්කොගෙන්ම නිදහස් වෙනවා. සිරිමාට අමතක වුනානෙ මං මේ ගෙදර ඉන්නෙ උත්තරාගෙ සල්ලි නිසා කියලා. සිරිමාට ඔක්කොම අමතක වෙලා සිරිමාට හිතුනෙ අර සිටු කුමාරයා තමන්ගෙ මිනිහා කියලා. තමන්ගේ ජීවිතාන්තය දක්වා ඉන්න තමන්ගෙ ස්වාමියා වෙන ස්ත්‍රියකට හිනාවුනොත් සෙනෙහස පෑවොත් බිරිඳකට රිදෙනවා වගේ සිරිමට රිදුනනෙ. සිරිමා කල්පනා කලා තෝව තියන්නෑ මං කියලා. එච්චරකට ඇයගේ හිත මුලාවකට පත්වුනා. පඩිපෙල බැහැගෙන බැහැගෙන ඇවිල්ලා කුස්සියට ගියා. කුස්සියෙ කැවුම් බදිනවා, තෙල් ගොජ ගොජ ගාලා නටනවා තෙල්. ඊටපස්සෙ ලොකු හැන්දකින් තෙල් ටිකක් මෙහෙම අරන් කැවුම් හද හදා ඉන්න උත්තරා ළඟට ගියා. උත්තරා දුරදින්ම දැක්කා දැන් අරන් එන්නෙ නමන්නමයි ඇඟට කියලා. උත්තරා තත්පරේට කල්පනා කලා මං මේ පින් කරන්නෙ සිරිමා නිසා, සිරිමා ගැන මට තරහක් නෑ, තරහක් තියෙනවානම් මාව පිච්චේවා. සිරිමා මෙහෙම දැම්මා නටන තෙල් ටික, සීතල වතුරක් වගේ ඇඟේ ගියා. සිරිමට තව තරහයි, තව ගත්තා තෙල් ටිකක්.

ඔය දෙවැනි අවස්ථාව වෙනකොට වැඩකාර කෙල්ලො ටික දැක්කා. දැකලා ඇවිල්ලා සිරිමට දුන්නා ඔය කෙල්ලොත් හරි දක්ෂයිනෙ. සිරිමා පෙරලුනා. වැඩකාර කෙල්ලො ටික එකතු වෙලා කට්ටිය හැන්දෙන් ගහනවා, පයින් ගහනවා, කොසුවලින් ගහනවා, සිරිමට හොඳටම තඩි බෑවා. උත්තරා කිව්වා නවත්තපල්ලා මේක, නවත්තපල්ලා. මේ සිරිමා ගෙදර ඉන්න නිසයි මං මේ ගෙදර වැඩක් කරන්නෙ, තේරුම් ගනිල්ලා, සෑහෙන්න කෑ ගැහුවට පස්සෙ ඔන්න යාන්තම් අතෑරියා, හොඳටම සිරිමා ගුටිකාලා. ඊටපස්සෙ තමයි, හොඳටම ගුටිකෑවට පස්සෙ සිරිමට මතක් වුනා, අනේ දෙයියනේ මේ උත්තරා කොච්චර හොඳ කෙනෙක්ද, ඈට සතුරුකම් කරද්දිත් ඈ මේ කියන්නෙ මට ගහන්නෙපා කියලානෙ, මගේ ගුණමනේ කියන්නෙ. අනිත් එක දාපු තෙල් වලින් මෙයාව පිච්චුනේ නෑනෙ, මහා ආනුභාවසම්පන්න කෙනෙක්නෙ මේ. කියලා තමයි තේරුනේ. සමහර අයට හොඳට ගුටිකන්න ඕන ගුණ තේරෙන්න. ඊටපස්සෙ මොකද වුනේ. අනේ මට සමාවෙන්න කිව්ව. උත්තරා කිව්වා, මගෙන් සමාව අරන් හරියන්නෑ, මගේ පියාණන්ගෙන් සමාව ගන්න ඕන. අනේ එහෙනම් මං ඒ පුණ්‍ය සිටුතුමා හොයාගෙන යන්නම්. පුණ්‍ය සිටුතුමා. ඒ මං බිහිකරපු තාත්තා කිව්වා. මගේ පියාණන් තමයි කිව්වා ලොව්තුරා තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඒ බුදුරජාණන් වහන්සේගෙන් සමාව ගන්න කිව්වා. මං කොහොමද සමාව ගන්නෙ. හෙට දානෙට වඩිනවා. ඔයත් දානෙට මොනවාහරි හදාගෙන ඇවිල්ලා දානෙ පූජා කරලා වැඳලා සමාව ගන්න කිව්වා බුදුරජාණන් වහන්සේගෙන්. ඒක උත්තරාගෙ උපක්‍රමයක්. දන්නවා ලොව්තුරා තථාගත බුදුරජාණන් වහන්සේ කෙනෙකුට මුණ ගැහුනොත් එයාට සංසාරෙ පුංචි හරි පිනක් තියෙනවානම් එයාට බුද්ධ ශාසනයේ සැනසෙන්න පුලුවන් බව. පහුවදා බුදුරජාණන් වහන්සේ දානෙට වැඩියා භික්ෂු සංඝයා සමඟ. සිරිමා දානෙ මඩුවට ගෙනල්ලා මැලිවෙනවා. හැංගෙනවා. ඈ ගණිකාවක්. ජීවකගේ සහෝදරිය. ඒ ජීවකගේ අම්මා මට මතක හැටියට සාලවතී ගණිකාව. ඒ දුවෙක් ඉපදුනු නිසා සන්තෝසෙන් තියාගත්තා. පුතා කුණු කාණුවට දැම්මා. ජීවක කුණු කාණුවෙන් ගෙනල්ලා තමයි හදාගත්තෙ. බලන්න මේ පින් තියෙන උදවියට සසරේ වෙන දේවල්. ඊටපස්සෙ මැලිවෙනවා දානෙ බෙදන්න. ඊටපස්සෙ උත්තරා ළඟට ඇවිල්ලා කිව්වා, නෑ සිරිමා දානෙ හොඳට බෙදන්න, යන්න අර පිරිස මැදට. උත්තරාත් එක්ක ගිහිල්ලා දානෙ බෙදලා ඊටපස්සෙ දානෙ ඉවර වෙච්චි ගමන් කිව්වා, දැන් සමාව ගන්න. බුදුරජාණන් වහන්සේ ළඟ සමාව ඉල්ලුවා අනේ මට වරදට සමාවදෙන්න. භාග්‍යවතුන් වහන්සේ ඇහුවා

මොකක්ද, ස්වාමීනී මගේ අතින් මේ උත්තරාට ලොකු වරදක් වුනා. සිද්ධිය කිව්වා. බුදුරජාණන් වහන්සේ උත්තරාට ප්‍රශංසා කලා. අක්කෝදෙන ජිනේ කෝධං උත්තරා තරහා තියෙන අය ජයගන්න තියෙන්නෙ තරහ නොකර ඉන්නකොට. ඔයාලට කවුරුහරි වෛර කරනවානම් තරහ කරනවානම් එයාලව ජයගන්න ඕනනම් ඔයාලට තරහා නොකර ඉන්න ඔයාලා. මෛත්‍රියෙන් ඉන්න. ඊළඟට අක්කෝදෙන ජිනේ කෝධං අසාධුං සාධුනා ජිනේ, නරක මිනිස්සු ඉන්නවා ඒ මිනිස්සුන්ට හොඳින් ඉඳලා ඒ මිනිස්සු ජයගන්න. ජිනේ කදරියං දානේන, ලෝභ මිනිස්සු ඉන්නවා, කුම්මැහි මිනිස්සු ඉන්නවා. ඒ මිනිස්සු ජයගන්න දන් දීලා, ඊළඟට සච්චේන අලිකවාදිනං, කට ඇරියොත් පච කියන මිනිස්සු ඉන්නවා, ඒ බොරු කියන මිනිස්සු ඇසුරු කරන්න කිව්වා ඇත්ත කතා කරලා. අද කාලෙ සම්පූර්ණ වෙනස්නෙ. ඔවුන් බොරු කියනවා නම් අපිත් බොරු කියනවා. ජයගන්න බෑ. උන් දෙන්නැත්නම් අපි දෙන්නෙත් නෑ, ජයගන්න බෑ. උන්ටත් තරහා යනවා නම් අපිටත් තරහා යනවා, ජයගන්න බෑ. දැක්කද සාමාන්‍යයෙන් මිනිස්සු යන ලෝකෙයි බුදුරජාණන් වහන්සේගේ ධර්මයයි වෙනස් වෙන හැටි දුටුවාද. මේ ධර්මය දේශනා කරනකොට තථාගත බුදුරජාණන් වහන්සේ සිරිමාගෙ මුළු ජීවිතේම වෙනස් වුනා. කෝටියක් පව් එක බුදු බණ පදයකින් නැතිවෙලා ගියා. සිරිමාගෙ මුළු ජීවිතේම වෙනස් වුනා. සිරිමා සෝතාපන්න වුනා, ධර්මය අහලා. පුදුම සහගතයි පින්වත්නි. පුදුම සහගතයි. කොච්චර ලාමක හිතක්ද තිබ්බෙ. කොච්චර දීන ජීවිතයක් ද තිබ්බෙ. ඈ ගණිකාවක්. අනිත් එක බලන්න උත්තරාම ගෙදරට ගෙනල්ලා උත්තරාටම කරපු කෙණෙහෙලිකම්. ඒ ඔක්කෝම කෝටියක් පව් බුදු කෙනෙක් ළඟ නතර කලානෙ. ඈට එදයින් පස්සෙ ඇගෙන් පඤ්චසීලය කැඩෙන්නෑනෙ. ඇයගෙන් නරක ජීවිතේ එදයින් ඉවරයිනෙ. ඒ නිසා ඕනතරම් ඔයාලගේ ජීවිතේ හැලහැප්පීම් තියෙන්න පුලුවන්. අනේ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ සැනසෙන්න. බුදු කෙනෙක් ළඟට එනවා වගේ හදවතේ බුදුරජාණන් වහන්සේව තැන්පත් කරගන්න. බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහනවා වගේ මේ ධර්මය අහන්න. ඔබගේ ජීවිතය වෙනස් වෙනවා. මේ ජීවිතේ ඔයාලගෙන් වෙච්ච කෝටියක් පව් මේ බුදු බණ පදය ඉදිරියේ දියවෙලා යනවා. පුදුම සහගතයි, මෙන්න සිරිමා සැනසෙච්ච හැටි. ඉතින් එදා ඉඳලා සිරිමා දන් දුන්නා. ගොඩාක් දන් දුන්නා. ඇගේ කතාව පසුව කියන්නම්. උත්තරා, ටික කාලයකින් රෝගයක් හැදිලා, වසංගත රෝගයක් හැදිලා උත්තරා මැරුණා. උත්තරා සෝතාපන්න කෙනෙක්. ඊටපස්සෙ උත්තරා

ගෙදරදින් සෝවාන් වුනේ. ඊටපස්සේ ගොඩාක් ධර්මය පුරුදු කලා. අපි දන්නෑ මේ වෙනකොට උත්තරාගෙ තත්ත්වය කොහොම ඇත්ද කියලා. අපි බලමු. ඊටපස්සෙ උත්තරා වසංගතයකින් මැරුණා. දැන් බලන්න මාර්ගඵල ලාභීන්නෙ. ගොඩාක් පින් කරපු අයනෙ. ගොඩාක් දන් දුන්නු අයනෙ. මේ වසංගත වලින් මැරිලා තියෙන්නෙ. ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේ දෙව්ලොව යනකොට හම්මේ, පුදුම දිව්‍ය විමානයක් දැක්කා. පින්වත් දෙව්දුව, ඔබ ඔය සුන්දර රූපයෙන් බැබලෙමින් ඉන්නේ හැම දිසාවම බබලන ඉරබටු තරුවක් වගේ. ඇත්තටම මෙච්චර ලස්සනක්. මෙච්චර පිනක්. මෙච්චර ආකර්ශණයක්, කොහොමද දෙව්දුව ලැබුනේ. මිනිස් ලෝකෙ ඉන්න කාලෙ මොකක්ද කරපු පින. ඔබගේ තියෙන සැපසම්පත් විස්තර කරන්නත් අමාරුයි. මොග්ගල්ලාන මහරහතන් වහන්සේ මේ කාරණාව ඇහුවේ. ඈ මේකට මෙහෙමයි උත්තර දුන්නෙ. මං ගිහි ජීවිතේ ගත කලේ - මේ අර උත්තරා, ඈ තව්තිසාවෙ ඉපදිලා ඉන්නෙ - මං ගිහි ජීවිතයක් ගත කලේ. මං කාටවත් ඊරිසියා කලේ නෑ. උත්තරා කාටවත් ඊරිසියා කලේ නෑ. මෙන්න දෙව්ලොව උපදින ගුණ. මා සතු දේකින් තවත් කෙනෙක් සැප විඳිනවාට ඇති අකමැත්ත කියන මසුරුකම මා තුළ තිබුනේ නෑ. ඔන්න මසුරු කමේ අර්ථ දැක්වීම. තමන්ගේ දේකින් තවත් කෙනෙක් සැප විඳිනවාට කැමති නෑ. තමන්ගේ චේන් එකක් තවත් කෙනෙක් දානවට කැමති නෑ, මසුරුයි. තමන්ගෙ ඇඳුමක් තවත් කෙනෙක් අඳිනවාට කැමති නෑ, මසුරුයි. තමන්ගේ කෙනා තවත් කෙනෙකුට හිනාවෙනවාට කැමති නෑ, මසුරුයි. තමන්ගේ කෑම අන් අය කනවට කැමති නෑ, මසුරුයි. ඊටපස්සෙ තමන්ගෙ ගෙදර වෙන අය ඉන්නවට කැමති නෑ, මසුරුයි. තමන්ට කෝල් කරන්නැතිව වෙන අයට කෝල් කරනවාට කැමති නෑ, මසුරුයි. ඔය මසුරුකම මා තුළ නෑ කිව්වා. ඊටපස්සෙ මං ගෙදර ඉඳිද්දි, මනුස්ස ලෝකෙ ඉඳිද්දි මං එකට එක කරලා නෑ, උඹලත් ඔහොම කරනවානම් මාත් මෙහෙම කරනවා, එකට එක නෑ. මං ස්වාමියාට කීකරුව සිටියෙ ක්‍රෝධ නැති සිතින්මයි. ඇත්තටම අර වාගේ මනුස්සයෙක් එක්ක ජීවත් වුනානෙ මේ උත්තරා. තරහා ගත්තෙ නෑ. දැන් පින්වත්නි අර තෙල් වත්කරනකොට සිරිමා ඇවිල්ලා ඔය කලබැගෑණිය කරනකොට ගෙදර මිනිහා ආවෙ නැනෙ ප්‍රශ්නෙ විසඳන්න. ගෙදර මනුස්සයා කාමරේ. අර සිරිමාව නවත්තගත්තෙත් තඩිබාලා අර දාසියො ටික. ඔක්කොම කලේ දානෙ බෙදන්නවත් ආවෙ නෑ ගෙදර මනුස්සයා. තරහක් නාමයක් නෑ, අද දානෙ ගේන්න මනුස්සයා ආවෙ නැත්නම් හිතින් බැන බැන ඉන්නෙ, මං නම් පින් කරනවා මේ ගෙදර මිනිහා එන්නෑ කිසි දේකට

කියලා. මේ බණ අහනකොටත් සමහර විට අනේ මේ මං නම් බණ අහනවා ගෙදර මනුස්සයා පුටුවෙ ගැටගහලාවත් තියාගන්න විදියක් නෑනෙ කියලා මිනිස්සු කල්පනා කර කර ඉන්නෙ. මේ නෑ. මට නම් මනුස්සයා ගැන කිසිම තරහක් ආවෙ නෑ කියනවා. ඊටපස්සෙ කියනවා මං අප්‍රමාදිව, ඒ කියන්නෙ මං හැමදේකටම වඩා මුල්තැන දුන්නේ නිතරම උපෝසථ සිල් රකින්න. මට පොඩි විවේකයක් ලැබිච්ච ගමන් සිල් රැක්කා කියනවා. අදත් ඉන්නවා ඇත්තටම හොඳ කාන්තාවො සමහර වෙලාවට, ස්වාමියා විදේශ ගත වෙනවා. ස්වාමියා විදේශ ගත වෙච්චි ගමන් සිල් සමාදන් වෙනවා. බඹසර සමාදන් වෙනවා. ඉතින් ආයෙ ස්වාමියා එනතාක් ඒ උතුම් සීලයම ආරක්ෂා කරගෙන ඉන්න අය ඉන්නවා. ඉතින් ඒ වාගේම විටින් විට උපෝසථය සමාදන් වෙනවා. ඊටපස්සෙ සමහර අය ඉන්නවා දරුමල්ලො දැක්කට පස්සෙ ස්වාමියයි, බිරිඳයි බඹසර සමාදන් වෙලා වෙනම වාසය කරනවා. හොඳට ගුණධර්ම සිල් පුරුදු කරනවා. මෑ නම් ලද අවස්ථාවෙත් අටසිල් සමාදන් වෙලා තියෙනවා. චාතුද්දස්සී දවසට, පුන් පෝය දවසට අටවක පෝය දවසට පාටිහාරීය පක්ෂයේ පෝය දවසට මම අටසිල් සමාදන් වෙලා හොඳට ආරක්ෂා කලා. සතර පෝයට. ඊළඟට පාටිහාරීය කියන්නෙ පෝයට කලින් දවසෙයි, පෝය දවසෙයි, පෝයට පස්සෙ දවසෙයි කියන පෙර පසු වශයෙන් දවස් තුනක් සිල් රකිනවා. ඊළඟට සමහර වෙලාවට වස් කාලයේ අවසාන දවස් පහළොවෙත් සිල් සමාදන් වෙලා ඉන්නවා. ඒවට කියනවා පාටිහාරීය සිල් කියලා. ඉතින් මං ඒ උපෝසථ රැක්කා කියනවා. මැය නම් පුදුම පින් ගොඩක් කරලා තියෙන්නෙ. මං ඉතින් උපෝසථ සිල් රැකගත්තා. හැමදාම සිල් සමාදන් වුනා. ඉඳුරන් සංවර කරගත්තා. ඉඳුරන් සංවරයි. ඇවිස්සෙන චරිත නෑ. ඊටපස්සෙ කාටත් දන් පැන් බෙදාදුන්නා. මං ඒ විදියටයි ගෙදර ජීවත් වුනේ. සතුන් මැරීමෙන් වැළකුණා. බොරු කීමෙන් වැළකිලා වචනය සංවර කරගත්තා. හොරකම් කලේ නෑ, ස්වාමියා ඉක්මවා දුරාචාරයේ හැසිරුනේ නෑ. මත්පැන් පානය කලේ නෑ, සමහර මිනිස්සු අදටත් ඉන්නවා, ගෑණියි මිනිහයි දෙන්නම බොනවා. සමහරවිට මනුස්සයා පොළඹවනවා ස්ත්‍රිය බීපං කියලා. ඉතින් ඒ ලෝක නෑ කිව්වා අපිට. සිල්පද රැකගත්තේ කැමැත්තෙන්මයි. චතුරාර්ය සත්‍යය ධර්මය තේරුම් ගන්න තරම් මා තුළ දක්ෂකමක් තිබුනා. ඒ නිසාමයි පැතිරුණු සඳහම් ඇති යශෝරාවය ඇති ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවක් වුනේ, මං සෝවාන් වුනානෙ කිව්වා. ඉතින් ඒ මම මගේ සීලය නිසා යසස නිසා වඩ වඩාත් කීර්තිමත් වුනා. මං මේ අනුභව කරන්නෙ මගේ පිනමයි. ලෙඩක් දුකක් නැතිව

සැපසේ මං දැන් ජීවිතය ගත කරන්නේ. ඒ පිනෙන් තමයි මෙවැනි ලස්සනක් ලැබුනෙ. ඒ පිනෙන් තමයි මේ සතුට ප්‍රියමනාප අන් අයට ආකර්ශණය වෙලා මං ඉන්නෙ මගේ තිබ්බ පින් බලය නිසා කියනවා. මහානුභාවසම්පන්න වූ ස්වාමීන් වහන්සේ මිනිස් ලෝකයේදී ඔය පින තමයි මං කරගත්තෙ. ආනුභාවසම්පන්නව බැබලි බැබලි ඉන්න පින ඕක තමයි. මගේ සිරුරෙන් විහිදෙන එළියෙන් සැම දිශාවම බබලනවා. හරී ලස්සන කාරණාවක් කියනවා ආයෙ. පින්වත් ස්වාමීන් වහන්ස, මගේ වචනයෙනුත් ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ උතුම් සිරිපා කමල් සිරසෙන් වැඳ වදාළ මැනව. ස්වාමීනී උත්තරා නම් වූ උපාසිකාව භාග්‍යවතුන් වහන්සේගේ උතුම් සිරිපා කමල් වන්දනා කරන්නී කියා ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ මා පිළිබඳව යම්කිසි මාර්ගඵලයක් වදාළ සේක් නම් ඒ ගැන මං පුදුම වෙන්නෑ, ස්වාමීනී මං සකදාගාමී ඵලයට පත් වූ බව භාග්‍යවතුන් වහන්සේ මට වදාළා. පුදුම සහගතයි. ඇය සකදාගාමීයි. දැන් ඉන්නෙ තව්තිසාවෙ. අදටත් ඉන්නවා. තව්තිසාවෙ ආයුෂ අවුරුදු තුන්කෝටි හැට ලක්ෂයයි. දැන් ගෙවිලා තියෙන්නෙ අවුරුදු දෙදහස් හයසීයයි. මේ තව්තිසාවට ගියොත් මේ උත්තරා ඉන්නවා තාම. කොහොමද ඇයගේ ගුණධර්ම. ඇයගේ දහම් කතාව කොහොමද, පුදුම සහගතයි. ඉතින් දැන් මොකද වුනේ සිරිමාට. සිරිමා දිගටම දන්, එදා ඉඳලම වැඩේ දන් දෙන එක. හොඳට බණ අහනවා, දන් දෙනවා. සංඝයා නිතර ඒ ගෙදරට වඩිනවා. ඊටපස්සෙ ඔහොම ටික කාලයක් යනකොට සිරිමාටත් වසංගතයක් ආවා. මං හිතන්නෙ ඔය උත්තරා ඔක්කෝටම එකපාර ඒ ලෙඩේ හැදුනෙ. ඊටපස්සෙ හරියට ඇඟට උණ ආවා. කැස්ස ආවා. ඇඟ වෙව්ලන්න ගත්තා. ඊටපස්සෙ ඒකෙ එදා හවස් කාලෙ වුනේ, දවල් දානෙ පූජා කරපු වෙලාවෙ හොඳට සංඝයාට දන් බෙදුවා, සංඝයා පන්සිය නමකට විතර ගෙදර දානෙ දෙනවා, දැන් අර නරක චරිතෙ නෑ, සෝවාන්. ඊටපස්සෙ මොකද වුනේ,දැන් සංඝයා ගිහිල්ලා කතා වෙනවා. ඉතින් ඒ ආවාසෙට රජගහනුවර ආරණ්‍යයට පිටගමකින් ස්වාමීන් වහන්සේලා වැඩියා. ඇහුවා ආයුෂ්මතුනි මෙහෙ හොඳට දන්පැන් එහෙම ලැබෙනවාද. අම්මේ හොඳට දානෙ ලැබෙනවා, ඇයි සිරිමා උපාසිකාව හරියට දන් දෙනවානෙ හැමදාම. සිරිමා කියන්නෙ කවුද, අම්මෝ ඒ උපාසිකාවගේ ශ්‍රද්ධාව බලන්නෙපෑ. ඈ කලින්නම් මගේ හිතේ ඈ මොනවහරි ප්‍රශ්න තිබිලා තියෙනවා. ඒවා විසඳගෙන ඈ දැන් ධර්මයේ පුදුම පිහිටක් ලබන්නේ. ඇගෙ දානෙත් ඒ වගේ තමයි, ලස්සනත් ඒ වගේ තමයි. ඔන්න කියලා කසුකුසුවක් ගියා. අර හාමුදුරුවන්ට ලස්සනයි කියලා සිරිමා

ගැන කිව්වා විතරයි පාතාලෙ වගේ සැඟවිලා තිබ්බ රාග ගින්නක් ආවා. අර කතාවට. ඊටපස්සෙ මොකද වුනේ, දැන් රෑ එළිවෙනකල් ඉන්නවා පහුවදා දානෙට යන්න. ඒ හාමුදුරුවන්ට හිතුනා මේ සංසාරෙ මෙච්චර දිය රෑයක් නම් නෑ කියලා. පහුවදා ඕන්න දානෙට යනවා. දානෙට යනකොට සිරිමා ලෙඩවෙලා. ඊටපස්සෙ දැන් දානෙ බෙදන්න ඉන්නෙ වෙන අය. අවසානෙ පළතුරු ටිකක් අරගෙන සිරිමා ආවා, දැන් කණකර ගලවලා, රෙද්දක් අරන් ඇඟ ඔතාගෙන බොහොම අමාරුවෙන් වෙව්ල වෙව්ලා දානෙ බෙදනවා සිරිමා. අර හාමුදුරුවන්ට හිතුනා අප්පේ ලෙඩවෙලා වසංගතේකටත් ඇවිල්ලා සිරිමා මෙච්චර ලස්සන නම්, සර්වාභරණයෙන් සැරසිලා ඉන්නකොට මගේ අම්මෝ අදහගන්නෙ කොහොමද. උන්නාන්සේට හිතුනා. ඊටපස්සෙ කෙලෙස් ගින්නත් ඇවිස්සුනා. දැන් පාත්‍රය අරන් මෙහෙම දානෙ ශාලාවෙන් නැගිටලා වෙහෙරට ගියා. දැන් පාත්‍රයේ තියලා කල්පනා කලා මට නම් බෑ දැන් මේ දානෙ ටික වළඳන්න නම් බෑ මට ඒ සිරිමා නැතිව කියලා. දැන් සිරිමා ගැන හිත හිතා ඉන්නවා පාත්තරේ දානෙ ටික කාමරේ. එදා රෑ සිරිමා මලා. එදා රෑ සිරිමා මලා. ඉතින් බුදුරජාණන් වහන්සේට මේ සෑම දෙයක්ම පේනවානෙ. බුදුරජාණන් වහන්සේ ඉක්මණට රජතුමාට පණිවිඩයක් යැව්වා රජතුමනි, සිරිමාගේ ශරීරය සොහොනෙ දාලා තියන්න, වටේ ආරක්ෂාව දාන්න සත්තු සීපාවො කන්නැති විදියට, දවස් හතක්. දැන් සිරිමාගෙ ශරීරය දවස් හතක් සොහොනෙ තියෙනවා වටේ ආරක්ෂා කරලා සත්තුන්ට එන්න දෙන්නෙ නෑ, අර හාමුදුරුවො දැන් දවස් හතේම වළඳන්නෙ නෑනෙ, නැගිටින්නෙ නෑ. හත්වෙනි දවසේ බුදුරජාණන් වහන්සේගේ පණිවිඩය මත ඒ නගරයේ ඉන්න සියලු දෙනා, පුංචි ළමයි, ආච්චිලා සීයලා ටික හැර සියලු දෙනා එන්න ඕන සොහොනට. බුදුරජාණන් වහන්සේ ආරාමයේ හිටපු සියලු සඟරුවනත් එක්ක සොහොනට වැඩියා, සිරිමා බලන්න. ඉතින් මේ ආරංචියට ඔක්කොම හාහූවක් නැතිව එනවා එතෙන්ට. අප්පෝ මැස්සො, ගන්දස්සාරෙ බෑ පළාතක්. මැස්සො පිරිලා, පණුවො දවස් හතක, පණුවො මෙහේම උඩට එනවා. ඇස්වලින් කටවල් වලින් නහයෙන් පණුවො මෙහෙම එනවා. ඇඟ ඉදිමිලා ඇඳුම් පුපුරාගෙන ඕජස් බහිනවා. කළුම කළුයි, නිල් වෙලා. ගන්දස්සාරෙ, මේ නහයෙන් එන පණුව අනිත් නහයෙන් යනවා. ඒ නහයෙන් මතුවෙන පණුවො කනින් එනවා. ඒ කනින් එන පණුවො නහයට රිංගනවා, ඇඟ හැමතැනම. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ රජතුමාට කිව්වා, රජතුමනි මේ සිරිමාට දවසට කොච්චර කහවණු ගත්තද ඒ කාලේ, කහවණු දාහයි. ඉතින් දැන් කියන්න

කහවණු දාහක් දීලා මේ සිරිමව ගන්න කියලා. රජතුමා අණබෙරයක් ගහනවා එතන ඉඳලා කහවණු දාහයි, සිරිමාව ගෙනියන්න කවුරුහරි. එකෙක් නෑ. කහවණු පන්සීයයි, එකෙක් නෑ, දෙසිය පනහයි, එකෙක් නෑ, සීයයි, එක්කෙනෙක් නෑ, පනහයි එක්කෙනෙක් නෑ, කහවණු විස්සයි එක්කෙනෙක් නෑ, කහවණු දහයයි, නෑ, කහවණුවයි කෙනෙක් නෑ, අඩකහවණුවයි නෑ, නිකං ගනිල්ලා කිව්වා සිරිමා. එකෙක් නෑ. බුදු රජාණන් වහන්සේ වදාළා පස්ස චිත්ත කතං බිම්බං පාරුකායං සමස්සිතං පාතුරං භව සංකප්පං යස්ස නත්ති දුභන්තිතී, මේ බලන්න කිව්වා, මේ ශරීරය දෙස බලන්න, පස්ස චිත්ත කතං බිම්බං, ශරීරයට වෙච්චි දේ බලන්න කිව්වා. මේ ලෙඩවලට කැදැල්ලක් වගේ ශරීරය, දැන් කවුද ගන්නෙ කියලා ඇහුවා. මේවා ස්ථිර නෑ කිව්වා. ධර්මය දේශනා කළා. අර දවස් හතක් නොවළඳපු හාමුදුරුවො රහත් වුනානෙ. මගේ අම්මේ මේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීම ඒකාන්තයෙන් තුන් ලෝකෙට යහපතක්මයි. බොහෝ දෙවි මිනිස්සුන්ට යහපතක්මයි. අර බලන්නකො අද කාලෙ ගෑණියෙක් ගැන හාමුදුරු නමක් හිත හිතා හිටියොත් කෙළ ගහයිනෙ මිනිස්සු. කෙළ ගහයිනෙ. අර කොහෙද එක පැත්තක උදේ දානෙ ගෙනියනකොට හාමුදුරුවො නැගිටලා නෑ කියලා, ඉදිආප්ප ගෙනිහිල්ලා තියෙන්නෙ, හාමුදුරුවන්ගෙ කාමරේ දොරකඩ ළඟ ඉදිආප්ප අතුරලා හොදි වක්කරලා ඇවිල්ලා උපාසිකාවක්. හාමුදුරුවො නැගිට්ටෙ නෑ කියලා. ගෑණියෙක් ගැන හිත හිතා හිටියා කිව්වොත් හාමුදුරුවො කෙළ ගහයි. මෙන්න ලොව්තුරා සම්මා සම්බුදු රජාණන් වහන්සේ. දහම් දෙසුවා ඒ භික්ෂූන් වහන්සේ අර්හත්වයට පත්වුනා. මිනිස්සු අසූහාරදහසකට වැඩිය සෝවාන් වුනා. ඒ ධ්ම දේශනාව අහලා. ඇයි කුණ, මිනී කුණ පෙනි පෙනී, බටහිර රටවල්වල සුද්දො සුද්දියො කොරෝනා හැදුනට පස්සෙ ඇඳුම් ගලවලා එක රොත්තට නිරුවතින්නෙ මිනී කඳන් ටික දැම්මෙ. කවුද ඒවට රාගය ඇති කරගන්නෙ, කවුද ඕවා බදාගන්නෙ, කවුද ඕවා වැළඳගන්නෙ. බයයිනේ කිට්ටුවෙන්නත් ළඟට. ආදරයෙන් සෙනෙහසින් වැළඳගෙන ඉන්න බිරිඳට කොරෝනා හැදුනට පස්සෙ ස්වාමියා ළංවෙන්නෑ අත තියන්නෑ, ස්වාමියාට හැදුනට පස්සෙ බිරිඳ ළංවෙන්නෑ, අත තියන්නෑ, ස්ත්‍රීන්ට පෙරේතකම් කර කර ඉන්න පිරිමි ඉන්නවා, පිරිමින්ට පෙරේතකම් කරන ස්ත්‍රීන් ඉන්නවා. ලෙඩක්, ඔය වෛරස් හැදිච්චයින් පස්සෙ කවුරුවත් ළඟට කිට්ටු වෙන්නෑ. ඊටපස්සෙ මිනියත් දුර ඉඳලා තමයි දාන්නෙ කොහෙට්ටවත්. මේවා තේරුම් ගන්න මේ ශරීරයේ හැටි. මේ ඔක්කොම නිරෝගීකම් තියෙන කල් තමයි මේ රාගය

ඔක්කොම මේ සෙල්ලම් ටික තියෙන්නෙ. රාගයේ සෙල්ලම් ඔක්කෝම නිරෝගීව ඉන්නකල්. නිරෝගීකම කියන්නෙ පිනක විපාකයක්නෙ. කෝ පින් කරනවාද. ඒ නිසා පිනේ විපාකවත් දන්නෙ නැතිව මිනිස්සු රාග ගින්නෙන් කාමයෙන් ඇවිස්සිලා ඉන්නවා. අවසානෙදි ලෙඩ දුක් හැදුනට පස්සෙ, කුණු වුනාට පස්සෙ, ගන්දස්සාරෙ ගහන්න ගත්තට පස්සෙ කවුරුවත් කිට්ටු වෙන්නෙ නෑ, කවුරුවත් කිට්ටු වෙන්නෑ. වයසට ගියාට පස්සෙ කවුරුවත් කිට්ටු වෙන්නෑ. තරුණ කාලෙ හම හොඳට තියෙනකාලෙ අතින් අල්ලගෙන එහෙ මෙහෙ ගිහිල්ලා ළඟට වෙලා හේත්තු වෙලා ඉන්නවා. වයසට ගියාට පස්සෙ ආච්චිලාගේ දත් වැටිලා, කොණ්ඩෙ පැහිලා හම රැලි වැටිලා, ඔය තෙල් බෙහෙත් ගාගෙන ඔය ගන්දස්සාරෙ ඉන්නකොට ආයෙ සීයලා ඈත් වෙලා ඉන්නෙ. මේ ජීවිතය දෙස බලන්න. මේන්න මේ දහම් කතාව කිය කියා ඉන්න වෙලාවෙ අශ්වයෝ පන්සීයක් සහිතව, ඒ අශ්වයන්ගේ රථාචාර්යවරු පන්සීයක් සහිතව මහා විමානයකින් ඈ බුදුරජාණන් වහන්සේගේ සිරිපා වඳින්නට පැමිණියා. ඈ වනාහි සිරිමා දෙව්දුවයි. ඔබ දන්නවාද සිරිමා දෙව්දුව කොහෙද ඉපදුනේ කියලා. නිම්මාණරතියෙ. පුදුමයි. ආශ්චර්යයයි. පුංචි කාලෙ ඉඳලා වැරැද්දක් නොකරපු උත්තරා තව්තිසාවෙ. ජීවිතේම වරද්දගත්ත සිරිමා ධර්මයට ආවා. ඈ නිම්මාණරතියෙ, විශාඛා ඉන්න තැන. පින්වතුනි ජීවිතේ වැරදිච්ච කෙනෙකුට ධර්මය අහුවෙලා හරියට කරගෙන ගියොත් පුංචි කාලෙ ඉඳලම හොඳට ආපු කෙනාට වැඩිය සමහර විට එයාගෙ ජීවිතේ ඉහළට යනවා ආධ්‍යාත්මික වශයෙන්. තේරුම් ගන්න මේක. මම හිතනවා ධර්මය හොඳට කාවදියි ජීවිතේ වැරදිච්ච අය ඒවා හදාගන්න ඒ අයට අවංකව උවමනාවක් තියෙනවානම්, සාමාන්‍ය කෙනෙකුට වැඩිය ධර්මය අල්ලන්න පුලුවන් ජීවිතේ වැරදිච්ච අයට. අද ඉඳලා ඒ දහමේ පිහිට පිළිසරණ ලබාගන්න ඕන. සැනසිල්ල ලබාගන්න. මේ බලන්නකො නිම්මාණරතියෙ ඈ ඉන්නෙ. ඇයගේ විමානය, ඇයගේ රථය ගෙනියන්න විතරක් දෙව්වරු පන්සීයක් ඉන්නවා. ඈට උපස්ථාන කරනවා. මෙහෙමත් ධර්මයෙන් නම් මනුස්සයෙක් වෙනස් කරනවා. පුදුම සහගතයි. ඉතින් ඒ වෙලාව දිව්‍යාංගනාව මිනිස්සු මැදට ආවා ආකාසෙන්. මහා දවාලෙ. වංගීස මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේ ළඟ වැඩහිටියේ. ස්වාමීනී මේ දෙව්දුව කව්ද කියලා ඇහුවා. වංගීස ඉතින් ඔබම අහන්නකො ඒ දෙව්දුවගෙන්. වංගීස මහරහතන් වහන්සේ තමයි මේක ඇහුවේ. පින්වත් දෙව්දුව ඔබේ අශ්වරථය හරීම ලස්සනයි. ඒ අශ්වයන්ටත් දිව්‍යමය ආභරණ වලින් ලස්සනට සරසලා තියෙනවා. ඒ අශ්වයන්ගේ මුහුණු පහළට

හරවගෙනයි ඉන්නෙ. අහසින් යන්නෙ හරි බලවත්වයි. වේගවත් ගමන් තියෙනවා. ඔබේ පිනෙන් නේද ඔය අශ්වරථ පන්සීයම පහළ වුනේ. රියදුරෙක් හොඳින් මෙහෙයවන අශ්වයෙක් වගේ මේ අසුන් ඔබේ සිතට අනුවයි ගමන් කරන්නෙ. ඒ සිරිමා දෙව්දුව හිතන විදියට තමයි ඒ අශ්වයෝ ඔක්කෝම ටික ගමන් කරන්නෙ. අශ්වයො පන්සීයක්. ලස්සන දිව්‍ය ආභරණ වලින් සැරසිලා උතුම් දිව්‍ය රථයක වාඩිවෙලා සිටිද්දී ඔබ බබලන්නේ සුන්දර ගිනිසිළුවක් වගේ. මහා එළියක් දෙන දෙයක් වගේ. අලාමක පෙනුමැති උතුම් දිව්‍යාංගනාව, දිව්‍ය ශරීරයක් දරාගෙන ඉන්න තැනැත්තිය, බුදුරජාණන් වහන්සේ බැහැදකින්න ඔබ මේ ආවේ කවර දිව්‍යලෝකෙක ඉඳලද. ඇහුවා ඔබ කොයි දිව්‍යලෝකෙ ඉඳලද ආවෙ. හරි ලස්සනයි. කාමග්ග පත්තානං යමාහුනොත්තරං, යම් දිව්‍ය ලෝකයක උතුම්ම කාම සම්පත්තිය තියෙනවා නම්. නිම්මාය නිම්මායරමන්ති දේවතා, ඒ දෙවියෝ තමන් කැමති කැමති දේවල් මව මවා මව මවා සතුටු විඳිනවා නම් තස්මා කායා අච්ඡරා කාමවන්නීජී, යම්කිසි කෙනෙක් කැමති කැමති දිව්‍ය අප්සරාවන් කැමති කැමති විදියට තමන්ගේ රූප මවාගන්නවානම් ඉදාගතා අනදිවරං නමස්සිතුංති, ඒ ලෝකෙ ඉඳලා තමයි මං බුදුරජාණන් වහන්සේ වඳින්න ආවෙ කියනවා. ඒ දිව්‍යලෝකෙ නම තමයි නිම්මාණරතිය. නිම්මායනිම්මාය රමන්ති දේවතා, ඒ නිම්මාණරතියෙ ස්වභාවය තමයි අග්‍ර කාම සම්පත්තිය තියෙනවා. තමන් කැමති කැමති සැප මවාගන්න පුලුවන්. තමන් කැමති කැමති රූපෙ මවාගන්න පුලුවන්. දැන් තව්තිසාව, යාමය, තුසිත කියන දෙවිවරුන්ට ලැබිච්ච දිව්‍ය ශරීරය විතරයි. දැන් නිම්මාණරතියෙ දෙවිවරුන්ට පුලුවන් ශරීරය වෙනස් කරන්න. උදේ එක විදියකට ඉන්න පුලුවන්. දවාලෙ වෙන ශරීරයක්, හවසට වෙන ශරීරයක්. කැමති කැමති විදියට ඉන්න පුලුවන්. මේ සිරිමා ධර්මය පුරුදු කරලා කෝටියක් පව් නැති කලානෙ. ඊටපස්සෙ කියනවා පින්වත් දෙව්දුව ඔබ මේ ජීවිතේදි මොනවගේ සුචරිතයක්ද කලේ, අප්‍රමාණ කීර්තිසැප මේච්චර ආනුභාවයක් මෙච්චර ඉහළ දිව්‍යලෝකෙකට යන්න මොකක්ද කරපු පින, දෙවිවරු පිරිවරාගෙන ඉන්නවා. සත්කාර කරනවා. ඊළඟට මොන ජීවිතේ ඉඳලද චුත වෙලා ඔබ ආවෙ දෙව්ලොවට. ඊළඟට ඔබ කොයි බුදුරජාණන් වහන්සේගේ ධර්මයක්ද ඇහුවේ. කොයි ශාසනේද ඔබ ධර්මය පුරුදු කලේ. ඉතින් කියනවා පංච පර්වතයන් අතරයි ඒ උතුම් නගරය ලස්සනට මවලා තිබුනේ. ඒ ශ්‍රීමත් වූ බිම්බිසාර රජාණන්ගේ මහේෂිකාවක් වෙලා මාත් හිටියා. එතකොට සිරිමා බිම්බිසාර රජ්ජුරුවන්ගෙත් මහේෂිකාවක්. ඒ කියන්නෙ බිම්බිසාර රජ්ජුරුවො නිතර

සිරිමා ගණිකාව ඇසුරු කරලා තියෙනවා. ඊටපස්සේ කියනවා ඒ කාලෙ මං ලස්සනට නටනවා, සින්දු කියනවා. රජගහනුවර කවුරුත් මාව දැනගෙන හිටියේ සිරිමා කියලා. බුදුරජාණන් වහන්සේ මහා ඍෂිවරයෙක්. දෙවි මිනිසුන්ව නිවන් මගේ හික්මවන මහා මුණිවරයෙක්. උන්වහන්සේ තමයි මට මේ දුකේ හටගැනීමත්, මේ දුකත් අනිත්‍යයි කියලා වදාළේ. සනාතන වූ අසංකත වූ දුක්ඛ නිරෝධය වන ඒ අමා නිවනත් මට වදාළා. සුන්දර වූත්, ඇද නැති වූත්, මේ ආර්ය අෂ්ටාංගික මාර්ගයත් මට වදාළා. බුදුරජාණන් වහන්සේ මට විස්තර කර දුන්නා කියනවා චතුරාර්ය සත්‍යය. මං ඒ අසංකත වූ අමා මහ නිවන ගැන ඒ තථාගත වූ බුදුරජාණන් වහන්සේගේ බුදු සසුන ගැන හොඳින් අසාගත්තා. නරෝත්තම වූ ඒ බුදුරජාණන් වහන්සේ විසින් වදාරන ලද ධර්මයේ මං පිහිටියා. මාත් සිල්වත් වුනා. පුදුම විදියට මං සංවර වුනා කියනවා. එයාගෙ තිබ්බ ඔක්කොම ජරා ජීවිත අයින් කලා. පුදුම විදියට මං සංවර වුනා කියනවා. ඒ නිකෙලෙස් වූ අසංකත වූ නිවන ගැනත් තථාගත වූ උතුම් බුදුරජුන්ගේ සසුන ගැනත් මං අවබෝධ කරගත්තා, ඒ නිවන් මගේ පිහිටලා සමථ භාවනාවෙන් මං සමාධිය ස්පර්ශ කලා. හම්මේ සිරිමා සමාධි වඩලා. ඉතින් බලන්න කෙනෙක් වරදින් මිදීමේ ආනුභාවය. පින්වතුනි වැරැද්දක් කරන මනුස්සයා මැරෙනකල්ම වැරැද්දෙ ඉන්න දෙන්න එපා. වරදින් නැගී හිටින්න පුලුවන්. සාමාන්‍යයෙන් පුංචි කාලෙ ඉඳලා සංවර කෙනෙකුට වැඩිය වැරදුන කෙනා ධර්මයට ආවොත් ඉහළටම යනවා. ජීවිතේ වෙනස් වෙනවා. ඊටපස්සෙ කියනවා ඒ සමාධියමයි මගේ නිවන් මාර්ගය උතුම් නිවන් මාර්ගය වුනේ. ඒ කියන්නෙ මෙයාට සමාධිය තුලින්ම තමයි ගොඩාක් මාර්ගය වැටහිලා තියෙන්නෙ. මං ඒ අති උත්තම වූ අමා මහ නිවන අවබෝධ කරගත්තා. චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධයට පැමිණුනා. සැක රහිත වුනා. බොහෝ දෙනෙක් මට පූජා සත්කාර කරනවා. මං අපමණ වූ සැප සම්පත් දිව්‍ය ක්‍රීඩාවල යෙදෙනවා කියනවා. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවක් මං. ඒ අමාමහ නිවන අවබෝධ කරපු දෙව්දුවක්. චතුරාර්ය සත්‍යය ධර්මය දැනගත්ත දෙව්දුවක්. ප්‍රථම ඵලය වන සෝවාන් ඵලයට පත් වූ කෙනෙක්. මට නම් දුගතියක් නෑ කියනවා. මං බුදුරජාණන් වහන්සේ වන්දනා කරගන්නයි පැමිණුනේ. භික්ෂූන් වහන්සේලා දුටුවම පහදිනවා. කුසල යානය තුලයි ඉන්නේ. ස්වාමීන් වහන්සේලා ඉන්නෙ කුසල් යානය තුල, ඒ ශ්‍රීමත් වූ ධර්ම රාජයන් වහන්සේගේ සොඳුරු ශ්‍රමණ සමාගම ගෞරවයෙන් නමස්කාර කරන්නයි මං ආවෙ. ඇයි ඔක්කොම සංඝයා වැඩ ඉන්නවානෙ. පුදුම සහගතයි. නරෝත්තම වූ

පුරිසදම්මසාරථී වූ තථාගත මුණීන්ද්‍රයන් වහන්සේ දකිනකොට නෙත් සිත් පිනා යනවා. මට හිතට හරීම සතුටුයි, දිස්වා මුනිං මුදිත මනම්හි පනීතා තථාගතං නරවරදම්ම සාරථිං, අනේ නරශ්‍රේෂ්ට සත්ත්වයන් දමනය කරන බුදුරජාණන් වහන්සේ දකිනකොට මට හරිම සතුටුයි. තණ්හාව මුලින්ම සිඳලා ඉන්නෙ බුදුරජාණන් වහන්සේ. අමා නිවනට පැමිණිලයි ඉන්නෙ. ඒ නිවනට ඇලිලයි ඉන්නෙ බුදුරජාණන් වහන්සේ. ලෝකවිනායකයන් වහන්සේ පරම හිතානුකම්පාවෙන් යුක්තයි. මං ඒ තථාගතයන් වහන්සේට වන්දනා කරනවා කියලා සිරිපා වන්දනා කලා ආදරෙන්, අතුරුදහන් වුනා. පුදුම සහගතයි. අදටත් ඉන්නවා. කොහොමද වරදින් අත්මිදීම. මේ දෙව්ලොවනෙ. ඇලා මාර්ගඵල ලාභීනෙ. අදටත් දිව්‍ය ලෝක හය මාර්ගඵල ලාභීන්ගෙන් පිරිලානෙ. ඔබගේ ජීවිතේ කුසල් කරන්න. ගොඩාක් පින් කරන්න. මේ දේශනා නැවත නැවත කියවන්න, අහන්න. ජීවිතේ වෙනස් කරගන්න. වරදින් අත්මිදෙන්න. බුදු කෙනෙක් ළඟට පිවිසෙනවා වගේ ධර්මයට පිවිසෙන්න. ගොඩාක් බණ අහන්න. ජීවිතේ වෙනස් කරගන්න. ඔයාලගේ ජීවිතේ ගොඩාක් වෙනස් වෙයි මේ ධර්මය නිසා. ඒ සඳහා ඔබට භාග්‍යය සැලසේවා කියලා එක සිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා.

දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහනට අද දායකත්වය දරන්නේ හෝමාගම පදිංචි පින්වත් සුනේත්‍රා ඒකනායක මහත්මිය විසින්. ඉතින් අපි අද රැස් කරගත්ත අනන්ත අප්‍රමාණ පින අනුමෝදන් කරමු විශේෂයෙන් මේ ලංකාවටත් ලෝකයටත් ව්‍යසනයක්ව පැවතෙන මේ කොරෝනා වසංගතය දුරින්ම දුරු වෙලා රෝගීන් සුවපත් වෙලා සියලු යහපත සැලසේවා, මේ ලක්දෙරණ ලෝකය, මේ ව්‍යසන වසංගත දුරින්ම දුරු වෙලා මනුස්ස වර්ගයාට සැනසිල්ල ලැබේවා කියලා එක හිතින් අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වාගේම මේ සියලු පින් සියලු දෙවිවරුන්ට අනුමෝදන් කරලා මේ පින්වතුනුත් ලක්දෙරණත් ලෝකයත් මනුස්ස වර්ගයාත් ආරක්ෂා කරත්වා කියලා දෙවිවරුන්ට පින් දෙනවා. ඒ වගේම මීට වසර තුනකට පෙර මියපරලොව ගිය ඊ.එම්. අප්පුහාමි පියාණන්ට සහ වසර පහකට පෙර මියගිය ඊ.එම්. ජයන්ත ප්‍රේමසිරි ඒකනායක සහෝදරයාට මේ පින් අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා. ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන් මේ පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම සුජීවත්ව සිටින එස්. රාමනායක මැණියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා කියලා පින් පමුණුවනවා. මේ ධර්මය අපිට සරලව

ඉගෙනගන්න කල්‍යාණමිත්‍ර සේවනය දහම් ඇසුර ලබාදුන් පරම පූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා, නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම සංඝයාටත්, අනගාරිකා මෑණිවරුන්ටත් පැවිදි අපේක්ෂක දූ පුතුන්ටත් මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. හෝමාගම පදිංචි පින්වත් සුනේත්‍රා ඒකනායක මහත්මියටත් ඒ පවුලේ සියලු දෙනාටත් නිදුක් නිරෝගී සුවත් ධර්මාවබෝධයත් සැලසේවා. හැදූ වැඩූ දෙමව්පියන්, ගුරුවරුන් සියලු දෙනාට, ශ්‍රද්ධා රූපවාහිනියේත්, ලක්විරු ගුවන්විදුලියේත් සියලු දෙනාට, දායකත්ව දේශනා දායකත්ව දරන සියලු දෙනාට පින් සිදු වේවා. අපි කාටත් අපේ ජීවිතයේ අඩුපාඩු හදාගෙන මේ ධර්මය තුළින් පිහිට පිළිසරණ ලබලා සුගති රැකවරණය අමා මහ නිවන ගෞතම බුදුසසුනේ පිහිට පිළිසරණ ලබාගන්න මේ පින් ඒකාන්තයෙන් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=n7FgiHaBBxQ&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=6

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දිවැසින් දුටු දෙව්ලොව සැප සදහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කොරියාවේ සේවයේ නියුතු මාතර උඃරුබොක්කේ පදිංචි පින්වත් සුරංග කංකානම්ගේ මහත්මයා විසින්. මෙතුමා තමයි කොරියාවේ සිට මේ ධර්මදානය සඳහා දායකත්වය දරන්නෙ. තමන්ගේ ජීවිතයට විශාල පිනක් රැස් කරගන්නවා අන් අයට ධර්මයේ පිහිට පිළිසරණ සලසලා දීලා. ඒ වගේම විශාල ධර්ම දානයක් සිද්ධ කිරීමේ පින මේ දායකත්වය දරන පින්වතුන්ට සැලසෙනවා. ඉතින් පින්වත්නි මනුස්සයෙක් විසින් යහපත්

සිතින් කයින් වචනයෙන් යහපත් දෙයක් කලොත් එහෙම ඒ යහපත් දේ විපාක තමාට සැලසෙන බව හොඳට තේරුම් ගන්න පුලුවන් කාරණාවක් තමයි මේ විමානවත්ථු වල තියෙන කතාවල ස්වභාවය. මීට කලින් අපිට කියවන්න ලැබුනා, ඉගෙනගන්න ලැබුනා, වරදකින් අත්මිදීමේ ආනිසංස. ඒ සිරිමා ගණිකාව තමන්ගේ ජීවිතය සම්පූර්ණයෙන්ම ධර්මය නිසා වෙනස් කරගෙන මාර්ගඵල අවබෝධයට ඇවිල්ලා ඊටපස්සෙ නිම්මාණරතිය දිව්‍යලෝකය දක්වා හිත වැඩුවා. මේ බුද්ධ ශාසනයේ අග්‍ර දායිකාවත් සිටින්නේ නිම්මාණරතියේ, විශාඛා. ඒ දෙව්ලොවටම මේ සිරිමා ගියා. ජීවිතේ අඩුපාඩු හදාගෙන. ගොඩාක් ජීවිතේ වැරදුනු අයට ධර්මය ලැබුනොත් එහෙම එයාලගේ ජීවිතේ ඉක්මණට වෙනස් කරගන්න පුලුවන්. ඒ වාගේ කෙනෙක් ධර්මයේ හැසිරුණොත් සාමාන්‍ය කෙනෙකුට වැඩිය ලොකු යහපතක්, මොකද හේතුව ඒ තමන්ගේ අකුසල් යටයන්න එයා ගොඩක් වීර්යයෙන් ධර්මය අල්ලනවා. ගොඩක් වීර්යයෙන් ධර්මය අල්ලනවා. ඊළඟට මතකද ඒ කතාවෙ තිබ්බා පුණ්ණ දාසයා සාරිපුත්ත මහරහතන් වහන්සේට දැහැටි දඬු පූජා කලා. දැන් අංගුත්තර නිකායෙ තියෙනවා දන්තකට්ඨ කියලා සූත්‍රයක්. ඒ සූත්‍රයෙ තියෙනවා දැහැටි දඬු පූජා කලාට පස්සෙ දත් මදින්න ඒ දැහැටි දඬු පාවිච්චි කිරීමේ ආනිසංස තියෙනවා පහක්. ඒ තමයි හොඳට දැහැටි දඬු වලින් දත් මදිනකොට ඒක ඇස් වලට බලපානවා, ඇස් වලට හොඳයි. ඊළඟට හොඳට දැහැටි දඬු පාවිච්චි කරනකොට ඒකෙන් මුඛ දුර්ගන්ධය නැතිවෙලා යනවා. ඊළඟට රස නහර පිරිසිදු වෙනවා. හොඳට රස දැනෙනවා. ඊළඟට පිතයි සෙමෙන් ආහාරය වැහෙන්නෑ. ඒ කියන්නෙ පිතෙන් සෙමෙන් ආහාරය වැහුනට පස්සෙ හරියට දිරවන්නෑ, පෝෂණය ඇඟට උරන්නෑ, එතකොට ඒක නැතිවෙනවා කියනවා හොඳට දත්මැද්දට පස්සෙ. ඊළඟට ආහාර රුචිය ඇතිවෙනවා දැහැටි දඬු වැළඳීම තුලින්. ඇසට හිතකරයි, මුඛ දුර්ගන්ධය දුරුවෙනවා, රස නහර පිරිසිදු වෙනවා. ඒ වගේම පිත සෙමෙන් ආහාර දිරවන එකට බාධා ඇතිවෙන්නෑ, ඊළඟට ආහාර රුචිය ඇතිවෙනවා හොඳට. ඉතින් ඕක තමයි දැහැටි දඬු වැළඳීමේ ආනිසංස. දෙන දේනෙ තමන්ට ලැබෙන්නෙ. දෙන දේ තමන්ට ලැබෙන නිසා තමන්ටත් මේ වගේ විපාකම ලැබෙනවා. තවත් කෙනෙකුගේ ඇහැට හිතකර ඖෂධයක් විදියට දැහැටි පූජා කරලා තමන්ටත් නිරෝගී නෙත් සඟලක් ලැබෙනවා. මුඛ දුර්ගන්ධය දුරුවීම පිණිස දැහැටි දඬු පූජා කරලා දුර්ගන්ධය නැති මුඛයක් ලැබෙනවා. ඒ වගේම රස නහර හොඳට දැනෙනවා එයාට. ඊළඟට ආහාර අරුචිකම් ඒවා ඇතිවෙන්නෙ නෑ, හොඳට ආහාර දිරවන්න ගන්නවා. දැහැටි දඬු

පූජා කිරීමේ ආනිසංස ඒ විදියට තියෙනවා. දැන් ඒකත් අමතරව මතක් කළේ. ඒ නිසා තේරුම් ගන්න මේ පින්වල විපාක. ඊටපස්සෙ පින්වත්නි අද තියෙන්නෙ හරි අපූරු කාරණාවක්. මේ සත්පුරුෂයන්ගේ ඇසුර පින්වත්නි. පින්වතුනි, සබ්බි කියලා සූත්‍රයක් තියෙනවා, ඒ සූත්‍රයේ තියෙනවා සබ්බිරේව සමාසෙයිත සබ්බිකුබ්බේත සන්තවා සතං සද්ධම්ම මඤ්ඤාය සත්තා ගච්ඡන්ති සුග්ගතිං, සත්පුරුෂයන් සමගමයි ඉන්න ඕන. සත්පුරුෂයො සමගමයි සත්පුරුෂයෝමයි ඇසුරු කරන්න ඕන. සත්පුරුෂයො ඒකක යාළු වෙන්න ඕන. සත්පුරුෂයන්ගේ ධර්මය දැන ගත්ත කෙනා දෙව්ලොව උපදිනවා කියලා දිව්‍ය ලෝක මාර්ගයේ තියෙනවා. දෙව්ලොවට මාර්ගය තමයි සත්පුරුෂයෝ ඇසුරු කරන එක. සත්පුරුෂයන්ගේ ධර්මය අහන එක. ඒ සත්පුරුෂයන්ගේ දහමට දමනය වෙන එක. දෙව්ලොව මාවත. මේ බලන්න මේ කේශකාරී විමානවත්ථුව. කේශකාරී කියන්නෙ මේ දියණී බ්‍රාහ්මණයෙක්ගේ දුවක්. ඉතින් දවසක් උදේ බමුණෙක්ගේ ගෙදර ඒ තමන්ගේ පියා බ්‍රාහ්මණයෙක්. කේශකාරී දියණිය එයාගෙ ඔලුවෙ උකුණො බල බලා ඉන්නවා. එතකොට පාරේ සාන්ත සන්සුන් ඉරියව් ඇති තෙරුන් වහන්සේ නමක් පාරේ වැඩම කරනවා ජේනවා. අර දියණියට හිතුනා හරි පුදුමයිනේ. ඉතින් ඒ බ්‍රාහ්මණයාගෙන් අහනවා ඇ පියාණෙනි, මේ පුදුමයිනෙ තරුණ කාලෙ, කළු කෙස් තියෙන කාලෙ ගෙවල් දොරවල් වලින් ඈත්වෙලා මේ කසාවත් දරාගෙන මේ ශ්‍රමණ පිරිසක් ඉන්නවා. උන්වහන්සේලා බිමට යොමුකරපු ඇස් තියෙන්නෙ, හරි සාන්තයි, මිනිස්සුන්ගෙන් ලැබෙන දෙයක් වළඳන්නෙ, හරි පුදුමයි. ඇයි දන්නෑ මේ වාගේ ජීවිත වලට මේ තරුණ පිරිමි අය මේ විදියට කැමති වුනේ. කියනකොට එතන හිටියා ඒ බ්‍රාහ්මණයා මුණගැහෙන්න ආපු බුදුරජාණන් වහන්සේගේ දහම ගැන දන්න කෙනෙක් හිටියා. එයා කිව්වා දෝණී අහපු නිසා මේ කියන්නෙ, ශාක්‍ය කුලයෙන් නික්මුණ, ශාක්‍යයේ ඔටුන්න හිමිවෙලා තිබුනු කුමාරයෙක් හිටියා සිද්ධාර්ථ කියලා. ඒ කුමාරයා පැවිදි වුනා. පැවිදි වෙලා ලොව්තුරා සම්බුදු බවට පත්වුනා. උන්වහන්සේ මුල මැද අග පිරිසිදු ධර්මය දේශනා කරනවා. අකනිටා බ්‍රහ්ම ලෝකය දක්වා ඒ දහම් ඝෝෂාව පැතිරිලා උන්වහන්සේගේ ශ්‍රාවකයො ඉන්නවා. ඉතින් ඒ උන්වහන්සේ පිරිසිදුව දහම් දේශනා කරනකොට අල්ප වූද, ඊළඟට මහත්වූද, භෝග සම්පත් අතහැරලා ශ්‍රද්ධාවට පත්වෙලා, ඉපදෙමින් මැරෙමින් යන සංසාර ගමන කෙටි කරගන්න කියලා තමයි ඔය පැවිදි වෙලා වත්පිළිවෙත් පුරන්නෙ. උන්වහන්සේලා අනිත් අය දෙන දේකින් යැපෙනවා, ලද දෙයින් සතුටු වෙනවා. ඊළඟට ඉන්ද්‍රිය සංවරයෙන් යුක්තයි කියලා සඟ ගුණ

කිව්වා. ඉතින් ඒ වාගේ අය තමයි කිව්වා බුද්ධ ශාසනයේ පිහිට ලබලා ඉපදී ඉපදී යන සංසාර ගමනේ දුක නැතිකරගන්නවා කිව්වා. ඉතින් අර කේශකාරී දියණිය අහනවා, ඉතින් ඔය වාගේ ඒවා අපිටත් බැරිද පුරුදු කරන්න. ඇයි දියණිය බැරි, බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෝ ඉන්නවා ඔය වාගේ කසාවත් පොරවාගෙන උන්වහන්සේලා භික්ෂූන් වහන්සේලා. කාන්තාවො ඔය විදියට කසාවත් ඇඳගෙන ඔය විදියට පාරේ වඩිනකොට උන්වහන්සේලාට කියනවා භික්ෂුණීන් වහන්සේලා කියලා. ගිහිජීවිතේ පිරිමි කෙනෙක් ධර්මය පුරුදු කලොත් ඔවුන් උපාසකයො. උපාසිකාවක් වෙන්නෙ ගිහි ජීවිතේ ඉඳලා ධර්මය පුරුදු කරන කාන්තාවන් කිව්වා. ඊටපස්සෙ කිව්වා එහෙනම් මට බැරිද උපාසිකාවක් වෙන්න. පුලුවන් කිව්වා. කොහොමද පුලුවන් වෙන්නෙ. ඔබ බුදුරජාණන් වහන්සේ සරණ යන්න ඕන දිවි තිබෙන තුරු. ඒවගේම ධර්මයේ සරණ යන්න ඕන. සංඝයා සරණ යන්න ඕන. මේ විදියට තෙරුවන් සරණ යන්න ඕන. වෙන පිහිටක් පිළිසරණක් පතන්නැතිව. යන එනකොට ඉඳින හිටිනකොට නිදාගෙන ඉන්නකොට අවදියෙන් ඉන්නකොට හැම වෙලාවෙම මම බුදුරජාණන් වහන්සේ සරණ ගියා, ධර්මයේ සරණ ගියා, සංඝරත්නයේ සරණ ගියා කියලා තිසරණය සිහි කරන්න ඕන කිව්වා. ඊටපස්සේ එයා හික්මෙන්න ඕන කාරණා පහකට. ඒ කාරණා පහ තමයි, සත්තු නොමැරීමෙන් හික්මෙන්න ඕන. සොරකම් නොකිරීමෙන් හික්මෙන්න ඕන. වැරදි කාමසේවනයේ නොයෙදීමෙන් හික්මෙන්න ඕන. බොරු නොකීමෙන් හික්මෙන්න ඕන. ඊටපස්සෙ මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කිරීමෙන් වැළකී සිටීමෙන් හික්මෙන්න ඕන. මෙන්න මේ සිල් පද පහ රකින්න ඕන කිව්වා. මේකට කේශකාරී දියණියට පුදුම කැමැත්තක් ඇතිවුනේ. කිව්වා උපාසකය, මමත් ඒක ඒ විදියටම කරනවා කිව්වා. ඔබ මට ඒක කියලා දෙන්න. දැන් ඔබ මට කියන්නකො ඒක සරණ යන හැටි. අරයා කිව්වා බුද්ධං සරණං ගච්ඡාමි, දැන් කේශකාරී දියණියත් කියනවා බුද්ධං සරණං ගච්ඡාමි. ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි. දුතියම්පි තතියම්පි වශයෙන් කියලා පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාධියාමි, දැන් බලන්නකො උපාසක මහත්තයා කොච්චර සත්පුරුෂයිද කියලා, තිසරණේ පිහිටෙව්වානෙ. පඤ්චසීලයේ පිහිටෙව්වනෙ. එතකොට මේකම සමාදන් වෙලා හිටියා. ඊටපස්සෙ දැන් කේශකාරී දියණිය විටින් විට තමන්ගෙ ගෙදරට ඒ උපාසකයා එද්දින් අහනවා, උපාසකය තව නැද්ද පුරුදු කරන්න. ඊටපස්සෙ කිව්වා ජීවිතේ ඇත්ත ස්වභාවය බලන්න කිව්වා නිතර. මේ ඇඟට ගොඩාක් අය මේ ශරීරයට

ආසා. විශේෂයෙන් තරුණ ගෑණු ළමයි ගොඩාක් ආස ශරීරයට. බාහිර ශරීර වලට. ඉතින් ගොඩාක් අය මේ ශරීරයට ආසා කරන්නෙ. ඊළඟට බ්‍රාහ්මණයො කියනවා තමන්ගේ මුඛයෙන් ඉපදෙන්නෙ බමුණො කියලා. ඔය ඔක්කොම ශරීරයේ කතානෙ කියන්නෙ. ඕකෙ ඇත්ත බලන්න කිව්වා. ඊටපස්සෙ කොහොමද කිව්වා ඇත්ත බලන්නෙ. බලන්න මේකෙ තියෙනවා කෙස් ලොම් නිය දත් මස් නහර ඇට ඇටමිදුළු ආදිය, ඒ නිසා මේවා ඔක්කොම දුකකට අයිති දේවල්. ආසාව නිසා මේවා උපදින්නෙ කියලා මෙයාට චතුරාර්ය සත්‍යය ගැන අසුභ භාවනාව ගැන යම් යම් විදියට කියලා දුන්නා. මේ කෙල්ල මේවා පුරුදු කලානෙ. පුරුදු කරලා පුරුදු කරලා තිසරණයත් පඤ්චසීලයත් ඒවා ආරක්ෂා කරගෙන හොඳට ආර්ය සත්‍යය ගැන විමසමින් ශරීරය ගැන කල්පනා කරනකොට මෙයාව සතර අපායට වට්ටන යම් සංයෝජනයක් තිබ්බා නම් සක්කාය දිට්ඨි විචිකිච්ඡා සීලබ්බත පරමාස ඒ සංයෝජනයන් තුනම ප්‍රහාණය වුනා. සෝතාපන්න වුනා. ගිහි උපාසක කෙනෙක්ගෙන් මාවත අහලා තමයි ඒක වුනේ. දැන් මං මුලින් කිව්ව ගාථාව මතකද. සබ්බිරේව සමාසෙයිත සබ්බිකුබ්බේත සන්තවා සතං සද්ධම්ම මඤ්ඤාය සත්තා ගච්ඡන්ති සුග්ගතිං, සත්පුරුෂයො එක්කම ඉන්න ඕන. සත්පුරුෂයොමයි ඇසුරු කරන්න ඕන. සත්පුරුෂයන්ගේ ධර්මයමයි අහන්න ඕන. ඒ ධර්මය තේරුම් ගන්න කෙනා සුගතියේ උපදිනවා කියලා. ඈ පස්සෙ කාලෙක ඇට ආපු රෝගයකින් ඇය මියගියා. මියගිහිල්ලා ඉපදුනේ සක්දෙවිඳුගේ බිසවක් වෙලා. ශක්‍ර දේවේන්ද්‍රයාගේ බිසවක් වෙලා ඉපදුනා තව්තිසාවෙ. ඊටපස්සෙ සක්දෙවිඳු තමයි අහන්නෙ, ඒ සක්දෙවිඳුගෙ ඉන්න දිව්‍යාංගනාවන් අතර ඇම වෙනම බැබලි බැබලි පේනවා. සක්දෙවිඳු ඇගෙන් ඇහුවා. දිව්‍යාංගනාව ඔබට ලැබුනු විමානය හරි සිත්කළුයි කියලා. ඉතින් මේ කොහොමද පාදපරිචාරිකාව වෙලා උපදින්නෙ. දිව්‍යලෝකෙ උපදින්න ක්‍රමයක් තියෙනවා පින්වත්නි. ඒ තමයි දෙවියෙක් ඒ දිව්‍ය ලෝකෙ උපදින්නෙ සාමාන්‍යයෙන් කුමාර ස්වභාවයෙන්. ඒ කියන්නෙ අවුරුදු දහසයක විතර ලස්සන ස්වරූපයෙන් තමයි උපදින්නෙ. එතකොට ඒ යම්කිසි දෙවියෙක්ගේ යහන් ගබඩාවේ යම්කිසි දිව්‍යාංගනාවක් ඉපදුනොත් එහෙම ඒ දිව්‍යාංගනාව ඒ දෙවියාගෙ පාදපරිචාරිකාව, බිසව වෙලා උපදින්නෙ. එහෙම නැත්නම් ඔඩොක්කුවේ ළඟ ඉපදුනොත් එහෙම දරු තනතුරේ තමයි උපදින්නෙ. ඒ විදියට තමයි දිව්‍ය පුත්‍රයා, දිව්‍ය දියණිය කියලා එහෙම එන්නෙ. ඊළඟට සංගීත කණ්ඩායම නම් ඒ පිරිස අතර උපදිනවා. එතකොට තමයි ගන්ධබ්බ පිරිස වෙන්නෙ. ඔය විදියට උපදින තැන අනුව තමයි

කොයි විමානෙටද එයා අයිති කියලා එහෙම තීරණය වෙන්නෙ. ඒක වෙන්නෙ කර්මානුරූපව. ඉතින් මෑත් සක්දෙවිඳුගෙ ගබඩාවෙ ඉපදුනා. යහන් ගබඩාවෙ. ඊටපස්සෙ ඇය වෙනම මාළිගාවෙන් එළියට යනකොට ඇයට පහළවෙච්ච විමානය වෙනම තියෙනවා. ඒ විමානය තමයි සක්දෙවිඳු දැක්කෙ. සක්දෙවිඳු අහනවා ප්‍රභාෂ්වරයි, වෛරෝඩි මාණික්‍ය වලින් මේ විමානය තියෙන්නෙ. සුන්දර නිර්මාණයක්. රනින් කල වෘක්ෂයන්ගෙන් හැම තැනම සුන්දර වෙලා තියෙනවා. ඔබ මොකක්ද මේ කරපු පින. කලින්ම මේ විමානෙහි දිව්‍ය අප්සරාවන් ලක්ෂයක් පමණ පහළවෙලා ඉන්නෙ. ඒ පිරිවර ඇතිව ඔබත් මෙහි පහළ වුනේ තමන්ගේ පුණ්‍ය කර්මය ආනුභාවයෙන්. ඒ කලින් උපන් දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන ඔබ බැබලෙමින් ඉන්නවා. සුපුන් සඳ රැස් විහිදා බබලනවා. එතකොට තරු එළියෙන් වැඩක් නෑ. ඒ නැකැත් රාජයා වන සඳමයි බබළන්නෙ. ඔබත් ඒ වගේමයි, අප්සරාවන් පිරිවරා ගෙන බබළනවා. පින්වත් දෙව්දුව, ඔබගේ දර්ශනය අලාමකයි. මේ විමානයේ ඔබ පහළ වුනේ කවර පිනක් මුල් වෙලාද. තව්තිසා දෙව්ලොව සක්දෙවිඳු පිරිවරාගත් දෙවිවරුන් බ්‍රහ්මරාජයා දිහා එක දිගට බලාගෙන ඉන්නවා සෑහීමකට පත්වෙන්නෑ. ඒ වගේම සියලු දෙනා ඔබ දිහා කොයිතරම් බලා හිටියත් සෑහීමකට පත්වෙන්නෑ කිව්වා. කොහොමද ඒ දිව්‍යාංගනාවගේ ආනුභාවය. ඊටපස්සෙ සක්දෙවිඳු මේ අහපු කාරණාවට ඈ මෙහෙම උත්තර දුන්නා. සක්දෙවිඳුනි දැන් ඔබ මගෙන් ඇහුවේ මම මේ දෙව්ලොවට ආවෙ කවර ලෝකෙකින් චුත වෙලාද කියලානෙ. කසී රට බරණැස කියලා නගරයක් තියෙනවා. අන්න ඒ නගරයේ මං කේශකාරිකා නමින් ඉපදිලා හිටියේ. කේශකාරිකා. බුදුරජාණන් වහන්සේ ගැනත් ඒ ශ්‍රී සද්ධර්මය ගැනත්, භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සංඝරත්නය ගැනත් මගේ හිතේ ලොකු පැහැදීමක් තිබුනා. ඒ ශ්‍රද්ධාව ස්ථිරසාර එකක්. මං සැකරහිතවයි හිටියේ. නොකඩකොට සිල් පද රැක්කා. සෝවාන් ඵලයට පත්වුනා. මං නියත වශයෙන් නිවන අවබෝධ කරන කෙනෙක් සක්දෙවිඳුනි. සක්දෙවිඳු කියනවා බුදුරජාණන් වහන්සේ ගැනත්, ඒ ශ්‍රී සද්ධර්මය ගැනත්, භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සංඝරත්නය ගැනත් ඔබගේ හිතේ ලොකු පැහැදීමක් තියෙනවා තමයි. ඒක ස්ථිරසාර එකක්. ඔබ සැකරහිතව ඉන්නවා කියලා හොඳට පේනවා. සිල්පද කඩාගන්නෑ කියලා හොඳට පේනවා. ඔබ සෝවාන් ඵලයට පත්වෙච්ච කෙනෙක්. පින්වත් දෙව්දුව, ධර්මය නිසාත් පිරිවර නිසාත් ඔබ බබළනවා. අපි ඔබේ මේ පැමිණීම සතුටින් පිළිගන්නවා. මෙය ඔබට සුන්දර ආගමනයක්, ස්වාගතං කියලා බොහෝම සතුටින් සක්දෙවිඳු ඇගේ

ගමන පිළිගත්තා. මේ බලන්න තිසරණ සරණට ඇවිල්ලා එහි ආනිසංස ලබපු එක පුදුම සහගතයි, දැන් පින්වතුනි තෙරුවන් සරණට ඇවිල්ල පඤ්චසීලය රකිනවා කියන එක සුලුපටු දෙයක් නෙවෙයි. දැන් ඉස්සර තියෙනවා රහතන් වහන්සේ නමක්ගේ ජීවිතයක්. උන්වහන්සේ ඉතාමත් ඈත කාලයක බුදුරජාණන් වහන්සේ නමකගෙන් ධර්මය අහලා මහණ වෙන්න හරි ආසයි. නමුත් අම්මා විතරයි ඉන්නෙ, මෙයා කල්පනා කලා දැන් අම්මා විතරයි ඉන්නෙ. අම්මා බලාගන්නත් කවුරුවත් නෑ. ඒ නිසා මට දැන් මහණ වෙන්න ආසයි, නමුත් මහණ වෙන්න විදියකුත් නෑ. ඊටපස්සෙ මෙයා මොකද කලේ, ඒ මහණ වෙන්න ආසාව තිබ්බට අම්මා නිසා මෙයා මහණ වෙන්න ගියෙ නෑ, අම්මා තනිවෙන නිසා. අම්මා ගැන බලන්න කෙනෙක් නැති නිසා. ඇත්තටම සත්පුරුෂයි මේ පුතා. ඊටපස්සෙ මෙයා කල්පනා කලා එහෙනම් මට මහණ වෙන්න බැරි එකේ මම මුළු ජීවිතේම තුණුරුවන් සරණ රකිනවා කියලා තුණුරුවන් සරණ රැක්කා. බුදුරජාණන් වහන්සේගේ සරණ, ධර්ම රත්නයේ, සංඝරත්නයේ සරණ ඒ තිසරණයට හානි වෙන්න දෙන්නැතිව මුළු ජීවිතේම උදේ හවස තුණුරුවන් සිහි කර කර ආරක්ෂා කලා මුළු ජීවිතේ පුරාම. මේක කලේ මහණවෙන්න විදියක් නැති නිසා. ඒ ජීවිතෙන් චුත වුනා. අපේ බුද්ධ ශාසනය දක්වාම දෙව්ලොව. ඒ තිසරණ සරණ, තව්තිසාවෙ ඉපදිලා තියෙන්නෙ. තිසරණ සරණ සමාදන් වෙච්ච නිසා ආනිසංස අටක් ලැබිලා තියෙනවා. සියලුම දිසාවල්වලට ඕනම පැත්තකට ගියොත් ඔහුට ගරු සත්කාර සම්මාන හම්බවෙනවා. තෙරුවන් සරණ යෑමේ ආනිසංසයක්. ඒ වගේම හොඳ නුවණක් ලැබෙනවා. තෙරුවන් සරණ යෑමේ ආනිසංසයක්. ඇයි මේ ලෝකෙ යම්තාක් අය නුවණ ලැබුවා නම් ඒ සියලු දෙනා තෙරුවන් සරණ ගිය අයනෙ. සියලු දෙවියෝ ඔහු අනුව පවතිනවා. සියලුම දෙවියන් එයා වචනයක් කිව්වොත් එතනින් එහාට කියන්නෙ නෑ. දැක්කද තෙරුවන් සරණේ ආනුභාවය. කොච්චර කට කැඩෙනකල් කියනවද තිසරණය රැකගන්න, තිසරණය රැකගන්න කියලා. සියලු දෙවියෝ, ඒ වගේම අපමණ බෝග සම්පත් ලැබිලා තියෙනවා. දෙව් මිනිසුන් අතර ඉපදෙද්දි. ස්වර්ණව, හම රත්තරන් පාට වෙලා තියෙනවා. ඒ වාගේම හැම දෙනාටම ප්‍රියමනාප වෙලා තියෙනවා. ඒ වගේම මිතුරන්ට ස්ථිර බිඳෙන්නැති මිතුරුකම් හැදිලා තියෙනවා. යාළුවො අතාරින් නෑ එයාව. ඒ වගේම එයාගෙ කීර්තිය යසස හැම තැනම පැතිරිලා තියෙනවා. මේ ආනිසංස අට ලැබිලා තියෙනවා තිසරණේ පිහිටීම නිසාම. තිස්වරක් සක්දෙව් රජ වෙලා ඉපදිලා තියෙනවා. හැත්තෑ පස් වතාවක් සක්විති රජ වෙලා තියෙනවා.

මනුලොව ඉපදිලා අපේ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මනුලොව ඉපදිලා මහණ වෙන්න ඇවිල්ලා කෙස් බානකොට බුද්ධං සරණං ගච්ඡාමි කියනකොටම අර්හත්වයට පත්වුනා. කොහාමද, ආශ්චර්යයියි, අද්භූතයි. තෙරුවන් සරණ යෑමේ ආනිසංස. ඊළඟ විමානවත්ථුවත් ඒ වගේ. මේ විමානවත්ථුවෙත් තියෙන්නෙ, හරි ලස්සන කාරණාවක්. ඒ තමයි එක්තරා බ්‍රාහ්මණයෙක් බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා පැහැදිලා තමන්ගෙ ගෙදරට හැමදාම සංඝයාට වඩින්න, සංඝයා හතරනමකට වඩින්න ආරාධනා කලා. ගිහිල්ලා ඒ බ්‍රාහ්මණයා ගෙදර වැඩකාරකම් කරන කෙල්ලට කිව්වා හෙට ඉඳලා සංඝයා හතරනමක් හැමදාම වඩිනවා දානෙට, උඹ හොඳට දානෙ හදලා දෙන්න ඕන කියලා. ඊටපස්සෙ දාසි කැමති වුනා ඒකට. ඉතාමත් ශ්‍රද්ධාවෙන් හොඳට දානෙ හදලා දෙනවා. ඈ තමයි දානෙ හදලා දාන ශාලාව හදන්නේ, ස්වාමීන් වහන්සේලාට වඩින්න කියනවා, ආසන පනවනවා, ඔක්කොම ටික ඇය කලා. එහෙම දන්දිදී ඉඳලා කාලයක් ඒ ස්වාමීන් වහන්සේලාට වැඳලා කියනවා, ස්වාමීනී මේ ඇත්තටම කියලා දෙන්නකො මටත් ඔය බණ. ඊටපස්සෙ ස්වාමීන් වහන්සේලා සසරෙ දුක ගැන කියලා දුන්නා. සංසාරයේ ආපු හැටි, ආයෙ ආයෙ සංසාරයට වැටීමේ දුක කියලා දුන්නා. ඊටපස්සෙ දාසිය අහනවා ස්වාමීනී දැන් ඕක, දැන් මේ දුකින් නිදහස් වෙන්න මොකක්ද අපි කරන්න ඕන. එතකොට කිව්වා, උපාසිකාව ඉස්සෙල්ලාම තෙරුවන් සරණ යන්න. බුදුරජාණන් වහන්සේ සරණ යන්න, ධර්මය සරණ යන්න, සංඝයා සරණ යන්න. ඊළඟට උපාසිකාව සිල්පද පහ රකින්න කිව්වා. පඤ්චසීලය ගැන කියලා දුන්නා. එතකොට කිව්වා ස්වාමීනී එහෙනම් මාව සමාදන් කරවන්න. ඔන්න ස්වාමීන් වහන්සේලා මෙයාව තෙරුවන් සරණේ පඤ්චසීලයේ සමාදන් කලා. ආයෙ දවසක් දානෙ පූජා කරලා ඇහුවා ස්වාමීනී, මේ මෙච්චරකින්ම ඇතිද. උපාසිකාව, තිසරණ සහිත පඤ්චසීලය රකිනවා කියන්නෙත් ලොකු දෙයක්. තවත් ජීවිතේ අවබෝධ කරන්න ඕනෙ නම් මේ ශරීරයේ යථා ස්වභාවය, මේ ශරීරයට ලෝකයා ඇලුම් කරනවා. ශරීරයටම ලෝකයා ගැටෙනවා, ඊළඟට ඒ නිසා මේකෙ ඇත්ත ස්වභාවය තේරුම් ගන්න. මොකද මේ ලෝක සත්ත්වයාට උරුම වුනේ දුකක්. ඒ දුක හටගත්තේ ඇලීම නිසා. ඇලීම නැත්නම් ඒ දුකෙන් නිදහස් වෙනවා. ඊටපස්සෙ ඒ නිදහස් වෙන්න මාර්ගය නම් මේ විදියට සංවර වෙලා ඉන්න ඕන කියලා ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැනත් තේරුම් කරලා දුන්නා. ඉතින් මෙයා තෙරුවන් සරණ නිතර සිහි කරනවා, පඤ්චසීලය නිතර සිහි කරනවා, ශරීරයේ ස්වභාවයත් සිහි කරනවා, සංසාර

දුක ගැනත් සිහි කරනවා. මේ විදියට සංඝයාගෙන් බණත් අහනවා. මේ විදියට මෑ ඉඳලා තියෙනවා දන් බෙද බෙදා අවුරුදු දහසයක්. අවුරුදු දාසයක් ඉඳලා, දාසය වෙනි අවුරුද්දේ ඈ සෝවාන් වෙලා. දාසය වෙනි අවුරුද්දේ ඈ සෝවාන් වුනා. ඊටපස්සෙ මෑ පස්සෙ කාලෙක කළුරිය කරලා ඇත් ඉපදුනා තව්තිසා දෙව්ලොව. සක්දෙවිඳුගේ බිසවක් වෙලා. ඒ සක්දෙවිඳුගේ බිසවක් වෙලා ඉන්නකොට තමයි මුගලන් මහරහතන් වහන්සේ ඇගෙන් අහන්නෙ මේ සොඳුරු චිත්‍රලතා වනයේ දිව්‍යාංගනාවන් පිරිවරාගෙන ඕෂධී තාරකාවක් වගේ හැම දිසාවක්ම බබලවාගෙන ඉන්නවා, ඔබ දැක්කාම හිතෙනවා ඔබද සක්‍රයා කියලා. එච්චර ආනුභාවයක් කිව්වා. ඉතින් කොහොමද මෙහෙම වුනේ කියලා. ඊටපස්සෙ කියනවා මුගලන් මහරහතන් වහන්සේට අනේ ස්වාමීනී මං අතීත ජීවිතේ මිනිස් දුවක් වෙලා හිටියේ, කලින් මං දාසියක්. අනුන්ගෙ ගෙවල් වල බැල මෙහෙවරකම් කලා. සදහම් ඇස් ඇති මහා යශෝරාවයක් ඇති ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවක් බවට මං පත්වුනා. බලන්න ඒ අවබෝධයෙන් තෙරුවන් සරණ ගිය කෙනාට නිතර එනවා මං බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවක් කියන එක. අටලෝ දහමින් කම්පා නොවන ඒ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ සසර දුකින් නිදහස් වෙන්න මට හරියට උවමනාව තිබ්බා. ඒකාන්තයෙන්ම මේ කය බිඳිලා ගියාවේ. මේ ධර්මය අවබෝධ කරගන්න මං ගන්න උත්සාහය ලිහිල් කරන්නෙ නෑ. ලොව්තුරු සැප සලසන සුන්දර වූ නිවනට ඇති මාර්ගය මේ පන්සිල් වලින් යුක්තයි. ඈ දිවි දෙවෙනි කරලා පන්සිල් රැකලා තියෙනවා මගේ ජීවිතේ නැතිවුනත් කමක් නෑ කියලා. සියල්ල මැඩලන සක්දෙව් රජුගේ මදුර මේ මාර්ගයේ කෙලෙස් කටුකොහොල් නෑ. කෙලෙස් පඳුරු නෑ, ඍජුයි. බුද්ධාදී සත්පුරුෂයන් වහන්සේලා විසිනුයි මේ නිවන් මග පෙන්වා දෙන්නෙ. මං ස්ත්‍රියක්. නමුත් යම් මාර්ගයකින් මේ දහම් මාවතේ ගමන් කරනවාද ඒ මගේ උත්සාහයේ ප්‍රතිඵලය ඔබටත් දකින්න පුලුවනි. සියල්ල මැඩලන සක්දෙව් රජුගේ මධුර අල්ලාප සල්ලාපයන්ට මාවත් කැඳවනවා. සක්දෙවිඳු විශේෂ සාකච්ඡාවක් විනෝදයක් තිබුනොත් අනිවාර්යයෙන් මේ දෙව්දුවට කතා කරනවා. මාව සතුටින් පුබුදුවන්න හැටදහසක් තූර්ය භාණ්ඩ වාදනය කරනවා. කොහොමද මේ පින් වල විපාක. තෙරුවන් සරණෙයි, පඤ්චසීලයෙයි. ආලම්භ දිව්‍ය පුත්‍රයා, ගග්ඝර, භීම සාදු ආදී සංසය පොක්ඛර ඵුස්ස ඔය දිව්‍ය පුත්‍රයන්ද වීණාමොක්ඛා දිව්‍යාංගනාවද ඒ වගේම නන්දා සුනන්දා සෝනදින්නා සුචිම්හිකා අලම්භුසා මිස්සකේසි පුණ්ඩරිකා අතිධාරණී ඒ වගේම ඒහිපස්සා සුපස්සා සුභද්දා

මුදුවාදනී කියන දිව්‍යාංගනාවන් ඔක්කෝම මා කැමති කැමති වෙලාවකට මාව සතුටු කරවන්න පැමිණෙනවා කියනවා. ඒ දිව්‍යලෝක ප්‍රසිද්ධ දෙව්වරු ඈ සතුටු කරන්න එනවා. අපි දැන් නටමු, අපි සින්දු කියමු, අපි ඔබව සතුටු කරනවා කියලා ඒ අය නිතර කියනවා ඇවිල්ලා. පින් නොකල උදවියට මේ වාගේ දිව්‍ය විමාන ලැබෙන්නෑ. පින් කරපු අයටමයි ශෝක නැති තව්තිසා දෙවියන්ගෙ මේ රම්‍ය වූ නන්දන වනය ලැබෙන්නෙ. පින් නොකළ උදවියට මෙලොව සැපයක් නෑ, පරලොව සැපයකුත් නෑ, එනමුත් පින් කල උදවියට මෙලොවත් පරලොවත් දෙකේම සැප තියෙනවා. තව්තිසා දෙව්ලොව දෙවියන් හා එක්වන්න කවුරුහරි කැමති නම් බොහෝ සෙයින් කුසල් කරගන්න ඕන. පින් කල උදවියමයි මේ දෙව්ලොව ඉපදිලා සැප සම්පත් ලබලා සතුටු වෙන්නෙ. මේ දෙව්දුව මුගලන් මහරහතන් වහන්සේට වදාළා. එතකොට බලන්න තෙරුවන් සරණ ගිහිල්ලා ඒ ධර්මය අවබෝධ කිරීමේ තියෙන වටිනාකම. ඇගේ තියෙන විශේෂත්වය තමයි පඤ්චසීලය දිවි දෙවෙනි කොට රැකලා තියෙනවා. ඈ සෝවාන් වෙලා. පඤ්චසීලය සමාදන් වීම නිසාම රහත් වෙච්ච රහතන් වහන්සේ නමක් ඉන්නවා. ඈත අතීතයේ අනෝමදස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ එක්තරා මානවකයෙකුට මහණ වෙන්න ආසා හිතුනා. එයාටත් තාත්තා විතරයි ඉන්නෙ මහණ වෙන්න විදියක් නෑ, ඊටපස්සෙ එයා කල්පනා කලා එහෙනම් මං දිවිහිමියෙන් පන්සිල් කඩන්නැතිව රකිනවා කියලා පැවිදි වෙන්න බැරි නිසා ඒ වෙනුවෙන් පඤ්චසීලය ආරක්ෂා කලා. ඔන්න හොඳ අදහස් සමහර අය අපිට මහණ වෙන්න විදියක් නෑ කිය කියා ඉන්නවා. ඒ වෙනුවෙන් කිසි දෙයක් කරන්නෑ. දැන් මේ බලන්න මෙයාලා කරලා. ඊටපස්සෙ පඤ්චසීලය රැකලා මහණ වෙන්න විදියක් නැති නිසා. ඊටපස්සෙ අනෝමදස්සී බුදුරජාණන් වහන්සේගේ කාලෙ මැරිලා දෙව්ලොව ඉපදිලා දෙව් මිනිස් ජීවිත වල සැරිසරනවා, තව්තිසාවෙ ඉපදිලා තියෙනවා මුලින්ම. සක්දෙව් රජ වෙලා ඉපදිලා තියෙනවා තිස් වතාවක්, පන්සිල් රැකපු නිසාම. හැත්තෑපස්වරක් සක්විති රජ වෙලා ඉපදිලා තියෙනවා. බුදුරජාණන් වහන්සේගේ කාලයේ පඤ්චසීලය ගැන අහලා පුංචි කාලෙම බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහලා පඤ්චසීල ප්‍රතිපත්තිය ගැන අහලා, ඒකේම හිත පිහිටවලා එහෙම්මම අර්හත්වයට පත්වෙලා. පන්සිල් රැකීමේ ආනිසංස. ඉතින් උපනූපන් ජීවිතේ දීර්ඝායුෂ ලබලා තියෙනවා. මහත් වූ බෝග ලබලා තියෙනවා. තීක්ෂණ ප්‍රඥාව ලබලා තියෙනවා පඤ්චසීලය රැකීමේ ආනිසංස විදියට. ඉතින් ඒ නිසා පුදුම සහගතයි මේ තෙරුවන් සරණ යෑමයි, පන්සිල් සමාදන්වීමයි, තවත් තියෙනවා

සරණාගමනය සමාදන් වෙච්චි රහතන් වහන්සේ නමක්ගේ විස්තරයක්. පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ කාලයේ යක්ෂයො දෙගොල්ලක් යුද්ධ කරනකොට ඒ බුදුරජාණන් වහන්සේ ආකාශයේ අඳුරක් මවලා ඒ පිරිස දමනය කරනවා. එදා ඒ යක්ෂයෙක් පදුමුත්තර බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලා මුළු දිවි හිමියෙන් ඒ සරණ රැකලා උපනූපන් ජීවිතේ දෙව්මිනිසුන් අතර සැරිසරලා අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙනවා. තිසරණය රැකීම. බුදුන් සරණ යෑම. ඊළඟට තියෙනවා විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ කල්ප තිස් එකක්, විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලෙ වැද්දෙක් වෙලා, ඒ කැලේදි විපස්සී බුදුරජාණන් වහන්සේ මුණ ගැහිලා ධර්මය අහලා බුදුරජාණන් වහන්සේ සරණ යනවා. වෙන දෙයක් කරගන්න බෑ. එතකොට කල්ප අනූ එකක් සුගතියේ ඉපදිලා අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙනවා. ඊළඟට සිඛී බුදුරජාණන් වහන්සේගේ කාලයේ තව ආජීවකයෙක් හිටියා. එයා නැවක යනකොට නැව කැඩිලා ගිලුණා මුහුදේ. එතකොට ඒ නැවේ හිටියා භික්ෂූන් වහන්සේ නමක්. අර ආජීවකයාට කිව්වා ආජීවකය, දැන් මරණය අපි කරා පැමිණෙනවා, ඔබ තෙරුවන් සරණ යන්න. කොහොමද ස්වාමීනී, කිව්වා. මං කියන ඒවා කියන්න කිව්වා. බුද්ධං සරණං ගච්ඡාමි. ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි, දුතියම්පි තතියම්පි වශයෙන් තතියම්පි සංඝං සරණං ගච්ඡාමි කියනකොටම එයාලා ගිලුනා මුහුදේ. දෙව්ලොව ඉපදුනා, කල්ප තිස් එකක් දෙව් මිනිසුන් අතර ඉපදුනා. අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙලා තියෙනවා. බලන්න තෙරුවන් සරණ යෑමේ, පන්සිල් සමාදන් වීමේ විපාක. ඒකයි කොච්චර කියනවාද. බලන්න අපේ ධර්ම දේශනා සාරාංශයක් ගත්තොත් තෙරුවන් සරණ ගැන කොච්චර කියනවාද. ඒ වුනාට මේ ලෝකෙ අසත්පුරුෂ අන්ධ බාල ලෝකයා ගරහන්නෙම තෙරුවන් සරණට. ඕවා හරියන්නෑ ඕවා පොඩි ඒවා කියනවා, ඕවා සරල ඒවා කියනවා. ඇදයක් හොයනවා මොකාක්හරි. මේ තියෙන මල් පෝච්චියක හරි ඇදයක් හොයනවා. මේ තියෙන කැටයමක හරි ඇදයක් හොයනවා. අසත්පුරුෂ අන්ධ බාලයා ඒ තමන්ට පිහිටක් සලසලා දෙන්න කල්‍යාණමිත්‍රයන් වහන්සේලා විසින් වෙහෙසෙනකොට ඒ පිහිට ගන්නෑ, එයා මොකක්හරි ඇදයකම එල්ලෙනවා. ඉතින් ඒ නිසා මොකක් කරන්නද, මේ මනුස්ස ලෝකෙට පින් පුරවාගන්නත් මිනිස්සු එනවා, පව් පුරවාගන්නත් එනවා. පව් පුරවාගන්න ආපු අය පව් පුරවාගෙන යනවා. පින් පුරවගන්න ආපු අය පින් පුරවගෙන යනවා. මහාබෝධිසත්ත්වයෝ උපනූපන් ජීවිතේ ඉපදෙන්නෙ බෝධි සම්භාර

පුරන්නයි. තමන් සම්මා සම්බුද්ධත්වයට කුසල් පුරන්නයි මේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් බෝධිසත්ත්ව කාලෙ මනුස්ස ලෝකෙ උපදින්නෙ. ඒ වගේම ඉන්නවානෙ, අකුසල් කරන අය අකුසල්ම පුරවගන්නවා. ඒ නිසා ඔබ තේරුම් ගන්න, ඉතින් ඒ නිසා අපි තව එක විස්තරයක් ඉගෙන ගනිමු. මේ ඊළඟට තියෙන දිව්‍ය විමානෙත් හරී ලස්සනට විස්තරයක් තියෙන්නෙ මේ බලන්න. මුගලන් මහරහතන් වහන්සේ තමයි දිව්‍යාංගනාවගෙන් විස්තර අහන්නේ. පින්වත් දෙව්දුව ඔබ ඔය සුන්දර රූපයෙන් බැබලෙමින් ඉන්නෙ හැම දිසාවක්ම බබලන ඕෂධී තාරකාවක් වගේ. ඇත්තෙන්ම ඔබට මෙවැනි ලස්සනක් ලැබුනේ කොහොමද. මොනවගේ පිනකින්ද ඔබට මේක ලැබුනේ. සිතට ප්‍රිය උපදවන සම්පත් ලැබුනේ කොහොමද, මනුස්ස ලෝකෙ ඉන්න කාලෙ මොනවගේ පිනක්ද කලේ කියලා මුගලන් මහරහතන් වහන්සේ අහනවා මෙච්චර බැබලි බැබලි ඉන්න ආනුභාවය ගැන. ඒකට ඒ දෙව්දුව ගොඩාක් සතුටු වෙලා කියනවා, මගේ නිවස තිබුනේ මාළු අල්ලන මිනිසුන් ගම්දොරෙන් නික්මෙන තැන. මාළු අල්ලන මිනිස්සු ගඟට යන්න ගමෙන් එළියට යන තැනත් තියෙනවානෙ, අන්න එතන තමයි මගේ නිවස තිබ්බෙ. ඒ පැත්තට මහා ඍෂිවර බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයන් වහන්සේලා පිණ්ඩපාතෙ වඩිනවා. ඉතින් මං උන්වහන්සේලාට බත් ව්‍යඤ්ජන පැණි පිට්ටු පලාකොල ලෝණසෝවීක පූජා කරනවා. නිවන් මගේ සිත ඍජු කරගෙන සිට උන්වහන්සේලාට මම පූජා කරන්නෙ බලවත් පැහැදීමෙන් යුක්ත සිතින්මයි. මෑ කරන වැඩේ ඒ හරියට වඩින සංඝයාට මොනවාහරි පිණ්ඩපාතෙ පූජා කරනවා. ඊටපස්සෙ සංඝයාගෙන් ධර්මය අහලා, චාතුද්දසී පෝයට, පුන් පෝයට, අටවක පෝයට, පාටිහාරීපක්ෂ පෝයට, ඒ දවස්වලට, සතර පෝයට අට සිල් සමාදන් වෙලා ආරක්ෂා කරනවා. ඒ වගේම අර පාටිහාරී සීලය පෝයට කලින් දවසේ පෝය දවසෙ, පෝයට පස්සෙ දවසෙ කියලා දවස් තුනක්. ඊළඟට සමහර වෙලාවට වස්කාලෙ වගේ දවස් පහළොව, එකදිගට සිල් රැකලා තියෙනවා එයා. මං හොඳින් උපෝසථ සිල් රැකගත්තා. හැමදාම හොඳින් සිල්පද වල සංවර වුනා. ඉඳුරන් දමනය කරගත්තා. කාටත් දන්පැන් බෙදා දුන්නා. මං ඒ විදියටයි ගෙදර ජීවත් වුනේ. සතුන් මැරීමෙන් වැළකුණා. බොරු කීමෙන් වැළකිලා වචන සංවර කරගත්තා. හොරකම් කලේ නෑ, ස්වාමියා ඉක්මවා දුරාචාරයේ හැසිරුනේ නෑ. මත්පැන් පානය කලේ නෑ. සිල් පද පහ රැකගත්තේ කැමැත්තෙන්මයි. චතුරාර්ය සත්‍යය තේරුම් ගන්න තරම් මා තුළ දක්ෂකමක් තිබුනා. පඤ්චසීලය හොඳට ඈ සිහිපත් කරලා

හොඳට ආරක්ෂා කරගෙන ධර්මයත් හොඳින් විමසුවා ආර්ය සත්‍යය. දුක ගැනත්, දුකේ හටගැනීමත්, දුකේ නැතිවීමත්, දුක නැතිවන මාර්ගයත්, මේක හොඳට පුරුදු කරපු නිසා මෙයාත් ධර්මය අවබෝධ කලා. ඉතින් පැතිරුණු යශෝරාවය ඇති සදහම් ඇස් ඇති ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවක් වුනා ඈ. ඒ පිනෙන් තමයි මට ලැබුනේ මේ ආනුභාවය. සිතට ප්‍රිය උපදවන සියලුම ආනුභාවය මට ලැබුනා. ඉතින් ආනුභාව සම්පන්න ස්වාමීන් වහන්සෙ මම ඔය පින තමයි කරගත්තෙ. ඒ ලකුමා කියන දිව්‍යාංගනාව. කියනවා මම පින්වත් ස්වාමීන් වහන්සේ, මාගේ වචනයෙන් භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා කමල් වඳින්න. ස්වාමීනී ලකුමා උපාසිකාව භාග්‍යවතුන් වහන්සේගේ උතුම් සිරිපා කමල වන්දනා කරනවා කියලා. ස්වාමීනී, භාග්‍යවතුන් වහන්සේ මා පිළිබඳව යම්කිසි මාර්ගඵලයක් වදාරන සේක් නම් ඒ ගැන මං පුදුම වෙන්නෑ, ස්වාමීනී, මං සකදාගාමී ඵලයට පත්වූ බව භාග්‍යවතුන් වහන්සේ වදාළා කියනවා. මේ ලකුමා උපාසිකාව සකදාගාමී වෙලා, මේ ඉන්නෙ තව්තිසාවෙ. තුන්කෝටි හැටලක්ෂයක් ආයුෂ අවම. එතකොට ඇලා තවම ඉන්නවා. කුමක ආනිසංසයක්ද. තෙරුවන් සරණ යෑම, පඤ්චසීලය රැකීම, ඒ වගේම සෝවාන් වීම. සාමාන්‍යයෙන් බුද්ධ ශාසනයක බුදුන් දහම් සඟුන් සරණ ගිහිල්ලා, පන්සිල් රැකලා දෙව්ලොව යනවානෙ දෙවිවරු, සාමාන්‍යයෙන් වෙනත් දෙවිවරුන්ට වැඩිය ඒ දෙවියන්ගේ ආනුභාවය වැඩියි. වෙනත් දෙවිවරුන්ට වැඩිය ඒ දෙවියන්ගේ තේජස වැඩියි. වෙනත් දෙවිවරුන්ට වැඩිය ඒ දෙවියන්ගේ ආනුභාවය, අනිත් දෙවිවරුන් අභිබවා සිටිනවා. අධිපතිභාවය වැඩියි. බුද්ධ ශාසනයක පින් කරන අය දෙව්ලොව ගියත් වෙනමම පේනවා. ඒකනෙ දෙවිවරු ගොඩාක් සතුටු වෙනවනෙ බුද්ධ කාලයේ දෙව්ලොව ඉපදෙන අය ගැන. ඇත්තටම බුද්ධ කාලයකින් තොරව දෙව්ලොව දෙවිවරු ඉපදෙන්නෙ ඉතාමත් කලාතුරකින්. බුද්ධ ශාසනයේ තමයි දෙව්ලොව දෙවියන්ගෙන් පිරී යන කාලය. මේ බලන්නකො ඒ කාලෙම දානෙ පූජා කරලා ඒ කාලෙම මැරිලා ගිහිල්ලා ඒ කාලෙම සංඝයාත් එක්ක කතා බහ කරනවානෙ. දැන් අද කාලෙ කවුරුහරි මැරිච්ච කෙනෙක් දිව්‍ය ලෝකෙක ඉපදුනා කියලා කතා කලා කියලා මොනවාහරි හෝඩුවාවක්වත් තියෙනවාද, මොකක්වත් නැනෙ. මේ බලන්න මේකෙ ස්වභාවය. ඉතින් ඒ නිසා ඒ තෙරුවන් සරණ යන එක සුළු දෙයක් කියලා හිතන්න එපා. ඊටපස්සෙ එයාලා දේවාල සරණ යන එක, නැකැත් කේන්දර, නිමිති ඔිවා කරපින්නාගෙන තිසරණයට හානි කරගන්නෑ. ඒ වගේම පිනක් දහමක් කරලා බෝධි පූජාවක් තියලා ලෙඩක් දුකක් සනීප වුන් නැත්නම්

කෝ ඉතින් කොච්චර බෝධිපූජා තිබ්බද, කිසිදෙයක් සනීප වුන්නෑ, රුවන්වැලි සෑයටත් ගියා, නෑ කිසිම පිහිටක් අපිට. ඒ ඔක්කෝම තිසරණයට වෙන හානි. මොකද අපි කර්මානුරූපව පින්වතුනි අපේ ජීවිතයට අපි ගෙනාපු ඒවා තියෙනවා. ඒ ගෙනාපු දේවල් ලෙඩ දුක් කරදර, මේ සසරේ කම්කටොලු, අපි මේ කර්මය නැමැති උලේ ඉන්දපු මිනිස්සු ජාතියක් වගේ අපි. සසරේ කර්මයෙන් පොදි බැඳගෙන ආපු ඒවා ලෙහනවා. අපි ඒ දුකෙන් නිදහස් වෙන්නයි රුවන්වැලිසෑය වඳින්නෙ. ජයසිරිමහා බෝධීන්වහන්සේ වඳින්නෙ. පින් කරන්නෙ. මේවා කරපු පමණින් සංසාරයේ කරගහගෙන ආපු ඒවා නැතිවෙන්නෑ. මුගලන් මහරහතන් වහන්සේත් පින්වත්නි මුගලන් මහරහතන් වහන්සේ එච්චර ආනුභාව සම්පන්න වෙලා සසරේ කරපු කර්මයක් ඉදිරිපත් වෙලා හොරුන් විසින් ගහලා උන්වහන්සේ පිරිනිවන් පෑවා. සසරේ ස්වභාවය දිහා බලන්න. ඉතින් ඒ නිසා අපේ ජීවිත වලට මොන මොනවා වෙයිද කියලා අපි දන්නෙ නෑ. සාරිපුත්ත මහරහතන් වහන්සේත් ලේ අතීසාර රෝගයකින් පිරිනිවන් පෑවා. බුදුරජාණන් වහන්සේටත් පිරිනිවන් පාන කාලෙ ලෝහිත පක්ඛන්දිකා කියලා රෝගයක් හැදුනා. ඒ තුන් ලෝකයට අසහාය මහා ශාස්තෲන් වහන්සේගේ ජීවිතෙත් එවැනි දේවල් සිද්ධ වුනානම් මේ අපිට මොනවද මේ. ඒ නිසා පොඩි ලෙඩ දුකකට, බුදුරජාණන් වහන්සේ සරණ යන්න එපා ලෙඩ සනීප කරගන්න අදහසින්. ඒ හැටි කාලයක් රැඳී ඉන්නෑ ඒ පැහැදීම. එයා ලාභ අපේක්ෂාවෙන් තෙරුවන් සරණ යන්නෙ. එහෙම නෙවේ මේ සංසාර දුක ගැන තේරුම් අරන් තෙරුවන් සරණ යන්න. ඉතින් ඒ නිසා තමයි මෙච්චර උත්සාහ කරන්නෙ පින්වතුනි, තෙරුවන් සරණ ගිහිල්ලා පඤ්චසීලය ආරක්ෂා කරගත්තොත් එයාට සුගතියේ දොරටුව විවෘතයි. ඒකටවත් මේ පින්වතුන්ට ධර්මය අහන පින්වතුන්ට මාර්ගය හරිගස්සලා දීලා මේ අහිංසක මේ දුක් විඳ විඳ යන ජනී ජනයා සුවපත් කරවන්නයි මේ මහන්සි වෙන්නෙ. ඉතින් ඒක නිසා ඒක තමන් තේරුම් ගන්න ඕන, ඒක වරදවා තේරුම් ගන්නේ නැතිව. ඉතින් ඔය විදියට තමයි විමානවත්ථු ටික තියෙන්නෙ. එතකොට විශේෂයෙන් ඔය විමානවත්ථුවල තිබ්බ විශේෂ කාරණාව තමයි තෙරුවන් සරණ යැමත්, පඤ්චසීලය ආරක්ෂා කරගැනීමත් කියන මේ කාරණාව. ඊළඟට තියෙනවා ලුණු කැඳ නැත්නම් කැඳ වතුර පූජා කිරීමේ ආනිසංසයක් ගැන. අපි ඒ කාරණාවත් තේරුම් ගනිමු. ඒක සිද්ධ වුනේ මේ විදියට. ඒ තමයි මහා කාශ්‍යප මහරහතන් වහන්සේ සත් දවසක් නිරෝධ සමාපත්තියෙන් සමවැදිලා උන්වහන්සේ නැගී හිටියා. එදාට උන්වහන්සේට කවුරුහරි දානයක් පූජා

කලොත් එහි විපාක එදාම ලැබෙනවා. උන්වහන්සේ දිවැසින් බැලුවා. බලනකොට පෙනුනා එක මනුස්සයෙක් එක ආච්චි අම්මා කෙනෙක් ගෙදරක පිළිකන්නෙ ඉන්නවා, අසරණයෙන්, යන්න එන්න කෙනෙක් නැතිව පාර අයිනෙ ඉන්න ගෙදරක පිළිකන්නෙ ඉන්නවා, ඒ ගෙදර මිනිස්සු ඒ මනුස්සයාට කැඳ ටිකක් බොන්න දෙනවා. එතකොට බැලුවා කවුද කියලා. මෙයා එක්තරා පවුලක කුමාරිකාවක්. ඒ ගෙදර ඔක්කෝටම හැදුනා වසංගතයක් ඒ වසංගතය හැදුනට පස්සෙ ගෙවල් සීල් කරනවා එළියට එන්න දෙන්නෙ නෑ, එක්කෙනෙකුට හැදුනොත් ඔක්කොටම හැදෙනවා. ඒකෙන් බේරෙන්න තියෙන්නෙ ඒ හැදුන අය ඔක්කොම ටික ගෙදරට, ඒ ගෙදර අය ඔක්කොම සීල් තියෙනවා ජනෙල් දොරවල් මිනිස්සුන්ට එන්න දෙන්නෙ නෑ. ඒ ඇතුලෙ හිටියොත් හැදෙන්නැති කෙනෙක් එහෙම එයා බිත්තිය කඩාගෙන හොරෙන් පනිනවා, මිනිස්සුන්ට හොරෙන් පනිනවා. එහෙම තමයි ඒකෙන් බේරිලා තියෙන්නෙ. ඒකට කියනවා අහිවාතක රෝගය කියලා. වසංගතයක්. එහෙම බිත්තියක් කඩාගෙන මේ කෙල්ල පැනලා ඈත ගම්මානයකට ගියා, යන එන මං නෑ, ගෙදරක පිළිකන්නෙ හිටියා, කැඳ බිබී ඒ මිනිස්සු දෙන දෙයක් බිබී හිටියා. දැන් ආච්චි අම්මා කෙනෙක්. ඉතින් මේ ආච්චි අම්මා දැක්කා. මහාකාශ්‍යප මහරහතන් වහන්සේ දැක්කා ජීවිත තුනකට කලින් තමන්ගේ අම්මා ඒ. තමන්ගේ මව්. පිහිට වෙන්න ඕන කියලා එතෙන්ට වැඩම කලා. එතෙන්ට වැඩම කරලා ඒ මහාකාශ්‍යප මහරහතන් වහන්සේ දුටුවා ඒ ආච්චිඅම්මා පිළිකන්නේ ඉන්නවා. එදා උදේ ලැබිලා තියෙන්නේ කැඳ ටිකක්. ඉතින් ඒ මහාකාශ්‍යප මහරහතන් වහන්සේ අර ගෙදර දොරටුව ළඟට යන්නැතිව අර ආච්චිඅම්මා ළඟට පිණ්ඩපාතෙ වැඩියා. ගෙදර මිනිස්සු පිණ්ඩපාතෙ ගේනකොට මහාකාශ්‍යප මහරහතන් වහන්සේ බැලුවෙ අර ආච්චිඅම්මා දිහා. ගෙදර අය ආපස්සට ගියා. අර ආච්චිඅම්මා කල්පනා කලා, කොහොමද මම දැන් මේක දෙන්නේ කියලා කල්පනා කරනකොට පාත්‍රය දික්කලා. අර ළඟ තිබ්බා උදේ හීතල වෙච්ච ලුණු කැඳ ටික ඒ ආච්චි අම්මා පාත්‍රයට දැම්මා. මහාකාශ්‍යප මහරහතන් වහන්සේ එහෙම්මම වැඩලා ඒ ආච්චි අම්මාට පේන තැනකම ඉඳලා කැඳ ටික වැළඳුවා. වළඳලා කිව්වා ආච්චිඅම්මා ඔබ සතුටට පත්වෙන්න. ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. කිව්වා ආච්චි අම්මේ ඔබ මගේ ජීවිතේ ජීවිත තුනකට කලින් ඔබ මගේ අම්මා වෙලා ඉපදිලා තියෙනවා කියලා. අර ආච්චි අම්මාට පුදුම සතුටුයි. පුදුම සන්තෝසෙන් හිටියෙ. එදා රාත්‍රියෙ සීතල වැඩිවෙලා ඒ ආච්චි අම්මා

මැරුණා. සක්දෙවිඳු දිවැසින් දැක්කා ඕක. සක්දෙවිඳු බලනවා බලනවා අර ආච්චි අම්මා ඉපදිච්ච තැන්ක් පේන්නෑ, ආන්න ඒ වෙලාවේ තමයි සක්දෙවිඳු මේ කාරණාව අහන්නෙ. ස්වාමීනී, ඔබ වහන්සේ පිණ්ඩපාතයේ වැඩලා නිවසක් ළඟ නිහඬව හිටියනෙ ස්ත්‍රියක් අර කැඳ පූජා කලේ. දිළිඳුයි, දීනයි, අනුන්ගෙ ගෙවල් වලින් හිඟා කකා යැපෙන කාන්තාවක්. මහාකාශ්‍යපයන් වහන්ස ඇය කොහෙද ඉපදුනේ. ඔබවහන්සේට දංකුඩ කැඳ වගයක් දංකුඩ බතක් වගේ දෙයක් තමයි පූජා කරගත්තෙ. ඇ කොහෙද ඉපදුනේ කියලා අහනවා. සක්දෙවිඳුනි, මං පිණ්ඩපාතෙ වැඩලා ගෙයක් ඉදිරිපිට නිශ්ශබ්දව හිටියා තමයි. ඒ ගෙදර නාකි ස්ත්‍රියක් හිටියා තමයි, දිළිඳු දීන අනුන්ගේ නිවෙස්වලින් යැපෙන. ඇය මා කෙරෙහි සිත පහදවගත්තා. මා හට ඇ අතින්ම දංකුඩ බතක් පූජා කලා. කැඳ වර්ගයක්. දංකුඩ කැඳ. ඊටපස්සෙ ඇගේ සිරුර අතහැරියා. ඇය චුත වුනේ ඇගේ දුක්ඛිත ස්වභාවයෙන් නිදහස් වෙලයි. මහා ඍද්ධිමත් දෙව්වරු ඉන්න නිම්මාණරතිය දෙව්ලොව ඉපදුනා. අම්මෝ දංකුඩ ඩිංගිත්තක්, පොඩි කැඳ චුට්ටක් පූජා කරලා ඉපදුනා කියනවා නිම්මාණරතියෙ, හිත පහදවාගෙන. ඒකට හේතුව තමයි හිතේ පැහැදීමත් මහාකාශ්‍යප මහරහතන් වහන්සේගේ ගුණ කඳත්. ඊටපස්සෙ කියනවා ඇත්තෙන්ම හරිම අසිරිමත්. ඒ දුප්පත් කාන්තාව මහාකාශ්‍යප මහරහතන් වහන්සේ කෙරෙහි ඉතා හොඳින් දානය පිළිගන්නවලා තියෙනවා. ඒ දානෙ පූජා කරගත්තොත් අනුන්ගේ නිවෙස්වල හිඟමනේ ගිහින් හොයාගත්ත දෙයිනුයි ඒ දානය සමෘද්ධිමත් වුනා. අනේ මෙයාට ඔය කැඳ ඩිංගිත්තක්වත් ලැබුනෙ හිඟා කාලා. අනේ ඇයගේ දානය මහත්ඵල වුනානෙ. සියලු අඟ පසඟින් සුන්දර වූ ස්ත්‍රියක් ඉන්නවා. තමාගේ ස්වාමියාට ඇගේ දැක්මත් අලාමකයි. ඇය සක්විති රජුගේ අගමෙහෙසිය බවට පත්වෙනවා. ඒ වුනාට ඒ සම්පත් මේ දංකුඩ දානයේ විපාකයෙන් සොළොස්වෙනි කලාවටවත් වටින්නෙ නෑ. ඒවා වටින්නෑ කිව්වා, දැන් මෙයා නිම්මාණරතියෙනෙ. ලක්ෂයක් කහවණු, අශ්වයෝ, වෙළඹුන්, ලක්ෂයක් අශ්වරථ, සුන්දර මිනිකඩොල්, ආභරණ, ලක්ෂයක් කන්‍යාවෝ, කවුරුහරි කෙනෙක් දුන්නොත් එහෙම මේ දංකුඩ දානයෙන් සොලොස් කලාවෙන් එකක් තරම්වත් වටින්නෙ නෑ කිව්වා. කියනවා හේමවත කියන වටිනා ඇත්තු ජාතියක් ඉන්නවා. ඒ ඇත්තුන්ට උතුම් යතුරෝදයේ හැඩයට කරකැවී ගිය ඇත්දළ තියෙනවා. රනින් කරපු ආභරණ වලින් ඒ ඇත්තුන්ගේ බෙල්ල සරසලා තියෙනවා. එබඳු සෝභමාන වූ ඇතුන් සියයක් ලැබුනත් දංකුඩ දාන විපාකයෙන් සොලොස්වෙනි කලාවෙන් කලාවක් තරම්වත් වටින්නෑ කිව්වා. මේ

ලෝකෙ කවුරුහරි කෙනෙක් සිව්මහා දිවයිනට අධිපති වෙලා සක්විති රජ පදවියට පත්වෙනවා නම් දංකුඩ දානෙ විපාකයෙන් සොලොස්වෙනි කලාවෙන් කලාවට තරම්වත් වටින්නෙ නෑ කියනවා. සක්විති රජකමවත්. මේ බලන්න පුංචි දංකුඩ ටිකක් පූජා කරලා මහාකාශ්‍යප මහරහතන් වහන්සේට හිඟමනෙන් ලැබිච්ච, අර උපාසිකාව හිඟමනෙන් ලැබිච්ච එක මහාකාශ්‍යප මහරහතන් වහන්සේට සීතල වෙච්ච දංකුඩ කැඳක් වගේ එකක්නේ පූජා කළේ. කොච්චර ආනිසංස ලැබුවද. දැන් නිම්මාණරතියෙ ඉන්නෙ කියනවා. මේ බලන්න උතුම් සත්පුරුෂයන් වහන්සේලා විෂයෙහි පිනක් කරගත්තොත් ආනිසංස. ඉතින් ඒ නිසා අපි ඉදිරියට අපි කතා කරමු ඒ තව තව මේ පින්කම් කරන එකේ ආනිසංස ගැන. කෙසේ නමුත් තෙරුවන් සරණ යෑමේ, පන්සිල් සමාදන් වීමේ සහ උතුම් ගුණවතුන් කෙරෙහි පුංචි දෙයක් නමුත් දන්දීමේ විපාක තමයි අද දවසේ අපි දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහනින් කතා කළේ. ඒ නිසා මේ කරුණු කාරණා ඉගෙන කියාගන්න. ඔබගේ ජීවිතය පිනෙන් පිරේවා, කුසලයෙන් පිරේවා, බුදුසසුනේ බොහෝ පින් රැස් කරගෙන ඔබට මෙලොව පරලොව සැප සම්පත් සැලසේවා කියලා එක හිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා ගෞතම සසුනේ පිහිට ලැබේවා කියමින්.

ඒ වගේම අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කොරියාවේ සේවයේ නියුතු මාතර උඉරුබොක්කේ පදිංචි පින්වත් සුරංග කංකානම්ගේ මහත්මයා විසින්. ඉතින් අපි මේ රැස්කරගත්තු සියලු පින් බලයෙන් සෙත් ප්‍රාර්ථනා කරනවා ලෝකයටත් කොරියාවටත් ලංකාවටත් කොහෙටත් ව්‍යසනයක්ව පැවතෙන කොරෝනා වසංගතය දුරින්ම දුරු වෙලා මේ මනුස්සයාට සතුට සැනසිල්ල නිදුක් නිරෝගී සුව සැලසේවා කියලා අපි මේ පින් බලයෙන් ආශිර්වාද කරනවා. ඒ වගේම පින් කැමති සියලු දෙවියේ මේ පින් අනුමෝදන් වෙලා දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වේවා, සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම අපගේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සඟරුවන, අනගාරිකා මෑණිවරු ඒ වගේම පැවිදි අපේක්ෂක දූපුතුන් ධර්මාවබෝධය ලබත්වා කියලා අපි පින් පමුණුවමු. ඒ වගේම සුරංග කංකානම්ගේ මහත්මයාට ධර්මයේ මාර්ගයට පැමිණෙන්න එතුමාට උපකාර කල පින්දහම් කටයුතු වලට යොමුකල දුලිකා දිල්හානි මහත්මියටත්, ඒ පවුලේ සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වෙලා ඒ

සියලු දෙනාට ගෞතම සසුනේ පිහිට ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. සුරංග කංකානම්ගේ මහත්මයාටත් පවුලේ සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වේවා. බොහෝ පින්දහම් කුසල් දහම් වලින් ඔබගේ ජීවිතය පිරේවා. ඒ වාගේම සංසාර දුකින් නිදහස් වෙන්න අද මේ කල ධර්ම දානමය පින ඒකාන්තයෙන් හේතුවාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වාගේම මේ පින් ඒකාන්තයෙන් අනුමෝදන් වෙත්වා, ඒ තමයි අපගේ මේ ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන්විදුලියේ ධර්ම දාන පවත්වන සියලු දෙනාට, ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලුදෙනාට, අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධු මිත්‍රාදීන් සියලු දෙනාට, ඔබ කාටත් මේ පින් බලයෙන් ජීවිතේ පිනෙන් කුසලයෙන් පුරවාගන්න වාසනාව ලැබේවා, සුගති රැකවරණය සැලසේවා, නිවන් සම්පත්තිය සැලසේවා, මේ පින් ඒ සඳහා හේතු උපකාර වේවා කියලා සතුටු සිතින් පින් පමුණුවනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=YICN2LrEyaI&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=7

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි. අපි මේ එකතුව සිටින්නේ අපගේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ අපිට අනුකම්පාවෙන් වදාළ ධර්මය ශ්‍රවණය කිරීම පිණිස. දිව්‍යසින් දුටු දෙව්ලොව සැප සදහම් වැඩසටහන අද ඔබට ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන් විදුලියෙනුත් විකාශනය කරවන්නට දායකත්වය දරන්නේ කොරියාවේ සිටින පින්වත් සම්පත් නිහාල් මහත්මයා සහ නිරෝෂා සඳමාලි මහත්මිය විසින්. තමන්ගේ පියාණන් වන ආරියසේන පියාණන්ටත්, කුසුමාවතී මෑණියන්ටත් ඒ වගේම ධනසේන පියාණන්ටත්, අනුලාවතී මෑණියන්ටත් සෙත් ප්‍රාර්ථනා කරන්නටත්, කොරෝනා වසංගතය

ලෝකෙන් දුරුවීම පිණිස සෙත් ප්‍රාර්ථනා කරන්නටත් බලාපොරොත්තු වෙනවා. ඉතින් මේ දරුවන් බොහෝ පින්දහම් රැස් කරගන්නවා මේ ධර්ම දානය සිද්ධ කරලා, ලෝක සත්ත්වයාට ධර්මය අහන්න සලස්වන පින සුලුපටු පිනක් නෙවෙයි. ඉතින් ඒ නිසා තමන්ගේ ජීවිතයට ධර්ම දානයෙන් අප්‍රමාණ පින් රැස්කරගන්නට අද දවසේ සැලසෙන මේ අවස්ථාව ගැන හිතලා අප්‍රමාණ සතුටට පත්වෙන්න. ඉතින් පින්වත්නි, අපි මීට කලින් දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහනේදී, මහා කාශ්‍යප මහරහතන් වහන්සේට කැඳ පූජා කරපු ආච්චි අම්මා කෙනෙක් ගැන කතා කලා. තැනක තියෙනවා දංකුඩ කියලා, තැනක තියෙනවා කැඳක් වගේ දෙයක් ඒක කියලා, ඉතින් කොහොමහරි මහාකාශ්‍යප මහරහතන් වහන්සේට ඒ කල පූජාවේ ආනිසංසයෙන් පුදුමය කියන්නෙ ඇ ඉපදුනේ නිම්මාණරතියෙනෙ. ජීවිත තුනකට කලින් අම්මා වෙලා හිටපු, ඉතින් බලන්න සත්පුරුෂයෙක්ගේ අම්මා කෙනෙක් වෙලා ජීවිත ගණනාවකට හරි කලින් ඉපදිලා සිටීමේ ආනිසංසය දිහා බලන්න. කොහොමහරි මහා කාශ්‍යප මහරහතන් වහන්සේ ඒ අම්මට වැඩිය බණක් ඇහිල්ලක් ඒ සිල් රැකිල්ලක් ඒ මොනවත් කරගන්න අවස්ථාවක් නෑ, නමුත් කැඳ ටිකක් පූජා කරගන්න අවස්ථාවක් සලසලා දුන්නා, මහා කාශ්‍යප මහරහතන් වහන්සේ. නිම්මාණරති දෙව්ලොව ඉපදුනා. මහා කාශ්‍යප මහරහතන් වහන්සේ ස්වභාවයෙන්ම බොහෝ දෙනාට පින් පුරවන උත්තමයෙක්. මහා කාශ්‍යප මහරහතන් වහන්සේ පරම විරාගී බවින් යුක්තයි. සාමාන්‍යයෙන් මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ දේහ විලාශය පවා අන් අයට විරාගය ඇති කරනවා කියනවා. දැන් ඔය ඉස්සර ඉඳලා තියෙනවා එක මානවකයෙක්, ඒ මානවකයා දවසක් ගෙදරක වැඩ කර කර ඉඳලා රාග සිතිවිල්ලක් ඇතිවෙලා ඉතින් මෙයා රාගයෙන් ගිනිගෙන දැවි දැවී රාග සිතිවිල්ලෙන් ඉන්නකොට එයා දැකලා පාරෙ මහා කාශ්‍යප මහරහතන් වහන්සේ වඩිනවා. ඒ දුටුව ගමන්ම ගින්දරකට වතුර ටිකක් දානවා වගේ අර රාග හිත නැතිවෙලා. ඉතින් එයා ඒ සතුටට ඒ ප්‍රීතියට පුදුම විදියට හිත පැහැදිලා. ඊටපස්සෙ, එදායින් පස්සෙ රාග සිතිවිල්ලක් ආවොත් මහා කාශ්‍යප මහරහතන් වහන්සේ සිහි කරපු සැනින් රාග සිතිවිල්ල නැතිවෙනවා කියනවා. ඉතින් එයා මහා කාශ්‍යප මහරහතන් වහන්සේට පැහැදුනු සිතින් දෙව්ලොව ඉපදිලා. අනිත් දෙවිවරු ධර්මය අහනවා, මේ දෙවියාත් ධර්මය අහනවා, මේ දෙවියන්ට හිතෙන්නෑ කියනවා අර මාර්ගඵල දියුණු කරගන්න, හේතුව එච්චර මහා කාශ්‍යප මහරහතන් වහන්සේට හිත බැඳිලා කියනවා. එයා යම් දවසක

මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ දේහය ගුරුපා කන්දෙ තිබෙනවානෙ. ඒ මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ දේහය මෛත්‍රිය සම්මා සම්බුදු රජාණන් වහන්සේ ඉදිරියේ දැවී යන දවස දකිනකල් ඔහුට නිවනක් ගැන හිතන්න අමාරුයි කියනවා. ඒ දක්වා හැබැයි බුද්ධාන්තරයක් ඒ දිව්‍ය රාජයාට ආයුෂ තියෙනවා කියනවා. එච්චර මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ අද්භූත ජීවිතය, ආනුභාවසම්පන්න ජීවිතය. ඉතින් ඒ නිසා මහාකාශ්‍යප මහරහතන් වහන්සේට කැඳ වතුරක් පූජා කරපු ආනුභාවය මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ ඒ ආච්චි අම්මා ජීවිත තුනකට කලින් අම්මා, නිම්මාණරතියෙ උපද්දන්න තරම් මහානුභාවසම්පන්න පිනක් වුනා. ඉතින් පින්වතුනි, කැඳ පූජා කිරීමේ ආනිසංස තියෙනවා. එකක් තමයි කැඳ දෙනවා කියන්නෙ, ආයු වර්ණ සැප බල පටිභාණ ශක්තිය, සාමාන්‍යයෙන් කැඳක් බොන කෙනෙකුට කල්පනා කරන්න හැකියාව වැඩිවෙනවා කියනවා. පටිභාණ කියන්නෙ ඒකයි. කල්පනා කිරීමේ හැකියාව වැඩිවෙනවා කියනවා කැඳ බීමෙන්. අපි සාමාන්‍යයෙන් කියන්නෙ මොකාක්වත් පණක් නැති මිනිහට අහනවා උඹ කැඳ බිව්වද කියලා. ඒ වුනාට ඒක හරි වාක්‍යයක් නෙවෙයි. කැඳබීමේ ආනිසංසයක් විදියට කල්පනාව ඇතිවෙනවා. ඊටපස්සෙ කැඳ බිව්වට පස්සෙ බඩගින්න නැතිව යනවා. පිපාසය නැතිව යනවා. ඊළඟට තමයි කැඳ වලින් අර සෙමයි, පිතයි නිසා බඩේ ඇතුලෙ ආහාර වල ඕජාව ඇඟට උරන්නෑ, ඉතින් කැඳ බීවට පස්සෙ ඒ සෙමයි, පිතයි ආහාරයට මිශ්‍ර වෙලා ආහාරය ශරීරයට ඕජාව උරන්නැති ගතිය වැළකෙනවා. ඊළඟට හොඳට බඩ ශුද්ධ වෙනවා. ඊළඟට තමයි හොඳට ආහාර දිරවනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා කැඳ වල ඔය ආනිසංස දහය තියෙනවා. ඉතින් ඒ කැඳ පූජා කරන කෙනාටත් ආයු වර්ණ සැප බල පටිභාණ ඊළඟට බඩගින්න පිපාසය ඉක්මණට සංසිඳෙන පින, සැලසෙනවා. ආහාර හොඳට දිරවන පින සැලසෙනවා. ඒ නිසා ඔන්න කැඳ පූජාවේ ඔවැනි ආනිසංස තියෙනවා. ඔය ආනිසංස දැනගෙන තමයි අපගේ විශාඛා මහෝපාසිකාව බුදුරජාණන් වහන්සේගෙන් කැඳ පූජා කරන්න අවසර ඉල්ලුවෙ ඒ නිසා. ඉතින් ඒ නිසා බලන්න මේ කැඳ සිඟිත්තක් පූජා කරලා නිම්මාණරතියෙ ඉපදුනානෙ. එතකොට මේ පින කියන එක සුලු දෙයක් නෙවෙයි. අප්පං දින්නං බහුං හෝතී, පොඩ්ඩක් පූජා කලත් විපාකය සුලුපටු නෑ. ඉතින් ඒකයි. ඉතින් ඒ නිසා පින්වත්නි අද දවසේදීත් අපි අපූරු විසත්රයක් ඉගෙන ගන්නෙ. මේ විමානවත්ථුවේ නම් චණ්ඩාලී විමානය. චණ්ඩාලී කියන්නෙ සැඩොලියක් ඇය. මේ සැඩොලිය රජගහනුවර හිටියේ. ඒ

රජගහනුවර හිටපු ඈ රජගහනුවර හරියට තියෙනවා කුලභේදය. අම්මෝ අදටත් තියෙනවා. එතකොට චණ්ඩාල කුලයේ කෙනාට කිසිකෙනෙක් ගරු කිරිල්ලක් නෑ, පාරේ අයිනට යන්න ඕන. බුදුරජාණන් වහන්සේ වේළුවනාරාමයේ උදෑසන අවදිවෙලා මහා කරුණා සමාපත්තියෙන් ලෝකෙ දෙස බලද්දි බුදු කරුණාවට බුදු නෙතට මේ ආච්චි අම්මාව පෙනුනා. උන්දෑ පින් කරපු කෙනෙක් නෙවෙයි. කය බිදිලා මරණින් මත්තෙ නිරයේ උපදින්නෙ. ඒකයි බුදුරජාණන් වහන්සේගේ කරුණාවට, උතුම් බුදු ඇසට පේනවා පින්වත්නි, අද දවසේ කවුද මැරෙන්නෙ, ඒ මැරෙන කෙනා කොහෙද ගිහිල්ලා උපදින්නෙ, ඒ කෙනාට මොකක්ද තියෙන හැකියාව, දන්දෙන්න හැකියාවක්ද, වදින්න හැකියාවක්ද, බණ අහන්න හැකියාවක්ද, මාර්ගඵල ලබන්න හැකියාවක්ද තියෙන්නෙ කියලා බුදුරජාණන් වහන්සේ දන්නවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දැක්කා මෙයාට නම් ලොකු දෙයක් කරගන්න බෑ, හැබැයි මෙයාට වන්දනා කරන්න පින තියෙනවා, හැබැයි වන්දනා කරන්නත් තනියෙන් බෑ, මෙයාට කවුරුහරි කියන්න ඕන. දැන් බලන්න පින්වතුනි මේ ලෝකෙ මිනිස්සු ඔක්කෝම, අතේ ඇඟිලි වුනත් එක වගේ නෑනෙ. එක ගෙදරක වුනත් පස් දෙනෙක් හිටියොත් පස්දෙනා පස් විදියක්. ඔක්කෝටම එක හැකියාව නෑ, මේක සංස්කාරයක් පින්වත්නි. ඉතින් බලන්න බුදුරජාණන්වහන්සේ දැක්කා මෙයාට වැඳගන්න පින පුලුවන්, හැබැයි ඒත් කවුරුහරි කියන්න ඕන. ඉතින් ඒ නිසා මුගලන් මහරහතන් වහන්සේ සමඟ ඒ මාවතට වැඩියා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ මාවතට වැඩලා, අර දැන් සැඩොලිය එයා අද මැරෙනවා. ඒ මාවතේ බුදුරජාණන් වහන්සේ වඩින මාවතේ ඉස්සරහා ඒ ආච්චිඅම්මා එන ඉස්සරහා බුදුරජාණන් වහන්සේ ඒ මාවතේ වැඩියා හරියට පාර මැදින්. ඉතින් අර ආච්චි අම්මට හැරමිටියෙන් බිම බලාගෙන වෙව්ල වෙව්ලා උන්දෑ එනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මග වැඩ ඉන්නවා. ඉතින් මේ ආච්චි අම්මා ඇස් අගට දැක්කා රත්තරන් පාට සිරිපා සඟල තියෙන දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් හෙබි බුදුරජාණන් වහන්සේ. ආන්න ඒ වෙලාවේ තමයි මුගලන් මහරහතන් වහන්සේ ඇයට කියනවා මෙහෙම, චණ්ඩාලී, වන්ද පාදාමී ගෝතමස්ස යසස්සිනෝ, එම්බා සැඩොල් ස්ත්‍රිය ගෞතම වූ මහා යසස් ඇති තථාගතයන් වහන්සේගේ සිරිපා වදින්න. තවේව අනුකම්පාය අට්ඨාසි විසිසත්තමෝ, නුඹට අනුකම්පාවෙන් තමයි බුදුරජාණන් වහන්සේ ඔය පාර මැද වැඩ ඉන්නේ, අභිප්පසාදේහි පනං අරහංතම්හි තාදිනී, ඒ අකම්පිත සිත් ඇති රහතන් වහන්සේ නමක් වූ බුදුරජාණන් වහන්සේ ගැන හිත පහදගනිං.

කිප්පං පණ්ඩරිකා වන්ද, ඉක්මණට ඇඟිලි දෙක එකතු කරලා වන්දනා කරපං. පරිත්තං තව ජීවන්ති, නුඹගේ ජීවිතේ තව පොඩි වෙලාවයි තියෙන්නෙ. මම ඒකයි කියන්නෙ මරණය පෙනි පෙනී ගොඩාක් අයට මරණය පෙණුනොත් ඉක්මණට ධර්මයට එනවා. එතකොට ඒ සැඩොල් ස්ත්‍රිය ගොඩාක් සංවේගයට පත්වුනා. මරණය ළඟයි කියලා. ඒ වගේම ගොඩාක්, ඒ එක්කම හිත පැහැදුනා, මේ තුන් ලෝකෙට අග්‍ර රජවරු පවා වඳින, අපි වාගේ අයට සැඩොල් අයට කිට්ටුවෙන්නවත් හිතන්න බැරි බුදුරජාණන් වහන්සේ මං ඉස්සරහපිට වැඩ ඉන්නවානේ කියලා මොකද කළේ, චෝදිතා භාවතත්තෙන සරීරන්තිමධාරිනා, ඒ මුගලන් මහරහතන් වහන්සේ විසින් කරුණ ඇට කිව්වට පස්සෙ අන්තිම සිරුර දරණ බුදුරජාණන් වහන්සේට ඒ සැඩොල් ස්ත්‍රිය විසින් වන්දනා කරන්න පෙළඹෙව්වා. ඉතින් ඒ චණ්ඩාලි වන්දාමි පාදානී, ඒ සැඩොල් ස්ත්‍රිය තථාගතයන් වහන්සේගේ රන්වන් සිරිපා සඟල වන්දනා කලා. ගෝතමස්ස යසස්සිනෝ, මහා යසස් ඇති ගෞතමයන්ගේ සිරිපා වැන්දා. මේ ලෝකය අවිද්‍යා අන්ධකාරයෙන් කළුවර වෙලා තියෙන්නෙ. චතුරාර්ය සත්‍යය නැමැති හිරු එළියෙන් විතරයි ඒ ලෝකය එළිය වෙන්නෙ. ඉතින් ඒ එළිය ලබාදෙන සම්බුදුරජාණන් වහන්සේට වන්දනා කරපු ඒ සැඩොලිය ඒ අයුරින් බුදුරජාණන් වහන්සේට වැඳගෙන බලාගෙන හිටියා. බුදුරජාණන් වහන්සේ එහෙම්මම වැඩම කලා. ටික දුරක් යනකොට, බුදුරජාණන් වහන්සේ නොපෙනී ගිහිල්ලා මේ පැත්තට එනකොට කැලේ ඉඳලා වේගෙන් ආපු කුළු එළදෙනක් ඒ සැඩොලියට ඇන්නා. ඈ මැරුණා, නමුත් අර හිතේ පැහැදීම තිබ්බා. ඈ ගිහිල්ලා ඉපදුනා තව්තිසා දෙව්ලොව. තව්තිසා දෙව්ලොව ඉපදුනා. ඉපදිලා දැන් බලන්න අර වන්දනා කරපු එකේ පින. මහා අප්‍රමාණ පින් බලයකින් තමයි ඇය ඉපදුනේ. මහා ආනුභාවසම්පන්න පිනකින් ඇය තව්තිසා දෙව්ලොව ඉපදුනා. ඉතින් ඈ එදා පහුවදා රාත්‍රියේ මුගලන් මහරහතන් වහන්සේගේ සිරිපා වඳින්න පැමිණියා. දැන් මේ විමානවත්ථුවේ මුගලන් මහරහතන් වහන්සේ දෙව්ලොව වැඩියේ නෑ, ඈ මුගලන් මහරහතන් වහන්සේගේ සිරිපා වඳින්න ආවා. මහානුභාව ඇති බුද්ධ වීරයන් වහන්ස, හීනාශ්‍රවයාණෙනි, නිකෙලෙස් මුනිඳුනි, තණ්හා නැති මුනිඳුනි, හුදෙකලාවෙන් වන වැද භාවනා කරන මුනිඳුනි. මං දෙව්ලොව ඉපදුනා. මං නුඹ වහන්සේට වන්දනා කරනවා. මේ මුගලන් මහරහතන් වහන්සේට කියා සිටින්නේ. ඉතින් කියනවා දෙව්දුව ඔබ රත්තරන් පාටයි, දිලිසෙනවා, මහා පිරිවරක් එක්ක ඉන්නෙ. විසිතුරු දිව්‍ය අප්සරාවක්. දැන් බලන්න පාරෙ ගිය සැඩොල් ස්ත්‍රිය, බුද්ධ වන්දනාවේ පින. ඉතින් කියනවා

විමානෙන් බැහැලා මට වන්දනා කරන ඔය දිව්‍යාංගනාව කවුද. ස්වාමීනී, මම චණ්ඩාලියක්. මහා වීර වූ නුඹ වහනසේ මාව පෙළඹෙව්වා. කියනවා මුගලන් මහරහතන් වහන්සේට ඔබවහන්සේ තමයි මාව පෙළඹෙව්වෙ, ඉතින් මම බුදුරජාණන් වහන්සේගේ පාකමල් වන්දනා කලා. ඉතින් ඒ මං බුදුරජාණන් වහන්සේගේ සිරිපා යුග වන්දනා කරගෙන සැඩොල් යෝනියෙන් චුත වුනා. නන්දන වනයේ උපන්නා. මේ විමානය හරි හැම අතින්ම බබලනවා. දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන මට ගොඩාක් පිරිවර ඉන්නවා. ඒ සියලු දෙනාගෙ අතරින් ශරීර සෝබාවෙන්, යසසින්, ආයුෂෙන් මම අනිත් සියලු දෙනා අභිබවලා සිටිනවා කියනවා. ඉතින් කියනවා යහපත් දේවල් ගොඩාක් මං රැස් කලා. සිහිනුවණ පිහිටුවාගෙන සිටියා. ඉතින් ස්වාමීනී ලෝකෙ මහා කාරුණික මුණීන්ද්‍රයන් වහන්සේ බැහැදැකලා වැඳපුදාගන්නටයි ආවෙ. ඒ චණ්ඩාලි දෙවඟන කෙලෙහිගුණ දන්නවා. කෙලෙහිගුණ සිහිකරනවා. ඉතින් ඇය ඔය විදියට පවසලා අරහත් මුනීන්ද්‍රයන් වහන්සේගේ පාකමල් වන්දනා කරලා එතනම නොපෙනී ගියා. මුගලන් මහරහතන් වහන්සේට වන්දනා කරලා නොපෙනී ගියා. වන්දනා කිරීමේ පින. දැන් තියෙනවානෙ වන්දනා කලාට පස්සෙ අභිවාදන සීලිස්ස නිච්චං වද්දාප චායිනෝ චත්තාරෝ ධම්මා වඩ්ඩන්ති ආයු වණ්ණෝ සුඛං බලං, ආයුෂ වර්ණය සැපය බලය වැඩෙනවා වන්දනා කරනකොට. සාමාන්‍යයෙන් ආයුෂ අඩුයි කියලා තේරෙනකොට හොඳට වන්දනා කරන්න ඕන. ඒ වගේම උදේ හවස තෙරුවන් වඳිනකොට බුදුන් වඳිනකොට උත්තමයන්ට වන්දනා කරනකොට පිරිහෙන ආයුෂ වැඩිවෙනවා. ඒ ආයුෂ පිණිස පවතින පිනක් වන්දනාව. දැන් මේ බලන්න මේ නිරයේ යන්න හිටපු ස්ත්‍රියක් නේද, බුදුරජාණන් වහන්සේට වැඳලා දෙව්ලොව උපන්නෙ. ඊළඟට ඒ නිසා මේ විමානවත්ථුවෙ තව ඉදිරියට තියෙනවා කතා, ධාතූන් වහන්සේලාට වැඳලා දෙව්ලොව ගිය අය. ඉතින් ඒ ආයුෂ වැඩිවීම පිණිස පවතිනවා වන්දනාවේ පින. නමුත් පින්වත්නි සාමාන්‍යයෙන් බලන්න මේ කතාව ඇසුරින් යම්කිසි කෙනෙකුට මරණයක් පැමිණුනොත් ඒ මරණය බුදුරජාණන් වහන්සේටවත් මරණය වළක්වන්න බෑ. මේ තාක් ඉතිහාසයට බුදුරජාණන් වහන්සේ මුල්වෙලා කෙනෙක්ගේ ආයුෂ වැඩිවීම පිණිස කටයුතු කරලා තියෙනවානම් ඒ ආයුවඩ්ඩන කුමාරයාගේ. ආයුවඩ්ඩන කුමාරයාට මාරකයක් තිබුනෙ. හැමදාම යක්ෂණියක් ඇවිල්ලා කනවා හැම ජීවිතයකම. එතකොට හැබැයි ඒ යක්ෂයා, යක්ෂයෙක් කියලා කියන්නෙ, ඒ යක්ෂයා එන වෙලාවට එයාගෙ ජීවිතේ බේරුණොත් ආයෙ එයාව අල්ලන්න බෑ. ඉතින්

බුදුරජාණන් වහන්සේ ඒ යක්ෂයා එන දවසේ සංඝයා වටකරගෙන ඒ කුමාරයා මැද තියලා එක දිගට පිරිත් සජ්ඣායනා කර කර ඉන්න සැලැස්වුවා. ඉතින් යක්ෂයාට ඒ කුමාරයා ළඟට එන්න බැරිවුනා, ඒ මාරකය පැන්නා. මාරකයන් ගෙවෙනවා කියලා එකක් තියෙනවා. හැබැයි මාරක ගෙවෙන පින්කම් කරගන්න ඕන. ඉතින් ඒ නිසා සාමාන්‍යයෙන් මාරක ගෙවෙන ආයුෂ වැඩි කරගන්න පුලුවන් පින්කමක් තමයි කියනවා මල් වලට පැන් ඉසීම. පරවීගෙන එන මල්වල ආයුෂ වැඩිවෙනවානෙ පැන් ඉහපුවාම. එතකොට මල්වලට පැන් ඉසීම ආයුෂ වැඩිවෙන පිනක්. මාරක පැන්නෙන පිනක්. ඊළඟට තමයි ගරා වැටෙන වෙහෙර විහාර ප්‍රතිසංස්කරණය කිරීම, ස්තූප ප්‍රතිසංස්කරණය කිරීම, සෙනසුන් ප්‍රතිසංස්කරණය කිරීම මාරක ගෙවෙන ආයුෂ වැඩිවෙන පිනක්. ඊළඟට තමයි පිරිසිදු පැන් පූජා කරන එක, පෙරහන් කඩවල් පූජා කරන එක. ඔයවාගේ ආයුෂ වැඩිවෙන පින්කම් තියෙනවා. ඉතින් පින්වතුනි නමුත් කර්මානුරූපව ඒ ආයුෂ වැඩිවුනත් සත්ත්වයා මැරෙනවා. ඒ මරණය කරා සත්ත්වයා පැමිණෙද්දි පින්වතුනි ඒක බුදු කෙනෙකුටවත් වළක්වන්න බෑ. දැන් මේ මැගේ මරණය කොහොමටත් සිද්ධ වෙනවා. කොහොමටත් සිද්ධ වෙනවා. අපි සමහර වෙලාවට කියනවා අපි අහවල් ඉස්පිරිතාලෙට ලෙඩා ගෙනිච්චා නම් බේරගන්න තිබ්බා. අහවල් දොස්තර ළඟට ගෙනිච්චා නම් බේරගන්න තිබ්බා කියලා අපි එක එක දේවල් කියනවා. අපි එහෙම කිව්වට ඒ පරිසරය හැදෙන්නෙ මැරෙන කෙනාට මැරෙන විදියට. එයා උපතින් ගෙනාපු ආයුෂක් තියෙනවා. ඒක මේකෙන් තේරුම් ගන්න. නමුත් බුදුරජාණන් වහන්සේ නිතර වන්දනා, බුදුරජාණන් වහන්සේට එක පාරක් සිරිපා වන්දනා කරපු පින මේ බලන්න නිරයේ යන්න හිටපු සැඩොලියක් තව්තිසා දිව්‍යලෝකෙ මහා පිරිවර සහිත දිව්‍යාංගනාවක් කලා නම් ශ්‍රද්ධා සිතින් සිරිපා වන්දනා කරනකොට කොච්චර පිනක්ද ඒක. කොච්චර දුර ගිහිල්ලද වඩින්නෙ. කොච්චර කැපවීමෙන්ද ගිහිල්ලා වඩින්නෙ. ඒක කොච්චර පිනක්ද, මේවා සිහි කරන්න ඕන පින්වත්නි, සිහි කරන්න ඕන. රුවන්වැලිමහාසෑය, ජයසිරිමහා බෝධීන්වහන්සේ, උතුම් සත්පුරුෂයන් වහන්සේලා, රහතන් වහන්සේලාගේ ගුණ සිහි කර කර වඳින එක සුලුපටු දෙයක් නෙවෙයි. රහතන් වහන්සේලාගේ ගුණ, යශෝධරා මහෝත්තමාවියගේ ගුණ සිහි කර කර වඳින එක සුලුපටු දෙයක් නෙවෙයි. ඒවගෙන් අප්‍රමාණ පින් රැස් වෙනවා රහතන් වහන්සේලා වඳිනකොට. ඉතින් ඒ නිසා මේ බලන්න වන්දනාවේ පින. දැන් සමහර වෙලාවට රහතන් වහන්සේලාගේ පෙර ජීවිත කතාවල තියෙනවා, ඒ රහතන් වහන්සේලාට

අර්හත්වයට පත්වෙන්න මූලික හේතුව වෙලා තියෙන්නෙ කලින් ජීවිතේ බොහෝ කාලයක් සංසාරෙ බුදුරජාණන් වහන්සේ දැකලා වැඳපු පින, රහතන් වහන්සේලා දැකලා වන්දනා කරපු පින, වන්දනා කරගෙන හිටපු පින, ඒ පින උපකාරී වෙනවා. බුදුරජාණන් වහන්සේ අනන්ත ගුණ තියෙන කෙනෙක්. සිහිනෙන් දැක්කත් සිත සැනසෙන්නෙ. එක රහතන් වහන්සේ නමක් තමන්ගෙ ජීවිතේ ආපස්සට බලනවා මං මොකක්ද කරලා තියෙන පින කියලා, උන්වහන්සේට පේනවා ඉතාමත් ඈත සංසාරයේ කල්ප අසූගාණකට කලින් සිහිනෙන් බුදුරජාණන් වහන්සේ දැකලා, හීනෙන් බුදුරජාණන් වහන්සේ දැක්කට පස්සෙ අවදිවුනාට පස්සෙ පුදුම සතුටුයි. සති ගණන් සතුටින් ඉඳලා. සිහිනෙන් බුදුරජාණන් වහන්සේ දැකලා සති ගාණක් සතුටින් හිටපු පින් බලේට තමයි අපේ ගෞතම බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙලා තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ දැක්කා එක් එක්කෙනාට එක එක පින් තියෙන විදිය වෙනස්. ඈත අතීතයේ එක බුදුරජාණන් වහන්සේ නමක් දැක්කා කැලේ යන වැද්දෙකුට පිනක් උපද්දවන්න පුලුවන්, හැබැයි ඒ වැද්දට බුදුරජාණන් වහන්සේ දකින්නවත් සිරිපා වඳින්නවත් පින නෑ, නමුත් ඒ වැද්දා යන පාරෙ බුදුරජාණන් වහන්සේ සිවුර ගහක අත්තක දාලා තිබුනා. මෙහෙම ගහක පාත්වෙලා තියෙන අත්තක සිවුර වනලා තිබ්බා. ඉතින් අර වැද්දා කැලේ මැදින් යනකොට අර සිවුර දැකලා, අම්මෝ ශ්‍රමණයන් වහන්සේලා පොරවන එකක් නේද කියලා සිවුරට වැන්දා. වැඳලා ගියා යන්න එයා. දැන් අපේ බුද්ධ ශාසනයේ රහතන් වහන්සේ නමක් බවට පත්වෙලා කියනවා, එදා සිවුරට වැඳපු පින කියනවා ආවෙ මට මේ. එදා ඉඳලා වැද්දෙක් විදියට කරපු පාපය දෙවැනි තැනට වැටිලා, චීවරයට බුද්ධ චීවරයට වන්දනා කරපු පින ආවා කියනවා ඉස්සරහටම. බුදුරජාණන් වහන්සේට පෙරවූ චීවරයට වන්දනා කිරීමේ පින එහෙම ආවා නම් ද්‍රෝණයක් සර්වඥ ධාතූන් වහන්සේලා වැඩඉන්න රුවන්වැලි සෑයට වන්දනා කලාම කොහොමද. බුද්ධ නේත්‍රයෙන් දවස් හතක් පූජා පැවැත්වූ ජයශ්‍රී මහා බෝධීන් වහන්සේට වැන්දොත් කොහොමද. සූවාසූ දහසක් ධර්මස්කන්ධය ස්පර්ශ කරපු දළදා වහන්සේට වැන්දොත් කොහොමද. කියන බණ පදයක් ගාණේ සුසර වුන ග්‍රීවා ධාතූන් වහන්සේට වැන්දොත් කොහොමද. ඒ බුදුරජාණන් වහනසේගේ රශ්මි ධාරාව විහිදෙන බව ආරම්භ වෙන කේශ ධාතූන් වහන්සේලාට වැන්දොත් කොහොමද. ඒ නිසා පින්වතුනි ඒ ආනුභාවය දෙස බලන්න. හිත පහදව ගන්න. ගොඩාක් මිනිස්සුන්ට තියෙන්නෙ, පින් තියෙනවා, නමුත් තමන්ගේ පින සිහි කරන්නෑ. මොකාක්හරි වැරදිච්ච දේකින්

හෝ මොකක්හරි දෝමනස්සයකින් හිත වහගන්නවා. ඉතින් ඒ නිසා තමයි මේ මිනිස්සුන්ට අපරාදි මේ දිව්‍ය ලෝක ගමන සුගති ගමන සුගති ඊකවරණය නැතිවෙන්නෙ. ගොඩාක් අය මැරුණට පස්සෙ සතර අපායෙ උපදිනවා. නමුත් කරපු පුංචි පින නමුත් සිහි කර කර වාසය කරනවානම් ඒ අයට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඉතින් බලන්න අපි ඊළඟ විමානවත්ථුව බලමු. ඊළඟ විමානවත්ථුව බද්දිත්ති විමාවත්ථුව කියලා. බද්දිත්ති කියන්නෙ සොඳුරු ස්ත්‍රිය කියන එක. මේක සාමාන්‍යයෙන් ලෝකෙ ප්‍රකට සිද්ධියක්. මේ ස්ත්‍රිය පතිව්‍රතා බලයෙන් ගලන ගංවතුරක් නවත්තපු කෙනෙක්. ඒ තමයි පින්වත්නි කිම්බිලා නුවර, කිම්බිලා නුවර එක්තරා කුලයකට මේ සුභද්‍රා කියලා කුමාරිකාවක් විවාහ කලා. ඉතින් ඈ ස්වාමියාගේ, ගෙදර මිනිස්සුන්ගේ හිත දිනාගෙන ඉන්නවා. ඈ සාරිපුත්ත, මොග්ගල්ලාන ස්වාමීන් වහන්සේලාට ලොකු දානයක් පූජා කලා. ඈගේ ස්වාමියාගේ නම රෝහක. ඉතින් එයත් ඒකට ගොඩක් කැමති වුනා. ඉතින් මෙයාලා පින් කලා. ඒ අතරෙ අර රෝහක ස්වාමියා, ඈත වෙළදාමේ ගියා. ඉතින් මේ ගෙදර ඉන්නවා මේ පවුලට උදව් කරන දිව්‍යාංගනාවක්. ඉෂ්ට දේවතාවෙක් විදියට. ඊටපස්සෙ අර වෙළදාමේ ගිය ස්වාමියා මාස ගණන් එහෙ ඉන්නකොට ඒ ස්වාමියාට ගොඩාක් අර ස්ත්‍රීන් ඇසුරු කිරීමේ ආසාවක් උපන්නා. එතකොට අර දෙවඟන දැක්ක. ඒ දෙවඟන දැකලා ඒ දෙවඟන කැමති වුන්නෑ අච්චර හොඳ සොඳුරු ගුණ තියෙන සුභද්‍රා වගේ කුමාරිකාවක් ඉන්න කෙනාගෙ ස්වාමියා නරකට යෙදෙනවාට කැමති වුන්නෑ. ඒ නිසා මොකද කලේ මෙයා දිව්‍ය ඍද්ධියෙන් මේ කුමාරිකාව මෙතනින් අතුරුදහන් කරලා අරයා අර තක්ෂසිලාවේ වෙළදාම් කරන එයාගේ ගෘහයේ එයාගේ ඇඳේ තිබ්බා අර කුමාරිකාව ගිහිල්ලා. ඉතින් මේ විදියට කාලයක් ගත කරලා ආපහු එතනින් අතුරුදහන් කරලා ගෙදර ගෙනත් තියෙනවා. ඒක ඉස්සර සිද්ධ වෙච්චි දෙයක්. සාමාන්‍යයෙන් අපිටත් හිතාගන්න බැරි තරම් මේ මනුස්ස ලෝකෙ එක එක දේවල් සිද්ධ වෙනවා. ඇයි ඉතින් එහෙම සිද්ධ නොවී තියෙන්නෙ කොහොමද. ඔබට මතකයිද, බියකරු සසර ගැන ඉගෙන ගන්නකොට සමහර ප්‍රේතයො මනුස්ස ස්ත්‍රීන් අතුරුදහන් කරවනවනෙ. විමාන ප්‍රේතයො අතුරුදහන් කරවනවනෙ. ඉතින් එහෙම එකේ දිව්‍යාංගනාවකට බැරි මොකද. ඊටපස්සේ එයාගෙම ස්වාමියා එයාගෙ අතට ඒ තක්ෂසිලාවෙදි පේරැස් මුද්ද එයාගෙ ලොකුම මුද්ද පැලැන්දුවා. ඊටපස්සෙ එහෙන් ඇය අතුරුදහන් කරලා මෙතනින් ඇය ගෙනත් තිබ්බා. ඉතින් ටික කාලයක් යනකොට ඇය ගැබ් ගත්තා. ඊටපස්සෙ නමුත් ගෙදර අය ගොඩක්

මෙයාව සැක කලා. සැක කරලා ගෙදරින් පලයන් යන්න, උඹ මගේ පුතාගෙ මූණෙ දැලි ගෑවා කියලා ගෙදර මිනිස්සු මෙයාව පැන්නුවා. එතකොටම අර දිව්‍යාංගනාව ගංවතුරක් ගැලෙව්වා ලොකු වැස්සක් වස්සවලා, ඊටපස්සේ අර කෙල්ල අඬ අඬා කියනවා අම්මේ මේ බලන්න ලොකුවට වතුර ගලාගෙන එනවා. මං මගේ ස්වාමියාව ඉක්මවා ගියපු නැති එක සත්‍යයක්. ඒ සත්‍යානුභාවයෙන් මේ වැස්ස නැතිවෙලා ගංවතුර නතරවෙන්න ඕන කියලා. කියපු ගමන් වැස්ස නැතිවෙලා ගංවතුර නැතිවුනානෙ. අර මිනිස්සු හොඳටම බයවුනා. ඔන්න ස්වාමියා ආවා. ස්වාමියා එනකොට මෙයාට බබෙක් ලැබෙන්න. එතකොට එයාටත් සැකයි. ඇයි එහෙම කියන්නෙ ඔයා තක්ෂිසිලාවෙ ඉන්නකොට මම එහෙ හිටියේ, මට මොකක් වුනාද කියලා දන්නෑ, දේවානුභාවයකින් මම මෙහෙන් අතුරුදහන් වෙලා එහෙ පහළ වුනා කිව්වා. මේ ඔයා දාපු මුද්ද කියලා අර මුද්ද පෙන්නුවා. යාන්තම් අර ප්‍රශ්නෙ විසඳුනා. තුණුරුවන් හොඳට වන්දනා කරගෙන ඊළඟට පින්දහම් කරගෙන සාරිපුත්ත මුගලන් මහරහතන් වහන්සේලාට දන් පැන් පූජා කරගෙන ඉඳලා ඇය පස්සෙ කාලෙ අසනීපයකින්, රෝගයකින් මැරිලා ගිහිල්ලා දෙව්ලොව උපන්නා. තව්තිසා දිව්‍යලෝකෙ. ආන්න ඒ විස්තරේ තමයි ඊළඟට තියෙන්නෙ. පින්බර නුවණැති දෙව්දුව, නිල්පාට, කහපාට, කලු පාට, තැඹිලි පාට, රතුපාට ආදී නොයෙක් නොයෙක් පාට වලින් යුතු මල් රේණුවලින් ලස්සනට පිරිලා තියෙන දිව්‍ය විමානෙක ඔබ ඉන්නෙ. මුගලන් මහරහතන් වහන්සේ මේ විස්තරය අහන්නෙ. ඒ මල්රේණු පිරුණු මදාරා මල් මාලාවලින් ඔබගේ හිස පැළඳගෙනයි ඉන්නෙ. වෙනත් දිව්‍යලෝකවල මෙතරම් ලස්සන සොඳුරු වෘක්ෂයක් දකින්න ලැබෙන්නෑ. ඔබගේ විමානයේ ලස්සන වෘක්ෂ තිබෙනවා. ඉතින් දෙව්දුව මොනවගේ පිනක්ද ඔබ කලේ. ඉතින් ඈ මේ විදියට උත්තර දුන්නා. මගේ නම බද්දිත්ති. මං කිම්බිලා නගරයේ හිටපු උපාසිකාවක්. මම තෙරුවන් සරණ කෙරෙහි අචල ශ්‍රද්ධාවක් තිබුනා. මම සිල් රැක්කා. හැම තිස්සේම දන් දෙන්නමයි කැමති වුනේ. ඍජු සිත් ඇති ආර්යයන් වහන්සේලා ගැන මගේ හිතේ තිබුනෙ බලවත් පැහැදීමක්. ඉතින් මම වස්ත්‍ර දන්දුන්නා. ඒවගේම ආහාරපාන සේනාසන තෙල් පහන් පූජා කලා. බලන්න ඈ කරලා තියෙන පින්කම්. ඊළඟට චාතුද්දස්සී දවසට, පුන් පෝයදවසට, අටවක, පාටිහාරි පක්ෂයේ පෝය දවස්වලට මම අටසිල් සමාදන් වෙලා, සතරපෝයට ඇය සිල් අරන් තියෙනවා. ඊළඟට මම හොඳින් උපෝසථ සිල් රැක්කා. හැමදාම සිල් පදවල සංවර වුනා. ඉඳුරන් සංවර කරගත්තා. කාටත් දන්පැන් බෙදා දුන්නා. මං

ඒ විදියටයි ගෙදර ජීවත් වුනේ. සතුන් මැරීමෙන් වැළකුණා. බොරු කීමෙන් වැළකිලා වචනය සංවර කරගත්තා. හොරකම් කලේ නෑ, ස්වාමියා ඉක්වා දුරාචාරයේ හැසිරුනේ නෑ, මත්පැන් පානය කලේ නෑ, ඒ කියන්නෙ මෙයි පඤ්චසීලය රැක්කා. සිල්පද පහ රැකගත්තෙ කැමැත්තෙන්මයි. චතුරාර්ය සත්‍යය ධර්මය තේරුම් ගන්න තරම් මා තුළ දක්ෂතාවයක් තිබ්බා. ඒ නිසාමයි සදහම් ඇස් ඇති ගෞතම බුදුරජාණන් වහන්සේගේ සසුනේ අප්‍රමාදව බණ භාවනා කරන ශ්‍රාවිකාවක් වුනේ. මෙයා සෝවාන් වෙච්ච කෙනෙක්. මේ බලන්න මේ අර්බුද අස්සෙ ජීවිතේට සැප සලසගන්න හැටි. තපස්සීන් වහන්සේලා යුගල වන දෑගසච්චන් වහන්සේලා පරමහිතානුකම්පාවෙන් යුක්තයි. මහාමුණිවරු නෙව. ඉතින් මං පිඬුසිඟා වඩින මේ උත්තමයන් වහන්සේලාට සාදරයෙන් දන් පැන් පූජා කරගත්තා. මං යහපත කරගත්තා, පින් කරගත්තා. මිනිස් ලොවින් චුත වෙලා නන්දන උයනේ හැසිරෙන මාගේ සිරුරින් ගොඩාක් රශ්මිය විහිදෙනවා. අප්‍රමාණ සැප ලබාදෙන අට්ඨාංගික උපෝසථ සීලය මම නිතර නිතර සමාදන් වුනා. මම යහපතක් කරගත්තා. පින් කරගත්තා. මිනිස් ලොවින් චුත වෙලා නන්දන උයනේ හැසිරෙන මගේ සිරුරෙන් රශ්මිය විහිදෙනවා. බලන්න පුදුම සහගතයි ඉතින්. මෑ ධර්මය අවබෝධ කරපු කෙනෙක්. ඒ වගේම ගොඩාක් උපෝසථ පින් දහම් රැස් කරගත්ත කෙනෙක්. සත්පුරුෂයන්ගේ ඇසුරට ආවොත් උපෝසථ සිල් රැක්කොත්, අටසිල් රැක්කොත්, ධර්මය තේරුම් ගත්තොත් එයානම් කවදාවත් දුගතියේ යන්නෙ නෑ. ඉතින් ඒ නිසා ඒ විදියට තමයි ඒ විමානවත්ථු තියෙන්නෙ. ඊළඟ විමානවත්ථුව ඊළඟ දිව්‍ය විමානය තියෙන්නෙ සොණදින්නා කියලා. අපි බලමු ඈ කරගත්තු පින. ඔන්න ඇගෙන් ඒ දිව්‍යාංගනාවගෙන් මුගලන් මහරහතන් වහන්සේ අහනවා මෙච්චර ආනුභාවසම්පන්න දිව්‍ය විමානයක් ලැබුනෙ කොහොමද කියලා. ඒ වෙලාවෙ කියනවා මං ගැන කවුරුත් දන්නෙ සොනදින්නා කියලා. මං නාලන්දාවෙ හිටපු උපාසිකාවක්. මට තෙරුවන් සරණ කෙරෙහි අචල ශ්‍රද්ධාවක් තිබුනා. මට සිල් පද රැක්කා. හැමතිස්සෙම දන් දෙන්නමයි කැමති වුනේ. ඍජු සිත් ඇති ආර්යයන් වහන්සේලා ගැන මගේ හිතේ තිබුනේ බලවත් පැහැදීමක්. ඉතින් මම වස්ත්‍ර දන් දුන්නා. ඒ වගේම ආහාර පාන සේනාසන තෙල් පහන් පූජා කලා. චාතුද්දසී දවසට, පුන් පෝය දවසට, ඒ වාගේ සතර පෝයට මං උපෝසථය සමාදන් වුනා කියනවා. අර වගේමයි. ඉතින් හරි කැමැත්තෙන් කියනවා මං අටසිල් රැක්කෙ. පඤ්චසීලය රැක්කෙ හරී කැමැත්තෙන් කියනවා. ඊළඟට මටත් පුලුවන් වුනා කියනවා

බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ ධර්මය අවබෝධ කරගන්න. ඒ පිනෙන් තමයි කියනවා, දැන් බලන්න මාර්ගඵල ලැබූ අය ගිහිල්ලා ඉපදිලා ඉන්නෙ දෙව්ලොවනෙ. එතකොට මේ අයට මුගලන් මහරහතන් වහන්සේ වදාළාද අම්මෝ එපා දිව්‍යලෝකෙ උපදින්න, මේක දුකක්. ඒ නිසා අදම නිවන් දකින්න, පින්වතුනි මේ බලන්න වදින්න වුනත් කෙනෙකුට පිනක් තියෙන්න ඕන. හේතු සම්පත්තියක් තියෙන්න ඕන. තනියෙන් වදින්න හේතු සම්පත්තියක් තියෙන්න ඕන. සමහර අයට පින තියෙන්නෙ අනුන් තමයි වන්දවන්න ඕන. දැන් අර චණ්ඩාල විමානවත්ථුව. තමන්ට තනියෙන් වැඳගන්න සංස්කාරයක් නෑ, හැකියාවක් නෑ, ඉතින් ඒ නිසා මේ ජීවිතයේදීම ධර්මය අවබෝධ කරන්න කෙනෙකුට හැකියාවක් තියෙනවා නම් ඔහොම නෙවෙයි මොනවා කිව්වත් එයාට සත්පුරුෂයො හම්බවෙලා නම් ශ්‍රී සද්ධර්මය එයාට කියවන්න අහන්න ලැබෙනවා නම් එයා ඒ ධර්මය අවබෝධ කරනවා. එතකොට දැන් තියෙන්නෙ එහෙම නෙවෙයි, මිනිස්සුන්ගේ වාද විවාදයි, මිනිස්සුන්ගෙ හිත්වල තියෙනව පසුතැවිල්ලයි, ඇදකුද හෙවිල්ලයි, ඒකනෙ මං කිව්වෙ අපි මෙහෙම ධර්ම දේශනා කරනකොට මල් පෝච්චියක් ඇදේට තිබ්බොත් ඒකටත් මොකක් හරි එකක් කියනවා. එතකොට මිනිස්සුන්ගේ හිත් ඒ වගේ පහත් තත්ත්වයකට වැටිලා තියෙන්නෙ. එතකොට ඒ වැරදි හොයන අදහසින් ධර්මය අහනවා. එතකොට ඔය වාගේ අකුසල් නිසා ඒ මිනිස්සුන්ගේ අතින් පින් කෙරුණත් ඒ පින බාලවෙලා යනවා. ඉතින් මේ අයගේ වුනේ මේ අයගේ සම්පූර්ණ මුළු ජීවිතේම තිසරණයට පිදුවා. මේ අය තමන්ගේ මේ ජීවිතයට වැඩිය පරලොව ගැන හිතුවා. සංසාර දුකින් නිදහස් වෙන එක ගැන හිතුවා. ඒ නිසා එයාලට රැස්වෙච්ච පුංචි පිනෙන් එයාලට බොහෝ කාලයක් හිත හිතා සතුටු වුනා. ඒ සෝනදින්නාගේ විමානවත්ථුව. ඒ විදියටත් දෙව්ලොව ඉපදිලා තියෙනවා. දැන් ඊළඟ විමානවත්ථුවෙ තියෙන්නෙ උපෝසතා කියලා. උපෝසතා කියන්නෙ ඇගෙ ජීවිතෙත් ඔය විදියමයි, ලස්සන දිව්‍ය විමානෙක ඉන්නෙ. මෑ දිව්‍ය ලෝකෙ ඉපදිලා තියෙන්නෙ මෙයාගෙ ජීවිතේ විශේෂ දේ තමයි හරි කැමතියි උපෝසථය රකින්න. අට්ඨාංග උපෝසථය. ඉතින් ඒ නිසා අඩුම තරමෙ පෝයටවත් උපෝසථය සමාදන් වෙන්න ඕන පින්වතුනි. සාමාන්‍යයෙන් දවසට කහවණු ලක්ෂයක් හම්බ කරන කෙනෙක් බුදුරජාණන් වහන්සේ දවසක් දේශනා කලා, දවසට කහවණු ලක්ෂයක් හම්බ කරන කෙනෙක් අවුරුදු සීයක් ජීවත් වෙනවානම්, ඒ කියන්නෙ ලක්ෂයේ ඒවා තිහක් මාසයයි, එවැනි ඒවා දොළහක් අවුරුද්දයි, ඒ වගේ අවුරුදු සීයක් හම්බ කරන මුදල, කහවණු, රන් කහවණු එක

දවසක් උපෝසථය සමාදන් වීමෙන් දාසයෙන් පංගුවක් තරම්වත් නෑ කිව්වා. එච්චර ආනිසංස සැලසෙනවා කිව්වා උපෝසථය සමාදන් වෙන එක. සිල්වතාට, සත්තු මරන්නෙත් නෑ, හොරකම් කරන්නෙත් නෑ, බ්‍රහ්මචාරීව වාසය කරනවා, බොරු කියන්නෙ නෑ, මත්ද්‍රව්‍ය මත්පැන් පාවිච්චි කරන්නෙ නෑ, විකාල භෝජනයෙන් වැළකී වාසය කරනවා, නැටුම් ගැයුම්, වාදන, මල් ගන්ධ, සුවඳ විලවුන් දැරීමෙන් වැළකී වාසය කරනවා. ඊළඟට උස් ආසන මහා ආසන දැරීමෙන් වැළකී වාසය කරනවා. ඔය සිල් පද අට අධිෂ්ඨාන කරගෙන පෝය දවසේ ඒ සීලය රකිමින් බණ දහම් පුරුදු කරමින් ඉන්නවා. ඒක තමයි උපෝසථය කියන්නෙ. එතකොට කෙනෙකුට පුලුවන් වුනොත් එහෙම උපෝසථය සමාදන් වෙන්න, සාමාන්‍යයෙන් බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ හිරුගෙන් සඳුගෙන් ආලෝකමත් වන ලෝකයේ යම්තාක් රන් රිදී මුතු මැණික් එකතු කලොත් ඒ කියන්නෙ මේ පෘථිවියේම තියෙන රත්තරන් මුතු මැණික් එකතු කලොත් එහෙම එක දවසක් උපෝසථය සමාදන් වීමේ පිණෙන් දාසයෙන් පංගුවක් තරම්වත් අරවා වටින්නෑ කිව්වා. ඉතින් අපිට තියෙන්නෙ බුද්ධ වචනය ගැන ශ්‍රද්ධාව මදි එක. දැන් එහෙම නැතිව පෝයට දැන් සමහර වෙලාවට ඔන්න කඩ කරන කෙනා එදාට තමයි බිස්නස් ටිකක් තියෙන්නෙ කියලා කඩ කරනවා. එතකොට එයාට, අනේ එදාටනෙ කීයක් හරි එන්නෙ කියලා. එතකොට බුද්ධ වචනය තමයි මේ පෘථිවියේම තියෙන රන් රිදී මුතු මැණික් එකතු කලොත් එක දවසක් අටසිල් සමාදන් වීමේ දාසයෙන් පංගුවක් තරම්වත් අර රන් රිදී මුතු මැණික් වටින්නෑ කියලා. එතකොට බුදු කෙනෙක්ගේ වචනය එහෙම තියෙද්දින් තනියෙන් අර කඩෙන් ලැබෙන පොඩි ලාභය ගැන හිතුවනෙ. එතකොට ඒ තියෙන්නෙ බුද්ධ වචනය ගැන මදි ශ්‍රද්ධාව. ඉතින් ඒ නිසා කෙනෙකුට පුලුවන් වුනොත් හොඳට කැපවෙලා හොඳට උපෝසථය සමාදන් වෙලා ආරක්ෂා කරන්න, ඒක ලොකු දෙයක්. ලොකු දෙයක් පින්වත්නි. ඊලඟට පුංචි කාලෙ ඉඳලා පුලුවන් වුනොත් උපෝසථය සමාදන් වෙන්න ලොකු දෙයක්. ඊළඟට තරුණ කාලෙ පුලුවන් වුනොත්, සාමාන්‍යයෙන් වයසට ගිහිල්ලාට වැඩිය තරුණ කාලෙ සිල් සමාදන් විමේ ආනිසංස වැඩියි. හේතුව වයසට දැන් ගොඩාක් කට්ටිය සිල්ගන්නෙ වයසට ගිහිල්ලනෙ. උන්දලා ඉතින් ඔය අයිනකට වෙලා හේත්තු වෙලා ඉන්නවා. සමහර අය සිල් ගන්නවා සිල් පද අට දන්නෙත් නෑ. ඒ වුනාට තරුණ කාලයේ සිල්පද අට රැකගන්න ලොකු කැපවීමක් ඕන. ඊළඟට අනිත් අයගෙන් කිසිම අනුග්‍රහයක් නෑ තරුණ අයට සිල් ගන්න එකට. එතකොට එයා සමාජයේ තියෙන දේවල් හොඳට

මැඩපවත්වගෙන තමයි සිල් රකින්න ඕන. හිත සංවර කරගන්න ඕන. එතකොට එයාගේ සීලය වීර්යය නුවණ සිහිය ගොඩාක් එක්ක රැකෙන්නෙ. එතකොට ගොඩාක් ආනිසංස වැඩියි. එතකොට ගොඩාක් මැරෙන කාලයේ මැරෙන මොහොතෙ වුනත් සිහි කරන්න පුලුවන්නෙ මං තරුණ කාලෙ ඉඳලා උපෝසථය සමාදන් වෙච්ච කෙනෙක් කියලා. කොච්චර යහපතද. ඉතින් බලන්න උපෝසතා ගොඩාක් උපෝසථය සමාදන් වෙලා බණ දහම් ඉගෙනගෙන ධර්මය පුරුදු කරලා සෝවාන් වෙලා දැන් තව්තිසා දිව්‍ය ලෝකෙ සිටින්නෙ. දැන් ඊළඟට තියෙනවා දෙව්දුවක්. ඒ දෙව්දුවත් ඒ විදියටම පින් දහම් කරලා සතර පෝයට මෙයා ගොඩාක් ශ්‍රද්ධාවන්තයි. ඉතින් බුදුරජාණන් වහන්සේ සංඝයා ගැන ගොඩාක් ශ්‍රද්ධාවන්තයි. ඊළඟට ගොඩාක් වස්ත්‍ර පූජා කරලා තියෙනවා. පින්වතුනි වස්ත්‍ර පූජා කලාට පස්සෙ වස්ත්‍ර පූජා කිරීමේ ආනිසංසයක් විදියට ලස්සන ලැබෙනවා. ඕනම කැත කෙනෙක් සරසලා ගත්තට පස්සෙ ලස්සනයිනෙ. ඔය ගොඩාක් මගුල් ගෙවල්වල මනමාලි මාල හත දාලා සරසලා ගේනවා, මුළු ගමටම උජාරුවට හරි ලස්සනයි. සතියක් දෙකක් ගිහිල්ලා නිකන් ඔය වැඩපල කරන්න සායයි හැට්ටෙයි ඇඳගත්ත ගමන් ඒකිගෙ ලස්සන කොහෙන් ගියාද දන්නෑ. ඊටපස්සෙ ඒ වස්ත්‍රයෙන් තමයි ඇට ලස්සන උපද්දවන්නෙ. ඒ නිසා වස්ත්‍ර පූජා කිරීමේ ආනිසංසයක් තමයි ලස්සන ලැබෙනවා. ඊළඟට තමයි මම දැක්කා මේ බුද්ධ ශාසනයේ ඉන්ද්‍රිය සංවරයෙන් අග්‍රයිනෙ නන්ද ස්වාමීන් වහන්සේ. ඒ නන්ද ස්වාමීන් වහන්සේ සංසාරේ වැඩිපුරම පූජා කරලා තියෙන්නෙ වස්ත්‍ර. වස්ත්‍ර කියන්නෙ වැසිය යුතු තැන් වැසිය යුතු දේ. එතකොට වැසිය යුතු තැන් වසනවානම් එයාට සසරේ ගමන් කරද්දි එයාටත් වැසිය යුතු දේවල් වසාගන්න පුලුවන්. ගෙදර ප්‍රශ්නයක් තිබ්බත් එතනින්ම ඒක වහගන්න පුලුවන් පිටට ඒක යන්නෑ. මහණ වුනාට පස්සෙ භික්ෂුවට වැසිය යුතු දේවල් තමයි රාග ද්වේෂා දී අරමුණු ඉදිරියේ ඇහැ වැසෙන්න ඕන. ඉන්ද්‍රිය සංවරය. ඒ ඉන්ද්‍රිය සංවරය කරන්න හරි ලේසි වෙලා තියෙනවා, හරි ලේසියි කියන්නෙ උපකාර වෙලා තියෙනවා වස්ත්‍ර පූජා කරපු පින. බලන්න අපි දන්නැති වුනාට ඒ පිනකින් සිද්ධ වෙන දේවල්. එතකොට අපගේ මහාකාශ්‍යප මහරහතන් වහන්සේ සංසාරෙ වැඩිපුරම පූජා කරලා තියෙන්නෙ සිවුරු. උන්වහන්සේට බුදුරජාණන් වහන්සේ දරාගෙන හිටපු බුද්ධ චීවරය දරාගන්න වාසනාව ලැබුනානෙ. කොච්චර ආනුභාවයක්ද කියලා හිතන්න. ඉතින් ඒ නිසා මේ විදියට ගොඩාක් සිවුරු ආදිය පූජා කරලා ඒ උපාසිකාව ශ්‍රද්ධාවෙන්ම ඉඳලා හැමවෙලාවෙම බුදුගුණ සිහිකරන්නෙ, ධර්මය

සිහි කරන්නෙ, සංඝයාගේ ගුණ සිහි කරන්නෙ, එතකොට මේ විදියට ගොඩාක් පින්දහම් රැස් කරලා ශ්‍රද්ධාවෙන්ම ඉඳලා තුණුරුවන් ගුණ සිහිකරලා, බුද්ධානුස්සතියෙම හිත පැහැදිලා ඈ සෝවාන් වුනා. එයා මැරුණා. මැරිලා ගිහිල්ලා තව්තිසාවෙ ඉපදුනේ. අදටත් ඉන්නවා. එතකොට හිතන්නකො, දෙව්ලොවම මාර්ගඵල ලාභී අයම කොච්චර ඉන්නවාද කියලා. මේ තව්තිසා දිව්‍යලෝකෙ ආයුෂ අවුරුදු තුන්කෝටි හැටලක්ෂයයි. එතකොට එච්චර කාලයක් ඉන්නවානෙ. ඉතින් දැන් බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා, මේ සිද්ධිය වෙලා අවුරුදු දෙදහස් හයසීයයි. ඉතින් ඒ නිසා කාටහරි සුගති රැකවරණයකට යන්න පුලුවන් වුනොත් ඒක සුලුපටු දෙයක් නෙවෙයි. අද කාලයේ හැටියට දෙව්ලොව යනවා කියන එක සුලුදෙයක් නම් නෙවෙයි පින්වත්නි. ඒ කියන්නෙ මිනිස්සුන්ගෙ හිත් ගොඩාක් නපුරටමයි යොමුවෙලා තියෙන්නෙ. ඒ වගේම පිනක් කලත් ඒක පින කිලිටි වෙන විදියට තියෙන්නෙ. මොකක්හරි හිත් තැවුලක් ඊළඟට මොනවාහරි නොහොඳ නෝක්කඩු, ඊළඟට ඒවාගේ දෙවල් වලින් කිලිටි වෙනවා. ඊළඟට තමයි ගොඩාක් අය දන් දෙන්න ආසයි, දන් දුන්නට චරිතෙ හරි නෑ. එයාලගේ චරිතෙ දෝෂ තියෙනවා. එතකොට අර පින කිලිටි වෙනවා. ඉතින් ඒ නිසා අද කාලෙ පහන් සිතකින් පිනක් කරගනෙ සුගති රැකවරණය සලසාගන්නවා කියන එක ලේසි දෙයක් නෙවෙයි. ඒ නිසයි මේ දෙව්ලොව, සතර අපායේ විස්තර කියලා දෙන්නෙ, මේකට නම් වැටෙන්න එපා, පව් කරන්න එපා කියලා. සුගති රැකවරණය ගැන කියලා දෙන්නෙ කුසල් කරපල්ලා, පින් කරපල්ලා, ඊළඟට තමයි මේ උතුම් ධර්මය අවබෝධ කරපු අය දෙව්ලොව ඉපදිලා ඉන්නවා කියලා. ඉතින් ඒ නිසා ගොඩාක් කුසල් දහම් රැස් කරගන්න, පින්දහම් රැස් කරගන්න. ඒ වාගේම දිව්‍යාංගනාවක් ඉන්නවා මුගලන් මහරහතන් වහන්සේට මුණගැහුනා. සුනන්දා. සුනන්දා ඒත් අර විදියටමයි බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ ගොඩාක් පින් කරගත්ත කෙනෙක්. රජගහනුවර හිටපු උපාසිකාවක්. ඈත් සතර පෝයටම සිල් ගත්තා. හැබැයි ඉතින් පුදුම වැඩේ කියන්නෙ අපිට මෙච්චරම මුණගැහෙන්නෙ කාන්තාවො තමයි. දිව්‍යාංගනාවොමයි මුණ ගැහෙන්නෙ. දැන් මාත් මේ ආසාවෙන් ඉන්නවා අනේ දිව්‍යලෝකෙට ගිය පිරිමි කෙනෙක් හොයාගන්න ඕන කියලා. දැන් බලමු ඉතින්. ඒ කියන්නෙ මේ බලන්න හතර පෝයට සිල් අරන් තියෙන්නේ උපාසිකාවො. දැන් අදත් එහෙමනෙ. පන්සලක බණ මඩුවක් බලන්න. අසපුවක වුනත් දහම් සභා මණ්ඩපයක් බලන්න. වැඩිපුරම කාන්තාවො. ඊළඟට ශ්‍රමදානෙකට ගියොත් බලන්න.

වැඩීපුරම කාන්තාවො. චෛත්‍යය වන්දනාවක්, බෝධි වන්දනාවක් බලන්න. වැඩීපුරම කාන්තාවො. ඊටපස්සෙ පින්කම් වලට ආධාර උපකාර කිරීම් බලන්න වැඩිපුරම කාන්තාවො. ඉතින් ඒ නිසා දිව්‍යලෝකත් පිරිලා තියෙන්නෙ කාන්තාවන්ගෙන්. කවුරුහරි පිනක් කරලා එක දෙවියෙක් දිව්‍ය ලෝකෙක ඉපදුනාට පස්සෙ දිව්‍ය අප්සරාවො ඉතින් ලක්ෂ ගාණක් ඔහුව පිරිවරා ගන්නවා. ඔන්න දිව්‍යලෝකෙ විස්තරේ. ඉතින් ඒ නිසා දැන් සුනන්දාත් ඒ විදියට හතර පෝයට සිල් අරන්, හැබැයි මේ අය සෝවාන්. ඒ කියන්නෙ දිව්‍ය ලෝකෙ දැන් අපි ඔය එක දෙවියෙක් දිව්‍ය අප්සාරවො ලක්ෂ ගාණක් පිරිවරාගන්නවා කියනාකොට අපිට අර විහිලුවක් එක්ක වගේ හිනාවක් යනවානෙ. ඒ වුනාට දිව්‍යලෝකෙ එහෙම නෙවෙයි. දෙවියා කිව්වොත් දිව්‍ය අප්සරාවන්ට මම බ්‍රහ්මචාරීයි, මගේ ඇඟවත් අල්ලන්න එපා කියලා, ඒ දෙවියා අවුරුදු තුන්කෝටි හැට ලක්ෂයක් ඉන්නවා අර දිව්‍යාංගනාවො ඇඟට අත තියන්නෙවත් නෑ. ඒ වගේම තුන්කෝටි හැටලක්ෂයක් අවුරුදු ඒ දිව්‍යාංගනාවො ඉන්නවා වෙන දෙවියෙක් හිතින් පතන්නෙත් නෑ, පුදුම සහගතයි දිව්‍ය ලෝකෙ. දැන් එක දෙවියෙක් ඉපදිලා තියෙනවා අංගුලිමාල මහරහතන් වහන්සේට කිරිබතකුයි, උඟුරු මසකුයි පූජා කරලා. ඒ දෙවියා දිව්‍ය ලෝකෙ ඉපදුනාට පස්සෙ සෝතාපන්න වෙච්ච කෙනෙක්. දිව්‍යලෝකෙ ඉපදුනාට පස්සෙ රත්තරන් ලියවැල් වාගේ ලස්සන දිව්‍යාංගනාවෙ හැටදාහක් ඔහු වෙනුවෙන් පහළ වෙලා තියෙනවා. ඒ දෙවියා කිව්වා මං බ්‍රහ්මචාරීයි, ඔබලත් බ්‍රහ්මචාරී වෙන්න. දැන් අවුරුදු දෙදහස් හයසීයක්, ඒ ආයුෂ තියෙනවා අවුරුදු තුන්කෝටි හැට ලක්ෂයක්. ඔක්කොම බ්‍රහ්මචාරියි. ආයෙ පිරිමි ගැන ප්‍රේත නෑ. මේ ඇවිස්සිලා පිරිමි ගැන කාමාශාවෙන් ඇවිස්සිලා මේ දහදුක් විඳින එක තියෙන්නෙ මේ මනුස්ස ලෝකෙ. පෙරේතකම්. ඒ හොඳ බලවත් දෙවියෙක්, ආනුභාවසම්පන්න දෙවියෙක් මුණගැහුනොත් තමන්ගේ ගුරු ඇසුරකට දිව්‍යලෝකෙකදි ගොඩාක් කෙලෙස් යටපත් කරන්න පුලුවන්. ඇත්තටම අපි දිව්‍යලෝක සැප මොහොතකින් හරි වර්ණනා කරනවානම්, ඒ වර්ණනා කරන්නේ පංචකාමය පිණිස නෙවෙයි. සත්පුරුෂ ඇසුර පිණිස. මේ හොඳටම දන්න දෙයක්, හොඳටම තේරෙන දෙයක්නෙ පින්වතුනි මේ දිව්‍යලෝකෙ මාර්ගඵල ලාභීන් විශාල ප්‍රමාණයක් දිව්‍යලෝකෙ ඉන්නවා කියලා. දැන් මෙතෙක් කතා කරපු සියලු දිව්‍යාංගනාවො මාර්ගඵල ලබපු අයනේ. ඊටපස්සෙ මේ විදියට ගොඩාක් දෙව්ලොව ඉපදිලා තියෙනවා. ඊලඟට තව තිබනෙවා දිව්‍යාංගනාවක් දකිනවා මුගලන් මහරහතන් වහන්සේ ඒ දිව්‍යංගනාව කරලා තියෙන පින තමයි මං

අතීත ජීවිතේදි මේ මිනිස් ලෝකෙ මනුස්ස දුවක් වෙලා හිටියා. එදා මං බුදුරජාණන් වහන්සේව දැක්කා. උන්වහන්සේට නොකැළඹුණු සිතක් තියෙනවා, හරිම ප්‍රසන්නයි. කෙලෙස් නෑ, මගේ දෑතින්ම බුදුරජාණන් වහන්සේ ගැන හිත පහදවාගෙන පිණ්ඩපාතෙ පූජා කලා. බුදුරජාණන් වහන්සේට පිණ්ඩපාතෙ පූජා කරලා. එතකොට කොච්චර බුදුරජාණන් වහන්සේට දානයක් පූජා කරපු ඒකේ පින, මෑ දෙව්ලොව සතුට විඳිනවා, සැප විඳිනවා. අර අපදාන වලදී කියනවා, දැන් අපිට එක දිව්‍යලෝකයක්නෙ මේ පේන්නෙ. ඒ කියන්නෙ එක ජීවිතයක්නෙ. මැරුණට පස්සෙ දිව්‍යලෝකෙ යනවා. සමහරු තියෙනවා මෙයා නිවන් දකිනකල් මේ දිව්‍යාංගනාව සෝවාන් වෙලා කියලා නෑ, එතකොට සමහර වෙලාවට නිවන් දකිනකල් එක දිගටම සුගති සම්පත්තිය සැලසෙනවා අර බුදුරජාණන් වහන්සේට එක දන් හැන්දක් පූජා කරපු පින් බලයට. පුදුම සහගතයි. ඉතින් ඒ නිසා ඊළඟට තියෙනවා ඊළඟ දිව්‍යාංගනාවක් ඒ දිව්‍යාංගනාව කරලා තියෙන පින තමයි මුගලන් මහරහතන් වහන්සේ තමයි ඒ දිව්‍යාංගනාවගෙන් අහන්නෙ මෙච්චර සැප සම්පත් කොහොමද විඳින්නෙ කියලා. මං අතීත ජීවිතේදී මිනිස් ලෝකයේ මනුස්ස දුවක් වෙලා හිටියා. එදා මං බුදුරජාණන් වහන්සේව දැක්කා. උන්වහන්සේට නොකැළැඹුණු සිතක් තියෙනවා. හරිම ප්‍රසන්නයි. කෙලෙස් නෑ, මගේ දෑතින්ම බුදුරජාණන් වහන්සේ ගැන සිත පහදවාගෙන පිණ්ඩපාතයක් පූජා කලා. ඒ දිව්‍යාංගනාවත් බුදුරජාණන් වහන්සේට දානෙ ටිකක් පූජා කරගෙන. පින්වතුනි සමයචිත්තේ සමයඵලං කියලා තියෙනවා. තම සිත පිහිටුවාගෙන යම්කිසි දානයක් පූජා කලොත් ඒ ආනිසංසයම සැලසෙනවා. ඒ නිසා අද වුනත් බොහෝම ගෞරවයෙන් බුද්ධ පූජාවක් කලත් ඒකෙ විශාල ආරක්ෂාවරණයක් තියෙනවා. පිටරටක හිටපු එක පවුලක් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට කතා කරලා තිබ්බා. අනේ ස්වාමීනී මිය ගිය ඥාතීන් පෙනි පෙනී දුක්ඛිතව බඩගිනියි බඩගිනියි කියලා කෑ ගගහා ඉන්නවා, මොකද කරන්නේ කියලා. ඉතින් එයාලා ඉන්න රටේ ස්වාමීන් වහන්සේලා නෑ. ඊටපස්සෙ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මතක් කරලා තිබුනා එහෙනම් බුදුපිළිමයක් තියෙනවාද, බුදු පිළිමයක් තියෙනවා. එහෙනම් හොඳට බුද්ධ පූජාව පූජා කරලා මියගිය ඥාතීන්ට පින් දෙන්න කියලා. ඉතින් එයාලා බුද්ධ පූජාව පූජා කරලා මියගිය ඥාතීන්ට පින් අනුමෝදන් කලා. එදා ඉඳලා ඥාතීන් පේන්නෑ. දැක්කද ශ්‍රද්ධාව. අද කාලේ ස්වාමීන් වහන්සේලා සියක් නමක් වඩම්මලා බුද්ධ පූජාව තිබ්බත් බුද්ධ පූජාවට හිත යන්නෑ, සංඝ දානයට තමයි හිත යන්නෙ. නමුත් බුද්ධ

පූජාවෙන් ආනිසංස තියෙනවා. බුද්ධ පූජාවෙත් ආනිසංස තියෙනවා. ඉතින් ඒ නිසා මේක සුලු දෙයක් නෙවෙයි පින්වත්නි. පහන් සිත තියෙන්න ඕන. මේ කතා ඇසුරෙන් පිනේ විපාක තියෙනවා. පොඩි දෙයක් කලත් මෙහෙම ආනිසංස එනවා. කියලා ආනිසංස ගැන හොඳට කල්පනා කරන්න ඕන. ඉතින් මේවා තේරුම් අරන් ඔබගේ ජීවිතය ගොඩාක් පින්වලින් කුසල්වලින් දියුණු පමුණු කරගෙන මේ සංසාර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා කියලා එක හිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා. පින්වත්නි, අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කොරියාවේ සේවයේ නියුතු සම්පත් නිහාල් මහත්මයා සහ නිරෝෂා සඳමාලි මහත්මිය විසින්. ඉතින් මෙයාලගේ විශේෂ බලාපොරොත්තුවක් වෙනවා මේ කොරෝනා වෛරසය ලංකාවේ ලෝකය පුරා විශාල වශයෙන් මහා ව්‍යසනයක් ඇතිකරමින් පැතිර ගියා. ඉතින් ඒ නිසා බුද්ධානුභාවයෙන්, ධම්මානුභාවයෙන්, සංඝානුභාවයෙන්, ද්‍රෝණයක් ධාතූන් වහන්සේලාගේ ආනුභාවයෙන්, ජයසිරිමහා බෝධීන් වහන්සේගේ ආනුභාවයෙන්, දළදා වහන්සේගේ, මියුගුණ සෑයේ, සේරුවිල ලලාට ධාතූන් වහන්සේගේ ආනුභාව බලයෙන්, අංගුලිමාල මහරහතන් වහන්සේගේ තේජානුභාව බලයෙන්, ඒ වාගේම බක්කුල මහරහතන් වහන්සේගේ ආනුබාව බලයෙන් මේ වසංගත ඒ වගේම අද දවසේ ධර්ම දානය දුන්නු පින් බලයේ අනුහසින් මේ වසංගතය ලෝකයෙන් තුරන් වේවා, තුරන් වෙලා සියලු දෙනාට මේ මනුස්ස සංහතියට මනුස්ස වර්ගයාට සියලු යහපත ඨ්කවරණය සැලසේවා, මේ ව්‍යසනය වහා දුරුවෙලා සැනසිල්ල ඨ්කවරණය මනුස්සයාට සැලසේවා කියලා අද පින් බලයෙන් අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. සියලුම පින් අනුමෝදන් වෙත්වා පින් කැමැති සියලු දෙවියන්ට. දෙවියන්ගේ දිව්‍ය යස ඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ කොරියාවේ වාසය කරන මේ පින්වත් දරුවන් ඇතුළු දරුවන් ආරක්ෂා කරත්වා. මේ ලක්දෙරණ මේ ලෝකය ආරක්ෂා කරත්වා. සියලු දෙවියෝ මේ පින් සතුටින් අනුමෝදන් වෙත්වා කියලා පින් පමුණුවනවා. ඒ වගේම මේ පින්වතුන් නමින් මියපරලොව ගිය ඥාතීන්ටත් ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ටත් මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම අපගේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වෙත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා කියලා අපි පින් පමුණුවනවා. ඒ වගේම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු

සියලු ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්ට පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මාවබෝධය පිණිස මේ පින් හේතු උපකාර වේවා. ඒ වාගේම සම්පත් පුතාගේත් ඒ නිරෝෂා දියණියගේත් බලාපොරොත්තුව තමයි ආරියසේන පියාණන්ටත්, කුසුමාවතී මෑණියන්ටත්, ධනසේන පියාණන්ටත්, අනුලාවතී මෑණියන්ටත් නිදුක් නිරෝගී සුවපත් බාවයත්, දීර්ඝායුෂ සම්පත්තියත් ඒ පවුල්වල සියලුම හිත මිත්‍රාදීන්ට සියලු යහපත රැකවරණය, තුණුරුවන්ගේ ආශිර්වාදය මේ කරපු පින් බලයෙන් සැලසේවා කියලා ඒ සියලු දෙනාට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා, දුක් විඳින සංසාරෙන් නිදහස් වෙන්න මේ පින් හේතු උපකාර වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වාගේම කොරියාවේ සිටින පින්වත් සම්පත් පුතාටත් පින්වත් නිරෝෂා සඳමාලී දියණියටත් මේ පින් අනුමෝදන් වේවා. ඒ දරුවන් දෙදෙනාට තුණුරුවන්ගේ ආශිර්වාදය දෙවියන්ගේ රැකවරණය මේ පින් වල ආනුභාවයෙන් සියලු රැකවරණය ආරක්ෂාව අනාගත ජීවිතේ තුණුරුවන් සරණින් සමෘද්ධිමත් වේවා, දියුණු පමුණු වේවා. සියලු කරදර බාධා දුරුවේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ධර්මාවබෝධයට සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු උපකාර වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන්විදුලියේ ධර්මදාන දායකත්ව සපයන සියලුදෙනාට පින්සිදු වේවා. කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් පින්දහම් කුසල් දහම් රැස් කරගෙන සසර දුකින් නිදහස් වීමක් සලසාගන්න මේ පින් හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Q2zNeQjnGpw&list=PLalyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=8

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අදත් අපි දිවැසින් දුටු දෙව්ලොව සැප පිළිබඳ උතුම් දහම් වැඩසටහන සමඟ තමයි මේ එකතු වෙන්නෙ. පින් පව් කුසල් අකුසල් ගැන විශාල දහම් දැනුමක් ඒ වගේම යම් වැටහීමකට එන්න ඔබට ගොඩාක් උපකාරී වෙනවා. මිහිඳු මහරහතන් වහන්සේ ලංකාවට වැඩම කරලා ඉස්සෙල්ලාම මේ පේතවත්ථු විමානවත්ථු දේශනා මිනිස්සු තුළ මිනිස්සුන්ට ඇහෙන්න සැලැස්වුවා. පින්වල විපාක, පව්වල විපාක ඇහෙන්න සැලැස්වුවා. ඉතින් ඒ නිසා දැන් මේවා අපේ නිවන් මාර්ගයට බාධා පිණිස පවතිනවා නම් මේවා ඉගෙනගන්න එක සසර දුකින් නිදහස් වෙන එකට බාධා පිණිස පවතිනවා නම්, එහෙනම් මිහිඳු මහරහතන් වහන්සේට මේ ධර්ම දේශනා ලංකාවෙ නොකරන්න තිබ්බානෙ. මේ ලක්දෙරණ රහතුන්ගේ භූමියක් බවට පත්කරපු මිහිඳු මහරහතන් වහන්සේ ඉස්සෙල්ලම ලංකාවේ මිනිස්සුන්ට, මිනිස්සු අතර ප්‍රචලිත කරපු දහම් පරියායක් තමයි පේතවත්ථු, විමානවත්ථු. එයින් පේතවත්ථුව සම්පූර්ණයෙන්ම අපි ඉගෙනගත්තා. දැන් අපි විමානවත්ථුවෙ මේ වෙනකොට දෙවිවරුන්ගේ කතා අතිවිශාල ප්‍රමාණයක් මං හිතන්නෙ කතා තිහකට අධික ප්‍රමාණයක් අපි ඉගෙන ගෙන තියෙනවා. එතකොට මේවගෙන් තේරුම් ගන්න පින් මොනවද, පව් මොනවාද, පින් වල විපාක මොකක්ද, දිව්‍යලෝකයේ ස්වභාවවල් මොනවාද, තේරුම් ගන්න. ඉතින් අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ මිලිද්දුව ගාල්ල පදිංචි පින්වත් ජයනී ප්‍රනාන්දු මහත්මිය. එතුමිය බලාපොරොත්තු වෙනවා මියපරලොව ගිය ඥාතීන්ට පින් පමුණුවන්නටත් සුජීවත්ව සිටින අයට සෙත් ප්‍රාර්ථනා කරන්නටත්. ඉතින් ඒ නිසා අද අපි ඉගෙන ගනිමු, අදත් අපිට බොහෝම ලස්සන විස්තර ටිකක් ඉගෙන ගන්න පුලුවන්, දිව්‍යලෝක වල ස්වභාවවල්. අනිත් එක පින් කරන අයට වෙන කරදර තියෙනවානෙ. අම්මේ මට නම් ගොඩාක් අය මුණ ගැහිලා තියෙනවා ඔන්න සිල් ගන්නවා. ඔන්න ලෙඩක් හැදෙනවා. පස්සෙ කාලෙක. ඉතින් කියනවා හාමුදුරුවනේ මං ගියපාර පෝයටත් සිල් ගත්තා, මේ බලන්නකො මං ලෙඩවුනානෙ කියලා. එතකොට මිනිස්සු මොනවා කල්පනා කරනවාද කියලා මං මේ කල්පනා කරන්නෙ. එතකොට ඒවගේම පින්වත්නි එක දවසක් මට මතකයි එක්තරා උපාසිකාවක් කලින් පෝයට සිල් ඇත්තන්ට දානයක් දුන්නා. ඊළඟට පෝය දවසේ ඈ උපෝසථය සමාදන් වෙන්න එන්න හදනකොට ගෙදරින් ස්වාමිපුරුෂයා ඇයට දොස් කියලා යන්න එපා සිල් ගන්න කියලා. ඉතින් ඈ අහසෙ පොළොවෙ අත් ගගහා අඬනවා මං ගියපාර දානයත් දුන්නා, ඒ දානෙ

විපාක නැද්ද, ඇයි මේ මිනිහා යකා වගේ වෙලා තියෙන්නෙ. ඒ විදියට අඬ අඬා පස්සෙ දවසක ඇවිල්ලා මට කිව්වා මං ආයෙ පින් කරන්නෑ කියලා. මං ඇහුවා ඇයි කියලා. පිනේ විපාක නෑ කිව්වා. මං ඇහුවා ඇයි කියලා. මගේ ස්වාමියා මට මේ සිල් ගන්න එන්න දෙන්නෑ, මං අධිෂ්ඨාන කලා මං කරන ඒවගේ පින්වල විපාක නැද්ද කියලා. මිනිහා තවම වෙනස් වුන් නෑ. එතකොට මොකක්ද මේ මිනිස්සු පින් කරද්දි මොකක්ද තියෙන චේතනාව. ඒකට හොඳම විස්තර තියෙන්නෙ අද. අද පුදුම විස්තරයක් තියෙනවා. ඒ තමයි මේ දිව්‍යාංගනාව අප්‍රමාණ සැප විඳින මහානුභාවසම්පන්න දිව්‍ය විමානයක්. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දිව්‍ය අප්සරාව දැක්කෙ. දිව්‍ය අප්සරාව වගේම දිව්‍ය පුත්‍රයනුත් අලංකාර දිව්‍ය ආභරණ වලින් සැරසිලා නටනවා සින්දු කියනවා, දිව්‍ය අප්සරාවොත්, දෙවිවරුත්, ඒ කියන්නෙ පිරිමි දෙවිවරුත් ඔක්කොම නටනවා, එක දිව්‍යාංගනාවක් සතුටු කරවන්න. එක දිව්‍යාංගනාවක් සතුටු කරවන්න. ඒකයි මං කියන්නේ මේ ස්ත්‍රීන්ට කාන්තා විමුක්තිය ඕන, පුරුෂාධිපත්‍යය මේකෙන් අයින් කරන්න ඕන, මේ මොකද හැමදාම ගෑණු පිරිමින්ට වැඳගෙන ඉන්නේ, මේ ඔක්කෝම සමයං තියෙන්නෙ මේ මනුස්ස ලෝකෙ. හරියට පින් කරගත්තොත් බලවත්ව පිනක් කරගෙන හිටියොත් එහෙම දිව්‍යලෝකෙ ගියාට පස්සෙ ආයෙ කාන්තා විමුක්තියද, පුරුෂාධිපත්‍යයද කියලා නඩු විභාග කතා නෑ, පින වැඩි අයට අනිත් අය දාසකම් කරන්න ඕන. දැන් මේ බලන්න මේ දිව්‍යාංගනාවට ඇප උපස්ථානයට දෙවිවරුත් එනවා, දිව්‍යාංගනාවොත් එනවා. ඉතින් කියනවා දෙව්දුව ඔබව සතුටු කරන්නයි ඒ උදවිය ඔය පිරිවරාගෙන ඉන්නෙ. ඔබේ දිව්‍ය විමානය හරී සුන්දරයි. රත්තරනින් හැදිලා තියෙන්නෙ. පඤ්චකාම සැපයෙන් සමෘද්ධිමත් වෙලා හැමදේටම අධිපති වෙලා ඉන්නෙ ඔබයි. ඔබ මේ මහානුභාවසම්පන්න උපතක් ලබාගෙන ඉන්නෙ ඒ වගේම දිව්‍ය නිකාය ගැන ඔබ ගොඩාක් සතුටු වෙනවා නේද. ඔය ඉන්න ජීවිතය ගැන සතුටුයි නේද ඔබට. ඉතින් අපි ඔබෙන් අහන්නෙ මොනවගේ පිනක් කරලද මේ වගේ තැනක ඉපදුනේ. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ මේ විස්තරය අහනකොට දෙව්දුව කියනවා ආනුභාවසම්පන්න ඔය බැබලි බැබලි ඉන්න පින තමයි පින්වත් මොග්ගල්ලානයන් වහන්ස මං කලින් ජීවිතේ මිනිස් පවුලක හිටපු මිනිස් දුවක්. මං දුශ්ශීල පවුලක ලේලියක් වෙලා හිටියා. ඔවුන්ට කිසිම ශ්‍රද්ධාවක් නෑ. දැන් මේක සිද්ධ වුනේ මෙහෙමයි. දැන් මේ ගෑණු ළමයා මනුස්ස ලෝකෙ ඉද්දි මෙයා පුංචි කාලේ ගොඩාක් ශ්‍රද්ධාවන්තයි. තරුණ වුනාට පස්සෙ මෑ විවාහ කරලා දුන්නෙ දුශ්ශීල පවුලකට. ඒ මිනිස්සුන්ට ශ්‍රද්ධා මාත්‍රයක් නෑ,

හරිම මසුරුයි ලෝභයි, කිසි කෙනෙකුට දෙයක් දෙන්න දෙන්නෙ නෑ. ඉතින් මං ඔය පවුලෙ ඔහොම ඉද්දින්, ඒ වුනාට මං පුංචි කාලෙ ඉඳලා දන් දුන්න කෙනෙක්. මගේ හිතේ ශ්‍රද්ධාව තියෙනවා. මගේ හිතේ දන්දෙන්න උවමනාව තියෙනවා. මම සංඝයා දකින්න හරි කැමැත්තෙන් හිටියේ. ඉතින් මම දුශ්ශීල පවුලකට ආවා කියලා මං මගේ චරිතය වෙනස් කරගත්තෙ නෑ, ඒ තමයි මං පුංචි කාලෙ ඉඳලා කුමරි බඹසර රැක්කා. විවාහ වුනාට පස්සෙ ස්වාමියාගෙන් පමණයි මං සතුටු වුනේ, පන්සිල් රැක්කා. ඉතින් හැමතිස්සේම දන් දෙන්න මං ආසා කලා. දවසක් ස්වාමීනී ඔබ වහන්සේට මතක නැද්ද, මං හිටපු ගෙදරට ඔබවහන්සේ තමයි වැඩම කලේ, ඔබ වහන්සේ වැඩියට පස්සෙ මට දෙන්න දෙයක් නෑ. හැබැයි මට මතක් වුනා අපේ නැන්දම්මා කැවුම් ටිකක් මුට්ටියේ තියලා තියෙනවා. ඉතින් ඒ කැවුම් ටිකක් මුට්ටියේ තියලා තියෙනවා මම දැකලා, ඉතින් මම දුවගෙන ඔබවහන්සේ දැක්ක ගමන්ම, මට දන්දෙන්න මතක් වුනේ ඒ කැවුම් මුට්ටිය. ඊටපස්සෙ මම කල්පනා කලා, ඉතින් නැන්දම්මට මං කරුණු කියන්නම් කියලා හිතාගෙන මම ඉක්මණට කාමරේට ගිහිල්ලා ඒ කැවුම් මුට්ටිය උස්සලා බලනකොට ඒ මුට්ටියෙ තිබ්බෙ ලොකු එක කැවුම් ගෙඩියයි. අනිත් ටික නෑ ඉතිං. ඊටපස්සෙ ඒ තිබ්බ කැවුම මම ඔබවහන්සේගේ පාත්තරයට පූජා කලා. ඊටපස්සෙ ඔබවහන්සේ මට සෙත් පතලා වැඩම කලා. ස්වාමීනී ඊටපස්සෙ වුනේ, මම ඉතින් හරීම සන්තෝසෙන් හිටියේ. මම පුදුම සතුටකින් හිටියේ. ඉතින් නැන්දම්මා ආපු ගමන් ඇහුවා මොකද මේ, අද කවදාවත් නැතිව අමුතු කැකිරි පැලිල්ල, ඉතින් ඇහුවා නැන්දම්මා. ඊටපස්සෙ මං කිව්වා අනේ අම්මේ සන්තෝසෙට පත්වෙන්න අද ශ්‍රමණයන් වහන්සේ නමක් වැඩම කලා, මම උන්වහන්සේට අර මුට්ටියේ තිබ්බ කැවුම පූජා කලා. අනේ පින් අනුමෝදන් වෙන්න. ඈ යකෝ පින්? මේ මොන පිනක්ද, දැන් ඔහේද මේ ගෙදර ලොක්කි, මමද, මේ ගෙදර තියෙන දේවල් ගැන අධිපතිකම දරන්නෙ ඔහේද, මමද. එතකොට මම නැති වෙලාවෙ මම තියලා තිබ්බ දෙයක් දෙන්න ඔහේට මොකක්ද තියෙන අයිතිය. ඔන්න නැන්දම්මලාගේ කේස්. අම්මේ ඊටපස්සෙ නැන්දම්මගෙ සැර බලන්නෙපෑ, මගේ නැන්දණිය හොඳටම කිපුණා. මෝල් ගහක් අරන්, දැන් උඹ මේ ගෙදරට ඇවිල්ලා ටික දොහක් වෙනවා, ලොක්කි වෙන්න හදනවා, දැනගන් තොගෙ කට කියලා ළඟ තිබ්බ මෝල් ගහක් අරන් ගැහුවනේ ලේලිට. ඒ ගහනකොටම උරපත්ත කුඩුවුනා කියනවා. එතකොට වයසක වුනත් මේ නැන්දම්මලාගෙ බලන්න තරහා ගියාට පස්සෙ එන හයිය. උරපත්ත කැඩුනා. ඊටපස්සෙ එහෙම්මම වැටුනා, ඒ ගැණු ළමයා

ගොඩාක් තැළිලා පොඩිවෙලා හැදිච්ච කෙල්ලෙක් නෙවෙයි. අහිංසක කෙල්ලෙක්. පිනට කැමති අහිංසක කෙල්ලෙක්. ඒ කෙල්ල ඒ වේදනාවත් එක්කම එහෙම්මම මැරුණා. ඉතින් කියනවා කය බිඳී මරණයට පත්වෙලා චුත වුනා. ඊටපස්සෙ තමයි මං මේ තව්තිසාවේ ඉපදුනේ කියනවා. ස්වාමීනී ඒ පිනෙන් තමයි මෙච්චර මං සැප විඳින්නෙ, අනිත් දෙවිවරු මගේ උපස්ථානයට එනවා කියනවා. දැන් බලන්න අර වාගේ කරදරයක් වෙද්දිනුත් අනේ මම උන්නාන්සේ නමකට කැවුමක් පූජා කරන්න ගිහිල්ලා වෙච්චි දේ කියලා කිව්වෙ නෑනෙ. අම්මේ මෙහෙමත් ඒ ශ්‍රද්ධාව රැකගැනීමක්. පුදුම සහගතයි. ශ්‍රද්ධාව රැකගැනීම. ඒ නිසා මිනිස්සුත් කියන්න ඇති, ඕන්න එක එක උන්නාන්සේලාට දානෙ දෙන්න ගිහිල්ලා ඔය උනේ. කෝ ආවද උන්නාන්සේලා බේරගන්න. ආකාසෙන් යනවා කියනවා, ඍද්ධි ප්‍රාතිහාර්ය පානවා කියනවා, ඉතින් නැන්දම්මා ගැහුවට පස්සෙ අතුරුදහන් කරවන්න එපෑ ගෙදර මෝල් ගහ, කියලා මිනිස්සු එක එක කයිකතා හදලා කියන්න ඇති. අම්මෝ අදකාලේ මිනිස්සුන්ගෙ කටවල් ඒ කාලෙ ඔය වගේ බමුණු ගම්වලත් තිබ්බා. ඊටපස්සෙ නමුත් ඒ කතා මොකුත් නෑ, දැන් බලන්න ඈ විඳින සතුට. පින්වතුනි, පින් කරනා කෙනෙකුට වුනත් කරදර ඕන තරම් එන්න පුලුවන්. සසරේ දේවල්නෙ. අපි පින් කරනවා කියලා නැන්දම්මා ලේලිලාට වැඳගෙනත් නෑ, නැන්දම්මා පින් කරනවා කියලා ලේලි නැන්දම්මාට වැඳගෙනත් නෑ, ස්වාමියා පින් කරනවා කියලා ගෙදර ගෑණු කෙනා එයාට එයාට වැඳගෙනත් නෑ, ගෑණු කෙනා පින් කරනවා කියලා ස්වාමියා වැඳගෙනත් නෑ, දෙමව්පියෝ පින් කරනවා කියලා දරුවෝ වැඳගෙන ඉන්නෙත් නෑ, දරුවෝ පින් කරනවා කියලා දෙමව්පියෝ වැඳගෙන ඉන්නෙත් නෑ. ඉතින් ඒ නිසා මේක අමුතු ලෝකයක්. තමන්ට පිනක් කරගන්න පින්වතුනි තමන්. පහන් සිතින් තමන් පිනක් කරගත්තොත් ප්‍රතිචාරය ඕන එකක් වුනාට කමක් නෑ, අනිත් එක අපි කවුරුත් මැරිලා යනවානෙ. මැරෙන්න මොකක්හරි ක්‍රමයක් හැදෙනවානෙ පින්වත්නි. එක්කො වෛරස් එකක් හෝ සතුරු උවදුරක්, එක්කො ඔය වාගේ මොනවහරි ප්‍රශ්නෙකින් ඉතින් මැරෙන්න ක්‍රමයක් හැදෙනවා පින්වත්නි. ඉතින් ඒ නිසා මං ඔය දැක්කා රහතන් වහන්සේලාගේ පෙර ජීවිත විස්තර වෙන තැනක එක රහතන් වහන්සේ නමක් කියනවා, උන්වහන්සේ ජීවිතේ ආපස්සට බලනවා මං මොකක්ද කරගත්ත පින කියලා. උන්වහන්සේට පේනවා දවසක් උන්වහන්සේ කැලයේ යද්දි, ඒ බුදුරජාණන් වහන්සේ නමක්ගේ බෝධියක් කැලේ තියෙනවා. එතකොට ඒ බෝධීන් වහන්සේ දැක්ක ගමන් මේක බුදු කෙනෙක්ගේ බෝධියක්

නේද කියලා හිතට හැඟීමක් ආවා. වනමල් ටිකක් අරන් බෝධිය වටේ පැදකුණු කරලා බෝධියට පූජා කලා. වැහිබර වෙලාවක්. පොද වැටෙන වෙලාවක්. ඉතින් ඔය පැදකුණු කරලා මල්ටික පූජා කරලා හිත පහදවාගෙන නැගිට්ටා විතරයි අහක යන හෙණයක් ඇඟට වැදුනනෙ. බෝධිය ළඟම හෙණය ගහලා මැරුනා ඒ මනුස්සයා. ඒ තත්පරයයි චුත වුනා, දිව්‍ය රාජයෙක් වෙලා ඉපදුනා. ඒ දිව්‍යරාජයා කියනවා ඔය කුණු ශරීරයට, ඔය මනුස්ස කුණු ශරීරෙට හෙණ ගැහුවත් මොකද කියලා අහනවා. ඒ කුණු ශරීරයට හෙණ ගැහුවත් මොකද කියලා අහනවා මං ඉපදිලා ඉන්නෙ දෙව්ලොව නම්. හරිම පුදුම සහගතයි. ඉතින් ඒ පින් බලයෙන් බොහෝ කාලයක් දිව්‍ය සැප විඳලා අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වුනා. දැන් අද කාලේ වගේ බෝධියක් ළඟදි වගේ නම් හෙණයක් ගහලා මැරුනොත් එහෙම ෆේස්බුක් වලින් කොච්චර බනීද. නිව්ස් වලට කියයි. පත්තර වල යයි. කෝ බුද්ධ ශාසනේ ආනුභාවය කියලා කියයි. දැන් පහුගිය කාලෙ එකදිගට රතන සූත්‍රය කියනකොට රතන සූත්‍රයටත් බැන්නනෙ, මේ සිංහල මිනිස්සු, සිංහල කටවල් වලින්. ඒ නිසා මේ ජයසිරි මහා බෝධීන් වහන්සේ, මේ රුවන්වැලිසෑය, සත්පුරුෂයන් වහන්සේලා කිහිප දෙනෙක් හරි ඉන්න නිසා මේ රටවල් බේරිලා තියෙනවා. නැත්නම් මේ මිනිස්සු ගොඩාක් පව් කරගන්නවා. රුවන්වැලිසෑය වැඳලා එනකොට ඇක්සිඩන්ට් එකක්වත් වෙලා මැරුණොත් ඕන්න වැඳලා ආවෙ රුවන්වැලිසෑය, කෝ පිහිට කියලා අහයි. මට මතකයි එක රහතන් වහන්සේ නමක් ජීවිතේ ආපස්සට බලනවා උන්වහන්සේට පේනවා තමන් කරගත්ත පින. උන්වහන්සේ දවසක් චෛත්‍යයක් වැඳලා හරී ශ්‍රද්ධාවෙන් ආපස්සෙන් ආපස්සට හිත හිතා මළුවෙන් එළියට ආවා. ඇවිල්ලා හැරිලා යන්න හදන කොටම එතන හිටපු පිඹුරෙක්, විශාල දාරපිඹුරෙක් ඇඟ වෙලාගෙන ගිල්ලා එයාව. එහෙම්මම මැරුනා දෙව්ලොව. අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වුනා. ඒ නිසා බලන්න මේ පින කියලා කියන එක පුදුම සහගත දෙයක්. ඒ පිනෙන්, මේ ජීවිතේ පින් රැස් කරගෙන ඒක මේ ලෙඩරෝග වලට ගාඩ් එකක් කරගන්න හදන්න එපා. උපන් සත්ත්වයා ලෙඩවෙනවා, මැරෙනවා. පින් කරගන්නෙ අපේ පරලොව යහපත පිණිසත්, සසර දුකින් නිදහස් වෙන්නත්. ඒක තේරුම් ගන්න පින්වත්නි. ගොඩාක් අයට මේක තේරෙන්නෑ. මොකාක්හරි ලෙඩක් හැදුනම වයසක ආච්චිඅම්මලා කියන්නෙ බලාපං මෙච්චර පින් කරන මටත් කරදරනෙ. එතකොට එයාලා හිතන්නෙ මේ දානෙ ඩිංගිත්තක් දුන්න ගමන්, චෛත්‍යය වැන්ද ගමන් අට අනූවක් රෝග, නව අනූවක් ව්‍යාධි, දෙසිය තුනක්

අතුරුඅන්තරා ඔක්කෝම නැතිවෙලා අමුතු සුබෝපභෝගී ජීවිතයක් විදියට දිව්‍ය ජීවිතයක් හැදෙන්න ඕන කියලා තමයි හිතාගෙන ඉන්නෙ. ඉතින් ඕකට කියන නම තමයි මිත්‍යදෘෂ්ටිය. පින් පව් වල අර්ථය තේරෙන්නෑ, එකට කියන නම තමයි මිත්‍යා දෘෂ්ටිය. පින් පව් වල අර්ථය තේරෙන්නෑ, ඕකෙම අනිත් පැත්ත තමයි කියනවා අම්මෝ බලාපං අරකා කරන පව්, ඒ වුනාට යසට ඉන්නවනෙ මූ. එතකොට එයාලට තේරෙන්නෑ මේ ජීවිතේ කර්මානුරූපව හැදුනේ. නමුත් ඒ කරන කර්ම වල විපාක ඔහුට සසරට එනවා කියලා කර්ම කර්මඵල වල විශ්වාසය පිළිබඳ දැනුම නෑ. ඉතින් මිනිස්සු හිතනවා අනේ එකපාරම මැරුණොත්, අනේ එකපාරම බටර් පාන් කාලා මැරිලා තියෙන්නෙ, අනේ දුකක් වින්දෙ නෑ, දිව්‍යරාජයෙක් දැන්. ඔය ආච්චිඅම්මලෑ ගංවල බණ, උන්දලාට වෙනම පොත් ටිකක් තියෙනවා. ඉතින් ඒ නිසා පින්වතුනි පින පවට වුනත් හොඳ දැනුමක් තියෙන්න ඕන. ඒ කියන්නෙ යම් දැක්මක්. මේක සම්මාදිට්ඨියට අයිති. ඊටපස්සෙ බලන්න මේ ඊළඟ විමාන කතාව, මුගලන් මහරහතන් වහන්සේ ඊළඟ දෙව්දුවක් ළඟට යනවා. ඒ දෙව්දුව ඉතාමත්ම ආනුභාවසම්පන්නයි. සිරියාවෙන් ශරීර සෝබාවෙන් යසසින් සියලු දෙවිවරු මැඩපවත්වනවා. ඊටපස්සෙ දෙවිවරු අතර ඉන්නකොට මේ දිව්‍යංගනාවක්ද කියලා හිතාගන්නත් බෑ, ඈත ඉඳලා බලනකොට පේන්නෙ සක්දෙවිඳු හරි බ්‍රහ්මයා හරි ඇවිල්ලා කියලා. එච්චර එළියක් ශරීරයෙන්. ඊටපස්සෙ කියනවා, ඔබ අහසත් පොළොවත් එලිය කරන ඉරක් හඳක් වගේ කියනවා. මුගලන් මහරහතන් වහන්සේ, මේවා නිකන් සෝබනයට කරන වර්ණනා නෙවෙයි, මේ රහතන් වහන්සේ නමක්. ඊටපස්සෙ කියනවා සුන්දර දෙව්දුව, නිල්මහනෙල් මල් මාලාවන් තමයි ඔබ පැළැඳගෙන ඉන්නෙ, ඔබට දිලිසෙන රන්වන් සමක් තියෙනවා. ඒ සොඳුරු සිරුර අලංකාර වස්ත්‍රයෙන් සරසාගෙන ඉන්නෙ. ඇත්තෙන්ම ඔබ මේ මට වන්දනා කලා, කවුද ඔබ. ඔබ කලින් ජාතියේ මොනවාගෙ පිනක්ද කරගත්තේ. හරි අගේට දන් පැන් දෙන්න ඇති නේද. එහෙම නැත්නම් ඉතා හොඳින් සිල් ගන්න ඇති නේද. යසස් ඇති සුගතියේ උපදින්න හේතු වුනේ මොනවගේ පිනක්ද, දෙව්දුව මම මේ අහන දේට උත්තර දෙන්න කිව්වා. ඊටපස්සෙ කියනවා ස්වාමීනී මේ ගමේදිමයි ඔබවහන්සේට - දැන් මේ මුගලන් මහරහතන් වහන්සේට වඳින්න ඇවිල්ලා ඒ දිව්‍යංගනාව- කියනවා ස්වාමීනී. මේ ගමේදීමයි මම ඔබවහන්සේට දානයක් පූජා කරගත්තෙ, ඔබ වහන්සේ ගැන පැහැදිලා මං මේ දිව්‍යලෝකෙ ඉපදුනේ කිව්වා. දැන්, මේක සිද්ධිය වුනේ මෙහෙමයි. මෙයත් හොඳ අහිංසක ගෑණු

ළමයෙක්. ඉතින් මෙයත් මිත්‍යාදෘෂ්ටික පවුලකට කසාද බැන්දා. දානයක් දෙන්නේම නෑ. නමුත් කෙල්ල හරී චරිතවත් කෙල්ලෙක්. හොඳට පන්සිල් රකිනවා. දන් දෙන්න ආසයි, සංඝයාට ආසයි. ශ්‍රද්ධාවන්තයි. ඉතින් පින්වත්නි මේ ළමයාත් ඔහොම දවසක් ගෙදර ඉන්නකොට මුගලන් මහරහතන් වහන්සේ පිණ්ඩපාතෙ වැඩියා. මුගලන් මහරහතන් වහන්සේ දුටු පමණින් පහදිනවා පින්වත්නි. මුගලන් මහරහතන් වහන්සේගේ රූප ස්වභාවය තමයි, උපමාවක් ගත්තොත් එහෙම, දැන් අපි නිල් පාටයි කියලා කියනවානෙ. නැත්නම් සමහර අය කළුපාටයි කියනවානෙ. ඇත්තටම යම් සේයාවක්වත් මුගලන් මහරහතන් වහන්සේ ගැන කියනවානම් මෙන්න මේ වගේ උපමාවක් කියන්නම්. ඒ තමයි ඉන්ද්‍රනීල මාණික්‍යයෙන් පිළිමයක් හදලා, ඒ පිළිමෙ අතුල් පතුල් රෝස පාට කරලා, තොල් සඟල රෝසපාට කළොත් ආන්න මුගලන් මහරහතන් වහන්සේ වගේ. එච්චර කාන්තිය, එච්චර පිරිසිදුයි ශරීරය. එච්චර කාන්තිමත්. එච්චර සුන්දරයි. මේ ලස්සන කියන එක සුදුහමට විතරක් ආවේණික වෙච්ච දෙයක් නෙවෙයි. සුදුහම තියෙන කොච්චර කැත අය ඉන්නවාද. හම නෙවෙයි, ඒ සිරියාව කියන එක පුදුම එකක්. කළු වුනත් ඒ සිරියාව කියන එක පින් බලයට එන එකක්. මුගලන් මහරහතන් වහන්සේ දැක්ක ගමන් පැහැදීම ඇතිවෙනවා. ඉතින් අර ගෑණුළමයා මුගලන් මහරහතන් වහන්සේ ගැන පුදුම ශ්‍රද්ධාවකින් කල්පනා කලා, අප්පේ මොකක්ද දෙන්නේ කියලා කල්පනා කරනකොට මතක් වුනා, එයාලගේ දැන් ගේ ඇතුලෙ බැලුවා. මුට්ටිවලත් මොනවත් නෑ, දොරමුල්ලෙ තිබ්බා උක්ගහක්. ඊටපස්සෙ මෙයා මොකද කලේ, උක්දණ්ඩ අරගෙන පොඩි පොඩි කෑලි වලට කපලා පාත්තරය ඇතුලට පූජා කලා. ස්වාමීනී ඔබ වහන්සේට පිණ්ඩපාතෙ පූජා කරනවා කියලා වැන්දා. සුවපත් වේවා කියලා මුගලන් මහරහතන් වහන්සේ වැඩියා. ඊටපස්සෙ පුදුම සන්තෝසෙන් ඉන්නවා. පුදුම සන්තෝසෙන් ඉන්නකොට ඔන්න නැන්දම්මා ආවා. නැන්දම්මා ඇවිල්ලා කෝ මෙතන තිබ්බ උක්ගහ. ඊටපස්සෙ කිව්වා අනේ අනුමෝදන් වෙන්න අද ශ්‍රමණයන් වහන්සේ නමක් වැඩියා අනේ මං පූජා කලා. පුදුම පිනක් කිව්වා, අනුමෝදන් වෙන්න කිව්වා සතුටින්. මේ අනුමෝදන් වෙන කතා මෙහෙ නෑ කියලා කිව්වා. මෙයා කියනවා අනේ නැන්දම්මේ මං ඒක විසිකලෙත් නෑ, කෑවෙත් නෑ, සාන්තවිහරණ ඇති ස්වාමීන් වහන්සේ නමකට පූජා කලා. ආ, එතකොට මේ ගෙදර ප්‍රධානියා තී ද? එහෙම නැත්නම් මං ද කියලා නැන්දම්මාට ආවා සැරක් ඒ නැන්දම්මා මට පරිභව කලා, ගොඩාක් නරක වචන කිව්වා. කියලා එතන තිබුනු පුටුව අරගෙන මට - මම කිව්වෙ වයසක උන්දලට තරහා

ආපුවාම කොහෙන්දෝ නැති පණක් එනවා කියලා - ළඟ තිබ්බ පුටුව අරගෙන ගැහුවනේ අර කෙල්ලට. ඉතින් ඒ පුටුව අරගෙන පහර දුන්නා. මම මැරුණා. එතනම චුතවෙලා මං මෙතන දිව්‍ය, තව්තිසා දෙව්ලොව ආනුභාවසම්පන්න දිව්‍යාංගනාවක් වෙලා ඉපදුනා කියනවා. පුදුම සහගතයි. අර පුටුවෙන් ගුටිකාලා මැරෙනකොටත් නැන්දම්මා ගැන තරහක් ආවෙ නැහැනෙ. අද කාලෙ නම් මම උඹෙන් පලිගන්නවා. නයෙක් වෙලා හරි එනවා, යකෙක් වෙලා හරි එනවා, උඹට මං සැනසිල්ලෙ ඉන්න දෙන්නෑ. ඔහොම කිය කියා අද කාලෙ මිනිස්සු මැරෙන්නේ. ඒ නිසා දෙව්ලොව යන්නෙ නෑ. මේ බලන්න නැන්දම්මාගේ කතාවක් නෑ, රහතන් වහන්සේට දන් පුදපු එකම සිහිකලා. ඊටපස්සෙ කියනවා මං කරගත්ත ඒ කුසලකර්මය ඒක විතරයි ස්වාමීනී, මගේ ජීවිතේටම මං කරගත්ත ආනුභාව සම්පන්න පින. තමන් කරගත්තු ඒ කුසලකර්මය නිසා මං දැන් සැප විඳිනවා. දෙව්වරු පිරිවරාගෙන හැසිරෙනවා. දිව්‍ය වූ පස්කම් සැප සැපෙන් සතුටු වෙනවා. ඉතින් ස්වාමීනී, සක්දෙව්ඳු තමයි මේ තව්තිසාව රකින්නෙ. ඒ දෙව්වරු තමයි මාව රකින්නෙ. ඒ නිසා මමත් දිව්‍ය වූ පස්කම් සැප වලින් සතුටු වෙනවා. තව්තිසාවෙ සක්දෙව්ඳු යටතෙ ඉන්නෙ එයා. කියනවා මෙබඳු වූ උක්දඬු පූජාවකින් වුනත් මහා පුණ්‍ය විපාකය තියෙනවා. මේ ලැබුනු පුණ්‍ය ඵලය අල්ප දෙයක් නම් නෙවෙයි. මං දෙව්වරුන් පිරිවරාගෙන හැසිරෙනවා. දිව්‍ය වූ පස්කම් සැපෙන් සතුටු වෙනවා. මෙබඳු වූ උක්දඬු පූජාවකින් වුනත් මහා පුණ්‍ය විපාක තියෙනවා. මේ ලැබුනු පුණ්‍ය විපාකය අල්ප දෙයක් නම් නෙවෙයි. සක්දෙව්ඳු තමයි මේ තව්තිසාව රකින්නෙ. ඒ දෙව්වරු තමයි මාව රකින්නෙ. ඒ නිසා මමත් සක්දෙව්ඳුන් වගේ සැපතින් සතුටින් ඉන්නවා. ස්වාමීනී මහාත් අනුකම්පා ඇති ඥාණවන්ත වූ නුඹ වහන්සේ ළඟට මං ආවා. වන්දනා කලා. සැප සනීප ඇහුවා. ඉතින් මං සිත පහදවාගෙන මහත් ප්‍රීතියකින් තමයි නුඹ වහන්සේට උක්දඬු පූජා කරගත්තෙ. මං ඔබවහන්සේට වන්දනා කරනවා කියනවා. කෙලෙහිගුණ. බලන්න කෙලෙහිගුණ. මං සැප වින්දේ ඔබ වහන්සේ නිසා කියලා ඇවිල්ලා වන්දනා කරලා උන්වහන්සේට තමන්ගෙ පුණ්‍ය විපාකය ගැන කියන එක. ඉතින් ඒ නිසා බලන්න මේ පින් කරපු පමණින්ම කරදර නැතිවෙන්නෑ, මේ ගුටිකාලා මැරිලා තියෙන්නෙ. නමුත් තමන්ගේ පින එනවනෙ වෙනම. මුට්ටියක්, ගිතෙල් තියෙන මුට්ටියක් වතුර ඇතුලට ගිහිල්ලා කුඩු කරත් තෙල් ටික උඩටම එනවා වගේ නැන්දම්මලාගෙන් ගුටිකාලා, මනුස්සයාගෙන් ගුටි කාලා, මිනිස්සුන්ගෙන් අපවාද උපවාද විඳලා ඔහේ තැන් තැන්වල මැරිලා යනවා. නමුත් තමන් පින් කරගෙන තිබ්බොත්

කුසල් කරගෙන තිබ්බොත් ඉහළටම යනවා. මේක තේරුම් ගන්න පින්වත්නි. පිනේ විපාක. මට මතකයි තවත් රහතන් වහන්සේ නමක් ගැන විස්තරයක් තියෙනවා. උන්වහන්සේත් කන්දක් මුදුනේ තියෙන සෑය ඒ කාලෙ වන්දනා කරලා, සසරේ. වැඳලා සෑය වටේ පැදකුණු කරලා පුදුම සතුටක්. ඊටපස්සෙ සෑයේ අර පිටිපස්සෙන් පිටිපස්සට ඇවිල්ලා සෑය දුර ඉඳලා බලන්න ආසාවට. හිත හිතා හිත හිතා පිටිපස්සට ඇවිල්ලා. එතකොට ඒ සෑයේ කන්ද මුදුනේ තියෙන සෑයට වටේට ප්‍රාකාර නෑ, සාමාන්‍යයෙන් මේ වගේ චෛත්‍යය තියෙනවා. අපි ගත්තොත් එහෙම අපි මිහින්තලය ගත්තොත් එහෙම මිහින්තලය, අන්න බලන්න මිහින්තලය උඩ මහා සෑයෙ ළඟදින් තමයි වටේ කේබල් ඇදලා තියෙන්නෙ. මුලින් වැටක් මොකුත් නෑ. ඔය වාගේ සෑයෙ පිටිපස්සෙන් පටිපස්සට සතුටු වෙනෙකොට අර ප්‍රපාතෙන් වැටුනනෙ. කුඩුවෙලා බිමට වැටුනේ. එපමණකින් දෙව්ලොව ඉපදුනා. ගෞතම බුද්ධ ශාසනේ දක්වා දෙව් මිනිසුන් අතර උපදින්නෙ. සක්දෙවිඳු වෙලා පවා ඉපදිලා තියෙනවා. අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වුනා. ඒ නිසා පින්වතුනි මැරෙන විදියවත්, මැරෙන්නෙ කොතනද කියන එකවත් ඒවා නෙවෙයි අපිට ප්‍රශ්න. අපේ හිත පැහැදිලාද අපි පින් කරලද, අපි හොඳ දෙයක් කරලද කියලා. ඒ නිසා කෙනෙක් මැරුනට පස්සෙ කොහොමද මැරුනෙ කියලා හොයන්න එපා. ඒ මනුස්සයා හොඳක් කරලා තියෙනවද, නරකක් කරලා තියෙනවාද බලලා තමන්ගෙ ජීවිතෙත් එක්ක ගලපලා බලන්න. ඒ නිසා දැනුත් ඔබට එක එක්කෙනාට මරණය පෙනි පෙනී තියෙනවා මේ එන එන අර්බුද අතරේ. එතකොට ඔබ බලන්න මම කොහොම මැරෙයිද කියන එක නෙවෙයි  බලන්න ඕන මං හොඳ දේවල් කරලා තියෙනවාද, නරක දේවල් කරලා තියෙනවද. නරක දේවල් හිතෙන් බැහැර කරනවා. කරපු පින කුසලයම හිත හිතා ඉන්නවා. ඒ වගේ අයට මේ සුගති මාර්ගය වැළකෙන්නෙ නෑ. එතකොට තේරුම් ගන්න පින්වත්නි මේ විදියට මේ දිව්‍යලෝකයේ සැප සම්පත් තිබෙන බව. ඊළඟට මුගලන් මහරහතන් වහන්සේ තවත් දිව්‍ය විමානෙකට වැඩම කරනවා. මේවා ඉතින් එකම දවසෙ වැඩම කරන ඒවා නෙවෙයි පින්වත්නි. කාලෙන් කාලෙට දිව්‍ය ලෝක චාරිකාවෙ වඩින්නෙ. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ දැක්කා ලස්සන දිව්‍ය විමානයක්. දිව්‍යාංගනාවක් - ඒකෙත් ඉන්නෙ දිව්‍යාංගනාවක් - මහානුභාව ඇති දෙව්දුව, ඔය ආසනය ශ්‍රේෂ්ට එකක්. මැණික් වලින් රත්තරන් වලින් සරසලා තියෙන්නෙ. සුවඳ මල් පුරවලා තියෙන්නෙ. මේක උදාර වූ යහනක්. ඉතින් මේ යහනෙ ඉඳගෙන ඔබ එක එක විදියෙ ඍද්ධි ප්‍රාතිහාර්යය

දක්වනවා. ලස්සන මෙයාට යහනක්, ආසනයක් තියෙනවා. ඒකෙ ඉඳගෙන එක එක ඍද්ධි ප්‍රාතිහාර්ය දක්වනවා. ඔබව වටකරගත්තු අප්සරාවො නටනවා, සින්දු කියනවා, ඔබව සතුටු කරනවා. මහත් ආනුභාව ඇති දෙව්දුව, මෙච්චර අධිපතිකමක් කරන්නෙ මනුස්ස ලෝකෙ මොකක්ද කරපු පින, ඔබගේ ශරීරයෙන් මොකක්ද විහිදෙන ආලෝකය ඔය, ඊටපස්සෙ කියනවා මං මිනිස් ලෝකෙ හිටියෙ මනුස්ස දුවක් වෙලා, මං හරී ධනවත් පවුලක ලේලියක් වුනා. මගේ ස්වාමියා ක්‍රෝධ කරන්නෙ නෑ, ඉතින් මම එයාට කීකරු වෙලා හිටියා. අප්‍රමාදීව උපෝසථ සිල් රැක්කා. ස්වාමියා අහිංසක කෙනෙක්. මමත් අහිංසක වුනා. දැන් ඕකෙ අනිත් පැත්ත මොකක්ද. ස්වාමියා අහිංසක වුනොත් ගෙදර ලොක්කි වෙන්නෙ කවුද. ඕවා කිච්චහම අපිටත් බනිනවා. දැන් මෙයා කියනවා අපේ ස්වාමියා ක්‍රෝධ කරන්නැති අහිංසක කෙනෙක්. මමත් එයාට කීකරු වෙලා හිටියා. අප්‍රමාදීව මම සිල් රැක්කා අටසිල්. මිනිස් ලෝකෙ හිටිය මං යොවුන් වියේදීම පතිවත රකින කෙනෙක් බවට පත්වුනා. බලන්නකො, මනුස්සයා අහිංසකයි. අද කාලෙ නම් අල්ලෙ නටවයි. ඉතින් කවදාවත් අර අහිංසක මනුස්සයාගෙ හිත රිද්දුවෙ නෑ මෙයා. පතිව්‍රතාව රැක්කා. ඒක තමයි මෙයාගෙ බඹසර. පහන් සිතින් සැමියාව සතුටු වෙන හැටියට ජීවත් වුනේ. දිවා රාත්‍රී දෙකේම මං හැසිරුනේ හිතේ සතුට ඇතිවෙන විදියටයි ස්වාමියාගේ. මං ඉස්සර හිටන්ම සිල්වත් කෙනෙක්. මං හිටියේ මං සත්තු මරන කෙනෙක් නෙවෙයි, මං පන්සිල් රැකපු කෙනෙක්. මං කවදාවත් මං බොරු කියලා නෑ. එතකොට දැන් තේරෙනවා නේද දැන් මේ පින් බලේට නේද මේ අධිපති වෙන්නෙ. අහිංසක මනුස්සයෙක්ව නැටෙව්වොත් ඒක සෑහෙන පාපයක්. අහිංසක මිනිස්සු නටවන එක සෑහෙන පාපයක්. ඒවගේම තමයි සාමාන්‍යයෙන් දැන් අපි ගත්තොත් එහෙම ඔය සමහර වෙලාවට ඔය අන්තර්ජාලයේ එක එක නම් වලින් වීඩියෝස් පලකරනවා, නමුත් ඒ නමට නෙමෙයි වීඩියෝ එක තියෙන්නෙ. නමුත් ඒ අර කෙනා අහුවෙන්නයි නම දාන්නෙ. එතකොට ඒ මිනිස්සුන්ගෙ හැඟීම් තමයි එයා උපයෝගී කරගන්නෙ අර වීඩියෝ ඒකේ වීව්ස් ගාන හරි මොනවාහරි වැඩි කරගන්න. වීඩියෝ එක බලන ප්‍රමාණය වැඩිකරගන්න, මිනිස්සුන්ගේ අර නමක් දානවා. එතකොට ඒ මනුස්සයන්ගේ හැඟීම්, හැඟීම් ඇවිස්සීම පිණිසයි ඒක කරන්නෙ. මේ මනුස්සයන්ගේ මෝඩකම්, රාගයට අදාළ චරිතයක් නම්, රාගයට සම්බන්ධ දේවල් තියෙනවා. තරහ ඒවා, බනින ඒවා, ඉතින් බලනකොට මොකුත් නෑ, ඊටපස්සෙ ඇයි එතකොට නමුත් වීඩියෝ එක බලලා. එතකොට මිනිස්සුන්ගේ

හැඟීම් පාවිච්චි කිරීම මිනිස්සුන්ගේ හැඟීම් එක්ක සෙල්ලම් කිරීම සැහෙන අකුසලයක්. බුදුරජාණන් වහන්සේ දේශනා කලා තවත් අයගේ රාග ද්වේෂ මෝහ ඇවිස්සුවොත් එයා නිරයේ උපදිනවා කියලා. ඒකයි පින්වතුනි අපි කොච්චර ධර්මදේශනා වලට කිව්වද, යම් දෙයකින් තමන්ට රාගය ඇතිවෙන්න පුලුවන් නම්, ඒ රාගය තවත් කෙනෙකුට දෙන්න එපා කියලා. තමන්ට තරහ ඇතිවෙන්න පුලුවන්, ඒක තවත් කෙනෙකුට දෙන්න එපා කියලා. තමන්ට මෝහය ඇතිවෙන්න පුලුවන්, ඒ බය තැතිගැනීම් අනිත් අයට දෙන්න එපා කියලා. මේ ලෝකයේ ඔය බය තැතිගැනීම් ඇතිකරන ඔය යක්කු භූතයන්ගේ භය තැතිගැනීම් හදන චිත්‍රපටි තියෙනවානෙ. ඒ හදන සියලු දෙනා බොහෝ පව් රැස් කරගන්නවා මිනිස්සුන්ට බය දීලා. ඊළඟට රාගය ඇතිවෙන නරක වීඩියෝ හදන සියලු දෙනා බොහෝ පව් රැස් කරගන්නවා අන් අයට රාගය දීලා. ඊළඟට ඕපදූප, ඇනුම් බැනුම්, තරහ යන දේවල් ඒ වීඩියෝස් දාලා අන්තර්ජාලයේ ඒවා කරන අය බොහෝ පව් රැස් කරගන්නවා අන් අයට ද්වේෂය දීලා. මේ විදියට මේ ධර්මය තමයි පින්වතුනි, ධර්මයෙන් අන් අයගේ රාග ද්වේෂ මෝහ සංසිඳෙනවා ධර්මය දෙන අයට බොහෝ පින් රැස් වෙනවා. ධර්මය දෙන අයට බොහෝ පින් රැස් වෙනවා. ඉතින් ඒ නිසා පින්වත්නි දැන් බලන්න මේ අහිංසක මනුස්සයාව පාවිච්චි කලේ නෑ මේ, එයාව සෙල්ලමට පාවිච්චි කලේ නෑ ඈ. ඒ උපාසිකාව. ඉතින් මෙයා හොඳට සිල් රැක්කා. තමන්ගේ මනුස්සයා අහිංසක, මේ තියෙන්නෙ නෝමල් අහිංසක මනුස්සයෙක්නෙ මේ. ඉතින් ඒ මනුස්සයාගේ හිත රිද්දලා නැනෙ මෑ. ඊටපස්සෙ තියෙනවා මම සතර පෝයට සිල් සමාදන් වුනා. ඉතින් මං ආර්ය අෂ්ටාංගික මාර්ගය සැප විපාක, ඒ උතුම් ආර්ය අෂ්ටාංගික මාර්ගය සැප විපාක ලබාදෙනවා. මං ඒ කුසලය සමාදන් වුනා. ස්වාමියාටත් යහපත සැලසෙන විදියටයි කීකරුව ජීවත් වුනේ. නිතර නිතර මෙයා කියනවා ස්වාමියා ගැන. මම ස්වාමියාට ඇප උපස්ථාන කර කරම නිවන් මාර්ගය වැඩුවා කියනවා. මෙයා ඉතින් හොඳට බණ අහලා තියෙනවා. මං ඉතින් ඉස්සර ඉඳන්ම සුගතයන් වහන්සේගේ ශ්‍රාවිකාවක් නෙව. මෙයා සෝවාන් වෙච්ච කෙනෙක්. මං මිනිස් ලෝකෙදි මරණින් මත්තෙ විශේෂ භාගය වන හොඳට පින්කම් තමයි කරගත්තෙ. කය බිඳිලා මැරුණට පස්සෙ සුගතියේ ඉපදිලා දෙව්ලොව ප්‍රධාන වෙලා ඉන්නවා. මේ මනෝරම්‍ය වූ උතුම් දිව්‍ය ප්‍රසාදයෙන් හරිම ප්‍රසාදය හරිම සුන්දරයි. අප්සරාවන් ගොඩාක් පිරිවරාගෙනයි ඉන්නෙ. ශරීරාලෝකය විහිදිලා මාව දෙවිවරු සතුටු කරවනවා. මං මේ පැමිණුනේ දීර්ඝායුෂ ඇති දිව්‍ය විමානයකට. දැන් බලන්න කොච්චර ඈ, ඒ

දිව්‍යාංගනාව සතුටු වෙනවද තමන්ට ලැබුණු දිව්‍ය සම්පත්තිය ගැන. අප්‍රමාණ සතුටකට පත්වෙනවා. ඉතින් ඒ නිසා මේ ඔක්කෝම පින්වතුනි තමන් මනුස්ස ලෝකයේ කරගත්තු පින. ස්වාමියාට යටහත් පහත්ව සිටීම. මැයගේ ප්‍රධානම පින් බලය තමයි ස්වාමියාව අල්ලේ නැටෙව්වේ නැති එක. හරියට අවංකව සිල් ගත්ත එක. අවංකව ශ්‍රද්ධාවෙන් හිටපු එක. දැන් දිව්‍ය ලෝකෙ ඉරහඳ වගේ බබළනවා. දීර්ඝායුෂ. ඒකයි පින්වතුනි කියන්නෙ මේ කෙටිකාලය ඉවසගෙන ඉන්න. කාන්තාවන්ට ප්‍රශ්න නැතිව නෙවෙයි. ඇත්තටම බලනකොට ගොඩාක් පිරිමි වදදෙනවා, හරියට කාන්තාවන්ට අප්‍රමාණව වද දෙනවා. නමුත් මේ පිරිමි බණක්වත් අහන්නෑනෙ. බණක්වත් අහන් නෑ, ඔහේ බේබදු වෙලා කොහේහරි වැටිලා ඉන්නවා. ගෑණිට වදදෙනවා. පවුලක බරක් ගැන හිතන්නෙ නෑ, ඉතින් මේ වගේ ප්‍රශ්න තියෙනවා පින්වතුනි පවුල්වල. දරුවන්ට ආදර්ශමත් විදියට නෑ. මිනිස්සු හිනාවෙන විදියට ඉන්නෙ. ඉතින් ඒ නිසා ඒ වගේ ප්‍රශ්න තියෙනවා, බණ අහන්නැති මිනිස්සු කොහොමද පින්වත්නි හදන්නෙ. අහන එකාටනෙ මේ කියන්නෙ. ඉතින් ගොඩාක් අය ධර්මය අහන්නෙ කාන්තාවො නිසා ඒකයි කාන්තාවන් ගැන වැඩිපුර කියලා මේ දුර්ගුණ අයින් කරලා ඉහළ ලෝකෙකට යන විදියට පුණ්‍ය ප්‍රතිපදාව ගැන කියලා දෙන්නෙ. ඒක තේරුම් ගන්න. ඉතින් ඒ නිසා මේ බලන්න මෑ කොච්චර සතුටු වෙනවාද කියලා. මනුස්ස ලෝකෙ ස්වාමියාට යටත් වෙලා හිටියා. දෙව්ලොව ඉපදුනාට පස්සෙ පින්වත්නි අනිත් දෙවිවරු ඔක්කෝම ඈට යටත් වෙනවා. දැන් පින්වතුනි අපි ගෙදර ලොක්කා වෙලා හිටියට පස්සෙ උපදින ලෝක වල තමන් අන් අයට නීච වෙලා යටත් වෙලා දාස වෙලා උපදිනවා. මේ ලෝකෙ අනිත් පැත්ත එයාට හටගන්නවා. ඒ නිසා ඒ කරුණු කාරණා තේරුම් ගන්න. පින්වතුනි මේ ඊළඟ දිව්‍ය විමානයේ කතාව හරි අපූරු සිද්ධියක්. ඒ තමයි මනුස්ස ලෝකෙ ගොඩාක් පින් කරපු කාන්තාවක් හිටියා ඇගේ නම ලතා. ඈ ඉපදුනා වෛශ්‍රමණ දිව්‍යරාජයාගෙ දුව වෙලා. ඉතින් ශ්‍රීමත් සක්දෙවිඳුන්ටත් වෙසමුණු දෙව් රජුටත් දිව්‍ය දෝණිලා ඉන්නවා. ඔවුන්ගේ සිරුරු බබලනවා. ලතා, සජ්ජා, පවරා, අච්චිමුකි, සුතා ආදී දිව්‍යාංගනාවන් යහපත් ගතිගුණ නිසාමයි බබලන්නේ. එයාලා හරියට ප්‍රසිද්ධයි දිව්‍ය ලෝකෙ. සක්දෙවිඳුගෙ දුවලා ඉන්නවා, ඊළඟට වෛශ්‍රමණ දිව්‍ය රාජයාගේත් දුවලා ඉන්නවා. ඒ දුවලා කියන්නෙ දුහිතෘ තනතුරේ උපදිනවා. කියන්නෙ සක්දෙවිඳු ළඟ පුත්‍ර තනතුරේ උපදිනවා. එතකොට එයා පුතා. ඒ දිව්‍යලෝකෙ ස්වභාවය. දවසක් මේ දිව්‍යාංගනාවන් පස්දෙනා හිමාල ප්‍රදේශයේ සුන්දර නදියකට දියනෑමට ගියා. ඒ නදියේ වතුර හරිම සීතලයි. නිලුපුල් පිපිලා

තියෙනවා. ඉතින් ඒ දිව්‍යාංගනාවන් ඒ නදියෙන් වතුර නෑවා, සතුටු වුනා, නැටුවා, සින්දු කිව්වා. එතකොට සුතා දෙව්දුව ලතා දෙව්දුවට මෙහෙම කිව්වා. එතකොට මේකයි වුනේ. වෛශ්‍රමණ දිව්‍ය රාජයාගෙන් සුතා ආදී දිව්‍යාංගනාවො ඇහුවා ලතා දිව්‍යාංගනාව ඇහුවා අපි අතරින් ලස්සනටම හොඳට නටන්නෙ කවුද, ඊටපස්සෙ කිව්ව දුව මට ඕවා කියන්න අමාරුයි, ඔයාලා හිමාලයේ පර්වතයේ සීතල නදිය ළඟට අද දෙවිවරු රැස් වෙනවා. ඔයාල සින්දු කියලා නටන්න එතනදින් තීරණය කරමු කිව්වා හොඳටම නටන්නෙ කවුද කියලා. ඊටපස්සෙ එක එක සුතා, පවරා, අච්චිමුඛී, සජ්ජා ඔක්කොම නැටුවා. දෙවිවරු ඒවා දිහා බලන් හිටියා. ලතා නටන්න ගත්තා තමයි ලතාගෙ පුදුම නැටිල්ලක්. දෙවිවරු ආසනෙන් නැගිට්ටුනා. අත්පුඩි ගැහුවා. දෙවිවරුත් එහෙට්ට මෙහෙට්ට වැනි වැනී නටනවා. මුළු සභාවම වෙනස් වුනා. එතකොට එතන හිටපු සුතා දෙව්දුව කල්පනා කලා පුදුම එකක්නෙ අපි නැටුවා, කවුරුත් බැලුවෙ නෑ. මේ ලතා නටනකොට තමයි මේ ඔක්කෝගෙම නැටිල්ල. ඉතින් මේ දිව්‍යලෝකෙත් ඒ වගේ ස්වභාවවල් තියෙනවා. ඊටපස්සෙ ඇහුවා පින්වතී, ඔබට - හැබැයි ඊර්සියාව නෑ මෙයාලගේ - ඔයාට රන්වන් සමක් තියෙනවා, රන්වන් මලින් සැරසිලා ඉන්නවා. මහනෙල් මල් මාලාවන් පැළැඳ ඉන්නවා. තඹ පාට ලස්සන ඇස් දෙකක් තියෙනවා. සරත් කාලයේ ආකාසේ වගේ සරත් කාලෙ ආකාසය වගේයි, ලස්සනයි. දීර්ඝායුෂත් තියෙනවා. ඇත්තෙන්ම ලතා ඔයාට මේ යසස් ලැබුනේ මේ අන් අය ආකර්ශණය වෙන මේ සැපය කොහොමද ලැබුනේ කියලා ඇහුවා. කියනවා සුන්දරී ලතාට කියනවා අර සුතාට ලතා දෙව්දුව කියනවා, සුන්දරී තම ස්විමියාට එතරම්ම ප්‍රියමනාප වුනේ මොනවගේ පිනකින්ද, පිනක් කරලද, ඔයාගේ රූපසෝභාව නම් අතිවිශිෂ්ටයි. නැටුම් ගැයුම් වැයුම් වලට සැබෑම හපනියක්. දෙවිවරු දිව්‍යාංගනාවන් ඔයාගෙන් අහන දේ අපිට කියන්න. දෙවිවරුත් දිව්‍යංගනාවනුත් ඔයාගෙන් අහන්නෙ මොකක්ද ඔයා ඔක්කොටම ප්‍රියයි, ඔයාගෙ දිව්‍ය ස්වාමියාටත් ඔයා ප්‍රියයි. මේ දෙවිවරු ඔක්කොම ඔබට ආකර්ශණය වුනා. මොකක්ද ඔයාගේ පින. ඔන්න එයාගෙ පින කියනවා. මං ඒ කාලෙ මනුස්ස ලෝක මිනිස් දුවක් වෙලා හිටියේ. මං හරී ධනවත් පවුලක ලේලියක් වෙලා හිටියා. මං ක්‍රෝධ කලේ නෑ. ස්වාමියාට කීකරු වුනා. උපෝසථ සිල් රකින්න පමා වුනේ නෑ, බලන්න මනුස්ස දුවක් වෙලා ඉන්න කාලෙ ධනවත් පවුලක ලේලියක්. මං ක්‍රෝධ කලේ නෑ, දැන් ධනවත් පවුලක ලේලියක් කියන එකේ අදහස තමයි ධනයෙන් ඇය අර ස්වාමිභරියාවක් වුන් නෑ, ලොක්කි වුන්නෑ. සල්ලි තියෙනවා කියලා ක්‍රෝධ කලෙත් නෑ, ස්වාමියාට කීකරු

වුනා. උපෝසථ සිල් රකින්න පමාවුනේ නෑ. ඉතින් ඒ කියන්නෙ ධනවත් පවුලක් ඉපදලත් සිල් සමාදන් වෙනවා. අද කාලෙ ගොඩාක්, අතලොස්සයි, පින්වන්ත අතලොස්සක් ධනවත් පවුල්වලින් සිල් සමාදන් වෙනවා. ගොඩාක් අහිංසක දුක් විඳින අහිංසක පවුල් වල අය තමයි අද සාමාන්‍යයෙන් සිල් සමාදන් වෙන්නෙ වැඩිපුර. ඉතින් මෑ හතර පෝයට සිල් ගත්තා. ඉතින් ඒ මනුස්ස දුවගේ කාලෙ හොඳ යෞවන වයසෙදි පතිවත රැක්කා. කවදාවත් ස්වාමියා ඉක්මවලා ගියෙ නෑ. බලන්න පතිව්‍රතාවේ තියෙන ආනුභාවය. දිව්‍යලෝකෙ ගියාට පස්සෙ අනිත් අය යටත් වෙනවා පතිව්‍රතාව රැකපු අයට. පහන් සිතින් ස්වාමියා සතුටු වෙන හැටියට ජීවත් වුනා. ඒ වගේම පවුලේ වැඩිහිටියන් නැදිමලයින් දැසිදස්සන් හැමෝම සතුටු කලා. කාටවත් දුකක් දුන්නෑ, ප්‍රශ්න ඇතිකලේ නෑ ගෙදර. එහිදී තමයි මනුස්ස ලෝකෙදි තමයි මං මෙච්චර පින් කරගත්තෙ. ඉතින් මම ඒ කුසල කර්මය නිසා ආයු, වර්ණ, සැප, බල කියන කරුණු වලින් අග්‍ර වුනා. මං දැන් අප්‍රමාණ දිව්‍ය ක්‍රීඩා වලින් සතුටු වෙනවා. මේ ලතාව මේ කියන කරුණ කලින් අහලා තිබුනෙ නැද්ද. හැබැයි ඉතින් අපි අහපු කරුණු ඇය හොඳටම පැවසුවා. උතුම් කාන්තාවන් වන අපිට ස්වාමිවරුන්ගේ වටිනාකම හරි අගේට තේරෙනවා. එයාලා තමයි අපේ උතුම් දෙවිවරු. බලන්න දිව්‍යලෝකයේ, දිව්‍යලෝකෙත් කියනවා ස්වාමිවරු තමයි අපේ දෙවිවරු කියලා. ගතීච පාසං පවරාච දේවතා, ඒ තමන්ගෙ ස්වාමියා උතුම් දෙවිවරු කියනවා අපේ ජීවිතේ. ඔන්න දෙව්ලොව යන චරිතයක් පෙන්නුම් කරනවා යම් කිසි කාන්තාවක් තමන්ගේ ස්වාමියා දෙවියෙක් වගේ කියලා හිතනවා නම් ඈ දෙව්ලොව යන පූර්ව නිමිති ඇට පහළ වෙලා. අද කාලෙ කියන්නෙ කොහොමද අපේ මිනිහා බං කියලා පටන් ගන්නවා. වැඩි විස්තර ඕන නැනෙ. ඒ නිසා පුදුම සහගතයි. අවංකවම හිතේ තියෙන්න ඕන. දැන් අර එක මහත්තයෙක්ගෙ කතාවක් මට ස්වාමීන් වහන්සේ නමක් මතක් කලා. හොඳට ආදරෙන් ඉඳලා. පිටරට මහත්තයෙක්. ඉතින් ඊටපස්සෙ ඒ මහත්තයා ලංකාවට එන්න සතියකට එන්න හදලා, දැන් පැයකින් ෆ්ලයිට් එක තියෙනවා, දැන් බඩු ටිකත් අරගෙන එළියට එනකොට නෝනා දොර ළඟට ඇවිල්ලා කියලා ඔයා සති දෙක තුනක් ඉඳලා එන්න. ඊටපස්සෙ මහත්තයා අහලා ඇයි කියලා. නෑ මට ඔයත් එක්ක ඉඳලා ඇතිවෙලා, මං කල්පනා කලා මං යනවා වෙන එක්කෙනෙක් මට ඉන්නවා කියලා. අර මනුස්සයාට හිතාගන්න බෑ. පැයකින් ෆ්ලයිට් එක. කොහොමහරි ඒ මනුස්සයා ඇවිල්ලා ආපහු යනකොට නෝනා නෑ. වෙන මිනිහෙක් එක්ක ගිහිල්ලා. කොහොමත් ඔය වගේ ප්‍රශ්න එකක් දෙකක් නෙවෙයි සෑහෙන දන්න

නිසා තමයි එක එක කරුණු අරන් කියන්නෙ. ඉතින් කිපෙනවා කට්ටිය කිපෙනවා. හරියට තරහා යනවා. මොනවා කරන්නද මේවගෙන්. හැබැයි එක්කෙනෙක් දෙන්නෙක් හරි ඉන්නවා හැදෙන. නැහැදෙන ලෝකේ බැන බැන යන ලෝකේ දිගටම යනවා. වටින්නේ හැදෙන එක. ගල් බොරළු ගොඩායි. වටින්නේ මැණික. නමුත් ගල් බොරළු ගාණට මැණික් නෑ. ඒ නිසා මැණික වටිනවා. ඉතින් කියනවා ස්වාමිවරු දෙවිවරු වගේ කියනවා. අනේ ස්වාමිවරුන් කෙරෙහි අපි හැමෝම කුලපතිභක්තිය තියෙනවා. ඒ නිසාමයි අපි පතිවත සුරකින ස්ත්‍රීන් වුනේ. අපි හැමෝම මේ ලතා කියන හැටියටයි පතිවත රැකලා සැප ලබන්නෙ. එතකොට අනිත් දිව්‍ය කාන්තාවො හතර දෙනාත් ඒ දුවලා හතර දෙනාත් පතිව්‍රතාව රැකපු අය. කඳු මිටියාවත් වල සිංහයා ගොදුරු හොයනවා. ඉතින් ඒ සිංහයා ඒ පර්වත මිටියාවත් වල හැසිරෙමින් අනෙක් සිව්පාවුන් මැඩගෙන දඩයම් කරනවා. මාංසභෝජනය කරගන්නේ දුර්වල සතුන්වයි. ඒ වගේම තමයි ශ්‍රද්ධාවන්ත ආර්ය ශ්‍රාවිකාවන් වෙලා ධර්මචාරීව ජීවත් වෙනවා නම් ස්වාමියා නිසාම පතිවත රකිමින් ඉන්නවා නම්, ක්‍රෝධය යටපත් කරනවා නම්, මසුරුකම යටපත් කරනවා නම් ඇය සතුටු වෙන්නෙ ස්වර්ගයේ ඉපදිලා. ඒ කියන්නෙ එයාගෙ පතිව්‍රතාව ගන්න කියනවා සිංහයෙක් වගේ. එතකොට සිංහයා අර පොඩි පොඩි සත්තු ඔක්කෝම මැඩපවත්වනවානෙ. ඉතින් පතිව්‍රතාව සිංහයෙක් වගේ කරගෙන තරහා යටපත් කරන්න කියනවා. ගෙදර ප්‍රශ්න යටපත් කරන්න කියනවා. හරි ලස්සනයි මේක නම්. ක්‍රෝධය යටපත් කරන්න, මසුරුකම යටපත් කරන්න කියනවා. ඉතින් අපි ඒ වාගේ ඉපදිලා කියනවා මේ සැප සම්පත් විඳින්නෙ. බලන්න මේ ස්වාමි භක්තිය. යශෝධරා මහරහත් තෙරණිය සංසාරෙ අසංඛෙය්‍ය හතරක් වැරදි කාම සේවනයක යෙදිලා නෑ, ස්වාමියාගේ හිත රිද්දලා නෑ. ඇ තුන් ලෝකයේම පිදුම් ලබන උත්තමාවිය බවට පත්වුනා. ඒ නිසා යශෝධරා රහත් තෙරණියට වන්දනාමාන කරන්න. ඔබගේ ජීවිතය සුවපත් කරගන්න. ඉතින් අද කල්වේලා තියෙන විදියට ඔය කරුණු ටික කියලා දුන්නෙ. අපි ඊළඟ වැඩසටහනේ යම් කරුණු ටිකක් කතා කරමු. ඉතින් ඔබ සියලු දෙනාට මේ ධර්මය අහන සියලූම කාන්තාවන්ට සෙත් ප්‍රාර්ථනා කරනවා උතුම් පතිභක්තියේ යෙදිලා දෙව්ලොව අනිත් දෙවිවරු අභිබවා සැප සතුට විඳින්න වාසනාව ලැබේවා කියලා. එතකොට මතක තියාගන්න සැප විඳින්නෙ අපි නෙවෙයි ඔයාලා. තම තමන් විඳින සැප. ඒ නිසා ඔබ කාටත් සැප සම්පත්

විඳින්නත් ඒ වාගේම සුගති ඊකවරණය පිණිසත්, සසර දුකින් නිදහස් වෙන්නත් මේ පින් හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

අද දවසේ මේ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නෙ, මිලිද්දුව ගාල්ල පදිංචි පින්වත් ජයනී ප්‍රනාන්දු මහත්මිය විසින්. අද විශේෂයෙන් අපි පින් අනුමෝදන් කරමු මේ පින් බලෙන් ලක්දෙරණටත් ලෝකයටත් මහා ව්‍යසනයක් වුන මේ කොරෝනා වසංගතය මේ ලෝකයෙන් තුරන් වේවා, රෝගී අය සුවපත් වේවා මිනිස්සුන්ට මේ පින් බලයෙන් තුණුරුවන්ගේ ආශිර්වාදයෙන් දෙවියන්ගේ ඊකවරණයෙන් මානව සංහතියට සැපත සැනසිල්ල ඊකවරණය ආරක්ෂාව සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වාගේම සියලු දෙවිවරු මේ පින් අනුමෝදන් වෙලා ඒ දෙවියන්ගේ දිව්‍ය යස ඉසුරු වඩා වර්ධනය වේවා මේ පින්වතුනුත් සියලු ලෝක සත්ත්වයනුත් මේ දෙවිවරු ආරක්ෂා කරත්වා කියලා අපි පින් පමුණුවනවා. ඒ වගේම මියපරලොව ගිය කේ.සිරිල් ප්‍රනාන්දු පියාණන්ට, ඇලිස් නෝනා ආච්චීට, මේරි නෝනා ආච්චීට, ඇල්බට් සීයාට, තෝමස් සීයාට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ මියපරලොව ගිය ඥාතීන්ටත් ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ටත් මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරම පූජනීය ගුරුදේවෝත්තම අපගේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි අපි මේ පින්දහම් කුසල් දහම් ගැන ඉගෙන ගන්නෙ. ඒ නිසා පරම පූජනීය, ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලු ස්වාමීන් වහන්සේලාට අනගාරිකා මෑණිවරුන්ට පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම සුජීවත්ව සිටින එස්. දයාවතී මෑණියන්ටත්, කලණ සහ කවිශ්ක යන පුතාලාටත් උදය ස්වාමියාටත් දැන් මේ පින්වත් ජයනී ප්‍රනාන්දු මහත්මියගේ ස්වාමියා උදය මහත්මයාටත් මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම මිලිද්දූව ගාල්ල පදිංචි පින්වත් ජයනී ප්‍රනාන්දු මහත්මියටත් මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, සියලු දුකින් අත්මිදෙන්න වාසනාව ලැබේවා මේ පින් බලයෙන් කියලා පින් පමුණුවනවා. ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියෙ ලක්විරු ගුවන් විදුලියේ දායකත්වය දරණ ඒ සියලු දෙනාටත් ඒ වගේම අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් ඔබ සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වෙත්වා. කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. සියලු දෙනාට ගුණධර්මය දියුණු කරගෙන සුගති ඊකවරණයක් ඒ වගේම සසර

දුකින් නිදහස් වීමේ වාසනාවත් සියලු දෙනාට මේ පින් බලයෙන් සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Agj2U-XZosU&list=PLalyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=9

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වතුනි. ඔබ මේ ඉගෙනගනිමින් සිටින්නේ අපේ ජීවිතයේ අපි යහපත් සිතින් යමක් කලොත් යහපත් සිතින් යමක් කිව්වොත් යහපත් සිතින් යමක් කලොත් ඒ පහන් සිතින් කරන කියන සිතන එහි කර්මය තමාම දායාද කරගන්නා බව හොඳ කලොත් තමාට යහපතත් නරක කලොත් තමාට අයහපතත් සැලසෙනවා. තමා විසින් කරන කියන දේවල් භුක්ති විඳින්නේ තමන්මයි, සංසාරයේ. ඒ නිසා හොඳ කලොත් ඒකත් ඔබට. නරකක් කලොත් ඒකත් ඔබට. හොඳ නරක ගැන කියලා දෙන ධර්මය පිළිගත්තොත් ඒකත් ඔබට. හොඳ නරක ගැන කියලා දෙන ධර්මය පිළිගත්තෙ නැත්නම් ඒකත් ඔබට. මේ හොඳ නරක පින් පව් ගැන කියලා දෙන ඒ දහම තේරුම් ගැනීම කුසල් අකුසල් ගැන තියෙන වැටහීම මෙලොව පරලොව ගැන තියෙන වැටහීම, දෙව්ලොව නිරය ගැන තියෙන වැටහීම සම්මා දිට්ඨියටයි අයිති. එතකොට මේ පින් පව් විශ්වාස කිරීම මෙලොවක් පරලොවක් විශ්වාස කිරීම අපාය දෙව්ලොව විශ්වාස කිරීම මත තමයි ලැජ්ජා භය උපදින්නෙ. පව් කරන්න පවට ලැජ්ජාවත් විපාකයට බයත් උපදින්නෙ. එතකොට ලැජ්ජා භය කියන එක මේ බුද්ධ ශාසනයේ විශාල භාග්‍යයක් ඒ ගුණය තමන්ට තිබුනොත්. ඒකට කියනවා දේවධර්මය කියලා. ඉතින් ඒ නිසා මේවා තේරුම් ගන්න. ඉතින් අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ, පින්වත් පී.ජී. ප්‍රසන්න කුමාර මහත්මයා සහ කේ.ඩබ්ලිව්. සෝමාවතී මහත්මිය ඇතුළු පවුලේ සියලු දෙනා. විශේෂයෙන් මේ පින්වතුන් බලාපොරොත්තු වෙනවා සියක් නමක් සංඝයාට දානයක් පූජා කරලා පින්කමක් කරන්න. ඉතින් ඒ පින්කමට ආශිර්වාද පිණිස තමයි ඒ පින්වතුන් අද මේ ධර්ම දානය ඉස්සෙල්ලාම දෙන්නෙ. ඉතින් ඒ නිසා අපි අද දවසේ මේ

ධර්මදානයෙන් රැස්වෙන සියලුම පින් බලයෙන් මේ පින්වතුන්ට මේ සියක් නමක් සංඝයාට දෙන දානය සුවසේ ඉෂ්ට සිද්ධ කරගන්න ලැබේවා කියන සෙත් ප්‍රාර්ථනාව මුලින්ම සිද්ධ කරනවා, අවසානයේත් අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ඉතින් පින්වතුනි දෙව්ලොව උපන් දෙවියන්ගේ මනුස්ස ලෝකෙ කරපු පින්කම් ගැන අපි ඇහුවා. බලන්න සමහර අය ගොඩාක් අය ගොඩාක් දුෂ්කරව තමයි පින්කම් කරලා තියෙන්නෙ. අපි ගියපාර කතා කලා ජීවිතේ දෙවෙනි කරලා, සමහර අය පින්කම් කරන්න ගිහිල්ලා ජීවිතේ නැහිලා. ජීවිතේ නැහිලා. නමුත් ඔවුන්ගේ පින ඔවුන්ව සැපවත් කලා. ඉතින් මේ දුක්ඛිත නරකාදියෙන් උඩට යන්න ඇත්නම් අනේ ඒවාගේ සැපක්. හේතුව එච්චර මේ ලෝකේ දුක් කම්කෙටොළු වැඩියි. ඉතින් දිව්‍යලෝකයේ ගියාට පස්සෙ මේ පින්වතුන්ට හොඳ කාරණාවක් කියන්නම්. ඒ තමයි මීට කලින් අපි සුනන්දා, නන්දා, උපෝසතා ආදී වශයෙන් උපාසිකාවො දෙව්ලොව ගිය විස්තර එක දිගට කියාගෙන යද්දි මට එක ගාථාවක් විස්තර කරන්න අමතක වුනා. ඒ තමයි උපෝසතා විමාන වත්ථුවෙ තියෙනවා උපෝසතා දෙව්දුව දිව්‍ය ලෝකෙ ගිහිල්ලා අප්‍රමාණ සැප විඳිනවා. ඉතින් ඈ මුගලන් මහරහතන් වහන්සේට ඈ කියනවා මං මේ මනුස්ස ලෝකෙදි රැක්ක සීලය, රැක්ක උපෝසථය ඒ වගේම යහපතේ හැසිරීම, පන්සිල් රැක්ක එක, දන්දීම තමයි මං මේ දෙව්ලොව සක්දෙවිඳුගේ බිරිඳක් වෙලා උපදින්න තරම් මට මේ මහානුභාවසම්පන්න වුනේ. ඒත් ස්වාමීනි මම දුක්වෙනවා කියනවා දෙව්ලොව ඉපදීම ගැන. එතකොට කියනවා මුගලන් මහරහතන් වහන්සේ අහනවා මොකද දෙව්ලොව ඉපදීම ගැන දුක්වෙන්නේ මෙච්චර සැප සම්පත්තියක් තියෙද්දි. අනේ ස්වාමීනී වෙන කාලෙක නම් කමක් නෑ, ස්වාමීනී බුදුරජාණන් වහන්සේව මං ඇස් දෙකෙන් දැකලා, රහතන් වහන්සේලා ඇස් දෙකෙන් දැකලා බුදුරජාණන් වහන්සේලට රහතන් වහන්සේලාට දන්පැන් බෙදලත් අනේ මට උන්වහන්සේලා ළඟ ඉඳලා චතුරාර්ය සත්‍යය අවබෝධ කරගන්න බැරිවුනානෙ. ඉතින් මට චතුරාර්ය සත්‍යය අවබෝධ කරගන්න බැරිවුනා, මගේ හිතත් මේ දෙව්ලොව පිහිටියා. ඉතින් මට දැන් දුක හිතෙනවා කිව්වා අපරාදි මට ඒ ජීවිතේම සංසාර දුකින් නිදහස් වෙන්න තිබ්බනේ කියලා. පින්වතුනි, බුද්ධ කාලෙ බුදුරජාණන් වහන්සේ දැකපු අය මේ. ඊටපස්සේ මුගලන් මහරහතන් වහන්සේ කියනවා මේ උපෝසතා බයවෙන්න එපා. ඔබගේ ආයුෂ කොච්චර තියෙනවාද කියලා ඇහුවා මේ දිව්‍ය ලෝකෙ. ස්වාමීනී මට පේනවා තුන්කෝටි හැටදාහක් මට මේ දිව්‍ය ලෝකෙ ආයුෂ තියනවා. එතනින් පස්සෙ මං මැරිලා මනුස්ස ලෝකෙට තමයි යන්නෙ

කිව්වා. අවුරුදු තුන් කෝටි හැටදාහක් ආයුෂ තියෙනවා. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ දේශනා කරනවා, මා බායි උපෝසතා, උපෝසතා බයවෙන්න එපා. බුදුරජාණන් වහන්සේ වදාළා නේද, සසර දුකින්, සතර අපායෙන් නිදහස් වෙන්න මාවතක්. චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න පුලුවන් මාවතක්. ඉතින් ඔබ මේ දෙව්ලොවදින් ඒක පුරුදු කරන්නකො. එතකොට මුගලන් මහරහතන් වහන්සේ දිරිමත් කරනවා දෙව්ලොව සිට මාර්ගය වඩන්න. එතකොට දෙව්ලොව සිට මාර්ගය වඩන්න බැරි නම් මුගලන් මහරහතන් වහන්සේ උනන්දු කරන්නැනෙ. එහෙනම් බයවෙන්න එපා කියලා කියන්නැනෙ. ඉතින් උපෝසතා ඒ මාර්ගය දියුණු කරමින් මේ බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබන්න ඉතාමත් වෙහෙසෙනවා අදටත් දෙව්ලොව. ඉතින් ඒ නිසා ඒ බුද්ධ කාලයේ බුදුරජාණන් වහන්සේලා දැකලා රහතන් වහන්සේලා දැකලා ඒ බුදුරජාණන් වහන්සේ ධර්ම දේශනා කරන යුගයේ මාර්ගඵල අවබෝධ කරගන්න බැරිවෙච්ච අය ඇත්තටම දිව්‍යලෝකෙ නෙවෙයි බ්‍රහ්මලෝකෙ ඉපදුනත් දුක්වෙන්න වටිනවා. එතකොට අද කාලයේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය බණ පදයට පවා ගරහනවානෙ. එතකොට අද කාලය ගැන කවර කතාද. අද මිනිස්සු කරගන්න කර්ම වලින් මිනිස්සු කොයි කොයි ලෝකවල යයිද. දැන් බලන්න මරණය පෙනි පෙනී දැන් ලෝකයම වසංගතයෙන් යටපත් වෙලා මිනිස්සු මැරිලා මිනී කඳන්, ඒ වගේම රොත්ත පිටින් සතා සීපාවා වගේ මිනී ගෙනිහින් දානවා දැකලා, එක එක්කෙනා මැරෙනවා දැකලා, එක එක්කෙනාගෙ ශෝක විලාප අහලා ඒත් මිනිස්සුන්ගෙ හිත් වල රාග ද්වේෂ මෝහ අඩුවෙන් නැනෙ. ඒ රටේ ලෝකෙ මිනී බල බලාම ෆේස්බුක් වලින් බල බලා ඉන්න කොල්ලෝම හාමුදුරුනමකට හරි ගරහනවානෙ. මේ කලබල අස්සෙ. මේ හැමපැත්තෙන්ම භයානක දේවල් පෙනි පෙනීම තෙරුවනට ගරහනවා. රතන සූත්‍රයට ගරහනවා. බණ කියන ස්වාමීන් වහන්සේලාට ගරහනවා. ස්ථාන වලට ගරහනවා. ඉතින් එතකොට හොඳටම තේරෙනවා ඉපදෙන්නෙ නම් දෙව්ලොව නෙවෙයි. ඉතින් ඒ නිසා හැබැයි දිව්‍ය ලෝකෙකට ගියොත් එහෙම, දැන් අපිට ඉදිරියට එනවා මනුෂ්‍යයාගෙ ආයුෂ අවුරුදු දහයට අඩුවෙලා ඒ කාලෙට මුරුග සංඥාව පහළ වෙනවා. ඒ කියන්නේ දැන් වැද්දෙකුට මුවෙක් දැක්කට පස්සෙ මරන්න හිතෙන්නෙ. ඒ වගේ මිනිස්සුන්ට තවත් මනුස්සයෙක් දැක්කට පස්සෙ අර වැද්දෙක් මුවෙක් දැක්කා වගේ. මරන්න හිතෙනවා. රාග ද්වේෂ මෝහ අධික වෙනවා. දැන් මේ බණ අහන වැඩිහිටි අය ඉන්නවා නම් ඒ වැඩිහිටි අයට තේරෙයි ඔයාලගේ මුල්කාලෙ,

ඔයාලගේ තරුණ කාලෙ තිබ්බට වැඩිය කෙලෙස් ගින්න, කෙලෙස් දාහය දැන් තරුණ අයගෙ වැඩියි. එතකොට මෙච්චර දාහයක්. මෙච්චර ගින්නක් වැඩිහිටි අයගේ කලින් ජීවිත වල තිබ්බෙ නෑ, මුල් කාලයේ. එතකොට ඉදිරියට තව වැඩි වෙනවා. මේ ලෝකයේ එන්න එන්න රාගය වැඩිවෙනවා. එන්න එන්න ද්වේෂය වැඩිවෙනවා. එන්න එන්න මෝහය වැඩිවෙනවා. රාග ද්වේෂ මෝහ වලින් දැවෙන කර්ම තියෙන සත්ත්වයා තමයි ඊළඟට ඉපදෙන්නෙ. එතකොට මේ මිනිස්සු අතින් ගොඩාක් අකුසල් කෙරෙනවා. තිරිසන්නු වාගේ ජීවත් වෙනවා. මව පියා අඳුනන්නැති තත්ත්වයට එනවා. ඉතින් ඒ නිසා පින්වත්නි දැන් මේකෙ තියෙන වාසිය තමයි ඔබට දැන් තේරෙයි මං දැන් ඊළඟට කියන විමානවත්ථුවත් එක්ක, සමහර අය කාශ්‍යප බුද්ධ ශාසනයේ තමයි දෙව්ලොව ගිහිල්ලා තියෙන්නෙ. ගෞතම බුද්ධ ශාසනය දක්වාත් ඉන්නවා, තවම ඉන්නවා දෙව්ලොව. මොකද එයාලගේ ආයුෂ ඉවරවෙච්චි ගමන් ආයෙ දෙව්ලොවම උපදිනවා. එතකොට මොකක්හරි බලවත් පුණ්‍ය සංස්කාරයකින් දෙව්ලොව ගියොත් එහෙම ඔන්න ඔය මං කිව්ව මනුස්ස ලෝකෙ තියෙනව මුරුග සංඥා ආදී මහා බලවත් අකුසල සමය පන්නගන්න පුලුවන් එයාට. ඊළඟට ඊට අමතරව තමයි ඊට අමතරව දෙව්ලොව සිටින දෙවිවරුන්ගේ දහම් කතාව තියෙනවා. අනෙත් එක තමයි ධාතු පරිනිර්වාණය වෙලාවේ බුදුරජාණන් වහන්සේගේ සම්බුදු සිරුර ඍද්ධියෙන් මැවෙන අවස්ථාවක් එනවා. එදත් බොහෝ දෙනා මේ ධර්මයේ පිහිට සලසාගන්නවා. ඉතින් ඔය වාගේ අවස්ථා ටිකක් තියෙනවා. ඒක දෙව්ලොව ඉන්න දෙවියන්ට තමයි ලැබෙන්නෙ. ඉතින් ඒ නිසා මේ බලන්න මුගලන් මහරහතන් වහන්සේ දෙව්ලොව වැඩලා, බුදුරජාණන් වහන්සේට ඇවිත් කියා සිටිනවා, ස්වාමීනී මම දෙවිවරු තිස්හය දෙනෙක් දැක්කා, දිව්‍යාංගනාවො. ඒ දිව්‍යාංගනාවො තිස් හය දෙනා කාශ්‍යප බුද්ධ ශාසනයේනෙ භාග්‍යවතුන් වහන්ස දෙව්ලොව ඉපදිලා තියෙන්නෙ. තවම ඉන්නවානෙ කිව්වා. මොග්ගල්ලාන ඔය දිව්‍යාංගනාවො ටික මමත් කලින් දැකලා තියෙනවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ඒ කොහොමද. මොග්ගල්ලාන මම මේ ගෞතම බුද්ධ ශාසනයට පෙර කාශ්‍යප බුද්ධ ශාසනයෙන් පස්සෙ මම එක ජීවිතයක ඉපදිලා හිටියා ගුත්තිල පඬිතුමා වෙලා. ඔන්න ගුත්තිල ජාතකය. ඔය ගුත්තිල පඬිතුමා වෙලා ඉපදිලා ඉඳිද්දි මම බොහෝසේ දක්ෂ වුනා වීණා වාදනයට. ඉතින් මාගේ වීණා වාදනයේ තියෙන චතුරත්වය දක්ෂතාවය මිහිරි බව ගම්නියම් ගම් ජනපද කරා පැතිරී ගියා. ඊටපස්සෙ ඈත ජනපදයක හිටපු මූසිල නම් වූ තරුණයෙක් ඇවිල්ලා ගුත්තිල

පඬිතුමාගෙන් වීණා වාදනයට ශිල්පය ඉල්ලා සිටියා. නමුත් අංග ශාස්ත්‍රයේ දක්ෂ ගුත්තිල පඬිතුමා ඔහුගේ ශරීරාංග වලින්ම දැක්කා මොහු වනාහි අසත්පුරුෂයෙකි, බාලයෙකි, ඒ වගේම අකෘතඥ කෙනෙකි. කෙලෙහිගුණ පිහිටන් නෑ, එතකොට බලන්න අංග ශාස්ත්‍රය අපිට තේරුන් නැති වුනාට කෙලෙහිගුණ තියෙනවාද නැද්ද කියලා මූණෙන්ම කියන්න පුලුවන්. එතකොට බලන්න ඒ ශරීර අංගවලම තියෙනවානේ කෙලෙහිගුණ නැති බව. එතකොට කෙලෙහිගුණ නැති බව ඒ විදියට තියෙනවා. ශරීරාංග තුළ. අපිට ඉතින් ඒවා අද කාලෙ තේරෙන්නෑනෙ. ඉතින් ගුත්තිල පඬිතුමා කිව්වා මට ශිල්ප දිය නොහැකියි, ඊටපස්සෙ අර මූසිල හරී කච්ටයි. අම්මයි තාත්තයි අන්ඩයි, ඒ දෙන්නගේ හිත කොහොමහරි දිනාගෙන ඒ දෙන්නා ලවා කියවලා කොහොමහරි ශිල්පය ඉගෙන ගත්තා. ඊටපස්සෙ ඒ ගුත්තිල පඬිතුමාට අසත්පුරුෂයාගෙන් අනාගතයේ වෙන බයට වඩා මවුපියන්ගේ වචනයට කීකරු වීම ශ්‍රේෂ්ටයි. ඒ නිසා අම්මයි තාත්තයි කියන දේ ඇහුවා. ඊටපස්සෙ ශිල්පය දුන්නා. ශිල්පය ඔක්කොම උගන්නලා ඉවරවෙලා රජ්ජුරුවො ළඟට ගියා. රජ්ජුරුවො ළඟට ගියාට පස්සෙ රජ්ජුරුවො ඇහුවා කව්ද මේ. මගේ අතවැසියෙක්. වීණා වයන්න පුලුවන්ද, පුලුවන්. ඊටපස්සෙ කිව්වා රජතුමනි එහෙනම් මෙයා ලවා වීණා වයවලා බලමුද කියලා හා කිව්වා. ගුත්තිල පඬිතුමා වගේම වීණා වයනවා. බොහොම අගෙයි. නුඹත් එහෙනම් එන්න අපේ මාළිගාවේ වීණා වයන්න, ගුත්තිල පඬිතුමාට දෙන වැටුපෙන් භාගයක් දෙන්නම් කිව්වා. ඊටපස්සෙ ඒකට මෙයා අප්සෙට් ගියා. බලන්න මේ සකල ගුණ නැතිවෙනවා මේ සල්ලි, වැටුප කියන එක ඉස්සරහට ආපු ගමන්. කෙලෙහිගුණ ඔක්කොම නැතිවෙනවා සල්ලි ඉස්සරහා. ඊටපස්සෙ කිව්වා ඇයි මොකද කියලා ඇහුවා. අනේ රජතුමනි, ගුත්තිල පඬිතුමාට වගේම එක වගේම ශිල්ප එකසරියි. අපි දෙන්නටම එක වගේ ශිල්ප පුලුවන්. මොකද මට වැටුපෙන් භාගයක්, ඉතින් රජතුමා කිව්වා, එහෙනම් ඉතින් ශිල්ප දක්වන්න. ශිල්ප දක්වලා ජනී ජනයා මැද ඔබ දිනුවොත් ඒ වගේ පඩිය දෙන්නම් කියලා. ඊටපස්සෙ ඒ ගුත්තිල පඬිතුමාට හරී දුක හිතුනා. ගෙදර ඇවිල්ලා කල්පනා කලා, මූසිල තරුණයා, මම වයසයි මගේ අතපයත් වෙව්ලනවා. මම දැන් ඔතනින් පරදිනවා, කතා දෙකක් නෑ, ගෝලයෙක්ගෙන් පැරදෙනවට වැඩිය හොඳයි මැරෙන එක කියලා, ගුත්තිල පඬිතුමා ගෙදරින් කැලේට ගියා බෙල්ලෙ වැල දාගන්න. කැලේට ගියාම බය හිතෙනවා මැරෙන්න. ආයෙ එනවා. ආයෙ ගෙදර ආවට පස්සෙ ගෝලයගෙන් පැරදෙන බය එනවා. ආයෙ කැලේට යනවා,

ඔහොම ගිහිල්ලා ගිහිල්ලා ගිහිල්ලාම ගෙදර ඉඳලා කැලේටයි, කැලේ ඉඳලා ගෙදරටයි එයා ආපු පාරෙ තණකොළ මැරිලා පාරක් හැදුනා කියනවා. කොච්චර යන්න ඇතිද කියලා හිතන්න බලන්න. ඊටපස්සෙ මොකද වුනේ, සක්දෙවිඳුගේ ආසනය උණුවුනා. කියන්නෙ ගුරුවරයෙකුට ගෝලයෙක්ගෙන් පීඩාවක් එද්දින් ඒ ගුරුගෝලයන්ගේ තියෙන ස්වභාවය දැනෙන එකක් තමයි සක්දෙවිඳුට. සක්දෙවිඳු බොහෝ කාලයක් ගුරුන් පුදන කෙනෙක්. ඉතින් ඒක තමයි ඒ සක්දෙවිඳු ඒ ගුරුවරයා ඉස්සරහ පහළ වෙනවා. එතකොට තමයි දැන් මේ තුනයි පහ විමාන වත්ථුවේ ආරම්භ වීම මේකයි. කියනවා පින්වත් සක්දෙවිඳුනි, මං වීණාවේ සත්සර පිරිමදිමින් මධුර නාදය කන්කළු නාදය ඇති වීණා වාදනය ඔහුට ඉගැන්නුවා. නමුත් ඔහු දැන් රඟමඩලින් මට වාදයට කතා කරනවා. අනේ මට පිහිට වෙන්න කියලා, ගුත්තිල පඬිතුමා කියා හිටිනවා. ඊටපස්සෙ සක්දෙවිඳු කියනවා ඔව්, මං ඔබට පිහිට වෙනවා මං ගුරුන් පුදන කෙනෙක්. සක්දෙවිඳු ගුරුන් පුදන කෙනෙක්. සක්දෙවිඳු ගොඩාක් කැමති ගුරුන් පුදන අයට. ගුරුවරයාව බැහැර කරන, ගුරුවරයාව ප්‍රතික්ෂේප කරන, ගුරුවරයාට ගරහන, ගුරුවරයාගේ දොස් කියන අයට සක්දෙවිඳු කැමති නෑ, ඒ අයට සක්දෙවිඳුගේ ලෝකෙ උරුමත් නෑ, ඒ සක්දෙවිඳුගේ ලෝකෙ උරුම නෑ ඒ අයට. ඊටපස්සෙ කියනවා ඒ නිසා ගෝලයාට, ශිෂ්‍යයාට ජයගන්නවා කියලා එකක් නෑ කියනවා ධර්මයේ. ඒ නිසා ගුරුවරයා තමයි ශිෂ්‍යයාව පරද්දවලා ජයගන්න ඕන, ඒ නිසා ඔබ බය වෙන්න එපා මං උදව් කරන්නම් කියනවා. ඊටපස්සෙ බලන්න ශිල්ප එකවාගේ වුනත් හැකියාවල් එක වගේ වුනත්, වෙනත් ඕනම දෙයක් එක වගේ වුනත් ගුරුවරයා ශිෂ්‍යයා කියන වචන දෙකේම ඒ දෙක කවදාවත් සමාන වෙන්නෑ, මොනවා සමාන වුනත් ගුරුවරයයි ශිෂයයයි කියන දෙක සමාන වෙන්නෑ කවදාවත් ලෝකෙ ධර්මානුකූලව. ගුරුවරයාත් ශ්‍රේෂ්ටයි මේ ලෝකෙ. දැන් අපි කියමුකො ගුරුවරයක් ශිෂ්‍යයාට ශිල්ප දීලා මහා චතුර විදියට ශිෂ්‍යයා ශිල්ප දක්වනවා කියලා. නමුත් ඒ සියලුම ප්‍රණාමය, ස්තූතිය සැලසිය යුත්තේ ගුරුවරයාටමයි. මොකද ඔහුව පුහුණු කලේ ගුරුවරයා නිසා. දැන් ආකාසේ සරුංගලයක් යනකොට ආකාසේ දිහා මිනිස්සු ආසාවෙන් බලා ඉන්නවා සරුංගලේ දිහා. නමුත් ඒ සරුංගලේ සියලු පාලනය සහ ආරක්ෂාව තියෙන්නෙ අර නූල අල්ලගෙන ඉන්න කෙනා ළඟ. ඒ තමයි ගුරුවරයා. ඉතින් ඒ නිසා ගුරුවරයාගෙන් ගැලවිලා ගියාට පස්සෙ නූල කැඩුනු සරුංගලය වගේ කොහේ ගිහිල්ලා කොහේ නතරවෙයිද කියලා කවුද දන්නෙ. ඉතින් ඒ නිසා ගුත්තිල පඬිතුමා වීණා වාදනයට හත්වෙනි දවසේ එකතු වුනාට

පස්සෙ ගුත්තිලයි, මූසිලයි දෙන්නාම එක විදියට වීණා වාදනය කරනවා. සක්දෙවිඳු අහසේ ඉඳලා කිව්වා දැන් ගුත්තිල පඬිතුමනි වීණාවේ තත් සිඳින්න කිව්වා. ඉතින් එක තතක් කඩනකොට තව සද්දෙ වැඩියි. මූසිලත් කැඩුවා. මූසිලගේ වීණාවේ සද්දෙ අඩුවුනා. ඔය විදියට වීණාවේ තත් හතම කැඩුවා, කඩන්න කඩන්න දිව්‍ය නාදය එන්න ගත්තා. මූසිලගේ හඬ නැතිවෙලා ගියා. ඉතින් මිනිස්සු ගගහ පන්නලා මිනිස්සුන්ගෙ ගල්මුල් පහර කාලම මූසිල මැරුණා. ඉතින් ගුත්තිල පඬිතුමාගේ යශෝරාවය දසත පැතිරී ගියා. ඊටපස්සෙ පින්වත්නි, සක්දෙවිඳුගෙන් දිව්‍ය අප්සරාවො අහනවා සක්දෙවිඳුගේ ස්වාමීනී ඔබ කොහෙද ගියේ, කියනවා මේ වාගේ සිද්ධියක්. අනේ අපිටත් ඒ ගුත්තිල පඬිතුමා බලන්න ආසයි. එහෙනම් කියනවා අපි ගෙන්නගෙන එන්නම් කියලා මාතලී දිව්‍ය පුත්‍රයා සහිත රථය එව්වා ගුත්තිල පඬිතුමා දෙව්ලොව ගෙනියන්න. ගුත්තිල පඬිතුමා මේ ඕලාරික කයෙන්ම දෙව්ලොව ගිය කෙනෙක්. ඉතින් ඒ දිව්‍යලෝකෙ ගිහිල්ලා දිව්‍ය සභාවට ගියාට පස්සෙ දිව්‍ය අප්සරාවො වටවෙලා ගුත්තිල පඬිතුමාට කිව්වා වීණා වයන්න කියලා. ඊටපස්සෙ කිව්වා අපි වැටුපට තමයි වීණා වයන්නෙ. කිව්වා මට වැටුප් ඕන කිව්වා. මොනවද ඔබට ඕන වැටුප්. මට වෙන වැටුපක් ඕන නෑ, ඔය දිව්‍යාංගනාවො තම තමන් කරපු පින්කම් කියන්න කිව්වා. එතකොට ඒ දිව්‍යාංගනාවො තම තමන් කරපු පින්කම් කිව්වා. ආන්න ඒ දිව්‍යාංගනාවො ටික තමයි මුගලන් මහරහතන් වහන්සේටත් මුණ ගැහුනේ. ඉතින් මුගලන් මහරහතන් වහන්සේටත් අර පින්කම් ටික කිව්වා. කලින් ගුත්තිල පඬිතුමාටත් කිව්වා. ඒක තමයි බුදුරජාණන් වහන්සේ ළඟට මුගලන් මහරහතන් වහන්සේ ඇවිල්ලා අහනකොට කියන්නෙ මොග්ගල්ලාන මටත් ඔය දිව්‍යාංගනාවො කලින් කිව්වා කියලා. ඒකයි මේ මෙතන ගුත්තිල විමානවත්ථුව කියලා කියන්නෙ. එතකොට ඔන්න එක දිව්‍යාංගනාවක් තමන් කරපු පින් කියනවා. මේකෙ පින්කම් ගොඩාක් තියෙනවා. හොඳට කන්යොමා අහන්න. එක පින්කමක් තියෙනවා, පින්වත් දෙව්දුව ඔබ ඉතාමත් සුන්දර රූපයෙන් බැබලි බැබලි ඉන්නෙ, හරි ලස්සනයි, ආනුභාවසම්පන්නයි, මොකක්ද මනුස්ස ලෝකයේදී ඔබ මේ කරපු පින්කම. ඊටපස්සෙ කිව්වා උතුම් වස්ත්‍ර දන්දෙන ස්ත්‍රියක් ඉන්නවා. ඕ තමයි ස්ත්‍රී පුරුෂයන් අතර උතුම් වෙන්නෙ. ඔය විදියට ප්‍රිය දේවල් දන්දෙන කෙනා දෙව්ලොව උපදිනවා. සිත සතුටු කරන දිව්‍ය සැප විඳිනවා. ඒ මගේ දිව්‍ය විමානය දිහා බලන්න. මම අප්සරාවක්. කැමති කැමති රූපයක් මට මවාගන්න පුලුවන්. ඒ පිනේ විපාකයයි. දාහක් අප්සරාවන්ට උතුම් කෙනෙක්. ඒ පිනෙන් තමයි මටත් මෙවැනි ලස්සනක්

ලැබුනෙ. ඒ කියන්නෙ මෙයා හරි ලස්සනට ඉන්න කැමති කෙනෙක්. වස්ත්‍ර වලට කැමති කෙනෙක්. මෙයා අන් අයට වස්ත්‍ර දන් දීලා. වස්ත්‍ර දන්දීමේ පින තමයි දිව්‍ය ලෝකෙට ගියාට පස්සෙ දිව්‍ය අප්සරාවො දාහක් පිරිවරට ලැබෙනවා. කැමති කැමති රූප මවාගන්න පුලුවන්. මේ බලන්න කාශ්‍යප බුද්ධ ශාසනයේ මේ පින කරලා තියෙන්නෙ. අපේ බුද්ධ ශාසනයේ ඈ තවම දෙව්ලොව. ඊළඟට ඊළඟ දිව්‍යාංගනාවගෙන් ඇහුවා. ඒ දිව්‍යාංගනාව උතුම් මල් දන්දෙන ස්ත්‍රියක් ඉන්නවා. ඕ තමයි ස්ත්‍රී පුරුෂයන් අතර උතුම් වෙන්නෙ. දැන් ඒ කියන්නෙ දිව්‍ය විමානයේ. දිව්‍ය පුරුෂයොත් ඒ කියන්නෙ දේවතාවොත් ඉන්නවා දේවතාවියොත් ඉන්නවා. ඔක්කොම අර ප්‍රධාන දිව්‍යංගනාවට උපස්ථාන කරනවා. ඒකට හේතුව තමයි මැ කාශ්‍යප බුද්ධ ශාසනයේ මල් දන් දීලා තියෙනවා. මල් පූජා කිරීමේ විපාක. පින්වතුනි සෑම, අපේ සාරිපුත්ත මහරහතන් වහන්සේ විවරණ ගන්නකොට පුදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ කාලෙ මල් ආසනයක් තනලා එහි බුදුරජාණන් වහන්සේ වඩා හින්දවලා තමයි දන්දීලා ප්‍රාර්ථනාව ගන්නෙ. මුගලන් මහරහතන් වහන්සේත් නිල් මහනෙල් මල් මණ්ඩපයක් තනලා පූජා කරලා තමයි විවරණ ගන්නෙ. අපේ බුදුරජාණන් වහන්සේත් මඩේ දිගා වෙලා ඉඳලා දීපංකර පාද මූලයේ විවරණ ලබලා ඉස්සෙල්ලාම පූජා කරන්නෙත් මල්නෙ. ඒ නිසා මේ මල් පූජාව කියන එක සුලුපටු දෙයක් නෙවෙයි. එක මලක් පූජා කරලා කණ්ඩසුමන කියන මහරහතන් වහන්සේ කියනවා කල්ප තිස් එකකට කලින් මම එක මලක් පූජා කලා. ඒ මල පූජා කරපු පින් බලෙන් කල්ප තිස් එකක් සතර අපායට වැටුන්නෑ. මම දැන් මේ ගෞතම බුද්ධ ශාසනයේ ඉතිරි පිනෙන් තමයි රහත් වුනේ කියනවා. මලක් වුනත් පූජා කරනකොට පහන් සිතින් පූජා කරන්න පින්වත්නි. ඉතින් එක රහතන් වහන්සේ නමක් කියනවා, මම චෛත්‍ය පූජාවට ගිහිල්ලා තමන්ගේ ස්වාමියා අතින්, ඒ කියන්නෙ ප්‍රධානියා අතින්, මෙයා දාසයා, මල් කූඩෙ මෙයා අරන් යනකොට මලක් බිම වැටුනා. ස්වාමීනි මලක් බිම වැටුනා. එහෙනම් ඒක උඹ පූජා කරපන් කිව්වා. ආයෙ වාද විවාද මොකුත් නෑ අර කූඩෙ පැත්තකින් තියලා අර බිම වැටිච්ච මල පහන් සිතින් පූජා කලා. ඒ පිනෙන් අපේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වුනා. පුදුම සහගතයි. මල්පූජාව කියන එක සුලු දෙයක් කියලා හිතන්න එපා. මල් පූජාවට ගරහන්නත් එපා. එක එක්කෙනා එක එක විදියට මල් පූජා කරලා තියෙනවානෙ. දැන් බලන්න අපේ රුවන්වැලි මහාසෑය සම්පූර්ණයෙන්ම කල්ක අතුරලා සමන්මල් ගහලා තියෙනවානෙ මුලු රුවන්වැලි සෑයම මල් ඔටුන්නක් වගේ. එච්චර මල් පුෂ්ප පූජාවන් කරලා

තියෙනවානෙ. ඒ අය දැන් ඉන්නෙ දුගතියෙද. ඒ අය ඉන්නෙ සුගතියෙනෙ. අප්‍රමාණ සැප විඳිනවානෙ. ඒ අයනෙ බුද්ධ ශාසනේ පිහිට ලබන අය. මේ බලන්න කාශ්‍යප බුද්ධ ශාසනයේ මල්පූජා කරලා තියෙන්නෙ. අද දෙව්ලොව තාම සැප විඳිනවා. අපේ මිනිස්සු කොච්චර නම් මල් පූජා කරනවාද. එතකොට එහෙනමනම් ඇයි මිනිස්සුන්ගේ මේ දෝමනස්සය. කිසි සතුටක් නෑ, මලක් පූජා කරනකොටත් ඔහේ පූජා කරනවා. කඩේකට මලක් ගන්න ගියත් කේවල් කරනවා. ඕවා ගණන් වැඩියි පොඩ්ඩක් අඩු කරන්න අරකයි මේකයි කියලා. මලක් ගන්න ගියාට පස්සෙ කේවල් කරනවා ඕක ගණන් වැඩියි අරක වැඩියි මේක වැඩියි කියලා, සුපර්මාකට් එකට හරි ෆුඩ්සිටියකට හරි ගිහිල්ලා බඩු ගන්නකොට ඒවගේ කේවල් කිරිල්ලක් නෑ, මොකක්ද ඒකෙ බිලේ ගහලා තියෙන්නෙ ඒක දීලා එනවා. තමන්ගෙ සංසාර දුකින් නිදහස් වෙන්න මලක් පූජා කරන්න ගනිද්දි දාහක් දේවල් හිතනවා මුන්ගෙ මල් ගණන් වැඩියි කියලා. ඉතින් ඒ නිසා මේ කරුණු කාරණා තේරුම් ගන්න. අපි කරන කියන දේවල් වලින් අපේ පිනම තමයි බාල වෙලා යන්නෙ. ඉතින් ඒ නිසා තව එක රහතන් වහන්සේ නමක් ඉන්නවා ඒ රහතන් වහන්සේ කලින් ජීවිතේ කරලා තියෙන පින තමයි, මල් ආසනයක මල් අපිළිවෙලට තිබිලා, ලස්සනට මල් ටික පිළිවෙලට හදලා, සතුටු වෙලා ඒ පින් බලයෙන්. තව රහතන් වහන්සේ නමක් පරවෙවී යන මල්වලට පැන් ඉහලා. පරවෙන මල්වලට, ඒ කියන්නෙ වේලිලා යන මල්වලට පැන් ඉහීමේ ආනිසංස තමයි මාරක දුරු වෙනවා, දීර්ඝායුෂ ලැබෙනවා. සක්දෙවිඳු බුදුරජාණන් වහන්සේගෙන් දහම් අහ අහා ඉද්දින් එතනින් චුත වෙලා එතනම ඉපදුනා. කලින් සංසාරේ පරවී යන මල්වලට පැන් ඉහලා. අපේ ලංකාවෙ රජ කෙනෙක් හිටියා, ඒ රජ්ජුරුවන්ගේ ආයුෂ අවුරුදු අටයි තිබ්බෙ රජකමේ. අවුරුදු හතලිස් අටක් වුනා. කලින් ජීවිතේ මල් වලට පැන් ඉහලා. පින්වල විපාක. ඉතින් මේ දිව්‍යාංගනාවටත් දිව්‍ය අප්සරාවො දාහක් ඉන්නවා. සක්දෙවිඳුගේ බිරිඳක්. ඊටපස්සෙ කියනවා ඊළඟ පුණ්‍ය විපාකය තමයි මම උතුම් සුවඳ දන්දෙන ස්ත්‍රියක්. කාශ්‍යප බුද්ධ ශාසනයේ සුවඳ පූජා කරලා. ඊටපස්සේ සුවඳ පූජා කිරීමේ විපාක විදියට තමයි ගෞතම බුද්ධ ශාසනය දක්වාම දෙව්ලොව, අදටත් ඉන්නවා. සුවඳ පූජාව කියන එක පින්වතුනි සුලුපටු පිනක් කියලා හිතන්න එපා. සුවඳ පූජාවේ ආනිසංස තමයි සුවඳ කියන එක ඉක්මණට පැතිරිලා යනවානෙ. එයාගෙ හිතට ඉක්මණට ධර්මය කාවදිනවා. ඊළඟට මේ ලෝකෙ සුවඳ වර්ග දෙකක් තියෙනවා. එකක් තමයි දම් සුගන්දය, ධර්ම සුගන්දය, අනෙත් එක තමයි සීල සුගන්දය. සුවඳ පූජා කරපු කෙනාට සීල

සුගන්දයත් ලැබෙනවා, ධර්ම සුගන්දයත් ලැබෙනවා. සුවඳ පූජා කරපු දෙවි කෙනෙක්ගේ විස්තරයක් මං කියන්නම්. ඒ තමයි කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ එක්තරා මානවකයෙක් කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ චිතකය දැවෙනකොට ඒ චිතකයට සුවඳ කුඩු ඉහලා. සුවඳ කුඩු ඉහලා ඉතින් ඒ පින් බලයෙන් එයා දෙව්ලොව ඉපදිලා. දිව්‍යලෝකෙ ඉපදුනාට පස්සෙ එයාගෙ මුළු ශරීරයම සුවඳ විහිදෙනවා. ඒ දෙවියා යම්කිසි පැත්තකට යනකොට අනිත් දිව්‍යවිමානවල අය ඔක්කොම හැරිලා බලනවා කියනවා ඒ දිසාව, ඇයි සුවඳක් විහිදිලා යනවා. ඊටපස්සෙ එයා ගෞතම බුද්ධ ශාසනයේ, ඔය කාශ්‍යප බුද්ධ ශාසනයේ ඔය සිද්ධිය වුනේ. ගෞතම බුද්ධ ශාසනය වෙනකකොටත් දෙව්ලොව. ගෞතම බුදුරජාණන් වහන්සේ පළවෙනි ධර්ම චක්‍රය දේශනා කරනකොට ධර්ම සුගන්දය අකනිටා බ්‍රහ්ම ලෝකය දක්වා පැතිරිලා ගියා. සුවඳ පූජා කරපු පින් බලයටම ධම්මචක්කය අහලා සෝතාපන්න වුනා. එදා ඉඳලා යම්කිසි රහතන් වහනසේ නමක් පිරිනිවන් පායිද, ඒ සියලුම රහතන් වහන්සේගේ චිතකවලට ඒ දෙවියා සුවඳ කුඩු ඉහලා තියෙනවා. ඊළඟට තමයි එයාට සුවඳ භාජනයක් අතට අරගෙන මුළු පෘථිවියටම ඕනම දිව්‍ය විමානයකට මුළු පෘථිවියටම සුවඳ ඉහින්න පුලුවන් අර භාජනයේ සුවඳ කුඩු ඉවරවෙන්නෑ. සුවඳ පූජාවේ ආනිසංස. ඒ නිසා සුවඳ පූජාව කියන එක සුලු දෙයක් නම් නෙවෙයි. ඉතින් මේ බලන්න කාශ්‍යප බුද්ධ ශාසනයේ සුවඳ පූජා කරලා තියෙන්නෙ. අදටත් දෙව්ලොව. හැබැයි සුවඳ කියන්නෙ මේ නහයවල් කඩාගෙන යන ගන්දස්සාර දේවල් නෙවෙයි. සමහර මිනිස්සුන්ට මේ සුවඳ පූජාවල් කියලා තියනවා මේ නහයක් නම් තියාගෙන ඉන්න බෑ ඒ සුවඳට. එහෙම නෙවෙයි අනිත් අයට අපහසුවක් නැති මිහිරි සුගන්ධයක් වෙන්න ඕන. දෙන විදියට ලැබෙනවා. ඊටපස්සෙ තියෙනවා තව එක දෙව්දුවක් කරලා තියෙන පින තමයි එලවැල පූජා කරලා. ඔන්න පළතුරු පූජා කිරීමේ ආනිසංස, මේ බලන්න එලවැල පූජා කරලා දෙව්ලොව ඉපදිලා කාශ්‍යප බුද්ධ ශාසනයේ කලේ පින, අදටත් දෙව්ලොව. බැන බැන ඉන්න අය ඒ ලෝකෙට යයි. ඒ වගේම උතුම් රස දන්දෙන, රසවත් දේවල්, ප්‍රණීත දේවල්, කැවිලි පෙවිලි වගේ, ඒ වාගේ දේවල් දීලාත් දෙව්ලොව ඉපදිලා තියෙනවා. එතකොට තව ලස්සන පිනක් කරලා තියෙනවා, ගන්ධ පංචංගුලිකං අහමදාසිං, ගන්ධ පංචංගුලිකං කියලා කියන්නෙ සුවඳ වර්ග පහක් අරගෙන ඇවිල්ලා ඒ ඇඟිලි පහේ සුවඳ වර්ග පහ ගානවා. සුවඳ පසඟුල් දෙනවා කියලා ඕකට කියන්නෙ. ඒක අද කාලෙ ඒ වගේ පිනක් කරපු කෙනෙක් අපි දැකලත්

නෑ, නමුත් අපි පොතෙන් පතෙන් අහලා තියෙනවා. සුවඳ වර්ග පහක කල්ක අරගෙන ඇඟිලි පහේ ගානවා. ඒ ඇඟිලි පහේ ගාලා ඒ ඇඟිලි පහ ඒ ස්තූපයේ හරි ලස්සනට පාදමේ මෙහෙම තියාගෙන තියාගෙන යනවා. සුවඳ වර්ග පහක් තමයි ගාන්නෙ. ඉස්සර මම දැක්කා රහතන් වහන්සේලා කරපු පින්කම් වලදි, එක රහතන් වහන්සේ නමක් අර්හත්වයට පත්වෙලා තියෙන්නෙ කලින් ජීවිතේ ඇඟිලි පහේ සුවඳ වර්ග පහක් ගාලා බුදුරජාණන් වහන්සේගේ සිරිපතුල් දෙක මෙහෙම අල්ලලා. කලින් බුද්ධ ශාසනේක. ඒ පින් බලයට සුවඳ පසඟුල් දීමේ පින් බලයට දෙව්ලොව ඉපදිලා. ඊළඟට අර්හත්වයටත් පත්වුනා. මේ දිව්‍යාංගනාවත් කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ චෛත්‍යයට සුවඳ පසඟුල් දුන්නා. ඇඟිලි පහේ සුවඳ කල්ක වර්ග පහක් ගාලා ඒ ඇඟිලි පහ මෙහෙම තියනවා. ඉතින් අද කාලෙ ඒක කොහොම කරනවද කියලා අපිට එහෙම තේරෙන්නෙ නෑ, නමුත් දන්න දේ ඔය කිව්වෙ. එතකොට එහෙමත් දිව්‍යලෝකෙ ඉපදිලා තියෙනවා. ඊළඟට තියෙනවා මාවතේ වඩින භික්ෂූන් ද, භික්ෂුණීන්ද මට දැකගන්න ලැබුනා. මම උන්වහන්සේලාගෙන් ධර්මය අසාගත්තා. එක දවසක් උපෝසථ සිල් ආරක්ෂා කලා. එක දවසක් අටසිල් අරන්. ඒක තමයි පින්වතුනි එක දවසක් නම් සිල් සමාදන් වෙන්න පුලුවන්නෙ, ඒ එක දවස හරි සන්තෝසෙන් කරන්න. එක දවසක් හරියට සිල් රැකලා. ඊටපස්සෙ මේ ඔක්කොම කාශ්‍යප බුද්ධ ශාසනයේ පින් කරපු අය අදටත් ඉන්නවා. ඊටපස්සෙ කියනවා මං හිටියේ වතුරේ. උදකේ ඨිතා උදකම දාසි, ස්වාමීන් වහන්සේ නමකට පහන් සිතින් පැන් ටිකක් පූජා කරගත්තා. මේ මගේ විමානෙ. මෙයා වතුරේ ඔිලු නෙළුම් හරි නෙලමින් ඉදලා ස්වාමීන් වහන්සේ නමක් ඉවුරේ යනවා දැකලා ඉක්මණට ගිහිල්ලා අර වතුරින්ම පැන් පාත්‍රයක් පූජා කරනවා. ඒ පින් බලේට දෙව්ලොව ඉපදිලා අදටත් දෙව්ලොව. ඊළඟට ඔන්න තව ලස්සන පිනක්. මගේ නැන්දාත් මාමණ්ඩියත් චණ්ඩයි. ක්‍රෝධ කරනවා. පරුෂයි. නමුත් මං දොස් කිව්වෙ නෑ, අප්‍රමාදව සිල් ආරක්ෂා කලා. උන්දලාට හොඳීන් උපස්ථාන කලා. ඔන්න යේලියෙක් දිව්‍යලෝකෙ ඉපදිලා. ඒ කියන්නෙ නැන්දම්මටයි මාමටයි කොච්චර උපස්ථාන කරපං ම්හ්, එක හොද වචනයක් නෑ. එක හොදක් නෑ, හරී සැරයි. කිසී හොදක් කියන්නෑ, එහෙම කරලත් තරහ ගන්නැතිව දාසියක් වගේ යේලි ඉඳලා. එක වචනයක් කියන්නැතිව. පෝය දවසට සිල් අරන්, පන්සිල් පද පහ කඩලා නෑ, කාශ්‍යප බුද්ධ ශාසනයේ, අදටත් දෙව්ලොව. ඔන්න නැන්දලා මාමලා චණ්ඩ පරුෂ නපුරු ගෙවල්වල යේලියන්ට නැන්දලා මාමලා නිසාම දිව්‍යලෝකෙ යන්න පුලුවන් ක්‍රමයක්. ඉවසලා ඉන්න එක. ඊටපස්සෙ අනිත් එක්කෙනා බලමු.

මම අනුන්ට බැලමෙහෙවරකම් කලා. කීයක් හරි හොයාගන්න කම්මැලි නැතිව මහන්සි වුනා. මං දාසියක්. මං ක්‍රෝධ කලේ නෑ, මාන්නයක් ඇති කරගත්තෙ නෑ, මට ලැබුනු දේකින් බෙදා හදාගෙන සතුටු වුනා. ඔන්න දාසියක් වෙලා දෙව්ලොව යන ක්‍රමය. අවංකවම තමන් ගන්න වැටුපට වැඩ කරනවා. ඊළඟට තමයි ක්‍රෝධ කලේ නෑ, මාන්න කලේ නෑ, තමන්ගේ වැඩේ හරියට කරලා, ලැබිච්ච දෙයක් තිබුනොත් අන් අයත් එක්ක බෙදා හදාගෙන, හංඟගන්නැතිව, හොරකම් කරන්නැතිව දාසකම හරියට කලා. සේවා වත්පිළිවෙත් කිරීමේ විපාක තියෙනවා කියන එක සම්මාදිට්ඨියට අයිතිනෙ. හරියට සේවය කිරීමේ, අවංකව සේවය කිරීමේ විපාක තියෙනවා කියලා පිළිගන්න එක සම්මාදිට්ඨියට අයිතියි. මේ බලන්න ඒකෙ විපාකනෙ මේ. කාශ්‍යප බුද්ධ ශාසනයේ දෙව්ලොව ගියෙ, අදටත් දෙව්ලොව ඉන්නවා. ඊළඟට තියෙනවා ස්වාමීන් වහන්සේ නමක් මම දැකලා, පිඬුසිඟා වඩින මම උන්වහන්සේට කිරිබතක් පූජා කලා. කිරිබත් පූජා කිරීම, පින්වතුනි කිරිබත් පූජා කිරීම, දැන් මේ දෙව්ලොව ඉපදිලා. කිරිබත් පූජා කිරීමේ ආනිසංස තමයි මහා ශක්ති සම්පන්න බව ලැබෙනවා. දස මහා යෝධයෝම සංසාරෙ කරලා තියෙන පින තමයි කිරිබත් පූජා කරපු එක. කිරිබත් කියන්නෙ සුලුපටු දෙයක් නෙවෙයි. ලොව්තුරා සම්මා සම්බුදු රජාණන් වහන්සේ පාරමී ධර්මයන් පුරලා යම් දවසක සම්බුදු වෙනවද එදාට බුදුරජාණන් වහන්සේ වළඳන්නෙ කිරිබතක්. සම්බුදු වෙන දවසේ. එච්චර ඒ කිරිබත් දානෙ ආනිසංස තියෙනවා. ඇඟේ හයිහත්තිය තියෙනවා. නිකන් ඔය සමහර අද කාලෙ ඉන්නවා මේ සමහර ළමයිනුත් ඉන්නවා කේඩෑරි වෙලා නිකන් බඩවැල් වගේ. කිසි හයියක් නෑ නිකං හුළඟට පිම්බොත් වැටෙනවා වගේ ඉන්නෙ. පුලුවන් තරම් කිරිබත් පූජා කරන්න. කිරි ආහාර වර්ග, ප්‍රණීත ආහාර වර්ග, රසට පූජා කරන්න. දන්දෙන්න. මහසෑයට, මහබෝධියට පූජාවල් කරන්න. ඒ පින් බලයෙන් වත් ඊළඟ ජීවිතේ වත් සවිසක්තියක් එයි. ඉතින් ඒ නිසා මේ ජීවිතෙත් එනවා. දැන් සමහර අය අපි ළඟට ඇවිල්ලා කියනවා ස්වාමීනී, කන්න බෑ. බොන්න බෑ, ඇඟට පණ නෑ මේකයි කියලා. ඉතින් අපි ගොඩාක් යොමු කරනවා දවස් හතක් විසි එකක් එක දිගට රුවන්වැලිසෑයට කිරි ආහාර පූජා කරන්න, කිරිබත් පූජා කරන්න. සමහර අයට එහෙම ටික ටික ටික ටික අර කර්ම දෝෂය ගෙවිලා ආයෙ හරියනවා. ඒ නිසා කිරිබත් පූජාව කියන්නෙ සුලුපටු දෙයක් නෙවෙයි. දසමහා යෝධයන්ටම එච්චර කායික ශක්තියක් ලැබිලා තියෙන්නෙ සංසාරේ කිරිබත් පූජාකරපු පින් බලයට. ඊළඟට තමයි දැන් අද කාලෙ සාමාන්‍යයෙන් කිරිබත් කෑවොත් ඇඟට පණ නෑ වගේ කියලා එකක්

තියෙනවානෙ. ඒ තමයි ඒ කිරිබතේ තියෙන ඕජාව ශක්තිය ඇඟට උරාගන්න හයිය මදි. හැබැයි පින්වතුනි මේක කරලා බලන්න, එක දිගට සතියක් විතර එක දිගට කිරිබත් උදේට කන්න බලන්න, ඒ අර ඇඟට පණ නැති එක නැතිවෙනවා. ඔය කලාතුරකින් කනකොට තමයි ඇඟට පණ නැතිව නිදිමත ගතිය එන්නෙ කිරිබත් කනකොට. එකදිගට කිරිබත් කෑවොත් එහෙම අර නිදිමත, දවල් කාලයේ උදේ කාලයේ නින්ද යන එකත් නැතිවෙනවා. හොඳට ශක්තිය ඇවිල්ලා හෙඳට ක්‍රියාකාරී ශරීරයක් හැදෙනවා. නිතර උදේට කිරිබත් කන්න පුලුවන්නම් හරී යහපතක් පින්වතුනි. ගොඩාක් ලෙඩ අඩුවෙනවා. කිරිබත් කන එකෙන් ගොඩාක් ලෙඩ අඩුවෙනවා. පිළිකා රෝගීන්ට, බඩේ අජීර්ණයට, බඩේ විස තියෙන අයට, හදි හූනියම් කැවිච්ච අයට ඔය ගොඩාක් අයට කිරිබත් කන එක පුදුම විදියට උපකාරයි. නිතර නිතර කිරිබත් කන්න පුලුවන්නම්. මුල් දවසෙ දෙකේ ඇඟට පණ නැති පොඩි අමාරුවක් එනවා. ඊටපස්සෙ දිගටම හරියනවා. අර ඕතෑනි ගතිය නිදිමත ගතිය ඒවත් නැතිවෙලා යනවා. ඒ නිසා මං ඒ කාරණා කිව්වෙ ඔයාලට තේරුම් ගන්න. කිරිබත් පූජා කරලත් දෙව්ලොව ඉපදිලා තියෙනවා. ඊළඟට තියෙනවා පින්වතුනි මං උක්හකුරු ටිකක් පූජා කරගත්තා. ඔන්න එක්කෙනෙක් කරලා තියෙන පූජාව, උක්හකුරු. ඒ පිනෙන් දෙව්ලොව. ඊටපස්සෙ, හැබැයි මේ ඔක්කෝම පින්කම් ටික කරලා තියෙන්නෙ ස්ත්‍රී කට්ටිය. කාන්තාවො. ඇලාමයි මේ දෙව්ලොව පිරිලා ඉන්නේ. ඊටපස්සෙ තියෙනවා උජ්ජුදණ්ඩකං, උක් දණ්ඩක්, උක් ගස් පූජා කරලා, ඉතින් ඒ නිසා අපිත් උක්පැන් පූජා කරගෙන තියෙනවා, ඒ තමයි ඉන්දියාවෙ තියෙනවා උක් මැෂින් තියෙනවා. දවසක් අපි ඔය ඉන්දියාවෙ ඉන්න කාලෙ මම කරපු පින්කමක්. වජිරාසනය වඳින්න යනකොට මම පාත්තරක් හොඳට හෝදලා අරන් ගිහිල්ලා ඒ උක්පැන් මිරිකන තැනකට, ඒ වජිරාසනය ළඟම තියෙනවා. ඒ අයට කිව්වා මැෂිම පොඩ්ඩක් හොඳට හෝදලා බුදුරජාණන් වහන්සේට දෙන්න පූජාවක් දෙන්න ගෙනියන්න කියලා. එයා මැෂිම හෝදලා හොඳට අලුත් උක්ගස් දාලා වතුර මිශ්‍ර කරන්නැතිව පාත්තරයක් උක්පැණි හදලා දුන්නා. මං දවස් හතක් එක දිගට එහෙම පූජා කරලා තියෙනවා. මං අනිත් අයටත් කිව්වා ඔයාලත් එහෙම පූජා කරන්න කියලා. ඒ වාගේම සමහර වන්දනාවෙ ගිය අය නඩයේ සමහර අය හිටියොත් මං ඒ අයටත් දන් දීලා තියෙනවා. හැබැයි මං ඒ විදියෙ පින් මං කරගත්තෙ මෙන්න මේවා කියවලා. මං මේවා කියවලා තමයි ඒක කරගත්තෙ. මං මේවා කියවලා තිබ්බෙ නැත්නම් මට ඒ සංඥාව එන්නෑ හිතට. දැන් මේවා ඉගෙන ගැනිමේ තියෙන වාසනාව තමයි

ඔයාලට යම් දවසක ඒ පින කරගන්න අවස්ථාවක් ලැබුනොත් කරන්න පුලුවන්නෙ. මේ පින්කම් ගැන කියන මේ ධර්ම දේශනා මාලාව ඔබගේ ජීවිතයට පුදුම භාග්‍යයක් කියලා හිතන්න. මේක පුදුම වාසනාවක් පින්වතුනි මේ කුසල් අකුසල් ගැන තේරුම් ගන්න එක. ඊටපස්සෙ එක්කෙනෙක් සියඹලා පූජා කරලා. ඊටපස්සෙ එක්කෙනෙක් සීනි කැකිරි පූජා කරලා. කාශ්‍යප බුද්ධ ශාසනේ අද දක්වාම ඒ පින් බලයෙන් දෙව්ලොව ඉන්නවා. රහතන් වහන්සේලාට පූජා කරගෙන තියෙන්නෙ. ඊටපස්සෙ තියෙනවා මම මහකැකිරි පූජා කලා. මං එලවැල පූජා කලා. තව එක දෙව්දුවක් කියනවා මං බොරළුදම් පූජා කලා. එක දෙව්දුවක් කියනවා මම ගිනිකබලක් පූජා කරගත්තා කියනවා. ස්වාමීන් වහන්සේලාට සීතල කාලෙ ඒ අසනීප ස්වාමීන් වහන්සේලාට ගිනි රස්නෙ ලබාගැනීම පිණිස ගිනි කබලක් පූජා කරලා. දැන් සාමාන්‍යයෙන් ගිනි කබල් පූජා කිරීම කියන එකේ පින සුළුපටු දෙයක් නෙවෙයි ඒක තේජස පිණිස පවතිනවා. ඒ වාගේ ගිනි කබල් පූජා කරපු කෙනෙකුට තවත් කෙනෙකුට එයාව යටත් කරගන්න බෑ, දැන් උදාහරණයක් ගන්නකො කල්පයක් පවතින තේජස තියෙන අපේ අංගුලිමාල මහරහතන් වහන්සේ සංසාරේ කරලා තියෙන්නෙ ගිනි කබල් පූජා කරපු එකක්නෙ. පසේ බුදුරජාණන් වහන්සේ නමක් සීතලේ ඉන්නකොට ගිනි කබලක් අල්ලලා ළඟ තියලා ස්වාමීනී ඇඟ වේලගන්න කියලා. ඒ පින් බලයට තමයි උන්වහන්සේට මහත් තේජස. ඊළඟට අංගුලිමාල මහරහතන් වහන්සේට ඇත්තු හත්දෙනෙක්ගේ බලය තියෙනවා කියනවා. හේතුව කාශ්‍යප බුදුරජාණන් වහන්සේට කිරිබත් පූජා කරලා තියෙනවා. අංගුලිමාල මහරහතන් වහන්සේගේ ජීවිතේ කරපු පින් අතර බලවත්ම පින තමයි කියනවා කාශ්‍යප බුදුරජාණන් වහන්සේට කිරිබත් පූජා කරපු එක. ඊටපස්සෙ ඒකෙන් තමයි ලොකු හයියක් එන්නෙ. තේජස ඇවිල්ලා තියෙන්නෙ අර ගින්දර පූජා කරපු එකෙන්. ඊළඟට බෙහෙත් පූජා කරපු එකෙන් තමයි අර ඔහුව යටපත් කරගන්න බැරි. ඉතින් ඒ වගේ ඊළඟට තමයි තව තව ගොඩාක් දේවල් පූජා කරලා තියෙනවා අංගුලිමාල මහරහතන් වහන්සේ සංසාරයේ. දර පලන, පසේ බුදුරජාණන් වහන්සේලාගේ වෙහෙරෙ දර පලද්දින් පොරොවක් පූජා කලා දර පලන්න. ඒ වාගේ පින්කම්, ඊළඟට සීතල කාලෙ කබා පූජා කලා, බ්ලැන්කට් වගේ ඒවා, ඒවා පූජා කරලා තියෙනවා. ඒවගේ බලෙන් තමයි අංගුලිමාල මහරහතන් වහන්සේගේ තේජස ආනුභාවය ඒ නම කියනකොටත් යක්කු වෙව්ලලා යනවා. අමනුෂ්‍යයෝ මිනිස්සු අතහැරලා දුවනවා. ඒ පිරිත් ඇහිච්ච ගමන් අමනුෂ්‍යයො සලිත වෙලා යනවා. හේතුව බලන්න උන්වහන්සේ

සංසාරේ කරපු පිනත් සත්‍යානුභාවයත්, සත්‍යක්‍රියාවත් ඔක්කොම එකතු වෙච්ච තැන. ඊටපස්සෙ තියෙනවා ගිනිඅඟුරු කබල් පූජා කරපු අය. ඊළඟට තව දැන් ඒ වගේ අවස්ථා යෙදෙනවා. මේවා අහලා තියෙන නිසා, ඔන්න දැන් මට මතකයි අපි මිහින්තලාවෙ, මිහින්තලාවෙ ස්වාමීන් වහන්සේලා තෙමුනනෙ, තෙමිලා අසනීප ස්වාමීන් වහන්සේට පින්කම ඉවරවෙලා ඒ සිවුරු ටිකක් මිරිකගන්න එහා පැත්තට ගියා. ඒ අතරෙ මේ පින්කම් අහලා තිබුනු එක පුතෙක් ඉක්මණට, පුතාලා කිහිප දෙනෙක් ගිනි අඟුරු කබල් හදලා ඉක්මණට ස්වාමීන් වහන්සේ ළඟට දුන්නා, ස්වාමීන් වහන්සේ මේ සිවුරු ටික වේලගන්න කියලා. දැන් බලන්න මේ ළමයිට මේවා අහලා තිබ්බ නිසා නේද ඒ අහඹු පින ඒ වගේ පින් ප්ලෑන් කරලා ඒ වගේ පින් ගන්න බෑ. ආයෙ මුළු ජීවිත කාලෙටම එන්නෑ ඔය වගේ අවස්ථාවක්. මේ පින්කම් පොත්වල ලියාගන්න. මේ පින්කම් ලියාගන්න පොත්පත්වල. දැන් බලන්න එයාලට ඊටපස්සෙ මිහිඳු මහරහතන් වහන්සේ ගැන රෑ එළිවෙනකල් අහලා, ඒ පිනත් කරලා උතුම් ප්‍රාර්ථනාවක් සිද්ධ කරගත්තොත් ඉෂ්ට නොවී තියෙන්නේ කෙසේද. පින්වල ආනුභාවය. ඊටපස්සෙ තියෙනවා මම වැල්පල, ඒ කියන්නෙ වැල් වල හැදෙන ෆැෂන් වගේ, ඒ වගේ ගෙඩි පූජා කරලා තියෙනවා. ඊළඟට බොරළුදැමුණු ගිනි කබලක්, පලාකොල මිටක්, බෙහෙතකට පලා කොළ පූජා කරලා. ඊටපස්සෙ මල් මිටක්, දැන් බලන්න ඖෂධ පූජා කරන අයට කොච්චර පින් රැස් වෙනවද කියලා. සංඝයාට තෙරුන් වහන්සේලාට බෙහෙතක් ඕන වුනාම කියනවා උපාසක මහත්තයා අහවල් බෙහෙත, බෙහෙත් කොළ වර්ග හොයාගන්න පුලුවන්ද. පුලුවන් ස්වාමීනී, හොයලා ගෙනත් දෙනවා. පුදුම පිනක් ඒක. ඊටපස්සෙ මල් මිටක් පූජා කරලා, ඔන්න එක්කෙනෙක් මල් මිටක්. ඊටපස්සෙ තව මූල පලා මිටක්, මූලකංඅහමදාසි, මූලපලා මිටක්. ඊළඟට කොහොඹ කොළ මිටක්, බෙහෙතකට කොහොඹ කොළ ටිකක් දීලා එක දිව්‍යාංගනාවක්. අනිත් එක්කෙනා තමයි අම්බකංචිකංඅහමදාසි, ඇඹුල් කැඳ ටිකක් පූජා කරලා. ඇඹුල් කැඳ කියන්නෙ, ලුණු ඇඹුල් කැඳ වගේ. කැඳ ටිකක් පූජා කරලා. කැඳ පූජාවේ ආනිසංස තියෙනවා පින්වත්නි. ආයු වර්ණ සැප බල පටිභාණ, හොඳට කල්පනා ශක්තිය ඇතිවෙනවා කැඳ පූජා කරපු පින් බලේට. මොකද ඒක කැඳ වලින් ලැබෙන එකක්. ඊළඟට කැඳ බිව්වට පස්සෙ බඩගින්න පිපාසය සංසිදෙනවා. ඊළඟට බඩ හොඳට ශුද්ධ වෙනවා. ඊළඟට පිතයි සෙමයි නිසා ආහාරයේ ඕජාව නැසෙන එක නැතිවෙලා යනවා. ඊළඟට ඇස් පෙනීම හොඳට ඇතිවෙනවා. ඇස් පෙනීම නෙවෙයි ආහාර හොඳට දිරවනවා. එතකොට ඔය ආනිසංස ටික

ලැබෙනවා කැඳ පූජාවෙන්. එතකොට කැඳ පූජා කරන කෙනාටත් එනවා. සාමාන්‍යයෙන් පින්වතුනි දැන් අපි කියමු කරපිංචා කොළ කැඳක් වගේ ගත්තොත් එහෙම ඒක හොඳ ඖෂධ පූජාවක්. යම්කිසි බඩේ විෂ තියෙන, ආහාර රුචිය නැති, ඊළඟට ඇඟ ගොඩාක් කෙට්ටු වෙන ඔය වගේ ඊළඟට නොයෙක් අමනුස්ස ප්‍රශ්න තියෙන වස විස කැවුනු අයට හොඳට කරපිංචා කොළ කැඳ එකක් එක දිගට මාස තුනක් විතර බොන්න ඇත්නම් නිකම්ම ඇඟේ තියෙන විස බැහැලා යනවා. ඒක පුදුම ඖෂධයක් කරපිංචා කොළ කැඳ කියන එක. වෙන මොකවත් මිශ්‍ර කරන්නෑ කරපිංචා තමයි දාන්නෙ අර කැඳට. ඉතින් ඒ නිසා ඒක කැඳ දානයක් වගේම විෂ නසන ඖෂධ දානයක් බවට පත්වෙනවා. ඒ වාගේ දෙයක් පූජා කලාට පස්සෙ විපාක සුලුපටු නෑ. ඉතින් මං ඔය කරුණු කාරණා කිව්වෙ ගෙවල්වලත් ඔය ප්‍රශ්න වලින් දුක් විඳින අය ඇති. ඔන්න ඔය පින්කමුත් කරගන්න. තමනුත් ඔය කොළ කැඳ ටිකක් ගෙවල්වල මිනිස්සු ඉන්න අතරෙ කරපිංචා ගසුත් තියෙනවානේ, කැඳ ටිකක් හදලා බොන්න. තමන්ටත් ආනිසංස තියෙනවා, දන්දීමෙත් ආනිසංස තියෙනවා. ඊටපස්සෙ ඔන්න එක්කෙනෙක් කැඳ පූජා කරලා. ඊටපස්සෙ තව එක්කෙනෙක් තලමුළු අටක් පූජා කරලා. ඒ කියන්නෙ මේ තලගුලි. ඊළඟට ඉණ පටියක් පූජා කරලා. සාමාන්‍යයෙන් ඉණ පටියක් පූජා කිරීමේ ආනිසංස තමයි ඉණ පටියෙන් කරන්නේ සිවුර ඇඳලා ඒ සිවුර ගැට ගහන එකනෙ. එතකොට මෙයාට සංසාරයේ හිත විසිරෙන්නෑ, එකට තියෙනවා කුසල් අරමුණේ. ඊළඟට තමයි මෙයාගෙ හිතේ ඇතිවෙන කුසල් විසිරෙන්නැතිව එකට පිහිටනවා. කුසල් දහම් එකට මිටියක් වගේ පිහිටන්න උපකාරී වෙන පිනක් තමයි ඉණපටි පූජාව. ඊටපස්සෙ තියෙනවා අංසක දෙයක් පූජා කරලා. ඊටපස්සෙ තව එක්කෙනෙක් තියෙනවා අයෝග පටියක් පූජා කරලා. ඒක මොකක්ද කියලා මට විස්තර කරන්න තේරෙන්නෑ. ඊළඟට තියෙනවා විජිනිපතක් පූජා කරලා. ඒ වටාපතක් පූජා කරලා ඒ පින් බලෙන් දෙව්ලොව. ඊළඟට තල්වටක්, තලකොළ වලින් වටාපතක් පූජා කරලා. මෝරහත්තකං, මොණර පිල් වලින් වටාපතක් පූජා කරලා ඒ පින් බලයෙන්. සාමාන්‍යයෙන් වටාපතක් පූජා කිරීමේ ආනිසංස තමයි වටාපතකින් කරන්නෙ දාහය සංසිඳවන එක. මහන්සිය ගිමන් සංසිඳවන එක. එතකොට ඒකෙ විපාක විදියට ඔහුටත් සසරෙ ශරීරයේ දැවිලි ගතියක් එන්නෑ. රාග ගින්න, ද්වේෂ ගින්න, මෝහ ගින්න නිවාගන්න ඒ පින උපකාරී වෙනවා. මේ වටාපත් පූජා කිරීමේ ආනිසංස. මේවා අහලා තිබීමේ වටිනාකම කියන්නෙ මම දවසක් එක ආරණ්‍යයක ඉද්දි මගේ කුටිය ළඟ මොණරෙක් එක දවසෙ

සම්පූර්ණම පිල් කළඹ හලලා ගිහිල්ලා. මම දන්නෑ ඇයි ඒ කියලා. ඊටපස්සෙ දැන් මේ ටික එකතු කරලා තියාගත්තා, ලස්සනේ බෑ. ඊටපස්සෙ දැන් මම පොත් කියවනවා. පොත් කියවනකොට දැක්කා මොණර පිල් වලින් කරපු වටාපත්, කියලා වචනයක් අහලා. ඊටපස්සෙ මම ආයෙ දෙවිවරුන්ගේ දිව්‍ය ජීවිත ගැන කියවනකොට දැක්කා ඒ දෙවිවරුන්ට පවන් සලන්නෙ මොණර වටාපතින්, මොණර පිලින් කරපු වටාපතින් එන සීතල සුළඟ, සුමුදු සුළඟ ඒ දෙවිවරුන්ට වදින්නෙ කියලා. අන්න ඒකයි මේවා කියවපු නිසා මම හිමීට මට තියෙන දානෙ වළඳලා බත්මතේ ඉන්න වෙලාවට පොඩ්ඩක් එළියෙ සක්මන් කරලා මම හිමීට වටාපතක් හැදුවා. හදලා මහාසෑයට පූජා කරගත්තා. එතකොට ජීවිතේට එක පාරක් හරි කරගත්තා. එතකොට ඒ පින මම කලා. කලේ මොකක්ද මේක කියවලා තිබ්බ නිසා. හැබැයි ඒ පින් කරනවා කියලා මම දැන් මොණරු හොයාගෙන ගිහිල්ලා මොණරුන්ගේ වළිගෙ එල්ලෙන්නෙ නෑ. ලැබිච්ච වෙලාවෙ කලා. ආයෙ කරන්නෑ. ඒ අවස්ථාවක් ලැබිච්ච වෙලාවක කරනවා. නැත්නම් මේ පින් අහලා මොණරෙකුට ඉන්න දෙන්නැතිවෙයි දැන් මිනිස්සු. එහෙම නෙවෙයි මේ වාගේ පිනුත් තියෙනවා කියලා කල්පනා කරන්න. ඒ වගේම තව කෙනෙක් ඒ පින කරනවා දැක්කොත් සාදු කියලා අනුමෝදන් වෙන්න. ඒ පිණිස තමයි මේවා කිව්වෙ පින්වත්නි. ඊළඟට තියෙනවා ඡත්තාමදාසි කියලා, මං කුඩයක් පූජා කරගත්තා. ඔන්න කුඩ පූජාවේ ආනිසංස. ඊළඟට තියෙනවා උපාහනං, මම සෙරෙප්පු ජෝඩුවක් පූජා කලා. සෙරෙප්පු පූජාව යානවාහන පූජාවට අයිති. යමකින් පහසුවෙන් යා හැකි නම් ඒක යානාවයි. සාමාන්‍යයෙන් සෙරෙප්පු, කුඩ, පාළම්, ඒදඬු, හැරමිටි ඒ ඔක්කොම මංමාවත්, සක්මන් ඒ ඔක්කොම අයිති යානවාහන පූජාවලට. ඒකෙන් ගොඩාක් සංසාරේ සැප ලැබෙනවා. ඊළඟට තමයි දැන් අපි ගත්තොත් එහෙම පාවහන් පූජාව එක රහතන් වහන්සේ නමක් කියනවා කලින් ජීවිතේ මම කරගත්තු පින මේකයි කියනවා. ඒ තමයි ඒ ස්වාමීන් වහන්සේ කලින් ජීවිතේ ඉඳලා තියෙනවා එක උපාසකයෙක් වෙලා, එයාගෙ පුතා පසේබුදු වෙලා. ඊටපස්සෙ තමන්ගෙ පුතා හොයාගෙන යනකොට ඒ පසේබුදුරජාණන් වහන්සේ පාරෙ අව්වෙ වඩිනවා. වඩිනකොට ඉක්මණට අර උපාසක මහත්මයා තමන්ගෙ පාවහන් දෙක ගලවලා අර ස්වාමීන් වහන්සේ ඉස්සරහ තියලා පූජා කලා. පූජා කරනකොටම හිතුවා එම්බා පාවහන් සඟල නුඹද මාව දුකෙන් නිදහස් කරත්වා. එම්බා පාවහන් සඟල නුඹ මාව නිවනට රැගෙන යත්වා. ඒ රහතන් වහන්සේ කියනවා පුදුමයි කියනවා ඒ පින් බලයෙන් මම සුගතියේ

ඉපදුනා. දැන් මේ ජීවිතයේ මං නිවන් දැක්කෙ ඒ පිනට කියනවා. පුදුම සහගත පිනක්. කකුල් පැලෙන ඒවා, පයේ තියෙන වේදනා, දණහිස් වල වේදනා, ඇව්දගන්න බැරි ප්‍රශ්න, ඒ කර්ම යට යනවා කියනවා පාවහන් පූජාවෙන්. ඊටපස්සෙ තියෙනවා ඡත්‍රපූජාව, කුඩ. දැන් බලන්න අපේ ආනන්ද ස්වාමීන් වහන්සේ ඉස්සෙල්ලාම කරපු පින තමයි පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ කාලේ බුදුරජාණන් වහන්සේ දැක්ක ගමන්ම රත්තරන් කුඩයක් අල්ලලා තියෙනවා හිසට, අව්වෙන් පීඩා නොවෙන්න. ඡත්තාමහන්තං යනාවාසකාලෙ කියනවනෙ ධර්මයට. වැස්ස කාලෙට ලොකු කුඩයක් වගේ මේ ධර්මය කියලා. ඉතින් අපේ ආනන්ද ස්වාමීන් වහන්සේ මේ බුද්ධ ශාසනයේ ධර්ම ඡත්‍රය ඇල්ලුවා නේද. ධර්මය දරාගත්තා නේද. ඉස්සෙල්ලාම කරලා තියෙන්නෙත් ඡත්‍ර පූජාව. ඉතින් ඒ නිසා ඔය මුතුකුඩ පූජාව, ඡත්‍ර කියලා කියන්නෙ. උපාහණා, දැන් ඡත්‍ර පූජාව නිසා තමයි දානයේ පිහිට ලැබෙනවා කියන එක, කෙලෙස් වලින් තැවි තැවී ඉන්නෑ. පසුතැවි තැවී ඉන්නෑ කියනවා ඒ පින්කමේ ආනුභාවයට. ඊටපස්සෙ තියෙනවා පූවං. පූවං කියලා කියන්නෙ කැවුම් පූජා කරලා. ඊළඟට මෝදකං. දැන් කැවුම් පූජාවෙත් තියෙනවා එක එක විදියට. මුං කැවුම් තියෙනවා, දිය කැවුම් තියෙනවා, කොණ්ඩ කැවුම් තියෙනවා, එක එක කැවුම් තියෙනවා. සමහර තියෙනවා පැණි කැවුම් කියලා තියෙනවා, කැවුම් වලට පැණි දාලා එක එක විදියට. සමහරවිට කැවුම් අස්සට පොල්පැණි දාලා ඒ විදියට තියෙනවා, එක එක විදියට කැවුම් හදලා තියෙනවා. ඉතින් එක එක පින්කම් ඒ කාලෙ කරගෙන තියෙනවා. ඊටපස්සෙ මෝදකං, අග්ගලාවක් පූජා කරලා හාල්පිටි අග්ගලා. ඉතින් කියනවා ඔන්න ඔය විදියට තමයි කියනවා, මං හිතන විදියට ගණන් කලේ නෑ, තිස් හය දෙනෙක්ගේ විස්තර ඇති. ඉතින් කියනවා මේ විදියට තමයි පින් කරගත්තේ මොග්ගල්ලානයන් වහන්ස කියලා කියනවා, මේ දිව්‍යාංගනාවො ටික ගුත්තිල පඬිතුමාටත් මුණගැහිලා තියෙනවා. ඉතින් මේ විදියට පින් දහම් කරගෙන ඒ සියලුදෙනා සැපයට පත්වෙලා සිටිනවා, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් මොග්ගල්ලාන ඒ විස්තර දැනගත්ත ගුත්තිල පඬිතුමා ඒ විස්තර ටික ඇවිල්ලා මනුස්ස ලෝකෙ සියලු දෙනාට කියලා ගොඩාක් පින් දහම් කරගෙන ඒ ගුත්තිල පඬිතුමා දෙව්ලොව ඉපදුනා කියලා බුදුරජාණන් වහන්සේ විස්තර කරනවා. ඒ නිසා තමයි ගුත්තිල විමානවත්ථුව කියලා තියෙන්නෙ. ඉතින් මේ දේශනාව අහගෙන හොඳට නුවණින් විමසන්න ඇති කියලා මං හිතනවා. ගොඩාක් පින් කරගන්න අවස්ථාව තියෙනවා පින්වතුන්ට. ඉතින් අවස්ථාව හිතේ තියාගෙන

ඉන්න, අවස්ථාව ලැබුනොත් ඒ ලැබෙන අවස්ථාවේ කරගන්න මග හැරගන්න එපා. මොකද හැම පිනක්ම අවසානේ සිහි කරගන්න මේ පින් බලයෙන් දුකින් නිදහස් වෙන්න ලැබේවා කියලා. මේ පින් බලයෙන් සිල් ගුණ දම් හොඳට ආරක්ෂා කරගන්න ලැබේවා කියලා, මේ පින් බලයෙන් සත්පුරුෂයෝ ඇසුරු කරන්න ලැබේවා කියලා. මේ පින් බලයෙන් සත්පුරුෂයෝ යම් තැනකද, මාගේ උපත එතන වේවා කියලා හිතන්න. ඉතින් ඒ වාගේ හොඳ ප්‍රාර්ථනා ඇති කරගන්න. ඔයාලගේ ජීවිතය පිනෙන් පිරේවා, යහපත් පැතුමෙන් පිරේවා, නිවනින් සැනසෙත්වා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වතුනි අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ පින්වත් පී.ජී. ප්‍රසන්න කුමාර මහත්මයා සහ කේ.ඩබ්ලිව්. සෝමාවතී මහත්මිය ඇතුළු පවුලේ සියලු දෙනා. මේ පින්වතුන්ගේ මූලික අරමුණ සියක් නමකට දානයක් පූජා කර ගැනීමේ කැමැත්ත තියෙනවා, ඔන්න දැන් ඒ දානෙට පූජා කරන්න ඕන පිරිකර එහෙම ගොඩාක් විස්තර දැන් අද දේශනාවෙන් අහගන්න ලැබුනා. ඉතින් ඒ නිසා හොඳට මේ පින්කම කරගන්න. ඉතින් අපි අද දවසේ මේ ධර්මදානයෙන් රැස් කරගන්න පින අපි සියලුදෙනාම මේ පින්වතුන්ට ආශිර්වාද කරනවා මේ පින්කම් සුවසේ කරගන්න, තුණුරුවන්ගේ ආශිර්වාදය දෙවියන්ගේ රැකවරණය සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා  කරනවා. ඉතින් ඒ වගේම මේ අනන්ත අප්‍රමාණ පුණ්‍යානුබලය ඒකාන්තයෙන් අනුමෝදන් වෙත්වා පින්වත්නි සියලූම දෙවි දේවතාවුන් වහන්සේලාට. දෙවිවරුන් ඒ දිව්‍ය සැපයෙන් සැපයට පත්වෙලා තව තවත් මේ ගෞතම බුද්ධ ශාසනයත් මේ සඟරුවනත් සියලු දෙනා ආරක්ෂා කරත්වා, විශේෂයෙන් මේ ලක්දෙරණේ, ලෝකයේ ව්‍යසනයක්ව පවතින ඒ කොරෝනා වසංගතය දුරින්ම දුරු වෙලා මේ ව්‍යසන දුරින්ම දුරු වෙලා මනුස්ස වර්ගයාට සෙත යහපත සැනසිල්ල රැකවරණය ඒකාන්තයෙන් සැලසේවා කියලා දෙවිවරුන්ට පින් දෙමින් ලෝකෙටත් සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම මියපරලොව ගිය සියලු ඥාතීන් පරලොව සැපයට පත්වේවා කියලා අපි පින් පමුණුවනවා. ඒ වාගේම මේ පින්දහම් කුසල් දහම් ගැන අපිට අහගන්න ලැබෙන්නේ පරම පූජනීය, ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වෙලා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ඒ වගේම පරම පූජනීය ගුරුදේවොත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලා, අනගාරිකා මෑණිවරු,

පැවිදි අපේක්ෂක දූපුතුන් මේ පින් බලයෙන් ධර්මාවබෝධය ලබත්වා. ඒ වගේම පින්වත් පී.ජී. ප්‍රසන්න කුමාර මහත්මයා සහ කේ.ඩබ්ලිව්. සෝමාවතී මහත්මියට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. ජීවිතය පිනෙන් කුසලයෙන් පිරේවා. අද දවසේ කල ධර්ම දානයේ පින ඔබට ඒකාන්තයෙන් සසර දුකින් නිදහස් වෙන්න උපකාරී වේවා කියලා පින් පමුණුවනවා. ඔබ සියලු දෙනාටත්, මව් දෙමව්පිය, ඥාති බන්ධුමිත්‍රාදීන්ටත්, ශ්‍රද්ධා රූපවාහිනිය ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයට, ඒ වගේම දායකත්ව සපයන සියලු දෙනාට පින්සිදු වේවා, අපි කාටත් සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=lYhzJDIpdd0&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=10

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේත් දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන, ලක්විරු ගුවන් විදුලියේත්, ශ්‍රද්ධා රූපවාහිනියේත් විකාශනය කරලා ඒ ධර්ම දානය සිද්ධ කරගන්නේ, බරපැන දරන්නේ, සිරිගලවත්ත, මාහරගම, ගිරිඋල්ල යන ලිපිනයේ පදිංචි පින්වත් එන්.ඒ.ඩී. දිල්හාරී මහත්මිය විසින්. මිය පරලොව ගිය අයට පින් පිණිසත් දෙමව්පියන්ට ඥාතීන්ට පින් පිණිසත් ඒ වගේම හිතවතුන්ට සෙත් ප්‍රාර්ථනා කරන්නටත්, මුතුගල මහමෙව්නා අසපුවේ යොවුන් සභාවේ සියලු දෙනාට සෙත් පිණිසත් ඥාතීන්ට සියලු දෙනාට සෙත් පිණිස එතුමිය මේ පින්කම ඉෂ්ට සිද්ධ කරගන්නවා. ඉතින් බොහෝ යහපතක් සැලසෙනවා මේ ධර්මදානය සිද්ධ කිරීම තුලින්, මොකද, දැන් අපි බලන්න මේ පින්කම් ගැන අහලා තියෙන නිසා, දැන් සමහර අය ඉන්නවා අපි පින් කරන්න කැමැතියි, කොහොමද පින් කරන්නේ කියලා දන්නෙ නෑ. එහෙම අහන අය ඉන්නවා. අනේ හාමුදුරුවනේ අපි පින් කරන්නෙ කොහොමද කියලා දන්නෙ නෑ. තව සමහර අය ඉන්නවා තියෙනවා පින් උනත් ඕනාවට වැඩිය ඕන්නෑ, බණ උනත් ඕනවට වැඩිය බණ අහන්නත් හොඳ නෑ.

අනේ හරියට ඉන්නවා මෙහෙම කියන මිනිස්සු. උඹලත් ඕනවට වැඩිය බණ අහනවා වැඩියි බන් කියලා ගෙවල්වල කතාවෙනවා. ඊළඟට පින්කම් වුනත් ඕනවට වැඩිය ඕන්නෑ, ඒ වාගේ එක එක්කෙනාගේ අසත්පුරුෂ බණ ගෙවල්වල, ගම්වල, මගතොටේ ඒවාගේ ඒවත් ඇහෙනවා, අපිටත් ඇහිලා තියෙනවා, අපිටත් කියලා තියෙනවා. එතකොට ඒ වාගේ ලෝකෙක තමයි ඒවාගේ මිත්‍යාදෘෂ්ටික ආදී, පින් තියෙන කෙනෙක් හිටියොත් ඔවුන්ගේ මිත්‍යාදෘෂ්ටිය දුරුවීම පිණිස භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේ පින් ගැන තියෙන විග්‍රහය, ජේතවත්ථු විමානවත්ථු ධර්ම දේශනා පින් පව් වල විග්‍රහයන් මේ බුද්ධ දේශනාවෙ තියෙන්නෙ. විශේෂයෙන්ම අපි කියනවා මේ බණ වුනත් ඕනවට වැඩිය අහන්න ඕන, මේ ධර්මය නිතර අහනවා, දැන් අතිශ්‍රවණයක්. දානය නිතර දෙනවා. අතිදාන. සාමාන්‍යයෙන් අතිදාන, අතිශ්‍රවණ, ඒ වාගේම හිතේ සතුට වැඩි බව මුල් කරගෙන තමයි තුසිතයේ උපදින්නෙ. තුසිතයේ උපදින්නෙ වැඩිපුර පින් කරන අය. ඉතින් ඒ නිසා වැඩිපුර පින් කිරීමට වෙනම දෙව්ලොවක් තියෙනවා. දැන් වෙස්සන්තර රජ්ජුරුවො අතිදාන දුන්නානෙ. ඒ කියන්නෙ හිතාගන්න බැරි දන් දුන්නා. වෙස්සන්තර රජ්ජුරුවො ඉපදුනේ තුසිතයේ. දුටුගැමුණු රජ්ජුරුවො අතිදාන දුන්නානෙ. අනූහයකෝටියකට දන් දුන්නානෙ දවස් හතක්. ඉපදුනේ තුසිතයේ. ඒ වගේම දුටුගැමුණු රජ්ජුරුවන්ගේ සේනාව අතිදාන දුන්නු අය. තුසිතයේ ඉපදුනේ. ඉතින් ඒ වගේ දේවල් තියෙනවා. ඉතින් ඒ නිසා ඒවා ගැන දැනුම් තේරුමක් අපිට තියෙන්න ඕන. අද අපි කතා කරන්නෙ, අපි ඊළඟ විමානවත්ථුව, මේක භද්‍රා විමාන වත්ථුව, හරිම ලස්සනයි. සාංඝික දානයේ ආනිසංස තියෙන්නෙ. ඒ තමයි එක ගෙදරක එක ස්වාමියෙකුට එක ගෙදරකින් ගෑණු ළමයෙක් කැන්දගෙන ආවා විවාහයට. ආවාහ විවාහ කරලා. ඊටපස්සෙ ටික කාලයක් හිටියා මෙයාලට දරුවො නෑ. එතකොට ඒ කාලෙ අර එක ස්වාමියෙකුට බිරින්දෑවරු ගොඩාක් විවාහ කරගන්න එකක් ඒ චාරිත්‍ර විදියට තිබ්බ නිසා ඒ සුභද්‍රාම කිව්වා තමන්ගේ නංගි ගෙදර ඉන්නවා. නංගිගෙ නම සුභද්‍රා විවාහ වෙලා දරුවො නැතිව හිටියෙ භද්‍රා. ඊටපස්සෙ කිව්වා, ඒ නිසා ස්වාමියාට කිව්වා අපේ නංගි ඔයා විවාහ කරගන්න, එතකොට එයත් මේ ගෙදර හිටපුවාවෙ, මාත් හිටපුවාවෙ, එතකොට එයාට දරුවෙක් ලැබුනට පස්සෙ මගෙ දරුවෙක් වාගෙම අපි හදාගමු, අපි ඔක්කොම එකට ඉමු කියලා දැන් කිව්වා. ඊටපස්සෙ දැන් මේ භද්‍රා හරි පින්වන්ත කෙනෙක්. ගොඩාක් දානෙ දෙනවා. සංඝයා අට නම, දහ නම, විසිනම, තිස්නම වඩම්මලා දන් දෙනවා. හරීයට දානෙ දෙනවා. ඒ අතර තමයි දැන් මේ බලන්න රහතන්

වහන්සේලාට දන් පැන් පූජා කර කර පින් කර කර ඉද්දින්ම තමයි මේ භද්‍රාට දරුවො නැති ප්‍රශ්නය ඇතිවුනේ. ඊටපස්සෙ කොහොමහරි මෙයාගෙ කාරණාවයි, ගෙවල් වලටත් කතා කරලා නංගිත් ගෙදරට ගෙන්නගෙන ආවා. ඔන්න එතකොට එක ස්වාමියාට බිරින්දෑවරු දෙන්නයි, අක්කයි නගයි. එහෙම ඉන්නකොට අක්කා කිව්වා නංගී උඹත් ලැබෙන ලැබෙන අවස්ථාවේ පින් කරගනින් කියලා. ඉතින් ඔහොම ඉන්නකොට දවසක් සුභද්‍රාට හිතුනා මාත් පින් කරගන්න ඕන කියලා ඒ ගෙදර ඉස්සරහපිට තියෙන පාරෙ සංඝයා වහන්සේලා අට නමක් පිණ්ඩපාතෙ වඩිනවා හැමදාම. ඉතින් මෙයා පහුවදා පිණ්ඩපාත අටක් හදලා තියාගෙන හිටියා අර ස්වාමීන් වහන්සේලා එනකල්. දැන් මෙයා හා හා පුරා කියලා කරන පින්කමක්. ඊටපස්සෙ උදේම ගිහිල්ලා දොරටුව ළඟ ඉන්නවා. දැන් අර පොඩි නංගි. ඊටපස්සෙ එයා ඉන්නකොට දොරටුව ළඟින් රහතන් වහන්සේලා, සංඝයා වඩිනවා. ඉතින් ස්වාමීනී කියලා කතා කරලා දානෙ බෙදන්න යනකොට එතන හිටියෙ රේවත මහරහතන් වහන්සේ. සාරිපුත්ත මහරහතන් වහන්සේගේ මල්ලි. ඒ රේවත මහරහතන් වහන්සේ පාත්තරය අත වැහුවා, අනේ ඇයි ස්වාමීනී කිව්වා. නෑ ඔබ සංඝයා අට නමකටනෙ දානෙ ගෙනල්ලා තියෙන්නෙ, එහෙම නෙවෙයි උපාසිකාව ඔය දානෙ පූජා කරන්න මහා සංඝරත්නය උදෙසා කියලා. එතකොට මෙයා දැනගෙන හිටියේ නෑ ඕවා. රේවත ස්වාමීන් වහන්සේගේ පෙළඹවීමට එහෙනම් ස්වාමීනී මේ දානය මහා සංඝරත්නයට උදෙසා වේවා කියලා පාත්‍රයට පිණ්ඩපාතෙට කියලා පූජා කලා. මේක ඔබවහන්සේට කියලා පූජා කලේ නෑ, දානෙ මහා සංඝරත්නයට කියලා පූජා කලා. ඇයට දැන් ආයෙ පිනක් කරගන්න අවස්ථාවක් යෙදුනෙ නෑ, නමුත් හරී සන්තෝසෙන් හිටියෙ. හරී සතුටුයි. ඔහොම කාලයක් ගියාට පස්සෙ එක්තරා රෝගයක් හැදිලා සුභද්‍රාත් මැරුණා, භද්‍රාත් මැරුණා, ඔක්කොම ටික ඒ ගෙදර ඔක්කොම වසංගතයකින් මැරුණා. ඊටපස්සෙ සුභද්‍රා ගිහිල්ලා ඉපදුනේ - එක සාංඝික දානයයි පූජා කලේ - නිම්මාණරතිය දිව්‍යලෝකෙ ඉපදුනා. එතකොට හිතන්න එක දානයක් දීලා කොච්චර ඉහළට ගියාද කියලා. විශාඛාත් ඉන්නෙ නිම්මාණරතියෙ. ඊටපස්සෙ මොකද වුනේ, අර භද්‍රා ඉපදුනේ, අර හැමදාම දන් දෙන කෙනා ඉපදුනේ තව්තිසාවෙ, සක්දෙවිඳුගෙ බිරිඳක් වෙලා. අර එක දානයක් පූජා කරපු සුභද්‍රා ඉපදුනේ නිම්මාණරතියෙ. ඉතින් නිම්මාණරතියෙ ඉපදුනු සුභද්‍රා බැලුවා මං මොකක්ද කරගත්තු පින, කියලා බලනකොට සංඝයා අටනමකට පූජාකරපු දානෙ පෙනුනා. ඊටපස්සෙ පෙනුනා මං ඒකට යොමුකලේ භද්‍රා, මගේ

සහෝදරිය දැන් කොහෙද. සක්දෙවිඳුගේ බිරිඳ වෙලා ඉපදිලා. ඈ නිම්මාණරතියෙන් අතුරුදහන් වෙලා සක්දෙවිඳුගේ විමානෙ පහළ වුනා. එතකොට මුළු සක්දෙවිඳුගේ විමානෙම ඒකාලෝක වෙලා ගියා. සාමාන්‍යයෙන් අපි මිනිස්සුන්ට දෙවිකෙනෙක් එන එක ආශ්චර්යයක් වගේම සක්‍ර විමානෙට වුනත් ඉහළින් දෙවි කෙනෙක් එනකොට ඒක පුදුම සහගතයි. ඒ ආලෝකය ඉහළට යන්න යන්න ආයු වර්ණ සැප බල ආදීය වෙනස්. ඉතින් ඊටපස්සෙ, ඒ වෙලාවේ භද්‍රා දෙව්දුව ආකාශයේ බැබලි බැබලි ඉන්න අර සුභද්‍රා දෙව්දුව දැකලා අහනවා, යසස් ඇති දෙව්දුව ඔබ හරිම ලස්සනයි. ගොඩාක් දිලිසෙනවා. මහා පිරිවර ඉන්නවා. සියලු තව්තිසා දෙවියන්ගේ සුන්දරත්වය පරදවා බබලනවා, මීට කලින් මං ඔබ දැකලා නෑ, ඉස්සෙල්ලාමයි මං ඔබව දැක්කෙ. කොයි වගේ දිව්‍යලෝකෙන්ද ආවෙ. ඔබ දැන් මාව නමින් අමතලා කතා කරනවා, ඇයි ඒ දිව්‍යාංගනාව කතා කලා භද්‍රා කියලා. ඔබ දැකලත් නෑ, මෙච්චර ආනුභාවයක්. තව්තිසාවෙම නෑ කිව්වා මෙහෙම දිව්‍යාංගනාවක්නම්. සුන්දරී මං ඉස්සර මිනිස් ලෝකයේදී සුභද්‍රා කියන නමින් හිටියේ. මං ඔබේ බාල නංගී, අපි ස්වාමියාට සමභාර්යාවන් වෙලා හිටියා. ඒ මම මැරුණට පස්සෙ මනුස්ස ජීවිතෙන් නිදහස් වෙලා ඉන් චුත වුනා, ඊටපස්සෙ තමයි මේ නිම්මාණරතියෙ දෙවියන් අතර ඉපදුනේ. නිම්මාණරතියෙ දෙවියන්ට පුලුවන් තමන්ගේ රූපය ඕනම රූපයක් මවාගන්න පුලුවන්, ඕනම කටහඬකින් කතා කරන්න පුලුවන්. ඕනම සැපයක් භුක්ති විඳින්න පුලුවන්. ඔය කාරණා තුනෙන් අනික් දිව්‍යලෝකවල දෙවියන්ට වඩා නිම්මාණරතියේ දෙවියන්ගේ සැප අග්‍රයි. ඊටපස්සෙ කියනවා බොහෝ පින්දහම් කරගත්ත උදවිය තමයි නිම්මාණරතියට යන්නෙ. සුභද්‍රා එතකොට ඔබත් දැන් ඔය කතා කරන්නෙ නිම්මාණරතියෙ දෙවියන් අතර ඉඳලමද, ඊටපස්සෙ කිව්වා ඔව් භද්‍රා මං එහෙ තමයි ඉන්නෙ කියලා කිව්වා. ඉතින් කියනවා යසස් ඇති දෙව්දුව ඔබට කවුද මේ ගැන කියාදුන්නෙ. මොනවගේ දානයක්ද මොනවගේ පිනක්ද, මොනවගේ සීලයක්ද රැක්කෙ, ඔච්චර ඉහළට යන්න. මොකද මට මතකයි ඔය වගේ යසස් ඇතිව ඔය විදියේ මහ සැප සම්පත් ලබන්න ලේසියන් බෑ. දෙව්දුව මං අහන්නෙ මට මතකයි ඔබ මනුස්ස ලෝකෙ ඉද්දින් එහෙම ගොඩාක් පින්කම් කර කර හිටපු කෙනෙක් නෙවෙයි. කියනවා ඉස්සර මං මනුස්ස ලෝකෙදි දන්පැන් ලබන්න සුදුසු සංඝරත්නය ගැන පැහැදුනු සිතින් සිටියා. ඒ කියන්නෙ සංඝයාට දන්දෙන්න ඕන කියලයි සංඝයා ගැනයි පැහැදීමෙන් හිටියේ. මං මේ දෑතින්ම උන්වහන්සේලාට පිණ්ඩපාත අටක් පූජා කලා. ඒ පිනෙන් තමයි මෙවැනි

ලස්සනක් මට ලැබුනෙ. එතකොට මං නිම්මාණරතියෙ ඉපදුනේ ඒ නිසා කියලා කියනවා. මං බැබලි බැබලි ඉන්න පින ඒක තමයි කියනවා. ඒ සංවර වූ බ්‍රහ්මචාරී වූ භික්ෂූන් වහන්සේලා ගැන මමත් පැහැදීමෙන්නෙ හිටියෙ. ඔබ වගේ නෙවෙයි මං භික්ෂූන්, ඊටපස්සෙ දැන් භද්‍රා කියනවා, මටත් තිබ්බනෙ පැහැදීම. මමත් දන්දෙන්න ආසාවෙන්නෙ හිටියෙ. මට මතකයි ඇත්තටම බලනකොට ඔයයි මමයි ගත්තොත් එහෙම වැඩිපුරම දන්දුන්නෙ මං, එතකොට මං ඇයි තව්තිසාවට ඇවිල්ලා ඔයා නිම්මාණරතියෙ ඉපදුනේ. ඊටපස්සේ කියනවා පින්වත් දෙව්දුව බොහෝම චුට්ටක් දානෙ දීලා මහත් සැප සම්පත් ලබාගත්තා, එහෙම වුනේ මෙහෙමයි. මං ඉස්සෙල්ලා සිතේ සතුට ඇතිකරගෙන ස්වාමීන් වහන්සේ නමක් ගැන දැනගෙන හිටියා. ඒ තමයි රේවත ස්වාමීන් වහන්සේ. උන්වහන්සේලා අට නමකට මං දානෙකට ආරාධනා කරලා ඒ විදියට දන් දුන්නෙ. ඒ රේවත ස්වාමීන් වහන්සේ මගේ යහපත පිණිස මට අනුකම්පා කලා. උන්වහන්සේ මට වදාළේ ඒ දානය අට නමකට නොව සංඝයා උදෙසා පූජා කරන්න කියලයි. මමත් උන්වහන්සේගේ වචනය අනුවමයි කටයුතු කලේ. ඉතින් ඒක සංඝගත දක්ෂිණාවක් වුනා. ප්‍රමාණ රහිත ගුණ ඇති ආර්ය සංඝයා කෙරෙහි මාගේ දානය මනාව පිහිටියා. ඔබ දානය පූජා කරගෙන තිබෙන්නේ පෞද්ගලික වශයෙන්. ඒක නිසයි ඔබේ දානය මහත්ඵල නැතිවුනේ. දැක්කද කියලා ඇහුවා, මමත් ඕවා දැනගෙන හිටියේ නෑ කිව්වා, නමුත් රේවත ස්වාමීන් වහන්සේ තමයි කිව්වෙ සංඝයා උදෙසා, සාංඝික කරලා පූජා කරන්න කියලා. ඉතින් ඔබ දානෙ පූජා කලේ, සංඝයා දහ නමකට, අට නමකට, පහළොස් නමකට කියලා. ඒ නිසා මිනිස්සුන්ගේ දානය පිළිබඳව සංඝයා වර්ග කිරීම හරීම ඒ මිනිස්සුන්ට පාඩුවක් ඉතින්. දැන් දානෙකට ආරාධනා කරන්න වුනත් ඕනවෙන්නෙ ස්වාමීනී අපි ගොඩාක් සංඝයාට දන්දෙන්න කැමතියි, ඔබ වහන්සේට කීනමක් විතර වඩම්මන්න පුලුවන්ද. එතකොට හාමුදුරුවො කියනවා මට පහළොස් නමක් විතර, කියලා ඉතින් කියනවා හාමුදුරුවනේ අපි ඔයිට වැඩිය වුනත් කැමතියි මහාසංඝයා විෂයෙහි දානෙ පූජා කරන්නෙ, ඉතින් ස්වාමීන් වහන්සේ අපිට සංඝයා වඩම්මවලා දෙන්න කියලා ඒ විදියට ආරාධනා කරන්න ඕන. ස්වාමීන් වහන්සේ මට හරියටම පස් නමක් වඩම්මවලා දෙන්න. දහනමක් වඩම්මවලා දෙන්න. කියලා අංක ගාණ කියන්න හොඳ නෑ, ඒ කියන්නෙ හොඳ නෑ කියලා කියන්නෙ ඒකෙ වරදක් නෑ, එතකොට ඒකෙ ප්‍රමාණිකෘත සංඝදානයක්. අර මහාසංඝරත්නය උදෙසා කියන එකත් වෙනත්. හැබැයි මෙහෙම එකක් තියෙනවා, එහෙම

ආරාධනා කරලා දැන් මෑත් ආරාධනා කලේ අටනමකට. ඔය ප්‍රශ්නෙ විසඳගන්න අනිත් ක්‍රමය. මෑත් ආරාධනා කලේ අටනමකට. හාමුදුරුවෝ තමයි, රේවත ස්වාමීන් වහන්සේ තමයි කියාහිටියේ දැන් දානය පූජා කරන්න මහාසංඝයාට කියලා, ඒ නිසා දහ නමකට, විසි නමකට, පහළොස් නමකට, සිය නමකට දානෙකට ආරාධනා කලාට කමක් නෑ, හැබැයි දානෙ පූජා කරනකොට පූජා කරන්න ඕන මේ දානය සංඝයා උදෙසා පූජා වේවා, සාංඝික කොට පූජාවේවා. ඒකතමයි දානෙට කලින් ඉමං භික්ඛං භික්ඛු සංඝස්ස දේම කියලා පූජා කරන්නෙ. අනිවාර්යයෙන් ඒකෙ වටිනාකමක් තියෙනවාමයි. වටිනාකමක් නැත්තෙ නම් නෑ, විශාල යහපතක් තියෙනවා සාංඝික කරලා දානයක් පූජා කරන එකේ. ඒ නිසා පෑන් වීදුරුවක් පූජා කලත් මහා සංඝරත්නය උදෙසා කියලා පූජා කරන්න. පුංචි දෙයක් පූජා කලත් මහා සංඝයා උදෙසා කියලා පූජා කරන්න. මේ බලන්න අටනමකට දානයක් පූජා කලා හොඳට හිත පිහිටුවාගෙන සංඝයාට කියලා. හැමදාම දානෙ දුන්න භද්‍රා තව්තිසාවෙ. එක සාංඝික දානයක් කරගත්තු සුභද්‍රා නිම්මාණරතියෙ. බලන්න වෙනස. සංඝයා උදෙසා පූජා කරගන්න දානයෙන් මහත් ඵල ලැබෙන බව මං දැනුයි දන්නෙ. අනේ එහෙමනම් මං ආයෙත් මිනිස්ලෝකෙට යනවා. සඟරුවනේ අවශ්‍යතා දන්න කෙනෙක් වෙනවා. මසුරුමල නැති කෙනෙක් වෙනවා. ප්‍රමාද වෙන්නෑ. යලි යලිත් සංඝයාට දන්පැන් පූජා කරනවා. මෙයාට හිතුනා ආයෙ මනුස්ස ලෝකෙට ඇවිල්ලා දානයක් පූජා කරන්න ඕන කියලා. ඇත්තටම පින්වතුනි දැන් අර ඉස්සර වගේ දැන් කාලෙ දෙවිවරු ඇවිල්ලා දානෙ දෙන්නෙ නෑ මේ සංඝයාට. දැන් කරගන්න සාංඝික දානයක් මනුස්ස ලෝකෙදිම කරගන්න ඕන. දැන් වෙන පින්කම් දිව්‍යලෝකෙ ගිහිල්ලා හරි කරගත්තැහැකි. මොකද දැන් සංඝයා දිව්‍යලෝකෙ වඩින්නෙත් නෑ, දැන් ඉන්න සමහර සිවුරු දාපු අයත් දිව්‍යලෝකෙ පිළිගන්නෙවත් නැතිව කෙසේනම් වඩින්නද. ඉතින් ඒ නිසා දිව්‍යලෝකයේ කියන එකට එහෙ නැති පින්කම් මෙහෙදින් කරගන්න ඕන. ඒ තමයි ගොඩාක් සාංඝික දාන පූජා කරගන්න ඒවා. ඒවා දෙවියන්ට කරගන්න ලැබෙන්නෑ අද කාලෙ. දැන් ඒ කාලෙ ඉපදිලත් භද්‍රා දෙව්දුව කියනවා අනේ මට මනුස්ස ලෝකෙට යන්න ඕන, ඒ කියන්නෙ එයාට ඒ වෙලාවෙ අර සාංඝික දානෙ ඇතිවෙච්ච හැඟීම ඒ. මනුස්ස ලෝකෙට ගිහිල්ලා ආයෙත් සාංඝික දානයක් පූජා කරගන්නවා කියලා කිව්වා. ඊටපස්සෙ කියනවා මේ විදියට කතාකර කර ඉන්නකොට සක්දෙවිඳු එතෙන්ට ආවා. සක්දෙවිඳු එනකොට කවදාවත් දැකලා නැති දිව්‍ය ප්‍රභාෂ්වර බවක් ඒ ලෝකෙ දකින්න ලැබුනා, ඒ

හරියෙ. ඊටපස්සෙ භද්‍රාට කියනවා භද්‍රා දෙව්දුව මොකක්ද මේ කවදාවත් දැකලා නැති ආනුභාවසම්පන්න දිව්‍යාංගනාවක් කවුද මේ ඉන්නෙ මෙතන. ඊටපස්සෙ කියනවා පින්වත් සක්දෙව්දුනි, ඉස්සර මිනිස් ලෝකෙදි ඇය මිනිස් දුවක් වෙලා ඇය මගේ බාල නංගි වෙලා තමයි හිටියෙ. අපි සැමියාට එකම බිරිඳ වෙලා හිටියා. ඇය සාංඝික දානයක් පූජා කරගෙන තියෙනවා. ඇය පින් කරපු කෙනෙක්. දැන් ඇය බබලනවා. දැන් එයා ඉන්නෙ නිම්මාණරතියෙ. භද්‍රා දෙව්දුව ඔබේ නංගි දානයක් පූජා කරගෙන තියෙන්නෙ ප්‍රමාණ රහිත ගුණ ඇති ආර්ය සංඝයාට නෙව. ඒ නිසා තමයි ඔයාට වඩා ඇය ඔතරම් බබලන්නේ කියලා. ඉතින් ඒ නිසා සාංඝික දානයේ ආනිසංස බලන්න. පින්වතුනි ආර්ය සංඝයා උදෙසා දානයක් සාංඝික කරලා පූජා කරනකොට අඤ්ඤාකොණ්ඩඤ්ඤ මහරහතන් වහන්සේගේ පටන් පැවතගෙන එන ගෞතම බුද්ධ ශාසනයේ සියලුම සංඝයා අයිති වෙනවා ඒකට. සාරිපුත්ත මහරහතන් වහන්සේ. මුගලන් මහරහතන් වහන්සේ, ආනන්ද, නන්ද, රාහුල, අනුරුද්ධ ආදී වූ උතුම් මහරහතන් වහන්සේලා ඔක්කෝම අයිති වෙනවා, සාංඝික කරලා දානයක් පූජා කරනකොට. එතකොට දැන් අපි අපේ ස්වාමීන් වහන්සේට, අපේ ස්වාමීන් වහන්සේලාට කියලා දානෙ පූජා කරනකොට එතකොට ඒ ස්වාමීන් වහන්සේගේ ගුණ අනුව තමයි පින් රැස් වෙන්නෙ. එක නමක් වුනත්, පින ගැන දන්න, දෙමව්පියන්ට ඥාතීන්ට උපාසක උපාසිකාවන්ට දායකයන්ට අනුකම්පා ඇති භික්ෂූන් වහන්සේලා වෙත්නම් ඒ ස්වාමීන් වහන්සේලා ඇත්තටම මිනිස්සු පූජා කරන දේ සාංඝික කරවාගෙනම ගන්න ඕන. මොකද සාංඝික කරවාගෙන ගත්තට පස්සෙ ඒකෙ තියෙන ආනිසංසය තමයි ඒ දන්දෙන කෙනාගෙ පින මහත්ඵල මහානිසංස වෙනවා. ඊටපස්සෙ කියනවා, සක්දෙව්දු කියනවා ගිජුකුලු පර්වතයේ බුදුරජාණන් වහනසේ වැඩ හිටියා. ඔය කාරණේ උන්වහන්සේගෙන් මාත් ඇහුවා. යම්කිසි කෙනෙකුට දානයක් පූජා කරගත්තහම මහත්ඵල මහානිසංස ලබාදෙන්නේ ඔය කවරෙකුට පූජා කරගත්තොත්ද කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා දන් පැන් දෙන මිනිස්සු ඉන්නවා. පින් අපේක්ෂාවෙන්මයි ඔවුන් දන් දෙන්නේ. මත්තෙහි සැප විපාක ලබාදෙන පින්ම කරන්න ඕන. යම් ඒ ආර්ය සංඝයාට දෙන දානය තමයි මහත්ඵල මහානිසංස විපාක සැලසෙන්නේ කියලා බුදුරජාණන් වහන්සේ ගිජ්ජකූටයෙදි මට වදාළා සංඝයාට දෙන සාංඝික කොට දානයේ පින මහත්ඵලයි මහානිසංසයි කියලා. ආර්යඅෂ්ටාංගික මාර්ගයේ ගමන් කරන පුද්ගලයන් හතර දෙනෙක් ඉන්නවා. ඵලයට පත්වූ පුද්ගලයිනුත් හතර දෙනෙක්

ඉන්නවා. මේ ආර්ය සංඝයා ඍජු සිත් ඇති පිරිසයි. ප්‍රඥා සම්පන්නයි. සීල සම්පන්නයි, සමාහිත සිතින් යුක්තයි. බලන්න සංඝයාගේ ගුණ කියන හැටි. මාර්ගඵල ලාභී සංඝයාගේ ගුණ සිහි කරලා දන්දෙන්න. දන්පැන් දෙන මිනිස්සු ඉන්නවා. පින් අපේක්ෂාවෙන්මයි ඔවුන්, ඇත්තටම මිනිස්සු පින් කරගන්නනෙ දන් දෙන්නෙ නේද, යම් ඒ ආර්ය සංඝයාට දෙන දානය තමයි මහත්ඵල මහානිසංස විපාක සැලසෙන්නෙ. මේ ආර්ය සංඝයා වනාහි මහානි ගුණයෙන් යුක්තයි. මිනිය නොහැකි ගුණයෙන් යුක්තයි. සාගර ජලය වගේ. නර වීරයන් වහන්සේගේ ශ්‍රාවක වූ මේ පිරිසමයි ශ්‍රේෂ්ට. ධර්මය බෙදා හරිමින් ලෝකය එළිය කරන්නෙ ඔවුන් තමයි. දැන් බලන්න ධර්මය දෙන එකට කියනවා ලෝකය එළිය කරනවා කියලා. ලෝකය එළිය කරනවා කියනවා ධර්ම දානයට. දැන් බලන්න යම්කිසි කෙනෙක් ධර්මදානයට සම්බන්ධ වුනොත් ඒ අය මේ ලෝකය එළිය කරන්න දායකත්වය සැපයූවා වෙනවා. පිනේ කොටස් කරුවෝ වෙනවා. මේ පුදුම සහගත පිනක් ධර්මදානය. ඉතින් ඒ කාරණාවෙන් සාංඝික දාන දෙන්න වටිනවා කියනවා. අන්න ඒ ආර්ය සංඝයාට දන්පැන් පූජා කරගත්තොත් නිසිතැනට පූජා කලා වෙනවා. ඒක තමයි හරි විදියට දීපු දේ. ඒක තමයි නියමාකාරයෙන් කරගත්තු යාගය. ලෝකවිදූ වූ බුදුරජාණන් වහන්සේ විසින් වර්ණනා කරලා තියෙනවා ආර්ය සංඝයාට පූජා කරන දක්ෂිණාව මහත්ඵල මහානිසංසයි කියලා. එවැනි ආර්ය සංඝයා උදෙසා දෙන දානය සිහි කරන්න ඕන. එතකොට එයාලට හරී සතුටක් ඇතිවෙනවා. සාංඝික දාන දීලා නිතර සිහි කර කර ඉන්න ඕන. ඊටපස්සෙ මසුරුමල මුලින්ම දුරු කරලා ලෝකයේ ජීවත් වෙන්න පුලුවනි. නින්දා රහිත වූ ස්වර්ග ලොවේ උපදින්නත් පුලුවනි. දැන් බලන්න සංඝික දාන දීලා සතුටු වෙවී ඉන්න කියන්නෙ එක දුවෙකුයි පුතෙකුයි ඇවිල්ලා අපිට පින් අනුමෝදන් කලා ඒ දුවයි පුතයි විවාහ වෙච්ච දවසෙම පොරොන්දු වෙලා තියෙන්නෙ අපි අද ඉඳලා සාංඝික දාන දෙමු කියලා. ඉතින් විවාහ වෙච්ච දවසෙම සාංඝික දානයක් දුන්නා. එදා ඉඳලා හැම දවසෙම කොහේ හරි පන්සලකට දානයක් හදලා පූජා කරනවා සාංඝික දාන කියලා. එතකොට අද වෙනකොට ඒ ළමයි විවාහ වෙලා අවුරුදු දහතුනක් හෝ දාහතරක්. එක දිගටම සාංඝික දාන දීලා. දැන් බලන්න එක දවසට එක සාංඝික දානයක් දුන්නොත් මාසෙට තිහයි. අවුරුද්දට තුන්සියහැටපහයි, අවුරුදු දහයට තුන්දහස් හයසිය පනහයි. එතකොට දැන් එයාලා දැන් විවාහ වෙලා අවුරුදු දාහතරක් වගේ. එතකොට සාංඝික දාන හාරදාහක් විතර වගේ වෙනවා. එතකොට බලන්න විවාහ ජීවිතේ ගැන එයාලට ආපස්සට සිහි

කරනකොට අර පිනම මැව් මැවී පේන හැටි. ඉතින් ඒ වගේ දැන් අපි ගත්තොත් එහෙම සංඝයාට උපස්ථාන කලොත් එහෙම මොනවහරි පූජා කලොත් පැන් වීදුරුවක් සාංඝික විදියට පූජා කලොත් අපේ ජීවිතයට කොච්චර පින් රැස් කරගන්න පුලුවන්ද. සමහර අයට ඒවා මතකයි. එතකොට එයාලා ගණන් හදාගන්නවා. මට එක තැනක හම්බවුනා, එක හෝටලයක්, ඒ හෝටලේ මහත්තයාගේ ආසාව සංඝයා ලක්ෂයකට දාන පූජා කරන්න. ඉතින් ඒ හෝටලේට එන එන සංඝයාට උපස්ථාන කරනවා. දැන් මම දවසක් ඒ කඩේට අහම්බෙන් ගොඩ වුනා. මට කිව්වා දැන් තිස්දාහකට වැඩිය සංඝයාට උපස්ථාන කරලා තියෙනවා කියලා. එතකොට ඒවගේ එක එක්කෙනා එක එක අරමුණු වල ඉන්නවා. දැන් සාංඝික දානයක් කියන්නෙ බත් මාළු පිණි ව්‍යඤ්ජන ඒවම හදලා පූජා කරන එක නෙවෙයි. පැන් ටිකක් පූජා කලත්, ගෙදරක කෙහෙල්කැනක් හැදෙනවා. ඒකෙ පළවෙනි ඇවරිය පන්සලට පූජා කරනවා, අනේ හාමුදුරුවනේ කියලා. සාංඝික කරලා, දරුවෙක් අත යවනවා, පූජා කරනවා. ඊටපස්සෙ ගෙදර කැවිලි පෙවිලි හදනවා. දැන් ගත්තොත් පන්සලක ඉන්නෙ හාමුදුරුවෝ දෙතුන් නමයිනෙ ඉන්නෙ. එතකොට අග්ගලා ගෙඩි පහක් විතර, කැවුම් ගෙඩි පහක් දහයක් පාර්සල් කරලා ළමයෙක් අතේ යවනවා සාංඝික දානයක් විදියට. එතකොට එහෙම බලනකොට එයාට මැරෙන මොහොතෙ කොච්චර සතුටු වෙන්න පුලුවන්ද, අපේ වත්තෙ පළතුරක් හැදුනත් අපි සාංඝික දාන දුන්නා, ඊටපස්සෙ අපේ ගෙදර ප්‍රණීත දෙයක් හැදුවත් සාංඝික දානයක් දුන්නා. කොච්චර මට යහපතක්ද කියලා මරණ මංචකයේ හිත හිතා සතුටු වෙවී ඉන්න පුලුවන්. පිනේ විපාක තමන්ට තියෙනවානෙ. ඒ නිසා සාංඝික දානයක් කියලා කියන්නෙ හේවිසි ගහලා තොරණ් බැඳලා ඒකම කියලා හිතන්නත් එපා. අවස්ථාවක් ලැබුන ගමන් පැන් ටිකක් පූජා කලත් ඒක සාංඝික දානයක්. ඒ නිසා ඔයාලගේ ජීවිත ගොඩාක් පිනෙන් පුරවගන්න යහපත ඇතිකරවාගන්න පරලොව දුක් විඳින්නැති සුගති රැකවරණය සලසාගන්න. ඉතින් ඒකට ලොකු තේරුමක් එනවා මේකෙන් සාංඝික දානයක් පූජා කිරීමෙන්. ඉස්සර සාමාන්‍යයෙන් සමාජයේ අපි දැකලා තියෙනවා ඉමං භික්ඛං භික්ඛු සංඝංස්ස දේම කියනකොට සමහර මිනිස්සු හිනාවෙවී කියන්නෙ. හාමුදුරුවන්ට නම් ඉතින් මොකද ඇවිල්ලා ඉමං භික්ඛං කියන්නනෙ තියෙන්නෙ කියනවා. එතකොට ඒකෙන් තමන්ට වෙන යහපත මොකක්ද කියලා දන්නෙ නෑ. මිනිස්සු හරියට පුරුදු වෙලා තියෙන්නෙ අර උපතින්ම මොනවාහරි අසත්පුරුෂ වචන ටිකක් අරන් එනවා මනුස්ස ලෝකෙට. ඇවිල්ලා

ඒවා කතා කර කර ඉන්නවා. මේවා තේරුම් අරන් තමන්ගෙ අඩුපාඩු හදාගෙන යහපත් දේවල් පුරුදු වෙන්න ඕන. ඉතින් මේ එක්කෙනෙක් හරි හැදෙයි කියලා කියන්නෙ. මේ විදියට බුදු කෙනෙක්ගේ ධර්මය කියද්දිනුත් අපිටත් ගරහනවා, අපිටත් බනිනවා. ඒ සාමාන්‍යයෙන් ලෝකයේ ස්වභාවය. නමුත් පින් තියෙනකෙනා මේ නොදන්නා කරුණු දැනගත්තට පස්සෙ ජීවිතේ ගොඩාක් සුවපත් කරගන්නවා. ඉතින් ඒ නිසා ඒ කරුණු කාරණාව තේරුම් ගන්න. අපි ඊළඟ විමානවත්ථුවට යමු. ඊළඟ විමානවත්ථුවේ තියෙන්නේ මේක නම් හරි ලස්සනයි. මේන්න චෛත්‍යයවලට රත්තරන් ආභරණ පූජා කරන අයගේ පුණ්‍ය විපාක. කාශ්‍යප තථාගත බුදුරජාණන් වහන්සේගේ ස්තූපය හැදුවේ රත්තරන් ගඩොලින්. පුංචි දෝණියක් තමන්ගෙ කරේ තිබ්බ චූටි චේන් එක ඒ රත්තරන් ගඩොල් හදලා තියෙන්නෙ පින්වත්නි හිමාලයේ තියෙන මැණික් පාෂාණයක් තිබිලා තියෙනවා. ඒ මැණික් පාෂාණය කපලා ඒක සම්පූර්ණයෙන් රත්තරන් වලින් කවර් කරලා තියෙනවා. සම්පූර්ණයෙන් රත්තරන් වලින් වහලා තමයි ඒක හදලා තියෙන්නෙ. එතකොට සමහර අය ගෙවල් ඉඳලම තමන්ගෙ රත්තරන් බඩු උණු කරලා හතරැස් කොටුවට ගඩොල වගේ හදලා ගෙනල්ලා පූජා කරපු අවස්ථාත් තියෙනවා. ඉතින් මේ දෝණි කරලා තියෙන්නෙ රත්තරන් ආභරණය, තමන්ගේ චේන් එක පූජා කරලා අර රත්තරන් හදන මනුස්සයාට කියලා ඔයා ගඩොලක් හදනකොට මේකත් දාලා උණු කරලා හදලා චෛත්‍යය රාජයාණන් වහන්සේට ගඩොලක් හදන්න කියනවා. ඔයාම පූජා කරන්න කියලා. දැන් චූටි චේන් එකක්නෙ. ඒකෙන් ගඩොලක් හදන්න බැරි නිසා හදන එකකට දැම්මා. ඉතින් අර දෝණිට හරී සතුටුයි. ඒ පින් බලෙන් ඒ දෝණි ගිහිල්ලා දෙව්ලොව ඉපදුනා. ඈ ඒ දිව්‍යාංගනාවගේ ශරීරයේ තියෙන රත්තරන් ආභරණ ටික ගැලෙව්වොත් කරත්ත හැටක් ඕන කියනවා. බලන්න පූජා කලේ චූටි චේන් එකක්. දිව්‍යලෝකෙ ඉපදුනාට පස්සෙ කරත්ත හැටක් ඕන කියනවා රත්තරන් ආභරණ ටික විතරක් දාන්න. ඇඟ රත්තරන් පාටයි කියනවා. රත්තරන් පාට රශ්මිය තමයි දිව්‍යාංගනාවගෙන් විහිදෙන්නෙ. ඔහොම ඉඳලා ගෞතම බුද්ධ ශාසනයේ, දැන් බුද්ධාන්තරයක් දෙව්ලොව. ගෞතම බුද්ධ ශාසනයේ ඉපදුනා මෑ සංසාරයේ යම් වෙනත් කර්මයක විපාකයක් විදියට දුප්පත් ගෙදරක. දුප්පත් ගෙදරක මෙයා ඉපදිලා ඉන්නවා. ඒ අතරතුර ඒ නගරයේ හිටපු, මට මතක විදියට නාලක කියන ගමේ, නාලන්දාවේ තියෙන නාලක කියන ගමේ, - නාලක කියන ගම තමයි සාරිපුත්ත මහරහතන් වහන්සේ ඉපදිච්ච ගම - ඒ ගමේ දුප්පත් ගෙදරක මේ කෙල්ල ඉපදුනා. ඒ ගමේ

හිටපු සිටුතුමාගේ වස්තුව අඟුරු බවට පත්වුනා. ඒ කියන්නෙ ඉස්සර වෙලා තියෙනවා. දැනුත් වෙනවා ඇති. නමුත් ඔච්චර වස්තුවක් තියෙන කට්ටිය අපිට හොයාගන්න බෑ, දන්නෙත් නෑ, කියන්නෙත් නෑනෙ. එතකොට රන් රිදී මුතුමැණික් පෙට්ටි ඇරලා බලනකොට රත්තරන් නෑ අඟුරු තියෙන්නෙ. කළු පාට වෙලා. එතකොට ඒක කොහොමද වුනේ කියලා හොයාගන්න බෑ, එතකොට ඒ කාලෙ මිනිස්සුන්ගේ තිබ්බා කතාවක් එහෙම වෙන්නෙ පව්කාරකමට, පින් ඉවරයි කියලා. හැබැයි මිනිස්සුන්ගේ කතාවක් තිබ්බා කවුරුහරි පින්වන්ත කෙනෙක් ඕකට අත ගැහුවොත් එහෙම ඒක රත්තරන් වෙනවා කියලා. ඊටපස්සෙ මොකද කලේ ඒ සිටුතුමා ඒ අඟුරු ගොඩ කඬේක අයිනෙ තියලා එයාගෙ වෙන ව්‍යාපාර කටයුතු කරගෙන යනවා. ඒ යනකොට අර දෝණී අවුරුදු දහසයේ දියණී වෙළඳපලට ගිහිල්ලා අර මුදලාලිට කිව්වා අම්මෝ මෙච්චර රත්තරන් ගොඩක් ඇයි මේ මිනිස්සුන්ට පේන්න මේ මුල්ලෙ දාලා තියෙන්නෙ, ඒවා පිළිවෙලකට අඩුක් කරන්න ඕන නේද කියලා. කෝ කියලා ඇහුවා. ඔය තියෙන්නෙ. එතකොට එයාට පේනවා අඟුරු රත්තරන් වාගෙ. ඒ එයාගෙ පින් බලය. ඇයි එයා රත්තරන් පූජා කරලා තියෙනවානෙ. ඊටපස්සෙ මොකද වුනේ ඒ සිටුතුමා දැනගත්තා එහෙනම් මෙයා තමයි පින්වන්ති කියලා ගෙදර හොයාගෙන ගිහිල්ලා දෙමාපියොත් එක්ක කතා කරලා එයාගෙ පුතාට විවාහ කරලා දුන්නා. ඊටපස්සෙ අඟුරු වෙච්ච වෙනත් ගබඩා ඔක්කොම විවෘත කලා. දුව මොනවාද මේ තියෙන්නෙ. අනේ මෙච්චර රත්තරන් ගොඩක් ඔයාලට තියෙනවද කියලා දැන් එයාට ඔක්කොම රත්තරන් වලින් පේනවා. ඊටපස්සෙ කියනවා, දුව මේ ඔක්කොම ඔයාගේ පින් බලයට ලැබිච්ච ඒවා. ඔයා තමයි මේ සියල්ලේගෙම අයිතිකාරයා. මේ සියලු ගබඩා ඔයාට බාරයි, බාරයි, බාරයි කියලා කැප කරපු ගමන් අර අඟුරු ටික ඔක්කොම රත්තරන් පත්වුනා. අද ඔයාගෙ අතින් දෙන දෙයක් තමයි අපි පරිභෝග කරන්නෙ කියලා, එදා ඉඳලා එයා දෙන දේවල් තමයි පරිභෝග කරන්නෙ. බලන්න මේ චූටි චේන් එකක් ස්තූපයකට ගඩොලක් පූජා කරන එකට පූජා කරලා ආනිසංස. ඊටපස්සෙ මෙයා බොහෝ සැප සම්පත් විඳිමින් ඉන්නවා. ඊටපස්සෙ පින්වතුනි සාරිපුත්ත මහරහතන් වහන්සේ නාලක ගමේ පිරිනිවන් පෑවා. ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ දවස් හතක් තිබුනා නාලක ගමේ ඒ ආදාහන කෘත්‍යය, ඒ ආදාහන උත්සවය. ඉතින් ගොඩාක් මිනිස්සු රජ මැතිවරු නාලක ගමට පැමිණුනා. ඉතින් අර කුමාරිකාවටත් යන්න ආසා හිතුනා. මොකද ඇය ගොඩක් පැහැදිලා හිටියා

සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ධර්ම විග්‍රහයට. සාරිපුත්ත මහරහතන් වහන්සේ ඉතා සොඳුරු ලෙස දහම් දේශනා කරනවා. ඉතින් ඒ නිසා ඈය ගොඩාක් ඒ ගැන පැහැදිලා හිටියේ. ඉතින් සාරිපුත්ත මහරහතන් වහන්සේගේ දේහය වන්දනා කරන්න යන්න ඕන කියලා ඈ තමන්ගේ මාමාට කිව්වා. ඊටපස්සෙ කිව්වා දුව කොහොමද යන්නෙ, ගොඩාක් සෙනඟ කිව්වා. අනේ මං ගිහිල්ලා එක මලක් හරි පූජා කරලා එන්නම් කියලා මෙයා රත්තරනින් රන් මලක් හදලා ඒ රන් මල අරන් සාරිපුත්ත මහරහතන් වහන්සේගේ දේහය වන්දනා කරන්න අර පිරිසත් අතරින් ගියා. ගිහිල්ලා සාරිපුත්ත මහරහතන් වහන්සේගේ දේහය ළඟ තැන්පත් කරලා ගෞරවයෙන් වන්දනා කලා. වන්දනා කරලා ආපස්සට ආවා. ඊටපස්සෙ රජවරු එනවනෙ ඇත්තු පිට, ඒ රජකෙනෙක් ඇමති කෙනෙක් ආපු ඇතෙක් කුලප්පු වුනා මිනිස්සු මැද. ඒ කාලෙ, දැන් අද කාලෙක පෙරහැරක ඇතෙක් කුලප්පු වුනොත් මේ අමුතු ඒකට විග්‍රහනෙ. ඒ කාලෙ එහෙම අමුතු විග්‍රහ නෑ, සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ආදාහනය දවසෙත් ඇතෙක් කුලප්පු වෙලා තියෙනවා. එතකොට ඒ ඇතා කුලප්පු වෙච්ච ගමන් මිනිස්සු ටික ඔක්කොම දිව්වා එහෙට මෙහෙට. දුවනකොට මේ කෙල්ලටත් එහෙට මෙහෙට දුවගන්න බෑ, හැරෙනකොටම වැටුනා, මිනිස්සු වේගෙන් දුවනකොට මිනිස්සු ඈත් පාගගෙන ගියෙ, එක්කෙනෙක් අතින් බෙල්ල පෑගුනා. එහෙම්මම එතනම මැරුණා. ඈ ගිහිල්ලා දෙව්ලොව උපන්නෙ. මේ තමයි ඈගේ දිව්‍ය විමානය. ඒ තමයි හරිම ලස්සන දිව්‍ය විමානයක්. පළිඟු මැණික් වලින් තමයි බිත්ති හැදිලා තියෙන්නෙ. රන් රිදී වැල් වටේට එල්ලෙනවා. රම්‍ය වූ විචිත්‍ර වූ මුදුන් තියෙන තොරණ් හදලා තියෙන්නෙ. හරීම ලස්සනයි. මිදුල පුරා රන්වන් වැලි විසිරිලා තියෙනවා. සරත් කාලයේ අහස් කුසේ හිරු නැගෙනවා. එතකොට දස දිසාවම එළියයි. දහසක් හිරු රැසින් අඳුර දුරු වෙලා තියෙන්නෙ. ඔබේ විමානෙත් ඒ වගේ. ඒ විදියටම රැස් විහිදෙනවා. අහස් කුසේ දිළිහි දිළිහී තියෙන ගිනි දැල්ලක් වගේ. අහසේ පිහිටලා තියෙන ඔබේ විමානය විදුලි එළියක් වගේ. දෙනෙත් මුසපත් කරවනවා. මේ විමානයෙන් වීණා මිහිරි බෙර හඬ අත්පොළසන් හඬ කස තලන නාද ගිගුම් දෙනවා. සියලු සැප පිරුණ ඉන්ද්‍රපුරය වගේ. සක්දෙවිඳුගේ විමානය වගේ කියලා කියනවා. ඔය දිව්‍ය විමානය නෙළුම් කුමුදු මහනෙල් රතු මහනෙල් ආදී මල් වර්ග තියෙනවා. සිනිද්ද මල් බදුවද මල් ආදිය තියෙනවා. සල්මල්, අශෝක මල් පිරුණු ගසුත් තියෙනවා. හැමතැනම හමන්නේ උතුම් ගස්වලින් එන සුවඳයි. ඉතින් පින්වතුනි අපි මේ විස්තරය මේ කියවලා දෙන්නෙ දිව්‍ය විමානයක් කොයි වගේද කියලා යම්

සේයාවක් ඇතිකරගන්න. යසස් ඇති දෙව්දුව ඔබට පහළ වෙලා තියෙන්නෙ සුන්දර පැන් පොකුණු. ඒ පොකුණු වටේ හොරගස් දෙල් ගස්, බුජක ගස් වගේ ගස් වර්ග තියෙනවා. පොකුණේ පැන් පෙනෙන්නෙ නිල් මැණික් ගලක් වගේ. වතුරේ හටගත්ත හැම මල් ජාතියක්ම මෙහි තියෙනවා. පොළොවේ හැදෙන හැම රුක් ජාතියක්ම තියෙනවා. මිනිස් ලොවේ ඇති නොමිනිස් ලොවේ ඇති සියලුම දේවල්, මනුස්ස ලෝකෙ තියෙන ඒවත් තියෙනවා කියනවා දිව්‍ය ලෝකෙ. පින්වත් දෙව්දුව, මොනවගේ සංවර කමක්ද, මොනවගේ ඉන්ද්‍රිය දමනයක්ද, මොනවගේ පිනක් ද ඔබ කලේ කියලා මුගලන් මහරහතන් වහන්සේයි ඇහුවෙ. මේ බලන්න කියනවා මේ විමානයේ කොස්වාලිහිණියෝ, මොණර රංචු, ඇටිකුකුළෝ, දිව්‍යමය වූ දියකාවෝ, හංසරාජයෝ, කොවුලෝ මිහිරි නාද කර කර ඉන්නවා කියනවා. ඒ වගේම නොයෙක් වර්ගයේ මල් ගස්, ගස් වර්ග, පළොල් දඹ අශෝක මේ ඔක්කොම පිරිලා තියෙනවා කියනවා. මේවා පිනට පහළ වෙච්ච ඒවා කියනවා. කියනවා ස්වාමීනී මගධ රටේ පෙරදිග පැත්තට වෙන්න නාලක කියලා ගමක් තියෙනවා. මං ඉස්සර ඒ නාලක ගමේ හිටියෙ. ඒ ගමේ හිටපු ලේලියක්, ඒ කාලෙ මට කිව්වෙ සේසවතී කියලා. සැරියුත් මහරහතන් වහන්සේ පිරිනිවන් පෑවා. ඒ ගුණස්කන්ධය නම් අප්‍රමාණයි. දෙව්මිනිසුන් උන්වහන්සේව කොච්චර පුද දුන්නා. බුහුමන් කලා. ධර්ම අර්ථ විග්‍රහ කරන්න අතිශයින්ම දක්ෂයි. ඒ ගුණය ගැන මං හරියට සතුටු වුනා. උන්වහන්සේගේ සිරුරට මං සුවඳ මල් පූජා කලා. සුවඳ මල් පූජා කලා රන්මලක් සමඟ. උන්වහන්සේ අන්තිම දේහ දැරුවා. උදාර ඍෂිවරයෙක්. අනුපදිශේෂ පරිනිර්වාණයට පත්වුනා. මං උන්වහන්සේට මල් පූජා කරලමයි මිනිස් සිරුර අත්හැරලා මේ තව්තිසාවට ආවෙ. තවම ඒ දිව්‍යාංගනාව සිතනවා සාරිපුත්ත මහරහතන් වහන්සේගේ දේහයට මල් පුදලා. කලින් ජීවිතයක කාශ්‍යප බුද්ධ ශාසනයට රන් ආභරණ පූජා කරලා. පුදුම සහගත විදියට පිනේ විපාක තමා කරා පැමිණෙනවා. එතකොට පින්වත්නි මේ බලන්න මලක් පූජා කිරීමේ, ඉතින් ඇත්තටම අද කාලෙ කොච්චර ඉන්නවද, ගොඩාක් අය, මේ බණ අහන අය අතරෙ බොහෝ දෙනා මං හිතනවා සියයට අනූවක් විතර අය රත්තරන් ආභරණ ස්තූප වලට පූජා කරපු අය ගොඩ ඉන්නවා. මිනිස්සු ලෝභ නැතිව පූජා කරනවා. සමහර වෙලාවට පුංචි කාලෙම දාපු කරාබුව ගලවලා සමහර අය පූජා කරලා තියෙනවා අර කණේ වෙනම සුදුපාට තියෙනවා ඒක එතෙක් ගලවලා නෑ, එච්චර මිනිස්සු එහෙම අත්හැරීම් කලා. බලන්න ඒ අත්හැරීම් කරපු එකේ විපාක සුලුපටු නෑ, තමා කරා ඒ පින පැමිණෙනවාමයි. තව

තියෙනවා තව දිව්‍ය විමානයක් ගැන පොඩි විස්තරයක්. මේ දිව්‍ය විමානයේ නම මල්ලිකා විමානය. මල්ලිකා විමානය කියලා කියන්නෙ පින්වතුනි මේ බන්ධුලමල්ලිකා. බන්ධුල සේනාධිපතිගේ බිරිඳ, ඈට දරුවො තිස්දෙනෙක් හිටියා. කොසොල් රජ්ජුරුවො බන්ධුල මල්ලිකාගෙ දරුවො තිස් දෙනයි, බන්ධුල සේනාධිපතියයි මැරෙව්වා, කේලමක් අහලා. ඉතින් එදා සාරිපුත්ත මහරහතන් වහන්සේට බන්ධුල මල්ලිකා දන් පූජා කර කර හිටියේ. ලියුමක් ගෙනල්ලා දුන්නා, ඒ ලියුම ඉණේ තියාගෙන දානෙ බෙදුවා. එතකොට දාසියක් අතින් හොදි ව්‍යංඤ්ජනයක් හැලුනා. ඉතින් සාරිපුත්ත මහරහතන් වහන්සේ හිතුවා දැන් මැගෙ හිත මේ වෙලාවෙ එහෙ මෙහෙ වුනොත් එහෙම පිනට බාධාවක් වෙයි කියලා කිව්වා උපාසිකාව බින්දනි ධම්මෝ බින්දනි, බිඳෙන දේවල් බිඳෙනවානේ ඉතින් කියලා, අනේ ස්වාමීනී ඕක මොකක්ද කියලා, ඉණේ තිබ්බ ලියුම අරන් පෙන්නුවා. ඒ ලියුමේ තියෙන්නෙ බන්ධුල සේනාධිපති ඇතුලු දරුවන් තිස්දෙනා ඝාතනය කරවන ලදී කියලා. ස්වාමීනී මට මේකටවත් දුකක් හිතෙන්නෑ කිව්වා. සසරේ හැටි කිව්වා. මට මේ පින කරගන්න ඕන කිව්වා. ඊටපස්සෙ දානෙ පූජා කලා. රජ්ජුරුවෝ බන්ධුලමල්ලිකා කැඳෙව්වා, කිව්වා මල්ලිකා අපි මේවගේ දෙයක් කරලා තියෙනවා ඔහේට දැන් තීරණයක් ගන්න පුලුවන් කිව්වා. අනේ මට ගන්න තීරණයක් නෑ රජතුමනි මං කුසිනාරාවෙ මගෙ ඥාතීණ් ඉන්නෙ, මට කුසිනාරාවට යන්න අවස්ථාව හදලා දෙන්න කිව්වා. මල්ලිකා කුසිනාරාවට ගියා. කුසිනාරාවේ බුදුරජාණන් වහන්සේගේ දේහය, පිරිනිවන් පෑවට පස්සෙ දේහය වඩම්මනකොට මල්ලිකාටත් තිබ්බා විශාඛාවට වගේ මේලපළඳනාවක්. එය සම්පූර්ණ මේල පළඳනාව සුවඳ වතුරින් හෝදලා අර බුදුරජාණන් වහන්සේගේ දේහය, රන්දෙනට ඒ රත්තරන් ආභරණය පැළඳුවා. මල්ලිකා දෙව්ලොව ඉපදිලා තියෙන්නෙ සාරිපුත්ත මහරහතන් වහන්සේට පූජා කරපු දානයවත්, බුදුරජාණන් වහන්සේගෙන් බණ අහපු පිනවත් ඒ දානවත් නෙවෙයි. අර ආභරණය පූජා කරපු පින් බලයෙන් තමයි දෙව්ලොව ඉපදිලා තියෙන්නෙ. දැන් හිතන්නකො කෙනෙකුට ගොඩාක් දක්ෂකම් තියෙනවා. නමුත් එයා කම්පැනියකට ඇතුල් කරගන්නෙ එයාගෙ කම්පියුටර් දැනුම මුල් කරගෙන. වෙන හැකියාවල් තියෙනවා. ඒ වාගේම සමහර වෙලාවට කෙනෙක් ගන්නවා එයාට තියෙන ඉංග්‍රීසි දැනුම මුල් කරගෙන. වෙන හැකියාවලුත් තියෙනවා. නමුත් එයාව ඒ කම්පැනියට ගන්නෙ ඒ හැකියාව මුල් කරගෙන. ආන්න ඒ වගේ තමයි මල්ලිකාට වෙන ගොඩාක්පින්කම් තියෙනවා. නමුත් ඈ දෙව්ලොව ඉපදිලා තියෙන්නෙ

බුදුරජාණන් වහන්සේගේ දේහයට රන් ආභරණයක් පූජා කිරීම මුල් කරගෙන. ඊටපස්සෙ ඒ දිව්‍යාංගනාවගේ ඒ දිව්‍ය සළු, ඒ දිව්‍ය විමානයේ රන් කොඩි ගොඩාක් ලෙලදෙනවා කියනවා. රත්තරන් පාට දේවල්මයි තියෙන්නෙ. රත්තරන් මල් මාලා, මල් කළඹවල්, ඔක්කොම රත්තරනින්ම තියෙනවා. ඊටපස්සෙ මෙයාගෙ ආභරණ වල මේ දිව්‍යාංගනාවගේ පද්මරාග, මුතුමාල, වෛරෝඩි, මැසිරිමාලා, රතුමැණික්, ආදී මැණික් වර්ග, පරෙවි ඇස් වැනි මැණික් වර්ග, මැණික් මල් මාලා, ඔබ පැළඳගෙන ඉන්නේ. මේ විස්තරය අහන්නේ මුගලන් මහරහතන් වහන්සේ නෙවෙයි, නාරද මහරහතන් වහන්සේ. මුගලන් මහරහතන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ දෙවිවරු ගොඩාක් කතාකරන්න සම්බන්ධ වෙලා තියෙන්නෙ නාරද මහරහතන් වහන්සේත් එක්ක. නාරද මහරහතන් වහන්සේ තමයි ගොඩාක් සංඝයාගේ පීතෘන් වහනසේ විදියට බුදුරජාණන් වහන්සේගේ බුද්ධ පරිනිර්වාණයෙන් පස්සෙ ඉඳලා තියෙන්නෙ. ඊටපස්සෙ තියෙනවා දිව්‍ය යානාවල් මැණික් රත්තරන් තිබිලා තියෙනවා, ඒවගේ විස්තර තියෙනවා. මුළු පළාතම භූමියම බබළනවා කියනවා. ඉතින් අහනවා මොකක්ද ඔබ කරගත්ත පින. නාරද ස්වාමීන් වහන්සේ තමයි මේක ඇහුවෙ. අප්‍රමාණ ගුණස්කන්ධයක් තියෙන ගෞතම බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ මං හිත පහදවාගෙන රන් දැලක් සකස් කලා. අර මේල පළඳනාව. එය රන් රුවනින් සැරසුවා, මුතු පැලැන්දුවා. ඊටපස්සෙ මං ඒ රන් දැල බුදුරජාණන් වහන්සේට පූජා කලා. බුදුරජාණන් වහන්සේ විසින් වර්ණනා කරන ලද ඒ කුසල් තමයි මං කළේ. ඒ නිසයි ශෝකයක් නැතිව, ලෙඩක් නැතිව මං සැපසේ සතුටුවෙවී ඉන්නෙ. මේ වනාහි මල්ලිකා විමානයයි. රන් ආභරණ පූජා කිරීමේ ආනිසංස. මේ අය ඉතින් රහතන් වහන්සේලාගෙන් ධර්මය අහලා, මේ වෙනකොට ධර්මය අවබෝධ කරලත් ඇති. එහෙම නැත්නම් අනාගතේ බුද්ධ ශාසනයක ධර්මය අවබෝධ කරන අය වෙන්නත් පුලුවන්. මොකද කාශ්‍යප බුද්ධ ශාසනයේ ඉඳන් දෙව්ලොව ගිය අයත් ඉඳලා තියෙනවානේ ගෞතම බුද්ධ ශාසනය වෙනකොට. ඉතින් ඒ වගේ. ඉතින් ඒ නිසා පිනේ මේවාගේ විපාක තියෙනවා. ඉතින් අප්‍රමාණ දිව්‍ය සැප විඳගෙන මේ වෙනකොට පින් කරපු අය, දැන් අපි මේ කතා කරන වෙලාවෙ, පින් කරපු අය අප්‍රමාණ සැප විඳිමින් සිටිනවා. ඒ නිසා ඔබගේ ජීවිතයත් පිනෙන් කුසලයෙන් පිරේවා කියලා අපි අදත් ඔබට සෙත් ප්‍රාර්ථනා කරනවා.

දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සඳහා අද දවසේ දායකත්වය දරන්නෙ, සිරිගලවත්ත, මාහරගම, ගිරිඋල්ල යන ලිපිනයේ පදිංචි පින්වත්

එම්.ඒ.ඩී.දිල්හාරී මහත්මිය විසින්. ඉතින් අපි පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක්ව තියෙන ඒ කොරෝනා වසංගතය මේ මනුස්ස ලෝකයෙන් තුරන් වේවා, මනුස්ස වර්ගයාට යහපතක්ම සැලසේවා, සියලු උවදුරු වසංගත දුරු වෙලා, සියලු සැනසිල්ල ලැබේවා මේ පින් බලයෙන් කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යස ඉසුරු වඩා වර්ධනය වෙත්වා. දෙවියෝත් මේ පින් බලයෙන් සසර දුකින් අත්මිදේවා කියලා අපි පින් පමුණුවනවා. ඒ වගේම මේ පින්වතුන් නමින් මියපරලොව ගිය ජේ.බී. මාගරට් ඩයස් සහ එන්.එල්. අප්පුහාමි මහත්මයා, නිව්ටන් අල්විස් මහත්මයා, ඒ වගේම දෙමව්පියන් නමින් මියගිය සියලු ඥාතීන්ද මේ පින් අනුමෝදන් වෙත්වා. ඔබ කවුරුත් නමින් මිය ගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම නන්දනී මතුගම මෑණියන්ටත්, අනුර මල්ලවාරච්චි පියාණන්ටත් සෙත් ප්‍රාර්ථනා කරන්න නිදුක් නිරෝගී සුව පිණිස මේ පින් හේතු වාසනා වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම අපගේ පින්වත් ලොකු ස්වාමීන්වහන්සේ නිසා අපි මේ විදියට ධර්මය ඉගෙන ගන්නෙ, කියන්නෙ, කතා කරන්නෙ, අහන්නෙ. ඉතින් ඒ නිසා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ ඒ සත්පුරුෂ ඇසුර නිරන්තරයෙන් අපි කාටත් සැලසේවා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ ලබත්වා. ඒ වාගේම සියලු ස්වාමීන් වහන්සේලාත් අනගාරිකා මෑණිවරුන්ටත් පැවිදි අපේක්ෂක දූපුතුනුත් සියලු දෙනාට මේ පින් බලෙන් සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. මුතුගල මහමෙව්නා භාවනා අසපුවේ අත්තදීප යොවුන් සභාවේ සියලුම දරුවන්ට මේ පින් අනුමෝදන් වේවා. නිදුක් නිරෝගී සුවය ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම සිරිගලවත්ත, මාහරගම, ගිරිඋල්ල යන ලිපිනයේ පදිංචි පින්වත් එම්.ඒ.ඩී.දිල්හාරී මහත්මියට මේ පින් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. ඇය විශාල පිනක් අද ධර්ම දානයෙන් රැස් කරගත්තා. එතුමියටත් පවුලේ සියලු දෙනාටත් සහෝදර සහෝදරියන්ටත් දූ පුතුන්ටත් මේ පින් අනුමෝදන් වෙලා බොහෝ පිනෙන් කුසලයෙන් ඔබගේ ජීවිතේ පිරේවා, බුදුසසුනේ පිහිට ලබත්වා කියලා පින් පමුණුවනවා. ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලිය ධර්ම දාන පවත්වන සියලු දෙනාට කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට මව් දෙමව්පිය බන්ධු මිත්‍රාදීන්ට ඔබ කාටත් මේ පින් අනුමෝදන් වී සසර දුකින් නිදහස් වෙන්න කාටත් මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=906Pf52Js-o&list=PLalyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=10

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ නො.2, තුන්වෙනි මාවතේ, අරුප්පල, මහනුවර යන ලිපිනයේ පදිංචි පින්වත් දිලන්ත සිරිවර්ධන මහත්මයා සහ පංචාලී පෙරේරා මහත්මිය විසින්. මේ ඇත්තන් විශාල පිනක් රැස් කරගන්නවා අද දවසේ ලක්විරු ගුවන්විදුලිය සහ ශ්‍රද්ධා රූපවාහිනිය ඔස්සේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී සද්ධර්මය ලෝකය පුරා සැදැහැවතුන්ට අහන්න සලස්වන ධර්ම දානය නිසා. දැන් මේ ධර්මදේශනා අහලා පින් පව් කුසල් අකුසල් ගැන යම්කිසි කෙනෙකුට පැහැදීම ඇතිවුනොත් ඒ වගේම ඒ පින් පව් කුසල් අකුසල් තේරුම් අරන් ඒ අය ධර්මය පුරුදු කලොත් ඒක කොයිතරම් නම් මේ ධර්මදානය දෙන අයට කොච්චර යහපතක්ද. දැන් ගොඩාක් අය දන්නවා ධර්මදේශනා නිසා තමයි ගොඩාක් අය කියනවා මේ ධර්ම දේශනා අහලා තමයි අනේ අපේ මේ ජීවිතේ අපි වෙනස් කරගත්තෙ, අපේ පව්කම් අපි නැති කරගත්තෙ, අපේ ජීවිතේ අලුත් පැත්තකට ගන්නට උපකාරී වුනා ධර්ම දේශනා ඇසීම කියලා. එහෙනම් ඔබගේ හිත වෙනස්වෙන ධර්මදේශනා ඔබට අහන්න සැලැස්සුවේ කවුරුහරි දායකත්වයක් දරලා ඒ ධර්ම දේශනා විකාශනය කරපු නිසා. ඉතින් ඒ නිසා ඒ ඇත්තන්ට කොයිතරම් වාසනාවක්ද ධර්මයෙන් තවත් අයගේ ජීවිත වෙනස් කිරීම පිණිස ධර්මදානය දෙන්න ලැබීම ගැන, ඒ නිසා ඒ ධර්ම දානය දෙන පින්වතුන්ටත් බොහෝ කාලයක් හිත සුව පිණිස යහපත පිණිස පවතින බව පළමුවෙන්ම සිහිපත් කළ යුතුයි. ඉතින් පින්වත්නි අපි මේ පහුගිය කාලෙ ගොඩාක් දෙවිවරුන්ගේ ජීවිත ගැන ඉගෙන ගත්තා. අපි තවත්

බලමු. එක එක විදියට තමයි ඒ කාලයේ පින්දහම් කරගෙන තියෙන්නෙ. ඉතින් අද දවසේ තියෙනවා දිව්‍යාංගනාවකගේ විස්තර. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දිව්‍ය අප්සරාව දකින්නෙ. මේ දිව්‍ය අප්සරාවට ලොකු ඇස් තියෙනවා. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ අහනවා ලොකු ඇස් තියෙනවා, ඔබේ නම මොකක්ද, දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන රම්‍ය චිත්‍රලතා වනයෙහි ඔබ ලස්සනට ඇවිදිනවා. දැන් බලන්න එක එක දිව්‍යලෝකෙ තියෙන නම්, ඉතින් චිත්‍රලතා වනය, නන්දන වනය, සුධර්මා දිව්‍ය සභාව, එක එක දිව්‍ය ලෝකෙ තියෙන තැන්. තව්තිසා වැසි දෙවිවරු මේ චිත්‍රලතා වනයට එනවා. එතකොට ඒ දෙවිවරු තමන්ගේ යානාවන්, දිව්‍ය රථ ඒ සෑම දෙයක්ම සමඟ විචිත්‍ර වෙලා එනවා. ඒ කියන්නෙ ඒ චිත්‍රලතා වනයට ආවාට පස්සෙ එයාලා යම් යානාවකින්, විමානෙකින්නෙ එන්නෙ, ඒ විමානය සම්පූර්ණයෙන්ම එක එක පාටවල් වලට හැරෙනවා, අර චිත්‍රලතා වනයට ආවට පස්සෙ. මේ චිත්‍රලතා වනෝද්‍යානයේ හැසිරෙන ඔබගේ ශරීරයෙහි රන්මල් ආදී විසිතුරු දේවල් පිහිටලා නෑ. ඔබගේ සිරුර මෙතරම් සුන්දර වුනේ කොහොමද. පින්වත් දෙව්දුව අපි අහන්නේ මේකයි ඔබගේ ශරීරය අමුතු අමුතු විසිතුරු දෙවල් පිහිටලා නෑ, නමුත් අනිත් සියලු දෙනාට වැඩිය ලස්සනයි. ඊටපස්සෙ මේ ප්‍රශ්නය අහන්නෙ සක්දෙවිඳු. මුගලන් මහරහතන් වහන්සේ නෙවෙයි සක්දෙවිඳු තමයි ඒ දිව්‍යාංගනාවගෙන් අහන්නෙ. එතකොට දිව්‍යාංගනාව කියනවා, මට මෙච්චර සැප සම්පත් ලැබුනේ සක්දෙවිඳුනි, මං ඉස්සර හිටියෙ රම්‍ය වූ රජගහනුවර මං උපාසිකාවක්. මගේ නම සුනන්දනා. මට හොඳ ශ්‍රද්ධාවක් තිබුනා. සීලයක් තිබුනා. හැමතිස්සෙම ආසා කලේ දන් දෙන්න. ඍජු සිත් ඇති ආර්යයන් වහන්සේලා ගැන මගේ සිතේ තිබුනේ බලවත් පැහැදීමක්. ඉතින් මං වස්ත්‍ර දන්දුන්නා. ඒ වගේ ආහාරපාන සේනාසන තෙල් පහන් ආදිය මං පූජා කරගත්තා. චාතුද්දස්සී දවසට, පුන්පෝය දවසට, අටවක පෝයට, පටිහාරී පක්ෂයේ පෝය දවස්වලට මං අටසිල් සමාදන් වෙලා හිටියා. දැන් අදකාලෙ ගත්තොත් එහෙම සතර පෝයට. මේ ඒ කාලෙ සිල් සමාදන් වුන දවස්. මං හොඳින් උපෝසථ සිල් රැකගත්තා. හැමදාම සිල්පද වල සංවර වුනා. ඉඳුරන් සංවර කරගත්තා. කාටත් දන්පැන් බෙදා දුන්නා. මං ඒ විදියට තමයි ගෙදර හිටියෙ. මං පඤ්චසීලය හොඳට ආරක්ෂා කලා. සිල් පද පහ රැකගත්තේ කැමැත්තෙන්මයි. ඒ වගේම මං බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහලා මටත් පුලුවන් වුනා ඒ ධර්මය අවබෝධ කරන්න. එතකොට මෑ, මෑගේ නම දිසාලක්කී. ලොකු ඇස් තියෙන දෙවඟන කියන එක. ඈ චතුරාර්ය සත්‍යය අවබෝධ කරපු කෙනෙක්. සෝවාන් වෙච්ච

කෙනෙක්. ඉතින් දිනපතා නැදෑ කෙනෙකුගේ දාසියක් මල්මාලා අරගෙන එනවා. මං ඒ මල් මාලා සියල්ල බුදුරජාණන් වහන්සේගේ ස්තූපයට ශ්‍රද්ධාවෙන් පූජා කලා. රජගහනුවරට ඇතුල් වෙන තැනම තියෙනවා විශාල බුදුරජාණන් වහන්සේගේ ද්‍රෝණයක් ධාතූන් වහන්සේලා පිහිටවපු ස්තූපය, රජගහනුවර. අජාසත්ත රජ්ජුරුවො හදපු. මේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ සිද්ධියක්. ඇගෙ වැඩේම ලස්සන, ඇගෙ ගෙදරට මල් ගේනවා. ඈ ඒ මල් ඔක්කොම සෑයට පූජාකරනවා. උපෝසථ දවසටත් මං ස්ථූපය වඳින්න යනවා. පහන් සිතින්මයි දෑතින්ම මල් සුවඳවිලවුන් ස්තූපයට පූජා කලේ. බලන්න ස්තූප වන්දනාව. පින්වත් දෙවිඳුනි, මගේ මේ සොඳුරු රූ සපුවත්, මගේ මේ සොඳුරු උපතත්, මගේ මේ සෘද්ධියත් මේ ආනුභාවයත් මට ලැබුනෙ මල්මාලා පූජා කරපු නිසා කියනවා. මල්මාලා පූජා කිරීමෙන් ලස්සනත් ඒවගේම සුන්දරත්වයත් ආනුභාවයත් සැලසෙනවා මල්මාලා පූජා කිරීමෙන්. දැන් මල්මාලා එකින් එකට මලින් මලට සම්බන්ධ වෙලානෙ තියෙන්නෙ. දිව්‍යලෝකෙත් ඉපදුනාට පස්සෙ සොඳුරු බවවල් ඔක්කෝම එක්කෙනෙකුටම මාලයක් වගේ ගෙතිලා තියෙනවා. කටහඬ, රූපය, හැසිරීම, කතාව, ආනුභාවය, තේජස, ප්‍රියමනාප බව ඔක්කෝම එකට ඇඳිලා තියෙනවා මල්මාලා පූජා කිරීමේ ආනුභාවයෙන්. ඉතින් කියනවා මං සිල්වත්ව හිටිය එකයි, ඔය කරගත්තු පිනුයි, ඔය සියල්ලම හේතුවුනා, හැබැයි සක්දෙවිඳුනි, මගේ හිතේ තියෙන ලොකුම කැමැත්ත තමයි මේ දෙව්ලොවට ආවට පස්සෙ මං හරී කැමැත්තෙන් ඉන්නෙ සකදාගාමී වෙන්න. දැන් මේ බලන්න සක්දෙවිඳුගේ අප්සරාවො, සක්දෙවිඳුගෙ බිරින්දෑවරු. අද කාලේ මිනිස්සුන්ගෙ හිතේ තියෙන ලොකු ආසාවල් මොනවාද. ගෙයක් හදාගන්න එක, හොඳ රස්සාවක් ගන්න එක, දරුවන්ට උගන්වන එක, ඊළඟට ඔය වාගේ අමුතු අමුතු ආසාවල්නෙ තියෙන්නෙ. කෙනෙක්ට මාර්ගඵල ලබන්න කැමැත්තක් තිබ්බොත් එහෙම ඒ ඉතාමත් අතලොස්සයි. මේ බලන්න ඉතින් දැන් මේ සෝවාන් වෙලා අවශේෂ මාර්ගඵල දියුණු කරන්න කැමති දෙවිවරු ගිහිල්ලා තියෙන තැන්නෙ, ආර්ය ශ්‍රාවකයො ඉන්න තැන්නෙ දිව්‍ය ලෝක කියන්නෙ. සක්දෙවිඳුගෙ ලෝකයේ. ඉතින් දිව්‍යලෝකය කියන එක නරක තැනක් නම් මේ මාර්ගඵල ලබපු අය ඉපදෙයිද ඒ තැන්වල. මේ මාර්ගඵල ලබපු ආර්ය ශ්‍රාවකයො ඉපදිච්ච සත්පුරුෂයන්ගේ භූමියනෙ දෙව්ලොව කියන්නෙ. කේවල සත්පුරුෂ භූමිය කියලා කියන්නෙ. සම්පූර්ණයෙන්ම සත්පුරුෂයන්ගේ භූමිය තමයි දෙව්ලොව කියලා කියන්නෙ පින්වත්නි. ඉතින් ඒ නිසා සක්දෙවිඳු මේ විස්තරය වංගීෂ මහරහතන් වහන්සේට කියා සිටියා, වංගීෂ මහරහතන්

වහන්සේගෙන් තමයි මේක පළවෙනි ධර්ම සංගායනාව වෙලාවෙ සංගායනාවට එකතු වෙන්නෙ. ඉතින් පින්වතුනි, තවත් දෙව්දුවක් ගැන තියෙනවා විස්තරයක්. මේ දෙව්දුව හරිම මනස්කාන්තයි, හරිම ලස්සනයි, කොබෝනීල මල් තමයි පළඳගෙන ඉන්නෙ. ඒ වගේ මල් මාලා ගොන ගොතා ඈ සතුටු වෙවී සින්දු කියනවා. ඈ නටනවා. ඈ නටද්දි අඟ පසඟින් ඉතා කන්කළු මනරම් දිව්‍ය නාදයක් නිකුත් වෙනවා. ඔබ නටද්දි ඔබේ මේ සියලු අඟ පසඟින් ඉතා කන්කළු මනරම් දිව්‍ය සුගන්ධයක් නිකුත් වී යනවා. නටන ඔබේ සිරුර ලෙලදෙන විට ඔය කේශ කලාපයේ ඇති සුන්දර පළඳනා වලින් මිහිරි නාදයක් ඇහෙන්නෙ පංචතූර්ය නාදය වගේ. ඔබේ හිසේ මුදුන් මල් කළඹක් තියෙනවා. මද සුළඟින් ඒ මුදුන් මල් කළඹ සැලෙද්දි එයිනුත් මිහිරි නාදයක් ඇහෙනවා. පංචතූර්ය නාදයට වඩා ලස්සනයි. ඔබේ හිසේ පැළඳගෙන ඉන්න මල්දම හරි ලස්සනයි. සුවඳයි. ඒ සුවඳ පැතිරිලා යන්නෙ පිපි සුවඳ හමන මංජුශ්ශක වෘක්ෂයක් වගේ. මේ සොඳුරු සුගන්ධය ඔබේ නාසයට දැනෙනවා නේද, මේ දිව්‍ය ලෝකය ඔබට පෙනෙනවා නේද. පින්වත් දෙව්දුව අපි ඔබෙන් අහන්නෙ මේකයි. ඔබට මේ වගේ සම්පතක් ලැබුනේ මොනවගේ කර්ම විපාකයක් නිසාද. ඒ අශෝක මල් මාලාව හරි ප්‍රභාෂ්වරයි. කාන්තිමත්. පැහැයයි සුවඳයි දෙකම එක වගේම තියෙනවා. ඒ මල් මාලා දාමය බුදුරජාණන් වහන්සේට, දැන් මෙයා කියනවා අශෝක මල් මාලා දාමය කියන එක හරි ප්‍රභාෂ්වර එකක්. හරිම කාන්තියයි. පැහැපත් අශෝක මල්. ඉතින් මට පුලුවන් වුනා කියනවා දවසක් බුදුරජාණන් වහන්සේට අශෝක මල්මාලාවක් පූජා කරන්න. බුදුරජාණන් වහන්සේ විසින් වර්ණනා කරන ලද ඔය කුසල කර්මය මම කරගත්තා. ඒ නිසා ශෝක නැති ලෙඩ දුක් නැති මේ දිව්‍ය සැපයට මං පත්වුනා කියනවා. බලන්න මල්මාලාවක් පූජා කිරීමේ විපාක. තමන්ගේ අතින්ම සුවඳ මල්මාලාවක් හදලා පූජා කරගත්තු ඒ අයට මේ වගේ සැප සැලසෙනවා. ඊටපස්සෙ තියෙනවා තවත් දිව්‍ය විමානයක්, ඒ විමානය තැඹිලි පාටයි. මිදුලේ අතුරලා තියෙන්නෙ රන්වන් වැලි. පංචාංග තූර්යනාදය හරි අගේට වාදනය වෙනවා. ඔබ එයට සැලෙන්නෙ හරි සතුටින්. මැණික්වලින් හදපු ඒ දිව්‍ය විමානයට ඔබ බහිනවා. හැම කාලෙකම මල් පිපෙන සල් වනයටයි ඔබ මේ එන්නෙ. පින්වත් දෙව්දුව මේ සල්රුක ළඟට ඔබ ගියොත් හරි අපූරු දෙයක් වෙනවා. ඒ උතුම් සල් රුක පහළට නැමිලා ඔබ මත මල් හෙලනවා. දැන් මේ දිව්‍යාංගනාව සල් ගහක් යටට ගියාට පස්සෙ ඒ සල් ගහේම අතුවික නැමිලා ඇයගෙ ඇඟට සල්මල් හැලෙනවා. මේ සාල වනයේ සල් රුක් සුළඟින්

සෙලවෙන්නේ ලතාවකටයි. ලස්සන කුරුල්ලන් හැමතැනම ඉන්නවා. දස දිසාවෙම සුවඳ හමායන්නෙ මංජුශ්ශක රුක්ෂයක් වගේ. මේ සොඳුරු සුගන්ධය ඔබට නාසයට දැනෙනවා නේද. ඊටපස්සෙ කියනවා ඔබ මොකක්ද කරපු පින් බලේ කියලා. එතකොට ඈ කියනවා මං ඉස්සර මිනිස් ලෝකෙ මනුස්ස දුවක් වෙලා හිටියේ. ස්වාමියාගේ නිවසේම මම දාසියක් වුනා. අපේ නිවසට වැඩිය බුදුරජාණන් වහන්සේ දැකලා සල්මල් විසුරුවලා උන්වහන්සේට පූජා කලා. මෙයා ගෙදර ඉන්න කාලේ භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ, බුදුරජාණන් වහන්සේ ඈ ඉන්න නිවසට වැඩලා. ඉතින් ගොඩාක් සල්මල් අරන් ඇවිල්ලා බුදුරජාණන් වහන්සේ වඩින මාවතට විසුරුවලා. මගේ හිත හරියට පැහැදුනා. ඉතින් මං සල්මල් වලින් ගොඩාක් ලස්සනට මුදුන් මල් කළඹක් හැදුවා. මං ඒක මගේ දෑතින්ම බුදුරජාණන් වහන්සේට පූජා කලා. දැන් ඉස්සර අපි ලංකාවෙ සල්මල් නෙවෙයි ඇත්තටම බුද්ධකාලෙ තිබ්බ සල්මල්. ඒ සල් ගස් ගත්තොත් එහෙම අද කාලෙ වෙනකොට ලුම්බිණි සල් වනයේත් අද කාලෙ එක ගහක් දෙකක් වගේ තියෙනවා. ඒ ඉස්සර ඉන්දියාවෙ තිබ්බ සල් ගස්. ඊළඟට කුසිනාරාවෙත් තියෙනවා ඉස්සරහ ගස් කිහිපයක් සල් ගස්. ඉතින් අපිත් ඒ ගස් දැකලා තියෙනවා, ඒත් මල් පිපිලා තියෙනවා දැකලා නෑ. අපි ලංකාවෙත් ඒ පැළ තැන් කීපයකම රෝපණය කරවලා තියෙනවා, නමුත් තවම ඉතින් අපිත් මල් දැක්කෙ නෑ, නමුත් බුද්ධ කාලෙ තිබිලා තියෙන්නෙ ඒ සල් ගස්. ඉතින් ඒවගෙන් පුලුවන් හොඳ මල් කළඹක් හදන්න. ඒ මල් කළඹත් බුදුරජාණන් වහන්සේට පූජා කලා. බලන්න ලෙඩක් දුකක් නැතිව මං සැපසේ ඉන්නවා කියනවා දෙව්ලොව, තමන් කරගත්තු පින් බලේට. දැන් මල් කළඹක් පූජා කරලා ඈගෙ ඔටුන්න විදියටත් ලැබුනේ මල් කළඹක්. මෙහිදීත් යමක්ද කරන්නේ ඒ පුණ්‍ය කර්මය ඒ කර්මය ඒ භවය උපතක් පිණිස සකස් වෙලා යන හැටි. ඊටපස්සෙ තියෙනවා තවත් දිව්‍යාංගනාවක්. ඒ දිව්‍යංගනාව ගොඩාක් සෘද්ධිමත්, ගොඩාක් වටින ආසන වලින් සැප පහසුකම් විඳින නානා මැණික් වර්ග පුදුම විදියට අල්ලලා තියෙන ආසනවල ඉන්නෙ. ආභරණ තියෙන්නෙ. ඉතින් ඔය ආසනයේ ඉන්නකොට නන්දන වනයේ සිටින සක්දෙවියෝ වගේ. සමහර විට මේ නන්දන වනයයි, චිත්‍රලතා වනයයි කියලා කියන දෙක ගැන අපි ඉදිරි දේශනාවලදි හොයලා විස්තර කියන්නම්. නමුත් නන්දන වනය සක්දෙවිඳු නිතර සැරිසරන තැන විදියට තියෙන්නෙ. චිත්‍රලතා වනය කියන තැන් යෙදෙන්නෙ නිතර දිව්‍ය අප්සරාවො ඉන්න තැන විදියට. අපි ඉතින් ඒ කරුණු කාරණා කොහොමද කියලා බලමු. සක්දෙවිඳු වගේ දිව්‍ය සැප විඳිමින් තමයි මේ

නන්දන වනයේ සිටින්නෙ. ඉතින් ස්වාමීනී, ඉතින් දැන් මේ දෙව්දුව කියනවා පින, ස්වාමීනී එදා ඔබ වහන්සේ පිණ්ඩපාතෙ වැඩම කලා. එතකොට මං දෑ සමන් මල් මාලාවකුයි, උක් හකුරු පැණිත්තකුත් ඔබවහන්සේට පූජා කලා. ඒ කර්මයේ විපාක වශයෙන් තමයි මේ දිව්‍ය ලෝකයේ සැප විපාක විඳින්නෙ. මුගලන් මහරහතන් වහන්සේට මේ කියන්නෙ, අනේ ස්වාමීනී ඔබ වහන්සේ පිණ්ඩපාතෙ වැඩියා එදා, මම මනුස්ස ලෝකෙ ඉන්න කාලෙ, මම දෑසමන් මල්මාලාවක්, උක්හකුරු පැණිත් ඔබ වහන්සේට පූජා කලා. ඉතින් ස්වාමීනී, මට ලොකු පසුතැවිල්ලක් තියෙනවා ඒ වුනාට, මොකද, මට වැරදීමක් වුනා. ඒ තමයි ස්වාමීනී ධර්ම රාජයාණන් වහන්සේ විසින් මැනැවින් ශ්‍රී සද්ධර්මය දේශනා කලානෙ. අනේ ඔබවහන්සේ උක්හකුරු වළඳලා අර මල්මාලාව පිළිගෙන ඔබ වහන්සේ විවේකයෙන් වැඩ හිටියා. ඔබ වහන්සේ ධර්මය දේශනා කරන්න සූදානම් වුනා මට හිතෙන්නෙ. මම කලබලයට වැඩකටයුතු වැඩි නිසා එහෙම්මම ගියා. අනේ මට බණ අහන්න බැරිවුනානෙ. ඒ නිසා මට හරි ලොකු පසුතැවිල්ලක් තියෙනවා. මං උක් හකුරු පූජා කරපු පිනට දිව්‍යලෝකෙ ඉපදුනා නම්, අනේ එදා මං ඔබවහන්සේගෙන් බණ ටිකක් ඇහුවා නම් කොහොමද කියලා මට අදටත් මතක් වෙනවා කිව්වා. ස්වාමිනී ඔබ වහන්සේට මං කියෙන්නේ, යම්කිසි කෙනෙකුට මං ගැන අනුකම්පාවක් තියෙනවානම් අනේ කවුරුහරි කෙනෙක් ධර්මරාජයාණන් වහන්සේ විසින් මැනැවින් වදාරණ ලද ශ්‍රී සද්ධර්මය තුළ මාව සමාදන් කරවන්න. ඇතැම් දෙවිවරුන්ට බුදුරජාණන් වහන්සේ ගැනත්, ධර්මය ගැනත්, ආර්ය සංඝ රත්නය ගැනත් ශ්‍රද්ධාවක් තියෙනවා. ආන්න ඒ දෙවිවරු ආයුෂයෙන් යසසින් සිරියාවෙන් මාව ඉක්මවා බබලනවා කියනවා. අනිත් මහා ඍද්ධිමත් දෙවිවරු වර්ණයෙන් හරි ප්‍රතාපවත්. හරි උත්තරීතරයි. මට වඩා සැප තියෙනවා. සාමාන්‍යයෙන් බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහලා බුදුරජාණන් වහන්සේ ගැන ලොකු පැහැදීමකින්, සාමාන්‍යයෙන් දානයක් පූජා කරලා දිව්‍ය ලෝකෙ ඉපදෙන කෙනෙකුටයි, තෙරුවන් සරණ ගිහිල්ලා සිල් රැකලා ධර්මය අහලා දිව්‍යලෝකෙ ඉපදුනු අයයි වෙනමම පේනවා කිව්වා දිව්‍යලෝකෙ. ඒ අය වර්ණයෙන් ආයුෂයෙන් වැඩියි. ආනුභාවය වැඩියි, තේජස වැඩියි. ඇයි උතුම් දෙයක් ස්පර්ශ කරලා තමයි ඒ දිව්‍යලෝකෙ උපදින්නෙ. ඉතින් මෙයා කියනවා අනේ මාවත් ධර්මයේම සමාදන් කරවන්න, මට පැහැදිලිව පේනවා කියනවා කොච්චර මේ සැප වින්දත් මේ දිව්‍යලෝකෙ ඇතැම් දෙවිවරු මහා තෙදවත්. ඒ තේජස ඉදිරියේ මම ටිකක් පහුබහිනවා කියනවා. මට මේක කියනකොට මතක් වුනේ අංගුත්තර නිකායේ

දේවතා සූත්‍රයේ තියෙනවා බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, මේ කාරණාව හරි විශේෂ කාරණාවක් පින්වත්නි. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, ඊයේ රාත්‍රියේ දේව පිරිසක් ඇවිල්ලා මං ඉදිරියේ වන්දනා කරලා කියා සිටියා, ස්වාමිනි භාග්‍යවතුන් වහන්ස අපි සංඝයා දැකලා පැහැදිලා, සංඝයා දකිනකොටම හුනස්නෙන් නැගිටලා ඒ පින් බලයට දිව්‍යලෝකෙ ඉපදිච්ච අය. ඒ වුනාට ස්වාමීනී අපිට ඒ සංඝයා ළඟට ගිහිල්ලා වන්දනා කරගන්න බැරිවුනා. දිව්‍යලෝකෙ ඉපදුනත් අපිට ලොකු පසුතැවිල්ලක් තියෙනවා, අනේ අපි සංඝයාට වැන්දානම් කියලා. ඊටපස්සෙ ඒ දෙවිවරු ටික අතුරුදහන් වුනා. තවත් දෙවිවරු පිරිසක් ආවා. ඒ දෙවිවරු කියනවා ස්වාමීනී, අපි සංඝයා දැකලා ගෞරවයෙන් ළඟට ගිහිල්ලා වන්දනා කලා, අනේ ස්වාමීනී වඩින්න කියල වඩම්මලා ආසනයක ඉන්දවලා ආසන පූජා කරගන්න බැරිවුනානෙ. අපිට ඒ ගැන හරි පසුතැවිල්ලක් තියෙනවා කිව්වා. එතකොට දිව්‍ය ලෝකෙත් නොකරපු පින් ගැන, ඒ කියන්නෙ පිනක් කරන්න අවශ්‍යතාවය තියෙද්දිත් ඒක මගහැරිච්ච එක ගැන දෙවිවරුන්ට දැනෙන අවස්ථා තියෙනවා පින්වතුනි. ඊටපස්සෙ ඒ දෙවිවරු පිරිස අතුරුදහන් වුනා. තව දිව්‍ය පිරිසක් ආවා. ඒ දෙවිවරු කියනවා ස්වාමීනි අපි සංඝයාට එහෙම ආසන පූජා කලා, වැඩ ඉන්න කියලා. හැබැයි ඉතින් අපිට ශක්ති පමණින් අනේ තියෙන දෙයක් පූජා කරගන්න බැරිවුනානෙ. අර සංඝයා දැකලා හුනස්නෙන් නැගිටලා වැඳලා ආසන පූජා කරපු පින් බලේට දෙව්ලොව ඉපදුනා. අර දානයක් පූජා කරගන්න බැරිවුනා. ඒ නිසා අපි දැන් දිව්‍යලෝකයේ අපිට අනිත් දෙවිවරු ළඟ දැනෙනවා අපි දිව්‍ය ආයු වර්ණ වලින් අඩුයි වගේ. පසුතැවිල්ලකුත් හිතේ තියෙනවා කිව්වා. ඊටපස්සෙ කියනවා ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස, තව පිරිසක් ඇවිල්ලා කියනවා භාග්‍යවතුන් වහන්ස අපි සංඝයාට දානෙ පූජා කරා. අනේ දානෙ පූජා කරලා බණ ටිකක් අහන්න බැරිවුනා. ධර්මය ශ්‍රවණය කරගන්න බැරිවුනා. ඒ නිසා දිව්‍ය ආයු වර්ණ සැප වලින් අඩුයි. පසුතැවිල්ලක් හිතේ තියෙනවා කිව්වා. තව දෙවිවරු කියනවා අනේ අපි බණ ඇහුවා. ඒ බණ මතක තියාගත්තෙ නෑ. ඔය සමහර මිනිස්සු කියන්නෙ අනේ හරී අගේ ඇති බණ ටික, මතක නෑ. ඊටපස්සෙ අනිත් දෙවිවරු කියනවා, අපි ධර්මය අහලා මතකත් තියාත්තා, ඒත් මතක බණ, හිතේ තියෙන බණ විමසුවෙ නෑ, ඒකයි දැන් අපි අර පහුගිය කාලෙ මතක් කලේ අර කොරෝනා වසංගතය පැතිරි පැතිරී යනකොට දැන් සිහිකරන්න ධර්මය කියලා, භාග්‍යවතුන් වහන්සේ අනිත්‍යයි කියලා වදාරපු කාරණාවන් කොච්චර ඇත්තද කියලා. මෙහෙමත් අනිත්‍යයක් පින්වතුනි.

මෙහෙමත් වෙනස්වීමක්. කවුද හිතුවෙ මාස ගණන් එක තැනට ඉන්න වෙලා ඉන්න වෙයි කියලා. ඔක්කොම වෙනස් වෙලා ගියා. මුලු ලංකාවෙම මිනිස්සු යනඑනකොට කටවල් වහගෙන යන්න වෙයි කියලා කවුද හිතුවෙ. ලෝකයක් කටවල් වහගෙන ගියා. මිනී දහස් ගණන් එක තැන දකින්න වෙයි අහන්න වෙයි කියලා කවුද හිතුවෙ. ඒත් එහෙම සිද්ධ වුනා. මරණය කියන එක පෙනි පෙනී තිබුනා. මරණය කියන එක වටේම සැරිසැරුවා. හැමතැනම බයෙන් තැතිගැනීමෙන් කන් වලට ඇහුනා. කොච්චර අනිත්‍ය වුනාද. වෙනස් වුනාද. ඉදිරියට තව කොච්චර දේවල් අනිත්‍ය වෙයිද, කොච්චර දේවල් වෙනස් වෙයිද. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ අනිත්‍යයි කියල දේශනා කරපු එක බලන්න කොච්චර ඇත්තක්ද. දැන් මිනිස්සුන්ට අනිත්‍යයි කියලා කියන බණ මතකයි. විමසන්න ඕන. ඇත්තනෙ මේක කියලා. ඒ දවස්වල අපි කිව්වා නිතරම අනිත්‍යය සිහි කරන්න, මරණ සතිය සිහි කරන්න. මරණයේදී සියල්ල අතහැරලා යන්න සිද්ධ වෙන බව සිහි කරන්න, දැන් ධර්මය බුදුරජාණන් වහන්සේ වදාළ දේ. ප්‍රියමනාප දෙයින් වෙන්වෙනවා කියලා බුදුරජාණන් වහන්සේ වදාළ දේ සත්‍යයි. ඒක දුකක් බව සත්‍යයයි, සිහි කරන්න කිව්වා. ලෙඩරෝග වැළඳීම දුකක්, ඒක සත්‍යයි කියලා සිහි කරන්න කිව්වා. ඊටපස්සෙ මරණය කියන එක දුක් සහිත දෙයක්, ඒක සිහි කරන්න කිව්වා. අප්‍රිය අමනාප දේවල් එක්ක එකතු වීම දුකයි කියලා ඒ බුදුරජාණන් වහන්සේ වදාළා ඒක සත්‍යයක් කියලා සිහි කරන්න කිව්වා. ලෙඩ රෝග ජරා මරණ වලට පත්වෙන සත්ත්වයා මෙසේ වෙන්න එපා කියලා පතනවා. මා කරා මේවා නොපැමිණෙනවා නම් කියලා, කැමති වුනාට ඒක ලැබෙන්නෑ. කැමති දේ නොලැබීම දුකක් කියන කාරණාව සිහි කරන්න කිව්වා. සසරේ යන එකේ දුක කියලා සිහි කරන්න කිව්වා. කෙලවරක් නැතිව සංසාරේ ගමන් කරද්දි මෙච්චර රෝග ව්‍යසන, දුර්භික්ෂ ව්‍යසන, බෝග ව්‍යසන මේවා වලට පත්වෙවී සංසාරයේ සත්ත්වයා ඉන්නෙ කියලා සිහි කරන්න කිව්වා. මනුස්සයා බල්ලො කුකුලො ගාණට මනුස්සයා වැටුනා, මනුස්සයාගෙ ජීවිත ඒ තත්ත්වෙට පෙරලුනා. ඒවා භාග්‍යවතුන් වහන්සේ අනිත්‍යයි, සසර දුකයි කියලා කියපු දේශනාව පිළිගන්න කියලා අහපු බණ විමසපල්ලා දැන් කියලා කොච්චර නම් කීවද. ධර්මය මතක තියාගන්න එකයි, ධර්මය විමසන එකයි පුදුම පිනක්. ඉතින් ඒ දෙවිවරු කියනවා අපි ධර්මය විමසුවේ නෑ, ඒ නිසා අපිට වෙනසක් දැනෙනවා දිව්‍යලෝකෙ ආවාට පස්සෙ. තව දෙවිවරු පිරිසක් කියනවා අපි ධර්මය විමසුවා විමසලා ඒ ධර්මය පිළිපැද්දා. ඒ නිසා අපිට දිව්‍ය ලෝකෙ දුකක් නෑ,

පසුතැවිල්ලක් නෑ. අපි අනිත් දෙවිවරුන්ට වැඩිය දිව්‍ය ආයු වර්ණ සැප බල තේජස අධිපති බවින් වැඩියි. මක් නිසාද අපි තථාගතයන් වහන්සේගේ ශාසනයේ ධර්මය අහලා නුවණින් විමසලා පිළිපැදපු අය. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, බලන්න කිච්චා ධර්මයේ හැසිරිච්ච අය එහෙ ගිහිල්ලා පසුතැවෙන්නැතිව සන්තෝසෙන් දිව්‍ය සැප භුක්ති විඳින විදිය. පින්වත් මහණෙනි, මාද නුඹලාට කියන්නේ පසුතැවෙන්න එපා. අර තියේනෙ රුක්මුල් වනසෙනසුන්. ඔබත් ඇසූ ධර්මය නුවණින් විමසන්න. ඒ ධර්මය පිළිපදින්න. ධර්මයෙන් ප්‍රයෝජන ගන්න කියලා බුදුරජාණන් වහන්සේ පසුතැවිලි නොවන ජීවිතයක් ඇති කරගන්න කියලා ඒ ධර්ම දේශනාවෙන් වදාළා. ඒ නිසයි මේ කියන්නෙ පින්වතුනි, සමහර වෙලාවට සමහර අයගෙ පින් බලයට දෙව්ලොව ඉපදිලා සමහර අයට හිතෙයි අපිට තව මෙහෙම පින් කරගන්න තිබ්බා. අනේ ද්‍රෝණයක් ධාතු තිබ්බා, අනේ අපිට ගිහිල්ලා ධාතුන් වහන්සේලා වැඳගන්න තිබ්බා. අෂ්ඨඵල, දෙතිස්ඵල ජයශ්‍රී මහා බෝධීන්වහන්සේ වැඳ පුදාගන්න තිබ්බා. සත්පුරුෂයො හිටියා, උන්වහන්සේලාගෙ ඇසුරෙ හැමදාම අපිට බණ අහන්න තිබුනා. මේ ධර්මය පුරුදු කරගන්න තිබ්බා කියලා ගොඩාක් දුක හිතෙයි. ඒ වගේ තත්ත්වයක් නම් ඇතිකරගන්න එපා. හොඳට ධර්මය නුවණින් විමසන්න. මේ ඔබ කරපු පින් ගැන සතුටු වෙලා සතර අපා බිය ඉදිරියේ සුගති සැප අපිට තියෙනවානෙ කියලා සිතට ප්‍රීතිය ඇතිකරගැනීම පිණිස සහ කර්ම කර්මඵල විශ්වාසය තුළ ඔබ ස්ථාවර කිරීම පිණිස මේ ධර්මදේශනා තියෙන්නෙ. නමුත් ඔබ තවත් දියුණු කරගතයුතු දෙයක් තියෙනවා. ඒ තමයි ධර්මය නුවණින් විමසීම. හොඳට විමසන්න. ඉතින් ඒ නිසා, මේ බලන්න ඉතින් ඒ විදියට දිව්‍යලෝකයේ දෙවිවරු මුගලන් මහරහතන් වහන්සේ සමඟ කතා කරලා තියෙනවා. ඉතින් කියනවා පුලුවන්නම් මට කවුරුහරි අනුකම්පා කරනවා නම්, දෙවිවරු කියනවා මාව ධර්මයේ සමාදන් කරවන්න කියනවා. ඔන්න දෙවිවරු. අද කාලයේ දෙවිවරු විදියට වේශයෙන් ඇවිල්ලා මිනිස්සුන්ට කතා කරලා කියෙන්නෙ මට හදලා දෙන්න දේවාලයක්. මං වෙනුවෙන් පූජාවල් තියන්න, මං වෙනුවෙන් පහන් තියන්න. ඊළඟට මම ලෙඩ සුව කරන්නම්, අරක කරන්නම්, මේක කරන්නම් කියලා අද කතා කරන අය. මේ බලන්න මේ දෙවිවරු කියනවා අපිව ධර්මයේම සමාදන් කරවන්න කියලා. ඉතින් පින්වත්නි, ඔය විදියට ඔය ප්‍රභෂ්වර විමානයේ ඊළඟට බුදුරජාණන් වහන්සේගේ කාලයේ සිද්ධ වෙච්ච සිද්ධියක් මේ තියෙන්නෙ. ඒ තමයි මේ දිව්‍යාංගනාව, මේ පුදුම සහගත දිව්‍ය විමානයක්. මං

ඒකයි කිව්වෙ මේ දිව්‍යලෝකෙ කියන එක අපිට මේ එක කතාවක් දෙක්ක අහපු පමණින්ම පින්වතුනි ගන්න බෑ හිතට. මේ බලන්න. පින්වත් දෙව්දුව, අහස් ගමන් ඇති උතුම් හස්තියෙකුගේ පිට නැගලා අහසින්ම නේද ඔබ ආවේ. ඇතාව සරසලා තියෙන හැටි නම් හරි සුන්දරයි. රම්‍යයි. රන් මැණික් සැරසූ දම්වැලින් විචිත්‍රවත් කරලයි මේ ඇතාව තියෙන්නෙ. මේ ඇතාගෙ දළ දෙක මත නිල්වන් ජලය තියෙනවා. දැන් බලන්න ඒ ඇතා කොච්චර විශාලයිද කියනවා නම් ඒ ඇතාගේ දළ දෙකේ උඩ කාණුව වගේ පොකුණු දෙකක් තියෙන්නෙ. ඒ පොකුණු දෙකේ පිපුණු නෙළුම් තියෙනවා. ලස්සන පොකුණු. ඒ නෙළුම් මත පංචාංගික තූර්ය නාද මිහිරට නාද වෙද්දි මේ මනහර දිව්‍ය අප්සරාවන් ලස්සනට නටනවා. එතකොට දිව්‍ය අප්සරාවන් පොකුණෙ නටනවා මල් උඩ, ඒ මල් තියෙන්නෙ පොකුණෙ, පොකුණ තියෙන්නෙ දළ දෙක උඩ. එතකොට ඇතා කොච්චර විශාලයිද කියලා හිතන්න. මහානුභාව ඇති දෙව්දුව, දිව්‍ය අධිපති බවටයි දැන් ඔබ පත්වෙලා තියෙන්නෙ. ආනුභාව සම්පන්න දිව්‍යාංගනාවක්. මිනිස් ලෝකෙ ඉන්න කාලෙ මොකක්ද කරගත්ත පින. ඊටපස්සෙ ඇ කියනවා පින, බරණැස් නුවරදී මං බුදු රජාණන් වහන්සේව බැහැදකින්න ගියා. වස්ත්‍ර දෙකක් පූජා කරගත්තා. ඒ සිරිපා යුග වන්දනා කරගත්තා. බිම වාඩිවුනා. මට හරි සතුටුයි. මං වැඳගෙන හිටියා. බුදුරජාණන් වහන්සේට රත්තරන් පාට සළු දෙකක් පූජා කරලා බුදුරජාණන් වහන්සේ දෙස වැඳගෙන හිටපු උපාසිකාවක්, මෑ දුප්පත් කෙනෙක්. ඉතින් බුදුරජාණන් වහන්සේ තනි රත්තරන් පාටයි. උන්වහන්සේ මට දුකත් දුක හටගන්න හැටිත්, දුකේ අනිත්‍යතාවයත් වදාළා. ඒ වගේම මේ සසංකත වූ සනාතන වූ දුක් නැති නිවන ගැන වදාළා. කෙලෙස් දුරුවෙන ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැන වදාළා. මට ආයුෂ තිබුනේ ටිකයි. මං මැරුණා. ඒ ලෝකෙන් චුත වුනා. ඊටපස්සෙ තමයි තව්තිසාවේ දෙවියන් අතර මං උපන්නෙ. දැන් සක්දෙව්දුගේ බිරිඳක්. මගේ නම හැමතැනම පැතිරිලා තියෙන්නෙ. මගේ නම යසුත්තරා. ඒ දිව්‍යලෝකෙ පුරාම පැතිරිලා තියෙන්නෙ, මෑ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ සෝතාපන්න වූ ශ්‍රාවිකාවක්. එතකොට මැට ලැබිලා තියෙන දිව්‍ය විමානය තනිකර ඇතෙක් උඩ තියෙන්නෙ. ඇතාගෙ දළ දෙක උඩ පොකුණ, පොකුණේ මල්, ඒ මල් උඩ තමයි දිව්‍යාංගනාවො නටන්නෙ. ඉතින් මේ රත්තරන් සළු දෙකක් පූජා කිරීමත්, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගැනීමත්. බලන්න ඒ තමන්ගේ හිතේ ඇතිවන පුණ්‍ය සංස්කාරවල විපාක. ඉතින් ඒ නිසා තමයි පැහැදිලිවම කියන්නෙ දෙව්ලොව සත්පුරුෂයන්ගේ භූමියයි කියලා. සත්පුරුෂයන්ගේ භූමිය. මේ

මනුස්ස ලෝකයේ අඩන්තේට්ටම් තියෙන්නෙ, සම්මාදිට්ඨික කර්මයක් මුල් වෙලා මනුස්සයෙක් වෙලා උපදිනවා. මනුස්සයෙක් වෙලා ඉපදුනාට පස්සෙ නානාදෘෂ්ටි ගන්නවා. හොඳ කරපු කර්මත් විපාක දෙනවා, නරක කරපු කර්මත් විපාක දෙනවා. ඔක්කොම එකට කලවමේ තමයි මේ විපාකය එන්නෙ. ඒ වුනාට දෙව්ලොවදි එන වාසනාව තමයි ඒ දෙව්ලොව සත්පුරුෂයන්ගේ භූමියක්. අනිත් එක තමයි ගොඩාක් මාර්ගඵල ලාභීන්, දැන් බලන්න සක්දෙවිඳුගේ දිව්‍යාංගනාවොම කීදෙනෙක් හිටියද සෝවාන් වෙච්ච අය, බිරින්දෑවරු. සක්දෙවිඳුගේ බිරින්දෑවරුම කීදෙනෙක් ඉන්නවද බලන්න සෝවාන් වෙච්ච අය. එතකොට විමාන වල කොච්චර හිටියද බලන්න සෝවාන් වෙච්ච අය. බුදුරජාණන් වහන්සේ ඇඟින් දැකපු, රහතන් වහන්සේලා නේත්‍රයෙන් දැකපු දෙවිවරුනෙ ඉන්නෙ තව්තිසාවෙ. එතකොට ඒ වාගේ ඉන්න අය අනිත් අයට කොච්චර ධර්මයෙන් අනුග්‍රහ කරයිද. අද කාලේ කෙනෙකුට ශ්‍රද්ධා මාත්‍රයක් ඇතිවීම තුළින් ඒ අය අනිත් අයට කොච්චර ධර්මයෙන් අනුග්‍රහ කරනවාද. අනේ සංසාරෙට වැටෙන්න එපා, ඔයාලත් මේ දහමින් පිළිසරණක් ගන්න කියලා, ශ්‍රද්ධාව ඇතිවෙච්ච කමනෙ. සතර අපාය භය ප්‍රහාණය කරලා, චතුරාර්ය සත්‍යය සත්‍යඥානයට පත්වුන සෝවාන් වෙච්ච ශ්‍රාවකයො කොච්චර උපකාර කරයිද අනිත් අයට ධර්මයේ හැසිරෙන්න. එතකොට දෙවිවරු කොච්චර උපකාර කරනවාද දිව්‍යලෝකයේ ඉන්න අන් අයට ධර්මයේ හැසිරීම පිණිස. ඒකනේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ ධර්මය හොඳට මතක තියාගෙන දරාගෙන හැසිරිච්ච කෙනෙක් මාර්ගඵල නොලබා දිව්‍යලෝකෙ ගිහිල්ලා ඒ දිව්‍යලෝකෙ එයා කිසි ගාණක් නැතිව දිව්‍ය පංචකාමයේ යෙදී වාසය කලත් අනිත් දෙවිවරු කියනවා කියනවා, භවත සිහි කරන්න ඔබ අහවල් ගමේ අහවල් තැන අහවල් විදියටයි හිටියේ, මේ විදියටයි ඔබ ධර්මය පුරුදු කලේ. ආන්න ධර්මය දේශනා කරන විමාන තියෙනවා, ඔබ ඒ විමාන වලට ගිහිල්ලා ධර්මය අහන්න කියලා අනිත් දෙවිවරු සිහි කරනවා. සමහර අයට ධර්මය  තමන්ටම මතක් වෙනවා, මම මේ විදියට ධර්මය පුරුදු කරලා ආවෙ කියලා. දැන් ගොඩාක් දෙවිවරු ආපස්සට බලනවා අපි මොන පිනකින්ද ආවෙ කියලා. එතකොට මනුස්ස ලෝකෙ කරපු පින්, තමන්ට පින් කරන්න උපකාර කරපු අය, ඒ ගොඩාක් අයට මතක් වෙනවා. ඉතින් පින්වතුනි බලන්න, ඊළඟට අලෝමා විමානවත්ථුව. මේක මේ දිව්‍යාංගනාවත් අපූරු සුන්දරත්වයකින් තේජසකින් බැබලෙන දෙව්දුවක්. ඉතින් අහනවා මොකක් කරලද ආවෙ. මුගලන් මහරහතන් වහන්සේ අහන්නේ. ඊටපස්සෙ කියනවා මං

බරණැස් නුවරදී හිරුගොත් වංශයේ ඥාතිවරයා වන බුදුරජාණන් වහන්සේට පහන් සිතින් යුතුව මගේ දෑතින්ම වියළි පිට්ටුවක් පූජාකලා. දැන් මෙයා දුප්පත් කාන්තාවක්. බුදුරජාණන් වහන්සේ පිණ්ඩපාතෙ වඩිනවා දැක්කා. පූජා කරගන්න දෙයක් නෑ, වියළි පිට්ටුවක්. ඒ පිට්ටුව වියළි එකක්. ලුණු තිබුනෙත් නෑ, එබඳු දානයෙහි පවා විපාකය බලන්න. එබඳු දේකට මෙබඳු සැපවත් දෙව්ලොවක ඉන්න මේ අලෝමා දෙව්දුව දැක දැකත් පින් නොකරන්නේ කවුද. ලුණුත් නැති වියළි පිට්ටුවක් පූජා කරලා දිව්‍යලෝකෙ මෙච්චර ආනුභාවසම්පන්න බවට පත්වුනු අලෝමා දෙව්දුව දැකලා පින් නොකරන කෙනෙක් ඉන්නවා නම් වැඩක්ම නෑ කිව්වා. ලුණුත් නැති පිට්ටුවක් පූජා කරලා මේ ලැබිච්ච දිව්‍ය සැපය. මේ බලන්න ඒ මිනිස්සුන්ගෙ පූජා කරන දේට වැඩිය හිතේ තියෙන පහන් සිත, පැහැදීම. ඊටපස්සෙ ඒ පිනෙන් තමයි මෙච්චර ලස්සනක්, මෙච්චර සැපක්, මෙච්චර දිව්‍ය සම්පත්තියක් ලැබුනෙ. ඉතින් ස්වාමීනී ඔය පින තමයි මං කරගත්තෙ කියලා අලෝමා දෙව්දුව කියනවා. ඊළඟට තවත් බලන්න හරි ලස්සන තව දිව්‍ය විමානයක් තියෙනවා, ඒ දිව්‍යාංගනාවත් ඕෂධී තාරකාවක් වගේ බබලනවා ලස්සනට,හැම තැනම ප්‍රිය උපදවන සැප සම්පත් වලින් ආඪ්‍ය වෙලා ඇය සිටින්නෙ. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ තමයි ඒ දෙව්දුවගෙන් ඇහුවේ මොකක්ද මෙච්චර කරපු පින් බලය කියලා. ඊටපස්සෙ කියනවා මම අන්දකවින්ද රටේ තමයි ආදිච්චබන්ධු වූ බුදුරජාණන් වහන්සේට කැඳක් පූජා කරලා, ඒක හොඳ හැටියට තෙම්පරාදු කරපු බෙහෙත් කොළ කැඳක්. ඖෂධ කැඳක් පූජා කරලා තියෙන්නෙ. ඒකට මං තිප්පිළි දැම්මා. දැන් අර කැඳ පූජා කරපු විදිය කියනවා, ඇයි එයාට සැප ලැබුනෙ ඒකෙන්නෙ. දාපු දේවලුත් මතකයි. මම ඒකට තිප්පිලි දැම්මා, සුදුළූණු දැම්මා, සැවැන්දරා දැම්මා. ඍජු හිත් ඇති බුදුරජාණන් වහන්සේ ගැන චිත්තප්‍රසාදයෙන්මයි මං බෙහෙත් කැඳ පූජා කරගත්තෙ. ඔන්න කැඳ පූජාවේ ආනිසංස. සියලු අඟ පසඟින් සුන්දර වූ ස්ත්‍රියක් ඉන්නවා. තමන්ගේ ස්වාමියාට ඇගේ දැක්මත් අලාමකයි. ඇය සක්විති රජුගේ අගමෙහෙසිය බවට පත්වෙනවා. ඒ වුනාට ඒ සම්පත් මේ බෙහෙත් කැඳ දානෙ විපාකෙන් සොලොස්වෙනි කලාවෙන් කලාවක්වත් තරම්වත් වටින්නෑ. කියනවා සක්විති රජතුමාගේ බිරිඳ වෙන එක පුංචි වැඩක් කියනවා. ඒත් කැඳ ටිකක් පූජා කරලා මේ ලැබිච්ච දිව්‍ය සැපය හිතාගන්න බෑ කියනවා. ඊටපස්සෙ කියනවා ලක්ෂයක් රන් කහවණු, ලක්ෂයක් අශ්වයන්, ලක්ෂයක් වෙළඹුන් යොදවපු ලක්ෂයක් අශ්වරථ, සුන්දර මිණිකඩොල් ආභරණ වලින් සැරසුනු

ලක්ෂයක් කන්‍යාවන් කියන මේ කිසි දෙයක් බෙහෙත් කැඳ දාන විපාකයේ සොලොස්වෙනා කලාවෙන් කලාවක් තරම්වත් වටින්නෙ නෑ. බෙහෙත් කැඳ තියෙන්නෙ දැන් අර සුළුබුළු උපාසකතුමා මලියදෙව මහරහතන් වහන්සේට හදලා දීලා තියෙන්නෙ බෙහෙත් කැඳක් සුළුබුළු කැඳ කියලා. ඔය අදටත් ඒ බෙහෙත් වර්ග එකොළහකින් ඒක හදන්නෙ. බෙහෙත් කැඳ. එතකොට ඒ ඖෂධයෙන් අපේ මලියදෙව මහරහතන් වහන්සේගේ බඩේ කැක්කුම සුව වෙලා. ඉතින් රෝගයක් පිණිස පූජා කරන කැඳ තමයි බෙහෙත් කැඳ. දැන් මං ඒකයි කිව්වෙ කරපිංචා කැඳ වර්ග. ඒවා බෙහෙත් කැඳ ගණයට වැටෙන්නෙ. එතකොට ඒවගේ විපාක මේ කියන්නෙ. හේමවත කියල වටිනා ඇත්තු ජාතියක් ඉන්නවා. ඒ ඇතුන්ට උතුම් රථ රෝද හැටියට කරකැවී ගිය ඇත්දළ තියෙනවා. රනින් කරපු ආභරණ වලින් ඒ ඇත්තුන්ගේ බෙල්ල සරසලා තියෙනවා. එබඳු සෝබමාන වූ ඇතුන් සියයක් ලැබුනත් බෙහෙත් කැඳ දානයේ විපාකයෙන් සොලොස්වෙනි කලාවෙන් කලාවක් තරම්වත් වටින්නෙ නෑ කියනවා. මේ ලෝකයේ කවුරුහරි කෙනෙක් සිව්මහා දිවයිනට අධිපති වෙලා සක්විති රජ බවට පත්වෙනවා නම් බෙහෙත් කැඳ දානයේ විපාකයෙන් සොලොස්වෙනි කලාවෙන් කලාවක් තරම්වත් වටින්නෙ නෑ කියනවා. කොහොමද බෙහෙත් කැඳේ විපාක. ඒකනෙ බුදුරජාණන් වහන්සේ මේ වැඩසටහනේ ආරම්භයේ ඔබට මතකද, මට නම් මතක හැටියට දෙවැනි වැඩසටහන වගේ, ඒ ආරම්භයේම මතකද ඔබට කිව්වා බුදුරජාණන් වහන්සේ දිව්‍යලෝකයේ සැප විස්තර කරපු තැන. බුදුරජාණන් වහන්සේ දිව්‍යලෝකයේ සැප විස්තර කරා සක්විති රජ්ජුරුවෝ විඳින සැප මේ අතට ගත්ත ගල් කැටයක් වගේ. දිව්‍ය ලෝකයේ සැප හිමාල පර්වතය වගේ කියලා කිව්වා. එතකොට කොච්චර සැප සම්පත්තියක් තියෙනවාද. එවැනි සැපක් ලබලා දුන්නේ කැඳ පූජාවේ ආනිසංස විදියටනෙ. ඒ නිසා ඔබත් ඔය වැඩිහිටි අයට පන්සලේ සිල් ගත්ත අයට, ඊළඟට සංඝයා වහන්සේලාට ඊළඟට දන්සැල් දෙන කාලෙට හොඳ කැඳක් පූජා කරගන්න. මොකාක්හරි ජීවිතේට එක වතාවක් හරි මේ පින්කම් කරලා තියාගන්න. මනුස්ස ලෝකේ මනුස්ස උප්පත්තිය දුර්ලභයි. දන්දීම දුර්ලභයි. ඉතින් දැන් බලන්න මේවාගේ දේවල් ඔයාලා හිතන්නෙ බටහිර රටවල් වල අයට අහන්නවත් තියෙනවාද මේ විස්තර. බටහිර හෝ වෙනත් ආගම් වල මේ වගේ විස්තර තියෙනවාද. වෙනත් ආගමක මෙවැනි දර්ශනයක් තියෙනවාද. පින් පව් ගැන මෙච්චර විග්‍රහයක් තියෙනවාද. පින මේකයි විපාක මේකයි කියලා මෙච්චර විනිවිද දේශනාවක් තියෙනවාද. බලන්න බුදුරජාණන්

වහන්සේගේ ශ්‍රාවකයන්ට ලැබිච්ච වාසනාව ගැන. කිසිම තැනක මුලාවක් නෑ, සාක්ෂි පිට හැමදෙයක්ම තියෙන්නෙ. දැන් අද කාලෙ වුනත් බුදුරජාණන් වහන්සේ අනිත්‍යයි, මේ ලෝකෙ තමාගෙ වසඟෙ පවත්වන්න බෑ, ජාතිපි දුක්ඛා, ජරාපි දුක්ඛා, ව්‍යාධිපි දුක්ඛා කියලා මේ දුක ගැන දේශනා කරපුවා ඇස් පනාපිට පෙනුනෙ. ලෙඩරෝග ඉදිරියේ මිනිස්සු අසරණයි කියලා පෙනුනේ. ජීවිතේ ප්‍රශ්න සල්ලිවලින්ම විසඳගන්න බෑ කියලා පෙනුනෙ. මේ ලෝකයට එන සෑම ප්‍රශ්නයක් ඉදිරියේම බුදුරජාණන් වහන්සේගේ ධර්මයම සත්‍යයයි කියලා පේනවා. එතකොට කොච්චරද කියලා කල්පනා කරලා බලන්න, බුද්ධ ශාසනයේ වටිනාකම. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සරණ යන්න ලැබීම, බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වෙන්න ලැබීම සුළුදෙයක් කියලා නම් හිතන්න එපා පින්වත්නි. තවත් දැක්කා දිව්‍යාංගනාවක්, මේ දිව්‍යාංගනාව ගොඩාක් සුන්දරයි. ඇය නටද්දි ඇගේ ශරීරයෙන් ලස්සන හඬක් නිකුත් වෙනවා. නටනකොට නිකම්ම ලස්සන හඬක් නිකුත් වෙනවා. ඒ වගේම පා තබනකොට, දිව්‍ය සුගන්ධය, ඒ වගේම දිව්‍ය ආලෝකය විහිදිලා යනවා කේශ කලාපයෙන් පවා. හිසේ මල් කළඹක් තියෙනවා ඒ දෙව්දුවගේ. මේ වෙනත් දෙව්දුවක්. ඊටපස්සෙ පංචතූර්ය නාදයට වැඩිය ලස්සනයි මැගෙ ඒ නිකුත් වන නාදය. හිසේ මල් කළඹක් සුන්දර මල් කළඹක් තියෙනවා ලස්සන ඔටුන්නක් වගේ. හරි සුවඳයි. මංජුශ්ශක වෘක්ෂය වගේ තමයි අනික් අයට හිතෙන්නෙ. මේ සොඳුරු සුගන්ධය ඔබේ නාසයට දැනෙනවා නේද. ඉතින් කියනවා අහනවා දෙව්දුව, මෙච්චර සැප සම්පත්තියක් ඔබට ලැබුනෙ කුමක් නිසාද කියලා අහනවා. ස්වාමීනි, සැවැත්නුවර මගේ යෙහෙළියක් හිටියා. ආර්ය සඟරුවන උදෙසා ඇය මහා විහාරයක් කෙරෙව්වා. ඔන්න බලන්න. ඒ ගැන ගොඩාක් සතුටු වුනා. මං ඒ පින අනුමෝදන් වුනා. ඒ ප්‍රසාදය මං දැක්කා. මටත් ඒ සඟරුවන ගැන හරී ප්‍රීතියක්, ප්‍රියක් උපන්නා. මං ඒ පින අනුමෝදන් වුනේ පිරිසිදු සිතින්මයි. දර්ශණීය වූ මේ පුදුම සහගත විමානය පහළ වුනේ ඒ නිසයා. මගේ පුණ්‍ය සෘද්ධියෙන් අහසේ පොළොවේ යොදුන් පුරා මේ විමානය ගමන් කරනවා. ලස්සන විමානයක්. ඇයි මේ, යෙහෙළියක් විහාර පූජාවක් කරද්දි අනුමෝදන් වෙලා අනේ සාදු කියලා. කවුද මේ යෙහෙළිය සැවැත් නුවර හිටපු විහාරයක් පූජා කරපු, විශාඛා. කියනවා මගේ දිව්‍ය විමානයේ විශාල මන්දිර තියෙනවා. අපූරු කාමර තියෙනවා. හාත්පස ඒ කාමර දිලිසෙනවා. පොකුණු තියෙනවා. ඒ පොකුණු ඇතුලෙ රත්තරන් වැලි උඩට පේනවා. හරි අගෙයි. දිව්‍ය මාළු රංචු පීනනවා. ඒකෙ ලස්සන නෙළුම් මල් තියෙනවා. සුළඟ හමාගෙන එද්දි

හරි සුවදයි. ඒ වගේම ඒ පොකුණ වටේට ජම්බු කොස් තල් පොල් ඔය මනුස්ස ලෝකෙ තියෙන ගස් වර්ග, දිව්‍ය ලෝකෙ තියෙන ගස් වර්ග ඔක්කොම තියෙනවා. නානා තූර්ය වාදන මිහිරි සංගීත අප්සරාවො මේ ඔක්කොම මෙහෙ තියෙනවා. යම්කිසි කෙනෙක් මගේ විමානෙ හීනෙන් දැක්කොත් ඒකම ඇති කියනවා ඒ මනුස්සයාට හිත හිතා ප්‍රීතියෙන් ඉන්න. කියනවා මේ විදියෙ පුදුමාකාර දර්ශණීය දිව්‍ය විමානයක්, ආලෝකවත් දිව්‍ය විමානයක් මට ලැබුනෙ, විශාඛා පූර්වාරාමය පූජා කරපු එක අනේ සාදු කියලා අනුමෝදන් වුනු පිනට කියනවා. ඉතින් අහනවා ඔබේ පිරිසිදු පුණ්‍යානුමෝදනාවෙන් තමයි ඔබට මේ දර්ශණීය විමානෙ ලැබුනෙ. අනේ සාදු කියලා අනුමෝදන් වෙලා ඔබට මේක ලැබුනෙ. මං අහන්නෙ මේකයි, ඉතින් ඒ විහාර දාන දීපු ස්ත්‍රිය කොහෙද උපන්නෙ. ඇගේ ගතිය කියන්න පුලුවන්ද. ස්වාමීනී එයා මගේ යෙහෙළිය නෙව. එයානෙ ඒ ආර්ය මහා සංඝයාට එයා හදලා පූජා කළේ. චතුරාර්ය සත්‍යය ගැන අවබෝධයක් ඇතිව තමයි ඇය දන් දුන්නෙ. ඇය උපන්නෙ නිම්මාණරතියෙ කියනවා. දැන් ඇ සුනිම්මිත දෙව්රජුගේ බිරිඳ වෙලා ඉන්නෙ. ඇගේ පුණ්‍ය විපාකය නම් හිතාගන්නවත් බෑ, ඇය කොහේ උපන්නේද කියලා නේද මගෙන් ඇහුවේ. ඔන්න ඔබ වහන්සේට මං දන්න ටික කිව්වා. ඒ නිසා අනිත් උදවියත් කුසල් දහම් වලමයි සමාදන් කරවන්න ඕන. සතුටු සිතින් යුතුව ආර්ය සංඝයාට දන් පූජා කරගන්න ඕන. හිත පහදවාගෙනමයි බණ අහන්න ඕන. මේ මනුස්ස ජීවිතයක් ලැබීම කියන්නෙ අතිශයින් දුර්ලභ ලැබීමක්. ඒ කියන්නෙ සිත් සේ හිතූ හිතූ විදියට පින් කරන්න පුලුවන් ජීවිතයක් තමයි මනුස්ස ජීවිතය. තනි රත්තරන් පාටින් යුතු මධුර බ්‍රහ්මස්වර ඇති බුදුරජාණන් වහන්සේ තමයි මේ ශ්‍රේෂ්ට යහපත් මාර්ගය වදාළේ. ඒ නිසා යම් කෙනෙකුට පූජා කරන දානය මහත්ඵල උපදවයිද ආන්න ඒ දානය සතුටු සිතින් යුතුව ආර්ය සංඝයාට පූජා කරන්න ඕන. බුදු රජාණන් වහන්සේ ප්‍රශංසා කරන ඒ ආර්යෂ්ට මහා සංඝරත්නයට දන් පූජා කරන්න ඕන. මාර්ගඵ්ඵල ඒ ආර්ය මහා සංඝරත්නය නිතර සිහිකරලා ගුණ සිහි කරන්න ඕන. ප්‍රඥා සම්පන්න සීල සම්පන්න සමාහිත සිත් ඇති ඒ සංඝයා සිහි කරලා දන්දෙන්න ඕන. දන් පැන් දෙන මිනිස්සු ඉන්නවා. පින් අපේක්ෂාවෙන්මයි ඔවුන් දන් දෙන්නෙ. යම් ඒ ආර්ය සංඝයාට දෙන දානය තමයි මහත්ඵල විපාක සැලසෙන්නෙ. ඒ ආර්ය සංඝයා වනාහි මහානිය ගුණයෙන් යුක්තයි, මිනිය නොහැකි ගුණයෙන් යුක්තයි. සාගර ජලය වගේ. නර වීරයන් වහන්සේගේ ශ්‍රාවක වූ මේ පිරිසමයි ශ්‍රේෂ්ට. ධර්මය බෙදාදෙමින් ලෝකය එළිය කරන්නෙ ඔවුන්මයි. ආන්න ඒ ආර්ය සංඝයාට

යමක් පූජා කරගත්තොත් නිසි තැනට පූජා කලා වෙනවා. ඒක තමයි හරියට දීපු දේ. ඒක තමයි නියමාකාරයෙන් කරගත් යාගය. ලෝකවිදූ වූ බුදුරජාණන් වහන්සේ විසින් වර්ණනා කරලා තියෙන්නෙ ඒ ආර්ය සංඝයා වහන්සේට පූජා කරන දානෙ. එවැනි ආර්ය සංඝයා උදෙසා දෙන දානෙ සිහි කරන්න ඕන. එතකොට එයාට හරි සතුටක් ඇතිවෙනවා. මසුරු මල මුලින්ම දුරු කරලා ලෝකයේ ජීවත් වෙන්න ඕන. නින්දා රහිත වූ ස්වර්ග ලෝකයේ සැප විඳින්න ඕන කියලා ඒ විහාරවිමානෙ හිටපු දෙවඟන කියනවා එතකොට බලන්න පින්වත්නි, සඟ ගුණ මේ උපාසිකාවක්, දෙව්ලොව ඉන්න දිව්‍යාංගනාවක් කියන්නෙ. අද කාලෙ යම්කිසි උපාසිකාවකට එක දිගට පැයක් සඟගුණ කියන්න පුලුවන්ද කියලා බලන්නකො. දැන් මේ කියන්නෙ නින්නාද වෙන්නෙ දෙව්ලොව. එක දිගට පැයක් සඟ ගුණ කියන්න පුලුවන් කීයෙන් කී දෙනාද ඉන්නෙ. හැබැයි හාමුදුරුවරුන්ගෙ වැරදි කියන්න කිව්වා නම් ෆේස්බුක් එකෙනුයි, යූටියුබ් එකෙනුයි, අන්තර්ජාලයෙනුයි, එහෙන්ද මෙහෙන්ද නිව්ස් වලටද ඕන තරම් කියාගෙන යයි. වැරදි අඩුපාඩු දෝෂ. කෝ ආර්ය සඟරුවනෙ ගුණ, තථාගත බුදුරජාණන් වහන්සේගේ ගුණ, මහරහතුන්ගේ ගුණ, ඉතින් ඒ නිසා මේ බලන්න දිව්‍ය ලෝකෙ ඉපදිලත්. අනිත් එක තමයි බලන්න අනුමෝදන් වීමේ ගුණ, අනේ සාදු කියලා. අද කාලෙ ඕනම කෙනෙකුට පින් කරන්න පුලුවන්, අනිත් අයගෙ පින් අනුමෝදන් වෙන්න බෑ, තමන්ට දන් දෙන්න පුලුවන්, අන් අයගෙ පින අනුමෝදන් වෙන්න බෑ. තමන් බණ කියන්න දක්ෂයි. අනිත් අය බණ කියනකොට අනුමෝදන් වෙන්න බෑ, තවත් කෙනෙක් මිහිරට කවියක් බුදුගුණයක් කියනකොට අනුමෝදන් වෙන්න බෑ. තව කෙනෙක් වෙහෙර විහාරයක් හදනකොට අනුමෝදන් වෙන්න බෑ. ඊළඟට තවත් කෙනෙක්ගේ දක්ෂතාවයක් අනුමෝදන් වෙන්න බෑ. මේකනම් මනුස්සයාට වෙච්ච මහා සාපයක් මේ අනුමෝදන් වෙන්න බැරි එක. ඔබ හිතන්නෙ කොහොමද යශෝධරාව සංසාරෙ එක දරුවෙක්වත් දන්දීලා නෑ, යශෝධරා මහා බෝධිසත්ත්වයො තරම් පින් කරලා නෑ, නමුත් ඇය කරගත්ත විශාලම පිනක් තිබ්බා. ඒ තමයි බෝධිසත්ත්වයෝ කරන හැම පිනක්ම අනුමෝදන් වුනා, කවදාවත් එක පිනකටවත් අකුල් හෙලලා නෑ, අනේ සාදු කියලා. අනුමෝදන් වීම ඒ විදියටම පින තමන්ට ලැබෙන එකක්. මේ බලන්න පූර්වාරාමය පූජා කරද්දි මේ උපාසිකාව අනේ සාදූ කියලා අනුමෝදන් වෙලා ඒ පින තමන්ට ආපු හැටි. ඒ නිසා කුටි පූජා කරනකොට, විහාර පූජා කරනකොට ඒ පින සතුටින් අනුමෝදන් වෙන්න. ඒ පිනේ විපාකය සුලුපටු දෙයක් නෙවෙයි. ඒ නිසා

අනුමෝදන් වෙනවා කියන එක සුලුදෙයක් නෙවෙයි. ඒකයි දස පුණ්‍ය ක්‍රියා වල ඉස්සර තෙරුන් වහන්සේලා ඒවා ගොණු කලේ. පත්ති පත්තානුමෝදනා, තමන් පින් දෙන එක, පින් අනුමෝදන් වෙන එක, පින් අනුමෝදන් කරන ඒවා මේවා ඔක්කෝම මහා කුසල කර්ම, අනුමෝදන් වෙනවා කියන එක තමයි අමාරුම පින. නැත්නම් ඔන්න ඔයාලා පින් කරලා අපිට කීවෙත් නෑ, ඔයාලා දානයක් දීලා අපිට කිව්වෙත් නෑ, අපිට කිව්වා නම් අපි එනවානෙ. ඔය වාගේ මිනිස්සුන්ගෙ හිත්වලට එක එක කෙලෙස් ඇවිල්ලා අනුමෝදන් වෙන එක නැතිවෙලා යනවා. ඒ නිසා අනේ කියලා අනුමෝදන් වෙන්න. දරුවෙක් මහණ වෙන්න ගියත්, අනේ ඇයි ගියේ, ඔයාලා එපා කීවෙ නැද්ද, තරුණ වයසෙ නේද, අනේ ළමයි ගිහිල්ලා ආයෙ එයිනෙ, එතකොට ඔයාලට ලැජ්ජයිනෙ, කියලා අර අනුමෝදන් වෙන එකත් නෑ, කවුරුහරි මහණ වෙන්න ගියා කීවොත් අනේ සාදු එකෙක්හරි මේකෙන් ගැලවිලා යනවානම් කියලා අනුමෝදන් වෙන්න ඕන. ඉතින් ඒ නිසා අහක යන පව් දාගන්න එපා එක එක ඒවට එක එක දේවල් කියලා. සාදු කියලා අනුමෝදන් වෙන්න. විහාරයක් හදනකොට අනුමෝදන් වෙන්න. චෛත්‍යයක් හදනකොට අනුමෝදන් වෙන්න. බෝධි මණ්ඩපයක් හදනකොට අනුමෝදන් වෙන්න. පින්කමක් කීවම අනුමෝදන් වෙන්න. අනේ සාදු, කියලා. ඒවට ගරහන්නැතිව. මොකද අනුමෝදන් වීමෙන්, ඒ පින තමා කරාත් පැමිණෙනවා. මේ බලන්න මැගෙ ආයුෂ මේ විමානයෙ අවුරුදු තුන්කෝටි හැටලක්ෂයයි. අනුමෝදන් වීමේ පින. ඉතින් ඒ නිසා ඔන්න අදත් දිව්‍ය විමාන ගණනාවක විස්තර කිව්වා. ඊළඟට දිව්‍ය ලෝකෙ ගිහිල්ලා පසුතැවිලි නොවෙන විදියෙ පින් ගැන කිව්වා. ඉතින් මේ කරුණු කාරණා හොඳට සිහි කරගෙන තමන්ගේ ජීවිතේ අඩුපාඩු හදාගෙන තමන්ගේ පින පිරිසිදු කරගන්න. ඒ නිසා ඒ සඳහා ඔබට භාග්‍යය ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේත් දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සඳහා දායකත්වය දැරූ නො.2, තුන්වෙනි මාවතේ, අරුප්පල, මහනුවර යන ලිපිනයේ පදිංචි පින්වත් දිලන්ත සිරිවර්ධන මහත්මයා සහ පංචාලී පෙරේරා මහත්මිය විශාල පිනක් අද දවසේ රැස් කරගත්තා මේ දහම් පණිවිඩය ලෝකයට ලබාදීම පිණිස දහම්දානය සිද්ධ කරලා. ඉතින් අපි මේ සියලූ පින් බලයෙන් ප්‍රාර්ථනා කරමු ලංකාවටත් ලෝකයටත් ව්‍යසනයක්ම වුන ඒ කොරෝනා වසංගත ආදී වසංගත වර්ග දුරින්ම දුරු වෙලා මේ මනුස්ස වර්ගයාට සෙත යහපත සැනසිල්ල රැකවරණය සැලසේවා කියලා අපි මේ පින් බලයෙන් සෙත් ප්‍රාර්ථනා

කරමු. ඒ වගේම පින්වත්නි අපි මේ පින් අනුමෝදන් කරමු සියලු පින් කැමති සියලු දෙවිවරුන්ට. දෙවිවරු මේ පින් අනුමෝදන් වී මේ පින්වතුනුත් ලක්දෙරණත් ලෝකයත් දෙවිවරු ආරක්ෂා කරත්වා, මේ පින් අනුමෝදන් වෙත්වා කියලා පින් පමුණුවමු. ඒ වගේම මේ පින් අනුමෝදන් කරමු පින්වතුනි පරම පූජනීය ගුරු දේවොත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට. ලොකු ස්වාමීන් වහන්සේ නිසා අපිට ගොඩාක් පින් අනුමෝදන් වෙන්න ලැබුනා. ගොඩක් පින් කරන්න ලැබුනා. ගොඩක් පින් උපද්දවන්න ලැබුනා. පින් කරන හැටි ඉගෙන ගන්න ලැබුනා. ඉතින් ඒ නිසා පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සැප ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා කියලා පින් පමුණුවමු. ඒ වගේම පින්වතුනි මේ පින් අනුමෝදන් කරමු අද දවසේ දායකත්වය දරන පින්වත් දිලන්ත සිරිවර්ධන මහත්මයාට සහ පංචාලී පෙරේරා මහත්මියට. මේ පින් අනුමෝදන් වී ඒ ඇත්තන්ගේ යහපත් අදහස් සමෘද්ධිමත් වේවා, ධර්මාවබෝධයටම මේ පින් උපකාර වේවා. ඒ වගේම පවුලේ සියලු දෙනාටත් ධර්මය ඇසූ සියලු දෙනාටත් ශ්‍රද්ධා රූපාවාහිනිය, ලක්විරු ගුවන් විදුලියේ සියලු දෙනාටත් ඔබ කාටත් මේ පින් අනුමෝදන් වේවා. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් මේ පින් අනුමෝදන් වේවා. සියලු දෙනාට සසර දුකින් නිදහස් වෙන්න මේ ධර්මය ඇසූ පින ඒකාන්තයෙන් හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=okzyYHJX9xg&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=12

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

පින්වත්නි, අපි මේ ඉගෙන ගන්නේ බුදුරජාණන් වහන්සේ වදාළ ශ්‍රී සද්ධර්මයයි. ඛුද්දක නිකායට අයිති විමානවත්ථු පාලිය ගාථා වශයෙන් තියෙන මේ ධර්මය අපි ඉගෙන ගන්නවා. මිහිඳු මහරහතන් වහන්සේ ලංකාවට වැඩම කරලා ඉස්සෙල්ලාම දේශනා කරපු දහම් පරියායන් අතර විමානවත්ථු පේතවත්ථු ඉතාමත් ඉහළින් මේ ලක්දෙරණේ කතාබහට ලක්වුනා. ඒ වගේම ලස්සන දිව්‍ය විමාන, ඒ වගේම තමයි ඒ වගේ ඒවට කරපු පින් ඒ පිනේ විපාක ගොඩාක් දේවල් ඉගෙන ගන්නට ලැබෙනවා. අද වුනත් ගොඩාක් අය ධර්මයේ හැසිරෙන්න පින් කරන්න ගොඩාක් අයගේ කැමැත්ත තියෙනවා නැතිව නෙවෙයි. මොකද පින්වන්ත පිරිසක් ඉන්නේ මේ ලංකාවේ. මේ සිංහල ජාතිය තුල. ඉතින් ඒ නිසා බුද්ධ ශාසනයත් එක්කයි මේ සිංහල ජාතිය තියෙන්නෙ. මේ සිංහල ජාතිය මෙච්චර කාලයක් පැවතෙනවා කියන එකේ අර්ථයත් මේ බුද්ධ ශාසනයේ යම් හෝ පිහිටක් ලබාගන්න පිරිසක් සිටිනවා කියන්න සාක්ෂියක්. අනිත් එක තමයි මේ සිංහල ජාතිය නැත්තටම නැතිවුනාට පස්සෙ සෑය බෝධිය වදින පිරිස නැතිවුනාට පස්සෙ, ධාතු පරිනිර්වාණය සිද්ධ වෙලා බුද්ධ ශාසනය අතුරුදහන් වෙලා යනවා. ඉතින් ඒ නිසා අපිට ඉතින් ටික කාලයක් හෝ මේ පින් පව් කුසල් අකුසල් ගැන හරි විශ්වාසය තියෙන පිරිසක් හිටියොත් බුද්ධ ශාසනයේ පිහිට ගන්න පිරිසක් සිටිනවා. එතකොට කලාතුරකින් හරි දෙව්ලොවත් පිරිස ඉපදෙයි. බුද්ධ ශාසනය නැතිවුනාට පස්සෙ දෙව්ලොව හිස්වෙලා යනවා, දෙවිවරු හිස්වෙනවා කියන්නෙ, නැවත දෙවිවරු උපදින්නෑ, ඉන්න දෙවිවරු තමයි. ඒකයි සක්දෙවිඳු ගොඩාක් පුදුම වෙනවා කියනවා බුද්ධ ශාසනේ කාලෙ ගොඩාක් දෙවිවරු ඉපදෙන එක ගැන. මෝදංති වත බෝ දේවා තාවතිංසා සයින්දිකා, දෙවිවරු හරියට සතුටට පත්වෙනවා සක්දෙවිඳු සහිතව මේ අසුරකාය පිරිහිලා දෙව්පිරිස වැඩිවෙනවා කියලා බුද්ධ ශාසනයේ. අනිත් කාලවලදී අසුර පිරිස වැඩිවෙනවා, දෙව්පිරිස අඩුවෙනවා. ඉතින් අද දවසේත් මේ උතුම් ධර්මදේශනාව දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් සදහම් වැඩසටහන මේ පින්වතුන්ට අහන්න සලස්වන්නේ, ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන්විදුලියෙනුත් අහන්න සලස්වන්නේ ලෝක සත්ත්වයාටම අංක 27, පැතිස්පුර, ත්‍රිකුණාමලය ලිපිනයේ පදිංචි පින්වත් ඩී.කේ. සිසිලියා සෝමරත්න මැණියන් විසින්. ඒ වගේම ඩබ්ලිව්.ඩබ්ලිව්.ඒ. කවිණි ශ්‍යාමල් මිණිබිරිය ඇතුළු

දූ දරු පිරිස මේ පින අනුමෝදන් වෙනවා. ඉතින් සිසිලියා සෝමරත්න මැණියන් මුල්වෙලා තමන්ගේ මියපරලොව ගිය පවුලේ ඥාතීන්ට පින් අනුමෝදන් කිරීම මුල්කරගෙන මේ ධර්ම දානය සිද්ධ කරනවා. ඉතින් අපි මීට කලින් වැඩසටහනේදී ඉගෙනගත්තා අනුරුද්ධ මහරහතන් වහන්සේ තමයි ඒ ප්‍රශ්නය ඇසුවේ, විශාඛාව පූර්වාරාමය පූජා කරද්දින් අනේ සාදු කියලා අනුමෝදන් වෙච්ච ඒ උපාසිකාව උපන් දිව්‍යලෝකයේ විස්තර. ඉතින් පින්වතුනි අපි අද ඉගෙන ගන්නවා හරි ලස්සන විස්තරයක්. මේ දිව්‍ය විමානයේ දිව්‍යාංගනාවො හතර දෙනෙක් ඉන්නවා. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ විස්තරය අහන්නෙ. එක දිව්‍යාංගනාවක් ඉන්නවා ඉතාමත්, දැන් මං මේ ගාථාවෙන් ගාථාව කියන්නැතිව අප්‍රමාණ දිව්‍ය සැප විඳිමින් ඉන්නවා කියනකොට ඔබ දැනගන්න ඕන, ඕෂධී තාරකාවක් වගේ බැබලී බැබලී මල් වලින් සැරසිලා, දිව්‍ය නාදයෙන් සැප විඳින, මහත් වූ දිව්‍ය විමානවල දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන ඉන්න දිව්‍ය ස්වභාවයක් හිතට හදාගන්න. ඉතින් ඒ මහානුභාවසම්පන්න දිව්‍යාංගනාවක් දැකලා මුගලන් මහරහතන් වහන්සේ අහනවා මොකක්ද කරපු පින කියලා. ඒසිකා කියන රටේ කඳු පෙදෙසක තමයි පන්ණකත කියන රම්‍ය වූ නගරය තිබුනෙ. එහි තමයි මං හිටියේ. දවසක් ස්වාමීන් වහන්සේ නමක් පිණ්ඩපාතේ වැඩියා. මං උන්වහන්සේට ඇහැළ මල් කළඹක් පූජා කලා. ඇහැල මල් පූජා කලා. දැන් අද කාලෙ වගේ ස්වාමීන් වහන්සේලාට එහෙම මල් කළඹක් පූජා කරන එකක් නෑ නේද. නමුත් ඒක මෙහෙම වෙන්නැද්ද, අපි කියමුකෝ රුවන්වැලිසෑය වඳින්න යනවා ස්වාමීන් වහන්සේලා. එතකොට ඒ යන ස්වාමීන් වහන්සේලාට නෙළුම් මල් මිට මිට දුන්නොත්, ඒක මේ මල් පූජාවට එන්නැද්ද. සෑය බෝධිය වෙහෙර වඳින්න යන ඉතින් ඒ නිසා ඒ වගේ. ඉස්සර නම් හිතේ ඇතිවෙන පැහැදීමෙන් උන්වහන්සේලා ළඟ මල් ටිකක් තියලා වඳිනවා. සමහර විට උන්වහන්සේලා වඩින මාවතට මල් දානවා. ඒවා ඉතින් ඉස්සරකාලෙ තිබ්බා. දැන් ඉතින් ඒ ස්වභාවය ගොඩාක් වෙනස් වෙලා. කියනවා ඈ දෙව්ලොව ඉපදෙන්න හේතුව ඈ ඇහැල මල් කළඹක් පූජා කරපු එක කියනවා. ඉතින් තවත් අප්‍රමාණ සැප විඳින දිව්‍යාංගනාවක් දැකලා මුගලන් මහරහතන් වහන්සේ ඇයගෙනුත් අහනවා මොකක්ද කරපු පුණ්‍ය කර්මය කියලා. කියනවා ඒසිකා කියන රටේ කඳු පෙදෙසක තමයි පන්නකත කියන රම්‍ය වූ නගරය තිබුනේ. එහේ තමයි මං හිටියේ. දවසක් ස්වාමීන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වැඩියා. මං උන්වහන්සේට නිල් මහනෙල් මල් කළඹක් පූජා කලා. බලන්න අපි අහලා

තියෙනවා අංගුලිමාල මහරහතන් වහන්සේට නිල්මහනෙල් පූජා කරලා දිව්‍ය ලෝකෙ ගිය දෙව්වරු ගැන අපි අහලා තියෙනවා. ඒ වගේ අර මල් පූජාවේ ආනිසංස. ඊටපස්සෙ ඇගෙ විමානෙත් නිල් මහනෙල් වලින් පිරිලා තියෙනවා. ඊටපස්සෙ තවත් දිව්‍යාංගනාවක් ඉන්නවා ඒ දිව්‍යාංගනාවගෙන් අහනකොට කියනවා ඒසිකා කියන රටේ කඳු පෙදෙසක තමයි පන්ණකත කියන රම්‍ය වූ නගරය තිබුනෙ. එහෙ තමයි මං හිටියෙ. දවසක් ස්වාමීන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වැඩියා, මං උන්වහන්සේට නෙළුම් මල් කළඹක් පූජා කලා. ඒ නෙළුම් මල් වල සුදු මල් තියෙනවා, කොළ පැහැති පත්‍ර තියෙනවා, ඒ විලේ තමයි ඒ නෙළුම් මල් හැදිච්ච කියන්නෙ විලෙන්ම කඩලා තමයි පූජා කරලා තියෙන්නෙ. ඉතින් ඒ පිනෙන් තමයි කියනවා මට මෙච්චර ලස්සනක් හම්බවුනේ. ඊටපස්සෙ තව දිව්‍යාංගනාවක්ගෙන් අහනවා මුගලන් මහරහතන් වහන්සේ, එතකොට මුගලන් මහරහතන් වහන්සේට ඒ දෙවඟන කියා හිටිනවා, මං සුමනා. ඒසිකා කියන රටේ කඳු පෙදෙසක තමයි පන්ණකත කියන රම්‍ය වූ නගරය තිබුනෙ. එහෙ තමයි මං හිටියෙ. දවසක් ස්වාමීන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වැඩියා, මං උන්වහන්සේට ඇන්දළ පාටින් යුතු දෑසමන් මල් කැකුළු පූජා කලා. ඒ පිනෙන් තමයි මෙවැනි ලස්සනක් මට ලැබුනෙ. ඉතින් හිතට ප්‍රිය උපදවන මේ සැපසම්පත් ඔක්කෝම ඉතින් මං මේ පිනෙන් බැබලි බැබලි දුකක් නැතිව දෙව්ලොව වාසය කරනවා කියලා මේ දිව්‍යාංගනාවො හතරම එක ප්‍රදේශයක තමයි පහල වෙලා තියෙන්නෙ. එතකොට මල් පූජාවේ ආනිසංස. සංඝයාට පූජා කරලා තියෙන්නෙ. එතකොට ඉස්සර ඒවා තිබිලා තියෙනවා. දැන් වන්දනාවේ යන සංඝයාට මල්, ඒ සංඝයාගේ අතට මල් දෙන්න පුලුවන්. ඒ වාගේ පිනකම් අද කාලෙ කරගන්න පුලුවන්. ඉතින් බලන්න ඒ කරන දේ හිත පැහැදිලා කරන එකයි මේකෙ තියෙන වටිනාකම. අපි බලමු ඊළඟ විස්තරය. මේ විස්තරෙත් හරි ලස්සනයි. මේ දිව්‍යාංගනාව සිටින්නේ අඹ වනයක. විශාලයි විමානය. පංචතූර්ය නාදය විහිදෙනවා, දිව්‍ය අප්සරාවො පිරිවරාගෙන ඉන්නෙ. රනින් හැදුනු මහා පහනක් තියෙනවා. ඒක නිතරම දැල්වෙනවා. වටේ ගස්වල දිව්‍ය සළු තියෙනවා. ඇත්තටම මේ වාගේ ලස්සනක් මෙච්චර ආනුභාවයක් කොහොමද ඔබට ලැබුනේ කියලා අහනවා මුගලන් මහරහතන් වහන්සේ. මම ඉස්සර මනුස්ස ලෝකෙ මිනිස් දුවක් වෙලා හිටියා. මං ආර්ය සංඝරත්නයට විහාරයක් කරවලා පූජා කලා. ඒ භූමිය අඹ ගස් වලින් පිරිලා තිබුනා. ඒ විහාරයේ වැඩ අවසන් වුනාම විහාර පූජාව සිදු කරනකොට මං ලස්සන රෙදිවලින් පළතුරු ගෙඩි

හදවලා ඒ අඹ රුක් සැරසුවා. ඒ කියන්නෙ එයා විහාරය හදලා ආරාමයක් පූජා කරන්න බුදුරජාණන් වහන්සේගෙන් අවසර අරන් තියෙන්නෙ. ඊටපස්සෙ ඒ විහාරය වටේට අඹ ගස් හදලා, දැන් අඹ නෑ ඒ කාලෙට. මෙයා රෙදි වලින් අඹ ගෙඩි විදියට හදවලා අර ගස්වල එල්ලලා. ඉතින් ඊටපස්සෙ විහාරයට ඇතුල් වෙන තැන ලස්සන පහනක් දොළොස් මහේ පහනක් වගේ, ඒ විහාරයට ඇතුල් වෙන තැනම ලස්සන පහනක් තියලා මෙයා. ඉතින් කියනවා සංඝයාට මං දානය පූජා කරලා කුටි සෙනසුන් ටිකත් පූජා කලා කියනවා. බලන්න කියනවා මට ලැබුණු දිව්‍ය විමානය. එහේ හැදුවෙත් අඹ ගස් කියනවා. මේ විමානය වටේත් තියෙන්නෙ අඹ ගස් කියනවා. එහේ මං රෙදි වලින් කියනවා අඹ ගෙඩි හැදුවෙ. දැන් ඇත්තටම අඹ තියෙනවා. මං ඒ සළු ලස්සනට අර විහාරය සළු වලින් සැරසුවා. දැන් මේ දිව්‍ය විමානෙ හැමතැනම සළු තියෙනවා කියනවා ලස්සනට. බලන්න යමක් පූජා කලොත්, ඒකයි ඔය කුටි පූජා කරනකොට ආරාමානුරූපා වනරූපා මේ මල් හදලා වනය වගේ පොඩි ගස් කොළන් හදලා මල් ගස් හදලා ලස්සනට ඒ කුටිය පූජා කරන විදියටම විපාකෙත් හම්බවෙනවා. ආරාමෙ පූජා කරන විදියටම විපාකෙත් හම්බවෙනවා. ඉස්සර ගොඩාක් ආරාම පූජා කරලා තියෙන්නෙ හදලා. දැන් ගොඩාක් ආරාම පූජා කරන්නෙ හදන්නෑ, එහෙම්මම ඉඩම එහෙම පිටින්ම දෙනවා. එතකොට ගෙඩිය පිටින්ම දෙනවා. එතකොට අර පස්සෙ කාලෙක තමයි ඒවා සුද්ධ කරගෙන හදාගෙන එහෙම කරන්නෙ. එතකොට දැන් යම්කිසි කෙනෙක් ආරාම පූජාවක් කලොත් ඉඩමත් එක්කම හොඳට ශුද්ධ කරලා ආරාමය හදලම පූජා කලාට පස්සෙ සම්පූර්ණයෙන්ම පින සර්ව සම්පූර්ණයෙන්ම ලැබෙනවා. ඉතින් අරක භූමි පූජා ගණයට තමයි වැටෙන්නෙ. එතකොට අපි දෙන විදියට ලැබෙනවා. එතකොට සංසාරේ ලැබෙද්දිත් අප්‍රමාණ භවබෝග ලැබෙනවා. ඉතුරු වැඩ ටික අපි කරගන්න ඕන. හැබැයි අපි ඔක්කොම කරලා පූජා කලොත් ලැබෙනකොටත් සර්වසම්පූර්ණව දෙයක් ලැබෙන්නෙ අපිට කරන්න දෙයක් නෑ, අපිට භුක්ති විඳින්න විතරයි තියෙන්නෙ. ඒ නිසා දෙන විදියට ලැබෙනවා පින්වත්නි. ඊටපස්සෙ ඒ ආරාම පූජාව ගැන හරියට සතුටු වෙනවා ඈ මේ දිව්‍ය විමානයේ අඹ පිරිලා තියෙනහැටි පහන් තියෙන හැටි ඒවා ගැන ගොඩාක් සතුටු වෙනවා. දැන් බලන්න මේ බුදුරජාණන් වහන්සේගේ අවවාද අනුශාසනාව පිට ආර්ය සංඝයාට වෙහෙර පූජා කිරීමෙන් දෙව් සැප විඳින හැටි. ඔබට මතකද ජේතවත්ථු ගැන කතා කරද්දි ආරාමයක් අසත්පුරුෂයෙකුට දීලා වෙච්චි වැඩේ. සංඝයාගේ අගුණ කියන, සංඝයා ගැන හිත අපහදවන, ඊරිසියාකාර, කුහක

උන්නාන්සේ නමකට ආරාම පූජා කරලා දෙන්නෙක් තුන්දෙනෙක්ම ගිහිල්ලා අශුචි කකා ඉන්න ප්‍රේත විමානවල ඉපදුනු කතා ඉගෙන ගත්තා නේද අපි. දැන් බලන්න හරි කෙනෙකුට වෙහෙර විහාර පූජා කරපු එකේ විපාක. තමන් කරපු දේ ගැන සතුටු වෙන්න ඕන. සංඝයා දැකලා සතුටු වෙන්න ඕන. ඊළඟට ඒ හිත පැහැදීම හේතු කරගෙන අප්‍රමාණ දිව්‍ය සැප විඳිනවා. සාමාන්‍යයෙන් ආරාම පූජාව ගැන වචනයක් කියන්නම්. ආරාම වෙහෙර විහාර පූජා කිරීම තරම් ධනය කාලය ශ්‍රමය කැප කරලා කරන්න පුලුවන් එතනින් එහා පින් නෑ, බුදුරජාණන් වහන්සේ පින් කරන පියවර ටිකක් වදාළා. සෝවාන් සීයකට දෙන දානෙකට වැඩිය සකදාගාමී ඒකකෙනෙකුට දෙන දානෙ වටිනවා. ඒ විදියට විස්තර කරලා විස්තර කරලා අවසානෙට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඉහළම පින තමයි බුද්ධ ප්‍රමුඛ මහා සංඝරත්නයට දන්දෙන එක. බුදුරජාණන් වහන්සේ වදාළා බුද්ධ ප්‍රමුඛ මහා සංඝරත්නයට දන්දෙනවාට වැඩිය මහත්ඵලයි මහානිසංසයි කියලා වදාළා සිවුදිගින් වඩින මහාසංඝයාට ආරාමයක් හදලා පූජා කරන එක. එතකොට මනුස්ස ලෝකෙ ඉහළම පින. ඇත්තටම කවුරුහරි ආරාම කුටි සෙනසුන් වෙහෙර විහාර හදලා පූජා කරලා තියෙනවානම් ඒකම ඇති මැරෙනකල් හිත හිතා සතුටු වෙලා ඉන්න, දිව්‍යලෝකයේ දෙව්ලොව සැප සුගති සම්පත්ති සැප අනිවාර්යයෙන් ලැබෙනවා. හැබැයි පහන් සිතින් ඉන්න ඕන. නමුත් මට මුණ ගැහිලා තියෙනවා සමහර පරණ ආරණ්‍ය වල හාමුදුරුවන්ට ඉන්න බැරි අවස්ථා අපහසුතා ඇතිවෙනවා. පස්සෙ හොයලා බැලින්නම්, ආරාමේ පූජා කරපු එක්කෙනාම යකා පෙරේතයා වෙලා එයා නමින් ඉන්නවා. පස්සෙ තවත් තොරතුරු හොයලා බැලින්නම් ආරාමෙ පූජා කලාට පස්සෙ හොයනවා, මොනවද කරන්නෙ, ඊළඟට අපි කැමති කට්ටියද එන්නෙ අකමැති කට්ටියද එන්නෙ. ඊළඟට ඔබවහන්සේලා අපි කියන විදියට ඉන්නෝන. ආරාමයත් පූජා කරලා සංඝයාත් පරිපාලනය කරන්න හදනවා. ඒ වාගේ වෙලා ඒ සංඝයාට මට දැන් එක ආරාමයක විස්තරයක් දැනගන්න ලැබුනා ඒ ආරාමෙ පූජා කරපු එක්කෙනා උදේ කරත්ත වලින් කියනවා සංඝයා තිස් නමකට දානෙ ගේන්නෙ. ඔය විදියට එයා ඒ ආරාමයේම සංඝයාට දන්පැන් දිදී අවුරුදු ඉඳලා තියෙනවා අවුරුදු සෑහෙන ප්‍රමාණයක්. එතකොට සංඝයා තුන්සීය ගාණකට උපස්ථාන කරලා. නමුත් මැරිලා යක්ෂයෙක් වෙලා. ඒ හේතුව තමයි සංඝයා පාලනය කරන්න යනවා. එයා අකමැති හාමුදුරුවො යන්න ඕන මෙහෙන්. උන්වහන්සේලා ඉන්න එපා කියනවා. ඊළඟට ඔබවහන්සේලා මගෙන් අහලා මෙතනින් යන්න

කියනවා. ඔබ වහන්සේලා ඒ ඕන විදියට යන්නත් ඕන විදියට එන්නත් බෑ, මේක මං හදපු එක කියනවා. එතකොට ඒවාගේ තමාගේ අධිකාරිය පැවැත්වීම, අතිශයින් භයානකයි අර පින යට යවනවා. මෑ පූජා කලා ඉවරයි. එතනින් එහාට ගණුදෙනු නෑ, එය සිව්දිගින් වඩින සංඝයාට බුද්ධ ශාසනයට ඒක පූජා කලා. ඕන පැත්තකින් එන්න පුලුවන් කෙනෙකුට, වඳින්න පුලුවන්, දන්දෙන්න පුලුවන්, පින්කම් කරගන්න පුලුවන්. සංඝයාටත් සිව්දිගින් වඩින සංඝයාට වඩින්න පුලුවන්. ඉතින් ඒ නිසා ඒ විදියට අත්හැරලා පූජා කරන පින නම් අප්‍රමාණ සැප. ඉතින් මට මතකයි මිලින්දප්‍රශ්නෙ තියෙනවා මිලිඳු රජ්ජුරුවො නාගසේන රහතන් වහන්සේගෙන් අහනවා ඔබවහන්සේලාට ගස් ගල් වන සෙනසුන් ගිරිගුහාවල් ඕවනෙ කැප, සංසාර දුකින් නිදහස් වෙන්න. මොකද මේ බුදුරජාණන් වහන්සේ වෙහෙර විහාර හදන්න කියලා ඒවාගේ ආනිසංස වැඩියි කියලා මොකද එහෙම දේශනා කලේ. කියනවා, රජතුමනි සංඝයාට අකුසල් දුරු කරලා කෙලෙස් තවන එකට ගස් කොළං වන සෙනසුන් ගිරිගුහා සුදුසුයි. ඒක හැබැව, ඒ වුනාට මේ කුටි සෙනසුන් හදලා පූජා කරන මිනිස්සු ඉන්නවා. ඒ අයට ඒ කුටි සෙනසුන් හදලා පූජා කරන පින දෙලොව සැප පිණිසත් බොහෝ කාලයක් යහපත පිණිසත් අමා නිවන පිණිසත් හේතු වෙනවා. ඒක දකිනාවූ බුදුරජාණන් වහන්සේ කුටි සෙනසුන් වෙහෙර විහාර පූජාව අනුදැන වදාළා කියනවා. බලන්න එහෙනම් කුටි සෙනසුන් වෙහෙර විහාර ආරාම පූජාව බුදුරජාණන් වහන්සේ අනුදැන වදාළේ දායකයාට ඒ පින් බලයෙන් නිවන පිණිස සුගති සැප පිණිස බොහෝ කාලයක් හිත සුව පිණිස පුණ්‍ය සංස්කාර රැස් වෙනවා. ඉතින් ඒ නිසා යම්කිසි කෙනෙක් වෙහෙර විහාර ආරාම පූජාව කරලා තියෙනවානම් එයාලට පින එනවා. හැබැයි ඒ කරපු පින ගැන සතුටු වෙන්න ඕන. පසුතැවිලි නොවී ඉන්න ඕන. දුක් නොවී ඉන්න ඕන. ගොඩාක් මිනිස්සු සමහර වෙලාවට ආරාම හදලා ඉවරවෙලා, අපි දන්නවානම් වෙන තැනක හදනවා. ගොඩාක් මිනිස්සුන්ගේ අර හරී අමාරුම දේ තමයි පින්වත්නි මේ හිත රැකගන්න එක. සතුට උපද්දවගන්න එක. ඉතින් ඒකට ගොඩාක් උපකාරයි සතුට උපද්දවගන්න, ආනිසංස දැන ගැනීම සහ සිත කිලිටි වීමෙන් ආනිසංස බාල වෙන බව තේරුම් ගැනීම. ඉතින් ඒ නිසා ආරාම පූජාව හරී ආනුභාව සම්පන්න එකක්. ලේසියෙන් කරගන්න පුලුවන් දේකුත් නෙවෙයි පින්වත්නි, ආරාම වෙහෙර විහාර පූජාව, ඒක සාමාන්‍යයෙන් සුලු පිරිසක් කරන්නෙ. ඉතින් කරන පිරිසගෙනුත් සුලු පිරිසකට තමයි හොඳටම පින පිහිටන්නෙ. මොකද කිලිටි නොවී, පින ගැන හිතලාම කරන්න ඕන. ඊටපස්සෙ ගොඩක් සතුටු

වෙන්න ඕන. දැන් බලන්න අනේපිඬු සිටුතුමා රන් කහවණු අතුරලානෙ ඉඩම ගත්තේ ජේතවනය. සම්පූර්ණයෙන් කුටි සෙනසුන් හදලා පූජාකලා. එතකොට උදේ හවස දෙව්රම් වෙහෙරට ගිහිල්ලා තියෙනවා. ත්‍රිපිටකයේම කොතැනකවත් අනේපිඬු සිටුතුමා කිසිම ස්වාමීන් වහන්සේ නමකට ගරහලා නැනෙ. එක හාමුදුරු නමක්ගෙ වැරැද්දක් කියලා නැනෙ අනේපිඬු සිටුතුමා. අනේපිඬු සිටුතුමා මැරුණට පස්සෙ ඉපදුනේ තුසිතයේ. නම අනේපිඬු දේවතාවුන් වහන්සේ. අනේපිඬු දෙවියා බුදුරජාණන් වහන්සේ ළගට ඇවිල්ලා කියනවා ඉදං හිතං ජේතවනං ඉසිසංඝ නිසේවිතං ආවුත්තං ධම්මරාජේන පීති සංජනනං මම. කියනවා සංඝ ඍෂීන් වහන්සේලා පිරිවරාගත්ත බුදුරජාණන් වහන්සේ වැඩ සිටින මේ දෙව්රම්වෙහෙර දිහා දකිනකොට මගේ මේ ශරීරයම ප්‍රීතිය පැතිරිලා යනවා කියනවා. දෙව්ලොව ගිහිල්ලත් පූජා කරපු වෙහෙර ගැන ප්‍රීතිය තියෙනවා. අද කාලයේ? ඉතින් ඒ නිසා ඒ ප්‍රීතිය උප්දදගන්න ඕන. සුලුපටු ආනිසංසයක් නෙවෙයි ආරාම වෙහෙර විහාර පූජාව. ඉතින් ඒ නිසා පින්වතුනි ඔන්න දෙව්ලොව, ඊළඟට තමයි මේවා අනුමෝදන් වෙන, මම ඔය ආරාම වෙහෙර විහාර කුටි සෙනසුන් හදලා පූජා කරනකොට ඒ පින්කම් වලට ගිහිල්ලා තියෙනවා මම. පින්කම් කරවලා තියෙනවා මම ගොඩාක් සතුටු වෙනවා මමත් හිතින් ඒවා පූජා කරනවා. ඒ දායකයො ඒවා පූජා කරනකොට මමත් හිතින් සංඝයාට පූජා කරනවා. හේතුව ඒවා අනුමෝදන් වීමත් මහත්ඵලයි මහානිසංසයි අනේ සාදු කියලා. දැන් අපි කවදාවත් හිතන්නෑ අපිට මේවා පූජාකරනවා කියලා. සංඝයා උදෙසායි මේවා පූජා කරන්නෙ. සංඝයා වෙනුවෙන් නියෝජනය කරලා අපි ඒ කුටි සෙනසුන් පරිහරණය කරනවා. නමුත් පූජා කරලා තියෙන්නෙ මහා සංඝයාට. අඤ්ඤාකොණ්ඩඤ්ඤ මහරහතන් වහන්සේගේ පටන් පැවතගෙන එන. ඉතින් ඒ නිසා ඔබත් අනුමෝදන් වෙන්න. කුටි සෙනසුන් වෙහොර විහාර ආරාම පූජාව සාදු කියලා අනුමෝදන් වෙන්න. ඒ කරන අය ගැන සතුටු වෙන්න. එයාලට පින්පෙත් අනුමෝදන් කරන්න. ඔයාලා ගොඩාක් පින් කරගත්තා කියලා. ඉතින් පින්වත්නි අපි බලමු ඊළඟ දිව්‍ය විමානය. ඊළඟ දිව්‍ය විමානයත් හරීම පුදුම සහගතයි. ඒ තමයි ඒ දිව්‍ය විමානයේ එයා කරලා තියෙන පිනේ තමයි පුදුම සහගත. රත්තරන් දිව්‍ය සළු කොඩි ආභරණ රත්තරන් පාට සඳුන් වලින් ඒ දිව්‍ය විමානය සුවඳවත් වෙනවා. සැරසිලා තියෙනවා. ලස්සනයි. රත්සඳුන් තමයි ඒ දිව්‍යාංගනාව ශරීරයේ ආලේප කලේ. රන්වන් පාට මහනෙල් මල් පැළඳගෙන ඉන්නවා. ප්‍රසාදයත් රන්වන්. සයනාසනයත් රන්වන්. රත්තරන් භාජන

තියෙන්නෙ. රන්වන් කුඩ දිව්‍ය රථ ඒ වගේම රන්වන් පාට අශ්වයෝ, රන්වන් පාට විජිනි මේවා තමයි තියෙන්නෙ ඒ දිව්‍ය විමානෙ. සක්දෙවිඳු මේක අහන්න. අහනවා සුන්දරී මොකද මේච්චර ආනුභාවයක් ඔබට. හිතාගන්නවත් බැරිතරම් මේ දිව්‍යාංගනාවො අතර සැප විඳින්නෙ. ඊටපස්සෙ මෑ කියනවා විස්තරේ. සක්දෙවිඳුනි, වැටකොළු නමින් වැල් ජාතියක් තියෙනවා. මං ඒ වැටකොළු වැලෙන් මල් හතරක් කඩාගත්තා. මට ලොකු බලාපොරොත්තුවක් තිබුනෙ නෑ, මං ඒ මල් ගෙන බුදුරජුන්ගේ ස්තූපය කරා ගියා. මෑ රජගහනුවර හිටපු දුප්පත් කාන්තාවක්. අදටත් ඉන්දියාවෙ පාරවල් අයිනෙ එක එක මල් පිපෙනවා. මම දැකලා තියෙනවා ඔය පාරවල් අයිනෙ ඉන්දියාවෙ ඔය කුණු කාණු වල, වලවල් වල, නෙළුම් පිපෙනවා. ඊටපස්සෙ අර සුදු ඕළු වර්ග, ඊළඟට රතු ඕළු, ඔහේ නිකං මඩවලවල්වල ඉන්දියාවෙ අදටත් පිපෙනවා. ඊළඟට ඉන්දියාවෙ ගොඩාක් තැන්වල, ඔය හැමතැනම වැටකොළු තියෙනවා. සාමාන්‍යයෙන් ගෙවල් වල වහලවල් වල වැටකොළු තමයි අදටත් ඉන්දියාවෙ පැල්පත් වල යවන්නෙ. ඉතින් පාරවල් අයිනෙ තියෙනවා. රජගහනුවර තමයි මෑ හිටියෙ. ඊටපස්සෙ මෑ රජගහනුවර දුප්පත් කාන්තාවක්, මෙයා කැලේ දර කඩන්න ගිහිල්ලා ඉන්නකොට දැක්කා රජගහනුවර බුදුරජාණන් වහන්සේගේ ධාතු සෑය. දැකලා මෙයා මොකද කලේ, වටපිට බැලුවා, දැක්කා, මිනිස්සු සාමාන්‍යයෙන් වැටකොළු මල් ගණන් ගන්නෑ, අද කාලෙට වුනත් මල් පූජාවක් කියනකොට වැටකොලු මල් පූජා කරනවා කියලා අහලාවත් නෑනෙ. ඊටපස්සෙ මෙයා වැටකොලු මල් හතරක් කඩාගෙන ඔහේ චෛත්‍යය ළඟට ගියා. මෙතන විශේෂ දේ තමයි කියනවා, බලන්න මට ලොකු බලාපොරොත්තුවක් තිබ්බෙ නෑ, මං බුදුරජාණන් වහන්සේගේ ස්තූපයට පූජා කරන අදහසින් ගියා කියනවා. ශාස්තෲන් වහන්සේගේ උතුම් බුදුසිරුර ගැන හිතද්දි මගේ සිතට පුදුමාකාර සතුටක් දැනුනා. මං ඒ ස්තූපය ගැනමයි සිත සිතා හිටියේ. ඒ ගව දෙන එනවා මං දැක්කෙ නෑ. මම ස්තූපය ළඟට ගිහින් මල් පූජා කරගන්න අදහස ඉටු කරගන්න බැරිවුනා. ගවදෙන ඇනලා මං මැරුණා. ඉතින් මට ඒ පින රැස්කරගන්න පුලුවන් වුනා නම් මීටත් වඩා උතුම් සැප ලැබෙනවා කියලායි මට හිතෙන්නෙ. වැටකොළු මල් හතරක් අරගෙන පූජා කරන්න යද්දි ඉතින් හරකෙක් ඇනලා මැරිලා. අනේ දෙතිස් මහා පුරුෂලක්ෂණයන්ගෙන් හෙබි බුදුරජාණන් වහන්සේගේ ධාතු සෑයනේ කියලා හිතලා තමයි ගිහිල්ලා තියෙන්නෙ. කියනවා මං මල්ටික පූජා කරන්න යද්දින් මට මේ වගේ විපාකයක් සැලසුනා නම් මේ මල් පූජා කලා නම් කොහොම වෙයිද කියලා අහනවා.

එතකොට අනිත් එක තමයි බලන්න මැගේ විමානේ කොතනකවත් වැටකොලු නෑ. දැන් වෙනනම් නෙළුම් මල් පූජා කලොත් නෙළුම් මල් මේ විමානෙ හැදෙනවා. ඒ තමයි ඒ ලෝකෙට, අඹ හදලා ඒ විදියටම හම්බවුනේ. නමුත් ලෝකෙ වැටකොළු මල පූජනීය උතුම් ගණයට වැටෙන්නෙ නැනෙ. ඒ නිසා විපාකයට ඒක ආවෙ නෑ. විපාකයට ආවෙ රත්තරන්. එහෙනම් ඒ වටිනාකම තිබ්බෙ මලේ නෙවෙයි, එයාගෙ, වටිනාකම තිබ්බෙ හිතේ. හිත රත්තරන්. රත්තරන් හිතක්, වටිනා හිතක්. මුලු විමානෙම රත්තරන්, එක තැනක වැටකොළු මලක් නෑ. ඊටපස්සෙ කියනවා මේ බලන්න කියනවා මං ඒ පිනෙන් තමයි මේ දිව්‍යලෝකෙ ඉපදුනේ කියනවා. මලක් පූජා කරන්න යද්දින් පහන් සිතින්, අනේ අපිට කොච්චර තියෙනවාද බලන්න හිස හැරුණු පැත්තකින්. මේ පෘථිවියේ ලංකාවෙ මැද ඉඳලා කොයි පැත්තට ඉරක් ගැහුවත්, රේඛවක් ඇන්දත් කොතැනක හරි චෛත්‍යයක් තියෙනවානෙ. මුලු ලංකාවෙම ස්තූප බෝධි වෙහෙර විහාර තියෙන තැනක්නෙ. හිස කොයි පැත්තට හැරිලා ගියත් චෛත්‍යයක් බෝධියක් වෙහෙරක්නෙ. කොච්චර මල් පුදන්න පුලුවන්ද. මම දැකලා තියෙනවා සමහර ඔය පන්සල්වල බෝ මළුව සෑ මලුව වල් බිහිවෙලා. ගමේ එකෙක් නෑ ඒ වල් ටික ගලවගන්න. ඒ පන්සලේ බෝ මළුවෙ සෑ මලුවෙ වල් බිහිවෙලා ජරාවාස වෙලා තීන්ත ටිකක්වත් ගාගන්න කෙනෙක් නැතිව ඉන්නවා කියන්නෙ ඒ ගමේ මිනිස්සුන්ගේ තියෙන අශ්‍රද්ධාවම තමයි. පින් කරන්න මනුස්සයෙක් නෑ ගමේ. ගිය පෝයට මල් පූජා කරපු මල් ආසනය මේ පෝයටත් මල් ටික ඇලිලා ආසනයට, අස් කරන්න කෙනෙක් නෑ. ඉතින් මම මේවා දැකලා තියෙන ඒවා මේ කියන්නෙ. ඉතින් මේ බලන්න මලක් පූජා කරන්න යද්දින් මැරිච්ච කෙනා මෙච්චර සැප විදිනවා නම් වෙහෙර විහාර ස්තූප බෝධීන් වහන්සේලාට ඇප උපස්ථාන කරන අය කොච්චර පින් රැස් කරගනීද. ඒ වගේම මල් පූජා කරන අය කොච්චර පින් රැස් කරගනීද. අද ගත්තොත් රුවන්වැලිමහා සෑය ඒ අවට ගම්වාසීන්ට ඒ අයට පැයෙන් දෙකෙන් මිනිස්සුන්ට යන්න එන්න පුලුවන්. කොළඹ ඉඳලා ගියත් අනුරාධපුරේට පැය තුනෙන් යන්න පුලුවන්. මාසෙකට වතාවක් මහා සෑය මහා බෝධිය වැන්දොත් කොයිතරම් වාසනාවක්ද. යන ඔක්කෝම නෙළුම් මල් මිටක් අරන් යන්නෙ. පහනක් දල්වනවා. මොනවාහරි පූජා කරනවා. ගාථා කියනවා. කොච්චර පින් රැස්වෙනවාද කියලා බලන්න. මේ ආච්චි කෙනෙක් වැටකොළු මල් අරන් යද්දිනෙ. හිතේ සතුට තියෙන්න ඕන පින්වතුනි තමන් කරන පින්කම් ගැන. කරදර මිනිස්සුන්ට එනවා, පුදුමය කියන්නෙ අපි මේ පින් කරගන්න එක.

කරදර නැත්තෙ කාටද. මිනිස්සුන්ටනේ කරදර එන්නෙ. දුක් කම්කටොළු එන්නෙ. වෙන කාටද එන්නෙ. ඉතින් ඒ නිසා දුක් කම්කටොළු මැදින් අපි පුලුවන් තරමක් පින්දහම් රැස් කරගන්න ඕන. දැන් මේ මල් වැටකොළු මල් හතරක් පූජා කරන්න ගියාට පස්සෙ මේ විදියෙ සැප ලැබුනානම් මේක අහපු ගමන් ඉදං සුත්වා තිදසාදිපති මගවා දේව කුංජරෝ තාවතිංසේ පසාදිංතො මාතලිං ඒතදබබරීති, කියනවා මාතලී, මේක අහපු සක්දෙවිඳු කියනවා මාතලීට කතා කරලා, එස්ස මාතලී අච්චේරං චිත්තං කම්ම ඵලං ඉදං, ආශ්චර්යයී කර්ම ඵලය දිහා මාතලී බලන්න. අප්පකම්පී කතං දෙය්‍යං පුඤ්ඤං හෝති මහප්ඵලං, පොඩි දෙයක්නෙ මේ පූජා කරන්න ගිහිල්ලා තියෙන්නෙ. කොහොමද විපාකයේ හැටි මාතලී. ඉතින් කියනවා නත්ථි චිත්තේ පසන්නාම් අප්පිකානාම දක්ඛිනා, හිත පැහැදුනොත් එහෙම පුංචි දක්ෂිණාවක් දෙන දේ පුංචියි කියලා නෑ හිත පැහැදුනාම. තථාගතේවා සම්බුද්ධේ යතවාතස්ස සාවකේ තථාගත වූ සම්බුදුරජාණන් වහන්සේ ගැන චේවා තථාගත ශ්‍රාවකයන් වහන්සේ ගැන චේවා සිත පහදවාගෙන සුලු දෙයක් දුන්නොත් දක්ෂිණාව අල්ප වෙන්නෙ නෑ, ගොඩාක් ආනිසංස ලැබෙනවා. ඒහි මාතලී අම්බිහි බීයෝ බීයෝ මසේ මසේ අපිත් දැන් ඉක්මණට ඉක්මණට වැඩිපුර වැඩිපුර තථාගතස්ස ධාතු යෝ සුඛෝ පුඤ්ඤස්සමුච්චයෝ, තථාගතයන් වහන්සේගේ ධාතූන් වහන්සේලාට වඩ වඩාත් පුදමු පින් කරමු. සුඛෝ පුඤ්ඤස්සමුච්චයෝ කියලා කියන්නෙ සැපය කියලා කියෙන්නෙ කරගන්න පිනෙන් ලැබෙන විපාකෙ. ඉතින් ඒ නිසා මේ විස්තරය කියලා හරී ලස්සන ගාථාවක් කියනවා සක්දෙවිඳු. දිට්ඨංති නිබ්බුතේචාපි සමිචිත්තෙ සමංඵලං, බුදුරජාණන් වහන්සේ හිටියත් බුදුරජාණන් වහන්සේ ජීවමානව බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙත් සමයචිත්තේ සමයඵලං, ඒ හිතේ පැහැදීම සමාන වුනාට පස්සෙ විපාකයත් සමාන වෙනවා. හේතුපණිධි හේතුහි සච්චාගච්ඡන්ති සුග්ගති, ඒ සිත පහදවා ගන්න විදිය අනුව තමයි සත්ත්වයා සුගතියේ උපදින්නෙ. ඒ සිත පැහැදීමෙන් සුගතියේ උපදින නිසා තමයි අද කාලෙ හිතේ පැහැදීමට මෙච්චර බාධා ඇතිවෙන්නෙ. ඇත්තටම පින්කමක් කරනකොට මාර බලවේගය කියලා කියන්නෙ මේ වැස්ස එන එකවත් විදුලි කොටන එකවත් නෙවෙයි, සිත අපැහැදෙන එක. ඇයි මේ වැස්සක් ආවත් හිතනෙ කිලිටි වෙන්නෙ. මේ මොන කරුමයක්ද යනවා යන්න මං කියලා තෙමි තෙමී ඉන්න බෑ කියලා ඒ හිතනෙ කිලිටි වෙන්නෙ. හිත කිලිටි වෙන එකෙන් තමයි පින කිලිටි වෙන්නෙ. එතකොට ඇත්තටම ඒ බලවේගය සිතේ ප්‍රසාදය තමයි නැති කරන්නෙ. මොකද හිතේ

ප්‍රසාදය හේතු කරගෙන තමයි දෙව්ලොව උපදින්නෙ. ඒ නිසා මොනවාහරි පිනක් කරලා හිත පහදවගන්න පුලුවන් වුනොත් ඒක තමයි එතන තියෙන වටිනාම දේ. ඉතින් මේක කියලා සක්දෙවිඳු යම් කෙනෙකුට පූජා සත්කාර කරන දායකයන් සුගතියේ උපදිනවා නම් ඒ තථාගතයන් වහන්සේලා ඒකාන්තයෙන්ම ලෝකයට පහළ වන්නේ බොහෝ දෙනාගේ යහපතටමයි කියලා බුදුගුණ හිත හිතා ඒ සක්දෙවිඳු යන්න ගිය ගමන නතර කරලා මනුස්ස ලෝකයේ දවස් වලින් දවස් හතක් එක දිගට සක්දෙවිඳු සිළුමිණි සෑයට උපස්ථාන කලා කියනවා. මේ පුණ්‍ය වැටකොළු මල් හතර පූජා කරන්න ගිය එක්කෙනා හරකෙක් ඇනිලා මැරිලා ඒ පිනෙන් දිව්‍යලෝකෙ ඉපදිලා ඇගේ දිව්‍ය සම්පත්තිය දැකලා පුදුම වුනු සක්දෙවිඳු තමන් යන ගමන නතර කරලා සතියක් සිළුමිණි සෑය වැඳලා තියෙනවා. මේ ධාතු වන්දනාවේ තියෙන ආනුභාවය. ස්තූප වන්දනාවේ තියෙන ආනුභාවය. ඒ නිසා ඒ චෛත්‍යය වන්දනාව කියන එක සුලුපටු දෙයක් නෙවෙයි පින්වත්නි බොහෝ පින් රැස්වෙනවා. ඇත්තටම ලංකාවේ මිනිස්සු නම් අනිවාර්යයෙන් බොහෝවිට පුලුවන්නම් මාසෙකට වතාවක් හරි රුවන් වැලි මහා සෑය වැඳලා ථූපාරාමය වැඳලා දළදා වහන්සේ වැඳලා ඒ වාගේ තමන්ට යන්න පුලුවන් පහසු තැනක වෙහෙර විහාර ස්තූප වැඳලා තමන්ගේ ජීවිත පින් කරගන්න ඕන. ගොඩාක් කරදර පිටනෙ පින්වතුනි මිනිස්සු ඉන්නෙ. මේ කරදර වලින් මිනිස්සු නිදහස් වෙන්නැද්ද. ගොඩාක් මිනිස්සු අතින් කොච්චර පව් සිද්ධ වෙනවාද. ඉතින් ඒ පව් බලවත් වෙලා සතර අපායකට වැටුනොත් කොච්චර දුකක්ද. බලන්න අපි මීට කලින් බියකරුය සසර, දිවැසින් දුටු බියකරු සසර ගැන කතා කරද්දි ඒ වගේ කොච්චර අපිට හිනාවක් වත් මූණෙන් ගන්න බැරි තරමට ඒවගේ විස්තර අහනකොටත් බය හිතෙනවා. නමුත් දැන් බලන්න දිව්‍යලෝකෙ සැප සම්පත් වල විස්තර. ඒවා කියනකොටත් අපිට සතුට උපදිනවා. තමන් කරපු පින් මතක් වෙනවා. අනේ මාත් මෙහෙම පින්කරලා තියෙනවා, මෙහෙම පින් කරලා තියෙනවා කියලා. ඉතින් ඒ විදියට මේ පීතවිමානය, වැටකොළු මල් හතරක් පූජා කරපු කතාව. තවත් දිව්‍යලෝකෙක විස්තරයක් තියෙනවා. ඒ දිව්‍යලෝකෙත් දිව්‍යාංගනාවක් ඉන්නවා හැබැයි ඉතින් දිව්‍යාංගනාවොමයි. ඉතින් ඒ දිව්‍යාංගනාවක් ඉන්නවා ඉරක් හඳක් වගේ බබලනවා. ඉතින් සක්දෙවිඳුන්ගේ ආලෝකයටත් වැඩිය, බ්‍රහ්මයින්ගේ ආලෝකයටත් වැඩිය බබලනවා කියලා තමයි අන් අයට හිතෙන්නෙ. සිරියාවෙනුත්, ශරීර සෝබාවෙනුත්, යසසිනුත් ගොඩාක් බබලනවා. දෙව්දුව නිල්මහනෙල් මල්මාලාවක් පැළඳගෙන ඉන්න ඔබ කවුද.

ඔච්චර ලස්සනක් තේජසක් දිව්‍ය සැපයක් ඔබට ලැබුනෙ කොහොමද, ඔබ කලින් ජීවිතේ මොන වගේ පිනක්ද කලේ. ඒවා දැන් අහනවා. ඇහුවට පස්සෙ කියනවා ස්වාමීනී දැන් මේ ගමේදිමයි ස්වාමීන් වහන්සේ නමක් අපේ නිවසට පිණ්ඩපාතෙ වැඩියෙ. මගේ හිත පැහැදිලා පුදුමාකාර ප්‍රීතියක් ඇතිවුනා. ඉතින් මං උක්දණ්ඩක් රැගෙන නුඹවහන්සේට පූජා කලා. මේ මුගලන් මහරහතන් වහන්සේ. ඒ මුගලන් මහරහතන් වහන්සේ ළඟට දිව්‍යාංගනාවක් ඇවිල්ලා වන්දනා කලා, එතකොට තමයි මුගලන් මහරහතන් වහන්සේ අහන්නෙ. මුගලන් මහරහතන් වහන්සේ කියනවා අනේ මේ ගමේදින්ම. දෙවඟන කියනවා ඔබ වහන්සේට මං උක්දණ්ඩක් පූජා කලා. ඊටපස්සෙ නැන්දම්මා පස්සෙ මගෙන් ඇහුවා යේලි කෝ මේ උක්දණ්ඩ, එතකොට මං කිව්වා, අනේ මං ඒක විසික්කා කලෙත් නෑ, කෑවෙත් නෑ, සාන්ත විහරණ ඇති ස්වාමීන් වහන්සේ නමකට මං ඒක පූජා කලා කියලා. ආ එතකොට මේ ගෙදර ප්‍රධානී තී, එහෙමනම් උඹද මේ ගෙදර ලොක්කි මංද, කියලා නැන්දම්මට ගොඩාක් තරහා ගියා. පරිභව කලා. ළඟ තිබ්බ ගලක් අරන් ගැහුවා මගේ ඔලුවට. මං කිව්වෙ වයසක උන්දලාට හයියක් එනවා කියලා. ගලක් අරන් දුන්නා ඕලුවට යේලිගෙ. ඒ ගල වැදුනා ඔලුවෙ. එහෙම්මම කඩාගෙන වැටුනා. මැරුනා එතනම. මං එතන ඇස් දෙක පියවුනා. මගේ ඇස් ඇරුණෙ මේ විමානෙ කියනවා. ඉතින් මං කරගත්තු කුසලය ඕක තමයි කියනවා. උක් දණ්ඩක් පූජා කරපු එක. ඉතින් ඒ නිසා මං දැන් අප්‍රමාණ දිව්‍ය සැප විඳිනවා කියනවා. බලන්න කරදර පිටනෙ ඔක්කොම මේ කරගෙන තියෙන්නෙ. අනිත් අයගෙන් ප්‍රශංසා ලබන අදහසින් ඔක්කෝම මේවා අනුමෝදන් වෙයි සමහර ළමයි ඇවිල්ලා අඬ අඬා කියනවා ස්වාමීනී, මං මෙච්චර පින් කරනවා, අපේ අම්මලා මේවට කැමති නෑ, ගෙදර අය කැමති නෑ, කවුරුත් උදව්වට නෑ, ගෙදර කට්ටිය ධර්මයට ගන්න අමාරුයි. එහෙම බෑ, මේවා අත්වැල් බැඳගෙන රංචු පිටින් යන ගමනක් නෙවෙයි මේක. ගෙදර පස්දෙනෙක් කිව්වට පස්සෙ ලෝක පහකින් ඒ පස්දෙනා ඇවිල්ලා තියෙන්නෙ. එතකොට අපිට ඕන විදියට ඒ පස්දෙනා හසුරුවගන්න බෑ පින්වත්නි. ඒ නිසා පුලුවන් එක්කෙනා පින් කරගෙන යන්න ඕන. සමහර විට එක්කෙනෙක් පින් කරගත්තට පස්සෙ අනිත් අයගෙන් ගුටි කාලා මැරිලා තියෙන්නෙ මේ. ගෙදර අයගෙන්මනේ ගුටි කාලා මැරිලා තියෙන්නෙ. නමුත් එයාලා ඒ ගමන ගියා. දැන් අර ප්‍රාණඝාතය කරපු නැන්දම්මා නිරයේ, මෑ දෙව්ලොව. දැන් නැන්දම්මාට සාප කරන්නෙත් නෑ, උක්දණ්ඩ පූජා කරන්න ලැබුනේ ඔබ වහන්සේ වැඩිය නිසානේ කියලා මුගලන් මහරහතන් වහන්සේට

ඇවිල්ලා කෙලෙහි ගුණයත් දක්වලා වැඩියා. අනිත් එක තමයි දැන් බලන්න දෙවිවරුන්ගේ ස්වභාවය තමයි කෙලෙහිගුණය තියෙනවා. දැන් අද කාලෙ ගොඩාක් අයට කෙලෙහිගුණ නෑ. දැන් අපිට ස්වාමීන් වහන්සේ නමකට දානයක් පූජා කලොත් උන්වහන්සේට ඒක එක වේලක්. උන්වහන්සේට ඒක එක වේලක් වුනාට පින්වත්නි, ඒ දානය පූජා කරන කෙනාට කල්ප සියදහස් ගාණක්, අර තියෙන්නෙ පඨවි සාගත තෝමේරු කයං යන්ති උගත්තයං කප්පානි සත සහස්සානි සංඝං දින්නං සහස්සති, මේ පෘථිවිය නැතිවෙලා, මහාමේරුව නැතිවෙලා, සාගරය නැතිවෙලා කල්ප විනාශය සිද්ධ වෙනවා. ඒ වගේ කල්ප විනාශ ලක්ෂයක් ගියත් කල්ප ලක්ෂයක් ගියත්, සංඝයාට දුන්න දේ විපාක නම් නැතිවෙන්නෑ කියලා වදාළා. එතකොට එක්කෙනෙක් දන් හැන්දක් බෙදුවොත් කල්ප ගාණක් ඒකෙ ආනිසංස එනවා. නමුත් හාමුදුරුවන්ට ආනිසංස එනවා කියලා එකක් නෑ, හාමුදුරුවන්ට එක වේලයි. එතකොට ඇත්තටම සංඝයාට අපි යමක් පූජා කරනවා කියන්නෙ ඒකෙ ආනිසංස සැලසෙන්නේම ගිහි මිනිස්සුන්ට. එතකොට ඒ ගිහි මිනිස්සු හිතන්න ඕන අපිට අනුකම්පාවෙන් සංඝයා වැඩ ඉන්නවා කියලා. මිනිස්සු හීතන්නෙ එහෙම නෙවෙයි, උඹලට කන්න දෙන්නෙ අපි. පන්සලේ ඝණ්ටාරෙ හැදුවෙ අපි, අරක හැදුවෙ අපි, මේක හැදුවෙ අපි, අපි දැන් බලන්න අපේ නමක් කියන්නෙවත් නෑ, අපි ගියාට පස්සේ හිනාවෙන්නෙවත් නෑ, අමුතු ලෝකවල මිනිස්සු ඉන්නවා. ඒ මිනිස්සු හිතන්නෙ මිනිස්සු නිසා සංඝයා යැපෙනවා කියලා. අපිට අනුකම්පා පිණිස සංඝයා වැඩ ඉන්නවා කියලා හිතන්නෑ. මේ බලන්න දිව්‍යලෝකෙ ගියත් අර තමන්ට පින කරන්න උපකාරී වෙච්ච කෙනාගෙ ඇවිල්ලා සිරිපා වැඳලා යනවා. ඉතින් ඒනිසා සත්පුරුෂ කම කියන්නෙ එහෙම එකක් පින්වත්නි. ඉතින් උක්දඬු පූජාවේ ආනිසංස ගැන හරියට ඈ සතුටුවෙනවා. ඈ සක්දෙවිඳුගේ අප්සරාවියක් වෙලා ඉපදුනේ. දෙවිවරු දිව්‍ය අප්සරාවො ඈ ගොඩාක් සතුටු කරවමින් පංච තූර්ය නාදයෙන් සතුටු වෙමින් වාසය කරනවා කියලා ඈ ප්‍රීති ඝෝෂා පවත්වනවා. මුගලන් මහරහතන් වහන්සේ ඉදිරියේ වන්දනා කරලා අතුරුදහන් වෙලා ගියා. තව තියෙනවා දිව්‍ය විමානයක්, ඒත් දිව්‍යාංගනාවක් අප්‍රමාණ සැප විදිනවා අපි බලමු ඈ කරපු පින, මුගලන් මහරහතන් වහන්සේ අහන්නේ. මං ඉස්සර මනුස්ස ලෝකෙ මනුස්ස දුවක් වෙලා හිටියා. මං දැක්කා සිල්වත් ශ්‍රමණයන් වහන්සේලාව. මගේ හිත පැහැදුනා. මං උන්වහන්සේලාගේ දෙපා වන්දනා කලා. මට හරී සතුටුයි. මම වැඳගෙන හිටියා. ඒ පිනෙන් තමයි මේ වගේ ලස්සනක් මට ලැබුනෙ. ඒ පිනෙන්මයි සම්පත් ලැබුනෙ. සිතට ප්‍රීතිය

උපදවන මේ සැපසම්පත් ඔක්කෝම ලැබුනෙ ඒ නිසාමයි. මෙයා මොකවත් පූජා කරලත් නෑ, මෙයා කරලා තියෙන පින තමයි පින්වත්නි, දැන් අර ඉස්සර ගම්මාන වලට බුදුරජාණන් වහන්සේ බැහැදකින්න සංඝයා වඩිනවානෙ. එතකොට සංඝයා සමහර වෙලාවට දහනම, විසිනම, පනස් නම, සියක්නම, පන්සිය නම වඩිනවා. ඉතින් ඔය වගේ පෝලිමට ස්වාමීන් වහන්සේලා වඩිනකොට උපාසක අම්මා කෙනෙක් ගෙදරක ඉඳලා මේක දැකලා උන්දැට පුදුම සතුටුයි. උන්දැ පාර ළඟට ගිහිල්ලා අයිනෙ දණ ගහලා වැඳලා බලාගෙන හිටියා වැඳගෙන, අර සංඝයා දිගට වඩිනවා. හිතේ පුදුම පැහැදීමක් ඇතිවුනා. නොපෙනී යනකල් බලාගන හිටියා. එච්චරයි ජීවිතේටම කරලා තියෙන පින, දානෙ දීලත් නෑ, බණ අහලත් නෑ, වැඳලා සංඝයා වඩින දිහා බලාගෙන හිටපු පින මේ බලන්න. ඒක තමයි ඔය පින්කමකට ගියාට පස්සෙ ලොකු සංඝ දානයක් දෙනකොට සංඝයා වඩිනකොට පහන් සිතින් බලාගෙන ඉන්න. සිත පහදවා ගන්න. මට මතකයි ඉස්සර සමහර මිනිස්සු ස්වාමීන් වහන්සේලා වඩිනකොට ගණන් කරනවා. එක දෙක තුන හතර අවසානෙට එයාලට වැඩිය අංකෙ මතකයි, සංඝයා මතකත් නෑ, සඟ ගුණ මතකත් නෑ, මොකුත් නෑ, පහන් සිතින් දැකලා වැඳලා බලාගෙන ඉන්න එක. එක උපාසක අම්මා කෙනකුට දිනක් ඔය වාගේ සංඝයා සිය ගාණක් වඩිනවා බලාගෙන ඉඳලා එහෙම්මම කය ප්‍රීතියට සැහැල්ලුවට පත්වෙලා සිත සමාධිමත් වෙලා. සංඝයා දැකලා. සංඝයා දැකලා පැහැදුනාට පස්සෙ ඒ පැහැදීම දෙව්ලොව ඉපදීම පිණිස පවතිනවා. සංඝයා දැකලා පැහැදුනාට පස්සෙ උපනුපන් ජීවිතේ ඇස් ලෙඩ හැදෙන් නෑ, ඇස් රෝග සංසිඳෙන පිනක් තමයි ආර්යයන් වහන්සේල, සඟරුවන දෙස බලා සිටීම, සෑය බෝධිය දෙස බලලා පහන් සිතින් පින් කරගැනීම, නිවන් දකින මොහොත දක්වා ඇස් ලෙඩ හැදෙන්නෑ, ඉතින් ඒ නිසා සංඝයා දිහා දැකලා සතුටුවෙච්ච විමානයක් ඇයගේ විමානය සඳමඩලක් වගේ කියනවා, ඒ විමානය. පහන් සිතට දැන් මූනත් ලස්සනට තියෙනකොට සඳක් වගේ මූණක් කියනවානෙ. ඒ පැහැදුනු නිසා ඇගේ විමානයත් සඳමඩල වගේ කියනවා. බලන්න පින්වත්නි පින්වල විපාක. ඉතින් ඒ නිසා පින්වත්නි ඒ විදියටත් දිව්‍යලෝකෙ සැපසම්පත් ලැබෙන්න පුලුවන්. ඊළඟට අපිට තියෙනවා රජ්ජුමාලාගේ දිව්‍යවිමානයේ කතාව. ඒක හරි අපූරු සිද්ධියක්. ඒක අපි කල්යල් අරන් ඒ විස්තරේ විභාග කරගෙන කතා කරන්න ඕන කතාවක්. අපි ඒක ඊළඟ දවසට තියාගෙන අපි බලමු මණ්ඩුක දේවපුත්‍රයාගෙ, ඔන්න කලාතුරකින් දිව්‍යරාජයෙක් හම්බුනා. ඔන්න ඒ දිව්‍යරාජයා නම් අපි බලමු කවුද කියලා. ඔබ ඍද්ධිමත්, යසස්

තියෙනවා, බබලනවා. මනහර රූ සපුවෙන් හැම දිසාවම එළිය කරනවා. මගේ පා වන්දනා කරන ඔබ කවුද. බුදුරජාණන් වහන්සේගේ සිරිපා වන්දනා කරන්න පැමිණි දිව්‍ය රාජයෙක්. මං මීට ඉස්සර ජීවිතේ උපන්නේ වතුරේ හැසිරෙන මැඩියෙක් වෙලා. නුඹ වහන්සේ දේශනා කරන උතුම් ධර්මය අහද්දි ඒ ගොපල්ලා අතින් මං නොදැනුවත්වම මැරුනා. මේක සිද්ධ වෙලා තියෙන්නෙ මෙහෙමයි. බුදුරජාණන් වහන්සේ එක්තරා පොකුණක් අයිනේ, දහම් දෙසනවා ඉතාමත් මිහිරි හඬින්. මිහිරි හඬින් බ්‍රහ්ම ස්වරයෙන් දහම් දෙසනකොට ඒ බුදුරජාණන් වහන්සේගේ හඬට ආසා හිතිලා ඒ පොකුණෙන් ඉවුරට ආවා ගෙම්බෙක්. බුදුරජාණන් වහන්සේගේ මිහිරි ධර්මස්වර අහගෙන හිටියා. බලන්න එතකොට ඒ ගෙම්බට බුදුරජාණන් වහන්සේගේ භාෂාව තේරෙන්නෙ නෑ, ඊළඟට කියන දේ තේරෙන්නෑ, අර්ථය තේරෙන්නෑ, නමුත් හඬට ආසා වෙලා අහගෙන හිටියා. එහෙම අහගෙන ඉන්නකොට ඔතනින් ගියා ගොපල්ලෙක්. ඒ ගොපල්ලත් බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහන්න ඕන කියලා ඒ පොකුණ අයිනට ගිහින් ඒ කෙවිට බිම තියලා ඒකට හේත්තු වෙලා හිටගෙන අහගෙන හිටියා. කෙවිට තිබ්බෙ ගෙම්බගේ උඩ. ගෙම්බා කෙවිටට චප්ප වුනා. එහෙම්මම මැරුනා. දිව්‍ය ලෝකෙ. ධර්මය අහපු හඬට ඒ හඬට ආස වෙලා ඒ බුදුරජාණන්වහන්සේගේ ස්වරයට පැහැදිලා දෙව්ලොව ඉපදුනා තිරිසන් සතෙක්. ඊටපස්සෙ බලන්න මගේ හිත පැහැදුනේ මොහොතයි, ඒ දිව්‍ය රාජයා කියනවා. ඒ තුලින් මට ලැබුනා ඍද්ධියත් යසසත් බලනු මැනව. මගේ ආනුභාවය බලනු මැනව. මාගේ සිරුරේ පැහැයත් පැතිරෙන ආලෝකයත් බලනු මැනව. ගෞතමයන් වහන්ස නුඹ වහන්සේ වදාරණ ධර්මය බොහෝ කාලයක් තිස්සෙ අහපු අය ඉන්නවා. ඔවුන් යම් තැනකට ගිහින් ශෝක නැතිව ඉන්නවානම් ආන්න ඒ මාර්ගඵල නිවන ලබනවා කියලාමයි මට හිතෙන්නෙ. ඒ දිව්‍යරාජයා කියනවා බණ අහන එකට මොහොතක් පැහැදිලා, මං ඉපදුනානම් මෙහෙම බලවත් දිව්‍ය රාජයෙක් වෙලා, හැමදාම බණ අහලා ධර්මය පුරුදු කරන අය මාර්ගඵල ලබනවාමයි කියලා මට හිතෙන්නෙ කිව්වා. එතකොට හිතන්න බලන්න අර ධර්මය කෙනෙක් අහලා ඒ ධර්මයට පැහැදුනොත් ඒ ධර්මයෙන් එක කරුණක් හරි තේරුම් ගත්තොත් එයාට කොච්චර යහපතක්ද කියලා. එතකොට හිතන්න ගෙම්බෙක් වෙලා පැහැදිලා හිතේ ඇතිවුන චිත්තප්‍රසාදයෙන් මෙච්චර යහපතක් වුනානම් මනුස්සයෙක් වෙලා එක බණ පදයක් තේරුම් ගත්තත් කොච්චර යහපතක්ද. මම අහලා තියෙනවා සමහර මිනිස්සු බණ දානකොට නැගිටලා යනවා කියලා. බණ රුස්සන්නැල්ලු සමහර

මිනිස්සුන්ට. සිංදුවක් මොකක්හරි විකාරයක්, විහිළු කතාවක්, නාට්‍යයක්, චිත්‍රපටියක් තිබ්බොත් උඩ පැනගෙන එන්නෙ. බණක් දාපු ගමන් නැගිටලා යනවා. මෙහෙමත් කරුමයක් ලෝකෙ. ඉතින් ඒ නිසා මේ තේරුන්නැතත් ගෙම්බෙක් වෙලත් බණ අහලා ඒ හඬට පැහැදිලා දෙව්ලොව ඉපදුනා නම් මේ ධර්මය කියන එක වචනයක් තේරුන්නැතත් අනේ පැයක් හරි බණ ඩිංගිත්තක් එක තැනක ඉඳන් අහන් හිටියොත් ඒකත් ඇති මේ මනුස්ස ලෝකෙ. තේරුන්නැතත්. ඉතින් ඒ නිසා පින්වතුනි බලන්න මේ බුද්ධ ශාසනයේ මණ්ඩුක දිව්‍ය පුත්‍රයා, ධර්මය ඇසීමේ වාසනාව, සමහර පින්වතුන් ඉන්නවා එකදිගට මේ වැඩසටහන් ශ්‍රවණය කරනවා, ඔබ සතුටුවෙන්න මේ නිතර ධර්මය අහන එක ගැන. ඔබට නම් මේ පින සිහි කර කර ඉන්න. මේ ජීවිතේ විතරයි මේ කරදර කම්කෙටොළු ටික. ඔබට සුගති සම්පත්තියක් තියෙනවා පින්වත්නි. ඔබට මේ බුද්ධ ශාසනේ පිහිටක් තියෙනවා. ඔබ ආසාවෙන් කැමැත්තෙන් මේ ධර්මය අහන්නෙ. ඉතින් ඒ නිසා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා, පහන් සිතින් ඔබ ධර්මය ශ්‍රවණය කලා. ඔබගේ ජීවිතයට මේ පින් බලයෙන් මේ සංසාර දුක ගෙවලා දමලා බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබන්න ඒකාන්තයෙන් ඔබට වාසනාව ලැබේවා කියලා.

ඉතින් අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප වැඩසටහන, දහම් වැඩසටහනට දායකත්වය දරන්නේ පෑතිස්පුර අංක 27 නිවසේ පදිංචි ත්‍රිකුණාමලයේ පින්වත් ඩී.කේ. සිසිලියා සෝමරත්න මෑණියන්, ඩබ්ලිව්.ඩබ්ලිව්.ඒ කවිනි ශ්‍යාමල් මිණිබිරිය ඇතුලු දූ දරු පිරිස දායකත්වය දරන්නෙ. ඉතින් අපි පළමුවෙන්ම පින් අනුමෝදන් කරමු පින්වතුනි මේ රටටත් ලෝකයටත් ව්‍යසනයක්ව පවතින ඒ කොරෝනා වසංගතය දුරින්ම දුරු වෙලා ඒ ව්‍යසන මේ ලක්දෙරණට මනුස්ස වර්ගයාට හානියක් පිණිස නොපවතීවා, දුරින්ම දුරු වේවා, මනුස්ස වර්ගයාටත් ලෝකයාටත් සියලු යහපත ආරක්‍ෂාවරණය සැලසේවා කියලා අපි පළමුවෙන්ම සෙත් ප්‍රාර්තනා කරමු. ඒ වගේම පින් පමුණුවනවා පින්වත්නි සියලු දෙවි දේවතාවුන් වහන්සේලාට මේ පින් අනුමෝදන් වී මේ පින්වතුනුත් ඒ කවුරුත් දෙවියෝ ආරක්ෂා කරත්වා, බුදුසසුනේ දියුණුව පිණිස දෙවිවරු ඇප කැප වී කටයුතු කරත්වා කියලා දෙවියන්ට පින් පමුණුවනවා. ඒ වගේම 1998.12.13 වෙනිදින මියපරලොව ගිය එස්.ආර්.කේ. සුනිල් ශාන්ත පුතාට, 2006.08.11 දින මියපරෙලාව ගිය ඩී.ආර්.කේ.ඒ. සරත් සෝමරත්න පුතාට, 2011.11.23 මියපරලොව ගිය ඩබ්ලිව්.ඩබ්ලිව්.ඒ. නලින්ද ශ්‍යාමල් බෑණාට, 2017.08.11 වන දින මියපරලොව ගිය එස්.ආර්.කේ.ඒ. සෝමරත්න ස්වාමියාට මේ පින්

අනුමෝදන් වෙත්වා කියලා, ඉතින් ඒ මියපරලොව ගිය සියලු ඥාතීන්ටත්, ඔබ කවුරුත් නමින් මිය ගිය ඥාතීන්ටත් මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා කියලා අපි පින් පමුණුවනවා. ඒ වගේම රැස්කරගන්න යෙදුනා වූ සියලුම පුණ්‍ය ධර්මයන් අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන්වහන්සේට අනුමෝදන් වී, නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි අපි මෙච්චර ධර්මය අහන්න පුරුදු වුනේ. ලොකු ස්වාමීන් වහන්සේ පහළ වුන්නැත්නම් මේ විදියට එක දිගට බණ අහන්නෙත් නෑ අපි මේ වගේ ධර්ම පරියායන් එකදිගට ඉගෙන ගන්නෙත් නෑ, බලන්න ත්‍රිපිටකයේ යම් යම් කොටස් එක දිගට, බලන්න දැන් අපි පේතවත්ථුව ඉගෙනගත්තා. විමානවත්ථුව, ඊළඟට මිලින්දප්‍රශ්නය, ඊළඟට ඔය වගේ තව අනිත් ස්වාමීන් වහන්සේලා කරන වෙන වෙන දහම් වැඩසටහන් එක දිගට. එතකොට කොච්චර මිනිස්සු ධර්මය අහනවාද. රෑ එලිවෙනකල් බණ අහනවා. ස්තූප වන්දනා, බෝධි වන්දනා, මේ ඔක්කෝම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා අපිට ලැබිච්ච ශාසනික දායාද. ඉතින් ඒ නිසා ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සඟරුවනට, සිල්මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දරුවන්ට බුදු සසුනේ ධර්මාවබෝධය සැලසේවා කියලා පින් පමුණුවමු. ඒ වගේම සිසිලියා සෝමරත්න මෑණියෝ ඉතාම ශ්‍රද්ධාවෙන් පින් දහම් කරන උපාසිකාවක්. ඇයට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම කවිනි ශ්‍යාමල් මිණිබිරියට පින් අනුමෝදන් වේවා. ඒ පවුලේ සියලු දෙනාට, ඒ වාගේම ඔබට, හැදූ වැඩූ දෙමව්පියන්ට, ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන් විදුලියේ ධර්ම දායකත්ව සපයන සියලු දෙනාට පින් අනුමෝදන් වෙත්වා. ඒවගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත් සකල ලෝක වාසීන්ටත් පින් අනුමෝදන් වේවා. මේ ධර්ම දානයේ පින් බලයෙන් සියලු දෙනාට සසර දුකින් මිදෙන්න වාසනාව ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=7qXKZkGnGEw&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=13

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාධූ සාධූ සාධූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි. අද දවසේදිත් දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් සදහම් වැඩසටහන සමඟ ඔබ මේ එකතු වෙලා සිටින්නෙ. ඔබට ජීවිතේ විශාල භාග්‍යයක් මේ විමානවත්ථුවේ මේ උතුම් ධර්ම දේශනා ශ්‍රවණය කරන්නට ලැබෙන එක. පින්වතුනි, අපේ පරම්පරාව ගත්තොත් අත්තා, මුත්තා, ආච්චිලා, සීයලගේ කාලෙ ඒ ඇත්තන්ට මේ දේශනා එකදිගට මෙහෙම අහන්න වාසනාව නෑ. සමහර විට උන්දලාගෙ අතින් පින්දහම් කෙරුණා. සමහර වෙලාවට ඒවා සිහි කරන්නෑ, මට මතකයි එක කෙනෙක්ගේ ඇඟකට පෙරේතියක් ඇවිල්ලා තමන් දුක් විදින ඒවා කියනවා. ඉතින් මම එතන හිටපු අයට කිව්වා මෙයා මනුස්ස ලෝකෙ ඉන්න කාලෙ කරපු පින්දහම් සිහි කරලා දෙන්න කියලා මෙයාට. එතකොටවත් සමහරවෙලාවට මතක් වෙන්න පුලුවන් කියලා. එතකොට ඒ දරුවො ඒ නැතිවෙච්ච කෙනා කරපු පින් ටික කිව්වා. සෑයක් වැදපු එක, සෑයකට මොනවහරි ලොකු පූජාවක් කරපු ලොකු විස්තරයක් කිව්වා. මතකම නෑ කියනවා. ඉතින් ඒ නිසා ගොඩාක් අය පින් කරලා තිබිලත් නිකං අහක යන දේවල් සිහි කර කර නපුරු සිතින් මැරිලා දුගති ලෝකවලට යනවා. ගියාට පස්සෙ කරපු පිනුත් මතක නෑ. ඉතින් ඔබට භාග්‍යය ලැබුනා එහෙම නෙවෙයි පින් කරන්න. දැන් සමහර අය විමානවත්ථු, පේතවත්ථු පොත් වහන්සේ, ත්‍රිපිටක පොත් වහන්සේ නමක්, අතේ තියාගෙන ධර්මය අහන අය ඉන්නවා. ඔච්චර මම දේශනාවක් විදියට මේක කරන්නෙ, අකුරක් නැර එහෙම නෙවෙයි, දේශනාවක් විදියට. එතකොට ඔබට අකුරක් නැර කියවන්න පුලුවන්. එතකොට ඔබට ලැබෙන තවත් භාග්‍යයක් තමයි මම අටුවා සහ වෙනත් කතා කියවලා තමයි මේ කතාවේ අගමුල ගලපනවා. එතකොට ඔබට පොත බලනකොට මෙතෙන්ට කොහොමද මේ කතාව ආවෙ කියලා ඔබට ඉගෙන ගන්න ලැබෙනවා. ඒක ලොකු භාග්‍යයක් ඔබට. එතකොට පින්වත්නි, අද දවසේ මේ උතුම් ධර්මදානය ඔබට ලබලා දෙන්නේ, අංක 83/33, හත්වන පටුමග, ශාන්ත කැතරින් වත්ත, හෝකන්දර යන ලිපිනයේ පදිංචි පින්වත් දිලුම් පෙරේරා මහත්මයා සහ පවුලේ සියලු දෙනා විසින්. මියපරලොව ගිය එම්.පී.ඩී.

පෙරේරා පියාණන්ට සහ අත්තාට, අත්තම්මාට පින් අනුමෝදන් කරන්නටත්, සුජීවත්ව සිටින ලක්ෂ්මී වීරසූරිය මෑණියන්ට නිරෝගී සුව පතාත් මේ උතුම් ධර්ම දානය සිද්ධ කරන්නෙ. ඉතින් විශාල භාග්‍යයක් මේ ධර්මය අන් අයට ලබලා දීම, කොටස්කරුවො වෙනවා. දැන් මම ධර්ම දේශකයාණන් වහන්සේ නමක්. එතකොට දැන් මේ ධර්ම දේශනාව තනියෙන් කලා නම් ඒ ඉන්න පිරිසට විතරයි අහන්න ලැබෙන්නෙ. දැන් මේක මාධ්‍යයෙන් විකාශනය කරන නිසා ලෝකයේ සියලු දෙනාටම අහන්න ලැබෙනවා. ඒක කරන්නෙ බරපැන් දරන නිසා. මොකද හේතුව මේක මාධ්‍යයක් වශයෙන් පටිගත කරලා මේ ලෝකෙට දෙනකොට ලොකු වැඩ ටිකක් මෙතන තියෙනවා. ඉතින් ඔබත් කොටස්කරුවෝ බවට පත්වුනා. ඒ නිසා ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස මේ පින පවතිනවා. ඔබත් ධර්මදානයේ කොටස්කරුවෝ වුනා. ඒ ගැන හිතලා සතුටුවෙන්න. අද අපිට ඉගෙන ගන්න තියෙනවා දෙව්දුවක් ගැන. අපිනම් අහලා තියෙනවා මෑ ගැන. කවුරුත්, නමුත් ඈ මැරුණට පස්සෙ ගිය ලෝකෙ විස්තර දන්නෑ, ඈගෙ නම රජ්ජුමාලා. එතකොට රජ්ජුමාලා දෙව්ලොව උපන්නෙ. ඒ රජ්ජුමාලා දෙව්දුව මුගලන් මහරහතන් වහන්සේයි දුටුවේ. පින්වත් දෙව්දුව, දැන් මේ විමානවත්ථුවේ හතර වෙනි වර්ගයේ දොළොස්වෙනි කතාව. පින්වත් දෙව්දුව ඔබ ඔය සුන්දර රූපයෙන් බැබැලෙමින් ඉන්නේ සෑම දිශාවක්ම බබලන ඕෂධී තාරකාවක් වගේ. නටද්දි හැම පැත්තෙන්ම දිව්‍ය සුවඳ විහිදිලා යනවා. නටද්දි ඔබගේ ශරීරයෙන් දිව්‍ය නාදයක් නිකුත් වෙනවා, අඟපසඟ ඉතා මනරම්ව ආලෝකය විහිදිලා යනවා. ඔබගේ පළඳනාවන් ගැටෙනකොට ඇහෙන හඬ පංචතූර්ය නාදයට වැඩිය සුන්දරයි. ඔබේ හිසේ මුදුන් මල් කළඹක් තියෙනවා, මදසුළඟින් මල් කළඹ සැලෙද්දි එයිනුත් මිහිරි නාදය ඇහෙන්නෙ පංචතූර්ය නාදය වගේ. බලන්න මනුස්ස ලෝකෙ ගුටි කකා හිටියෙ රජ්ජුමාලා. ඔබේ හිසේ පැළඳගෙන ඉන්න මල්දම් හරිම ලස්සනයි, හරිම සුවඳයි. ඒ සුවඳ පැතිරිලා පිපි සුවඳ හමන මංජුශ්ශක රුක්ෂයක් වගේ. සොඳුරු සුගන්ධය ඔබගේ නාසයට දැනෙනවා නේද. හැම පැත්තෙම සුවඳ විහිදෙනවා. මං අහන්නෙ මේකයි, ඔබ කවුද. ඔන්න මේ වෙලාවෙ තමයි මෑගෙ කතාව කියන්නෙ. මං ඉස්සර හිටියේ ගයාවෙ. බ්‍රාහ්මණයෙකුගේ නිවසේ. දාසියක් වෙලා හිටියා. මට පින් තිබුනෙ නෑ, මං අවාසනාවන්තියක්. මට කවුරුත් කිව්වෙ රජ්ජුමාලා. මේ රජ්ජුමාලා එක්තරා බ්‍රාහ්මණයෙකුගේ ගෙදර හිටපු දාසියකගේ දුවෙක්. ඒ බ්‍රාහ්මණයාගේ පුත්‍රයාට ඈතින් තවත් බමුණු කුලයක දියණියක් විවාහ කරගෙන ආවා. අම්මෝ ඈ ආවා විතරයි පෙන්නන්න බෑ අර

දාසිගෙ දුව. දැක්ක ගමන් තරහා යනවා. සසරේ දෝෂයක්. දැන් සමහර අය දැන් අපේ බණකුත් අහලා නැතිව මොකක්වත් නැතිව මගේ රූපෙ දැක්ක ගමන් තරහා යන්නෙ. මොක්කහරි සංසාර දෝෂ. ඉතින් ඒ වගේ මොකද වුනේ, ඊටපස්සෙ හැමදාම බනිනවා. ඒක මදිවට රජ්ජුමාලාගේ අම්මත් නැතිවුනා. ගෙදර ඔක්කොම වැඩ ඈ කරන්නෙ, කොණ්ඩෙන් අල්ලලා කරකවලා ගහනවා. මේ කෙල්ල බැරිම තැන මොකද කලේ කොන්ඩේ කැපුවා. කොණ්ඩෙ කපලා සම්පූර්ණයෙන් කොටට කැපුවා. ඊටපස්සෙ කිව්වා උඹ කොණ්ඩෙ නැතිව බේරෙන්න මගෙන්, හිටපිය කියලා, ලණුවක් තියාගෙන ඉන්නවා, ලණුව බෙල්ලට දානවා. ලණුවෙන් අල්ලගෙන තමයි ගහන්නෙ. දස වද දුන්නා. දැන් මේ බලන්න. මං හරියට ආක්‍රෝශ මට ලැබුනා. වද වේදනා ලැබුනා. තර්ජනය ලැබුනා, මට ජීවිතේ එපා වුනා. මං කලය අතට ගත්තා. වතුර ගේන්න යන එකියක් වගේ මං ගෙදරින් නික්මිලා ගියා. ඇයි පින්වතුනි මෙහෙම වුනේ. මේ රජ්ජුමාලා කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කාලයේ සිටු දියණියක්. ඇය ඒ කාලේ මෙන්න මේ ස්වාමි දියණිය, මේ රජ්ජුමාලාට ගහන ගෑණු කෙනා සිටුදියණියගේ ගෙදර දාසි. ඒ දාසිට මේ වද ටික ඔක්කොම දීලා තියෙනවා. පින්වතුනි තමන් කාට හරි යමක් දුන්නොත් ඒක තමන්ට කැරකිලා එනවා. ඊටපස්සෙ මොකද වුනේ, ඒ දාසි ගුටිකාලා බැරිම තැන එයා මොකද කලේ, එයා බෙල්ලෙ වැල දාගත්තෙ නෑ, එයා කොණ්ඩෙ කැපුවෙත් නෑ, ඒ දාසි ගුටි කකා ගුටි කකා ඒ දිසා මොකද කලේ, දන් දුන්නා. දන් දීලා, සංඝයා පිණ්ඩපාතෙ එනවානෙ. වැට කඩොල්ල පැනලා දන් දීලා පැතුවේ උපනූපන් ජීවිතේ මෑ මගේ දාසියක් වේවා කියලා. මම එදාටත් මේ වදටික දෙනවා කියලා හිතුවා දන්දීලා. සසරේ ඔය විදියට බැට කකා බැට කකා චේතනාවෙන් කර්මයෙන් බැට කකා ඇවිල්ලා ගෞතම බුද්ධ ශාසනේ අර එදා පහර දුන්න ඈ රජ්ජුමාලා වෙලා ඉපදුනා. දාසිය ස්වාමි දියණිය වෙලා ඉපදුනා. දැන් ගුටි කනවා. තමන්ම කරපු ඒවා. ඉතින් රජ්ජුමාලාට ජීවිතේ එපා වුනා. ගොඩාක් එපාවුනා. මෙහෙම ගුටිකකා ඉන්න එක එපාවුනා. ඊටපස්සෙ රජ්ජුමාලා කල්පනා කලා මගේ ජීවිතේ මට නම් එපා. කලේ අතට අරගෙන මං ගියා. යන පාරේ ඈතට වෙන්න කලය තිබ්බා. වනලැහැබ ඇතුලට ගියා. මං මෙහිදිම මැරෙනවා. මේ විදියට ගුටිකකා ඉන්න ජීවිතෙන් ඇති ඵලය මොකක්ද. ඊටපස්සෙ තොණ්ඩුවක් ගහක නැගලා ලණුවක් දාලා තොණ්ඩුව හිරවෙන්න ගැට ගැහුවා. ගහක එල්ලුවා, මේ මං මේ බෙල්ලෙ වැල දාගන්න යන බව කාටවත් පේන්නෑ නේද. කියලා වටපිට බැලුවා. එදා මහාකරුණාවෙන්, - මෙයා ඉන්නෙ ගයාවෙ, රජ්ජුමාලා ඉන්නෙ

බුද්ධගයාවෙ. බිහාර් ප්‍රාන්තයේ, පාඨලීපුත්‍රයේ. එතකොට රජ්ජුමාලා ඉන්නෙ ගයාවෙ. බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නෙ සැවැත් නුවර. බුද්ධගයාවෙ ඉඳලා සැවැත්නුවරට යන්න කොහොම දුරක්ද කියලා දඹදිව ගිය අය දන්නවා. බුදුරජාණන් වහන්සේ ගන්ධ කුටියෙදීන් එදා උදෑසන දුටුවා රජ්ජුමාලාගේ ජීවිතේ. මගේ බුදුරජාණන් වහන්සේට මහා කරුණාවට සෑම දෙයක්ම පේනවා. උන්වහන්සේ අනාවරණ ඥානයෙන් යුක්තයි. බුදුරජාණන් වහනසේගේ බුදු ඇසට පේනවා පින්වත්නි මේවා. අද බුදුරජාණන් වහන්සේ ජීවමානව වැඩ හිටියා නම් අපේ ලංකාවේ කොතනක ඉඳලා හරි උන්වහන්සේ මුළු හදවතින්ම සරණ යනකොට බුදු ඇසට පේනවා. ඉතින් සැවැත් නුවරින් අතුරුදහන් වෙලා අර ගයාවේ වනාන්තරයේ බුදුරජාණන් වහන්සේ පහළ වුනා. අරයා බෙල්ලෙ වැල දාගන්න තැනම එහා පැත්තෙ. රජ්ජුමාලා වටපිට බැලුවා. මං එතකොට දැක්කා, දැන් මේ ඇගෙ වචනෙන්ම අහමු. මං එතකොට දැක්කා, මුළු ලෝකෙටම හිතවත් වූ මුනින්ද්‍රයන් වහන්සේ බුදුරජාණන් වහන්සේ රුක් සෙවණක භාවනා කරනවා, උන්වහන්සේට නම් කොහෙත්ම බයක් නෑ. ඒ බුදුරජාණන් වහන්සේගේ මුවමඩල දැක්ක ගමන් ආයෙ පුදුම සහගතයි, උන්වහන්සේ සිංහයෙක් වගේ. ඊටපස්සෙ කියනවා ඒ මට සංවේගයක්. මොකක්ද වුනා කියනවා හදවතට. අර මැරෙන කතා මොකුත්ම නැතිව හදවතට මොකක්ද වුනා. මට පුදුමයි, මගේ ඇඟේ ලොම් කෙලින් වුනා. ශරීරයේ රෝමෝද්ගමනය වුනා දැක්ක ගමන්. අනේ එහෙම නොවී තියෙන්නෙ කොහොමද. ඒ රජ්ජුමාලා වෙනුවෙන්ම නේද බුදුරජාණන් වහන්සේ එච්චර දුරක් ඉඳලා ඍද්ධියෙන් වැඩම කළේ. දෙවියන් බඹුන් වඳින පුදන, අකනිටා බ්‍රහ්ම ලෝකයේ පවා වඩින, සක්දෙව්දුගේ පඬුපුල් ආසනයේ වැඩ ඉන්න බුදුරජාණන් වහන්සේ රජ්ජුමාලා වෙනුවෙන් නේද මේ ගහක් යට වැඩ ඉන්නෙ. මගේ රෝමෝද්ගමනය වුනා. වනාන්තරයේ ඉන්න මේ උත්තමයා කවුද. කවුරුහරි මනුස්සයෙක්ද, එහෙම නැත්නම් දෙවියෙක්ද. දුටු දුටුවන් පහදිනවා. ප්‍රසාදනීයයි. කෙලෙස් වනයෙන් එළියට ඇවිදින් අමා මහ නිවනට පත්වෙච්ච මුණිවරයෙක්. උන්වහන්සේ දැක්කට පස්සෙ මගේ හිත පැහැදුනා. මේ උත්තමයා නම් එසේ මෙසේ කෙනෙක් නෙවෙයි. ඉඳුරන් රැකගෙනයි ඉන්නෙ. ධ්‍යානයේ ඇලිලා ඉන්නෙ. නිවන තුලයි හිත තියෙන්නෙ. මුළු ලෝකයටම හිතවත්. මේ නම් බුදුරජාණන් වහන්සේමයි කියලා මට හිතුනා. බුදුරජාණන් වහන්සේමයි මේ ඉන්නෙ කියලා හිතුනා. බය තැතිගැනීම් කියන කිසිදෙයක් උන්වහන්සේට නම් නෑ, ගුහාවක ඉන්න සිංහ රාජයෙක් වගේ අතිශයින්ම

දුර්ලභ දර්ශනයක්. දිඹුල් මලක් දැකගත්තා වගේ. දිඹුල් මලක් දැකගත්තා වගේ කියන්නෙ හිතාගන්නවත් බෑ බුදුරජාණන් වහන්සේ. හිතන්නකො දැන් අපි බුද්ධ කාලෙක හිටියානම් අපිට මේ ලංකාවෙ ජීවිතේ එපා වෙලා කැලේකට ගිහිල්ලා බෙල්ලේ වැල දාගන්න හදනකොට ජම්බුද්වීපයේ සැවැත් නුවර ඉන්න බුදුරජාණන් වහන්සේ ඒතන වැඩ හිටියොත් ඒ වනයේ හිතන්න පුදුවන්ද පින්වත්නි ඒක. දිඹුල් ගහේ මල් පිපෙන්නෑ, දිඹුල් ගහේ මලක් දැක්කා වගේ කියන්නෙ ඒකයි. සිදුවිය නොහැකි දෙයක් වුනා වගේ එකක්. රජ්ජුමාලාට බුදුරජාණන් වහන්සේ දැක්ක එක දිඹුල් මලක් දැක්කා වගේ. ඒ තථාගතයන් වහන්සේගේ බලන්න ඒ දෙවියෙක් වෙලත් හිතේ තියෙන ශ්‍රද්ධාව, වෙන ජීවිතයකට පත්වෙලා ඒ සිද්ධිය සිහිකරන හැටි බලන්න. ඒ තථාගතයන් වහන්සේ මොලොක් වචන වලින් රජ්ජුමාලා කියලා කතා කලා. මට කතා කරලා තථාගතයන් වහන්සේ වදාළා රජ්ජුමාලා දුව ඔයා බුදුරජාණන් වහන්සේ සරණ යන්න කිව්වා. දැක්කද බුදුරජාණන් වහන්සේගේ සරණ. ඒ වචන වල කිසි දෝෂයක් නෑ, හරී අර්ථවත්. පිරිසිදුයි. මිහිරියි, බුද්ධිමත්, මොලොක්, රසවත්. හැම ශෝකයක්ම දුරුවෙනවා. මං ඒ වචන අහගෙන හිටියා. රජ්ජුමාලා මෙතෙක් ජීවිතේටම වින්ද සියලු දුක් නැතිවුනා රජ්ජුමාලා දුව බුදුන් සරණ යන්න කියලා කියපු වචනෙට. බුදුරජාණන් වහන්සේගේ වචනය එච්චර දුක් නිවනවා. පුදුම සහගතයි. ඔයාලා හිතන්න එපා අපිට ඒ යුගය අහිමි වුනේ අපිට පින තිබුන් නැති නිසා පින්වත්නි. දැනුත් මේ ලැබිච්ච අවස්ථාවේදී පින් නැති අවාසානාවන්තයන් විදියට මැරෙන්න එපා. ගොඩාක් කුසල් කරගන්න. ගොඩාක් පින් කරගන්න පින්වත්නි. මේ හැමදෙයක්ම ප්‍රශ්න අමතක කරලා දාන්න. බුදුරජාණන් වහන්සේ හිටපු නිසා රජ්ජුමාලා මේ විදියට බේරෙනවා. නැත්නම් ආයෙ ආයෙමත් ඔය කෝන්තරය සංසාරෙට යනවා නේද, ඉතින් කියනවා මගේ හිත ගොඩාක් පැහැදුනා. පිරිසිදු වුනා. අවබෝධයට සුදුසු පරිදි සකස් වුනා. ඒ බව දැනගත් සකල ලොවටම හිතැති තථාගතයන් වහන්සේ මට අනුකම්පා කලා. බුදුරජාණන් වහන්සේ දැක්කා ඒ රජ්ජුමාලාගේ හිත සන්සිදී සන්සිඳි යනවා. එක වචනෙට පින්වත්නි. බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවෙ වදාළා රජ්ජුමාලා දුක්ඛාර්ය සත්‍යය අවබෝධ කරන්න, රජ්ජුමාලා මේ සංසාරයේ ඔයවිදියට විඳවන පළවෙනි අවස්ථාව නෙවෙයි. ඒ නිසා ආයෙ ආයෙමත් ඉපදීම දුකක්. රජ්ජුමාලා, ඔබ මේ දුක කියන එක අවබෝධ කරන්න. ජාතිපි දුක්ඛා, ජරාපි දුක්ඛා, ව්‍යාධිපි දුක්ඛා, ජාති ජරා ව්‍යාධි සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස පංචුපාදානස්කන්ධ දුක දෙස බලන්න. රජ්ජුමාලා ඔයා දුක්

විඳිනවා කියලා හිතන්නැතිව මෙයයි දුක කියලා හිතන්න. දුකේ හටගැනීම දුක නැතිවීම දුක නැතිවන මාර්ගය, ඒ උතුම් ආර්ය අෂ්ඨාංගික මාර්ගය ගැන බුදුරජාණන් වහන්සේ වදාළා. ලෝකානුකම්පා ඇති නිවන් මගෙහි දක්ෂ වූ බුදුරජාණන් වහන්සේගේ අවවාදය මං පිහිටියා. ඒ ශාන්ත වූ අමරණීය වූ අමා මහ නිවන මට තේරුණා. ඒ ධර්මය දේශනා කරගෙන යනකොට ඒ අමා මහ නිවන කියන්නෙ මොකක්ද කියලා තේරුනා. ඇය සෝතාපන්න වුනා. මේ තව මොහොතකින් මැරෙන්න හිටපු කෙනානෙ. මේකනම් ආශ්චර්යයක්. දැන් මට ගොඩාක් සතුටුයි. මට ගොඩාක් සතුටුයි, ඒ මං චතුරාර්ය සත්‍යය දර්ශනය නැමැති අවබෝධය නිසා දැඩි ප්‍රේමයක් ඇතිවුනා. චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධය නිසා ධර්මය කෙරෙහි ලොකු ප්‍රේමයක් ඇතිවුනා. හිත අකම්පිත වුනා. හිතේ ධර්මය මුල් බැසගත්තා. මගේ ශ්‍රද්ධාව ස්ථිර වුනා. මං බුදුරජාණන් වහන්සේගේ ළයේ උපන් දෝණි කෙනෙක් වුනා. පුදුම සහගතයි, දීනා බුද්ධස්සොරසා, බුදුරජාණන් වහන්සේගේ හදවතේ උපන් දියණියක් මම දැන්. දැන් මං සතුටු වෙනවා, කෙළි සෙල්ලම් කරනවා. ප්‍රීති වෙනවා. සතර අපා බයක් ඇත්තේම නෑ. දිව්‍ය මල් මාලා දරාගෙන මධුමද්ධව නම් නදියෙන් තමයි මං පැන් බොන්නෙ. එයා දිව්‍ය ලෝක ගැනනෙ මේ කියන්නෙ. මං ඒ කාලෙ වින්ද දුකයි, දැන් මගේ ජීවිතේ වෙනස් වෙච්ච එකයි, බුදුරජාණන් වහන්සේ ඉස්සෙල්ලාම කිව්වෙ මොකක්ද, දුව බුදුරජාණන් වහන්සේ සරණ යන්න. පස්සෙ තමයි චතුරාර්ය සත්‍යය වදාළේ. මේවා තේරුම් ගන්න පින්වත්නි. රජ්ජුමාලාගේ ජීවිතය සම්පූර්ණයෙන් වෙනස් වුනේ එක වචනෙකින්. රජ්ජුමාලා දුව, බුදුරජාණන් වහන්සේ සරණ යන්න. පුදුම සහගතයි. පස්සෙ තමයි චතුරාර්ය සත්‍යය වදාළේ. ඒකයි අපිත් මේ ධර්මය කියවලා පින්වත්නි නුඹලාට කියන්නේ බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝ රත්නය සරණ යන්න. ඉතින් මං ප්‍රබෝධවත්ව, දැන් ඊටපස්සෙ මොකද කරන්නෙ, දැන් මෙතන දිව්‍යාංගනාවගේ දිව්‍ය සැපය ගැන කියන්නෙ. ඊටපස්සෙ රජ්ජුමාලා බුදුරජාණන් වහන්සේට වන්දනා කලා. දුව දැන් ඔබ ගෙදර යන්න කිව්වා. දුටු දහම් ඇති රජ්ජුමාලා බුදුරජාණන් වහන්සේ පැදකුණු කරලා ආයෙ ගෙදර ගියා, ආයෙ ගෙදර යන්න බය නෑ දැන්. ඇගේ හිතේ දුකක් නෑ දැන්. ඊටපස්සෙ ඒ රජ්ජුමාලා ආපහු වතුර කලේ අරගෙන ගියා. බ්‍රාහ්මණයා බැලුවා මේ උදේ පාන්දර ළිඳට ගිය කෙල්ල එන්න ප්‍රමාදයිනෙ. රජ්ජුමාලා පරක්කු වෙලා එනවා. ඒයි රජ්ජුමාලා මං උඹගෙන් අහන්නෙ ඇයි උඹ පරක්කු වුනේ. කලේ බිම තිබ්බා. ඒයි රජ්ජුමාලා උඹේ මූන හරි වෙනස්නෙ. ජීවිතේට මං

ගොඩාක් දැක්කෙ උඹගේ ඇස් යටගිහිල්ලා දුක. අද උඹගේ ඇස් වල දුක නෑ, උඹගේ මූණ හඳමඩලක් වගේ. ඒයි රජ්ජුමාලා මං අහන්නෙ මේකයි, උඹ කියාපන්. ඇත්තටම උඹට මොකද වුනේ. මොකක්ද අද සිද්ධවෙච්ච ප්‍රාතිහාර්ය. ඒ බ්‍රාහ්මණයා එහෙම අහද්දි රජ්ජුමාලා කිව්වා ඇත්තටම අද ප්‍රාතිහාර්යයක් වුනා. මම දිඹුල් මලක් දැක්කා. මොකක්, මා මේ ලෝකයේ අසහාය ශාස්තෲණ්වහන්සේ දුටුවා. බුදුරජාණන් වහන්සේ මං දැක්කා. රජ්ජුමාලා උඹ ඔය ඇත්තද කියන්නෙ. ඒ දෙවියන් බඹුන් වදින මහරජවරුන් සරණ ගිය ඒ තථාගත සම්මා සම්බුදු රජාණන් වහන්සේ මේ ගයාවට වැඩලා, ගයාවේ වජ්‍රාසනයේ සම්මා සම්බුදු වූ බුදුරජාණන් වහන්සේ. ඔව් ආන්න අහවල් වනයේ වැඩ ඉන්නවා. ඇත්තද, ඇත්තටම රජ්ජුමාලා උඹ කියන්නෙ ඇත්තද. රජ්ජුමාලා උඹ දැන් ආපහු පලයන්. ඒ තථාගතයන් වහන්සේ වඩම්මගෙන වරෙන්. මං උන්වහන්සේට දානෙ ටිකක් දෙන්න කැමතියි. ඉක්මණට මේ ගෙදර දානෙ හැදුවා. රජ්ජුමාලා දුවගෙන ගිහිල්ලා බුදුරජාණන් වහන්සේට ආරාධනා කලා. බුදුරජාණන් වහන්සේ සියල්ල දන්නා සේක, සියල්ල දකිනා සේක. බුදුරජාණන් වහන්සේ රජ්ජුමාලාගේ ආරාධනාව පිළිගෙන ඒ බ්‍රාහ්මණයාගේ නිවසට වැඩම කලා. බුදරජාණන් වහන්සේ දන් වළඳා ධර්මය දේශනා කලා. අර ස්වාමි දියණියට විස්තර කලා සංසාරේ ස්වභාවය. ඔබ ඒ කාලේ ගොඩාක් මෑ නිසා දුක් වින්දා. ඊටපස්සෙ ඔබ කාශ්‍යප බුද්ධ ශාසනයේ දන් දීලා පැතුවා දාසියක් විදියට මෙයාට දඬුවම් දෙන්න. ඒක මේ එන්නෙ. මේ සංසාර දෝෂ අත්හරින්න කියලා වදාළා. සසර ගමන පෙන්නලා දුන්නා. මුළු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ ගියා බ්‍රාහ්මණයා. ඊළඟට අර උපාසිකාව සරණ ගියා. සරණ ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගෙන් ගොඩාක් ධර්මය ඇහුවා. ඒ අය ධර්මයේ පිහිට ගත්තා. බලන්න පින්වතුනි පුදුම සහගතයි. ඈ රජ්ජුමාලා බුදුරජාණන් වහන්සේගේ දියණියක් වුනා නේද, එදා ඉඳලා අත තියන්න බෑ කාටවත්. එදා ඉඳලා අත තියන්න බෑ, ඒ ස්වාමි දියණී රජ්ජුමාලාගෙන් සමාව ගත්තා. සමාව අරන් කිව්වා, උඹ අද ඉඳලා ඔයා අපේ ගෙදර දාසියක් වෙන්න එපා, මගේ සහෝදරියක් වෙන්න. වෙනම දාසියක් ගෙනල්ලා වැඩ කරන්න රජ්ජුමාලා ගෙදර සහෝදරියක් විදියට ගොඩාක් කුසල් කලා. හදිසියේ ඇතිවුන වසංගතයකින් රජ්ජුමාලා මියගියා. තරුණ කාලෙම මේ තරුණ කෙල්ල මැරුනා. ඈ සෝතාපන්නයි. ඇය ඉපදුනා තව්තිසා දිව්‍ය ලෝකෙ. දැන් මේ බලන්න. චතුරාර්ය සත්‍යය අහලා සෝවාන් වෙච්ච අයත් ඉපදුනානෙ දෙව්ලොව. ඊටපස්සෙ කියනවා දැන් බලන්න මාව ප්‍රබෝධමත් කරන්න තූර්ය

වාදන හැටදාහක් තියෙනවා. ඒ වගේම ආලම්භ, ගග්ඝර, භීම ආදී සංඝය පොක්කර සුපස්ස කියන දිව්‍ය පුත්‍රයෝ වීණා මොක්ඛා නන්දා සුනන්දා සෝණදින්නා සුවිම්බිතා අලම්බුසා මිස්සකේසි පුණ්ඩරීකා අත්තිචාරුනී ඒහිපස්සා, සුපස්සා සුභද්‍රා මුදාවාදනී ඔය අප්සරාවො සංගීත පවත්වන මේ දෙව්ලොව ප්‍රසිද්ධ අය. එයාලා සුදුසු වෙලාවට මං ළඟට ඇවිල්ලා කියනාව ඔන්න අපි දැන් සින්දු කියනවා, අපි නටනවා, ඔයා සතුටු වෙන්න ඕන කියලා. මනුස්ස ලෝකෙ තියෙන එක එක සංගීත කණ්ඩායම්, නැටුම් කණ්ඩායම් ඒ වාගේ තව්තිසා දිව්‍ය ලෝකෙ ප්‍රසිද්ධ සිංදු කියන ප්‍රසිද්ධව නටන වෙනම දිව්‍ය කණ්ඩායම් ඉන්නවා. ගාන්ධර්ව. ඒ අයගෙන් හොඳම අයගේ නම් ටික තමයි ඔය කිව්වෙ. ඒ සියලුදෙනා එනවා රජ්ජුමාලාව සතුටු කරන්න. ආයෙ ඒවට පඩි ගෙවිලි ඒවා මොනවත් නෑ, ඒවා පිනටයි සිද්ධ වෙන්නෙ. මේ පුදුමය බලන්න. ඈ කලින් ජීවිතේ ගුටි කකා හිටියා නේද. පින්වත්නි නුඹලාට මේ කියන්නෙ ගෙවල් වල ගොඩාක් ප්‍රශ්න ඇති. දුක් කම්කටොළු ඇති. සමහර වෙලාවට මනුස්සයාගෙන් ගුටි කකා බීලා බොන්නෙ නැතිව ගෙදරට ආපු දවසක් මතක නැතිව ඇති තමන්ගෙ ස්වාමියා. දරුවන්ගේ ප්‍රශ්නවලින් ඇස්වලින් ගොඩාක් වැටෙනවා ඇති. අහල පහල ප්‍රශ්න වලින් නොයෙක් ප්‍රශ්න වලින් ඔයාලගේ ජීවිතේ ප්‍රශ්න ඇති. ඔබලාටත් කියන්නෙ බුදුරජාණන් වහන්සේ රජ්ජුමාලාට කිව්වා වගේ, බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ජීවිතේ දුක ගැන හිතන්න. සතර අපා භය ගැන හිතන්න. ඔබගේ ජීවිතේ වෙනස් කරගන්න. මේ ධර්මයේ පිහිට ගන්න. දැන් ඔයාලා ගැන හිතන්න කවුරුවත් නැති වුනාට, ඔබ දිව්‍ය ලෝකයේ ඉපදුනාට පස්සෙ මේ සියලු දෙනා ඔබව සතුටු කරන්න බලාගෙන ඉන්නවා. මේ සියලුදෙනා ඔබව සතුටු කරන්න බලාගෙන ඉන්නවා. තෙරුවන් සරණ ගිය කෙනෙක් පොඩි කාලයයි දුක් විඳින්නෙ පින්වත්නි. ඊටපස්සෙ කියනවා මේ දිව්‍යවිමාන පින් නොකළ උදවියට ලැබෙන්නෑ. පින් කළ උදවියටමයි මේ ශෝක නැති සිත්කළු තව්තිසාවෙ නන්දන වනය ලැබෙන්නෙ. පින් නොකළ උදවියට මෙලොව හෝ පරලොව සැපයක් ලැබෙන්නෑ. මෙලොව පරලොව දෙකේම සැප ලැබෙන්නෙ පින් කල අයට. තව්තිසා දිව්‍ය ලෝකයේ යන්න කැමති අය වැඩි වැඩියෙන් පින් කරන්න ඕන. පින් කරපු උදවිය විතරමයි ස්වර්ගයේ ඉපදිලා සැප ලබන්නෙ. දැන් මේ බලන්න තව්තිසා දිව්‍යලෝකෙ යන්න පින් කරන්න ඕන කියලා මේ කියන්නෙ කවුද. සෝවාන් වෙච්චි කෙනෙක්. සෝතාපන්න වෙච්ච කෙනෙක්නෙ මේ කියන්නෙ. ඒකාන්තයෙන්ම බොහෝ දෙව් මිනිස්සුන්ට යහපත පිණිසමය තථාගතයන් වහන්සේලා පහළ වෙන්නෙ.

මිනිස්සුන්ගේ දන් පැන් වලට සුදුසු පින්කෙත වන ආර්ය ශ්‍රාවකයන්ගේ ආකාරය කියන්නෙ බුදුරජාණන් වහන්සේලායි. යම් බදු වූ ඒ උතුමන්ට පුද සත්කාර කරලයි දායකයන් සුගතියේ ඉපදිලා සතුටු වෙන්නෙ. සංඝයාට පුදන දානෙ මහත්ඵල නිසා ඒ දන්පැන් පුදන පින් කරන ගොඩාක් අය තව්තිසාවෙ සැප විදිනවා. ඒ තමයි රජ්ජුමාලාගේ කතාව. ගොඩාක් ඔයාලාගේ ජීවිතේටත් රජ්ජුමාලාගෙන් ගන්න පුලුවන් ආදර්ශ ගන්න. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ ඇවිල්ලා මේ විස්තරය බුදුරජාණන් වහන්සේට වන්දනා කරලා කියාහිටියා. බුදුරජාණන් වහන්සේ ඒ සිද්ධිය අලලා දහම් දෙසුවා. ඒ විදියට තමයි මේ විමානවත්ථුවට එකතු වෙන්නෙ. ඉතින් තෙරුවන් සරණ යාම සෑහෙන්න වටිනවා. ජීවිතේ ගොඩාක් දුක් ගෙවලා දානවා. පින්වතුනි අපිත් ධර්මය අහද්දි බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ධර්මය සරණ ගියා. සංඝයා සරණ ගියා. ඊටපස්සෙ තමයි අපි ගිහි ජීවිතේ අත්හැරලා මහණ වෙන්න ආවෙ. ඒ පැවිදි වෙන්න ආපු නිසා මේ ගෞතම බුද්ධ ශාසනයේ අපි කොච්චර පින් කරගන්න ලැබුනද, යහපතක් ලැබුනද. ඉතින් මොනවාහරි ලෙඩ රෝග ඇවිල්ලා අපි අද හෙට මැරිලා යයි, නමුත් මැරෙනකොට අපිට ආපස්සට හැරිලා ගොඩාක් දුක් වෙන්න දේවල් නෑ, අපි දන්න විදියට බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ශ්‍රී සද්ධර්මය, ආර්ය මහා සංඝරත්නය සරණ ගියා. අපිට හොඳ උතුම් සත්පුරුෂ ස්වාමීණ් වහන්සේ නමක් ලැබුනා. ආචාරීන් වහන්සේ නමක්. අපිත් දන්න විදියට දහම් පද අනෙක් අයට කියලා දුන්නා. අපේ ජීවිතයට පින් රැස් වුනා. ඉතින් ඒ නිසා අද හෙට මැරුණත් කමක් නෑ. ඉතින් ඒ නිසා ඔබටත් ඒ වගේ ජීවිතයක් ඇති කරගන්න. සමහරවිට ඔයාලාට ගොඩාක් මේ ධර්මය අවබෝධකරගන්න තේරුම් ගන්න පුලුවන් වෙයි. සමහර වෙලාවට ඔයාලට සංසාරයේ තියෙන යම් යම් කර්ම දෝෂ නිසා ඔය ගෙවල්වල දුක් විඳ විඳ හිටියට, ප්‍රශ්න ගොඩේ හිටියට සැඟවිලා කලයක් ඇතුලේ පහනක් දැල්වෙනවා වගේ ඔය දුක් ගොඩ අස්සෙන් ශ්‍රී සද්ධර්මයේ පිහිට සලසාගන්න පුලුවන් පින සැඟවෙලා ඇති. ඔය කලයක් අස්සෙ දැල්වෙන පහනක් වාගේ ඒක තියෙන්නෙ. පිටට පේන්නෑ, ඔය කලේ කුඩු කරගත්ත ගමන් ආලෝකය විහිදෙනවා. ඒ කළය කුඩු කරගන්නේ බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලා. රජ්ජුමාලාගේ සියලු පින් ආවෙ එකම එක පහරකින්. ඒ තමයි බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ගොඩාක් ජලය ගංගාවක් ගලාගෙන යනවා කාන්තාරය මැදින්, උඩ ගල්පතුරක් තියෙනවා. කුළු ගෙඩියකින් ගහලා ඒ ගල්පතුර කඩපු ගමන් ජලය මතුවෙනවා. මහන්සියෙන් තමයි අර ගල කඩන්න තියෙන්නෙ. නමුත් වතුර එනවා. ඒ වගේ

තමයි අමාරුවෙන් බුදුරජාණන් වහන්සේ සරණ යන්න තියෙන්නෙ. නමුත් හරියට සරණ ගියොත් පින්වත්නි ඔබගේ ජීවිතේ ගොඩාක් වෙනස් වෙනවා. ඉතින් ඒ නිසා මෙතෙක් කාලයක් ඔබ එක දිගට මේ ධර්මය අහගෙන එනවා. ඔබට පින තියෙන නිසානෙ. පින නැති අයට ධර්මය අහන්න බෑ පින්වත්නි. ඊළඟට ඔන්න ඉතින් අපි ගොඩාක් කාලෙකට තිබ්බ අපේ කණගාටුවක් තමයි ගොඩාක් අය දේවතාවියොම හම්බවුනේ. මම හිතුවා නිකම් අර කාන්තාවොනෙ වැඩිපුරම විස්තර කියන්නෙ. ඒ නිසා මේ දිව්‍යාංගනාවො හම්බවෙනවාද කියලා. ඉතින් ඔහොම යනකොට අපිටත් දෙවි කෙනෙක් හම්බවුනා. මණ්ඩුක දිව්‍ය පුත්‍රයා. ඒ මණ්ඩුක දිව්‍ය පුත්‍රයාගේ කතාව අපි කලින් ඇහුවා. ඔහු චම්පා නුවර ගබ්බරා පොකුණෙ තමයි ගෙම්බෙක් වෙලා හිටියෙ. බුදුරජාණන් වහන්සේ ඒ ගෙම්බාගේ ජීවිතය දැකලාම තමයි එදා ගබ්බරා පොකුණට වැඩියෙ. ඉතින් ඒ මණ්ඩුකයා බුදුරජාණන් වහන්සේගේ මිහිරි ස්වරයට උඩට ඇවිල්ලා බණ අහනකොට තමයි අර ගොපළු දරුවා කෙවිට තියලා ඒ ගෙම්බා මැරුනෙ. නමුත් බුදුරජාණන් වහන්සේගේ ධර්ම ස්වරයට පැහැදුනු හිතින් දෙව්ලොව උපන්නා. ඒ බුදුරජාණන් වහන්සේ වන්දනා කරන්න දිව්‍ය පුත්‍රයා ආපු වෙලාවෙ බුදුරජාණන් වහන්සේ දහම් දෙසද්දි පින්වතුනි ඒ මණ්ඩුක දිව්‍ය පුත්‍රයා සෝවාන් වුනා. පුදුම දෙයක් පින්වතුනි. තිරිසන් ජීවිත කියෙන්නෙ ධර්මය අවබෝධ කරන්න බෑ. මේක බුදුරජාණන් වහන්සේගේ උපක්‍රමය. එතනින් එයාව චුත කරලා ඒ කියන්නෙ එයාගේ පුණ්‍ය සම්පත්තිය උපද්දවලා සුදුසු තැනකට ගන්නවා. දැන් පින්වතුනි මේ ගොඩබිම පෙන්නන්න බෑ නේද ඇතුලෙ ඉද්දි. ඒ නිසා එයා උඩට ගන්න ඕන. ඊටපස්සෙ තමයි පුලුවන්නෙ. ඊටපස්සෙ එයා සුදුසු තැනට ගන්න ඕන. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒවා කලා. ඉතින් මණ්ඩුක දිව්‍ය පුත්‍රයාත් බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලා බලන්න ඔහු ධර්මය අවබෝධ කලේ දෙව්ලොවදි. ඊළඟට තව දිව්‍ය පුත්‍රයෙක් ඉන්නවා. මේ දිව්‍ය පුත්‍රයාගේ නම, මේක රේවතී විමානවත්ථුව කියලා තියෙන්නෙ. නමුත් පින්වත්නි, රේවතීගේ ජීවිත කතාව අපි දිවැසින් දුටු බියකරු සසර ගැන ඉගෙන ගනිද්දි රේවතී පණ පිටින් අපායට ඇදගෙන ගිය කතාව කිව්වා. දේශනා කලා. එතකොට මේක විමාවත්ථුවට ඇතුලු වුනේ, නන්දිය කියන දිව්‍ය පුත්‍රයා දෙව්ලොව ගියානෙ ඒ නිසා. ඒ නන්දිය බාරාණසියේ හිටපු ගොඩාක් පින් කරපු උපාසකයෙක්. ඔහු බුදුරජාණන් වහන්සේට දන්සැලක් හදලා පූජා කරපු දවසේ ඔහු වෙනුවෙන් දිව්‍ය ලෝකෙ මාළිගාවක් පහළ වුනා දිව්‍ය අප්සරාවොත් එක්කම. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ

දෙව්ලොව වැඩි වෙලාවෙ අර දිව්‍ය අප්සරාවො කියනවා අර නන්දිය දිව්‍ය පුත්‍රයාට එන්න කියන්න අපි බලාගෙන ඉන්නෙ. මැටි කලයක් අතෑරලා රත්තරන් කළයක් ගන්නවා වගේ ඔය දුක් විඳින මනුස්ස ජීවිතය අත්හරින්න කියනවා. ඔහු වෙනුවෙන් අපි බලාගෙන ඉන්න බව ස්වාමීනී, ඒ නන්දිය උපාසකට කියන්න කියනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා මුගලන් මහරහතන් වහන්සේ අහනවා මනුස්ස ලෝකෙ පින් කරද්දි එයා වෙනුවෙන් දිව්‍ය ලෝකෙ විමාන පහළ වෙනවාද. ඇයි මොග්ගල්ලාන ඔබ අද දෑසින් දුටුවානෙ. ඉතින් ඒ වෙලාවෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, චිරප්පවාසිං පුරිසං දූරසෝ සොත්ථි මාගතං ඤාතිමිත්තා සුහජ්ජාච අභිනන්දංති ආගතං, කෙනෙක් බොහෝ කාලයක් පිටරටක ඉඳලා එනවා. එයා සුවසේ ආපහු එනකොට එයාගෙ ඥාති මිත්‍රාදීන් සුහද අය එයාව සතුටින් පිළිගන්නවා. තතේව කත පුඤ්ඤම්මි අස්මා ලෝකා පරංගතං පුඤ්ඤානි පතිගන්හන්තිං පියං ඤාතිංව ආගතන්ති, අන්න ඒ වගේමයි පින් කරපු කෙනෙක් මෙලොවින් පරලොවට ගිය විට පින තමයි එයාව පිළිගන්නෙ. දුර ඉඳලා එන කෙනෙක්ව පිළිගන්න නෑදෑයො වගේ කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. ඉතින් ඔය විදියට ගොඩාක් පින් කරපු නන්දිය වෙළඳාමෙ යනකොට රේවතියට පවරලා ගියා ඔහුගේ බිරිඳට. හරී නපුරුයි. ඊටපස්සෙ මොකද වුනේ, රේවතී දාන ශාලාව දන්දෙන එක නැති කලා. ඊටපස්සෙ සංඝයා එන එක අඩුවෙලා ගියා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න බාරාණසියෙ නන්දිය ආපහු ඇවිල්ලා ඈ ගෙදරින් පැන්නුවා. පන්නලා ආයෙත් දන්වැට හැදුවා. නමුත් මෑ ආයෙ, ඔහු සත්පුරුෂ නිසා ඈව ආයෙ ගෙන්නලා ඈයට කන්න බොන්න දීලා ජීවත් වෙන්න හැදුවා, නමුත් බිරිඳක් විදියට තියාගත්තෙ නෑ, ඊටපස්සෙ මොකද වුනේ පස්සෙ කාලෙකදි නන්දිය හදිසියේ වසංගත රෝගයක් හැදිලා මැරුණා. නන්දිය අර දිව්‍ය විමානෙ පහළ වුනා. රේවතී සම්පූර්ණයෙන් දන්වැට කැඩුවා. සංඝයාට දොස් පරොස් කිව්වා. වෛශ්‍රමණ දිව්‍යරාජයාගේ අනුමැතිය මත යක්ෂයො දෙන්නෙක් ඇවිල්ලා වීථියක් ගානෙ රේවතී ඇදගෙන ගිහිල්ලා ඊටපස්සෙ නන්දිය දිව්‍යපුත්‍රයාගේ විමානෙත් පෙන්නලා ඊටපස්සෙ බලාපන් කිව්වා උඹගේ මිනිහා පින් කරලා විඳින සැප, තෝ ඒ දන්වැටවල් ඔක්කොම ටික විනාශ කලා, අන්න උඹට සංසවක නිරය පැහෙනවා කියලා. අවුරුදු දහස් ගාණක් පැහෙන සංසවක නිරයේ කකුල් දෙකෙන් අල්ලලා ඔලුව පහලට හිටින විදියට රේවතීව දැම්මා. ඉතින් ඒ විස්තරේ අපි ඉගෙන ගත්තා පින්වත්නි දිවැසින් දුටු බියකරු සසර රේවතීගේ

කතාවස්තුවේදි. ඉතින් ඒ නිසා නන්දිය දිව්‍ය පුත්‍රයා බොහෝ සැපසම්පත් විඳලා දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන අදටත් සැප විඳිනවා. මම හිතන්නෙ ඔහු ධර්මය අවබෝධ කරපු කෙනෙක්. ඊටපස්සෙ දැන් අපිට ඊළඟට හම්බෙන්නෙ දිව්‍ය පුත්‍රයෙක්. මෙයාලා මහානුභාවසම්පන්න දිව්‍ය පුත්‍රයො. ඉතින් මේ දිව්‍ය පුත්‍රයාට ඉතින් අර සියලු දිව්‍යාංගනාවො යටත්. ඒකයි තියෙන අනිත් වෙනස. ඉතින් මෙතෙක් කියපු අර දිව්‍යාංගනාවො ඔක්කෝම ටික එක දිව්‍ය පුත්‍රයෙකුට යටත් වෙලා යනවා. ඊඨපස්සෙ මේ දිව්‍ය පුත්‍රයා, ඡත්ත මානවක දිව්‍ය පුත්‍රයා. ඔබ අහලා ඇති. ඔහු උක්කට්ඨාවේ පොක්ඛරසාති බ්‍රාහ්මණයාගෙන් ඉගෙන ගත්ත කෙනෙක්. ඉතින් ඊඨපස්සෙ මොකක්ද වුනේ, මං හිතන්නෙ සාකේතෙ වෙන්න ඕන ඡත්ත මානවක හිටියේ. ඊටපස්සෙ ගුරු පඬුරු ගෙනියන්න ගෙදරට ඇවිදින් පියාණන්ගෙන් කහවණු දෙදහක්, පොක්ඛරසාති බ්‍රාහ්මණයා හොයාගෙන යනවා. යනකොට තමයි, හොරුන්ට පණිවිඩේ ගිහිල්ලා තිබ්බා, හොරු කල්පනා කලා මරලා හරි ඔය ටික ගන්නවා, තනියෙන් යන්නෙ කුමාරයා. බුදුරජාණන් වහන්සේ දිවැසින් දුටුවා. ඔහුගේ ආයුෂ අඩුයි. බලන්න බුදුරජාණන් වහන්සේ දුටුවේ ඔහුගේ ආයුෂ අඩුයි. එතකොට කෙනෙක්ගේ මරණය සිද්ධ වෙනවා, සිද්ධ වෙන්න ක්‍රමයක් හැදෙනවා. කර්මානුරූපව ඒ වෙනකොට ක්‍රමයක් හැදෙනවා. ඒ ආයුෂ ඉවරවුනාට පස්සෙ ඒක බුදු කෙනෙකුටවත් වළක්වන්න බෑ, වළක්වන්න පුලුවන් නම් බුදුරජාණන් වහන්සේ ඡත්ත මානවක මරණය වළක්වනවා. බුදුරජාණන් වහන්සේ දැක්කා හැබැයි ඡත්ත මානවක මනුස්ස ජීවිතේ තෙරුවන් සරණගිහිල්ලා පන්සිල් රකින්න පින තියෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඍද්ධියෙන් පහළවුනා, ඔහු යන මාවතේ එක්තරා රුක්ෂයක් මුලට. ඊටපස්සෙ ඒ රුක්ෂය මුලට බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවා දැකලා අර කහවණු පොදියත් අරගෙන ඡත්ත මානවක ගියා. ඊටපස්සෙ වන්දනා කරලා බලාගෙන හිටියා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා, පුත්‍රය ඔබ කොහෙද යන්නෙ, මං පොක්ඛරසාති බ්‍රාහ්මණයා ළඟට. ඊටපස්සේ කිව්වා ඔබ වහන්සේ දැකලා මගේ හිත ගොඩාක් සැනසුනා. එහෙනම් පුත්‍රය, ඔබ බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝ රත්නය සරණ යන්න. ස්වාමීනී මං අද පටන් බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝයා සරණ යනවා, ඊටපස්සෙ ඇහුවා ඔබ පන්සිල් දන්නවාද, දන්නෙ නෑ කිව්වා. ඔබ සත්තු මැරීමෙන් වැළකී ඉන්නවා කියන එක දන්නවාද. මම කලින් එහෙම එකක් කරලා නෑ කීව්වා. එහෙනම් ඔබ සමාදන් වෙන්න අද ඉඳලා මම අද ඉඳලා සත්තු මරන්නෑ කියලා.

පණ තියෙන සත්තු දැන දැන චේතනාවකින් මරන්න එපා කිව්වා. ස්වාමීනි මම ඒක සමාදන් වෙනවා. පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාධියාමි කියලා සමාදන් වුනා. අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාධියාමි කියලා සමාදන් වෙලා තියෙනවාද, අනේ මං කලින් එහෙම කරලා නෑ.එහෙමනම් ඔබ අනුන් සතු දෙයක් හොරෙන් ගන්න එපා, ඒක සමාදන් වෙන්න කිව්වා. අදින්නාදානා වේරමණී සික්ඛාපදං සමාධියාමි කියලා සමාදන් වූනා.. ඊටපස්සෙ ඔබ කාමයේ වරදවා හැසිරීමෙන් වැළකීම සමාදන් වෙලා තියෙනවාද. අනේ මං කලින් සමාදන් වෙලා නෑ, මං ඒක දන්නෑ, එහෙමනම් පුත්‍රය ඔබ අද සමාදන් වෙන්න, තමන් විවාහ වුනොත් ඒ විවාහවෙච්ච බිරිඳ හැර වෙන ස්ත්‍රීන් ඇසුරු කරන්නෑ කියලා, සමාදන් වෙන්න. ඊටපස්සෙ කාමේසු මිච්ඡාචාරා වේරමණී සික්ඛාපදං සමාධියාමි කියලා සමාදන් වුනා. ඊටපස්සෙ කිව්වා ඔබ මුසාවාදයෙන් වැළකී සිටීමේ සිල්පදය සමාදන් වෙලා, අනේ මම එහෙම එකක් දන්නෑ, එහෙනම් අද ඉඳලා සමාදන් වෙන්න, දැන දැන අසත්‍ය දේවල් කියන්න එපා. මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාධියාමී කියලා සමාදන් වුනා. සුරාවෙන් වළකින එකක් සමාදන් වෙලා, අනේ මං එහෙම එකක් සමාදන් වෙලා නෑ, එහෙනම් පුත්‍රය, මදයට ප්‍රමාදයට සිහි විකල් වීමට හේතුවන දේවල් ගන්න එපා, සුරාව ගන්න එපා. සුරාමේරය මජ්ජපමා දට්ඨානා වේරමණී සික්ඛාපදං සමාධියාමි කියලා සමාදන් වුනා. ඔන්න පන්සිල් සමාදන් වුනා. බුදුරජාණන් වහන්සේ තමයි වදාළේ. ඒක අහලයි ඔහු සමාදන් වුනේ. කිව්වා පුත්‍රය ඔබ දැන් යනකොට මේ ගාථා තුන කිය කියා යන්න කිව්වා. ඔය ගාථා තුන තමයි, යෝවාද තං පවරෝ මානුගේසූ සක්‍යමුනී භගවා ගත කිච්ඡෝ භාරගතෝ බල විරිය සමන්ගී තන්සුග සංසාර නත්තමු පේමි, යෝවාද තං පවරෝ මානුගේසූ, ගේසු කියන්නෙ මිනිස්සු අතර පවර කියන්නෙ උතුම් යෝ වද තං කියන්නෙ යමෙක් වද තං කියන්නෙ කතා කරනවාට. මිනිස්සු අතර කතා කරන අය ඉන්නවනෙ ඒ අය අතර ශ්‍රේෂ්ටයි. කවුද. බුදුරජාණන් වහන්සේ. මේ මනුස්ස සංහතියෙම ශ්‍රේෂ්ට විදියට කතා කරපු එකම එක්කෙනයි හිටියෙ, අග්‍රම. ඒ තමයා තථාගත අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේ. සාක්‍ය මුනී භගවා, ඒ සාක්‍ය මුනි භාග්‍යවතුන් වහන්සේ, ගත කිච්ඡෝ උන්වහන්සේ කරන්න ඕන දේවල් කරලා ඉවරයි. භාරගතෝ බල විරිය සමන්ගී, උන්වහන්සේ සසරෙන් එතෙරට වැඩියා වීර්යයෙන් බලයෙන්, ධර්ම බලයෙන් වීර්යයෙන් සසරෙන් එතෙරට වැඩියා. තං සුගතං ඒ සුගතයන් වහන්සේ සරනත්තමු පේමි, දිවිහිමියෙන් මම සරණ යනවා. බලන්න ස්කෝලෙ යනකාං කිව්වා අපි මොකවත් දන්නෙ නැනෙ.

අවසානෙට ස්කෝල ඉවර වෙලා යෝවාද තම්පාව කියන එක ස්පීඩ්, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා මෙහෙමත් කියන්න, දැන් කියනකොටම කටපාඩම් ඡත්ත මානවකට. රාග විරාග මනේජ මා සෝකං, ධම්මම සංකත මප්පටි කූලං, මදුරම් මංපගු නංසුවිබද්දං ධම්මම් මං සරනත්තමු පේමි, බුදුරජාණන් වහන්සේ දේශනා කලා රාග විරාග මනේජ ම සෝකං රාගය දුරු කරවනවා විරාගය ඇතිකරවනවා ඒ වගේම නේජ කියන්නෙ තෘෂ්ණාව, තෘෂ්ණාව නැති කරනවා. ශෝක නැති කරනවා, මොකෙන්ද, ධර්මයෙන්, එහෙම නම් ධර්මය අපිට තිබ්බානම් රාගය නැතිවෙලා යනවා. එහෙම නම් ධර්මය තියෙන තැන රාගය නෑ. එහෙනම් යම් මොහොතක අපේ හිතේ රාගය වැඩ කරනවාද, රාගයෙන් යට වෙනවාද අපේ හිතේ ධර්මය නෑ ඒ වෙලාවට. යම් මොහොතක අපේ හිතේ තෘෂ්ණාව වැඩ කරනවාද ඒ වෙලාටව අපේ හමිතේ ධර්මය නෑ, යම් වෙලාවක අපේ හිතේ ශෝකය වැඩ කරනවාද ඒ වෙලාවට අපේ හිතේ ධර්මය නෑ. මොකදධර්මය විසින් ඔය ඔක්කොම දුරු කරවනවා. ධම්මම සංකත මප්පටිකූලං, ඒ ධර්මය අසංකතයි, පිළිකුල් නෑ, දොස් කියන්න, චී කියන්න, බැහැර කරන්න, එපා කියන්න දේවල් නෑ. ඒ ධර්මය පිළිකුල් රහිත දෙයක්. ප්‍රණීත දෙයක්. ඊළඟට දේශනා කරනවා, මධුරම් මංපගුනංසුගිබද්දං, හරියට පුරුදු කලොත් මේ ධර්මය ඉතාමත් මධුරයි, හොඳයි, හොඳට ප්‍රගුණ කරන්න පුලුවන්. ධම්මම් මං සරනත්ත මුපේමි, ඒ උතුම් ධර්මය දිවි හිමියෙන් මම සරණ යනවා කියලා සරණ ගියා. එහෙම සරණ යන, මුපේහි කියලා මෙතන තියෙන්නෙ සරණ යන්න. එතකොට එතකොට ඡත්ත මානවක මුපේමි මමසරණ යනවා කියලා සරණ ගියා. යච්චත දින්න මහප්ඵලමාහු චතුසුචීසු පුරිසයුගේසූ අට්ඨච පුග්ගල ධම්ම දසාතේ සංඝම් මං සරනත්ත මුපේමී, යච්චත දින්න මහප්ඵලමාහු, යමෙකුට දුන්නට පස්සෙ මහත් ඵල මහානිසංස වෙනවා නම්. චතුසු සුචීසූ පුරිසයුගේසූ, සෝවාන් සකදාගාමී අනාගාමී අර්හත් කියලා හතර දෙනෙක් ඉන්නවා, අට්ඨච පුග්ගල ධම්ම දසාතේ, මේ ධර්මය දැකපු අට දෙනෙක් ඉන්නවා. සොවාන් මාර්ගඵල, සකදාගාමී මාර්ගඵල, අනාගාමී මාර්ගඵල, අර්හත් මාර්ගඵල අටදෙනයි. සංඝම් මං සරනත්ත මුපේමී, ඒ ආර්ය මහා සංඝරත්නය දිවිහිමියෙන් මම සරණ යනවා. ඔක කිය කියා යන්න කිව්වා. එහෙනම් දැන් තේරෙනවා නේද බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලා, ධර්මය සරණ ගිහිල්ලා, සංඝයා සරණ ගිහිල්ලා පන්සිල් සමාදන් වෙච්ච කෙනෙක් නිතර නිතර සිහි කර කර ඉන්න ඕන මොකක්ද, තුණුරුවන් සරණ. දැන් මේකෙ වදාළේ, මරණය පෙනි පෙනී එහනෙම් ඔබ ඊළඟ මොහොතෙ මැරෙනවානම්,

ඔබගේ මරණය ඊළඟ මොහොතෙ නම් ඔබ තෙරුවන් සහිත පඤ්චසීලය සමාදන් වෙලා තුණුරුවන් සරණ සිහි කර කර ඉන්න. මේ තියෙන්නෙ සිහි කරන විදිය. ඊටපස්සෙ ඔහු යනකොට හොරු ගහලා මැරුවා. දැන් බලන්න තුණුරුවන් සරණ සිහි කර කර ගියා. ඉතින් ගහලා මැරුණා. නමුත් ඔහු එතනින් මැරිච්ච ගමන්ම ඉපදුනේ දෙව්ලොව. ඉතින් බුදුරජාණන් වහන්සේ දුටුවා එදා හවස, දැන් ඒ ඔක්කෝටම පැතිරිලා ගියා, ඊටපස්සෙ උක්කට්ඨාවෙනුයි, මේ පැත්තෙන් සාකේතයෙනුයි සියලූම දෙනා ඒ වනයට ආවා, පොක්ඛරසාතී බ්‍රාහ්මණයා ඇතුළු පවුලේ සියලු දෙනා. බොහෝ සෙනඟක් එකතු වුනා. ඡත්ත මානවකගේ දේහය ඒ කැලේම දැව්වා. ඒ ගිනිජාලාව දැවි දැවී යන අතරේ බුදුරජාණන් වහනසේ දන්නවා දැන් ඡත්ත මානවක එනවා කියලා. ඊට කලින් බුදුරජාණන් වහන්සේ ඔහුගේ චිතකය දැල්වෙන තැනට ගියා. ඉතින් මිනිස්සු ඔක්කෝම බැලූවා අනේ මේ ඡත්ත මානවකදේහය තියෙන තැනට භාග්‍යවතුන් වහන්සේත් වඩිනවානේ කියලා. බුදුරජාණන් වහන්සේ වැඩලා සුලු මොහොතකින් මුළු ආකාශයම බබළවාගෙන මේ ඡත්ත මානවකදිව්‍ය පුත්‍රයා ආවා. ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ අහනවා මේ දිව්‍ය විමානය අහසේ බබලන හැටි බලනු මැනව. හිරු මඩලක් වගේ. හිරු මඩලවත්, සඳ මඩලවත් මෙච්චර නම් බබලන්නෑ. කොහොමද පොඩ්ඩක්, පොඩි වෙලාවක් තෙරුවන් සරණේ ඉඳලා මැරිච්ච එකේ විපාක. ඉරහඳවත් එච්චර බබලන් නෑ කියනවා. ඵුස්ස කියන තාරුකාව පවා මේ තරම් බබලන්නෑ. එතරම්ම සුවිශාලයි, ප්‍රභාෂ්වරයි. දෙව්ලොවින් මෙලොවට පැමිණි ඔබ කව්ද, මේ විමානයෙන් විහිදෙන ආලෝකය හිරුරැස් පවා පරදවනවා. දැන් දවල් කාලෙ ආවෙ, ඉර පේන්නෑ මේ විමානෙ විතරයි පේන්නෙ. යොදුන් විස්සක් විතර දුරට රැස් විහිදෙනවා. යොදුන් විස්සක් කියන්නෙ කිලෝමීටර් දෙසීයක් රශ්මි ධාරාව විහිදෙනවා. ඊටපස්සෙ දවල් කාලෙ වගේම රෑටත් රැස් විහිදෙනවා. ඒ විමානය පිරිසිදුයි, නිර්මලයි, සුන්දරයි, විචිත්‍ර වූ සුදු නෙළුම් රතු නෙළුම් බොහෝ මල් වර්ග තියෙනවා පොකුණු වල. විසිතුරු කැටයම් ඉතා පිරිසිදු රත්තරනින් සැදූ දැල් මේ විමානය වටේට තියෙනවා. හිරු මඩලක් වගේ අහසෙ බබලන්නෙ. රතුපාට, කහ පාට, දිව සළු වලින් සරසලා සඳුන් පොවපු සුවඳ හැම තැනම බබලනවා. දිව්‍ය අප්සරාවෝ බොහෝ දෙනෙක් ඔබව පිරිවරාගෙන ඉන්නවා. තාරකා පිරිවරාගත් අහස් තලයක් වගේ. ඊටපස්සෙ කියෙනවා මෙහි ඉන්න දිව්‍ය ස්ත්‍රී පුරුෂයන් එක එක පැහැයෙන් යුක්තයි. ඒ මල් වලින් සැරසිලා, දිව්‍ය ආභරණ වලින් සැරසිලා සතුටින් ඉන්නෙ.

මේ දිව්‍ය ස්ත්‍රීන් පුරුෂයන් බොහෝ දෙනෙක් කේශ කලාපයන් ලස්සනට සරසලයි ඉන්නෙ. මද සුළඟින් සෙලවෙන රන්වන් මල් වලින් සුවඳ විහිදෙනවා. මේ පුණ්‍ය විපාක ලැබුනේ මොනවාගේ දේකින්ද, දිව්‍ය පුත්‍රය ඔබ කව්ද. මෙච්චර සැප විඳගෙන සියලු දිව්‍ය ස්ත්‍රීන්ට අධිපති වෙලා මෙච්චර සැප සම්පත් විඳින ඔබ කව්ද. කියනවා, දෙවියා කියනවා, එක්තරා මානවකයෙක් මහමග යමින් සිටියා. ශාස්තෘණ් වහන්සේ ඔහුට මුණගැහිලා අනුශාසනා කලා. ඒ මහණිරත්නය වන නුඹවහන්සේගේ ධර්මය අසා පිළිපදිනවා කියලා ඒ ඡත්ත මානවක කිව්වා. ස්වාමීනී, පරමෝත්තම ජිනේන්ද්‍රයන් වහන්ස ඒ බුදුරජාණන් වහන්සේ සරණ යන්න කිව්වා. ධර්මයත්, භික්ෂු සංඝයාත් සරණ යන්න කියලා ඔබ වහන්සේ මට වදාළා. මම පළමුවෙන් කිව්වෙ මම ඕවා ගැන දන්නෙ නෑ කියලා. ඊටපස්සෙ තමයි භාග්‍යවතුන් වහන්සේ මට කිව්වෙ මෙහෙම කරන්න කියලා. ඒ වචනය අහලා මං සරණ ගියා. මේ බලන්න මෙයා එහෙම මෙයාගෙ වචන වලින් දන්නෑ, බුදුරජාණන් වහන්සේ කිව්වෙ මෙහෙම සරණ යන්න කියලා. දැන් ඔයාලටත් සමහර වෙලාවට තේරෙන්නැත්නම් අපි කියන්නෙ මෙහෙම සරණ යන්න කියලා. මේ ධර්මයේ තියෙන ඒවනෙ අපි කියන්නෙ. ඊටපස්සෙ කියනවා අපිරිසිදු වූ නානාප්‍රකාර ප්‍රාණඝාතය කරන්න එපා. ප්‍රාණීන් කෙරෙහි සංයමය නැති අය ගැන නුවණැත්තන් වර්ණනා කරන්නෙ නෑ කියලා වදාළ වෙලාවේ ස්වාමීනී මං පළමුව කිව්වෙ මං ඒවා දන්නෙ නෑ කියලා. ඊටපස්සෙ නුඹ වහන්සේ තමයි මට කිව්වෙ ඒක සමාදන් වෙන්න කියලා. මම සමාදන් වුනා. හොරකම් කරන්න එපා කියලා භාග්‍යවතුන් වහන්සේ වදාළේ. මම කිව්වෙ ඒක දන්නෙ නෑ කියලා. ඔබ වහන්සේ තමයි මාව සමාදන් කළේ. බලන්න කෙලෙහිගුණ නේද. අනුන් විසින් ආරක්ෂා කරන කාන්තාවන් ඉන්නවා ඔවුන් කරා යන්න එපා, ඒක පහත් දෙයක්, නීච දෙයක්, එය වදාළ වෙලාවේ පළමුව මං කිවේ ඕවා මං දන්නෑ කියලා. පස්සෙ නුඹ වහන්සේගේ වචනයට මං ඒක ඒ විදියටම කලා. අසත්‍ය බව දැන දැනත් කියන්න එපා, බොරු කීම නුවණැත්තො වර්ණනා කරන්නෙ නෑ කියලා බුදුරජාණන් වහන්සේ වදාළේ. මම කිව්වෙ මං දන්නෑ කියලා. නමුත් මං ඒක කලා. භාග්‍යවතුන් වහන්සේ මට ඒක කරන්න කිව්වෙ. පුරුෂයෙකුගේ හොඳ සිහිය නැත්වෙන්නෙ යම් බීමත්කමකින් නම් ඒ සෑම මද්‍ය පානයක්ම දුරින්ම දුරු කරන්න කියලා වදාළ වෙලාවෙ මං පළමුව කිව්වෙ ඒ ගැන දන්නෙ නෑ කියලයි, පස්සෙ තමයි නුඹ වහන්සේගේ වචනෙ අහලා සරණ ගියෙ. සිහිකල්පනාව නෑනෙ. සිහිකල්පනාව නෑ බිව්වට පස්සෙ. ඔය ගම්වල අපි ඉඳලා තියෙනවා අම්මෝ බිව්වට පස්සෙ

ඉණට අඳින සරම අඳින්නෙ ඔලුවට. සිහි කල්පනාව නෑ. ඊටපස්සෙ පාර අයිනක වැටෙනවා. ඉතින් පාර අයිනක වැටිලා ඊටපස්සෙ ඔහේ ඉන්නවා. ඊටපස්සෙ තාර දාපු පාර පේන්නෙ ඒ මනුස්සයාට පේන්නෙ ගෑණි ඇඳට කලුපාට බෙඩ්ෂීට් එකක් දාලා කියලා. පාරෙ යන වාහන පේන්නෙ පොඩි එවුන්ට ගෙනාපු වාහන එහෙ මෙහෙ යනවා කියලා. ඒ වගේ සිහිකල්පනාව නෑ, බල්ලො ඇවිල්ලා ලෙවකනකොට හිතන්නෙ නෝනා ඉඹිනවා කියලා. බිව්වට පස්සෙ සම්පූර්ණ සිහිකල්පනාව නෑ, ඊටපස්සෙ මිනිස්සු උස්සන් යනකොට හිතන්නෙ අලුතනේ ගෙනාපු රේන්ජ් රෝවරේ ගෙදර යනවා කියලා. සිහි කල්පනාව නෑ, ඉතින් ඒ වාගේ සිහි කල්පනාව නැතිව, ඊටපස්සෙ කියනවා ඕන යකෙක් වරෙව් කියලා. ගෙවලුත් වහලා දොරවලුත් වහලා එන එකෙකුත් නෑ, ඉතින් ගමටම චණ්ඩියා. සිහි කල්පනා මාත්‍රයක් නෑ. ඉතින් ඒ වාගේ සිහි කල්පනාව නැතිවෙන සුරාව තියෙනවා නම් ඒවා බොන්න එපා කියනවා තමන්ගෙ බිරිඳ හඳුනන්නෑ, දරුවො හඳුනන් නෑ, මේවාගේ වෙලාවක ළමයි ඉන්න තැනක මේවා කියන්න හොඳ නෑ කියලා තේරෙන්නෑ, ඊටපස්සෙ කන බොන ඒවා තේරෙන්නෙ නෑ, මුළු මේසෙම මේවා කරනවා, ඊටපස්සෙ කට දෙපැත්තෙන් බත් වැටෙනවා, හොදි බේරෙනවා, ඉස්සෙල්ලා කන්න ඕන දේවල් මොනවද කියලා දන්නෙත් නෑ, හොදි වල පපඩම් ඔබ ඔබා කනවා, බිව්වට පස්සෙ. සිහිකල්පනාව එහෙම්මම නැතිවෙලා යනවා. මේ වෙලාවෙ ඉතින් ඡත්ත මානවකට කිව්වෙ සිහිකල්පනාව නැතිවෙන සුරාව නම් ගන්න එපා කියලා. ඔය බීපු මිනිස්සු කරන ඒවා ගෙදර කට්ටියට පොඩ්ඩක් වීඩියෝ කරලා පෙන්නන්න සිහි කල්පනාව ආපු වෙලාවට මෙන්න ඔහේගේ හැටි කියලා. ඊටපස්සෙ මං ඒ පන්සිල් රැකගත්තා. තථාගතයන් වහන්සේ වදාළ ධර්මය මං පිළිපැද්දා. දෙමංසන්ධියකට ආපු වෙලාවකදී මාව හොරුන්ට මැදිවුනා. ඔවුන් වස්තුව ගන්න හිතාගෙන මාව මැරුවා. පිනක් හැටියට මෙච්චරයි මං කරගත්තෙ. එයින් බැහැර වෙලා මට වෙන පිනක් තිබුනෙ නෑ, සුචරිතකර්මී විපාක වශයෙන් කැමති සැප තියෙන තව්තිසාවෙ ඉපදුනා. සීල සංවරය ඇතිකරගත්තෙ මොහොතයි. ධම්මානුධම්ම පටිපදාවේ විපාක බලනු මැනව. යසසින් දිලෙන්නාක් වැනි මාව දකින විට හීන සම්පත් ඇති බොහෝ අය මං වගේ වෙන්නයි කැමති වෙන්නෙ. අනිත් දෙවිවරු ඔක්කොම කැමති වෙන්නෙ මෙයා වගේ වෙන්න කියනවා. සම්පත් නැති අය කැමති මෙයා වගේ වෙන්න කියනවා. බලන්න සුළු මොහොතක් තෙරුවන් සරණ ගිහිල්ලා පන්සිල් රැකපු එක. සුළු මොහොතක්, සුළු දේශනාවක අසිරිය බලන්න. මං සුගතියට ගියා, සැපක් ලැබුවා. එහෙම එකේ යම් කෙනෙක් නිතර

නිතර ධර්මය ඇසුවොත් නම් ඒ අය දුක් බිය රහිත අමා නිවන ස්පර්ශ කරාවී කියලා මට හිතෙනවා. නිතර නිතර බණ ඇහුවොත්. තථාගතයන් වහන්සේගේ ධර්මයේ පිහිටලා සුළු දෙයක් කලත් මහා විපාක ලැබෙනවා. මෙන්න පින්වතුනි ආශ්චර්‍යයී. විපුල ඵල ලැබෙනවා පින් කරගත්තු ඡත්ත මානවක දිහා බලන්න. හිරු මඩල පොළොව බබලනවා වගේ එයා දෙව්ලොව බබලවනවා. මනුස්ස ලෝකෙට ඉර වගේ තමයි කියනවා දිව්‍ය ලෝකෙට ඡත්ත මානවකගේ විමානය. ඊටපස්සෙ කියනවා මේ කුසලය මොන වගේ දෙයක්ද, මොන වගේ පිනක හැසිරීමක්ද කියලා දෙවිවරු කතා වෙනවා කියනවා ඡත්ත මානවකව දැක්කට පස්සෙ මේ වගේ වෙන්න මොනවද දන්නෑ කරන්න ඕන පින් කියලා දෙවිවරු කතා වෙනවා. ඉතින් ඒ නිසා එච්චර තෙරුවන් සරණ යෑමේ පන්සිල් රැකීමේ ආනිසංස. ඉතින් බුදුරජාණන් වහන්සේ මට ගොඩාක් උපකාර කලා. මං වෙනුවෙන් මද්දහනේ පාරට වැඩම කලා. අනේ භාග්‍යවතුන් වහන්සේ මට අනුකම්පා කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ මට අනුකම්පා කරන සේක්වා. ආයෙමත් මං බණ අහන්නම් කියලා වැඳගත්තා. ඇයි පොඩි වෙලාවක්නෙ බණ ඇහුවෙ. ඒ වෙලාවෙ බුදුරජාණන් වහන්සේ ධර්මයක් දේශනා කරනවා. මේ ශාසනයේ යමකේ කාම රාගය දුරු කරනවා නම්, භවරාගානුෂයත් දුරු කරලා මෝහයත් දුරු කෙරුවාට පස්සෙ උන්වහන්සේලා ආයෙ කවදාවත් මව්කුසක නිදාගන්නට එන්නෙ නෑ. පිරිනිවනට පත්වුනාම නිවී සිසිල් වෙලා යනවා. ගැඹුරු ධර්මයක් වදාළා නිවන ගැන. මනුස්ස ලෝකෙදි කිව්වෙ තෙරුවන් සරණ ගැනයි පන්සිල් ගැනයි. දිව්‍ය ලෝකෙදි නිවන ගැන කිව්වා. සෝවාන් වුනා ඒ මොහොතේම. සෝවාන් වුනා. ධර්මය අවබෝධ කරගන්න පින තිබ්බෙ කොහෙද, දිව්‍ය ලෝකෙ. මනුස්ස ලෝකෙ තෙරුවන් සරණයි, පන්සිල් රැක්කෙ. මේවා තේරුම් ගන්න පින්වත්නි. ඒ නිසා ඔබටත් ඔබ සමාදන් වුන තිසරණය, ඔබ රැකගන්න පඤ්චසීලය හොඳට රැකගන්න අද දවසේත් මේ ධර්මය අහපු පින හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ මේ ධර්ම දේශනාව සඳහා දායකත්වය දැරුවේ අංක 83/33, තිස්වන පටුමග, ශාන්ත කැතරින් වත්ත, හෝකන්දර යන ලිපිනයේ පදිංචි පින්වත් දිලුම් පෙරේරා මහත්මයා සහ පවුලේ සියලු දෙනා විසින්. ඉතින් අපේ ලංකාවටත් ලෝකයටත් මහා ව්‍යසනයක් වුන ඒ කොරෝනා වෛරසය දුරින්මදුරු වෙලා සියලු දෙනාට යහපත රැකවරණය මනුස්ස වර්ගයාට සියලු යහපත සෙත ශාන්තිය ආරක්ෂාව සැලසේවා කියලා පළමුවෙන් අපි සෙත්

ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම අපි සෙත් ප්‍රාර්ථනා කරනවා පින් පමුණුවනවා සියලු දෙවි දේවතාවුන් වහන්සේලාට මේ බුදු සසුනත්, මේ ලක්දෙරණත් මේ සියලුදෙනත් සියලු දෙවියෝ ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවනවා. ඒ වගේම අපි පින් පමුණුවනවා මියපරලොව ගිය එම්.පී.ඩී. පෙරේරා පියාණන්ට, ඒ වගේම ආතාට සහ අත්තම්මාට පින් අනුමෝදන් කරනවා. ඒ දිලුම් පෙරේරා මහත්මයාගේ පවුලේ මියගිය ඥාතීන්ට. ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ටත් මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි නිතර අපිට තෙරුවන් සරණ යන්න කියන රාවය ඇහුනේ. ඒ උතුම් ඝෝෂාව ඇහුනෙ. පඤ්චසීලය තියෙන්නෙ රකින්නයි මේක අපිට පිහිටයි කියලා නිතර ඇහුනෙ උන්වහන්සේ නිසා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. සියලු ස්වාමීන් වහන්සේලාත්, අනගාරිකා මෑණිවරුනුත්, පැවිදි අපේක්ෂක දූපුතුනුත් මේ පින් අනුමෝදන් වී ධර්මාවබෝධයම ලබත්වා. ඒ වගේම දිලුම් පෙරේරා මහත්මයාටත් ඒ පවුලේ සියලූම දෙනාටත් මේ පින් අනුමෝදන් වේවා. සුජීවත්ව සිටින ලක්ෂ්මී වීරසූරිය මෑණියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා, අද ධර්මය ශ්‍රවණය කල ඔබ සියලු දෙනාටත්, මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන් සියලු දෙනාට ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන් විදුලියේ සියලුම ධර්ම දායකත්ව සපයන සියලු දෙනාට කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට ඔබ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වී උතුම් තිසරණයේම සුරැකේවා. පඤ්චසීලය සුරකින්න ඔබට වාසනාව ශක්තිය ධෛර්යය සැලසේවා. ඔබගේ ජීවිතයට ගෞතම සසුනේ පිහිට ලැබේවා. නිවනින් සැනසෙත්වා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=GP64jUAklGE&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=14

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපි මේ දවස්වල කතා කරන්නේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ බොහෝ දෙනාට යහපත පිණිස හිතසුව පිණිස දේශනා කොට වදාළ ඒ උතුම් ශ්‍රී සද්ධර්මයයි. බුදුරජාණන් වහන්සේ වදාළ ශ්‍රී සද්ධර්මය සූත්ත ගෙයය ව්‍යාකරණ ඉති උත්ථක ජාතක අද්භූතධම්ම ගාථා ආදී වශයෙන් කොටස් නවයකට තියෙනවා. අපි මේ ඉගෙන ගන්න විමානවත්ථුව මේ දේව කතාව අයිති වෙන්නෙ ගාථා කියන දහම් පරියායට. මේ දහම් කාරණා අපගේ නිවන් මාර්ගයට බලපානවා. දැන් සාමාන්‍යයෙන් දෙවිකෙනෙක්ගේ විස්තරයක් කරන පින් ගැන කිව්වාම සාමාන්‍ය කෙනෙක්ට හිතන්නෙ ඕන්න පින් කරපල්ලා, දිව්‍ය ලෝකෙ පලයල්ලා පින් කරපල්ලා දිව්‍ය ලෝකෙ පලයල්ලා කියලා කියන කතාවක් වගේ තමයි අපිට තේරෙන්නෙ. ඒ තමයි අපිට තේරෙන ඒවා. නමුත් මේ පින් පව් කුසල් අකුසල් ගැන තියෙන දැක්ම එලොවක් පරලොවක් ගැන ඇතිවෙන දැක්ම නිවන් මාර්ගයට කොච්චර උපකාරී වෙනවද කියලා දන්නෙ බුදුරජාණන් වහන්සේ. ඒ නිසා තමයි බුදුරජාණන් වහන්සේ වදාළේ ලෝකෝත්තර සම්මාදිට්ඨිය ඇතිවෙන්න කලින් ඇතිවෙන්නේ ලෞකික සම්මාදිට්ඨිය. ඒ ලෞකික සම්මාදිට්ඨියෙ තමයි තියෙන්නෙ අත්ථිසුකටදුක්කටානං කම්මානං ඵලං විපාකෝ, හොඳ වල හොඳ කර්මත්, නරක වල නරක කර්මත් විපාකත් තියෙනවා කියන එක පිළිගන්න එක සම්මා දිට්ඨියට අයත් යෙක්. අත්ථි අයං ලෝකෝ අත්ථි පරෝ ලෝකෝ. මෙන්න බලන්න මේ ලෝකෙ විස්තරත් තියෙනවා. පරලෝකෙ විස්තරත් තියෙනවා. අත්ථි සත්තා ඕපපාතිකා, මේ දෙවිවරු වනාහි මවගෙන් පියාගෙන් බිහිවෙන අය නෙවෙයි. ඕපපාතිකයි. එතකොට ලෞකික සම්මාදිට්ඨියෙහි පිහිටන්නෙ. ඊළඟට මේවා දිවැසින් දුටුවේ බුදුරජාණන් වහන්සේ. ලෝකයේ අවබෝධ කරගත්ත රහතන් වහන්සේලා. අත්ථි සමණ:බ්‍රාහ්මණා ලෝකේ සම්මග්ගතා ලෝකයෙහි මනාව පිළිපන් අවබෝධ කරපු ශ්‍රමණ බ්‍රාහ්මණයන් වහන්සේලා ඉන්වා කියන දැක්ම ඇතිවෙනවා. මේක ඒකාන්තයෙන් සම්මාදිට්ඨිය පෝෂණය වෙන දහම් පරියායක්. සියල්ල දන්නේත් සියල්ල දක්නේත් තථාගත අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේ. අපිට තියෙන්නෙ ඒ මාවත පිළිපදින එකයි. ඉතින් පින්වතුනි අදත් බොහෝම ලස්සන දිව්‍ය විමානවල දහම් කතා අපිට අහන්නට ලැබෙනවා. ඉතින් ශ්‍රද්ධා

රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන් විදුලියෙනුත් මේ දහම් පරියාය පින් කැමැත්තන් හට සවන් පතට යොමු කරන්නේ ධර්ම දානය සිද්ධ කරන්නේ නො. 195/ඞී, දෙල්ගහවත්ත, අංගොඩ යන ලිපිනයේ පදිංචි පින්වත් නිර්මල ලක්මාල් දිසානායක මහත්මයා සහ ඉසුරී නයනමාලී දිසානායක මහත්මිය යන දෙපළ විසින්. මේ පින්වතුන් ඉතාමත් සත්පුරුෂ අදහසින් අද මේ උතුම් ධර්මදානය සිද්ධ කරන්නෙ, ඉතින් ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා මේ ධර්ම දානය සිද්ධ කරන එක. මොකද ඔබ පවා මේ ධර්මය අහන්නෙ, මෙතෙක් ඔබ ධර්මය ඇහුවේ තවත් කවුරුහරි ධර්මදාන දායකත්වය දරලා ඒ වැඩසටහන් විකාශනය වෙච්චි නිසා. අද ඔබගේ දායකත්වයෙන් තවත් ලක්ෂ සංඛ්‍යාත පිරිසකට ධර්මය අහන්න ලැබෙනවා. ඒ පින ගැන අප්‍රමාණ ඔබ සතුටු විය යුතුයි. ඉතින් පින්වතුනි, අද අපි ඉගෙන ගන්නේ බොහෝම අගේ ඇති විස්තරයක්. මේ බලන්න මේ පින ළඟට එනවා කියන එක, ඒ තමයි මේ සිද්ධිය සිද්ධ වුනේ රජගහනුවර. අපි අද විමානවත්ථුවේ පස්වෙනි වර්ගයේ හතරවෙනි කතා වස්තුව අපි අද ඉගෙන ගන්නේ. රජගහනුවර එක්තරා භික්ෂූන් වහන්සේ නමක් හිටියා, හරී සිල්වත්. අහිංසකයි. හොඳට බණ භාවනා කරනවා, ධර්මය නුවණින් විමසනවා. හැබැයි බලන්න මේ කෙනෙකුට ධර්ම මාර්ගයේ හැසිරෙන්න තියෙන බාධා. සංසාරගත කර්ම දෝෂයක් වගේ කණේ අමාරුවක් හැදුනා. ඉතින් මේ වේදනාවෙන් උන්වහන්සේ ගොඩාක් පීඩා විඳ විඳ ඉන්නේ. ඉතින් බණ භාවනාව දියුණු කරගන්න අමාරුයි, භාවනා කරනකොටම අර කණේ වේදනාව ප්‍රකට වෙවී යනවා. සිහිය පිහිටුවා ගන්න අමාරුයි. තථාගත අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේ දුටුවා, වීරියෙන් නමුත් මේ භික්ෂුව කරන දහමෙහි හැසිරීම ඉන්ද්‍රියන් මෝරා යන මට්ටමට දියුණුයි. නමුත් මේ භික්ෂුවට මේකෙ ප්‍රතිඵලය ලබන්න අමාරු මේ කණේ කැක්කුම නිසා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ දිවැසින් බැලුවා මේ කණේ කැක්කුම සුව වෙන්නේ කුමකින්ද. බලනකොට බුදුරජාණන් වහන්සේ දුටුවා කකුළු ව්‍යඤ්ජනයක්, කකුළු ව්‍යඤ්ජනයක් එක්ක ඇල් හාලෙ බත් සමඟ කකුළු ව්‍යඤ්ජනය ආහාරයට ගත්තොත් ඒ රෝගය සුව වෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ එදා උදේ මහා කරුණාවෙන් ඒ භික්ෂූන් වහන්සේ දෙස බලලා බැලුවා අද කොහෙද ඒ වාගේ කකුළු ව්‍යඤ්ජනයක් සමඟ ඇල් හාලේ බතක් උයන්නෙ. බුදුරජාණන් වහන්සේගේ බුදු ඇසට ජේනවා දිවැසට මගදි එක්තරා වීදියක උපාසක මහත්තයෙක් ඒ කියන්නෙ එක්තරා මනුස්සයෙක් කකුළු ව්‍යඤ්ජනයක් හදනවා අද ඇල් හාලේ බත් එක්ක.

එතකොට අර භික්ෂුවට සත්ප්‍රාය විදියටමයි ඒක තියෙන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ එදා පිණ්ඩපාතෙ සංඝයා වඩිනකොට අර කණේ අමාරුව තියෙන භික්ෂුවට කතා කරලා පින්වත් භික්ෂුව, ඔබ අද පිණ්ඩපාතෙ වඩිනකොට මගදි අසවල් වීදියේ පිණ්ඩපාතෙ වඩින්න. ඊටපස්සෙ එහෙම බුදුරජාණන් වහන්සේ වදාළාට පස්සෙ අර භික්ෂුව කල්පනා කලා ශාස්තෘණ් වහන්සේ සියල්ල දන්නා සේක, සියල්ල දක්නා සේක. ඒ නිසා මගේ යහපතටයි මේ වදාරන්නෙ කියලා හිස් මුදුනින් පිළිගත්තා. ඒ වීදියේ වැඩම කලා. උන්වහන්සේ ඒ වීදියේ වැඩම කරනකොට ඉස්සෙල්ලාම ඒ වීදියේ තියෙන්නෙ අර ගෙදර. ඒ ගෙදරට වැඩියා. ඉතින් ඒ ගෙදර හොඳට කකුළු ව්‍යඤ්ජනයක් උයලා ඊටපස්සෙ ඇල් හාලෙ බත් උයලා ඒ ගෙදර මනුස්සයා පුටුව ආහාර ටික ලැබෙනකල් එලියේ හාන්සි පුටුවකට වෙලා ඉන්නවා. අර ස්වාමීන් වහන්සේ දැක්ක ගමන් උපන් ශ්‍රද්ධාවෙන් ගෙදර උන්දැට කතා කරලා ඒයි ඉක්මණට මේ ආහාර ටිකක් අරන් වරෙන් කියලා අර රස්නෙ පිට ඇල් හාලේ බත් එක්ක කකුළු ව්‍යඤ්ජනය පූජා කලා. ස්වාමීනී ඈතට වඩින්න අවශ්‍ය නෑ, මෙහේ ඉඳගෙනම වළඳන්න කිව්වා. ඉතින් ඒ ඉස්සරහා පිලේ පැනවූ ආසනයේ උන්වහන්සේ වැඩ හිටියා, දන් වැළඳුවා. ගිමනින් ක්ලාන්තව පිපාසයෙන් හිටපු කෙනෙකුට සීතල දිය පැන් කල සීයකින් නෑව්වා වගේ ශරීරය එහෙම්මම සිසිල් වෙලා ගියා. අර කකුළු ව්‍යඤ්ජනය වළඳනකොට. ඊටපස්සෙ උන්වහන්සේ කය සිසිල් බව එහෙම්මම ඇතිවෙනකොටම අර වළඳ වළඳ හිටපු දානෙ එහෙම්මම නවත්තලා එහෙම්මම කයට සිහිය පිහිටෙව්වා, මෙතුවක් කාලෙකට උන්වහන්සේ වඩපු ගුණධර්ම වඩපු වීර්යය, පිහිටවපු සිහිය, පුරුදු කරපු නුවණ ප්‍රකට වුනා. එහෙම්මම නිකෙලෙස් වුනා. පුදුම සහගතයි. ඒ කාලෙ මිනිස්සු කොච්චර පින්වන්තද පින්වත්නි. පින, අහක යන පින් නේද තමන්ගේ ගෙදරට වැඩමවන්නෙ. ඊටපස්සෙ ඈයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කලානෙ යම්කිසි කෙනෙක්ගේ දානයක් වළඳලා යම් භික්ෂුවක් රහත් වුනොත් ඒ උපාසකයාට උපාසිකාවට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා කියලා. යම්කිසි කෙනෙක්ගේ දානයක් වළඳලා, යම්කිසි භික්ෂූන් වහන්සේ නමක් සිවුරු සෙනසුන් පාවිච්චි කරන්නේ කෙලෙසුන් දුරු කරන අදහසින් නම් ඒ මිනිසුන්ට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඉතින් උන්වහන්සේ දන් වළඳලා අර උපාසක මහත්මයාට කිව්වා, උපාසකය මගේ අවුරුදු ගාණනාවක් තිබ්බ කණේ අසනීපයක් තිබ්බ ඒ රෝගය අද සන්සිඳුනා. ඉතින් ඒ නිසා ඔබ විසින් දුන්නු දානෙ අද ඖෂධයක් වුනා. උපාසකය, ගෞතම බුදුරජාණන්

වහන්සේගේ භාග්‍යවතුන් වහන්සේගේ ළය මඬලෙන් උපන් දරුවෙකුට ඖෂධ දානයක් පූජා කලා කියලා උපාසකය ඔබ බොහෝ කාලයක් සතුටු වෙන්න. ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා කියලා අනුමෝදනා කරලා ඒ රහතන් වහන්සේ වැඩම කලා. අර උපාසක මහත්මයාට තමන් දුන්න දානෙන් අර ස්වාමීන් වහන්සේගේ රෝගය සන්සිඳුනා කියලා අහපු එකත් එක්ක ඇතිවෙච්ච ප්‍රීතිය හිතාගන්න බෑ. පුදුම සන්තෝසෙකින් හිටියා. ඉතින් ඔය වාගේ ඉඳලා පස්සෙ කාලෙක ඒ ගමේ ඇතිවෙච්ච යම්කිසි වසංගත රෝගයකින් ඒ උපාසක මහත්මයා මලා. ඒ උපාසක මහත්මයා දෙව්ලොව ඉපදුනා. ඔහුගේ කතාවයි මේ විමානවත්ථුව. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දෙවියාව දැක්කෙ. මේ විමානය හරි උසයි. මැණික් වලින් කරපු කණු තියෙනවා. යොදුන් දොළහක් දුරට පැතිරිලා තියෙනවා. උස් මුදුන් ඇති ගෙවල් හත්සීයක් තියෙනවා. කාමර හත්සීයක මාළිගාවක්. වෛරෝඩි මැනිකෙන් කරපු කණු තියෙනවා. සිත්කළුයි. සුන්දරයි. ඔබ ඒ විමානයේ ඉඳගෙන පානය කරනවා, අනුභව කරනවා, දිව්‍ය වීණාවෙන් මිහිරි වාදනය ඇහෙනවා. දිව්‍ය රසය, පංචකාමගුණ, රන් ආභරණ වලින් සැරසිලා දිව්‍ය අප්සරාවන් නිතර නිතර නටනවා. අප්‍රමාණ දිව්‍ය සැප. මං අහන්නෙ මේකයි, මනුස්ස ලෝකෙ ගොඩාක් පින් කරන්න ඇති නේද. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ කාරණාව ඇහුවේ. ඒ අහපු කාරණාවට ඒ දිව්‍ය රාජයා මේ විදියට උත්තර දෙනවා. විමාන දොරටුවෙහි සිහිය උපද්දලා තියෙන රන් කකුලුවෙක් නම් ඉන්නවා ස්වාමීනී කිව්වා. ඒ කියන්නෙ එයාගෙ විමානෙන් එළියට යනකොටම රිදී පාටට කකුල් දහයක් තියෙන දෙපැත්තට කකුල් පහ, පහ තියෙන කකුළුවෙක් ඉන්නවා. ඒ කියන්නෙ ඒ දිව්‍යරාජයා හැම වෙලාවෙම විමානෙන් එළියට යනකොට උඹ දිව්‍යලොකෙ උපන්නෙ කකුළු ව්‍යඤ්ජනයක් නිසා කියලා සිහි කරන කකුළුවෙක් ඉන්නවා. එළියෙ ඉඳලා ඇතුලටත් එනකොට උඹ සැප විඳින්නෙ කකුළු ව්‍යඤ්ජනයක් පූජා කරපු නිසා කියලා සිහිය උපද්දවන කකුළුවෙක් ඉන්නවා. පුදුම සහගතයි. ඉතින් ඒ නිසා ස්වාමීනී, සිහිය උපද්දවලා දෙන කකුළුවෙක් නම් ඉන්නවා කිව්වා. ඉතින් රත්තරනින් නිමවෙලා තියෙන්නෙ. හරි ලස්සනයි පාද දහයක් තියෙනවා. ලස්සනට බබලනවා. ස්වාමීනී ඕක තමයි ඉස්සර පින මම කරපු කිව්වා. කකුළු ව්‍යඤ්ජනයේ කතාව කිව්වා. ඉතින් මෙවැනි ලස්සනක් ආනුභාවයක් ප්‍රීතියක් මට ලැබුනේ ඒ නිසා. බැබලි බැබලී ඉන්න ප්‍රිය මනාප සැප උපද්දවන එළිය විහිදෙන ආලෝකයෙන් මේ විමානය බබළන්නෙ සංඝයා වහන්සේ නමකට කකුළු ව්‍යඤ්ජනයක් පූජා

කරපු නිසා කිව්වා. එතකොට බලන්න පින්වතුනි මේ ලෝකෙට තථාගයන් වහන්සේලා පහළ වීම තථාගත ශ්‍රාවකයන් වහන්සේලා පහළ වීම කොයිතරම් නම් ශ්‍රේෂ්ටද. පින්කෙතක්. දැන් සමහර වෙලාවට මේ මිනිස්සු ලොකුවට බණ දහම් දන්න අයත් නෙවෙයි. බුදුරජාණන් වහන්සේගේ දස බලඥාන විශාරද ඥාන, ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ත්‍රෛලෝකීය අවබෝධ ඥාන ඒ කිසිමදෙයක් මේ මිනිස්සු නොදන්නවා ඇති. නමුත් උපන් ශ්‍රද්ධාවට කරපු දානේ විපාක සුලුපටුද. රහතන් වහන්සේලාගේ පෙර ජීවිත කතා අහනකොට උන්වහන්සේලා අතීතයේ පලවැල පූජා කරපු පින් නුවණට උපකාරී වෙලා තියෙනවා. ඉතින් ඒවා දිහා බලනකොට මේ අය සමහරවිට දෙව්ලොවදින් ධර්මය අවබෝධ කරාවි. එහෙම නැත්නම් යම් දවසක ගෞතම බුදුරජාණන් වහන්සේගේ උතුම් ශ්‍රාවකයන් වහන්සේලා නිකෙලෙස් කරවීමට තරම් ඖෂධයක් වුන දානයක් පූජා කරපු පින ඔහුව සසර දුකින් නිදහස් කරවනවා. බලන්න ඖෂධ දානයක විපාක. තමන් දෙන ආහාරයකින් තවත් කෙනෙක් සුවපත් වුනාට පස්සෙ පින් ලැබෙන විපාක දෙස බලන්න. පුදුම සහගතයි. ඉතින් මේ වාගේ දේවලුත් පින්වතුනි ඉස්සර සිද්ධ වෙලා තියෙනවා. ඊළඟට අපේ මුගලන් මහරහතන් වහන්සේ ආයෙත් දවසක එක්තරා දිව්‍ය විමානයක වැඩම කරනවා. ඒ දිව්‍ය විමානයේ ගොඩාක් ආනුභාව සම්පන්න දිව්‍ය රාජයෙක් හිටියා. ඒ දිව්‍ය විමානයෙත් නොයෙක් තූර්ය වාදන සහිතව දිව්‍ය පංචකාම සැපය තියෙනවා. දිව්‍ය අප්සරාවො පිරිවරාගෙන ඒ දෙවියන්ව සතුටු කරවනවා. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දෙවියාගෙන් කරපු පින ගැන ඇහුවේ. ඊටපස්සෙ ඒ දෙවියා ඉතින් තමන්ගේ විස්තරය කිව්වා. මට දිව්‍ය වර්ෂ වලින් ස්වාමීනී දිව්‍ය අවුරුදු දාහක් ආයුෂ තියෙනවා. ඒ කියන්නෙ දිව්‍ය අවුරුදු දාහක් ආයුෂ තියෙන්නෙ තව්තිසාවෙ. දිව්‍ය අවුරුදු දාහක් කියලා කියන්නෙ පින්වතුනි මනුස්ස අවුරුදු තුන්කෝටි හැට ලක්ෂයක්. බලමු ඔහු කරපු පින මොකක්ද කියලා. මොහු ඒ කාලෙ මනුස්ස ලෝකෙ හිටපු, ගෞතම බුදුරජාණන් වහන්සේගේ කාලෙ මනුස්ස ලෝකෙ හිටපු එක්තරා මානවකයෙක්. ඊටපස්සෙ එක්තරා බ්‍රාහ්මණයෙක් බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා පැහැදිලා බුදුරජාණන් වහන්සේට වදාළා ස්වාමීනී, භික්ෂූන් වහන්සේලා හතර නම ගානෙ දිවි තිබෙන තුරා අපගේ නිවසින් දන් වළඳත්වා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා සලාක ගන්නවා නම් ස්වාමීන් වහන්සේලාට මතක් කරන්න කියලා. මතක් කලා. හැමදාම දැන් සංඝයා වහන්සේලා හතර නමක් ඒ උපාසකයා බ්‍රාහ්මණයාගේ ගෙදරට යනවා. ඉතින් බ්‍රාහ්මණයා නොයෙක්

කටුයතු තියෙන කෙනෙක්. කුඹුරු වල වැඩ, වතුපිටිවල වැඩ, වෙළහෙළදාම් වැඩ, පින්වතුනි ඉන්දියාවේ තියෙනවා අදටත් ඒ සමහර ගෙවල් තියෙනවා දැන් ගෙදර මැද තියෙද්දින් ගේ වටකරලා ප්‍රාකාරයක් තියෙනවා. ඒ ප්‍රාකාරය මුලින් දොරටුවක් තියෙනවා. දැන් සාමාන්‍යයෙන් ඒක අද ලංකාවේ තාප්ප වලින් වටවෙච්ච ගෙවල් වගේ වෙන්න පුලුවන්. එතකොට ගෙදර දොර ඒවා ඇතුලෙ තියෙන්නෙ. නමුත් ඒ මිදුලට ඇතුල්වෙන්නත් එළියෙන් දොරටුවක් තියෙනවා. ඉතින් ඒ කාලෙ හොරුන්ගෙන් වෙන කරදර, වනසතුරන්ගෙන් වෙන කරදර නිසා එළියෙ දොර ටිකක් වහලා තියෙන්නෙ. දැන් ස්වාමීන් වහන්සේලාට ඇතුලෙ බ්‍රාහ්මණයා, ඒ ගෙදර කට්ටිය දානෙ හදාන ඉන්නවා ස්වාමීන් වහන්සේලා ඇවිල්ලා එළියෙ දොර වහලා නිසා සමහර වෙලාවට හැරිලා වඩිනවා. පෙලක් ස්වාමීන් වහන්සේලා නම් කතා කරනවා. ඉතින් අර ගෙදර දානෙ කටයුතු ඔක්කොම කරන්නෙ උපාසිකාව. ඉතින් බ්‍රාහ්මණයා දවසක් ඇහුවා උපාසිකාවගෙන් හැමදාම සංඝයා වඩිනවා නේද. අනේ මේ දානෙ හදාගෙන ඉන්නවා හැමදාම, පෙළක් දවස්වලට වඩිනවා, පෙළක් දවස්වලට වඩින්නෑ, මගේ හිතේ අනිවාර්යයෙන්ම ඉස්සරහදොර වහලා තියෙන නිසා තමයි එහෙම වෙන්නෙ කියලා. ඊටපස්සෙ දොර ඇරලා තියන්න විදියකුත් නෑ. ඒ බ්‍රාහ්මණයා කලේ ගමේ මනුස්සයෙක් හොයාගෙන සිහිකල්පනාව තියෙන ඒ මනුස්සයා දොරටුපාලකයෙ විදියට තිබ්බා. දොරටුපාලකයා විදියට තියලා ඒ දොරටුපාලකයාට කිව්වා සංඝයා වඩිනකොට ආපහු හැරිලා යන්න තියන්න එපා, මේ බලන්න දන් දෙන්න කොච්චර ආසාවක් තියෙනවාද, කැමත්තක් තියෙනවාද කියලා. සංඝයා හැරිලා යයි කියලා, සංඝයා හැරිලා යයි, සංඝයා වෙහෙසට පත්වෙයි, සංඝයාට දානමානයෙන් කරදරයක් වෙයි, එහෙම හිතලා දොරටුපාලකයෙක් තිබ්බානෙ. ඉතින් දොරටුපාලකයා සංඝයා වහන්සේලා වඩිනකොට ස්වාමීනී වඩින්න කියලා ඇතුලට වඩම්මලා ඉඳගන්න හරිගස්සලා ආසන පැන් ටික තියලා දරණු තියලා ඒ පාත්තරයට දානෙ බෙදන්න පිළිවෙලක් කරලා ඇතුලට ගිහිල්ලා කියනවා ස්වාමි දියණියට ආර්යාවෙනි සංඝයා වැඩලා ඉන්නෙ කියලා. එතකොට බලන්න පින්වත්නි ඒ දානශාලාවක් හදලා ඒ පින කරගත්තා. දැන් සාමාන්‍යයෙන් ගත්තොත් ඔන්න අසපුවට දන්පැන් පූජා කරන කට්ටිය දන්නවා අසපුවෙ ඉන්න ළමයි කැපකරුවො එයාලා දන් ශාලාව හොඳට හදනවා. එතකොට එයාලා නෙවෙයි දන්දෙන්නෙ. එතොකට අර දොරටුපාලකයාත් නෙවෙයිනෙ දන් දෙන්නෙ. ඒ නමුත් දානෙ දෙන්න පරිසරය හදනවා. එහෙම හදලා කියනවා දැන් දානෙට කාලෙ හරි කියලා. ඉතින් අර

පින්වතුන් ගෙනල්ලා දානය පූජා කරනවා. ඔය විදියට හරී සන්තෝසෙන් දිවිතිබෙන තුරු ඒ උපාසක මහත්තයා, ඒ දොරටුපාලකයා ඒ සංඝයාට උපස්ථාන කරලා. ඒ පින් බලේට පස්සෙ කාලෙක කට්ටිය මරුමුවට පත්වුනා. ඒ බ්‍රාහ්මණයා ගිහිල්ලා ඉපදුනේ යාම දිව්‍යලෝකෙ. දොරටුපාලකයා ඉපදුනා තව්තිසා දිව්‍යලෝකෙ. දැන් බලන්න සත්පුරුෂයෝ ඉන්න තැනක ගේට්ටුව ළඟ හිටියත් තියෙන යහපත. සත්පුරුෂ මනුස්සයෙක් ඉන්න තැනක ගේට්ටුවේ දොරටුව ළඟ හිටියත් තියෙන යහපත බලන්න. පුදුම සහගතයි මේ සත්පුරුෂ ඇසුර නම් පින්වත්නි. සත්පුරුෂයන් සමඟමයි ඉන්න ඕන. සත්පුරුෂයෝමයි ඇසුරු කරන්න ඕන. සත්පුරුෂයන්ගේ ධර්මය තේරුම් ගන්න ඕන. ඒ අයට වරදින්නෙ නෑ. ඒ අය දුගතියට පත්වෙන්නෑ. ඒ අය දුකට පත්වෙන්නෑ. ඒ අය ශෝක කරන අයට බවට පත්වෙන්නෑ, දැන් අද කාලෙ මිනිස්සු සත්පුරුෂයෙක් ළඟ සේවය කරනවාද කියලා නෙවෙයිනෙ බලන්නෙ. බලන්නෙ පඩි කොහොමද තත්වෙ කොහොමද. දැන් එක ළමයෙක් ඇවිල්ලා කිව්වා ස්වාමීනී අපි හරියට කැමතියි අපි මේ ශාසනික වැඩ වලට එකතුවෙන්න. ඊටපස්සෙ නමුත් අම්මලා කැමති නෑ, අම්මලා කියනවා කියන්නෙ පඩි නැතත් කමක් නෑ, උඹ ගෙදරින් යන්න ඕන ටයිකෝට් ඇඳගෙන බෑග් එකක් අරගෙන. කක්කුස්සියක වැඩ කලත් කමක් නෑ, ටයි එකයි බෑග් එකයි අතේ තියෙන්න ඕන කිව්වලු. ඉතින් ඒ ළමයා මාත් එක්ක අඬාගෙන ඇවිල්ලා කියනවා විස්තර. එතකොට අම්මලාගෙ ලෝක කොහොමද. කවදාවත් මෙයා වැඩ කරන්නෙ සත්පුරුෂයෙක් ළඟද, හොරෙක් ළඟද, ඊළඟට කුඩුකාරයෙක් ළඟද, මෙහෙම ගියොත් අපේ ළමයට යන කලදසාව මොකක්ද, ඒවා මොනවාවත් බැලිල්ලක් නෑ, එක්කො පඩිය බලනවා, එක්කො නම්බුව. සමහර අයට තියෙනවා ආසාවක් වාහනයෙන් ගිහිල්ලා රස්සාව කරන්න ඇත්නම්, ඒ වගේ එක එක මිනිස්සු එක එක ලෝකවල ඉන්නවා. නමුත් මේ ලෝකයේ යම් තාක් සැප වින්දා නම් සත්ත්වයෝ සත්පුරුෂයන්ට සේවය කරපු අයමයි. ඉතින් ඒ නිසා කියනවා මම සත්පුරුෂයන්ට ඒ විදියට, මේ ඒ දිව්‍ය රාජයා, දොරටුපාලක. දැන් දොරටුපාල කතා නෑ, දැන් දිව්‍ය රාජයා. අප්‍රමාණ දිව්‍ය අප්සරාවො ඔහුට උපස්ථාන කරනවා. දිව්‍ය පංචතූර්ය නාදයෙන් බබලනවා. මිහිර ගෙනදෙනවා. මේ මුගලන් මහරහතන් වහන්සේ සමඟ කතා කරනවා. භාග්‍යවතුන් වහන්සේගේ ශාසනයේ අග්‍ර ශ්‍රාවකයන් වහන්සේ එක්ක දහම් කතාවේ යෙදෙනවා. පුදුම සහගතයි පින් වල විපාක. ඉතින් කියනවා. ඒ පිනෙන් තමයි කියනවා මට මෙච්චර සැප සම්පත් ඇතිවුනේ. වචනයෙන් යහපත කරලා තියෙනවා, හිතෙන්

පැහැදීම ඇතිකරගෙන තියෙනවා. පින්කමකට කලේ ඔච්චරයි මං, මං මේ උපස්ථාන කරලා හිත පහදවගත්තා. පින්සිතුවිලිත් එක්ක මං හිටියා. එච්චරයි මගේ අතින් ලොකුවට දානෙ දෙන්න මම උයපු දානයක් ජීවිතේට දීලා නෑ කියනවා. මේ අනුන්ගේ දානෙට උපස්ථාන කරලා කියනවා. කොච්චර පින් කරගන්න පුලුවන්ද පින්වතුනි. අන් අයගෙ දානෙට උපකාර කරලා වත් පිලිවෙත් කරලා කොටස් කාරයො වෙලා, ඒක තමන්ට කොයිතරම් යහපත පිණිස පවතිනවාද. ඒකයි බුදුරජාණන් වහන්සේ වදාළේ මහණෙනි යම්කිසි කෙනෙක් දන්පැන් පූජා කරනවාද ඒ දානෙට තවත් කෙනෙක් වත් පිළිවෙත් කරනවාද ඒ කියන්නෙ ලූණු ගෙඩියක් හරි ශුද්ධ කරලා උදව් වෙනවානම් ඒ සියලු දෙනා දානයේ කොටස් කරුවෝ වන්නාහුය. එහෙමයි බුද්ධ වචනයේ තියෙන්නෙ. ඉතින් ඒ නිසා ඔය විදියට තමයි ද්වාරපාල විමානවත්ථුව තියෙන්නෙ. ඒ නිසා දානයකට හොඳට වත්පිළිවෙත් කරන්න, උදව් කරන්න. ඊළඟට දන් ශාලා හදනකොට ඒවට උදව් උපකාර කරන්න. අපි කියමු සීල වැඩසටහන් තියෙනවා, කලින් දවසේ ඇවිල්ලා පන්සල ශුද්ධ කරලා වෙහෙර විහාර ශුද්ධ කරලා වැසිකිලි කැසිකිලි ශුද්ධ කරලා මිනිස්සුන්ට දන් දෙනවා නම් ඒවගේ පිඟන් කෝප්ප ශුද්ධ කරලා වත් පිළිවෙත් කරන එකේ. වත් පිළිවෙත් කරන එකේ. පහුගිය දවස්වල වෙහෙර විහාර වලට මිනිස්සු ඇතුල් වෙනකොට මිනිස්සුම එකතු වෙලා ඒ මිනිස්සුන්ව චෙක් කලා. ඔය පහුගිය කාලෙ බෝම්බ කලබලත් එක්ක. මිනිස්සුන්ගේ ආරක්ෂාවටනේ මේවා කරන්නෙ. මේවා ඔක්කොම වත්පිලිවෙත්. අපි ඒවා තේරුම් ගන්න ඕන. ඊටපස්සෙ කුණු කසල ඉවත් කරන ඒවා, කුස්සිය ශුද්ධ කරන ඒවා, ඒ ඔක්කොම වත් පිළිවෙත්. ඒ සෑම දේකින්ම විපාක සැලසෙනවා. සමහර මිනිස්සු ඔය පහුගිය බෝම්බ කලබල කාලෙ ඇවිල්ලා, ගෙවල්වල අඹුදරුවො දාලා ඇවිල්ලා සමහර වෙලාවට වෙහෙර විහාර රැකපු මිනිස්සුත් හිටියා. ඒ මිනිස්සුන්ට ඒක බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඉතින් ඒනිසා පින කියන එක සුලුදයෙක් නෙවෙයි. පින කියන එක ආශ්චර්‍යය දෙයක්, අද්භූත දෙයක්. සිතාගත නොහැකි තරම් තමන්ගේ ජීවිතේ වෙනස් කරන දෙයක් තමයි පින කියලා කියන්නෙ. ඉතින් අපි බලමු ඊළඟ දිව්‍ය විමානය. ඒකත් හරී පුදුම සහගත දිව්‍ය විමානයක්. අප්‍රමාණ දිව්‍ය සැප විඳින දිව්‍ය රාජයෙක්. දිව්‍ය අප්සරාවො දහස්ගාණක් ඔහුට යටත්ව වාසය කරනවා. ඉතින් මම දිව්‍ය විමානයක් කියලා කියනකොට මම මීට කලිනුත් කිව්වා ඔබ ඒක තේරුම් ගන්න ඕන ඒවගේ තියෙන සැප සම්පත් අප්‍රමාණයි කියලා. වචනෙන් කිව නොහැකියි කියලා. ඊටපස්සෙ මුගලන් මහරහතන්

වහන්සේ මේ දිව්‍යරාජයාගෙන් අහනවා මේ තරම් සැප සම්පත් විඳින්න මනුස්ස ලෝකෙ ඉන්න කාලෙ අප්‍රමාණ පින් කරන්න ඇති නේද. අනේ ස්වාමීනී අප්‍රමාණ කතාවක් නෑ, මම දවසක් කැලේ දර කපන්න ගියා. දර කපන්න ගිහිල්ලා දර කපලා විකුණන මනුස්සයෙක්. මම කැලෙන් එළියට එනකොට මගේ පින කියන එක බලන්න ස්වාමීනී තථාගත ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ වනයෙදීම මට පාරෙ මුණගැහුනානෙ. එදා වනයේදී මං ආහාරයට ගන්න මම රැගෙන ගිය ආහාර කොටස මම තථාගත බුදුරජාණන් වහන්සේට පූජා කලා. ඒ බුදුරජාණන් වහන්සේට මගේ ආහාර කොටස පූජා කලා කියලා යමක් ඇද්ද මුළු ජීවිතේටම මං කලේ ඔච්චරයි. මෙන්න කිව්වා දිව්‍ය සැප සම්පත්තිය මනුස්ස ආයුෂ වලින් අවුරුදු තුන්කෝටි හැටලක්ෂයක් තියෙනවා, එතනින් එහාටත් මට දුගතියක් පේන්නෑ කියනවා. කොච්චර සැප සම්පත්ද, ආහාර පාන දීලා. දැන් ඊළඟට තියෙන දෙවනිකරණීය විමානවත්තුවෙත් ඔය වගේම සිද්ධියක්. ඒ ස්වාමීන් වහන්සේ නමකට කැලේදි මුනගැහිච්ච ස්වාමීන් වහන්සේ නමකට දන් දීලා. පින්වතුනි දානය දීමේ, දැන් මෙතන තියෙන්න හිත පහදවා ගැනීම. චේතෝ පසාද හේතුහි සත්තා ගච්ඡන්තු සුග්ගතිං. හිත පහදවා ගැනීම, පුංචි දෙයක් කරලා ලොකුවට හිත පහදවාගන්නවා. අද ලොකු දෙයක් කරලා පොඩියට හිත පහදවාගන්නවා. මොකද ඒ ලොකු පින්කමක පිනට වැඩියෙන් ගන්නෙ ඒකෙන් වැරදිච්ච ඒවා, මං උදාහරණයක් කියන්නම්. ඔන්න දානයක් හදනවා. ඒ දානෙට අපි සම්බෝලෙකුත් හදනවා. දානයට ව්‍යඤ්ජන දහයක් හදනවා කියන්නකො. ඔන්න දානෙ ගෙනිහිල්ලා පූජා කරන්න ඔක්කොම ටික මේසෙ හරිගස්සලා පූජා කරනකොට සම්බෝලය ගේන්න අමතක වෙලා. දැන් හිතට එන්නේම අයියෝ කොච්චිත් දැම්මා, උම්බලකඩත් දැම්මා. දෙහිත් මිරිකුවා, මේ වාගේ සම්බෝලයක් නම්, ඒක ගේන්න බැරිවුනානෙ. දැන් අර ව්‍යඤ්ජන නවයක් ගෙනාවා. ඒක මතක නෑ, නොගෙනාපු එක ව්‍යඤ්ජනය මතකයි. එතකොට දානෙ බෙදද්දි, බත් බෙදද්දි, ව්‍යඤ්ජන බෙදද්දි හොදි බෙදද්දි පපඩම් අල්ලද්දි බැදපු මිරිස් අල්ලද්දි ඔක්කෝම, ඒ හැම එකක්ම කරද්දි මතක් වෙන්නෙ සම්බෝලෙ තිබ්බානම්. සම්බෝලෙ තිබ්බනම් ඒ වගේ. ඊළඟට සමහර වෙලාවට ඔය දානයක් ගෙනල්ලා අපි කියමු එක ව්‍යඤ්ජනයක් ගත්තෙ නෑ කියලා. ඒ ගත්තෙ නැති එකම හිතට යනවනේ. දැන් ඔන්න අපි කියමු අද කාලෙ තරුණ හාමුදුරුවරු ඉන්නෙ. ඉස්සර ගොඩක් හාමුදුරුවරු විට කන නිසා දිවට සැරට මොනවහරි ඕන, අච්චාරු පංකාදුයි. දැන් තරුණ හාමුදුරුවරු අච්චාරු කන්නෑ

කියලා හිතන්නකො. වයසක අම්මලා පරණ පුරුද්දට මැටි මුට්ටියෙ අච්චාරු දාලා අම්මේ එතනින් එහා දෙයක් නෑ, ඔලුවේ තියාගෙන අරන් එන්නෙ. එහෙම අරන් ඇවිල්ලා දානෙ බෙදනකොට අර අච්චාරුව කව්රුහරි ගත්තෙ නෑ කියන්නකො. එතකොට අර අච්චාරුවෙ හැඳි දෙකයි. මොකක්ද අර බෙදපු අච්චාරුයි ඔලුවයි. දෙකම කැලැත්ති කැලැත්තී තියෙනවා. මූණ එල්ලිලා. ගත්තෙ නෑනෙ කවුරුත්. කොච්චර රහට හැදුවද. ගමේ ඔක්කොම මිනිස්සු කියනවා මුන්දෑ හදන අච්චාරුව තරම් රහ එකක් නම් නෑ කියලා. මේ උන්නාන්සේලාට තේරෙන්නෑ ඒවා. හාමුදුරුවනේ මේ අච්චාරු කියද්දිවත් ගත්තෙ නෑ. ඕකම මතකයි. සූරියවැව පැත්තෙ මට මතකයි එක්තරා ගෙදරක උපාසිකාවකට ගමේම ප්‍රසිද්ධයි උපාසිකාවක් කියලා. ඈය මැරුණා. මැරුණට පස්සෙ දුවගෙ ඇඟට එනවා පෙරේතියක් වෙලා. ඈය ඇවිල්ලා කියන්නේම ඔන්න ඕකට සාපේක්ෂ කතාවක්. දවසක් සංඝයාට දානය පූජා කරන්න යද්දින් දානය අරන් නෑ, මැරෙනකොටත් ඕක මතක් වුනා කියනවානෙ මගේ දානෙ ටික ගත්තෙ නෑ කියලා. ඉතින් කියනවා ඒ ඇඟට ඇවිල්ලා කියනවා අනේ හාමුදුරුවන්ට දන් බෙදද්දී හිත නම් අපහදවගන්න එපා මට මැරෙනකොටත් ඒකයි මතක් වුනේ කියනවා. සංඝයා ගැනම අපැහැදීම තියෙන නිසා දානයේ පින් ගන්නත් බෑ කියලා තමයි ඒ පෙරේති කියන්නෙ. දැන් බලන්න හිත පහදවාගන්න අද කාලෙ මිනිස්සුන්ට කොච්චර අමාරුද කියලා. ඒ නිසා පින්වතුනි මේ බලන්න. හිත පහදවාගන්න එක දානයකින්. දැන් දානයේ ආනිසංස තියෙනවා. දානයක් පූජා කලාට පස්සෙ ඒ දානයේ භවබෝග සම්පත් ආයුෂ ශක්තිය ඒවා උපදිනවා. ඊළඟට මම දැක්කා පින්වත්නි, ලක්ඛන සූත්‍රයේ, බුදුරජාණන් වහන්සේ අතීතයේ ඉතාමත් රසට රසට ප්‍රණීතව දන් දීලා, රසට රසට ප්‍රණීතව දන් දුන්නට පස්සෙ එහි විපාකය තමයි පින්වත්නි, තමන්ට සංසාරයේ රසට ප්‍රණීත විදියට ලැබෙනවා. ප්‍රණීත පංචකාමය ලැබෙනවා. තව විශේෂ දෙයක් තියෙනවා. පින්වතුනි රසට දන් දුන්නම විශේෂ දෙයක් තියෙනවා. ඒ තමයි රසට දන් දුන්න කෙනාට අග්‍ර රසය තමයි විපාක විදියට ලැබෙන්නෙ. පංචකාමය හොඳට විඳ විඳ ඉන්නවා එයා, රසට දන් දීලා. එයාට ධර්මයක් ඇහෙනවා. තථාගත ශ්‍රී සද්ධර්මය ඇහෙන තැනක බුද්ධ ශාසනයක් තියෙන තැනක පින්වතුනි ලෝකයේ අග්‍ර රසය වෙන්නෙ දහම් රසය. එතකොට සංසාරෙ රසට දන් දුන්න කෙනා පංචකාමය අත්හැරලා නෙක්ඛම්මය අල්ලනවා කියනවා. ගිහිගෙදර ඉක්මණට අත්හරින්න පුලුවන් කියනවා පින්වතුනි ප්‍රණීතව දන් දුන්න අයට. රසට දන්දුන්න අයට ඉක්මණට ගිහිගෙය අත්හරින්න

පුලුවන් කියනවා. දැන් බලන්න අපි නොදන්නවා වුනාට දන්දීමේ විපාක. පුදුම සහගතයි කියන්නෙ ඒකයි පින්වතුනි මේ පින් වල. ඊටපස්සෙ පින්වතුනි මේ බලන්න තවත් එහෙම සිද්ධියක්. අපි බලමු මේක නම් ගොඩක් විස්තර කරන්න ඕන මෙහෙම පිනක් නම්. ඒ තමයි මොහුගේ මේ දිව්‍ය රාජයා, මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ විමානය දුටුවේ. හරී ලස්සනයි, මැණික් වලින් කණු තියෙනවා. යොදුන් දොළහක් දුරට තියෙනවා. ඒ කියන්නෙ කිලෝමීටර් එකසිය විස්සක් ඒ විමානෙ. උස් මුදුන් ඇති ගෙවල් හත්සීයක් තියෙනවා. කාමර හත්සීයක මාළිගාවක්. වෛරෝඩි මැණික් වලින් සම්පූර්ණයෙන් මාණික්‍ය මාළිගාවක්. සිත්කළුයි සුන්දරයි. ඒ ඒ දිව්‍ය රාජයා සතුටින් අනුභව කරනවා පානය කරනවා දිව්‍ය අප්සරාවන් ලක්ෂ ගානක් ඒ දිව්‍ය රාජයාට සැප පිණිස පවතිනවා. ඊටපස්සෙ රත්තරන් ආභරණ වලින් සැරසිලා දුකක් නැතිව ලෙඩ දුකක් නැතිව සිනහමුසු මුහුණින් දිව්‍යරාජයා ඉන්නවා. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ කාරණාව ඇහුවේ. ඇත්තෙන්ම දිව්‍ය රාජය මොකක්ද මෙච්චර ආනුභාවයක් විඳින පින. කියනවා ස්වාමීනී, මට නම් මේකට කියන්න තියෙන්නෙ මෙච්චරයි. ඒ දිව්‍ය රාජයා කියනවා. යං දදාති න තං හෝති, යමක් දුන්නොත් ඒකනම් නෙවෙයි ලැබෙන්නෙ. මට ඔච්චරයි කියන්න පුළුවන්නෙ කිව්වා. ඊටපස්සෙ කියනවා යම් දෙයක් දුන්නට පස්සෙ දෙනවා කියන එකමයි ශ්‍රේෂ්ට. දෙන දේ නෙවෙයි ලැබෙන්නෙ. ස්වාමීනී, මං මොකක්ද කලේ සුචිදින්නා සුචිමේව සෙයයා, මං දුන්නෙ ඉදිකට්ටක්. මං දුන්න එක කොච්චර හොඳද. මේ බලන්න කිව්වා මුළු විමානයම මුළු දිව්‍ය සැපයම ඔක්කොම ඉදිකට්ටක් පූජා කරලා කිව්වා. එදා අපගේ සාරිපුත්ත මහරහතන් වහන්සේ සිවුරු මහන දවස කිව්වා. උන්වහන්සේ ඔක්කෝම එකතු කරලා තිබ්බා කිව්වා, සිවුරු රෙදියි නූලුයි, උන්වහන්සේට ඉදිකට්ටක් නෑ, උන්වහන්සේ එදා අපේ ගමේ වඩිද්දි අපි ඉදිකටු, අපි රෙදි මහන මිනිස්සු, අපේ ගේ ඉස්සරහාපිටත් සාරිපුත්තයන් වහන්සේ වැඩහිටියා. හැබැයි ඒ හවස් කාලයේ. ස්වාමීනී මේ හවස් කාලයේ ඔබ වහන්සේට අපෙන් දෙන්න පුලුවන් දෙයක් තියෙනවා නම් අපි ඕනම දෙයක් දෙන්න කැමතියි. උපාසකය මට කිසිවක් අවශ්‍ය නෑ. එක ඉදිකට්ටක් තිබ්බොත් ඇති. මට හරීයට සතුටු හිතුනා. ගේ ඇතුලට දුවගෙන ගිහිල්ලා ඉදිකට්ටක් ගෙනල්ලා උන්වහන්සේට මම පූජා කලා. මම උන්වහන්සේ ළඟ වන්දනා කරලා කියා හිටියා, ස්වාමීනී ආයෙ ඉදිකටු ඕන වුනොත් අපේ ගෙදරටම එන්න ඕන කියලා. එදා සාරිපුත්ත මහරහතන් වහන්සේ මම පූජා කරපු ඉදිකට්ටෙන් තමයි ඒ සිවුර මහගත්තෙ. මට හරී සතුටුයි. ස්වාමීනී හැබැයි එදායින් පස්සෙ

කවදාවත් ආයෙ මං ඒ උත්තමයන් වහන්සේ දැක්කෙ නෑ, සංඝයාට මට ආයෙ දානෙ පූජා කරගන්නත් බැරිවුනා. ජීවිතේටම පූජා කරපු ඒවගෙන් මතක ඉදිකට්ට විතරයි කිව්වා. මේ බලන්න කිව්වා දිව්‍ය සැප සම්පත්තිය. පින්වතුනි දිව්‍ය ලෝකයේ දිව්‍ය සැප මනුස්ස දිව්‍ය, සමහර වෙලාවට මේ ඉදිකට්ට පූජාවේ ආනිසංස විදියට තව කොච්චර කල්ප ලැබෙයිද දන්නෑ. හේතුව සරුසාර කුඹුරකයි මේ වැපිරුවෙ. ඔබ දැකලා තියෙනවාද සුවිශාල නුගරුක්ෂයෝ. ඒ සුවිශාල නුග රුක්ෂය හැදෙන බීජය තල ඇටයටත් වැඩිය පුංචියි. විශාල නුගරුක්ෂයක් හැදෙනවා. ඒ වගේ මේ ඉදිකටු පූජාව. මා දුටුවා මිලින්දවච්ඡ මහරහතන් වහන්සේ සංසාරේ ඉදිකට්ටක් පූජා කරලා උන්වහන්සේට ඒකෙ පින් බලය විදියට ලැබිලා තියෙනවා ආනිසංස කවදාවත් සැක ඇතිවෙලා නෑ, කවදාවත් සැක හිතෙන්නෑ, සමහරු ඉන්නවානෙ සැකයෙන්මනෙ. මානසික ලෙඩක් තියෙනවානෙ හැමඑකක්ම සැක කර කර යන එකක්. සැක හිතෙන්නෑ කියනවා සංසාරෙ. විමතියක් ඇතිවෙලා නෑ කියනවා. තීරණයක් ගද්දිනුත් මේක හරිද වැරදිද කියලා හිතිලම නෑ කියනවා සසරේම ඉදිකටු පූජා කරපු දවසේ ඉඳලා. ඊළඟට ලස්සන ශරීරයක් ලැබිලා, ඉදිකටු පූජාවේ ආනිසංස විදියට. අනිත් එක තමයි ඉදිකටු තුඩ තියුණුයිනෙ. තියුණු නුවණක්. ප්‍රශ්නෙකට උත්තර දෙකක් නෑ. කෙලින්ම තනි උත්තරේම කියනවා. ඊළඟට ගෞතම බුද්ධ ශාසනයේ තියුණු වහා හටගන්න ප්‍රඥාවක් ඇතිවෙලා තියෙනවා ඉදිකටු පූජාවේ ආනිසංස විදියට. පුදුම සහගතයි. ඉතින් මේ බලන්න. ඒ පිනෙන් තමයි මට මෙවැනි ලස්සනක් ලැබුනෙ. ඒ පිනෙන්මයි සම්පත් ලැබුනෙ. සිතට ප්‍රීතිය උපදවන මේ සැප සම්පත් ඔක්කෝම ලැබුනෙ ඒ නිසාමයි. කියනවා මට ලැබුනු දිව්‍ය සැපසම්පත්තිය ඉදිකටු තුඩ තරම්ම තියුණුයි කියනවා. ඉදිකටු තුඩ තරම්ම දිව්‍ය සම්පත්තිය තියුණුයි කියනවා. මේ බලන්න හිතේ පැහැදීම. අද කාලෙ අපි ඉදිකට්ටක් පූජා කරන එක ගණන් ගන්නවාද පින්වත්නි. මං නම් හිතන්නෑ මේ ලංකාවෙම ලෝකෙම කොහෙහරි ඉඳියිද කියලා ඉදිකට්ටක් පූජා කරලා සන්තෝසෙන් ඉන්න පුලුවන් කෙනෙක්. ඉදිකට්ටක් පූජා කරලා හිතන්නෙ අනේ අපිට බැනෙ ඉතින් අටපිරිකරක් පූජා කරගන්න විදියක් නැනෙ, කරුමෙනෙ, මාත් මේ මිනිහත් එක්කම ආවනෙ කියලා ගැණු පස්සෙ බනින්නෙ මිනිහලාට. මොකාක්වත් පූජා කරගන්න බැරි තැනක ඉපදුනා කියලා. ඉදිකට්ටක් පූජා කරලා සතුටු වෙන්න පුලුවන් හදවතක් අද නම් හිතාගන්න අමාරුයි. පින්වතුනි වටිනාම දේ කියලා කල්පනා කරන්න පූජා කරන දේ නෙවෙයි, හිත. දෙන්න පුලුවන් හිත. වතුර කෝප්පයක් හරි දෙන්න පුලුවන් හිත

ගැන හිතන්න. වටිනාම දේ එතන තියෙන්නෙ. ලෝභ මනුස්සයාට ඉදිකට්ටක් වත් දෙන්න බෑ. ලෝභ මනුස්සයාට, හිත හොඳ නැති මනුස්සයාට ඉදිකට්ටක්වත් දෙන්න බෑ, ඒ නිසා ඉදිකට්ටක්වත් දෙන්න පුලුවන්නෙ හිත හොඳ මනුස්සයාට. ඒ නිසා ඔබ පූජා කරලා තියෙන්නෙ පැන් පොදක් නම් ඒක හරි සිහිකරන්න. සතුටෙන් වාසය කරන්න. පින තියෙනවා විපාකය තියෙනවා ඕනවෙන්නෙ එය ලබාගන්න කැමති වෙන ඔබගේ හිත. පසුතැවෙන්නැති හිත, දොම්නසට පත්නොවෙන හිත තමයි අවශ්‍ය වෙන්නෙ. ඉතින් ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේ ඒ වගේම සැප විඳින තව දිව්‍ය රාජයෙක් දැක්කා. එයත් කරලා තියෙන්නෙ එහෙමයි. එයත් ඉදිකට්ටක් පූජා කරලා ඉදිකටු ගුලාවක් එක්ක. ඉදිකටු ගුලාවක් කියලා කියන්නෙ ඉදිකට්ට දාන කොපුවක් එක්කම. දැන් අරයා නිකම්ම ඉදිකට්ට. ඉතින් අර විදියටම සැප සම්පත් තියෙනවා. මෙයත් කියනවා දෙන දේ නම් නෙවෙයි ලැබෙන්න කියලා. ඇයි ඉදිකට්ටක් පූජා කරලා ඉදිකට්ටක් නෙවෙයිනෙ ලැබුනෙ. කොච්චර දේවල් ලැබුනාද. අනිත් එක රහතන් වහන්සේලාත් එක්ක කතා කරන්න ලැබෙන එක. දැන් මේක මිස් වුනානම් කතා කරන්න ලැබෙන්නෙ යම රජ්ජුරුවොත් එක්කනෙ. වටේ ඉන්නෙ යම පල්ලොනෙ. දැන් ඉන්නෙ දිව්‍ය අප්සරාවොනෙ. පුංචි දෙයින් වෙනස් වෙනහැටි බල්න්න. පොඩ්ඩක් කල්පනා කරන්න. ඉතින් ඒ නිසා පින්වත්නි කොච්චර ආනුභාවසම්පන්නයිද මේ කියලා කල්පනා කරන්න දන් දෙන්න. මං බැලුවා පිලින්දවච්ඡ මහරහතන් වහන්සේ තමයි ගොඩාක් ඔය අතීතෙ හිතලා හිතලා ගොඩාක් පින්කම් කරලා. උන්වහන්සේ ඒ හැම පිනකම ආනිසංස කියනවා. ඉදිකටු ගුලාවක ආනිසංස මොනවද කියලා මං බැලුවා. ඒකෙ තියෙනවා ඉදිකටු ගුලාවේ ආනිසංස තමයි කියනවා යන එනකොට හිඳිනකොට සෑම ඉරියව්වකම සුවසේ ඉන්න පුලුවන් වෙනවා. දැන් ඉදිකටු ගුල දාන්නෙ අර කොපුවට අනතුරක් නොවෙන්නනෙ, ආරක්ෂාවටනෙ. ඒ නිසා සිව් ඉරියව්වෙන්ම අනතුරක් වෙන්නෑ, ආරක්ෂා කාරීව ඉන්න පුලුවන් වෙනවා කියනවා. ඊළඟට තමයි හොඳට ධ්‍යාන වඩන්න පුලුවන් කියනවා. ඊළඟට තමයි කියනවා තමන් හිතේ හොඳට කුසලයක් උපද්දවාගත්තොත් ඒ කුසලය වැනසෙන්නැතිව හොඳට තියෙනවා. ඉදිකටු ගුලාවෙ දාපු ඉදිකට්ට වගේ. කොහොමද දෙන දේ ලැබෙන හැටි. පංචකාමය ලැබෙන්න ගියාට පස්සෙ ඒවා. ලෝකෝත්තර දේ ලැබෙන්න ගියාට පස්සෙ ඒ විදියට. ඒ නිසා දෙන දේ විපාක ඇත. පුදුම සහගත වූ සැප සම්පත් පිනෙන් උපද්දවනවා. බලන්න පින්වතුනි මේ වගේ පුණ්‍යකර්ම වල විග්‍රහයන්, මේවා සුරංගනා කතා නෙවෙයි, අපි ගොතපු

කතා නෙවෙයි, මේවා රහතන් වහන්සේලා මතකෙන් දරාගෙන ආපු බුද්ධ කාලේ සිද්ධ වෙච්චි දේවල්. ශ්‍රී සද්ධර්මයේ තියෙන දේවල්. එතකොට බලන්න තමන්ගෙ ජීවිතේට පිනක් රැස් වුනාට පස්සෙ ඒ පිනෙන් තමාව සුවපත් කරන හැටි. දැන් අපි බලමු ඊළඟ දිව්‍ය විමානය. ඒ දිව්‍ය විමානෙත් අපේ මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දිව්‍ය විමානෙට යන්නෙ. ඒකත් අමුතු දිව්‍ය විමානයක්. අහනවා ඔබ මේ ඉන්නෙ අහස් ගමන් ඇති හස්තිරාජයෙකුගේ පිටේ. මේ ඇතා සුදුම සුදුයි. විශාල දළ දෙකක් තියෙනවා. ලස්සනට සරසලා ඒ වගේම බලවත්, ජව සම්පන්නයි. මේ ඇතාගේ දළ දෙක මත නිල්වන් ජලය තියෙනවා. පිපුණු නෙළුම් තියෙනවා. ලස්සන පොකුණු දෙකක් තියෙනවා. ඒ පිපුණු නෙළුම් මත පංචාංගික තූර්ය නාදය මිහිරට නාද වෙද්දි මේ මනහර දිව්‍ය අප්සරාවන් ලස්සනට නටනවා. මතකද මීට කලිනුත් ඔය ඇත් විමානයක් ගැන කිව්වා. එතකොට ඇතාගෙ දළ දෙක උඩ තමයි පොකුණු තියෙන්නෙ. ඒ පොකුණු වල තමයි නෙළුම් තියෙන්නෙ. ඒ නෙළුම් උඩ තමයි දිව්‍ය අප්සරාවො නටන්නෙ. එතකොට හිතන්න ඒ හස්ති රාජයා කොච්චර විශාලද කියලා. ඒ දිව්‍ය රාජයාගේ මුළු විමානෙම ඇතා උඩ තියෙන්නෙ. අපි බලමු මෙහෙම දිව්‍ය විමාන පහළ වෙන්න ඇයි කියලා. අධිපති වෙලා දිව්‍ය ලෝකෙ දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන ඉන්න දිව්‍ය රාජය නුඹ කුමක්ද කලේ මනුස්ස ලෝකෙ මෙච්චර සැප සම්පත් ආනුභාව විමානෙක ඉන්න. මහා ඍෂිවරයාණන් වහන්සේ වන කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ ස්තූපයට නටුවෙන් ගිලිහුණු මල් අටක් මේ දෑතින්ම පූජා කරගත්තා. එච්චරයි. කාශ්‍යප තථාගත බුදුරජාණන් වහන්සේගේ පින්වතුනි, කාශ්‍යප බුදුරජාණන් වහන්සේ අවුරුදු විසිදාහක් වැඩ හිටියා. දීර්ඝ ආයුෂ තියෙන බුදුරජාණන් වහන්සේලාගේ ධාතූන් වහන්සේලා බෙදෙන් නෑ. උන්වහන්සේලා ආදාහනය කලාට පස්සෙ එක ධාතූන් වහන්සේ නමයි ඉතිරි වෙන්නෙ. තුන් ලෝකෙක සත්ත්වයෝ එක ධාතූන් වහන්සේට තමයි වඳින්නෙ. කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ ධාතු සෑය පින්වතුනි රත්තරනින් කලේ. ඊටපස්සෙ රත්තරනින් හදපු සෑයට මුළු ප්‍රදේශයේම මිනිස්සු එකතු වෙලා එක දවසක් මල් පූජාවක් කලා. ඒ මල් පූජාවට මුළු රටේම තියෙන මල් එකතු කරලා මිනිස්සු අරන් ආවා. ඉතින් ඔය විදියට ඉන්නකොට කුලී වැඩ කරලා ඉන්න මනුස්සයෙක් ඉන්නවා, මනුස්සයා උදේ පාන්දරම ගියා කුලී වැඩ කරන්න, එක ගෙදරකින් වත් ගන්නෙ නෑ, ඔක්කෝම මල් කඩනවා පේනවා. ඊටපස්සෙ මිනිස්සු පෝලිමට යනවා. ඊටපස්සෙ මෙයා ඇහුවා ඇයි කියලා. අද මේ ලෝකයේ අද මේ ජනපදයේ මේ පුරයේ සියලු දෙනාම රන්වන්

ස්තූපයට මල් පුදන දවසයි කිව්වා. ඉතින් මෙයා කල්පනා කලා ඔක්කොම යනවා. දුප්පත් මිනිස්සුත් යනවා. මේ මනුස්සයා දන්නෙත් නෑ මේවා. ඊටපස්සෙ මොකද කරන්නෙ කියලා කල්පනා කරනකොට බැලුවා කිසිම තැනක මල් නෑ. ඊටපස්සෙ මල් පිණිසම හදපු රජ්ජුරුවන්ගේ උද්‍යානයක් තියෙනවා ඒවා මිලට තමයි ගන්නෙ. මේ මනුස්සයා මුළු ජීවිත කාලෙටම එකතු කරපු කහවණු අටක් තිබ්බා. ඒ කහවණු අටත් අරගෙන මල් ටිකක් හොයන්න ගියා උද්‍යානයට. ඇයි ඔක්කොම මල් පූජා කරනවානෙ, මාත් පූජා කරනවා. රජතුමාගේ උයනේ මල් උයන් දොරටු පාලකයා හිටියා, කිව්වා මල් අනේ එක මලක් නෑ කිව්වා, පොහොට්ටුත් එක්ක අරන් ගියා කියලා කිව්වා. අනේ එහෙම කියන්න එපා කහවණු අටක් තියෙනවා නිකන් නෙවේ ඉල්ලන්නෙ. නෑ එම්බා පුරුෂය කොහොම ඉල්ලුවත් මල් නෑ කිව්වා. මං පොඩ්ඩක් බලන්නද කියලා ඇහුවා. ඊටපස්සෙ හා කිව්වා. තිබ්බොත් ඉතින් උඹගේ පින මිසක්කා මලක් නම් ඉතුරු වෙන්න විදියක් නෑ කිව්වා. හැමතැනම ඇවිද්දා ඇවිද්දා ඇවිද්දා මල් නෑ. හැබැයි දැක්කා එක මල් ගහක බිම වැටිලා තියෙනවා මල් අටක්. පුදුම සතුටුයි. ඒ මල් අට එකතු කරගෙන කිව්වා උයන්පල්ලාට මේ බලාපං මල් තිබ්බා මට. කිව්වා මෙහෙමත් මල් අටක් තිබ්බා නම් උඹගෙම පින කිව්වා. කිව්වා මට මල් හොයාගන්න දුන්නු හින්දා මෙන්න කහවණු අට. කහවණු අට උඹට දෙනවා මං මල් අරන්. කිව්වා මේක උඹගෙ පිනට හම්බෙච්ච එකක්. කහවණු එපා. නෑ නෑ මට කහවණු ඕන නෑ, මට මල් ඕනෙ කියලා මල් අරන් ගියා. අද කාලෙ මනුස්සයෙක් නම් කහවණුත් ඉතුරුයි මලුත් ලැබුනා, චාන්ස් එක. දෙවියන්ටත් පින් දෙනවා. සල්ලි ඉතුරු කරපු එකට. දැන් බලන්න පිනක් කරද්දි හිතෙන් අත්හරින එක. ඒ අත්හැරීමේ තියෙන තියුණු බව නිසා තමයි මෙච්චර ආනුභාවය. දැන් ඉන්න විදිය බලන්න. මේ කුලී වැඩ කරපු මනුස්සයෙක්නෙ. මනුස්ස ලෝකෙ. මේ පින කියන්නෙ පින්වතුනි අසිරිමත් දෙයක්. ඊටපස්සෙ කාශ්‍යප බුදුරජාණන් වහන්සේගෙ සෑයට මල් පිදුවා. පස්සෙ කාලෙක මැරුණා. එකම එක දවසයි මල් පිදුවෙ බිමට වැටිච්ච. අද කාලෙ හතර පෝයට සිල් ගන්න උපාසක අම්මා කෙනෙක් දැක්කා නම් බිම වැටිච්ච මලක් ගන්නවා නම් බනිනවා පරම්පරාවම සිහි කරලා. බිම වැටිච්ච මල් ගන්න එපා කියලා. කවදාවත් මිනිස්සු ශ්‍රද්ධාවක් ගෞරවය කියන එක බාහිරින් බැලුවා මිසක්කා හදවතේ තිබ්බ ගෞරවය කවුරුත් බලන් නෑ. ඒවා මෙතන පේන්නෙත් නෑ, මිනිස්සු ඒවා දන්නෙත් නෑ, ඒවගේ ඒවා අහලත් නෑ. නුඹලා එහෙම වෙන්න එපා පින්වත්නි. මනුස්සයෙක් බිම වැටිච්ච මලක් වුනත් කවුරුහරි ආසනේ

තියනවානම් සාදු කියන්න. ඔබට හිත දෙන්නැත්තනම් බිමට වැටිච්ච මලක් පූජා කරන්න ඔබ මල අයින් කරන්න. අනිත් අයගේ ඒවට බණ කියන්න යන්න එපා. මේ බිම වැටිච්ච මල් නෙවෙයි පූජා කරලා තියෙන්නෙ. මේකෙ අනිත් පුදුමය මොකක්ද දන්නවාද, කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කාලෙ මල් පූජා කලේ. මේ මුගලන් මහරහතන් වහන්සේ අහන්නෙ අපේ බුද්ධ ශාසනේ. මේ පොළොව ගව් හතක් වැඩෙනකල් දිව්‍ය ලෝකෙ. තවමත් දිව්‍ය ලෝකෙ. බිම වැටිච්ච මල් අටක් පූජා කරලා. හිතේ පැහැදීම. හොඳ වෙලාවට අකුල් හෙලන්න කෙනෙක් ළඟ හිටියෙ නෑ, නැත්නම් බිම වැටිච්ච ඒවා පූජා කරන්න එපා පලයං පලයං කියයි. දැන් ළඟදින් කවුරු හරි එක්කෙනෙක් කියලා තිබුනා මේ මල් පූජාව වැරදියි, මල් හොඳට පූජා කරන්න මල දිහා බලාගෙන ඉන්න ඕනලු සමන් පිච්ච මල් දිහා එහෙම මෙහෙම පිජේනකොට ගහේදිම පූජා කරගන්න ඕනලූ, ඒකලු සැබෑ මල් පූජාව. මොකාක්හරි මනුස්සයන්ගේ හිත්වලට මොනවහරි දෘෂ්ටියක් එනවා නේද, ඒ දෘෂ්ටියෙන්ම මනුස්සයා යැපෙනවා, කර්ම කරනවා. උපාදාන වෙනවා, භවය රැස් වෙනවා. ඊට අනුව උපත සිද්ධ වෙනවා. මේ බලන්න පහන් සිත. ඒ නිසා මේවානම් ඉගෙන ගන්න ඕන පින්වත්නි. අපේ තියෙන දෘෂ්ටි ගැලවිලා යන්න මේවා ඉගෙන ගන්න ඕන. හිත පහදින්න ඕන. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඇයි ඉස්සෙල්ලා කිව්වෙ දෙන දේ නෙවෙයි වටිනාකම තියෙන්නෙ හිතේ පැහැදීම, ඒ නිසා පහන් සිතින් අප්‍රමාණ පින්දහම් රැස් කරගන්න ඔබට වාසනාව ලැබේවා කියලා සතුටු සිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා.

අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ නො. 195/ඩී, දෙල්ගහවත්ත, අංගොඩ යන ලිපිනයේ පදිංචි පින්වත් නිර්මල ලක්මාල් දිසානායක මහත්මයා සහ ඉසුරී නයනමාලී දිසානායක මහත්මිය. ඉතින් මේ පින්වතුන් ඉතාම ශ්‍රද්ධාවෙන් අද අනන්ත අප්‍රමාණ මේ පින රැස් කරගන්නෙ. මේ ධර්මය අහලා මිනිස්සුන්ගේ හිත්වල තියෙන වැරදි අදහස් අනවබෝධ දුරු කරගත්තොත් ඒක සුලුපටු පිනක් නෙවෙයි. අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ නො. 195/ඩී, දෙල්ගහවත්ත, අංගොඩ යන ලිපිනයේ පදිංචි පින්වත් නිර්මල ලක්මාල් දිසානායක මහත්මයා සහ ඉසුරී නයනමාලී දිසානායක මහත්මිය විසින්. මේ ඇත්තන් අප්‍රමාණ පින් රැස්කරගත්තා. ඉතින් මේ ධර්මය අහලා යම්කිසි කෙනෙක් අනවබෝධය දුරු කරගත්තොත් වැරදි අදහස් නැති කරගත්තොත් සැබෑ තත්ත්වය තේරුම් ගත්තොත්, පින් කුසල්

ගැන තේරුම් ගත්තොත් ඒක සුළුපටු දෙයක් නෙවෙයි. ඒක ඉතින් ධර්ම දානය දෙන පින්වතුන්ට එය මහත් වූ ආනිසංසයක්. ඉතින් අපි ධර්මය දේශනා කරපු පින අපි රැස් කරගත්තු පින, ඔබ රැස් කරගත්තු පින අනුමෝදන් කරලා, එය සිහි කරලා අධිෂ්ටාන කරමු ලෝකෙටත් ලංකාවටත් ව්‍යසනයක් වුන මේ කොරෝනා වසංගතය ලෝකෙන් දුරින්ම දුරු වෙලා මේ මනුෂ්‍ය වර්ගයාට යහපත රැකවරණය සැනසිල්ල සැලසේවා කියලා පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු. පින් කැමැති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ යස ඉසුරු වඩා වර්ධනය වෙත්වා, බුදු සසුනත් ලක් දෙරණත් මේ සියලුම මනුස්ස වර්ගයාත් ආරක්ෂා කරත්වා, දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය ඩී.එම්. බුද්ධදාස පියාණන්ට, සෝමා අමරසිංහ මහත්මියට, චමින්ද පෙරේරා මහත්මයාට, අමරසේන මහත්මයාට, ටියුලින් මහත්මයාට, පුණ්‍යසේන මහත්මයාට, විමලාවතී මහත්මියට සහ චන්ද්‍රාවතී මහත්මියට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ මියපරලොව ගිය ඥාතීන්ටත් කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ටත් මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් ධර්මාවබෝධයටම මේ පින් අනුමෝදන් වෙත්වා කියලා පින් පමුණුවනවා. ඒ වගේම නිර්මල ලක්මාල් දිසානායක මහත්මයාටත් ඉසුරි නයනමාලි දිසානායක මහත්මියටත් මේ පින් අනුමෝදන් වේවා, සුජීවත්ව සිටින නිහාල් ඉලංගසිරි, ශ්‍රියාලතා ටෙක්ලා යන දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුව සැලසේවා. නිර්මල ලක්මාල් දිසානායක මහත්මයා සහ එම ඉසුරි නයනමාලි දිසානායක මහත්මියට, ඒ වගේම ලෙහන්සා රජනි ඒ වගේම නදිල ලොහස්, ඒ වගේම සඳකිණි මාධූර්යා යන දරුවන්ටද, මේ පින් අනුමෝදන් වෙත්වා, ඒ වගේම පින්කම් වලදි උදව් උපකාර කරන දිනේෂ් රසිකා සමිත සඳුන් කුෂාණි ශමිල් සෙව්වන්දි ඇතුළු සියලු දෙනාටත් ඒ වාගේම මල් අම්මාටත් මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී සුවපත් භාවයත් මේ පින් බලයෙන් ධර්මාවබෝධයටත් මේ පින හේතු උපකාර වේවා. ඒ වගේම මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට ලක්විරු ගුවන් විදුලියේ ශ්‍රද්ධා රූපවාහිනියේ ධර්ම දායකත්වය සපයන සියලු දෙනාට, කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් පින්දහම් කුසල් දහම් අපේ ජීවිතයට පුරාවටම රැස් කරගෙන

ගෞතම සසුනේ පිහිට ලබාගන්නටත්, නිවනින් සැනසෙන්නටත් මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=7SlxhjCEg1Y&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=15

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේත් මේ පින්වතුන්ට වාසනාව ලැබෙනවා ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පින්පව් ගැන තියෙන ලොකු විස්තරයක් අඩංගු ඒ විමානවත්ථු පේතවත්ථු දහම් පරියායෙන් අපි ඉගෙන ගන්නේ විමානවත්ථුවේ දෙවියන්ගේ විමානවල ඒ දෙව්වරු සැප විඳින්නෙ කුමන කුමන පින් කරලාද කියලා දැනගන්න එකට. ඉතින් ඒ නිසා අද දවසේත් දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ පූනෑව, මැදවච්චිය යන ලිපිනයේ පදිංචි පින්වත් කැලුම් සමීර මහත්මයා සහ පොළොන්නරුව ජයන්තිපුර පදිංචි පින්වත් චාමික හෙට්ටිආරච්චි මහත්මයාත්, දිලිනි විමලරත්න මහත්මිය යන පින්වතුන් එකතුපහදු වෙලා අද මේ ධර්ම දානය සිද්ධ කරන්නෙ. ලක්විරු ගුවන්විදුලිය සහ ශ්‍රද්ධා රූපවාහිනිය ඔස්සේ මේ උතුම් ධර්ම දානය ලෝක සත්ත්වයාට සලසා දෙන පින මේ දායකත්වය දරණ පින්වතුන්ට බොහෝ කාලයක් හිත සුව පිණිස යහපත පිණිස පවතිනවා. ඉතින් ඒ නිසා ඒ ගැන හිතලා අප්‍රමාණ සන්තෝෂයට සතුටට පත්වෙන්න ඕන. ඉතින් පින්වත්නි, අදත් අපි ඉගෙන ගමු උතුම් විමානවත්ථුවක්. දැන් අපි මීට කලින් වැඩසටහනේ ඉගෙන ගත්තා නටුවෙන් ගිලිහුණු මල් අටක් පූජා කරලා, ඒ පින් බලෙන් කාශ්‍යප බුද්ධ ශාසනයේ දෙව්ලොව ඉපදිලා අදටත් දෙව්ලොව සිටිනවා. එතකොට ඒ අතරතුර ඒ දිව්‍ය ආයුෂ ඉවරවුනාම චුතවෙලා ආපහු ඒ දිව්‍ය විමානෙම උපදිනවා. ඒ විදියට තමයි

බොහෝ කාලයක් දිව්‍ය ලෝකෙ වාසය කරන්නෙ. ගොඩාක් කාශ්‍යප බුද්ධ ශාසනයේ පින් කරගත්තු ගොඩාක් අය දැනටත් ඉන්නවා. දැන් ඊළඟට ඒ වගේ තමයි පින් කරගත්තොත් කෙනෙක් ගෞතම බුද්ධ ශාසනයේ ඔහුට මෛත්‍රී බුද්ධ ශාසනය දක්වාම සමහරවෙලාවට දෙව්ලොව ඉන්න පුලුවන්. සමහර විට සාමාන්‍යයෙන් බුද්ධාන්තරයක් දෙව්ලොව වාසය කරනවා කියන එක සුලුදෙයක් කියලා හිතන්න එපා. ඇයි ඒ අතර කලබැගෑනි කොච්චර වෙනවද, ඒ අතරෙ මිනිස්සුන්ගෙ අතින් කොච්චර පව් සිද්ධ වෙනවාද. මනුස්ස ලෝකෙ ඉපදිලා. ඉතින් ඒවගෙන් සතර අපායට වැටෙනවානෙ. ඉතින් ඒ නිසා දෙව්ලොව සැප කියන එක ඒ සුගති රැකවරණය සාමාන්‍ය දෙයක් නෙවෙයි පින්වත්නි. ඉතින් ඒ වගේම තමයි අපි දුටුවා නෙත්තිප්‍රකරණය, මේ අසිරිමත් පොත් වහන්සේ කියලා මේ මහමෙව්නාවේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ විසින් පරිවර්තනය කරන ලද පොත, නෙත්තිප්‍රකරණය ත්‍රිපිටක ග්‍රන්ථයේ පින ගැන තියෙන විස්තර තියෙන තැන්වල තියෙනවා එක දාසයෙක් තමන්ගෙ ස්වාමියාත් එක්ක මල් පූජා කරද්දි, ඒ මලක් බිමට වැටුනා. ඊටපස්සෙ ඔහු කූඩෙ තියලා අර බිමට වැටිච්ච මල පූජා කලා. ඒ පින් බලේට අපේ ගෞතම බුද්ධ ශාසනේ අර්හත්වයටත් පත්වුනා. එක මලක් පූජා කරලා. ඉතින් ඒ නිසා අපිට අර සමාජායෙ තියන නීති රීති රෙගුලාසි සාමාන්‍යයෙන් සමාජයේ තියෙන නීති රීති රෙගුලාසිනෙ බිම වැටිච්ච මල් පූජා කරන්න හොඳ නෑ, ඒ ඔය වගේ ගොඩාක් දේවල් මිනිස්සුන්ගෙ තියෙනවානෙ. තමන්ගේ ගෞරවය තමන් රැකගන්න ඕන. එහෙම කියලා බිමවැටිච්ච මල් පූජා කලා කියල අප්‍රමාණ පින් සැලසෙනවා කියලා ගහේ සමන්පිච්ච මල් තියෙද්දින් බිමවැටිච්ච මල් පූජා කරනවා කියන එක නෙවේ මේ කියන්නෙ. වෙන විකල්පයක් නෑ එතන. ඒක තේරුම් ගන්න ඕන. දැන් සේපාලිකා මල් සාමාන්‍යයෙන් බිමට වැටිච්ච මල් එකතු කරලා සෝදලානෙ පූජා කරන්නෙ. සමහර අය කරනවා සේපාලිකා ගහේ යට බිම පිරුවට අතුරලා ඒ පිරුවට වැටෙන මල් පූජා කරනවා. ඒකත් හොඳයි. ඒකත් හොඳයි. ඉතින් ඒ නිසා තම තමන් කරන පිළිවෙලට විපාක සැලසෙනවා. අහවල් දේ හොඳ නෑ කියලා එකක් නෑ, දැන් ඉදිරියට තියෙනවා බලන්න දියබෙරලියා මල් පූජා කරලා දිව්‍ය ලෝකෙ ඉපදිලා තියෙනවා. දිය බෙරලියා මල්. මතකද, වැටකොළු මල් හතරක් පූජා කරන්න ගිහිල්ලා මගදින් මැරිලා දිව්‍ය ලෝකෙ විඳපු විස්තර විපාක. ඒ නිසා මේ බුද්ධ ශාසනේ කියලා කියන්නෙ සුලුදෙයක් නෙවෙයි. මේවා සාමාන්‍යයෙන් මනුස්සයෙකුට හිතාගන්නවත් බැනෙ. සාමාන්‍යයෙන් ඉදිකට්ටක් පූජා කලාම මෙහෙම වෙයිද,

කියලා හිතාගන්නවත් බැනෙ. ඒකයි අචින්තයයි කියන්නෙ. යම්කිසිකෙනෙක් අග්‍ර දේකට පැහුදුනොත් විපාකෝ හෝති අචින්තයො, ඒවා හිතන්න බෑ, සිතාගත නොහැකි විපාක සැලසෙන්නෙ. ඉතින් ඒ නිසා දැන් බලන්න ඊළඟට අද අපිට ඉගෙන ගන්න තියෙන්නෙ විමානවත්ථුවේ පහේ එකොළොස්වෙනි කතා වස්තුව. ඒ වස්තුවේත් තියෙන්නෙ අප්‍රමාණ සැප විඳින විශාල දිව්‍ය ඇතෙක් මත විමානයක් තියෙන දෙවියෙක්. මේ දෙවියාගෙන් මුගලන් මහරහතන් වහන්සේ අහලා බලනකොට මොකක්ද පින කියලා, කියනවා මං අතීත ජීවිතේ මනුස්ස ලෝකේ මනුස්සයෙක් වෙලා හිටියෙ. මං ඒ සදහම් ඇස් ඇති බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වූ උපාසකයෙක් වෙලා හිටියා. මං සතුන් මැරීමෙන් වැළකුණා. ලෝකයේ සොරකම කියන දේ මං දුරු කලා. මං මත්වෙන දේවල් පාවිච්චි කරපු කෙනෙක් නෙවෙයි. බොරු කියපු කෙනෙකුත් නෙවෙයි. මං සතුටු වුනේ මගේ බිරිඳත් එක්ක විතරයි. මම දන්පැන් පූජා කරගත්තෙ පහන් සිතින්. පිළිවෙලකට මහා දාන මම දීලා තියෙනවා. ඒ පිනෙන් තමයි මම මෙච්චර සැපක් සොම්නසක් මට ලැබුනේ කියලා ඒ දෙවියා කියනවා. එයා ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ හිටපු උපාසකයෙක්. තෙරුවන් සරණ ගිහිල්ලා, පන්සිල් රැකලා, දානමාන දීලා, සුචරිතය මුල් කරගෙන දෙව්ලොව ඉපදුනා. ඊටපස්සෙ දැන් අපිට අද විශේෂ කාරණාවක් තව කතා කරන්න තියෙනවා. ඒ තමයි ඊළඟ විමානවත්ථුවේ, තියෙන කාරණාව. මේ දිව්‍ය පුත්‍රයාත් මුගලන් මහරහතන් වහන්සේට කියා සිටින්නෙ තවත් දිව්‍ය රාජයෙක්. ඒ දිව්‍ය රාජයා කරලා තියෙන පින විශේෂයි. මොකක්ද ඒ, මනුස්ස ලෝකේ ඉද්දින් ස්වාමීන් වහන්සේලා සැවැත් නුවරට වඩිනවා. සැවැත් නුවරට වඩිද්දි, සැවැත් නුවරට අඩ යොදුනක් තියෙද්දින් ඒ කියන්නෙ කිලෝමීටර් පහක් විතර දුරින් රෑ වුනා උන්වහන්සේලාට. අවට යන්න එන්න තැනක් නැතිවුනාම ළඟ තියෙනවා උක් විමානයක්. ඒ කියන්නෙ උක් කුඹුරක්, කෙතක්. උක් ගස්. ඒ කෙත ළඟට ගිහිල්ලා යනකොට ඒ කෙතේ බලාගන්න පාලකයා මුණගැහුනා. මුණගැහුනාට පස්සෙ ඇහැව්වා අනේ සැවැත්නුවර කොච්චර දුරද, අනේ ස්වාමීනී අඩ යොදුනක් තියෙනවා. දැන් යන්න පුලුවන්ද. අනේ ස්වාමීන් වහන්ස මේ අඩ අඳුර වැටුන වෙලාවෙ දැන් නම් යාගන්න වෙලාව මදි. අනේ අපිට ඉන්න තැනකුත් නැනෙ. ඔබ වහන්සේලා කැමති නම් මං ඉන්න තැනක් හදලා දෙන්නම්. අනේ කොහෙවත් කමක් නෑ, ඩිංගිත්තක් මේ රැය පහන් වෙනකල්. එහෙනම් ඉන්න ස්වාමීණී කියලා මෙයා මේ උක් කෙතේ, අර උක් ගස් තියෙන කෙතේ, උක් ගස් ටිකක් මෙහෙම නවලා උඩින් ගැටගහලා ඒකට පිදුරු දාලා

වටේට පින්න වැටෙනවාට යටටත් පිදුරු දාලා ස්වාමීන් වහන්සේ මේකෙ වැඩ ඉන්න කිව්වා. තවත් තැනක උක්ගස් ටිකක් එහෙම එකතු කරලා ඒකට උඩින් තණකොල දාලා බිම වටේට තිබ්බ තණකොල ටිකක් කපලා ඔය උඩින් දාලා යටටත් තණකොල අතුරලා ඒකෙ ඉන්න කිව්වා. තව එකක් එහෙම මෙව්වා කරනකොට උපාසකය මං ගාව පරණ සිවුරක් තියෙනවා, කියලා අර ස්වාමීන් වහන්සේ පරණ සිවුරක් දුන්නා. ඊටපස්සෙ අර උක් ගස් ටික එකතු කරපු එකට උඩින් පරණ සිවුර දාලා යටටත් පරණ පොඩි සිවුරක් දාලා පච්ඡතරණයක් අතුරලා ඒකේ ඒ ස්වාමීන් වහන්සේ සැතපුනා. කුටි තුනයි. උදේ පාන්දරම ඔහු උක්පැණිවලින්, හාල් ටිකක් ලිපේ තියලා උක්පැණි දාලා කිරිබතක් හදලා පූජා කලා තුන්නමට. ස්වාමීන් වහන්සේලා තුන් නමක්. ඊටපස්සෙ උන්වහන්සේලා සෙත් ප්‍රාර්ථනා කලා. යන්න හදනකොට කිව්වා ස්වාමීනී, එහෙනම් අනුකම්පාවෙන් කියලා උක් ගහක් අරන් කෑලි වලට කපලා පාත්තරවලට දැම්මා මගදිනුත් වළඳන්න කියලා. ඊටපස්සෙ ඒ ස්වාමීන් වහන්සේලා ඒ උක් ටිකත් මෙහෙම තියාගෙන දැන් ඉතින් වඩිනවා. වඩිනකොට ඒ ඉඩමෙ අයිතිකාරයා එනවා දැන්. උක් කෙතේ අයිතිකාර මනුස්සයා. දැන් මනුස්සයා එනකොට දැක්කා පාත්‍ර වල උක්ගස් තියෙනවා. මේ ඔබ වහන්සේලාට කොහෙන්ද උක් ගස්. අන්න අහවල් කෙතෙන් දුන්නෙ. කවුද දුන්නෙ. ඒ කෙත බලාගන්න එක්කෙනා තමයි දුන්නෙ. අපි ඊයෙ රෑ හිටියෙත් එහේ කියලා කිව්වා. ඊටපස්සෙ ඇහුවා කොහෙ ඉඳලද එන්නේ, ඊටපස්සෙ කිව්වා අපි සැවැත් නුවර, මෙහෙ මොකද, ඊයෙ යාගන්න තැනක් නැතිවුනා මෙතන හිටියෙ කියලා. ඔහු මහළු බමුණෙක්. සංඝයා පේන්න බැරි කෙනෙක්. ආවා කේන්තියක්, හයියෙන් හයියෙන් අඩිය තියලා එන් ගමන් මගදින් ගත්තා හොඳ රිටකුත්. ලොකු පොල්ලක්. අරගෙන මේ කෙත බලාගන්න මනුස්සයාට මෙහෙ වරෙන් කියලා ආයෙ කිසිදෙයක් කතාබහ කලේ නෑ. ඔළුවටම ගැහුවා. එතනම මැරිලා වැටුනා. මේ මිනිස්සුන්ට තරහා කියන එක බලන්න ක්‍රෝධය, වෛරය. දැන් බලන්න බුද්ධ කාලයේ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න කාලෙ රහතන් වහන්සේලා වැඩ ඉන්න කාලෙත් මිනිස්සුන්ට වෙච්ච අකරතැබ්බ බලන්න. මේ මිනිස්සු මැරෙනවා කියන එක, මිනිස්සුන්ට කරදර එනවා කියන එක, මිනිස්සුන්ට ලෙඩදුක් එනවා කියන එක පින්වතුනි ආශ්චර්‍ය්‍ය දෙයක් නෙවෙයි. ආශ්චර්‍ය්‍ය දේ තමයි දවසක් වත් අපි සැනසිල්ලෙන් හිටපු එක. ඊටපස්සෙ ඒ මනුස්සයා එතනම මැරිලා තමා මේ දිව්‍ය විමානෙ ඉපදුනේ. ඇත් වාහන, ඊළඟට තූර්ය වාදන, දිව්‍යංගනාවො ඊළඟට එයාගෙ සම්පූර්ණ විමානෙ තියෙන්නෙ

ඇත් විමානයක්. මහ විශාල ඇතෙක්ගෙ පිට. ඉතින් ඒ නිසා දිව්‍ය ගාන්ධර්ව ඇවිල්ලා ඔහුව සතුටු කරවනවා. අප්‍රමාණ සැප සම්පත් විඳිනවා. මේ දෙවියා ඉපදුනේ සුධර්මා කියන දිව්‍ය නිකායේ. තව්තිසාවේ සුධර්මා කියන දිව්‍ය නිකායේ. හොඳටම දහම නිතර ඇහෙන දිව්‍ය නිකායක්. ඉතින් කියනවා මං මනුස්ස ලෝකෙ ඉද්දින් ඔන්න ඔය කුටි පූජාව තමයි කලේ කියනවා. උක්දඬු වලින් ගෙයක් හැදුවා, තණ වලින් ගෙයක් හැදුවා, රෙදිපිලි වලින් ගෙයක් හැදුවා, ඉතින් මේ ගෙවල් තුනෙන් එකක් දීපු නිසයි සුධර්මා කියන දිව්‍ය නිකායේ ඉපදුනේ. ඉතින් බලන්න එහෙම කුටියක් හදලා ඒ විදියට දිව්‍ය සැප වින්දා නම් සාමාන්‍යයෙන් අද කුටි සෙනසුන් පූජා කරන අය සියලු පහසුකම් සහිතවනෙ, වැසිකිලි කැසිකිලි සහිතව, මංමාවත්, සක්මන්, ඒ ඔක්කොම සහිතව අද කාලෙ මිනිස්සු කුටි හදලා පූජාකරනවා. එතකොට ඒ කුටි හදලා පූජා කරන මිනිස්සුන්ට කොච්චර පිනක්ද. මේකෙ තියෙන වටිනාකම තමයි පින කිරීමයි, සිත පහදවා ගැනීමයි. අමාරුම දේ තමා පිනක් කරනවාට වැඩිය හිත පහදවා ගන්න එක. ඉතින් ඒ නිසා තමන් කරපු පින් දහම් කුසල් දහම් ගැන නිතර දෙවේලේ සතුටින් වාසය කරන්න සිහි කරලා. ඊටපස්සෙ ඊළඟ දිව්‍ය විමානයේ කතාවක් තියෙනවා. මේ සුජාත විමානය. ඒ තමයි අස්සක රටේ අස්සක රජ්ජුරුවන්ට පුතෙක් ඉපදුනා. ඔහුගේ නම සුජාත. ඊටපස්සෙ මේ සුජාත කුමාරයා ටිකක් ලොකු වුනාට පස්සෙ ඒ කුමාරයාගේ මව්, අගබිසව කළුරිය කලා. වෙන බිසවක් ගෙනාවා, කාලයක් යනකොට දරුවෙක් ලැබුනා. රජතුමා සන්තෝසෙට කිව්වා බිසව ඔයාට ඕනම වරයක් දෙන්නම්, පස්සෙ ඉල්ලන්නම් රජතුමනි. ඒ දෙවෙනි කුමාරයාට අවුරුදු දහසය වුනාට පස්සෙ ඒ බිසව කිව්වා මගේ පුතාට රජකම දෙන්න ඕන කියලා. මහරජ්ජුරුවෝ කිව්වා මොනවද මේ කියන්නෙ, ලොකු කුමාරයා සුජාත කුමාරයා ඉද්දින් කොහොමද පොඩි එක්කෙනාට රජකම දෙන්නෙ. ඊටපස්සෙ මහරජ්ජුරුවන්ට හිතුනා මේ කුමාරයට අනතුරක් වෙයි කියලා පුතේ උඹ වෙන රාජධානියක ජීවත් වෙයන් කිව්වා. අනේ රජතුමනි, මං වෙන රාජධානියක මට ඉන්න බෑ, මං කැලේට වෙලා මං කැලේ සතුටින් ඉන්නම්, මං හරි කැමතියි කිව්වා කැලේ ඇවිදින්න. කෙහොමහරි කොහේ හරි බේරිලා ඉඳපං, මං මැරිච්ච කාලෙක ඇවිල්ලා රජකම ගනින් කිව්වා. ඊටපස්සෙ මේ කුමාරයා දැන් දඩයම් කරගෙන කැලේ වාසය කරනවා. ඔහොම ඉන්නකොට මේ කුමාරයා, කලින් කාශ්‍යප බුද්ධ ශාසනයේ මහණ වෙලා හිටපු කෙනෙක්. ඉතින් කාශ්‍යප බුද්ධ ශාසනයේ මහණ වෙලා මෙයාගෙ යාළුවෝ දෙව්ලොව ඉන්නවා. බලන්න සත්පුරුෂයොත් එක්ක ඉන්න

එකේ වාසනාව. සත්පුරුෂයො ඇසුරු කිරීමේ වාසනාව. සත්පුරුෂයන්ගේ දහම දන්න එකේ වාසනාව. ඊටපස්සෙ මොකද වුනේ ඒ එක දෙවියෙක් මුවෙක් විදියට වෙස් මාරු කරගෙන අර කැලේ හිටපු කුමාරයා ළඟින් දුවගෙන ගියා. ඊටපස්සෙ කුමාරයා දුන්නයි ඊතලයයි අරන් දිව්වා. ඒ මුවා ගියේ ඒ කැලේ ඉන්නව කච්චාන මහරහතන් වහන්සේ. මේ අපේ බුදුරජාණන්වහන්සේ පිරිනිවන් පාපු කාලේ. අපේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ වෙච්ච එකක්. කච්චාන මහරහතන් වහන්සේ ඒ කැලේ හිටියා. කච්චාන මහරහතන් වහන්සේ කියන්නෙ ඉතාමත් ශරීරය අතිශයින් රන්වන් මහාආනුභාව සම්පන්න රූප සෞන්දර්යයක් තිබ්බ උත්තමයෙක්. උන්වහන්සේ තමයි කෙටියෙන් දේශනා කරපු ධර්මය විස්තර විභාග වශයෙන් දේශනා කරන්න දක්ෂ. කච්චාන මහරහතන් වහන්සේගේ ශරීරය රන්වන් පැහැ වුනේ කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ මීට කලින් පහළ වෙච්ච කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ චෛත්‍යය හදද්දි රන් ගඩොලක් පූජා කලා. ඒ රන් ගඩොල් පූජාවේ ආනුභාවයට උන්වහන්සේ උපනූපන් ජීවිතයේ රත්තරන් පාටයි. ඊටපස්සෙ කච්චාන මහරහතන් වහන්සේ තමයි කැලේ හිටියේ. ඒ රහතන් වහන්සේ ඉස්සරහට තමයි අර මුවා, දෙවියා මුවෙක් විදියට වෙස් මාරු කරගෙන ඇවිල්ලා අර කුමාරයා එතෙන්ට ගෙන්නුවා. දැන් අපෙත් මිහින්තලාවේ මිහිඳු මහරහතන් වහන්සේ ළඟට දේවානම්පියතිස්ස රජ්ජුරුවො කැන්දගෙන ගියෙ මිහින්තලා පර්වතවාසී දෙවියෙක්නෙ වෙස් මාරු කරගෙන ආවෙ මුවෙක් විදියට. බලන්න මේ සත්පුරුෂයන්ගේ ඇසුර. ඊටපස්සෙ ඒ වෙලාවෙදි තමයි, ඒ වෙලාවෙදි තමයි අර කුටිය ඉස්සරහපිට දැන් අර කුමාරයා ඉන්නවා මුවා නෑ, ඒ වෙලාවෙ කච්චාන මහරහතන් වහන්සේ තමයි අහන්නෙ ඔබේ අතේ දුන්නක් තියෙනවා, ඔන්න දැන් තමයි විමානවත්ථුව පටන් ගන්නෙ. හොඳ මෝරපු අරටුවකින් කල මේ දුන්න හරි දැඩියි. එහි එක් කොනක් පයෙන් ඔබාගෙන ඉන්නෙ. කවුද ඔබ, රජ කෙනෙක්ද, රාජ කුමාරයෙක්ද, එහෙම නැත්නම් වනාන්තරයේ ඇවිදගෙන යන වැදි පුත්‍රයෙක්ද. සුජාත කුමාරයා කියනවා, ස්වාමීණී මං වනාන්තරයේ ඇවිදිනවා, මං අස්සක රජ්ජුරුවන්ගේ පුතා. පින්වත් භික්ෂුව ඔබට මගේ නම කියන්නම් මං ගැන කවුරුත් දන්නෙ සුජාත කියලා. මං මේ මුවන්ව හොයාගෙන යනවා. එහෙමයි මේ වනය ඇතුලට ආවෙ. මං මුවෙක්ව දැක්කෙ නෑ, මං මේ නැවතුනේ ඔබව දැකලා. කච්චාන මහරහතන් වහන්සේ කියනවා ඔබ මහා පින්වන්තයෙක්. ඔබේ පැමිණීම යහපත් එකක්මයි. ඔබේ පැමිණීම අයහපත් එකක් නම්

නොවෙයි. ඔන්න ඔතනින් වතුර අරගෙන ඔබේ පා සෝදගන්න. මේ තියෙන්නෙ සීතල වතුර. ඔය පැන් ගෙනාවෙ කන්දෙ ගුහාවෙන්. රාජපුත්‍රය ඔයින් පැන් ටිකකුත් වළඳලා මේ ඇතිරිල්ලේ වාඩිවෙන්න. ඊටපස්සෙ මහා මුනින්ද්‍රයාණෙනි, ඔබේ වචන හරිම සුන්දරයි, කන්කළුයි. කිසි වරදක් නෑ, අර්ථවත්, මධුරයි. තේරුමක් ඇතිවමයි ඔබ කතා බස් කරන්නෙ. කතා කරන ක්‍රමයටම සුජාත කුමාරයා පැහැදුනා. ඊටපස්සෙ කියනවා ශ්‍රේෂ්ට ඍෂිතුමනි මේ වනයේ වාසය කරන, මොන වගේ දේකටද ඔබ වහන්සේ ඇලිලා ඉන්නෙ, මේ කැලේකට වෙලා මං අහන්නේ මේ ගැනයි, ඔබ වහන්සේගේ වචනය අහලා අර්ථය දැනගෙන ධර්මය දැනගෙන අපි පිළිපදින්න කැමතියි, ඔබවහන්සේ කියන දෙයක් අපි කරන්න කැමතියි, ඔබ වහන්සේ හරි ලස්සනට කතා කරනවා. පින්වත් කුමාරය හැම සත්ත්වයන් කෙරෙහිම අහිංසාව පැතිරීමමයි අපේ රුචිකත්වය, මං නම් කැමති ඔක්කොටම අහිංසාව පතුරවන්න. හොරකම් කරන්නෑ, අශීලාචාර දේවල් නෑ, මත්පැන් නෑ, මේවගෙන් වැළකී ඉන්න එක තමයි ධර්මයේ හැසිරෙනවා කියන්නෙ. බහුශ්‍රැත භාවය ඇති කරගන්න එක, කෙලෙහිගුණ දන්න එක මෙලොවදීම ප්‍රශංසාව ලැබෙන කාරණා. ඇත්තෙන්ම මේව තමයි ප්‍රශංසා ලැබිය යුත්තේ. සිල් රකින එකයි, හොඳට ධර්මය දන්න එකයි, කෙලෙහිගුණ දන්නවා නම් ඒවට ප්‍රශංසා ලැබෙන්න ඕන කියනවා. බලන්න පින්වතුනි, කෙලෙහිගුණ දන්න එක, මුල මතක තියෙන එක, අද කොච්චර කීදෙනෙකුට කෙලෙහිගුණ නැද්ද කියලා බලන්න. මුල මතක නැද්ද කියලා බලන්න. ඊටපස්සෙ ධර්මය දන්න එකට ගරු කරන්න ඕන කියනවා. සිල් රකින එකට ගරු කරන්න ඕන කියනවා. අන්න ඔය වගේ ගුණධර්ම පුරුදු කරන එක තමයි ධර්මයෙහි හැසිරෙන එක. රාජපුත්‍රය, ඊටපස්සෙ මේ වගේ කතා කරනකොට දැන් ස්වාමීන් වහන්සේට හිතුනා මේ කුමාරයා ධර්මය අහන්න කැමැති කෙනෙක්. ඊටපස්සෙ උන්වහන්සේ තමන්ගෙ ඥාණයෙන් බැලුවා මේ ළමයාට කොච්චර ආයුෂ තියෙනවාද කියලා. බලන්න පින්වතුනි කර්ම ශක්තිය, තව මාස හතරකින් මැරෙනවා මෙයා. රාජපුත්‍රය තව මාස පහකින් මෙපිට ඔබගේ මරණය සිද්ධ වෙනාව. ඊට කලින්ම තමා අපාය දුකින් තමාව අපා දුකින් මුදවගන්න. සංසාරෙ අනික් කර්ම ඇවිල්ලා මෙයා අපායට යනවා. කොහොමටත් සසරේ යන චතුරාර්ය සත්‍යය අවබෝධ නොකරපු කෙනෙක් නම් සතර අපායට යොමු කරගෙන ඉන්නෙ. අපාදුකින් නිදහස් වෙන්න කිව්වා රාජකුමාරයාට. ඊටපස්සෙ මේ රාජකුමාරයා ගොඩාක් සංවේගයට පත්වුනා. ඒ මං කොයි ජනපදයටද යන්නෙ. මොනවගේ දෙයක්ද කරන්නෙ, මොනවගේ

පුරුෂ කාර්යයක්ද කරන්නෙ, මොනවගේ විද්‍යාවක්ද, මේ ජරා මරණ වලින් නිදහස් වෙන්න මම මොකක්ද කරන්නෙ, මරණයෙන් නිදහස් වෙන්න මං මොකක්ද කරන්න ඕන කියලා ඇහුවා. දැන් අපි කියමුකෝ දැන් ඔය පහුගිය කාලෙ ආරම්භ වුනු කොරෝනා වසංගතය ඒ තැන් තැන් වල පැතිරිලා යද්දි ඒ මලගම් ගැන, ඊළඟට රටේ ලෝකෙ මිනී මැරෙන ඒවා ගැන නිතර අහන්න ලැබෙද්දි අපි කරාත් මරණය එයි කියලා හිතද්දි දැන් පින්වතුනි අපි කොහොමද මරණයෙන් ගැලවෙන්නෙ. මතකද යාපනය පැත්තෙ මරණෙන් ගැලවෙන්න කියලා වතුරෙ එබි එබී ඉඳලා අර මොකක්ද පූජකයෙක් ඒ මිනිස්සුන්ටම කොරෝනා බෝ කලානෙ. මරණයෙන් ගැලවෙන්න ගිහිල්ලා මරණය උරුම වුනානෙ. ඊටපස්සෙ කියනවා රාජපුත්‍රය කෙනෙක් යම් තැනකට ගිහිල්ලා ජරා මරණ වලින් නිදහස් වෙනවා නම් ඒ විදියෙ තැනක් නෑ කියනවා මරණෙන් ගැලවෙන්න. ඒ විදියේ විද්‍යාවකුත් නෑ කියනවා. ඒ විදියෙ පුරුෂ කාර්යයකුත් නෑ කියනවා. මරණෙන් ගැලවෙන්න, අමරණීය වෙලා ඉන්න පුරුෂයෙක් කලයුතු දෙයක් නෑ කියනවා. මහා ධනවත් උදවිය මහා භෝග ඇති උදවිය ක්ෂත්‍රිය රජවරු තවත් බොහෝ ධන ධාන්‍ය ඇති අය යන ඔය කවුරුත් අජරාමර උදවිය නෙවෙයි. මරණය වත්පොහොසත්කම් තිබ්බා කියලාවත් නොමැරී ඉන්න බෑ, ඉතින් ඔබ අහලා තියෙනවාද අන්ධවේණුපුත්‍ර කියන අය ගැන. එයාලා හරි සූරයි වීරයි වික්‍රමාන්විතයි. සතුරන්ට පහර දෙනවා. හිරු සඳු වගේ. අන්තිමේදි ඔය උදවියත් ආයුෂ ඉවරවෙලා මැරිලා ගියා. එතකොට අන්ධකවෙන්නු කියන ඒ අය විශාල යුද්ධ කිරීමේ දක්ෂ පුරුෂ වීර්යයෙන් දක්ෂයි. නමුත් ඒ අයත් මැරිලා ගියා කියනවා. කියනවා අට්ඨක වාමක ආදී සෘෂිවරු සය වැදෑරුම් වේද මන්ත්‍ර පාඩම් කරපු අය අනික් උදවිය ඔය කවුරුත් අමරණීය වුන්නෑ ඒ ඔක්කෝම මැරිලා ගියා. ශාන්ත සෘෂිවරු සීල සංවරයෙන් යුක්ත අය තපස්වරු ඒ ඔක්කෝම ශරීරය අත්හැරියා. වඩන ලද සිත් ඇති රහතන් වහන්සේලා ඉන්නවා, නිවන් මග සම්පූර්ණ කරලයි ඉන්නෙ. ආශ්‍රව රහිතවයි ඉන්නෙ. පින් පව් මේ ජීවිතය තුලම ගෙවා දමලයි ඉන්නෙ. ඒ රහතන් වහන්සේලා සිරුර අත්හරිනවා. මේක හොඳ කාරණාවක් ඔබට. මරණය අපි කරා එනකොට සිහි කරන්න. කිසිකෙනෙක් මරණයෙන් නම් බේරුන් නෑ. අපි කරා මරණය එයි මට මරණය සිද්ධ වෙන්න පුලුවන්. මං මේ ලෝකයට තියෙන ඇල්ම අත්හරින්න ඕනකියලා තමයි මහන්සි විය යුත්තෙ. කවදාහරි මැරෙනවා පින්වත්නි අපි. මේවා කිසිදෙයක් අරගෙන යන්නෑ අපි. ඊටපස්සෙ කියනවා මේ විදියට මරණය සියලු දෙනාට උරුමයි කියලා කච්චාන මහරහතන් වහන්සේ විස්තර කරද්දි සුජාත

කුමාරයා කියනවා, මහා මුනිදාණෙනි, ඔබ වහන්සේ විසින් ඔය ගාථාවන් ඉතා හොඳින් වදාළේ, අර්ථවත් ඒ යහපත් දේශනාව නිසා මට ධර්මය තේරුනා. අනේ ඔබ වහන්සේ මට සරණ වනු මැනව. මට තේරෙනවා ඔබ වහන්සේ කියන දේ. මරණෙන් නම් බේරෙන්න බෑ, මට පිහිට වෙන්න ඔබ වහන්සේ. පින්වතු කුමරුනි ඔබ මාව සරණ යන්න ඕන නෑ, මම සරණ ගිය ශාක්‍ය පුත්‍ර වූ මහා වීරයාණන් වහන්සේ නමක් ඉන්නවා. ආන්න ඒ උත්තමයාව සරණ යන්න. කියනවා මාව මේ සරණ කරගෙන මගේ ඇඟේ එල්ලෙන්න හදන්න එපා. මමත් සරණ ගිය කෙනෙක් ඉන්නවා. ඒ තමයි ලොව්තුරා සම්බුදු රජාණන් වහන්සේ. ඔබත් බුදුරජාණන් වහන්සේ සරණ යන්න. අනේ නිදුකාණන් වහන්ස ඒ ශාස්තෘණ් වහන්සේ වැඩ සිටින්නේ කොහෙද. කිසිවක් හා සමාන නොවූ ජිනයන් වහන්සේ බැහැදකින්න මාත් යනවා. කියනවා එහෙනම් කියන්න ඔබ වහන්සේ සරණ ගිය ඒ උත්තමයා ඉන්න තැනක් කියන්න මම හොයාගෙන යන්නම් කියනවා. කුමරුනි කොක්කාක වංශයේ උපන් ඒ අජානේය පුරුෂයාණන් වහන්සේ වැඩ සිටියේ පෙරදිග ජනපදයේ. උන්වහන්සේ පිරිනිවන් පා වදාළා. දැන්නම් බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා. නිදුකාණන් වහන්ස ඔබ වහන්සේගේ ශාස්තෘන් වහන්සේ බුදුරජාණන් වහන්සේ ජීවමානව වැඩ හිටියා නම් මං උන්වහන්සේගේන් ධර්මය අහලා සැනසෙන්න ඕන දුරක යනවා. නිදුකාණන් වහන්ස ඒ ඔබගේ ශාස්තෘන් වහන්සේ යම් හෙයකින් පිරිනිවන් පා වදාළ සේක්ද, පිරිනිවන් වැඩියා වූ ඒ මහා වීරයාණන් වහන්සේ මං සරණ යනවා. අර කුමාරයා බුදුන් සරණ ගියා. ඊටපස්සෙ කියනවා, අනුත්තර වූ ශ්‍රී සද්ධර්මයත් සරණ යනවා. නරදේවයන් වහන්සේගේ ශ්‍රාවක සංඝරත්නයත් සරණ යනවා. එතකොට මිනිස්සුන්ට තෙරුවන් සරණ යනවා කියන ඒ කාලෙ හරියට තේරෙනවානෙ පින්වත්නි. අදකාලේ මිනිස්සුන්ට තේරෙන්නෑනෙ මේක තෙරුවන් සරණ යන එක. ඊටපස්සෙ කියනවා මං වහා වහා සතුන් මැරීමෙන් වළකිනවා. මෙයාම කියනවා, මං හොරකම් කරන්නෑ ආයෙ. වැරදි කාම සේවනය කරන්නෑ, බොරු කියන්නෑ, ඊළඟට මං මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්නෑ කියලා මෙයා පන්සිල් සමාදන් වුනා, කච්චාන මහරහතන් වහන්සේ ළඟ. ඊටපස්සෙ දහසක් ඇස් ඇති හිරුමඬල ආකාසේ ගමන් කරන්නේ දිසාවන් බබුලුවාගෙනයි. දැන් මේ වෙනකොට ඊටපස්සෙ පන්සිල් සමාදන් වෙලා මෙයා බොහෝම සන්තෝෂයට පත්වුනා. ඊටපස්සෙ කච්චාන මහරහතන් වහන්සේ ඍද්ධියෙන් භාග්‍යවතුන් වහන්සේගේ රන් දෙණින් ගත්තු සවඤී ධාතූන් වහන්සේ නමක් ළඟ තැන්පත් කරගෙන හිටියා. ඒ ධාතූන් වහන්සේ සුජාත

කුමාරයාට දුන්නා. ගිහිල්ලා කිව්වා පුත්‍රය දැන් ඔබ තෙරුවන් සරණ ගියා නම්, පන්සිල් සමාදන් වුනා නම් මෙන්න මේ ධාතූන් වහන්සේට නිතර වන්දනා කරන්න, වන්දනා කරලා ගොඩාක් පින් කරගන්න. ඔබට ආයුෂ අඩුයි. ඒ ධාතූන් වහන්සේ වඩම්මාගෙන එදාම ආපහු කැලෙන් මාළිගාවටම ගියා. රජතුමා ඉක්මණට කුමාරයා කැඳෙව්වා. කුමාරයා රජතුමාට විස්තරේ කිව්වා. ඉක්මණට මන්දිරයක් හදලා ධාතූන් වහන්සේ තැන්පත් කරලා වන්දනාමාන කරන්න පටන් ගත්තා. පන්සිල් රැක්කා, ගොඩාක් පින් කලා. ඒ අස්සක රජතුමාත් ආරාමයක් හදලා කච්චාන මහරහතන් වහන්සේ වඩම්මගෙන නිතර ධර්මය ඇහුවා. ඔය අතරෙ මාස හතරක් යනකොට ඒ කුමාරයා කළුරිය කලා. ඒ කුමාරයා මැරිලා ගිහිල්ලා මහා දිව්‍ය විමානයක ඉපදුනා, ඉරහඳ පාත්වෙනවා වගේ තමයි ඒ දිව්‍ය රාජයා කච්චාන මහරහතන් වහන්සේ ළඟට විමානෙත් එක්ක ආවෙ. ඊටපස්සෙ ඒ විමානෙ රථ තියෙනවා. ඊළඟට මුතු මැණික් රන් රිදී මේ වගේ නොයෙක් දේවල් වලින් සරසලා, ඇත්තු අශ්වයෝ මේ වගේ සක්දෙවිඳු වගේ තමයි මේ දිව්‍ය රාජයා එහෙමෙහේ යන්නෙ. ඊටපස්සෙ ඇහුවා කච්චාන මහරහතන් වහන්සේ ඔබ මොනවගේ පිනක් කරලද දෙව්ලොව ඉපදුනේ. ඊටපස්සෙ කියනවා මම ඉස්සර මනුස්ස ජීවිතේදි සුජාත කියලා රාජ කුමාරයෙක් වෙලා හිටියා. ඔබ වහන්සේ තමයි මා කෙරෙහි අනුකම්පා කරලා මේ සංවර කරවන උතුම් ධර්මයේ මාව පිහිටෙව්වෙ. බලන්න ධර්මයේ පිහිටවනවා කියලා අනිවාර්යයෙන් මාස හතරක් මැරෙන කුමාරයාට කච්චාන මහරහතන් වහන්සේ ධර්මයේ පිහිටෙව්වා කියන්නෙ මොකක්ද, තෙරුවන් සරණ දීලා පන්සිල් රකින්න කිව්වා, ධාතූන් වහන්සේලාට වැඳ වැඳ ඉන්න කිව්වා. ඒ නිසා ඔබටත් මරණය කියන බය එනවා නම් ඔබත් තෙරුවන් සරණ යන්න. පන්සිල් සමාදන් වෙලා මේ ඉන්න ටික දවසවත් පන්සිල් රකින්න. උතුම් ධාතූන් වහන්සේලා බෝධීන් වහන්සේලා සිහි කර කර වැඳ වැඳ ඉන්න. ඒකම ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. මගේ ආයුෂ පිරිහිලා තිබුනු බව ඔබ වහන්සේ දැන ගත්තා. සුජාත මෙයට පුද පූජා කරන්න එය ඔබේ යහපත පිණිසමයි හේතුවෙන්නෙ කියලා ඔබ මට ශාස්තෘන් වහන්සේගේ ධාතූන් වහන්සේ නමක් ලබා දුන්නා. බලන්න කෙලෙහිගුණ ඔක්කොම විස්තරය කියනවා. මං ඒ ධාතූන් වහන්සේට සුවඳින් මලින් පූජා පැවැත්වූවා. හරී පිළිවෙලකට මං කලා. මිනිස් ශරීරය අත්හැරියට පස්සෙ මං නන්දන වනයෙහි උපන්නා. මේ රම්‍ය වූ නන්දන වනයේ නොයෙක් වර්ගයේ කුරුළු කොබෙයියො ඉන්නවා. මං මෙහි දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන නැටුම් ගැයුම්

වලින් සතුටු වෙවී මේ ඉන්නෙ මම එදා කරපු පින් බලයට කියලා සුජාත දිව්‍ය රාජයා අපගේ කච්චාන මහරහතන් වහන්සේ ළඟ වන්දනා කරලා අතුරුදහන් වෙලා යනවා. මේ බලන්න මරණය කිට්ටු වුනාට පස්සෙ මරණය පෙනි පෙනී ඉද්දින් රහතන් වහන්සේලා සමාදන් කරපු දේවල්. පින්වතුනි, ඔක්කෝටම අනිත්‍යය කියන එක ස්පර්ශ කරන්න අමාරුයි. සාමාන්‍යයෙන් අනිත්‍යය කිව්වට තේරෙන්නෙ නෑ සමහර අයට. ධර්මය පුරුදු කරපු කෙනෙකුට නම් මේ වෙලාවෙ අනිත්‍යය, මේ මුලු ලෝකෙම අනිත්‍යයි කියලා තේරෙනවද දැන්, උඩු යටිකුරු වෙනවනෙ. හිතපු දේවල්ද සිද්ධ වුනේ. හිතන දේවල්ද සිද්ධ වෙන්නෙ. අපි දන්නවද අනාගතේ තව මොනවා වෙයිද කියලා. අපේ ජීවිතේ කීදොහක් තියෙයිද කියලා අපි දන්නවාද. මේ ඔක්කෝම අනිත්‍යය වෙලා යනවා පින්වතුනි. වෙනස් වෙලා යනවා. ඉතින් පින්වතුනි ඒ නිසා ඒ අතරතුර අපිට පුලුවන් වුනොත් තිසරණය, දැන් හොඳටම තේරෙනවා, හොඳට කල්පනා කරන්න, අපේ ඡත්ත මානවක, ඡත්ත මානවක ඊළඟ මොහොතෙ මැරෙන්න හිටපු කෙනෙක්. ඊළඟ මොහොතෙ මැරෙන්න ඉන්න කෙනා බුදුරජාණන් වහන්සේ සමාදන් කෙරෙව්වෙ තුණුරුවන් සරණෙයි, පන්සිල් වලයි. ඊටපස්සෙ තුණුරුවන් සරණ යෑම නිතර සිහි කර කර ඉන්න කිව්වා. යෝවාද තං පවරෝ මානුගේසූ, ආදී වශයෙන්. තුණුරුවන් ගුණනෙ ඒකෙ තියෙන්නෙ. එතකොට ඒ නිසා ඊළඟ මොහොතේ මැරෙන කෙනෙක් බුදුරජාණන් වහන්සේ සමාදන් කෙරෙව්වෙ තුණුරුවන් සරණෙයි, පන්සිල් වලයි. එච්චර ලොකු වෙනසක් කරන්න පුලුවන්. පස්සෙ දෙව්ලොව ඉපදුනු ඡත්ත මානවකට නිවන ගැන කියලා දුන්නා. සෝවාන් වුනා. ඒ නිසා අපිට දැන් තේරෙනවා නම් අපි ඊළඟ මොහොතෙ මැරෙන්න ඉන්න කෙනෙක් කියලා, හොඳම දේ තමයි දැන්ම තුණුරුවන් සරණ හොඳට සමාදන් වෙලා පඤ්චසීලය සමාදන් වෙලා මේ ඉන්න ටික කාලෙ පන්සිල් කඩන්නැතිව ඊළඟට තුණුරුවන් සිහිකරගෙන නිතර තෙරුවන් වැඳලා බණ අහගෙන පින් කරගෙන ඉන්න එක. ඒක තමයි එයාට පිහිට පිණිස රැකවරණය පිණිස පවතින්නෙ. ඉතින් ඒ නිසා මේ කරුණු කාරණා වලින් මේ විමාන කතා වලින් ඒවා තේරුම් ගන්න. තවත් තියෙනවා දිව්‍ය පුත්‍රයෙක් ගැන විස්තරයක්. අසුන් යොදන ලද අශ්වයෝ ඉන්න ලස්සන දිව්‍ය විමානයක්. සක්දෙව්දු වගේමයි කියලා හිතෙන්නෙ අන් අයටත් එච්චරම සැප සම්පත් පිහිටලා තියෙනවා. ඊටපස්සෙ රන් දැල්, ඒ වගේම ඒ රථයේ තියෙන රෝද වල ලස්සන, ඒ වගේම පොකුණු වල ලස්සන, ඊළඟට මැණික් වල ලස්සන, ඊළඟට අහසෙ ගමන් කරනකොට එන සීනු නාදය, ඊටපස්සෙ දිව්‍ය ඝෝෂා, දිව්‍ය පංචතූර්ය නාද, දිව්‍ය

අප්සරාවන්ගේ ස්වභාවය, දිව්‍ය අප්සරාවන් නටනකොට ඇහෙන හඬ. ඔවුන්ගේ ඇස් මුව පැටවුන්ගේ වගේ. සොඳුරු කතා බහ තියෙන ඇලා වෛරෝඩි මැණික් වලින් කරපු ආභරණ පළඳගෙන ඉන්න හැටි, ඉතින් මේ වගේ සොඳුරු අප්සරාවන් පිරිවරාගෙන මහා දිව්‍ය විමානයක වාසය කරන දෙවියෙක් මුගලන් මහරහතන් වහන්සේ දුටුවා. ඉතින් මේ පිටු ගණනාවක ඒ දිව්‍ය විමානයේ විස්තර තියෙනවා. ඒ දෙවියෝ විඳින සැප සම්පත් සිංදු නැටුම් ගැයුම් වැයුම් වලින් ප්‍රීති වෙවී ඉන්නහැටි විස්තර කරනවා මේ විමානවත්ථුවේ. ඊටපස්සෙ අහනවා මුගලන් මහරහතන් වහන්සේ ඇත්තටම මොකක්ද මේ කරගත්ත පින. ඊටපස්සෙ කියනවා පොඩි පිනක් නම් වෙන්න බෑ කියනවා එච්චර දිව්‍ය සැප කියනවා. ඊටපස්සෙ කියනවා, අනේ ස්වාමීනී, ඒ අග්‍ර පුග්ගල වූ කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කාලයේ ඒ ඉඳුරන් ජයගත්ත කෙලෙස් නැති දේවාතිදේව වූ, සුන්දර පුණ්‍ය ලක්ෂණයන්ගෙන් යුක්ත දෙව්මිනිසුන් හට අමා මහ නිවනේ දොර විවෘථ කල බුදුරජාණන් වහන්සේ ලෝකෙට පහළ වුනා. මං උන්වහන්සේලා දැක ගත්තා. සසරෙන් එතෙරට වැඩිය උන්වහන්සේ හස්ති රාජයෙක් වගේ. තනි රත්තරනින් කරපු රූපයක් වගේ. උන්වහන්සේව දැකබලාගත්තු ගමන් වහ වහා මං හිත පිරිසිදු කරගත්තා. සුභාෂිත ධජය වූ ඒ බුදුරජාණන් වහන්සේව දැකගත්තට පස්සෙ කිසිවකට නොඇලෙන උන්වහන්සේට මං මගේ නිවසේ මල් අතුරලා දන් පැන් පූජා කරගත්තා. ඉතා පිරිසිදුව, ප්‍රණීත විදියට ඒ රසවත් ආහාරපාන පිළිගැන්නුවේ. ඒ වගේම සිවුරුත් පූජා කරගත්තා. ඊටපස්සෙ කියනවා සුභාෂිත ධජ, ඒ කියන්නෙ රජෙක් හොයාගන්න පුලුවන් ඒ රාජ්‍යයේ කොඩි පළඳලා තියෙනවා රජ්පුරුවන්ගේ. ඒ රාජ්‍යය සම්පූර්ණයෙන්ම රජතුමාගේ යටතේ තියෙන්න කියලා. ඒ වගේ තමයි මේ ලෝකෙ යම්තාක් සුභාෂිත තියෙනවාද, යහපත් වචන තියෙනවාද, සත්‍ය වචන තියෙනවාද, එහි ධජය තමයි, එහි පුරෝගාමී තමයි සම්පූර්ණයෙන්ම සත්‍යයෙන්ම සුසැදි උත්තමයා තමයි බුදුරජාණන් වහන්සේ. ඒ බුදුරජාණන් වහන්සේට දන් පැන් කැවිලි පෙවිලි හැම දෙයක්ම පූජාකලා. ඊටපස්සෙ මේ විදියට රසට දන් දීලා, ප්‍රණීතව දන්දීලා, බුදුරජාණන් වහන්සේගේ ඒ ශාසනයේ මාර්ගඵල ලබන්න බැරිවුනා. හැබැයි එයින් දිව්‍යලෝකෙ ඉපදිලා මෙච්චර දිව්‍ය සැප තියෙන දිව්‍ය විමානය පහළ වුනා, මමත් මගේ බිරිඳත්. මේ විදියට දිව්‍ය සැප සම්පත් වලින් ආඪ්‍ය වුනා. සංඝයා විෂයෙහි දන් පැන් පූජා කලා. පැන් පොකුණක් වගේ මං ගත කලා කියනවා. ඒ කියන්නෙ ඕනම දෙයක් දුන්නා කියනවා. මං මේකෙ අටුවාව බැලුවා. එතකොට කියනවා මේ දෙන්නා තමයි මේ

දෙවියයි, දිව්‍යාංගනාවයි තමයි කියනවා, කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කාලයේ අසදෘශ මහා දානය දුන්නෙ. දැන් ඇත්තටම බලනකොට අපේ බුද්ධ ශාසනයේත් අසදෘශ මහා දානය දුන්නෙ කොසොල් රජ්ජුරුවොයි, මල්ලිකා දේවියයි මාර්ගඵල ලබලා හිටියේ නැනෙ. මේ දෙන්නත් අසදෘශ දානය දුන්නා මාර්ගඵල ලබලා හිටියෙ නෑ, හැබැයි කාශ්‍යප බුද්ධ ශාසනයේ දෙව්ලොව ගියේ. තවම දෙව්ලොව. අපේ බුද්ධ ශාසනයේත්. මේ පොළොව ගව් හතක් වැඩෙනකල් දිව්‍ය ලෝකෙනෙ. ඉතින් ඒ දිව්‍ය සැප, දිව්‍ය විමාන වල ස්වභාවය හරිම පුදුමයි. ඉතින් මොවුන් කවදා හරි බුද්ධ ශාසනයක කරපු පින බුදු කෙනෙකුට දානයක් මානයක් පූජා කරගත්තු කෙනෙක් පින්වතුනි සසර දුක් ඉවර කරන්නැතිව ඉන්නෑ, කල්ප ලක්ෂයක් ගිය තැන හරි සසර දුකින් නිදහස් වෙනවා. ඒ නිසා මොවුන්ට බොහෝ කාලයක් යහපත පිණිස පවතියි. එතකොට අපේ විමානවත්ථු වල කාශ්‍යප බුදු රජාණන් වහන්සේගේ ශාසානයේ අසදෘශ දානය දුන්න දෙන්නත් දිව්‍ය විමානෙ ඉපදිලා ඉන්නවා මුගලන් මහරහතන් වහන්සේට මුණගැහුනා විස්තර තියෙනවා. ඊටපස්සෙ පින්වතුනි තවත් දිව්‍ය විමානයක් තියෙනවා. ඒ දිව්‍ය විමානයේ මහා සැප සම්පත් වලින් ඒ දෙවියා, ආඪ්‍ය වෙලා ඉන්නකොට මුගලන් මහරහතන් වහන්සේ තමයි ඇහුවෙ, මොකක්ද කරගත්ත පින කියලා. මේ දෙවියන් කරගත්ත පින තමයි පින්වතුනි, මේ මනුස්ස ලෝකෙ හිටපු මමත් මගේ බිරිඳත් මනුස්ස ලෝකෙදි ගිහි ජීවිතය ගත කලේ පැන් පොකුණක් තියෙනවා වගේ. පැන් පොකුණක් තියෙනවා වගේ කියන්නෙ කිසි කෙනෙකුට කරදරයක් නෑ, ඕන කෙනෙකුට යමක් ඉල්ලන්න පුලුවන් අය. ඒ මිනිස්සු කරදරයක් නෑ කාටවත්. මිනිස්සුන්ට පිහිට තියෙනවා සැනසිල්ල තියෙනවා. පිපාසයට පැන් බොන්න පුලුවන් පොකුණක් වගේ. ඉතින් මිනිස්සුන්ට කරදරයක් නැතිව හැම දෙනාටම යහපත සැනසිල්ල ඇතිකරලා හිටපු ජෝඩුවක්. ඉතින් මේ දෙන්නා මේ යුවතිපතීන් දෙදෙනා ඔය විදියට ගොඩාක් පින් කලා මේ අයට දරුවො හිටියෙ නෑ, ඉතින් ඒ නිසා නමුත් හොඳට පින් කලා. ඒ විදියට පින් කරලා දිව්‍යලෝකෙ ඉපදුනා, අදටත් දිව්‍ය සැප සම්පත් විඳගෙන වාසය කරනවා කියලා ඒ අගාරීය විමානවත්ථුව කියලා ඒ දෙවියන් අතරට ගිය හොඳට පින් කරපු අඹුසැමි යුවලගේ විස්තරය තියෙනවා. ඒ නිසා අද කාලෙත් ඉන්නවා හොඳට පින්කම් කරගෙන නෝනයි මහත්තයයි දෙන්නා එක වගේ. හොඳට පින්දහම් කරගෙන ඉන්න පවුල් තියෙනවා. ඒ අයට ඇත්තටම කියන්න තියෙන්නෙ ඒ අයට දුක් වෙන්න දෙයක් නෑ, ඒ අයට මේ ජීවිතයේ මොන කම්කටොළු කරදර

ආවත්, අනිත් එක තමයි දෙන්නම අනුමෝදන් වෙනවා. මහත්තයා පිනක් කරනකොට නෝනා අනුමෝදන් වෙනවා. නෝනා පිනක් කරනකොට මහත්තයා අනුමෝදන් වෙනවා. දෙන්නට දෙන්නා අකුල් හෙලන් නෑ, එකට සෑ වන්දනාවට යනවා. එකට බෝධි වන්දනාවට යනවා, එකට බණ අහනවා, එකට සිල් ගන්නවා, දෙන්නම එකම විමානෙ ඉපදුනා. ඒකයි බුදුරජාණන් වහන්සේ වදාළේ. ප්‍රියමනාපව ස්වාමියයි බිරිඳයි ඉන්නකොට ඒ අය කැමති නම් පරලෝකෙත් එකට ඉපදෙන්න සම ශ්‍රද්ධා සම සීලා සම චාගා සම පඤ්ඤා, ශ්‍රද්ධාව දෙන්නගෙ සමානයි නම්, සීලය සමානයි නම්, දන්දීම සමානයි නම්, දෙන්නා නුවණින් කල්පනා කරන විදියට සමානයි නම් මෙලොවෙත් දෙන්න සතුටින් ඉන්නවා. පරලොවත් දෙන්නා සතුටින් ඉන්නවා කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. ඒක කොයි තරම් සනාථ වෙනවාද කියලා බලන්න මනුස්ස ලෝකෙ මේ යුවතිපතීන් ඒ විදියට හිටියා, දැන් දිව්‍ය ලෝකෙත් එකම විමානයේ අප්‍රමාණ සැප විඳිමින් සිටිනවා. ඉතින් ඒ නිසා මේවා තමයි සාක්ෂි. දැන් මොකද අපිට පින්වතුනි මෙහෙන් කෙනෙක් මැරෙනවා. මැරුණට පස්සෙ මොකක්ද වෙන්නෙ කියලා පේන්නෙ දැනෙන්නෙ නෑනෙ. නමුත් මෙන්න ඒ මුගලන් මහරහතන් වහන්සේ ගිහිල්ලා බලාගෙන ඇවිල්ලා දේශනා කලානෙ. මේවා ගෞතම බුද්ධ ශාසනයේ පිහිට ලබන කෙනෙකුට දිව්‍ය ලෝක වල විස්තර දැනගන්න එක බාධා පිණිස පවතිනවා නම් මේවා රහතන් වහන්සේලා දේශනා කරන්නෑනෙ. එහෙනම් රහතන් වහන්සේලා කටපාඩමින් ගේන්නෑනෙ. එහෙනම් මිහිඳු මහරහතන් වහන්සේ ගේන්නෑනෙ. එහෙනම් මිහිඳු මහරහතන් වහන්සේට තිබ්බනෙ තෝරලා පංචුපාදානස්කන්ධය, පටිච්චසමුප්පාදය, ආයතනය, අභිධර්මය ඔය ටික විතරක් දේශනා කරන්න තිබ්බනෙ මිහිඳු මහරහතන් වහන්සේට. මිහිඳු මහරහතන් වහන්සේ මේවත් ගොනාවෙ ඇයි. මේවගෙන් තමා මිනිස්සුන්ගෙ හිත් ශුද්ධ කරන්න පුලුවන්නෙ. මිනිස්සුන්ගෙ හිත් ගොඩාක් කහට සහිතව තියෙනවා. ඒ ඇයි කහට සහිතව තියෙන්නෙ. මිනිස්සුන්ගෙ හිත්වල තියෙනවා කර්ම කර්මඵල විශ්වාසය නැති බව. තමන්ට යහතින් ඉන්න පුලුවන්නම් ආයෙ පින් පව් විශ්වාස කෙරිල්ලක් නෑ, ඒ වගේම රාගය හිතට ආවට පස්සෙ පින් පව් කතාවක් නෑ, කොහොමහරි තමන්ගෙ හිතට ආපු රාග සිතුවිල්ල සන්තර්පණය කරගන්න බලන්නෙ. තරහක් ආවට පස්සෙ මොන පින් පව්වත් මතක නෑ, තරහට කියාගෙන යනවා, ගහනවා, බනිනවා, මරණවා. ඊළඟට රැවටෙන්න ගියාට පස්සෙ ලේසි නෑ, හරියට බයවෙනවා. හරියට තැතිගන්නවා. මරණය ඉදිරියේ හුල්ලනවා. ඇයි මේ

ලෙඩදුක් කරදර කියලා හූල්ලනවා. බුදුරජාණන් වහන්සේ සංසාර දුකින් නිදහස් වෙන්න කිව්වෙ ජාති ජරා මරණ සෝක පරිදෙව දුක්ඛ දෝමනස්ස මේ මනුස්සයාට එක දිගට උරුම වෙලා තියෙන නිසා නේද. ඉතින් ඒ නිසා පින්වතුනි මේකෙන් ගැලවෙන්න නම් බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැනම ශ්‍රද්ධාව පිහිටුවාගන්නට ඕන. ඊළඟට අපි බලමු අපි තවත් විස්තරයක්. ඒත් මුගලන් මහරහතන් වහන්සේ දැක්කා ආනුභාව සම්පන්න දිව්‍ය විමානයක්. මුගලන් මහරහතන් වහන්සේ ඇහුවා මොකක්ද කරපු පින කියලා. ඉතින් ඇත්තටම අපිට මේ දේශනා ඉගෙන ගන්නකොට ගොඩාක් අපේ හිත යන්නෙ දිව්‍ය විමානෙටත් වැඩිය කරපු පිනට. ඉතින් ඒකත් හොඳයි, මොකද හරියට පින කරගත්තොත් ඉතින් ගිහිල්ලම බලාගන්න බැරියෑ, එකක් එකක් ගානෙ. ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේ අහනකොට කියනවා, මහා මුනිඳුනි, ඍජු සිත් ඇති පහන් සිත් ඇති ආර්ය සංඝරත්නයට මං පළතුරු පූජා කලා. ඒ පුණ්‍ය විපාකයෙන් තමයි මං දෙව්ලොව ඉපදුනේ. මෙයාට මනුස්ස ලෝකෙ ඉද්දින් කරගන්න පුලුවන් වෙච්ච් පින තමයි කියනවා සංඝයාට පළතුරු පූජා කරගෙන. බලන්න පළතුරු පූජා කිරීමේ පින. ඒ නිසා මිනිස් ලෝකයේ සැප පතනවා නම් දෙව්ලොව සැප පතනවා නම් එයා කළ යුත්තේ නිතර නිතර පළතුරු පූජා කරන එකයි, ඒකමයි සුදුසු. ඒ පිනෙන් තමයි මෙවැනි ලස්සනක් මට ලැබුනේ. ඒ පිනෙන්මයි මෙච්චර සැපසම්පත් ලැබුනෙ. සිතට ප්‍රීතිය උපදවන මේ සැප සම්පත් ඔක්කෝම ලැබුනෙ පළතුරු පූජාවේ ආනුභාවයෙන් කියනවා. ඒ නිසා ප්‍රණීත පළතුරු තුණුරුවන් විෂයෙහි පූජා කරන්න. ස්තූප පූජා, බෝධි පූජා වගේ උදේ වරුවේ කරනකොට කිරි ආහාරත් එක්ක පළතුරු පූජා කරන්න. සංඝයාට දන් පැන් පූජා කරනකොට හොඳට පළතුරු පූජා කරන්න. පළතුරු පූජාවක් ලැහැස්ති කරගන්න. ඊළඟට දන්සැල් දෙනකොට දන්සලුත් එක්ක පළතුරු දන්සැල් දෙන්න. දැන් බලන්න පහුගිය කාලෙ මිනිස්සු එක එක විදියට පින් කරගත්තනෙ කලබල එනකොට. මිනිස්සු ගෙවල් වලට ගිහිල්ලා මිනිස්සුන්ට ආධාර උපකාර කලා. අර එක මහත්තයෙක් විසාල එළවළු තොගයක් ගෙනල්ලා මිනිස්සුන්ට එළවළු දන්සැලක් දීලා තියෙනවා. ඉතින් මේ ළමයි සුප් දන්සැල් දෙනවා, වියළි ආහාර දන්සැල් දෙනවා. ඒ වාගේ කොච්චර නම් පින්කම් කරගන්නවද. ඊටපස්සෙ ඒ දන්දීමේ විපාක. ඊළඟට සිරීපාදේ යන අයට හැරමිටි දන්සැලක් දෙනවා. රොටී දන්සැල් දෙනවා. ඊටපස්සෙ බෙහෙත් ඖෂධ දන්සැල් දෙනවා. කොච්චර මිනිස්සු දන්සැල් දෙනවද. ඉතින් ඒ නිසා ඊළඟට දන්සැල් කාලෙට කොණ්ඩෙ කපන දන්සැල් තියෙනවා. ඒක දුටුගැමුණු

රජ්ජුරුවන්ගේ කාලයේත් තිබිලා තියෙනවා. බාබර්ලා කීපදෙනෙක් දන්සැලේ තියලා තියෙනවා, කැමති කෙනෙකුට කොණ්ඩේ කපාගන්න පුලුවන්, මිල අය කිරීමක් නෑ, ඒකත් පුණ්‍ය විපාක. ඒ නිසා ඒ විදියට පළතුරු පූජාවේ ආනුභාවය. ඉතින් ඒක බලන්න මෙච්චර බුද්ධ දේශනාවේ පළතුරු පූජාවේ ආනුභාවය තියෙද්දින් අද කාලෙ මිනිස්සු කොච්චර පළතුරක් පූජා කරත් ගරහනවානෙ. ඊටපස්සෙ තියෙන දිව්‍ය විමානයෙත් ගොඩාක් ලස්සන ආනුභාවසම්පන්න දිව්‍ය විමානයක්. ලස්සන දෙවියෙකුයි ඊටම පෑහෙන දිව්‍ය අප්සරාවකුයි ඉන්නවා දිව්‍ය අප්සරාවො ලක්ෂ ගාණක් පිරිවරාගෙන. මුගලන් මහරහතන් වහන්සේ අහනකොට කියනවා අනේ ස්වාමිනී අපි දෙන්නා මනුස්ස ලෝකෙත් අඹුසැමි දෙන්නා. ඉතින් අපි දෙන්නා එකටම පින් කලා. ගිහි ජීවිතේ ගත කරනකොට අපි දෙන්නා පැන් පොකුණක් වගේ. මෙයා දන්දෙනකොට මම අකුල් හෙලන්නෙත් නෑ, මම දන්දෙනකොට මෙයා අකුල් හෙලන්නෙත් නෑ, අපි දෙන්නම බඩගින්නෙ හිටියත් අපි දෙන්නා, කෑම කෑවත් අපි දෙන්නා, සිල් ගත්තත් අපි දෙන්නා, අපි එකටම පින් කලා. කවදාවත් අපි දෙන්නා පිනට බාධා කරගත්තෙ නෑ. ඉතින් මේ විදියට අපි දෙන්නම එකතු වෙලා ආර්ය මහා සංඝරත්නය විෂයෙහි නිතර අපි දෙන්නම දන් පැන් පූජා කලා. ඒ පින් බලයෙන් අපි දෙන්නම එකම විමානයේ ඉපදුනා කියනවා. ඊටපස්සෙ තවත් විමානයක් තියෙනවා. ඒ විමානෙ ඉතින් කරලා තියෙන්නෙ මේ නෝනයි මහත්තයයි ඔය විදියටම යුවතිපතීන් දෙන්නා එකට හොඳට පින්කරලා. ඊටපස්සෙ මේ දෙන්නාගෙම සබ්බ සකලමනාවම එකතු කරලා. ඒ කියන්නෙ කණකර ආභරණ වස්තුව ඔක්කෝම එකතු කරලා, මෙයාලා කරලා තියෙන්නෙ කුටියක් හදලා. නෝනයි මහත්තයයි දෙන්නා. සංඝයාට පූජා කරලා. ඒ දෙන්නා හම්බු කරන සල්ලි වලින් මැරෙනකල්ම සංඝයාට උපස්ථාන කරලා. කුටියකුත් පූජා කරලා, සංඝයාටත් උපස්ථාන කරලා. තව්තිසාවේ ඉපදිලා තියෙනවා දෙන්නාම එක විදියට. ඒ දිව්‍ය සැපසම්පත් භුක්ති විඳිනවා. ඉතින් ඒ විදියට මුගලන් මහරහතන් වහන්සේට ගොඩාක් මුණගැහිලා තියෙනවා පින්වතුනි අඹුසැමියන් දෙන්නා එකට පින් කරලා එකට විපාක විඳපු ඒවා. ඉතින් ඒ නිසා නෝනයි මහත්තයයි එකට, දැන් මේ වගේමයි අනිත් පැත්තත්, සමහරවිට නෝනයි මහත්තයයි එකටම පව් කරනකොට, මිනිහත් කසිප්පු පෙරනවා, නෝනත් ඒකට සපෝට්. සමහර වෙලාවට ඉපදෙන නිරයේ හෝ තිරිසන් ලෝකෙ හෝ පෙරේත ලෝකෙ එකටම උපදිනවා. දැන් අර එක බුස ජේතවත්තුව කියලා අර ගෙදර කට්ටිය ඔක්කොම තාත්තා බොල් වී කලවම්

කරනවා, ඊටපස්සෙ ඒ වගේ ඔක්කොම එකට පව් කලේ. එකටම ඉපදුනානෙ. ඒ වගේ එකටම මේ කර්ම විපාක විඳිනවා. ඉතින් ඒ නිසා පින්වත්නි අද දවසේ අපි ඉගෙන ගත්තු විමාවත්ථු වලින් අපි ඉගෙන ගත්තු විශේෂ කාරණාවක් තමයි එකක් සුජාත විමානවත්ථුවෙන් අර මරණය පෙනි පෙනී මොනවද කරන්න ඕන පින්, තෙරුවන් සරණ යන එකයි, පන්සිල් සමාදන් වෙන එකයි, ධාතූන් වහන්සේලාට වඳින එකයි, නිතර ධර්මය අහන එකයි. ඊටපස්සෙ ඉගෙන ගත්තා නෝනයි මහත්තයයි එකට පින් කරලා, ගෙදර යුවතිපතීන් එකටම විපාක විඳින හැටි. ඉතින් ඒ නිසා මේවා තේරුම් අරන් තියෙන එක අපිට හරි උපකාරයි. ඒ නිසා ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මේ උතුම් ධර්මය ඉගෙන ගැනීමේ පින් බලයෙන් ඔබගේ ජීවිතය තව තව පිනෙන් කුසලයෙන් පුරවා ගන්නට වාසනාව ලැබේවා. බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වත්නි අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ පූනෑව මැදවච්චිය ලිපිනයේ පදිංචි පින්වත් කැළුම් සමීර මහත්මයා සහ පොළොන්නරුව ජයන්තිපුර පදිංචි පින්වත් චාමික හෙට්ටිආරච්චි මහත්මයා ඒ වගේම දිළිනි විමලරත්න මහත්මිය විසින්. ඉතින් අපි කවුරුත් සෙත් ප්‍රාර්ථනා කරමු අපි කවුරුත් රැස් කරගන්නා අනන්ත අප්‍රමාණ පින් බලයෙන් ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුන ඒ වසංගතය, ව්‍යසනය දුරින්ම දුරු වෙලා ලෙඩරෝග වලට පත්වුන අය සුවපත් වෙලා මේ මනුස්ස වර්ගයාට සියලු රැකවරණය ආරක්ෂාව සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම අපි පින් පමුණුවනවා සියලු දෙවි දේවතාවුන් වහන්සේලාට මේ පින්වතුනුත් ඒ වගේම මේ ලක්දෙරණත් සියලු දෙනාත් බුදු සසුනත් දෙවියෝ ආරක්ෂා කරත්වා මේ පින් අනුමෝදන් වෙත්වා කියලා. ඒ වගේම අපි පින් පමුණුවනවා මීට වසර දෙකකට පෙර මියපරලොව ගිය විමලරත්න පියාණන්ට සහ මීට වසර 14කට පෙර මියපරලොව ගිය මොනක හෙට්ටිආරච්චි මහත්මයාට මේ පින් අනුමෝදන් වෙත්වා කියලා. ඉතින් මේ පින්වතුන් පින් අනුමෝදන් කරන්න බලාපොරොත්තු වෙන පරිදි ඒ මියපරලොව ගිය ඒ නම් සඳහන් කල ඔබගේ ඥාතීන්ට මේ පින් අනුමෝදන් වේවා. ඔබ කවුරුත් නමින් මිය පරලොව ගිය ඥාතීන්ට මේ පින් බලයෙන් පරලොව සැපය වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් බලයෙන් නිදුක්

නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු ගරුතර මහා සංඝරත්නයටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් අනුමෝදන් වෙත්වා, ධර්මාවබෝධයම සැලසේවා. පොළොන්නරුව ජයන්තිපුර පදිංචි පින්වත් චාමික හෙට්ටිආරච්චි මහත්මයා, දිලිනි විමලරත්න මහත්මිය හා පූනෑව මැදවච්චිය ලිපිනයේ පදිංචි පින්වත් කැළුම් සමීර මහත්මයාට ඒකාන්තයෙන් මේ පින් අනුමෝදන් වී නිදුක් නිරොගී දීර්ඝායුෂ සම්පත්තියත් ගෞතම සසුනේ පිහිට පිළිසරණත් සැලසේවා. ඒ වගේම මැයි 8 වෙනි දින උපන්දිනය සැමරූ පින්වත් ශානිකා මධුවන්ති මහත්මියට නිදුක් නිරෝගී සුවපත් භාවය සහ ආශිර්වාදය මේ පින් බලයෙන් සැලසේවා. අනාගත ජීවිතය, ඒ අට වන දිනට උපන්දිනය සැමරූ පින්වත් ශානිකා මධුවන්ති මහත්මියට ඒ අනාගත ජීවිතය තුණුරුවන් සරණින් පින් පිරුණු ජීවිතයක් වේවා. ඒ වගේම දායකත්වය දැරූ අයගේ පවුල්වල සියලු දෙනාටත්, නන් අයුරින් උදව් කරපු සියලු දෙනාටත් නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. ඔබ මේ කරපු ධර්ම දානයේ අනුහසින් සසර දුකින් නිදහස් වීමේ වාසනාව ඔබට ඒකාන්තයෙන් සැලසේවා. නිවනින් සැනසෙත්වා. ඒ වගේම ලක්විරු ගුවන්විදුලිය ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනිය දායකත්ව දේශනා ඒ වගේම දායකත්වය සපයන සියලු දෙනාටත් කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත් ඔබ සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වේවා. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට, සියලු දෙනාට මේ පින් බලයෙන් මෙලොව පරලොව යහපත සැලසේවා, ගත කරන ජීවිතය පිනෙන් කුසලයෙන් ගෙවේවා, පින් කුසල් දහම් රැස් වේවා. සසර දුකින් නිදහස් වෙන්න, සුගති රැකවරණයට නිවනින් සැනසෙන්න මේ පින් හේතු වාසනා වේවා කියලා පින් පමුණුවනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=rtVBRsznInI&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=16

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, මේ දවස්වල ඔබ මේ ධර්මය ශ්‍රවණය කරන්නේ දිවැසින් දුටු දෙව්ලොව සැප නමින් යුතු උතුම් දහම් වැඩසටහන. විමානවත්ථුව, බුදුරජාණන් වහන්සේ වදාළ ශ්‍රී සද්ධර්මයට අයිති ගාථා කියන කොටසට තමයි මේ ඛුද්දක නිකායේ විමානවත්ථු අයිති වෙන්නෙ. දෙවියන්ගේ දිව්‍ය විමානවල විස්තර තියෙන කරපු කර්මය සහ විඳින පුණ්‍ය විපාකය ගැන සඳහන් විස්තර. එතකොට මේ දෙවියන් අතර දිව්‍යලෝක භයේ උපදින්නෙ ඒ තමන් කරන පිනේ ප්‍රබල බව සහ පිනේ ස්වභාවය අනුව තමයි දිව්‍යලෝක භයට කෙනෙකුගේ ජීවිතය පත්වෙන්නෙ. බ්‍රහ්ම ලෝකවලට උපදින්නේ එයාගේ හිතේ තියෙන සමාධිය, බ්‍රහ්ම විහරණ සහ එයාගේ ආධ්‍යාත්මය අනුව තමයි ඒ බ්‍රහ්ම ලෝකවල ස්වභාවය තීරණය වෙන්නෙ. ඉතින් කෙසේ නමුත් අදත් අපිට දිව්‍ය විමාන ගණනාවක විස්තර ඉගෙන ගන්න ලැබෙනවා. එතකොට ඇත්තටම කෙටියෙන් කියනවා නම් සතර අපාය ගැන දිවැසින් දුටු බියකරු සසර කියන දහම් වැඩසටහනින් ඔබට කියලා දුන්නා. මේ දිව්‍ය ලෝක ගැන කියලා දෙනවා. මේ තමයි භය හතර කියලා දුන්නා. මෙච්චරත් කියලා දීලා ඉතින් ජීවිතේ වෙනසක් කරගන්න බැරිනම් ඒකනම් ඉතින් ඇත්තටම කිව්වොත් කරුමයක්ම තමයි. මෙච්චරත් කියලා දීලා. ඉතින් ඒ නිසා අදත් ශ්‍රද්ධා රූපවාහිනියෙන් හා ලක්විරු ගුවන් විදුලියෙන් මේ ධර්ම දේශනා ලෝක සත්ත්වයා විෂයෙහි පින් කැමැති අයට අහන්න සලස්වන්නේ අද මේ උතුම් ධර්ම දානය සිද්ධ කරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර මහමෙව්නා භාවනා අසපුවේ උපස්ථාන කමිටුවේ පින්වතුන් විසින්. ඒ උපස්ථාන කමිටුවට සහසම්බන්ධව ඒ ඥාතියෙක් වන මියගිය ඩී.පී. ගුණදාස මහත්මයාට පින් අනුමෝදන් කරන්නටත් සියලු දෙනාට සෙත් ප්‍රාර්ථනා කරන්නටත් තමයි අද මේ ධර්මදානයට මේ පින්වතුන් සම්බන්ධ වෙන්නෙ. ඉතින් පින්වතුනි, පින කියන එක හරි අපූරු දෙයක්. දැන් ඇත්තටම කියන්න ඕන දැන් පිටරට ගත්තොත් එහෙම, දැන් සාමාන්‍යයෙන් පිටරට කියන්නේ සමහර තැන් ඔස්ට්‍රේලියාවේ නම් හොඳ විවේක අසපු තියෙනවා. ඇවිදලා කියලා ගස් කොලන් තියෙන වටපිට, සමහර වෙනත් අසපු දැන් වෙනත් රටවල් වල ඉතින් මිනිස්සු ගෙයක් විදියට ගන්න එක තමයි සංඝයා වැඩ ඉන්න නිසා අපි සාමාන්‍යයෙන් අසපු කියලා හෝ පිටරට විහාරස්ථාන විදියට තියෙන්නෙ. එතකොට අපි දැකලා තියෙනවා මුලින්ම ඒ අසපු හෝ ඒ

විහාර ආරම්භයේදී, කවුරුහරි සැදැහැවතෙක් ඉන්න තැනක් තමයි තමන්ගෙ ගෙදර නිදහස් කරලා වෙහෙර විහාර විදියට නැත්නම් අසපුවක් විදියට පවත්වගෙන යන්නෙ. ඊළඟට සමහර වෙලාවට ස්ථාන මාරු වෙද්දින් විදේශගත පින්වත්තු තමන්ගේ නිවස අසපුවක් විදියට දීලා ඒ අය දවස් කිහිපයකට හෝ ටික දවසකට අයින් වෙලා ඒ සංඝයාට පූජා කරනවා. ඊළඟට සමහර වෙලාවලට දුර බැහැර දේශනා වලට යනකොට සමහර පින්වතුන් තමන්ගේ නිවසේ ස්වාමීන් වහන්සේලා වඩා හිඳුවාගෙන ඇප උපස්ථාන කරනවා. දැන් අපිත් විදෙස් රටවල ධර්ම ප්‍රචාරයේ යනකොට අපිත් ඔය අවස්ථාවට මූණ දීලා තියෙනවා. හැබැයි ඒකේ මේ සා විපාකයක් තියෙනවා කියලා අපි, මමත් වැඩිපුර ඒක හිතලා තිබ්බෙ නෑ, නමුත් බලන්න පින්වතුනි මේ පුදුම දිව්‍ය විමානයක් ගැන අහන්න ලැබුනා. ඒ තමයි උපස්සදායක, විමානවත්ථුවේ හයවෙනි වර්ගයේ පස්වෙනි විස්තරය. මෙතන තියෙන්නෙ මෙහෙමයි ඒ තමයි එක ස්වාමීන් වහන්සේ නමක් හවස් කාලයේ ඇතට වඩිනකොට ගමකට ඇවිල්ලා කිව්වා උපාසකය මං අහවල් ශ්‍රාවස්තියේ අහවල් තැනට යන්නෙ. මට යාගන්න, අනේ හාමුදුරුවනේ මේ රාත්‍රියේ කොහෙ වඩින්නද, දැන් මේ වෙලාවට නම් යන්න තැනක් නෑ, වෙලාව මදි කිව්වා යන්න. රෑ වෙනවා. ඉතින් උපාසකය දැනුත් අඩ අඳුර වුනා, මොකද කරන්නෙ. ඉතින් ස්වාමීනී මෙතන ඉන්න අහල පහළ තැනකුත් නෑ, ඔබ වහන්සේ කරුණාකරලා මොහොතක් ඔහොම වැඩ ඉන්න. දුවගෙන ගිහිල්ලා ගෙදර ඇඹේණියට කිව්වා. ශ්‍රමණයන් වහන්සේ නමක් එනවා, උන්වහන්සේට අද යන්න බෑ, ඉන්න තැනකුත් නෑ, ඉතින් අනේ එහෙනම් මොකද කරන්නෙ. කිව්වා එහෙනම් අපේ ගේ අපි දෙන්නා කුස්සියේ ඉමු පිළිකන්නෙ, එළියේ. අපේ කාමරයේයි, සාලයේයි. ඒ කියන්නෙ කාමර දෙක තියන්නෙ. ඒක ශුද්ධ කරලා ඒ තෙරුන් වහන්සේට කුටියක් විදියට අපි පූජා කරමු. ඒකට බිරිඳ කැමති වුනා. බලන්න. දෙන්නා එක අදහසකට ආවා. ඉක්මණට කිව්වා එහා පැත්තෙ ස්වාමීන් වහන්සේ ඉන්නෙ වඩම්මගෙන එන්නම්, උඹ ඉක්මණට මේක අස් කරපන් කිව්වා. ඊටපස්සෙ ආයෙ අස් කරන්න දේකුත් නෑ, පැදුරයි එහෙමනෙ තියෙන්නෙ, අහිංසක ගෙවල් දුප්පත් මිනිස්සුන්ගෙ. ඊටපස්සෙ ඒ කාමරේ හොඳට අතුපතු ගාලා උන්වහන්සේට සෙනසුන පනවලා ඒ බිරිඳ කුස්සියට ගියා. අර උපාසකයා ඇවිල්ලා ස්වාමීනී එහෙනම් අද දවසට ඔබ වහන්සේට සෙනසුනක් විදියට මේ කුටිය ඔබ වහන්සේට පූජා කරනවා. ඔබ වහන්සේ සුවසේ වැඩ ඉන්න කියලා උන්වහන්සේට කුටිය පූජා කලා. කරලා පිටිපස්සෙන් අර නිකං අටවගෙන

තියෙන කුස්සියට ගිහිල්ලා ඒ දෙන්නා එදා කුස්සියේ හිටියා, ඉස්සරහ පැත්තට ආවෙ නෑ, ඒක ස්වාමීන් වහන්සේ වෙනුවෙන්ම වෙන් කලා. ඊටපස්සෙ පහුවදා උදේම දානෙ හදලා, ආහාරත් පූජා කරලා, උන්වහන්සේට පැන් ආදිය පූජා කරලා එහෙම පිටත් කලා වන්දනා කරලා. හරී සතුටුයි ඒ දෙන්නට. බලන්න ඔහොම අහිංසක ගෙවල් කොච්චර නම් තියෙනවාද. ඊටපස්සෙ හරිම සතුටුයි. ඊටපස්සෙ දැන් අපිටත් සිද්ධ වෙලා තියෙනවා, දැන් සමහර විට අපිත් ගම්පැත්තෙ එහෙම වැඩියට පස්සෙ, එතකොට ළඟ අහළ පහළ ඉන්න අය අනේ ස්වාමීන් වහන්සේ අද අපේ ගෙදර වැඩ ඉන්න කියලා, අපි අපේ ගෙවල් වල ඉන්නෙ නෑ, එතකොට ළඟ කාගෙ හරි ගෙදරක් සම්පූර්ණයෙන්ම වෙන් කරලා සමහර වෙලාවට එහෙම ඉන්නෙ. එතකොට ගියොත් එහෙම. ඉතින් ඒ නිසා ඒ අය දන්නැති වුනාට විශාල පිනක් රැස් වෙනවා. ඊටපස්සෙ මේ දෙන්නගෙ ජීවිතේටම ඒ කලාමයි පිනක්. ආපහු ඒ දෙන්නගේ අතින් වෙන පින්කම්වත් ආයෙ ශ්‍රමණයන් වහන්සේලාවත් මුණ ගැහුන්නෑ. ඒ පින් බලයෙන් දෙව්ලොව ගියා. දැන් ඒ දිව්‍ය පුත්‍රයා මහා දිව්‍ය රාජයෙක්. ඉතින් අර බිරිඳම ඒ දිව්‍ය පුත්‍රයාගේ දිව්‍ය අප්සරාව බවට පත්වෙලා, පරිවාර දිව්‍ය අප්සරාවො දහස් ගණන් ඉන්නවා. අප්‍රමාණ සැප විපාක තියෙන දිව්‍ය විමානයක බැබලි බැබලි ඉන්නේ මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ කාරණාව ඇහුවේ. මුගලන් මහරහතන් වහන්සේට තමන් කරපු පින්කම කිව්වා. ස්වාමීනී මමත් මගේ බිරිඳත් මනුස්ස ලෝකෙදි රහතන් වහන්සේ නමකට සෙනසුනක් පූජා කරගත්තා. එයාලා ඒ උපස්ථාන කරලා තියෙන්නෙ රහතන් වහන්සේ නමකට. ආර්ය සංඝයා විෂයෙහි සිත පහදවාගෙන බොහොම පිළිවෙලට අපි උතුම් දානයක් පූජා කලා. මහා දානයක්. පිළිවෙලට අහිංසක කෙනාට කොහොම දුන්නත් ඒක මහා දානයක්. ඒ පිනෙන් තමයි මෙවැනි ලස්සනක් මට ලැබුනෙ. ඒ පිනෙන්මයි මේ සම්පත් ලැබුනේ. සිතට ප්‍රීතිය උපදවන මේ සැප සම්පත් ඔක්කෝම ලැබුනෙ ඒ නිසා. ඉතින් ස්වාමීනී, ඒ නිසා එක දවසකට නමුත් සංඝයා විෂයෙහි සෙනසුනක් පූජා කිරීම ඒ සා විපාකයි කියනවා. බලන්න පින්වතුනි ඒ තමන්ට ඒ පිනක් කරගන්න අවස්ථාවක් ලැබුනට පස්සෙ ඒ පින අත්නොහැර ගැනීම, ඊළඟට තමයි එක අදහසකින් පින් කිරීම, කුටු කුටු ගාන් නැති එක. සමහර වෙලාවට ස්වාමියා ශ්‍රද්ධාවෙන් සංඝයා වඩම්මනවා, බිරිඳ කැමති නෑ. ඊටපස්සෙ සමහර විට බිරිඳ ශ්‍රද්ධාවෙන් දන් පැන් දෙනවා, ස්වාමියා කැමති නෑ, ඉතින් ඒ දෙන්නා අදහස් දෙකක වුනාම විපාකය එනකොටත් ඒ දෙන්නා ළංවෙන්නෙ නම් නෑ, ඒ දෙන්නා ලෝක දෙකක. සමසද්ධා, සමසීලා,

සමචාගා, සමපඤ්ඤා. සමාන විදියට ශ්‍රද්ධා සීල ත්‍යාග ප්‍රඥා තිබ්බම තමයි එකතු වෙවී යන්නෙ. දැන් තමන්ගේ ස්වාමියා නරක ගති වලින් යුක්තයි නම්, ඒ මනුස්සයා ඔබට අප්පිරියයි නම් ඒ බිරිඳ කළයුත්තෙ ස්වාමියාට ප්‍රතිවිරුද්ධ ගුණ රැස් කරන්න ඕන. ස්වාමියාට නිතර තරහා යනවා නම් බිරිඳ තරහා ගන්නෙ නැති කෙනෙක් වෙන්න ඕන. ස්වාමියා දන් දෙන්නෙ නැතිනම් බිරිඳ ගොඩාක් දන් දෙන්න ඕන. ඊළඟට ස්වාමියා බණක් අහන්නෙ නැත්නම් ස්වාමියා ගොඩාක් බණ අහන්න ඕන. ඊළඟට බිරිඳ නුවණින් කල්පනා කරන්න ඕන. සිල් සමාදන් වෙන්න ඕන. කවදාවත් ඒ දෙන්නා ආයෙ එකතු වෙන්නෑ. මොකද ඒ පුණ්‍ය විපාකයෙන් ඒ දෙන්නා ලෝක දෙකකමයි ඉපදෙන්නෙ. දැන් අද කාලෙ තියෙන්නෙ මිනිහත් බනිනවා, ගෑණිත් තකට තකේ බනිනවා. මිනිහත් ලෝභයි, ගෑණු කෙනත් ලෝභයි. ඒ කර්ම විපාක විඳින්න ඒ දෙන්නම සසරේ එකතු වෙවී අංකරේ අල්ලගෙන යනවා. ඕක තමයි ලෝකෙ තියෙන ස්වභාවය. ඉතින් ඒ නිසා එකට පින් කරපු අය නම් මෙලොවත් තැවෙන්නෑ, පරලොවත් තැවෙන්නෑ. ඉද නන්දති පෙච්ච නන්දති කත පුඤ්ඤො උභයත්ථ නන්දති මෙහෙත් සතුටු වෙනවා පරලොවත් සතුටු වෙනවා දෙලොවම සතුටු වෙනවා. පුඤ්ඤං මේ කතංති නන්දති, මං පින් කලා කියලා සතුටු වෙනවා. ගිහියෝ නන්දති සුග්ගතිං ගතො, ගොඩාක් සතුටු වෙන්නෙ දෙව්ලොව ගිහිල්ලා. සුගතියෙ ගිහිල්ලා. ඊළඟට පින්වතුනි අපි බලමු ඊළඟ දිව්‍ය විමානය, මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දිව්‍ය විමානය දකින්නෙ. අප්‍රමාණ දෙව්සැප තියෙන මැණික් මාළිගාවකින් යුතු අප්‍රමාණ දෙව්සැප විඳින දිව්‍ය පුත්‍රයෙක්. දැන් මේ සියලුම කතා දිව්‍ය පුත්‍රයො. මං ඉස්සර මනුස්ස ලෝකෙදි මනුස්සයෙක් වෙලා හිටියා. මං දැක්කා ස්වාමීන් වහන්සේ නමක්. උන්වහන්සේ අධික පිපාසයෙන් කලන්තෙ හැදිලා හිටියේ. ඉතින් මං උන්වහන්සේට දානෙ හදලා පූජා කරගත්තා. මං උන්වහන්සේව ආහාර පාන සහිත බවට පත් කලා. මෙන්න මේ කතාව පින්වතුනි, මං බැලුවා කොහොමද මේ දිව්‍යපුත්‍රයාගේ කතා ස්වභාවය කියලා. මෙයා කුඹුරු කොටන මනුස්සයෙක්. ඊටපස්සෙ මෙයා ඉතින් මහන්සියෙන් පොඩ්ඩක් කුඹුරෙන් ගොඩට ඇවිල්ල ලඳු කැලෑවට පොඩ්ඩක් ගියා හාන්සි වෙලා පොඩ්ඩක් ගිමන් නිවාගන්න. ඒ වෙලාවට ස්වාමීන් වහන්සේ නමක් එතනින් වැඩියා, උන්වහන්සේගේ මූණෙන්ම පේනවා, ගොඩාක් දාඩිය දාලා මහන්සි වෙලා. අනේ ස්වාමීනී වඩින්න, ඔබවහන්සේ දානෙ වැළඳුවාද, දානෙ වළඳලා නෑ. අහල පහල ගමකුත් නෑ පිණ්ඩපාතෙ යන්න. ඊටපස්සෙ එයා මොකද කලේ තමන්ට ලැබිච්ච ආහාරය තමන් දවල්ට ඔතාගෙන ආපු

මොනවාහරි ටිකක් තිබ්බනෙ, ඒක එහෙම්මම පූජා කලා. ඊටපස්සෙ ස්වාමීන් වහන්සේ භාගයයි ගත්තෙ. ඊටපස්සෙ එයා කිව්වා එපා ස්වාමීනි මට අනුකම්පා පිණිස ඔක්කොම ගන්න කියලා තමන්ගේ ආහාරය එහෙම්මම දීලා පුදුම විදියට සතුටු වුනා. එදා දවල් ඔහුට කෑම නෑ, තමන්ගේ වේල දානෙට පුදලා තමන් බඩගින්නෙ හිටියා. ඔන්න ඔය පින මනුස්ස ලෝකෙදි කරගත්තා. දැන් දිව්‍ය ලෝකෙ ආවම ආයුෂ අවුරුදු තුන්කෝටි හැටලක්ෂයක් දිව්‍ය ආයුෂ විඳිනවා. දෙවියන්ගේ සුදහ භෝජන වළඳන්නෙ. නන්දන උයනේ සතුටු වෙන්නෙ. සුධර්මා දිව්‍ය සභාවේ සාකච්ඡා කරන්නෙ. කොච්චර බලන්න පින විසින් මනුස්සයෙක් අරගෙන යන හැටි. බඩගින්නෙ ඉඳලා දන් දෙන්න පුලුවන්කමක් තියෙනවා නම් ඒක සුලුපටු දෙයක් නෙවෙයි පින්වත්නි. ඉතින් ඒ නිසා තවත් තියෙනවා ඒ වගේම එකක්. ඒකෙ තියෙන්නෙ මං මනුස්ස ලෝකෙ ඉන්න කාලෙ යව කෙතක් පාලනය කරපු කෙනෙක්. මං නොකැළැඹුණු සිතින් ඇති ප්‍රසන්න වූ රහතන් වහන්සේ නමක් දැක්කා. මං උන්වහන්සේට මගේ දෑතින්ම පිට්ටුවක් පූජා කරගත්තා. ඒ පූජාවෙන් ලැබුනු පිනෙන් තමයි මේ නන්දන වනයෙන් මං සතුටු වෙන්නෙ. ඔහුත් ඒ වගේම එදා දවල් කෑමට ගෙනිහිල්ලා තියෙන්නෙ පිට්ටුවක්. ඒක එහෙම්මම පූජා කරලා. පින්වතුනි තමන් තවත් කෙනෙකුට දානයක් දීලා තමන් බඩගින්නෙ ඉන්න පුලුවන්නම් මේක ප්ලෑන් කරලා කරන්න බෑ මේ පින, අහම්බෙන් මේක එන්නෙ. ඒ වාගේ අවස්ථාවක් ලැබුනොත් මගහැරගන්න එපා. තමන් බඩගින්නෙ ඉඳලා දන් දෙන එක. ඒක මුලු ජීවිත කාලෙම මතකයි තමන්ට. ඒකෙ ආනිසංස සුලුපටු නෑ, ඒකෙ ආනිසංස සුලුපටු නෑ පින්වත්නි. දැන් ගත්තොත් එහෙම බුද්ධ කාලෙ හිටියා මෙණ්ඩක සිටුතුමා. මෙණ්ඩක සිටුතුමාට, ඔහු පෝය දවසට උපෝසථය සමාදන් වෙලා ගබඩාවල් ඇරලා බලනකොට ඒ මුලු මාසෙම අයින් වෙච්ච ධාන්‍ය ඒ ඔක්කොම ටික පිරෙනවා, ඔහු පෝය දවසට ගබඩාවට ගිය ගමන්. ඊටපස්සෙ ඔහුගේ බිරිඳ හාල් සේරුවක බත් උයලා මුළු නගරයේම, මිනිස්සු ලක්ෂයක් ආවත් කෑම දෙන්න පුලුවන්. බිම්බිසාර රජ්ජුරුවො මේක චෙක් කරන්න චතුරංගනී සේනාවත් එක්කම ඒ ගෙදරට යනවා. එතකොට ඈ හාල් සේරුවක බත් උයලා. ඉතින් රජතුමා කිව්වා ඔක්කොටම කෑම දෙන්න කියලා. රජතුමාගෙ මුළු සේනාවටම කෑම දුන්නා, බත් මුට්ටිය ඉවර වෙන්නෑ, ඊටපස්සෙ ඔහුගේ පුතා, මෙණ්ඩක සිටුතුමාගේ පුතාට පුලුවන් කහවණු සීයක් අතේ තියාගෙන පඩි ගෙවන්න පුලුවන්, කහවණු සීය ඉවර වෙන්නෑ, බිම්බිසාර රජ්ජුරුවො කහවණු සීය ඔහුගේ අතේ තියලා චතුරංගනී සේනාවටම පඩි

ගෙවන්න කිව්වා කහවණු සීය ඉවර වෙන්නෑ, ඊටපස්සෙ ඔහුගේ බිරිඳට පුලුවන් වී බුසලක් තියාගෙන ඕනම පිරිසකට වී දෙන්න පුලුවන්, වී බුසල ඉවර වෙන්නෑ, ඉතින් වී බුසලක් තියලා ඇයට කිව්වා වී දෙන්න කියලා වී ඉවර වෙන්නෑ, ඊළඟට ඔහුගේ ගෙදර ඉන්නවා දාසයෙක්. දාසයාට පුලුවන් කුඹුර හාන්න, දැන් කුඹුර නගුලෙන් හානකොට එක නගුල් දැත්තයිනෙ තියෙන්නෙ. ඒ නගුලේ එක පාරක් මෙහෙම හානකොට එක පස් පිඩැල්ලක් කැපිලා වැටෙනවානෙ. ඒ දාසයා හානකොට නගුල් හතක් පොළොවෙ වදිනවා. ඒ කියන්නෙ එක පස්පිඩැල්ලක් පෙරලෙන වෙලාවට දෙපැත්තෙන් තුන තුන තව පිස් පිඩැලි හයක් පෙරලෙනවා. පස් පිඩැලි හතක් පෙරලෙනවා. ඒ නිසා දවස් හයක් හාන්න ඕන කුඹුර එක දවසින් හානවා. ඔහුගේ දාසයා. ඉතින් මේක රජගහනුවර පැතිරීලා තිබ්බ පුදුම යහපතක්. පුදුම කාරණාවක් රජගහනුවර පැතිරලා තිබුනා. ඊටපස්සෙ ඒ ගමට බුදුරජාණන් වහන්සේ වැඩිය වෙලාවෙ ඔය සියලූම දෙනා බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා දාසයා දක්වාම ඒ ගෙදර පස්දෙනාම සෝවාන් වුනා. මොකක්ද මේ කරපු පින. අතීතයේත් මේ පස් දෙනාම සිටුපවුලක ඉපදිලා පසේ බුදුරජාණන් වහන්සේගේ කාලයේ. ඒ කාලයේ දුර්භික්ෂයක් ඇවිල්ලා. ඉතින් ආහාර ඉතුරු කරගෙන තිබ්බා, වී එහෙම බිත්ති වලට මැටි ගහලා තිබ්බෙ. ඊටපස්සෙ ඒ මැටි අයින් කරලා ඒ වීත් අරන් කොටලා ඒ මිනිස්සු ජීවත් වුනා. ඊටපස්සෙ වැස්සක සේයාවක් වත් නෑ, මුළු නගරයේම ගස් ඉදල් වෙලා. කෑම නෑ, ග්‍රීෂ්මෙ. ඊටපස්සෙ මොකද වුනේ, අවසාන බත් හාල්පත ඔවුන්ගේ ගෙදර උයනවා. සිටුතුමයි බිරිඳයි පුතයි යේලියි දාසයයි ඉන්නෙ. ඊටපස්සෙ ඒ හාල්පත උයලා ඉවර වෙලා පිඟන් පහකට බෙදුවා. එතකොට කරුණා ගුණැති මහා ඍද්ධිමත් වූ පසේ බුදුරජාණන් වහන්සේ ඔවුන්ට මේ ගෞතම බුද්ධ ශාසනයේ වෙන යහපත දැකලා, ඔවුන්ගේ ගෙදර ඉස්සරහාට වැඩම කලා. වැඩම කරපු ගමන් සිටුතුමා හාන්සි පුටුවේ ඉන්නවා. දැක්කා අනේ ශ්‍රමණයන් වහන්සේ නමක්. ඊටපස්සෙ කිව්වා ගෙදර උන්දැට කියනවා, ගෙදර උන්දැ උදේම කියලා තිබ්බෙ අද විතරයි බත් පත කියලා. ඊටපස්සෙ සිටුතුමා හිතුවා අද කන දෙයක් තමයි අදින් පස්සෙ කෑම නෑ මරණය අපි බලාපොරොත්තු වෙන්න ඕන. කල්පනා කලා මේ එක වේලක් කාලා කීදොහක් ජීවත් වෙන්නද. කොහොමටත් ඉවරයිනෙ. ඒ නිසා යන පරලොව ගමනකට මං ඉතුරු කරගන්නවා කියලා මේ සිටුතුමා තමන්ගෙ බත් පත මෙහෙම අතින්ම පසේ බුදුරජාණන් වහන්සේගේ පාත්‍රයට බෙදුවා. බෙදනකොට පින්වතුනි මේ සිටුතුමා දැක්කා, දැන් මේ පැත්තෙ කොටස තමන්ට භාගයයිනේ බෙදන්නෙ.

මෙහෙම බෙදනකොට තමන්ට ඉතිරි කරගත්ත කොටසින් අත ඇත්වෙනවා, දෙන එකත් එක්ක තමයි අත තියෙන්නෙ. එතකොට සිටුතුමාට තත්පරේට නුවණ ආවා. අපිට යමක් ලැබෙනවා නම්, තමන්ට යමක අයිතිය තියෙනවා නම් තියෙන්නෙ දෙන දේත් එක්ක. ළං කරගන්න දේට හානි වෙනවා කියලා. ඒ ඇතිවෙච්ච සිතිවිල්ලට එහෙම්මම සම්පූර්ණයෙන්ම බත් එක දැම්මා. මේක දැකලා සිටු දේවීන් වහන්සේත් ස්වාමීනී මට අනුකම්පා කරන්න, අපි තව කී දොහක් ඉන්නද, ඔබ වහන්සේට පූජා කරනවා කියලා දානෙ පූජා කලා. ඊටපස්සෙ පුතත් පූජා කලා. දුවත් පූජා කලා. දාසයත් පූජා කලා. ඔක්කෝටම කෑම නෑ, පසේ බුදුරජාණන් වහන්සේ ඉච්ඡිතං පච්ඡිතං තුය්හං කිප්පමේව සමිජ්ඣතු, පූරෙන්තු චිත්ත සංකප්පා චන්දො පන්න රසො යතා මනුජෝති රසෝ යතා ආදී වශයෙන් පසේ බුදුරජාණන් වහන්සේලා සෙත් පතන ගාථාවෙන් සෙත් පැතුවා. ඔබ හිතන පතන දේ සමෘද්ධිමත් වේවා පිරෙන හඳවගේ. ඒ වගේම උතුම් මැණිකක ප්‍රභාව සේ සියල්ල සිදුවේවා කියලා සෙත් පැතුවා. සෙත් පතලා පසේ බුදුරජාණන් වහනසේ වැඩියා. ඉතින් කට්ටිය ඔක්කොම පිළිකන්නෙ ඉඳගෙන පසේ බුදුරජාණන් වහන්සේ වඩින දිශාවට වැඳගෙන හිටියා. ඔහොම්මම ඉන්නවා, දැන් පැය ගාණක් ඉන්නවා. බඩගින්නේ බෑ. ඔයාලා කියෙන්න යකෙක් කන්න බඩගිනියි කියලා. බඩගින්නේ බෑ, ඊටපස්සෙ කිව්වා ගෙදර ඇඹණියට කිව්වා, හාමිනේ බලාපං දංකුඩ ටිකක්වත් තියෙනවාද කියලා. එතකොට ඒ හරියට ගුණවත් ඒ බිරිඳ. නෑ කිව්වෙ නෑ, මං බලන්නම් කිව්වා. ගිහිල්ලා මුට්ටිය ඇරලා බලනකොට සමන් කැකුළු වගේ බත් මුට්ටිය. පිරිලා බත්. ඊටපස්සෙ ඒ බත් මුට්ටියෙන් බත් බෙදුවා. පස් දෙනාට. ඉවර වෙන්නෙ නෑ, නගරයේ අණබෙර ගැහුවා. නගරයේ ඔක්කෝටම ආහාර දුන්නා, ඉවර වෙන්නෑ, එදා හවස්කාලය වෙනකොට අහස් කුස නිල්වන් වළාකුළු ඇවිල්ලා මහා වර්ෂාව ඇදහැලුනා. .. පිනක් කරන එක අහම්බෙන් කරන්න ඕන. අතෑරලා කරන්න ඕන. ජීවිතේ දෙවැනි තැන තියලා කරන්න ඕන. උපනූපන් ජීවිතේ සුගතියේ ඉපදුනා. ගෞතම බුද්ධ ශාසනයේ අර වාගේ සෘද්ධි පහකින් ඉපදුනා. සෝතාපන්නත් වුනා. තමන් බඩගින්නෙන්, කුසගින්නෙන් ඉඳලා කරන පින්කම සුලුපටු නෑ, ඉතින් ඒ නිසා පින්වතුනි ඔබටත් දුෂ්කර අවස්ථාවක දන්දෙන්න ලැබුනොත් ඒ දානය පූජා කරගන්න. දැන් අපි අඳුනන සමහර අය ඉන්නවා ව්‍යාපාර කටයුතු කරන, ඒ ව්‍යාපාර කටයුතු කියන එක හැමදාම එක විදියටම නෑනෙ පින්වතුනි. දැන් අපි දන්න පවුලක් තිබ්බා එයාලා ගොඩාක් ව්‍යාපාර කටයුතු වලින් වැටිලා අවසානයේ එදා වේල පිළිබඳව

ගැටළුවත් ආවා. දරුවන්ට කොහොමහරි පොඩ්ඩ පොඩ්ඩ ආහාර දීලා, ස්වාමියායි බිරිඳයි දෙන්නා එක වේලක් පොඩ්ඩක් අරගෙන අනෙත් වේලට යන මුදල පොඩ්ඩ පොඩ්ඩ ඉතුරු කරලා, දවස් පහළොවකට සැරයක් දානයක් දුන්නා. ඉතින් මාසයක් හමාරක් ඔය විදියට දුකසේ දන් දුන්නා. ඊළඟ මාසය වෙනකොට ඒ ප්‍රශ්න ඔක්කොම විසඳුනා. නමුත් ඔවුන්ට මැරෙනකල් දැන් තියෙනවානෙ, බඩගින්නෙ ඉඳලා අපි දන්දුන්නා කියලා. ඒ නිසා සාමාන්‍යයෙන් ඒකයි සමහර බුද්ධ දේශනාවෙත් තියෙනවා කරදර වැඩි වුනාට පස්සෙ, දුෂ්කරතා වැඩි වුනාට පස්සෙ දන් දෙන්න ඕන. ඒ දන් දුන්නාට පස්සෙ හරියනවා. මම දන්න තව කෙනෙක් ඉන්නවා එයා අවුරුදු විස්සක් උත්සාහ කලා ගේ හදාගන්න. ගේ හදාගන්න අවුරුදු විස්සක් උත්සාහ කරනවා හරියන්නේම නෑ, ඊටපස්සෙ මම උපදෙසක් දුන්නා. ගේ හදන්න තියෙන මුදලින් හතරෙන් පංගුවක් වෙහෙරක් විහාරයක් හදන්න පූජා කරන්න කියලා. අපි කියමු ලක්ෂයක් නම් ලක්ෂෙන් විසිපන්දාහක් පූජා කලා හැත්තැපන්දාහක් තියෙනවා. ඊටපස්සෙ අවුරුදු විස්සක් හදාගන්න බැරිවුනු ගේ හදාගත්තානේ. දීමේ විපාක. ඉතින් ඒවා අනුස්මරණය කරන්න ඕන. මේවා දීමෙනුයි ලැබෙන්නෙ කියලා. ඒ නිසා තමන්ගෙ දුෂ්කරතා මැද දෙන දානය මහත්ඵලයි මහානිසංසයි. ඒ අයට වෙනම දිව්‍ය විමාන තියෙනවා. ඉතින් ඒ නිසා ඒ කරුණු කාරණා තේරුම් ගන්න. ඊළඟට අසෙය සිටුතුමා දානෙ දිදී දානෙ දිදී ඉන්නවා කලින් මගේ බුදුරජාණන් වහන්සේ බෝධිසත්ව කාලෙ. ඒ බෝධිසත්ත්ව කාලෙ දන් දිදී ඉන්නකොට සක්‍ර දේවේන්ද්‍රයා බයවුනා, මේ දෙන විදියට නම් මගේ ආසනෙන් මටත් චුත වෙන්න වෙනවා කියලා. ඉතින් සක්දෙවිඳු සියලුම දානෙ දෙන අඩුවැඩිය ඔක්කෝම අතුරුදහන් කලා. මිනිස්සුත් අතුරුදහන් කලා. ගෙවල් වල ඉන්න මිනිස්සුන්ට එන්නෙ හිතෙන්නෙ නෑ, ඊළඟට හැබැයි යාචක මිනිස්සු එනවා. ගෙදර දෙන්න දානෙ වස්තුවක් නෑ, ඊටපස්සෙ ඒ සිටුතුමයි බිරිඳයි දෙන්නා තණකොළ කපලා ඒ තණකොල විකුණලා ඒකෙන් දානෙ අඩුවැඩි ගෙනල්ලා හාල් අඩුවැඩි යාචකයන්ට දන්දීලා තියෙනවා. ඒ දෙන්නට කෑම නෑ, පහුවදාත් තණකොළ කැපුවා. ඒ දෙන්නට කෑම නෑ, බිරිඳ එක වචනයක් කියලා නෑ, ස්වාමියාට කලින් තණකොළ කපන්න යන්නෙ ඈ. මේ විදියට දවස් හතක්, සත්වෙනි දවසේ ස්වාමියා කලන්තෙ දාලා වැටුනා කන්න නැතිව. ඒත් බිරිඳගෙ ඔලුවෙ තණකොළ මිටිය තියෙනවා. ඒ බිරිඳ තමයි යශෝදරා. යශෝදරා සංසාරයේ දන් අනුමෝදන් වෙච්චි හැටි බලන්න. සක්දෙවිඳු අහසේ පෙනී ඉඳලා කියනවා එම්බා සිටුවරයා දන්දෙන එක නතර

කරාපං. සිටුවරයාට යාන්තං සිහිය ඇවිල්ලා කියනවා මාගේ ඇඟ මස් ලේ නහර ටික ඔක්කෝම මේවත් නැතිවෙලා මං මෙතෙන්ට මහපොළොවෙ පස්වෙලා ගියාදෙන්, මගේ දානෙ නම් මං නතර කරන්නෑ, මොකද ඔච්චරම දානෙ දෙන්නෙ. ඊටපස්සෙ කිව්වා මට වෙන මොනවත් ඕන නෑ, මගේ එකම අර්ථයයි මගේ හිතේ තියෙන්නෙ, මේ සියලු දුකෙන් මං නිදහස් වෙන්න ඕන, අන් අයත් නිදහස් කරවන්න ඕන. ලොව්තුරා සම්බුදු බවයි. අන්න ඒ වෙලාවෙ තමයි සක්‍රයාට ලේ ටිකක් ඉනුවෙ. නැත්නම් සක්‍රයා හිතුවෙ සක්‍ර පදවියටයි මේ ඔක්කොම කරන්නෙ කියලා. ඊටස්සෙ සක්දෙවිඳුත් සමාව අරගෙන මුළු මාළිගාවම පුරවනවා දාන වස්තු වලින්. අසෙය සිටුතුමාගේ කතා වස්තුව ඒ විදියට තියෙනවා. බලන්න දන්දීම අපේ බෝධිසත්ත්වයො සංසාරෙ පුරුදු කරපු විදිය. පුදුම සහගතයි. ඒ වාගෙ තව තියෙනවා ජාතක කතා. අකිත්තිය තාපසතුමාගේ කතාව ඔය විදියට බඩගින්නෙ ඉඳලා දන් දීපු එකක්. ඒ විදියෙ ගොඩාක් විස්තර තියෙනවා පින්වත්නි. කොහොමහරි මේ බලන්න බඩගින්නෙ ඉඳලා දෙන දානෙ මහත්ඵලයි මහානිසංසයි, ඉතින් ඒ අයට වෙනම දිව්‍ය විමාන පහළ වෙලා තියෙනවා, දැන් මේ අවස්ථා තමන් එක වේලක් බඩගින්නෙ ඉඳලා දුන්නු දාන දීපු අය දිව්‍ය ලෝකෙ දිව්‍ය රාජවරු වෙලා ඉපදිලා. තව තියෙනවා විස්තරයක් එක දිව්‍ය පුත්‍රයෙක්ගේ. මේ දිව්‍ය පුත්‍රයාගේ දිව්‍ය විමානය හරී ගොඩාක් අලංකාරයි, ලස්සනයි, ආනුභාවයි, සෞභාග්‍ය සම්පන්නයි, දිව්‍ය අප්සරාවන් බොහෝ ප්‍රමාණයක් සිටිනවා. වීණා නාද, පංචතූර්ය නාද, දිව්‍ය නාද, නැටුම් ගැයුම් වැයුම් ඒ දිව්‍ය විමානය පුරාම පැතිරී තිබෙනවා. අධිපති බවට පත්වෙලා සිටින්නෙ මේ දෙවියා. මුගලන් මහරහතන් වහන්සේ මේ කාරණාව ඇහුවේ. පින්වත් දෙවිය ඔබ මොකක්ද කරපු පින මෙච්චර ආනුභාව සම්පන්න වෙන්න. මං මනුස්ස ලෝකෙ මනුස්සයෙක් වෙලා හිටියා. මං දැක්කා සිල්වත් ශ්‍රමණයන් වහන්සේලා. උන්වහන්සේලා විජ්ජාචරණ සම්පන්නයි, යසසින් යුක්තයි, බහුශ්‍රැතයි, තණ්හාව ක්ෂය කරලයි ඉන්නෙ, ඉතින් මං උන්වහන්සේලා ගැන හිත පහදවගෙනයි හිටියෙ. මං බොහොම පිළිවෙලකට දන් පැන් හදලා මහා දානයක් පූජා කලා. ඒ පිනෙන් තමයි මට ලැබුනෙ. මේකත් මේ වගේ එකක්. සාරිපුත්ත මොග්ගල්ලාන මහරහතන් වහන්සේලා මේ ගමට වැඩම කලා. වැඩම කලාට පස්සෙ ආරංචි වුනා ඈත ඉඳලා උතුම් ශ්‍රමණයන් වහන්සේලා වැඩලා කියලා. අනේ ගිහිල්ලා මේ පින්වතුන් ගිහිල්ලා උන්වහන්සේලාට වන්දනා කරලා පාද දෝවනය කරලා පාද වල තෙල් ගාලා උපස්ථාන කරලා. දැන් මට මේක කියනකොට මතක් වුනේ අර පහුගිය කාලෙ

තායිලන්තෙන් භික්ෂූන් වහන්සේලා වැඩලා අර පාද යාත්‍රාවක් කලේ ලංකාවෙ. එතකොට මිනිස්සු ගිහිල්ලා මගට ආහාරපාන උන්වහන්සේලාට පූජා කරලා සමහර අය ගිහිල්ලා උන්වහන්සේලාගේ පාවල අර පාපයින් වඩින නිසා තෙල් ආදිය තෙල් ගාලා සම්භාහනය කරලා පාද ඒ විදියට උපස්ථාන කරපු ඒවා මං දැක්කා. එතකොට ඒ වගේ සාරිපුත්ත මහරහතන් වහන්සේගේ පා වල, මුගලන් මහරහතන් වහන්සේගේ පාවල තෙල් ගාලා, උන්වහන්සේලාට වැඩ ඉන්නට සලස්වලා පහුවදාම දානයක් පූජා කරගෙන බණ අහලා හරීයට සතුටු වෙලා. මාර්ගඵල ලබලා නෑ. නමුත් අර කරපු පිනට දිව්‍ය ලෝකෙ ඉපදිලා අප්‍රමාණ සැප විඳිනවා මහා දිව්‍යරාජවරු. ඉතින් මේවා විමානනේ පහලවෙන්නෙ, දැන් ලංකාවේ නම් මිනිස්සුන්ට ඉඩකඩම් තියෙනවා, අහවල් එයාට අක්කරයයි, අක්කර දෙකයි, පර්චස් මෙච්චරයි, පර්චස් දහයයි කියලා. ඒ වුනාට දිව්‍ය ලෝකෙ ඔහොම පර්චස් කතාවක් නෑ, යොදුන් ගණන් විමාන පහළ වෙන්නෙ පිනට. ඒ දිව්‍ය ලෝකෙ තියෙන ඒවා තවත් කෙනෙක්ට හොරකම් කරන්නත් බෑ. පින් බලයට තමයි හැම එකක්ම පහළ වෙන්නෙ. තමන් කරපු පිනට. ඊටපස්සෙ තියෙනවා තවත් දෙවියෙක්, ඒ දෙවියත් අර විදියට අප්‍රමාණ සැප සම්පත් විඳිනවා. ඒ දෙවියත් කරලා තියෙන්නෙ එහෙමයි. සාරිපුත්ත මහරහතන් වහන්සේලා ඔහොම ගමින් ගමට වඩිනකොට ඒත් උපස්ථාන කරලා, දානය පැන් පූජා කරලා එතකොට බලන්න පින්වතුනි සාමාන්‍යයෙන් උතුම් ශ්‍රාවකයන් වහන්සේලා ඒ කියන්නෙ සාරිපුත්ත මුගලන් මහරහතන් වහන්සේලා වගේ උතුම් ස්වාමීණ් වහන්සේලා පහල වීම, ඒ කාලෙ සඟරුවන පහළ වීම, දෙව් මිනිස්සුන්ට කොච්චර හිත සුව පිණිස පවතිනවද කියලා. ගමින් ගමට වඩිද්දි පැන් ටිකක් පූජා කලත්, දානෙ ටිකක් පූජා කලත්, පාවලට පැන් ටිකක් පූජා කලත්, කොයිතරම් නම් සැප විපාක විඳලා තියෙනවද. දැන් ඔය අපි අහලා තියෙනවා ඉස්සර ඈත ගම්වලට බණ කියන්න වඩිනවා කියනවා ලකුණ්ටභද්දිය මහරහතන් වහන්සේ. ඊටපස්සෙ උන්වහන්සේ ඈත ඉඳලා වඩිනකොට එක්තරා උපාසකයෙක් කරලා තියෙන්නෙ සඳුන් උරගාලා සඳුන් කල්කයක් හදලා තියාගෙන ඉඳලා තියෙනවා. දැන් මිනිස්සු ඔක්කොම රැස් වෙලා ඉඳලා තියෙනවා බණ අහන්න. එතකොට අර ස්වාමීන් වහන්සේ වඩිනකොට එක උපාසකයෙක් ගිහිල්ලා ස්වාමීනී මට අනුකම්පා කරන්න කියලා සඳුන්කල්ක ටික පෙන්නුවා. ලකුණ්ටභද්දිය මහරහතන් වහන්සේ නිහඬව වැඩ සිටියා. ඊටපස්සෙ අර උපාසකයා පා සඳුන් වතුරෙන් සෝදලා සඳුන් කල්ක ගෑවා. සඳුන් කල්කවලට පා දෙක සීතල වෙනවා. පුදුම සතුටුයි.

ඊටපස්සෙ ඔහුත් ඉද ගත්තා. ලකුණ්ටභද්දිය මහරහතන් වහන්සේ ධර්මාසනයේ අසුන් ගත්තා. උන්වහන්සේ මංජුස්වරයෙන් යුක්තයි. මංජුස්වරය කියන්නෙ උන්වහන්සේගේ කටහඬ අපි කියන්නෙ කණට මීපැණි වත්කරනවා වගේ කියන්නෙ. ඒකාන්තයෙන් උන්වහන්සේගේ හඬටනෙ ඒක කියන්නෙ. මංජුස්වර. ඇයි මේ, සංසාරයේ මිහිරි අඹයක් ගිරවෙක් වෙලා ඉද්දි ප්‍රණීත අඹයක් අරන් ආකාශෙන් යනකොට බුදුරජාණන් වහනසේ නමක් දැකලා ඉගිල්ලිලා ඇවිල්ලා අර අඹ ගෙඩිය මී පැණි වගේ අඹ ගෙඩිය බුදුරජාණන් වහන්සේගේ පාත්‍රයට දාපු පින් බලයෙන්නෙ. සංසාරෙ බුදුගුණ කිව්ව පින් බලයනෙ. මිහිරියි, ගොඩාක් මිහිරියි. උන්වහන්සේගේ හඬ ඇහෙනකොට ඔක්කෝම අමතක වෙනවා කියනවා, හිත සමාධිමත් වෙනවා කියනවා. මේ ලකුණ්ටභද්දිය මහරහතන් වහන්සේගෙන් ධර්මය අහනකොට හිත සමාධිමත් වෙනවා කියනවා. එච්චර හඬේ මිහිර. ඉතින් ලකුණ්ටභද්දිය මහරහතන් වහනසේ ධර්මාසනයේ ඉඳගෙන දහම් දේශනා කරනකොට ඒ සතුටටත් එක්ක ඔහුගේ සිත එහෙම්මම එකඟ වුනා. එකඟ වෙලා ඔහු ඒ ධර්මය අවබෝධ කලා, සෝතාපන්න වුනා. දැන් බලන්න රහතන් වහනසේගේ සිරිපා සිසිල් කරන්න සඳුන් කල්ක පූජා කලා. ඒකෙන් සිද්ධ වුනේ කුමක්ද. තමන්ගේ අපායවල් එකසිය තිස් හයක ගිනි නිවුනනෙ. තිරිසන් ලෝකෙ ගින්න නිවුනානෙ. ප්‍රේත ලෝකෙ ගින්න නිවුනානෙ. අසුර ලෝක වල ගින්න නිවුනානෙ. ආත්ම හතක් ඇතුලත විදින දුකක් විදින්න තියෙන්නෙ. සසරේ යන්න තියෙන්නෙ. අමා මහ නිවන ඒකාන්තයෙන් ලැබෙනවානෙ. සඳුන් කල්ක පූජාව ඒ සා විපාකයි, සඳුන් පූජාව. ඉතින් ඒ නිසා ඒවගේ විපාක තියෙනවා පින්වත්නි. ඊළඟට තියෙනවා හරි ලස්සන දිව්‍ය විමානයක්. මේ දිව්‍ය විමානය සම්බන්ධයි පායාසිරාජඤ්ඤ කතාවට. පායාසි රජ්ජුරුවො මිථ්‍යා දෘෂ්ටියෙන් ඉඳලා මෙලොවක් පරලොවක් නෑ කියලා කුමාර කාශ්‍යප මහරහතන් වහන්සේ ඒ මෙලොවක් පරලොවක් නැති ඒ දෘෂ්ටිය අත්හැරවපු විස්තරය දිවැසින් දුටු බියකරු සසර දහම් වැඩසටහනේදි අපි ඔබට කියලා දුන්නා. ඒ සම්පූර්ණ සිද්ධිය දීඝ නිකායේ පායාසිරාජඤ්ඤ සූත්‍රයේ තියෙනවා. ඒ පායාසිරාජඤ්ඤ සූත්‍රය කියවන්න ඕන, පුදුම ලස්සනයි. මිත්‍යාදෘෂ්ටි කඩන විදිය. උපමා උපමේය සහිතව දහම් දෙසන විදිය හරි පුදුමයි. කුමාර කාශ්‍යප මහරහතන් වහන්සේනෙ සොඳුරු ලෙස දහම් දෙසන්නෙ. ඊටපස්සෙ පින්වතුනි මොකක්ද වුනේ, ගිහිල්ලා දානෙ කිව්වා, දන් දෙන්න කැමැත්තෙන් රාජ මාළිගාවට ගිහිල්ලා උත්තර කියන මානවකයට කතා කලා, කිව්වා උත්තර අමාත්‍ය, ඔබ දානය සංවිධානය කරලා ඔක්කෝටම

දෙන්න ඕන. ගබඩාවෙන් හාල් ගන්න, අතනින් අහවල් දේවල් ගන්න. අන්න අහවල් ගබඩාවෙ ඇඳුම් තියෙනවා දෙන්න කිව්වා. ඒ ඔක්කෝම අයින් කරපු ඇඳුම්. ඊළඟට දුන්න දේ අනුව දෙන්න පුලුවන්නෙ බතුයි හොදියි විතරයි. ඉතින් උත්තර මානවකයා මෙහෙම දන් දිදී කල්පනා කර කර දවසක් දන්දීලා ඉවරවෙලා ආකාසෙට වැඳගෙන කිව්වා මේ දුන්න දානයේ විපාක විදියට උපනූපන් ජීවිතේ මේ රජ්ජුරුවෝ ඉන්න තැනකවත් නම් මට නම් ඉන්න ලැබෙන්න එපා කියලා. ඕක ගිහිල්ලා කවුරුහරි කේලමෙක් කිව්වා රජ්ජුරුවන්ට. උත්තර මානවකයා කැඳෙව්වා. ඈ උත්තර උඹ මෙහෙම එකක් කියලා තියෙනවා. රජතුමනි මගෙ අතින් කියවුනා. ඇයි එහෙම කියවුනේ. අනේ රජතුමනි බලන්න හැමදාම බතුයි හොදියි, බතුයි හොදියි, හොදියි බතුයි, ඉතින් ඒ නිසා රජතුමනි අපිවත් හැමදාම එහෙම කන්න කැමති නෑ, අනිත් එක රජ මාළිගාවෙ ඇඳලා ඉතුරුවෙච්ච පරණ ඇඳුම් තමයි මිනිස්සුන්ට දෙන්නෙ. අනේ පරණ ඒවා අඳින්න අපිත් කැමැති නෑ, අකැමැති දේවල් දෙන්න වීමේ දුක තමයි වචනෙකින් පිටවුනේ කිව්වා. ඒකට ෂොක් වුනා රජ්ජුරුවො. දුක හිතුනා. රජතුමා කිව්වා අද ඉඳලා උත්තර මම කන බොන විදියටම මිනිස්සුන්ට ප්‍රණීතව දන්දෙන්න කිව්වා. ඉතින් උත්තර මානවකයා ගබඩාවෙන් ගේනවා හොඳට දවස් හතට මෙනු හතක් හදලා බොහෝම අගේට දන් දුන්නා. ඊළඟට එන මිනිස්සුන්ට අපතේ නොයන විදියට හොඳට කන්න පුළුවන් විදියට හොඳට දන් දුන්නා. හොඳට ඇඳුම් දුන්නා. ප්‍රණීතව කලා මේක. ඒකෙ පින් බලෙන් පස්සෙ කාලෙක ඔහු මැරිලා ගිහිල්ලා ඔහු ඉපදුනේ තව්තිසාවෙ. තව්තිසාවෙ ඇමතිතුමා ඉපදුනේ. දානෙට නියෝග කරපු රජ්ජුරුවො ඉපදුනේ භූමාටු දෙවියෙක් වෙලා. හැබැයි වෛශ්‍රමණ දිව්‍ය රාජයාගේ සෙන්පතියෙක්. ආනුභාවසම්පන්නයි. සේරිස්සක විමානෙ ඉපදුනේ. එතකොට ඒ උත්තර දිව්‍ය පුත්‍රයා දිව්‍යලෝකෙ ඉඳලා මුගලන් මහරහතන් වහන්සේ දවසක් වන්දනා කරන්න පැමිණියා. ඒ වෙලාවෙ මුගලන් මහරහතන් වහන්සේ තමයි අහන්නෙ. ඒ දෙවියා උත්තර දෙනවා. මං මනුස්ස ලෝකෙ මනුස්සයෙක් වෙලා හිටියෙ. පායාසි රජ්ජුරුවන්ගේ සේවක තරුණයෙක්. මට ධනයක් ලැබුනා. ඒකෙන් තමයි මං දන් දුන්නෙ. සිල්වතුන් වහන්සේලාව මට හරිම ප්‍රියයි. ඉතින් මං උන්වහන්සේලා ගැන හිත පහදවාගෙනයි හිටියේ. මං බොහොම පිළිවෙලකට දන් පැන් හදලා මහා දන් පූජා කලා. ඒ පිනෙන් තමයි මෙවැනි ලස්සනක් මට ලැබුනෙ. ඒ පිනෙන්මයි සම්පත් ලැබුනෙ. සිතට ප්‍රීතිය උපදවන සැප සම්පත් ඔක්කෝම ලැබුනෙ ඒ නිසාමයි. මහානුභාවසම්පන්න ස්වාමීන් වහන්ස මිනිස්

ලෝකෙදි ඔය පින තමයි මං කරගත්තෙ. ආනුභාවසම්පන්නව බැබලි බැබලි ඉන්න පින ඕක තමයි. මගේ සිරුරින් විහිදෙන එළියෙන් හැම දිසාවම බබලනවා. බලන්න දන්පැන, දාන ශාලාවෙ, උත්තර මානවකයා ගෙදරින් බඩු ගෙනාවෙ නැනෙ. උත්තර මානවකයා තමන් ඉව්වෙත් නැනෙ. ඒ දානෙ ඕගනයිස් කලා, සංවිධානය කලා. ඒකෙ විපාක බලන්න. දැන් එහෙනම් කොන්ත්‍රාත් ගන්න මිනිස්සු මෙන්න මේක පොඩ්ඩක් කල්පනා කරලා බලන්න. රජයෙන් තමයි නියෝග කරලා රජයෙන් ආධාර එවන්නෙ පාර හදාපන් කියලා. ඒකෙන් ගසා කන්නැතිව හරියට හැදුවා නම් තමන්ට විපාකෙ තියනවා. එතකොට දැන් බලන්න අහක යන පින් කොච්චර අපිට ගන්න පුලුවන්ද. අපිට තනියෙන් ගමකට පාරක් හදන්න බෑ, නමුත් පාරක් හදන්න රජයෙන් සල්ලි දුන්න වෙලාවෙ ඒක හරියට කලානම්. මිනිස්සුන්ගෙ යහපත පිණිස ව්‍යාපෘතියක් රජයෙන් නියෝග කලාට පස්සෙ ලස්සනට ඒක බෙදිලා මුළු ගමටම රටටම සෙතක් වෙන විදියට කලා නම්. පුදුම ගැහිලිනෙ තියෙන්නෙ, පොඩි තැන ඉඳලා ඉහළ දක්වාම. දැන් මං මේ නොදැනගෙන කියනවා නෙවෙයි. දැන් මට ආසාවක් හිතුනා ඒ කාලේ කන්තලේ ඉන්න කාලෙ ඔන්න රජයෙන් පාරක් හදනවා කියලා අපි ලියුම් කියුම් දාලා පාර හදාගන්න ඕන කියලා කිව්වා. ඉතින් ඔන්න එහෙන් නියෝග කලා පුලුවන්, ඔන්න ලියුමක් එවලා තිබුනා පාස්වුනා පාර කියලා. ඊටපස්සෙ අපිට ඇතුලෙ ඉන්න නිලධාරීන් කිව්වා, ස්වාමීන් වහන්සේලා ඉන්න අසපුවට එන දායක සභාවත් එකතු කරගෙන පාර හදනවා නම් ඉතින් තවත් පාර ටිකක් දිගට හදාගත්තහැකි අතරමැදින් යන වියදම් අඩුවෙනවනෙ කියලා. ඉතින් අපි දායක සභාවෙ අපි කට්ටියම එකතු වෙලා පාර හදන්න ගත්තා. අම්මෝ ඊටපස්සෙ එක එක්කෙනා ඇවිල්ලා එක එක නිලධාරීන් ඇවිල්ලා අම්මෝ එක එක්කෙනා ඇවිල්ලා කොහොමහරි අවසානෙ ලක්ෂ පහේ ප්‍රොජෙක්ට් එකට ලක්ෂ තුනහමාරයි හම්බවුනේ. එතකොට මේ අත්දැකීමෙන් මේ කියන්නෙ. බලන්න අහක යන පින හරියට කරගන්න, මං නම් හිතන්නෑ මේ ලංකාවෙ ඉතාමත් අතලොස්සක් ඇති හරියට පින් කරන. මොකද තමන්ගෙ ගෙදරින් ගෙනල්ලා නෙවෙයිනෙ. දැන් බලන්න උත්තර මානවකයා මේ රජතුමා දෙන දේවල් ටික හරියට කලානෙ. ඒ වාගේ අපි කියමුකෝ ඔන්න කෙනෙක් දානයක් දෙන්න ඔන්න උයන පිරිසකට භාර දෙනවා. එතකොට එයාලා අතින් දෙන එකක් නෙවෙයිනෙ. එයාලා හරියට ඒක කරනවා, ඒ පින තමන්ට එනවා. ඒ පින එනවා. සේවා වත්පිලිවෙත් කිරීමේ විපාක ඇත කියන සම්මාදිට්ඨියේ විපාක මේවා. මට පැවරුණ වගකීම මං

හරියට කරනවා මං මේකෙන් ගසා කන්නෑ කියලා හිතනකොට ඒ අයට වෙනම දිව්‍ය විමාන තියෙනවා පින්වත්නි. ඒ වගේම තමයි ගෙවල් වල ඉන්න ළමයිනුත් දෙමව්පියන් දෙන ධනය ගසා කන්නෙ නැතිව, ඒ ධනය විනාශ කරන්නෙ නැතිව කාබාසිනියා කරලා දාන්නෙ නැතිව හරියට පාවිච්චි කලොත්, ධනය විනාශ කරන්නැතිව දෙමව්පියන්ගෙ ධනය ඒ ළමයින්ට වෙනම දිව්‍ය විමාන පහළ වෙනවා. ඒ නිසා පින්වතුනි අපි මේක තේරුම් ගන්නට ඕන. ඉතින් මේ විදියට පුණ්‍ය විපාක, ඊලඟට තව එකක් විශේෂයෙන් කියන්න ඕන. දඹදිව ගමන්, දඹදිව ගමන් යනකොට ඉතින් අපිත් ගිහිල්ලා තියෙනවානෙ, සමහර කණ්ඩායම් වල මිනිස්සු අම්මෝ මේ මිනිස්සුන්ගෙ මුදල් වලට කරන හානිය, ඒ අහිංසක මිනිස්සු රුපියල රුපියල එකතු කරලා දඹදිව යන්නෙ. දැන් සමහර වෙලාවට අපි දැකලා තියෙනවා, එක්කෙනෙක් අපිට මුණගැහුනා දඹදිව ගිහිල්ලා ඒ අම්මා පහන්තිර ඔතලා හම්බකරපු සල්ලි වලින් තමයි දඹදිව ගිහිල්ලා තිබ්බෙ. තව එක්කෙනක් නගර සභාවෙ වැඩ කරලා අතුගාලා හම්බෙච්ච සල්ලි. තව එක්කෙනෙක් දුවගෙ බයිසිකලේ විකුණලා හම්බෙච්ච සල්ලි. තව අම්මා කෙනෙක් දඹදිව ගිහිල්ලා තිබ්බා, ඒ අම්මා මරණාධාර සමිතියට ගිහිල්ලා කියලා තිබ්බා, මම මැරුණට පස්සෙ මගේ මිනිය කුණු වුනත් කමක් නෑ, මං මෙච්චර කාලයක් මරණාධාර සමිතියට දුන්නු සල්ලි ටික මට ඕන, මට දඹදිව යන්න ඕන කියලා. ඊටපස්සෙ මරණාධාර සමිතියෙන් මෙයාව අයින් කරලා ඒ සල්ලි ටික දීලා. ඉතුරු සල්ලි ටිකට ගමේ ගෙයක් ගානෙ හිතවතුන්ගෙන් කතා කර කර සල්ලි ටික එකතු කරගෙන දඹදිව ගිහිල්ලා තිබ්බා. ඉතින් මම සෑහෙන වතාවක් දඹදිව ගිහිල්ලා තියෙන කෙනෙක්. ඉතින් මාත් එක්ක ගිය කෙනෙක්, මම වන්දවන කෙනෙක්නෙ. ඒ නිසා තමයි ලොකු ස්වාමීන් වහන්සේ මහමෙව්නාවෙන්, දැන්නම් දඹදිව වන්දනා ගැන කතා කරන්නෙ කොහොමද මේ කොරෝනා කලබලෙත් එක්ක. එතකොට මහමෙව්නාවෙන් යන දඹදිව ගමන්වලදී අපි වන්දනා කලොත් නම් පුංචීම අඩුපාඩුවක්වත් මනුස්සයෙකුට වෙන්න දෙන්නෙ නැති තරම් අපිට පුලුවන් විදියට අපි වග බලාගන්නවා. ඒ නිසා සමහර කණ්ඩායම් තියෙනවා ගිහිල්ලා මලක් දෙන්නෑ මිනිස්සුන්ට. හරියට කන්න බොන්න ඉන්න, ඒ කන බොන එකත් පැත්තකට දාන්නකො. හරියට වැඳගන්න දෙන්නෑනෙ. මට වෙනත් කණ්ඩායම් වල මිනිස්සු මට ඇවිල්ලා කියනවා හාමුදුරුවනේ. දෙව්රම් වෙහෙර ගාවට ඇවිල්ලා බස් එක නැවැත්තුවලු, අන්න ජේතවනාරාමය ගිහිල්ලා ඉක්මණට එනවා කියලා කිව්වලු නඩේ ගුරා. අර ආච්චි අම්මලා මොකක්වත්

දන්නෑ, මහමෙව්නාවෙන් යන අයට මං මේ කියන්නෙ ඇත්ත කතාව. ගඩොලක් ගාණෙ පෙන්නලා තියෙනවා, මේ කුටිය අහවල් රහතන් වහන්සේගේ, මේ කුටිය අහවල් රහතන් වහන්සේගෙ, මේ දම්සභා මණ්ඩපය, මේ ගන්ධ කුටිය, මේ ආනන්ද ස්වාමීන් වහන්සේ හිටපු තැන වැඳගනිල්ලා කියලා. මිනිස්සුන්ට පාඩුවක් කලේ නෑ, ඒ නිසා ඒක දැනගෙනයි ලොකු ස්වාමීන් වහන්සේ ඒක හැදුවෙ. එතකොට ඒ නිසා මනුෂ්‍යයන්ට ඒ මනුෂ්‍යයන්ගේ යහපත ඇති කරලා දෙනවා කියන එක සුලු පටු දෙයක් නෙවෙයි. මෙච්චර විස්තර කලේ පින්වතුනි කාරුණිකව මොකක්ද, තමන්ට යම් සේවයක් කරන්න තියෙනවා නම් සේවය උපරිම ආකාරයෙන් කරන්න. රටට ආගමට ජාතියට සේවයක් කරන්න පුලුවන්නම්, ඊළඟට යම්කිසි ව්‍යාපෘතියකට මුදල් වෙන්වුනානම් ඒවා හරියට කරන්න. ඇලක්, දොලක්, වැවක් ඒවා කපන්න මුදල් පාස් වුනා නම් ඒවා හරියට කරන්න. ලැබුනු මුදලට වැඩිය කරන්නෙ කොහාමද කියලා හිතන්න. මේ ජීවිතය දුෂ්කරයි අමාරුයි, අවංකව වැඩ කරන අයට ගොඩාක් ප්‍රශ්න එනවා. නමුත් සංසාරයේ ඔබට දුකක් නෑ, ඔබට වෙනම දිව්‍ය විමාන තියෙනවා. ඒ නිසා ඒවා ගැන හිතලා සන්තෝෂයට පත්වෙන්න. ඉතින් අවසාන වශයෙන් අපි තව දිව්‍ය විමානයක් ගැන පුංචි කතාවක් තියෙනවා, ඒකත් සිහිකරලම අපි මේ පින් අනුමෝදනාව සිද්ධ කරමු. ඉතින් පින්වතුනි මුගලන් මහරහතන් වහන්සේ දැක්කා තවත් දවසක දිව්‍ය විමානයක්. ඒ දිව්‍ය විමානයේ හිටිය දෙවියා මේ විදියටයි කිව්වෙ තමන්ගෙ පින ගැන. මං මනුස්ස ලෝකෙ මනුස්සයෙක් වෙලා හිටියා. මං හරි දුප්පත් අසරණයි. දීනයි. කුලී වැඩ කරන කෙනෙක් වෙලා හිටියේ. මගේ මව්පියන් හොඳටම වයසට ගිහිල්ලා දුර්වල වෙලා ඉන්නකොට මම උපස්ථාන කලා. ඒ වගේම සිල්වතුන් වහන්සේලා මට හරි ප්‍රියයි. ඉතින් මම උන්වහන්සේලා ගැන හිත පහදවාගෙනයි හිටියේ. මං බොහෝම පිලිවෙලට දන්පැන් පූජා කලා. ඒ පිනෙන් තමයි මට මේ ලස්සනක් ලැබුනෙ. ඒ පිනෙන් තමයි මට මෙච්චර සිතට ප්‍රීතිය උපදවන මේ සැප සම්පත් ඔක්කොම ලැබුනේ ඒ නිසා කියනවා. පින්වතුනි මේ දෙවියා කරපු පින තමයි, මේ දෙවියා මනුස්ස ලෝකෙ ඉද්දි හරීම දුප්පත්. ආයෙ මනුස්සයෙකුට මොනවත් දෙනවා කියලා එකක් කරන්න මහා දාන කරන්න කෙනෙක් නෙවෙයි. මේ දුප්පත් මනුස්සයා එදා වේල හොයාගෙන කරපු ලොකුම දේ තමයි අම්මයි තාත්තයි බලාගත්තා වයසක. අම්මයි තාත්තයි බලාගෙන කලාතුරකින් අර ඉතුරු වෙන එකෙන් සංඝයාට දානයක් පූජා කලා. තමන්ටවත් නෑ ගෙදර. දුෂ්කරව පින් කලා. ඒ පිනේ විපාක විදියට දෙව්ලොව ගියා. දුෂ්කරව කරපු පින්. එක දියණියක් ලිපියක්

එවලා තිබ්බා පොල්ගහවෙලට, එයා දානයක් දෙන්න හිතනවලු, දානයක් දෙන්න හිතනකොටම අතේ සතේ නැතිවෙනවා. කවදාවත් දානයක් දෙන්න සල්ලි ඉතුරු වෙන්නෑ, ඒ ළමයා අවසානෙ කරලා තියෙන්නෙ, මං මේ වෙච්චි සිද්ධියක් කියන්නෙ. අවසානෙ කරලා තියෙන්නෙ තමන්ගෙ කෙස් ටික කපලා විකුණලා, ඒ මුදල් වලින් සංඝයාට දානයක් පූජා කරලා. ඉතින් ඒ නිසා මං දුෂ්කරව කරගත්ත පින අනුමෝදන් වේවා කියලා ලිපියක් එවලා. එහෙමත් පින් කරන අය අදකාලෙ ඉන්නවානෙ පින්වතුනි. දැන් මෙයා අම්මයි තාත්තයි බලාගෙන ඒ කරපු පින් බලේට දෙව්ලොව ඉපදුනා. ඒ නිසා පින්වතුනි පින කියන එක සුලුපටු දෙයක් කියලා හිතන්න එපා. ඉතින් අනිත් කාරණාව තමයි දෙමව්පියන්ට සලකන එක. දෙමව්පියන්ට සලකන එක සුලු පිනක් කියලා හිතන්න එපා. දැන් සාමාන්‍යයෙන් ඔන්න පින්වතුනි එක දිව්‍ය රාජයෙක්ගේ කතාවක් තියෙනවා එක පවුලක දරුවො හත්දෙනෙක් ඉඳලා. ඒ දරුවො හත්දෙනාගෙන් බාලම කොල්ලා ටිකක් මෝඩ පහේ ළමයෙක්. අනිත් අය හරී දැන උගත්. ඉතින් නමුත් මෝඩ පහේ වුනාට අම්මට හරි ආදරෙයි, තාත්තට හරී ආදරෙයි. ඒ දෙන්නා කෑවද නැද්ද කියලා බලලා තමයි තමන් කන්නෙ. ඔයවගේ අයට වෙන්න ඇති එහෙනම් මෝඩපහේ කියනවා ඇත්තෙ. ඉතින් එහෙම ඉඳලා අර, ඇයි මෝඩපහේ කියන්නෙ, ඒ බාලයාට නම දැම්මෙ අනෙක් සහෝදරයො හයදෙනාම උඹ මෝඩයා කියලා. හැමදාම මෝඩයො මෙහෙ වරෙන් කිනවා බාල මල්ලිට. කොල්ලොම හයදෙනෙක් අනිත්. ඊටපස්සෙ මොකද වුනේ පින්වත්නි මේ සිද්ධ වුනේ අද ඊයෙ එකක් නෙවේ, කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ ශාසනේ. ඊටපස්සෙ එක එක අයියා විවාහ වෙලා තැන් තැන් වලට ගියා. අවසානෙ ගෙදර ඉතුරුවුනේ කවුද. අර මෝඩයා. ගමේ මිනිස්සුන්ටත් ඒ නම ගියා. මෝඩයා. මුළු ජීවිත කාලෙම අහපු නම තමයි ඔහු, මෝඩයා. හැබැයි අම්මටයි තාත්තටයි පුදුම විදිහට සත්කාර කරන්නෙ. අවසානෙ අම්මයි තාත්තයි ගොඩාක් වයසයි, අර මෝඩපහේ ළමයා ගෙදර ඉතුරු වුනා. නාවනවා කවනවා පොවනවා, ඔක්කොම කරලා කුලී වැඩට යනවා. හැන්දෑවට හාල් ටිකක් ඔය උයන්න මොනවහරි ටිකක් අරන් ඇවිල්ලා උයලා කන්න දෙනවා. ඔහොම මුළු ජීවිතේම ගෙවුනා කසාදයක්වත් නෑ, දවසක් අම්මලා නාවලා කියලා ඉස්සර අබ දුම් අල්ලනවා. ඒක දෙමව්පියන්ට කරන ගෞරවයක් විදියට ඒ කාලෙ කරන්නෙ. අබ දුම් අල්ලලා අම්මගෙයි තාත්තගෙයි කකුල් දෙක අල්ලලා වැඳලා කුලී වැඩට යන්න එළියට අඩිය තියනකොටම ගේට්ටුව ළඟ ගෙදර ඉස්සරහ රන්කඳක් වගේ ඒ තථාගත කාශ්‍යප බුදුරජාණන් වහන්සේ

නිවසට වැඩලා. මෙයාගෙ ඇඟ පණ නැතිව ගිහිල්ලා. ජීවිතේට හිතාගන්න පුලුවන්ද. මේ වනාහි දිඹුල් මලක් වගේ. කවදාවත් සිද්ධ වෙන දෙයක්ද. එයා ගල් වෙලා ඉඳලා මෙහෙම දණ ගහලා වැටිලා. ඉතින් කාශ්‍යප බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා ඒ පුතාගෙ අතට මේ පාත්‍රය දීලා. අම්මටයි තාත්තටයි දවල්ට උයලා තිබ්බ ආහාරය පාත්‍රයට ඉක්මණට ඇතුළට ගිහිල්ලා ගෙනල්ලා උන්වහන්සේට පූජා කලා. කාශ්‍යප බුදුරජාණන් වහන්සේ එතනම පිළිකන්නෙ ඉඳගෙන ඒ දානය වැළඳුවා. ඔක්කොම වැඳගෙන බලාගෙන හිටියා. කාශ්‍යප බුදුරජාණන් වහන්සේ දහම් දෙසුවා. අම්මයි තාත්තයි දෙන්නම අනාගාමී වුනා. නමුත් බුදුරජාණන් වහන්සේ වැඩිය එක හිතාගන්න බැරිව මේ මොකක්ද වුනේ කියලා වික්ෂිප්ත වෙලා පුතා හිටියෙ. පුතාට මාර්ගඵල ලබන්න බැරිවුනා. කාශ්‍යප බුදුරජාණන් වහන්සේ පුතාගෙ ඔළුවට අත තියලා කිව්වා සත්පුරුෂය, ඔහුගේ ඇඟ සීතල වෙලා ගියා. ලෝකෙ මිනිස්සු ඔක්කොම කිව්වෙ මෝඩයා කියලා. නමුත් කාශ්‍යප බුදුරජාණන් වහන්සේ ඔහුට කිව්වා සත්පුරුෂය, කියලා. ඔබ මව්ට සලකන කෙනෙක්. පියාට සළකන කෙනෙක්. සත්පුරුෂය නුඹට වරදින් නෑ කිව්වා. වැඳගෙන හිටියා මුළු ජීවිත කාලෙම ඒ ඇති. එතනින් චුත වුනා, අපේ ගෞතම බුද්ධ ශාසනය වෙනකොටත් දෙව්ලොව. බුදුරජාණන් වහන්සේ පළවෙනි ධර්මය දේශනා කරනකොට ධම්මචක්ක දේශනාව සෝතාපන්න වුනා ඒ දිව්‍ය රාජයා. ඔහොම විමාන කතාත් තියෙනවා. ඉතින් ඒ නිසා මව්ට සැළකීම, පියාට සැළකීම කියලා කියන්නෙ පුදුම දෙයක්. මේ ලෝකෙ ප්‍රශංසා මොකටද අපිට. මේ මිනිස්සුන්ගෙ ඇනුම් බැනුම් ප්‍රශංසා කිසි වැඩක් නෑ, බුදුරජාණන් වහන්සේලාගේ ගුරුවරුන්ගේ සත්පුරුෂයන්ගේ වචන තමයි අපේ ජීවිතේට බලපාන්නෙ. මේ හිස් මිනිස්සුන්ගේ ලෝක වලින් අපිට වැඩක් නෑ, ඔබ මව්ට සළකන කෙනෙක් වෙන්න, පියාට සළකන කෙනෙක් වෙන්න. ඔබට කවදාවත් වරදින්නෙ නෑ, කොච්චර දුප්පත් වුනත්, කොච්චර අහිංසක වුනත්, කොච්චර මිනිස්සුන්ගෙන් බැනුම් ඇහුවත්, කාගෙන්වත් හොඳ නාමය නැතිවුනත්, මුලු ගමම ඔබට හින්ච් පාස් කලත්, ඔබ මව්ට සළකනවා නම්, ඔබ පියාට සළකනවා නම් ඔබට වෙනම දිව්‍ය විමාන තියනෙවා. ඒ නිසා ඔබගේ ජීවිතය පිනෙන් පිරිලා පරලොව සැපය වේවා කියලා එක සිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වත්නි අද දවසේ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර මහමෙවුනා භාවනා අසපුවේ උපස්ථාන කමිටුවේ පින්වතුන් එකතු වෙලා. ඉතින් මේ පින්වතුන්

ලොකු යහපතක් භාග්‍යයක් උදාකරගන්නවා අද මේ ධර්ම දානයට සහසම්බන්ධ වෙලා. ඉතින් පින්වතුනි මේ සියලු පින් බලයෙන් අපි සෙත් ප්‍රාර්ථනා කරමු මේ ලෝකෙටම ව්‍යසනයක් වුන මේ කොරෝනා වසංගතය, මේ ව්‍යසනය දුරින්ම දුරු වෙලා මනුෂ්‍ය වර්ගයාට සැනසිල්ල රැකවරණය ආරක්ෂාව සැලසේවා කියලා. ඒ වගේම පින්වතුනි අපි පින් පමුණුවමු මීට වසරකට පෙර මියගිය ඩී.පී. ගුණදාස මහත්මයාට පින් අනුමෝදන් කරන්න බලාපොරොත්තුවෙන් ඉන්නෙ. සියලු දෙවියන්ට මේ පින් අනුමෝදන් වෙලා සියලු දෙවියෝ සියලු රටවල සිටින සියලු සැදැහැවතුන් පින්වතුන් ආරක්ෂා කරත්වා, ඒ වගේම මියපරලොව ගිය ඥාතීන්ටද මේ පින් අනුමෝදන් වී ඒ ඇත්තෝ පරලොව සැපයට පත්වේවා. ඩී.පී. ගුණදාස පියාණන් ඇතුළු සියලුදෙනාට මේ පින් බලයෙන් පරලොව සැපය වේවා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පිනවත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ඒ වාගේම ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලූම ස්වාමීන් වහන්සේලාටත් අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර මහමෙව්නා භාවනා අසපුවේ උපස්ථාන කමිටුවේ පින්වතුන් සියලු දෙනාටත් ඒ වගේම ඒ පින්වතුන්ගේ පවුල්වල සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වේවා. ඒ සියලු දෙනාට ගෞතම සසුනේ පිහිට ලැබීම පිණිසම මේ පින් හේතු උපකාර වේවා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ ඒ මාධ්‍යය පවත්වාගෙන යන්න උපකාර කරන සියලු දෙනාට, ඒ වගේම ඔබ සියලු දෙනාට, මව්දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා. කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=8UAmTopm-dk&list=PLalyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=17

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

පින්වත්නි, ඔබ මේ ධර්මය අහන්නේ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන. මේ මනුස්ස ලෝකයේ සිට සත්පුරුෂයන්ගේ ඇසුරේ පින්කම් කරලා එතකොට ඔබට දැන් මේ කතා කියනකොට තේරුන් නැද්ද, මේ අහනකොට ගොඩාක් අය බුද්ධ ශාසනයකමයි පින් කරලා තියෙන්නෙ. බුද්ධ ශාසනයෙන් පරිබාහිරව පින් කරපු කෙනෙක් හමුවුනේම නැති තරම්. ඉතින් ඒ නිසා තේරුම් ගන්න සුගතියකවත් උපදින්න අවස්ථාව තියෙන්නෙ බුද්ධ ශාසනයක විතරයි කියන එක. බුදුරජාණන් වහන්සේලා නැති කාලෙ ගොඩාක් අය සුගතියෙ උපදිනවා නම් උපදින්නෙ සක්විති රජවරුන්ගේ කාලෙ. මොකද සක්විති රජවරු ඒ තමන්ගෙ පිරිස හික්මවනවා ඒ රටේ පිරිස පඤ්චසීලයක. පඤ්චසීලයක හික්මවලා ඒ පිනෙන් දෙව්ලොව උපදින අවස්ථා තියෙනවා. ඉතින් ඒක නිසා තමයි පිලින්දවච්ඡ මහරහතන් වහන්සේ සංසාරයේ ගොඩාක් සක්විති රජ වෙලා ඉඳලා ගොඩාක් අය දෙව්ලොව ගියා. ඒ පිනට තමයි පිලින්දවච්ඡ මහරහතන් වහන්සේට ගොඩාක් කැමති. පිලින්දවච්ඡ මහරහතන් වහන්සේ තමයි දෙවිවරු ගොඩාක් කැමති රහතන් වහන්සේ. ඒ සක්විති රජ කාලෙ දෙව්ලොව ගිය අය. එතකොට තේරුම් ගන්න මේ බුද්ධ ශාසනයේ සුගතියක් වත් හදාගන්න බැරිවුනොත් එහෙම මේ බුද්ධ ශාසනය නැතිවෙච්ච කාලයක නම් සතර මහ අපාය මිසක්ක මනුස්සයාට වෙන උරුම තැනක් නෑ, ඉතින් ඒ නිසා ඒ කරුණු කාරණා තේරුම් ගන්න මේ පින්වතුන්. අද දවසේ මේ උතුම් වැඩසටහන දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන ඉතාමත් ශ්‍රද්ධාවෙන් ධර්ම දානයක් විදියට ඔබට ශ්‍රවණය කරන්න දකින්න ශ්‍රද්ධා රූපවාහිනියෙන් ලක්විරු ගුවන් විදුලියෙන් විකාශනය කරවන්නේ පින්වත් ප්‍රසන්න සංජය පෙරේරා මහත්මයා. ආර්.ඒ.සී. පෙරේරා සීයාටත්, දුල්ෂි අමරසිංහ මහත්මියටත් දෙමව්පියන්ටත් නිදුක් නිරෝගී සුවපත් භාවයත් ධර්මාවබෝධයත් සළකාගෙන තමයි මේ පින්කම සිද්ධ කරන්නෙ. ඉතින් අපි අදත් ඉගෙන ගමු දෙවියන්ගේ දිව්‍ය ලෝක වල විස්තර. එතකොට මූලිකවම මම කියපු කාරණාව මතක තියාගන්න. ගොඩාක් දෙව්ලොව ඉපදිලා තියෙන්නෙම බුද්ධ ශාසනයක. බුද්ධ ශාසනයෙන් බාහිර නම් නෙවෙයි. ඊටපස්සෙ තමයි ගොඩාක් අය පව් කරගන්නෙත් ගොඩාක් පව් කරගන්නෙත් බුද්ධ ශාසනයක. ආර්යයන් වහන්සේලාට ගරහලා. එතකොට අපායට යාමත් දිව්‍ය ලෝකෙට

යාමත් තීරණය වෙනවා බුද්ධ ශාසනයක් තියෙන කාලෙක. තියුණුයි ඒක. ඉතින් බුදුවරු නැති කාලයක් ගැන ආයෙ කතා කරන්නම දෙයක් නෑ. ඉතින් ඒ නිසා පින්වතුනි බලන්න පින් දහම් කරන එකේ තියෙන වටිනාකම. අදත් අපිට තියෙනවා හත්වෙනි වර්ගයේ දෙවෙනි විමාන කතාව. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ දෙවියාගෙන් මේ විස්තරය අහන්නෙ. උයන් අතුරින් ශ්‍රේෂ්ට වූ නන්දන වනයත්, චිත්‍රලතා වනයත් තියෙන්නෙ උතුම් තව්තිසා දෙවියන් අතරයි. ඔබේ මේ විමානය අන්න ඒ චිත්‍රලතා විමානය වගේ බබලනවා. අන්න ඒ විමානය අහසේ බබලමින් තියෙනවා. මහානුභාව ඇති දිව්‍ය පුත්‍රය, දිව්‍ය අධිපති බවටයි දැන් ඔබ පත්වෙලා ඉන්නෙ. මිනිස් ලෝකෙ ඉන්න කාලෙ මොන වගේ පිනක්ද ඔබ කළේ. ආනුභාව සම්පන්නව ඔය බැබලී බැබලී ඉන්න ඔබ කල පින මොකක්ද. ඔබේ සිරුරෙන් විහිදෙන එළියෙන් හැම දිශාවම බබලනවා. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ කාරණාව ඇහුවෙ. ඒකට දෙවියො ගොඩක් සතුටු වෙලා තමන් කරගත්තු පින කියනවා. මං මනුස්සයෙක් වෙලා හිටියේ. මං හරී දුප්පත්. අසරණයි, දීනයි, කුලී වැඩ කරලා තමයි ජීවත් වුනේ. මගේ මව්පියන් හොඳටම වයසට ගිහින් දුර්වල වෙලා ඉන්නකොට මං උපස්ථාන කලා. ඒවගේම තමයි සිල්වතුන් ගුණවතුන්ට මං හරීයට උපස්ථාන කලා. ප්‍රියයි, උන්වහන්සේලා ගැන හිත පහදවාගෙන හිටියේ. බොහෝම පිළිවෙලට දන්පැන් හදලා පූජා කලා. ඒ පිනෙන් තමයි මට මේ වගේ දිව්‍ය සම්පත්තියක් ලැබුනෙ. මේ මහානුභාවසම්පන්නව බැබලී බැබලී ඉන්න පින ඒක. මගේ එළියෙන් හැම දිශාවක්ම බබලනවා. මොහුත් කරලා තියෙන්නෙ දෙමව්පියන්ට උපස්ථාන කරගෙන පුලුවන් විදියට පින් කරගෙන ඉඳලා කුලී වැඩ කරන මනුස්සයෙක්. එතකොට දෙමව්පියන්ට උපස්ථාන කිරීම ගැන මීට කලින් වැඩසටහනෙත් කිව්වා. පින්වතුනි දෙමව්පියන්ට උපස්ථාන කරනවා කියන එක සුලුපටු දෙයක් නම් නෙවෙයි. ඒ දෙමව්පියන්ගේ ගතිගුණ හොඳ වේවා නරක වේවා අපි උපස්ථානයක් කරන්න යනකොට ඒ දෙමව්පියො ඒකට දක්වන ප්‍රතිචාරය මොකක් හෝ වේවා අපි පහන් සිතින් යහපතක් කරන්න නම් දෙමාපියන්ට උපස්ථාන කරන්නෙ, කන්න බොන්න දීලා, ඇප උපස්ථාන කරලා ඒක අපිට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. කන්න බොන්න දීලා ඇප උපස්ථාන කරලත් මෙහෙම දිව්‍ය ලෝකෙ ඉපදුනා නම් දෙමව්පියන්ගේ සම්පූර්ණ ණය ඉවර වෙනවානෙ, දෙමව්පියො සද්ධා සීල සුත ත්‍යාග පඤ්ඤා කියන ගුණ ධර්ම පහේ පිහිටවීමෙන්. අම්මලා තාත්තලාගෙ ශ්‍රද්ධාව නෑ. දරුවො මුල්වෙලා දහම් කරුණු කියලා ශ්‍රද්ධාව ඇතිකරවනවා. මහා සෑය,

මහාබෝධිය වදින්න, සංඝයාට දන් දෙන්න යොමු කරවනවා. සිල් ගන්න යොමු කරවනවා. ශ්‍රද්ධා සීල සුත, බණ අහන්න යොමු කරවනවා. සමහර දරුවො අහනවා අනේ ස්වාමීනී අපිට මේ අම්මලා තාත්තලා වෙනුවෙන් කරන්න දෙයක් නෑ, අපි පිටරට වල ඉන්නෙ. සල්ලි විතරක් එවලා මදි ස්වාමීන් වහන්ස. ඉතින් අපි උපදෙස් දෙනවා එහෙනම් පුලුවන්නම් ටීවී එකක් අරන් දීලා මේ ශ්‍රද්ධා ටීවී හරි දාලා දෙන්න. එතකොට ඕක බලාගෙන ඉදියි. බණ ටිකක් අහයි. ඊටපස්සෙ මං කීවා කාලෙන් කාලෙට ඒ දරුවන්ට අම්මලාට මුදල් ටිකක් එවලා සංඝයාට දානෙ ටිකක් දෙව්වන්න. රුවන්වැලිසෑයට යවන්න. මහා බෝධියට යවන්න. පන්සලේ ඒ සිල් ගන්න ඇත්තන්ට අම්මලා ලවා දානයක් හදවලා පූජා කරවන්න. ගමේ ඉන්න වයසක අය ඔක්කෝම එකතු කරලා ගෙදරට සිල් ගත්ත දවසක හරි හොද කෑමක් බීමක් හොඳට දෙන්න. ඒ වාගේ පුරුදු කරවන්න. ශ්‍රද්ධා සීල සුත දැන් එතකොට සුතය ඇතිකරවන්න පුලුවන් මේ ධර්ම දේශනා අහන්න සලස්වලා. ත්‍යාග, දන් දෙන්න යොමු කරවන එක. ප්‍රඥාව, හැමවෙලාවෙම එයාලට මේ ලෝකෙ අතහැරලා යන්න සිද්ධ වෙන බව මේවා ලෝකෙ නිත්‍ය නැති බව මරණය කවුරුත් උරුම කරගෙන ඉන්න බව ඒවා නිතරම එයාලට කියන්න ඕන. තේරුම් ගන්න ඕන. දැන් සමහර ගෙවල් තියෙනවානෙ හරි බොළඳයි. මරණය කියන වචනෙවත් කතා වෙන්නෑනෙ ගෙදර. අම්මා අපිව දාලා යන්න වෙනවානෙ නේද කියනකොටත්, කට වහනවා, මූසල කතා කියන්න එපා. මූසල කතාවක්ලු. එතකොට එහෙනම් අම්මා ඔයා අමරණීය වෙන්න කියන එකයි මහා මංගල්‍යය. ඉතින් මිනිස්සු තනිකර තොත්ත ලෝකෙක ඉන්නෙ. ඉතින් අම්මලාට කියලා දෙන්න ඕන අම්මලා තොත්ත වෙන්න එපා. දැන් අම්මලා වැඩිහිටි. දැනුම් තේරුම් තියෙන අය. ජීවිතේ සත්‍ය කතා කරන්න ඕන. ඒ වගේ ඒ අයට තේරුම් කරන්න පුලුවන් විදියට. එකපාරටම ගැඹුරින් පංචුපාදානස්කන්ධය කියලා පටන් ගන්න එපා පින්වත්නි. හොදට ශ්‍රද්ධාව ඇති කරලා, පඤ්චසීලය පුහුණු කරවලා, ඊළඟට දන් දෙන්න පුරුදු කරවලා අමාරුයි මේක. ඉතින් ඒ විදියට කලාට පස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා සියක් අවුරුදු කරේ තියාගෙන අම්මයි තාත්තයි උපස්ථාන කලත් ණයෙන් නිදහස් වෙන්නෑ, ඒ වුනාට අම්මට තාත්තට ශ්‍රද්ධා සීල සුත ත්‍යාග පඤ්ඤා ගුණධර්ම වල පිහිටෙව්වොත් අනිවාර්යයෙන් ණයෙන් නිදහස් වෙනවා කියලා. එතකොට කන්න බොන්න දීලා ඇප උපස්ථාන කරලත් මෙහෙම දිව්‍ය ලෝකෙ ඉපදුනා නම්, දෙමව්පියන්ගෙ ණයෙන් නිදහස් වුනොත් එහෙම එයාට සුගතිය ඒකාන්තයි. ඒ නිසා දෙමව්පියන්ට දැන්, පින්වතුනි ඔය

ලෝක තියෙනවනෙ ජනශූන්‍ය වුන පැති තියෙනවා ඉන්දියාවේ. අපි කියමු මාතාංගාරණ්‍යය, දණ්ඩකී ආරණ්‍යය, එතකොට ඒ ආරණ්‍ය ප්‍රදේශ වල මිනිස්සුන්ට ඉන්න බෑ, කැලෑ විතරයි. එහෙම වෙලා තියෙන්නෙ සංසාරෙ සාප වලට. දෙවියන්ගේ සාප වලට. ඔය වගේ එක ප්‍රදේශයක දෙවියන්ගේ සාපයකට නවවිධ වර්ෂාවක් අහසින් වැහැලා ආයුධ අහසින් වැටිලා මිනිසුන් මැරිලා කැපි කැපි යද්දීන් එක රාම කියලා එක පුත්‍රයෙක්, හිතලා මං අම්මට සළකන කෙනෙක් නේද. මට අම්මට සළකගන්න ඕන. මං පින් තියෙන කෙනෙක් කියලා හිතනකොටම දෙවිවරු එයාව එතනින් අතුරුදහන් කරලා බරණැස එයාගෙ ගෙදර ගිහිල්ලා එයාව ඍද්ධියෙන් තියලා තියෙනවා. මව්ට සැළකීම සිහිපත් කරපු නිසා. පියාට සැලකීම සිහිපත් කරපු නිසා. ඒ මුලු දේව සාපයෙන් ඒ මුළු ජනපදයම වැලි වලින් යටවෙලා, අඩි විස්සක් වැලිවලින් යටවෙලා යද්දි අර පුත්‍රයා විතරයි කියනවා බේරුනේ, දෙමව්පියන්ට සළකපු කාරණාව සිහි කරලා. ඉතින් ඒ නිසා අම්මටයි තාත්තටයි සළකලා ඒ දෙන්නගේ ආශිර්වාදය තියෙනවානම් යම්කිසි දරුවෙකුට වරදින්නෙ නම් නෑ පින්වතුනි. ඊළඟට තමයි දිව්‍යලෝකෙ යෑමේ තව තියෙනවානෙ ක්‍රමයක්. සක්දෙවිඳු පවා වඳින මනුස්ස ප්‍රතිපදාවක් තියෙනවා. ඒ තමයි සක්දෙවිඳු දවසක් වඳිනවානෙ මනුස්ස ලෝකෙට. මාතලී අහනවා ඇයි සක්දෙවිඳුනි වඳින්නෙ. ඒ වෙලාවෙ කියනවා කාටද වඳින්නෙ කියලා අහපු ප්‍රශ්නෙට මේ විදියට තමයි උත්තර දෙන්නෙ. මේ සක්දෙවිඳු. කියනවා යේ ගහට්ටා පුඤ්ඤකරා සීලවන්තා උපාසකා ධම්මෙන ධාරං පෝෂෙන්ති තේ නමස්සන්ති මාතලී, යම්කිසි කෙනෙක් ඉන්නවා නම් පින් කරන ඒ වගේම තමයි යේ ගහට්ටා පුඤ්ඤකරා, සීලවන්තා උපාසකා, පන්සිල් රකින තෙරුවන් සරණ ගිය, ධම්මෙන ධාරං පෝෂෙන්ති, ධාර්මිකව හරිහම්බ කරන දෙයින් අඹු දරුවන් දෙමව්පියන් පෝෂණය කරනවා, ඒ අයට සක්දෙවිඳු පවා වඳිනවා කියනවා. ඒ අය තමයි දෙව්ලොව යන්නෙ. ධාර්මිකව දෙමව්පියන් අඹුදරුවන් පෝෂණය කරන්න ඕන. සමහර අය ඉන්නවා තමන් කඩෙන් කනවා, ගෙදර ගෑණු කෙනා දරුවො කෑවද නැද්ද කියලා බලන්නෙ නෑ, ඒවා නිරයේ යන අකුසල. තමන් හරි හම්බ කරන දෙයින් ඒ ගෙවල් වල අය පෝෂණය කරන්න ඕන. ඒක තමයි වගකීම කියන්නෙ මනුස්ස ලෝකෙ. එහෙම නැත්නම් විවාහ නොකරගෙන ඉන්න ඕන. ඊටපස්සෙ ළමයින්ගෙ ජීවිත, දැන් ඔය බොන මිනිස්සු ගෙදරක හිටියට පස්සෙ, බොන මනුස්සයා කිසිම වගකීමක් දරන්නෑනෙ. දරුවො කෑවද බීවද ඇන්දද ස්කෝලෙ කොහොමද ඒ මොකාක්වත් නෑ, ඊටපස්සෙ තමයි අම්මල රට යන්නෙ. ඒ ගිහිල්ලා මෙහෙ එනකොට මෙහෙ

තියෙන දේවලුත් නෑ, මේ මනුස්ස සංහතියට වෙච්ච සාපය සුලුපටු දෙයක් නෙවෙයි බීම නිසා. ඉතින් කොහොමහරි තමන් අඹුදරුවන් පෝෂණය කරනවානම් ඒ කෙනා ඒ පින් බලයෙන් පින්වතුනි දෙව්ලොව උපදිනවා. ඒ වගේම ශ්‍රද්ධාවන්ත වීම, පන්සිල් රකින එක, මේවා සුලුපටු දේවල් නෙවෙයි. මේ බලන්න ධාර්මිකව දෙමව්පියෝ පෝෂණය කරන දෙමව්පියෝ බලන ඒ දරුවෝ දෙව්ලොව යනවා. පුංචි කාලෙ ඉදලා උගන්නලා උගන්නලා ළමයින්ට රස්සාවක් අරන් දෙන්න ගියාට පස්සෙ ගොඩාක් අය බලන්නෙ, සියයට අනූ නවයක් විතරම කිව්වොත් මම හිතනවා මං වැරදි නෑ, පළවෙනි පඩිය ගන්නකොට අම්මා මතක් වෙන්නෑ, ඉතින් ගොඩාක් අය පළවෙනි රස්සාව කරලා ඉස්සෙල්ලාම පඩිය අරන් පොතේ දාගන්නෙ වාහනයක් ගන්න ඕන, ගේ හදාගන්න ඕන, ෆෝන් එකක් ගන්න ඕන, එයාගෙ ලෝකෙ ලොකු දේවල්. නමුත් අම්මලාගෙ අතට කුලී වැඩ කරලා අතට සල්ලි එනකොට අම්මලා තාත්තලා හිතන්නෙ ළමයි ඉස්කෝලෙ යවන්න ඕන, මුන්ට කන්න ඕන, බොන්න ඕන, අඳින්න දෙන්න ඕන, දෙමව්පියෝ හිතන විදියයි, දරුවෝ හිතන විදියයි කොච්චර වෙනස්ද අතට සල්ලි හම්බුනාට පස්සෙ. පොඩ්ඩක් තනියෙන් කල්පනා කරලා බලන්න. මනුස්සයෙක් වුනාම දෙයියනේ මේ හිතන්න පුලුවන් මොළයක් තියෙන වෙලාවෙ පොඩ්ඩක් හිතන්නකො. නිකං හිතන්න පුලුවන් මොළයෙන් වැඩක් ගන්න. ඉතින් ඒ නිසා දැන් මට ඔක කල්පනාවට ආවෙ වයසක තාත්තා කෙනෙක් මට ඇවිල්ලා වැඳලා කිව්වා මම ලොකු පිනක් කරගත්තා හාමුදුරුවනේ. මං ඇහුවා මොකක්ද, ඊටපස්සෙ කිව්වා මං රජයේ රස්සාවක් කරපු කෙනෙක් මං ඉස්සෙල්ලාම පඩිය අරන් අම්මගෙ අතට දීලා උන්දලා සිල් සමාදන් කෙරෙව්වා, මට ඒක අද වාගෙ මතකයි කිව්වා. බලන්න, මැරෙනකොටත් මතකයිනෙ. ඉතින් ඒ නිසා ඒ වාගේ පින්කම් කරගෙන තියාගන්න. ඉතින් දෙමව්පියන්ට සලකනවා කියන එක සෑහෙන විශාල ලාභයක්. ගොඩාක් අයට තියෙන ප්‍රශ්නයක් තමයි තමන්ගෙ පවුලෙ තියෙන කරදර ටික ඔවා තේරුමක් බේරුමක් කරගත්තට පස්සෙ තමන්ගෙ ගෙදර වියහියදම් දැරුවට පස්සෙ අම්මලා තාත්තලා ගැන බලන්න විදියක් නෑ, ගොඩාක් අය බලන්නෙ පුලුවන්නම් අම්මලාගෙ තියෙන එකත් ගන්න. නමුත් ඒක සුදුසු නෑ. තමන්ගෙ පඩියෙන් යම් කොටසක් පොඩි දෙයක් හරි ගෙදරට ගේනවා නම්, මොනවාත්ම දෙන්න විදියක් නැත්නම්, පළතුරු, කෙහෙල් ඇවරියක් හරි, අම්මලා තාත්තලාට බලලා, හාල් ටිකක් තියෙනවාද, ලුණු ටිකක් තියෙනවාද, ඊටපස්සෙ පන්සලට පිරිකරක් හරි පූජා කරන්න අතට කීයක් හරි

තියෙනවාද, එතකොට බෙහෙත් හේත් ගන්න තියෙනවාද, උන්දලාට බෙහෙත් හේත් ගන්න යන්න පුලුවන්ද. ගමේ ත්‍රීවිල් එකට පොඩ්ඩක් කතා කරලා අම්මා තාත්තා බෙහෙත් ගේන්න යන එක පොඩ්ඩක් බලන්න මං ඒක හොයලා දෙන්නම්. එහෙම කියලා ඒ මිනිස්සුන්ට පහසුවක් ඇති කරන්න ඕන. පොඩ්ඩක් බලන්න. සමහර දෙමව්පියො ඉන්නවා එහෙම කැමති නෑ, එක එක ඒවා. නමුත් තමන්ට පුලුවන් ප්‍රමාණෙන් උපස්ථාන කරන්න. මොකද මම දෙපැත්ත ගැනම හිතනවා. මොකද සමහර දරුවො ඇවිල්ලා කියනවා අම්මා තාත්තට ගොඩාක් උපස්ථාන කරන්න කැමතියි. අම්මලා තාත්තලා කැමති නෑ ඒකට කියලා. සමහර වෙලාවට එන්නෙ නෑ, දරුවො ඉන්න තැනට ගෙනාවොත් දරුවන්ට බලාගන්න පුලුවන්, දරුවො එක එක තැන්වල රස්සාව කරන්නෙ. අම්මලා තාත්තලා ගෙදරට වෙලා ඉන්නවා උන්දලා එතනින් යන්නෑ, ඉතින් ගොඩාක් අය බහිරවයො වෙලාම උපදිනවා ඔය පරණ ගෙවල්වලම ඉඳලා. යන්නෙ නෑ, මං උපන්නෙත් මේකෙ, හැදුනෙත් මේක, මං මැරෙන්නෙත් මේකෙ. මැරිලා ඉපදෙන්නෙත් ඉතින් ඕකෙම තමයි. ඉතින් ඒ නිසා දරුවන්ගෙ අතට පොඩ්ඩක් ගිහිල්ලා ඔය ගෙවල්වලම ලැගලා ඉන්න දෙමව්පියන්ට මේ කරුණා මෛත්‍රියෙන් කියන්නෙ, පොඩ්ඩක් දරුවන්ගේ ගෙවල්වලට ගිහිල්ලා සතියක් හමාරක් ඉඳලා පොඩ්ඩක් ඇවිදලා කරලා ඉන්න. දැන් මේ වසංගත කාලෙ නම් ඇවිදින්න යන්න එපා. ඉතින් ඒ නිසා එකතැනටම වෙලා ඉන්නැතිව දරුවන් ළඟ ඉන්න කියන එක මේ කියන්නෙ. ඊටපස්සෙ දරුවො ඉතින් උපස්ථාන කරගන්නවා. ඊළඟට තව මට ඇවිල්ලා කියලා තියෙනවා, උපස්ථාන කරන්න, දැන් බඩු එහෙම ගිහින් දෙනකොට විසික්කා කරනවලු තෝපේ දේවල් අපිට එපා කියලා. ඉතින් මං ඒ වාගේ දේවල් වලට කියනවා, රණ්ඩු සරුවල් වෙන්නැතිව, දෙමව්පියො වෙනුවෙන් ඔයා පින් කරන්න. ඒ කියන්නෙ දානයක් දීලා දෙමව්පියන්ට දීර්ඝායුෂ පතන්න. ඒ වාගේ දේවල් කරන්න කියලා ඉතින් අපි ඒ අය යොමුකරවනවා. ඉතින් කාරණා දෙකකටම තියෙනවා ඉතින්, නමුත් ඔබගේ ජීවිතේට ගැලපෙන ආකාරයෙන් ඒ කරුණ තේරුම් ගන්න. ඉතින් මේ දෙව්ලොව ගිය අයගේ විස්තර. ඊළඟට පින්වත්නි අපි බලමු ඊළඟ දිව්‍ය ලෝකෙ විස්තර. මුගලන් මහරහතන් වහන්සේ තමයි දුටුවේ මහා මාණික්‍යය කණු තියෙන යොදුන් දොළහක් දුරට විමානෙ පැතිරිලා තියෙන කාමර හත්සීයක් තියෙන වෛරෝඩි මැණිකෙන්ම කරපු මාළිගාවක් ඒ දෙවියන්ගෙ. ලස්සනට කනවා බොනවා දිව්‍ය සම්පත්ති විඳිනවා, දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන ඉන්නවා. අධිපතිභාවයට පත්වෙලා තිබෙන්නෙ. පුදුම සැප සම්පත්තියක් විඳිනවා. ඉතින්

මුගලන් මහරහතන් වහන්සේ මේ කාරණාව දෙවියන්ගෙන් ඇහුවට පස්සෙ මොකක්ද කරපු පින කියලා. මං මිනිස් ලෝකයේ මනුස්සයෙක් වෙලා හිටියා. වනගත මාවතක මම සක්මන් මළුවක් හැදුවා. ආරාමයක් හැදුවා. රුක් රෝපණය කලා. ඒ වගේම සිල්වතුන් වහන්සේලාව මට හරි ප්‍රියයි. ඉතින් මං උන්වහන්සේලා ගැන හිත පහදවාගෙන හිටියේ. මම බොහෝ පිළිවෙලට දන් පැන් හදලා පූජා කලා. ඒ පිනෙන් තමයි මේ දිව්‍ය විමානය හම්බවුනා කියන්නෙ. මට ඒක කියනකොට මතක් වුනේ වන රෝපාසු සූත්‍රය කියලා සූත්‍රයක් තියෙනවා සංයුත්ත නිකායේ ඒකෙ තියෙනවා ආරාම රෝපා වනරෝපා යේ ජනා සේතුකාරකා පපංච උදපානංච යේ දදන්ති උපපස්සයා තේසං දිවාච රත්තෝච සදා පුඤ්ඤං පවඩ්ඪති ධම්මට්ඨා සීල සම්පන්නා තේජානා සග්ග ගාමිණෝ. ඉතින් විදියටයි තියන්නෙ. ඒ කියන්නෙ දිවා රාත්‍රී දෙකෙන්ම තමන්ට පින් රැස්වෙන පින්කම් ටිකක් තියෙනවා. දිවා රාත්‍රී දෙකේම. ඒ එකක් තමයි ආරාම රෝපා, වන රෝපා ආරාම කරවීම වන රෝපණය කිරීම ගස් කොළන් හදන එක, මල් හදන එක. ගස් කොලන් හදන එක ආරාම හදන එක ඊළඟට යේ ජනා සේතුකාරකා මනුස්සයන්ට පහසුවෙන් පහසුකම් හදන එක, පාරවල් හදන එක, සක්මන්, ඒදඬු, පාලම් අර පොදු පහසුකම්. ප්‍රජා ශාලා ඉතින් ඔය ඒ වගේ දේවල් අර මිනිස්සුන්ට ඊළඟට බස් ස්ටෑන්ඩ් ඒ වගේ දේවල් හදනකොට මගීන්ට බොහෝ පහසු වෙනවානෙ. ඒ වගේ දේවල් කරන අයට දිවා රාත්‍රී පින් වැඩෙනවා කියනවා. මේ පින්කම් කරලා තියාගන්න. ඊටපස්සෙ තියෙනවා සමහර වෙලාවට ඔබගේ ගමේ ගමට එන යන පාරවල් හදලා තියෙන එක. ඊටපස්සෙ පාරවල් සුද්ධ කරන එක, වල් අයින් කරන එක. ඊළඟට ළිඳ සුද්ධ කරන එක, ළිඳ අවට, පොදු ළිං. ඊළඟට පොදු මිනිස්සු නාන පීලි තියෙනවා ගං වල, වතුර එන තැන්, ඒ දියකඩිති හොඳට සුද්ධ කරන එක, පොදු පහසුකම් හදන එක. පොදු පහසුකම් හදන එකෙන් දිවා රාත්‍රී පින් හැදෙනවා කියනවා. ළිං හදලා දෙන එක, පපංච උදපානංච, මේ ඒවාගේ මිනිස්සුන්ට ළිං කපන එක, පොදු පහසුකම් හදන එක, යේ දදන්ති උදස්සයා කුටි සෙනසුන් හදලා දෙන එක, ඊළඟට ගෙවල් දොරවල් මිනිස්සුන්ට හදලා දෙන එක, මේවා දිවා රාත්‍රී පින් වැඩෙන දේවල්. තේසං දිවාච රත්තොච සදා පුඤ්ඤං පවඩ්ඪති. දිවා රාත්‍රී දෙකේ හැමදාම පින් සිද්ධ වෙනවා, භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ වදාළේ මේ වගේ අය නිරයේ යන්නෑ පින්වතුනි. මේ වගේ මිනිස්සු යන්නෙ දෙව්ලොව. ධම්මට්ඨා සීල සම්පන්නා, දහමෙහි පිහිටි සිල් රකින මිනිස්සු තේජන්නා සක්කගාමිණෝ. ඔය ජනතාව ස්වර්ගයේනෙ ඔය යන්නෙ කියනවා. ඒ නිසා

පොදු පහසුකම් ඇති කරලා මිනිස්සුන්ට පින් සැලැස්වෙන ඒවා ගස්කොලන් ඉන්දන ඒවා කොච්චර වාසනාවක්ද. ඉතින් ඒ නිසා දැන් මේ බලන්න මේ දිව්‍ය විමානේ ඉන්න දෙවියා රුක් රෝපණය කරලා මනුස්ස ලෝකෙ, සක්මන් මළු හදලා, ඊළඟට මනුස්සයන්ට පහසුකම් හදලා, සංඝයා දකින්න හරි ආසාවෙන් ඉඳලා, ඉතින් සංඝයාට පුලුපුලුවන් විදියට දන් පැන් පූජා කරලා හිත පහදවාගෙන සංඝයා ගැන අපැහැදෙන දේවල් හිතලා නෑ, මේ ඔක්කෝම යහපත. මේ ඔක්කෝම තමන් සුගතියේ උපද්දන දේවල්. බලන්න ඉතින් ලොකුවට හිතට අරන් නැතිව පුලුවන් දේවල් ටික කරලා. අපි බලමු ඊළඟ විමානය, පින්වත් දිව්‍ය පුත්‍රය, හැම පැත්තෙන්ම ප්‍රභාෂ්වර වූ ඔබගේ විමානය පිහිටලා තියෙන්නෙ රත්තරන් පර්වතයක් වගේ. ඒ විමානය වටා රන්වන් දැලුත් රන් කිකිණි දැලුත් එල්ලලා තියෙනවා. ලස්සනට කරපු අටපට්ටම් තියෙනවා. අටපට්ටම් කණු තියෙනවා වෛරෝඩි මාණික්‍යයෙන්. කියලා වෛරෝඩි රත්තරන් පළිඟු රිදී මැසිරි ගල් මුතු රතු මැණික් ඒ කියන්නෙ සප්ත රතන වලින් ඒ විමානය විභූෂිතයි. මේ බිම මාණික්‍යයෙන් තියෙන්නෙ දූවිලි නෑ, වහලයේ පරාලවලට තියෙන්නෙ රත්තරන්. කැණිමඩල රත්තරන්. සතර දිසාවෙම පඩිපෙලවල් තියෙනවා. මැණික් තියෙනවා. මේ වේදිකාවලට බෙදිලා තියෙනවා. කුටි ගණනාවක් තියෙනවා. පුදුම සහගත දිව්‍ය විමානයක්. මොකක්ද කරපු පින කියලා මුගලන් මහරහතන් වහන්සේ අහනකොට මේ මනුස්සයා කැලේ ගිහිල්ලා ජීවත් වෙලා මෙනවහරි දර කපලා හරි පළතුරු ගෙනල්ලා හරි ඉන්න මනුස්සයෙක්, මනුස්ස ලෝකෙ ඉද්දි. බුදුරජාණන් වහන්සේ ඒ ගමට වැඩියට පස්සෙ ස්වාමීනී වඩින්න, මං භාග්‍යවතුන් වහන්සේට ඉන්න තැනක් හදලා දෙන්නම් කියලා මෙයා කැලේ ඇතුලෙ ගල්ලෙනක් තිබ්බා. ඒ ගල්ලෙන හොඳට සුද්ධ කරලා බුදුරජාණන් වහන්සේට වැඩ ඉන්න පුලුවන් විදියට හැදුවා. නමුත් එයාගෙ හිත කොච්චර ශ්‍රද්ධාවන්තයිද කියනවා නම් මං ඒ කාලේ අන්දක කියන රටේ හිටියෙ. මං සූරිය බඳු වූ ශාස්තෘ වූ බුදුරජාණන් වහන්සේට විහාරයක් කෙරෙව්වේ හිත පහදවාගෙන මගේ අතින්මයි. දැන් අර ගල්ලෙනක් කියලා කතාවක් එයාට නෑ, එයාට ඒක බුදුරජාණන් වහන්සේට හදපු විහාරයක්. ඇත්තටම තමන්ගේ හිතේ තියෙනවා නම් ශ්‍රද්ධාවක් ගල්ලෙනක් වුනත් මාළිගාවක් කරන්න පුලුවන් හිතේ ශ්‍රද්ධාවට. එයාට දෙන්න පුලුවන් ලොකුම දේ එයා කලේ. හරී පැහැදීමෙන්. බුදුරජාණන් වහන්සේ එදා රාත්‍රියේ වැඩහිටියා, ඒ ගල් ලෙනේ. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේ ගැන ඉතාමත් සතුටට පත් වුනා. ඊටපස්සෙ මෙයා මොකද කලේ, මං එහිදී ශාස්තෘන්

වහන්සේට සුවඳ මල් වටිනා සුවඳ වර්ග, විලවුන් වර්ග විහාරයට පූජා කලේ ගොඩාක් සතුටින් කියනවා. ඉතින් අර ගල්ලෙන එයා හදලා මේවා කරනකොට එයා සුවඳ එන සඳුන්අගිල් ඒ වාගේ සුවඳ වර්ගත් දාලා තියෙනවා. ඒ රටේ වටිනා සුවඳ වර්ග අර ගල්ලෙනේ තියලා. සුවඳ හමන්න. ඒ ඔක්කොම පින්කම්. ඒ පුණ්‍යානුභාවයේත් අප්‍රමාණ දිව්‍ය සැප විඳිනවා අවුරුදු තුන්කෝටි හැට ලක්ෂයක්. එතකොට තේරෙනවද පින්වත්නි ගොඩාක් අය යන්නෙ තව්තිසාවෙ. ගොඩාක් අය යන්නෙ තව්තිසාවෙ. ඊළඟට පිරිසක් යනවා නිම්මාණරතියේ. යාම ලෝකෙ ගිය අයත් හම්බවුනා. තුසිතයේ ගිය අයත් අතිදාන මුල් කරගෙන ඒ කියන්නෙ ගොඩාක් දන් දීම, ගොඩාක් පැහැදීම, ගොඩාක් බණ අහන එක ඒවා ආදිය මුල් කරගෙන තුසිතයේ උපදිනවා. ගොඩාක් ධර්ම දේශනා කිරීම. දැන් ඒ කාලයේ අනුරාධපුර යුගයේ අපි අහලා තියෙනවා රහතුන්ගේ යුගයේ ධර්ම දේශනා ගොඩාක් කරපු දේශකයාණන් වහන්සේලා ඉපදිලා තියෙන්නෙ තුසිතයේ. කය බිඳී මරණින් මත්තෙ. ඒකට හේතුව අතිධර්මදානය කිරීමේ විපාක. ගොඩාක් අය මාර්ග ඵල ලබලා. ගොඩාක් අය රහතන් වහන්සේලා. ඒ වගේ තියෙනවා. එතකොට බලන්න ඊළඟට තමයි සාමාන්‍යයෙන් හොඳට පින් කරනවා පොඩ්ඩක් කිලිටි සහගත දේවල්. ඒවා මුල් කරගෙන ඒ කියන්නෙ පින් අස්සෙ ප්‍රශ්න තියෙනවා. ආන්න ඒ වගේ අය චාතුම්මහාරාජිකයේ, ඊළඟට ගොඩාක් පින් තියෙනවා, නමුත් ස්ත්‍රීන් ගැන, ඔය වගේ ගොඩාක් ලාමක දේවල් ගැන හිත පිහිටුවා ගන්නවා. නමුත් ගොඩාක් පිනුත් තියෙනවා. ඒ වාගේ අය භූමාටු දෙවියන් අතර උපදිනවා. ඔය වාගේ ඉතින් එක එක ස්වභාවවල් තියෙනවා. තමන් දැනගන්න ඕන තමන්ගෙ හිත පිරිසිදුව උතුම් ආකාරයෙන් තියාගන්න. මනුස්ස ලෝකෙ ඉන්නවා පින්වතුනි පේනවා නේද මිනිස්සු අතර තියෙන අර්බුද. ඊළඟට ව්‍යසන, කරදර, දුක් කම්කෙටොළු, ඉතින් ඒ නිසා පින්වතුනි ඉතින් ඉදිරියටත් මනුස්ස ලෝකෙ ඉපදීමත් මිනිස්සු අතින් ගොඩාක් පව් කෙරෙන විදියට තමයි හැදෙන්නෙ. පින්වතුනි, අපි ඊළඟ දිව්‍ය විමානය බලමු. මේ දිව්‍ය විමානය නම් හරී ආනුභාව සම්පන්නයි. මේ දෙවියා කරපු පින නම් පුදුම සහගත එකක්. මේ දෙවියා කරලා තියෙන පින මේ වගේ එකක්. ඒ තමයි මෙයා පායන කාලෙ අඹ වත්තක් බලාගත්ත උයන්පල්ලෙක්. මේ බලන්න ඒ කාලෙ පින් කරලා තියෙන හැටි. එයාට දවසට ළිඳේ වතුර ඕන වෙනවා. ඒ කියන්නෙ අපි කියමු අඹ ගස් හැටක් තියෙනවානම් ළිඳෙන් ගන්න පුලුවන් වෙන්නෙත් වතුර පනිට්ටු හැටයි. ගාණට තියෙන්නෙ. පායන කාලෙ. මෙයා ඉතින් අඹ උයන බලාගෙන ඉන්නවා.

ඊටපස්සෙ මේ අඹ උයන ළඟින් දවසක් වඩිනවා කිණිහිරියා මලේ පාටින් බබලන ධර්ම සේනාධිපති වූ ප්‍රඥාවෙන් අග්‍ර අපගේ සාරිපුත්තයන් වහන්සේ. බිමට යොමු කරපු දෑස් ඇති සන්සුන් ගමනින් වඩින මහා මුණිවරයාණන් වහන්සේ. ඊටපස්සෙ උන්වහන්සේ අර පායන කාලෙ වැඩලා, දාඩියයි. උන්වහන්සේට ගොඩක් වෙහෙසයි. ඊටපස්සෙ ඔය උයන ළඟින් යනකොට අර උයන් පල්ලා අර අඹ ගහක් යට ඉඳලා බලාගෙන හිටියා. උන්වහන්සේ දැක්කා රත්තරන් පාට ශ්‍රමණයන් වහන්සේගේ මූණෙන් දාඩිය වැටෙනවා. එකපාරම හිතුනා, අනේ මූණවත් හෝදගන්න වතුර ටිකක් දෙන්න ඇත්නම්. හැබැයි ඉතින් මොනවත් කරගන්න විදියක් නෑ, ගාණට වතුර තියන්නෙ. ඊටපස්සෙ කල්පනා කලා එහෙම හිතලා හරියන්නෑ, දැන් පිනක් කරගන්න නම්, යහපත් දෙයක් කරගන්න නම්, මට මේ වෙලාවෙ මේ ස්වාමීන් වහන්සේ කැමති නම් මම නාවන්න වුනත් කැමතියි, අඹ ගස් පස්සෙ හිතනවා කියලා හිතුවා. හිතලා දුවගෙන ගිහිල්ලා වැඳලා ස්වාමීනී මට අනුකම්පාවෙන් ස්වාමීන් වහන්සේ වඩිනවද මං වතුර ටිකක් දෙන්නම් කිව්වා. සාරිපුත්ත මහරහතන් වහන්සේ හැරුනා. ඊටපස්සේ කිව්වා ස්වාමීන් වහන්සේ මං ඔබ වහන්සේ කැමති නම් පැන් පහසු කරවන්නද, ඒක පුදුම පිනක් පින්වත්නි. සාරිපුත්ත මහරහතන් වහන්සේ ඔහු දෙස බලාන හිටියා. උන්වහන්සේ මහා අභිඥා තියෙන උත්තමයා. මොනවහරි පේන්න ඇති. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ නිහඬව අඹ උයනට වැඩියා. ස්වාමීන් වහන්සේ මං පැන් පහසු කරවන්නම් කිව්වා. සාරිපුත්ත මහරහතන් වහන්සේ තමන්ගේ චීවරය ගලවලා අර අඹ අත්තක දැම්මා. දැන් අර මනුස්සයා ජීවිතේ දෙවෙනි කරගෙන මේ පින කරන්නෙ. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ අරයා වතුර ටික ගේන අතරේ සාරිපුත්ත මහරහතන් වහන්සේ අඹ ගහක් ළඟ හිටගත්තා. එතකොට අර මනුස්සයා අර අඳනෙ පිටින් ඉන්න අපගේ උතුම් සාරිපුත්තයන් වහන්සේගේ ශරීරයට පැන් දානවා. සාරිපුත්තයන් වහන්සේත් නැවෙනවා, අඹ ගහට වතුරත් වැටෙනවා. ඉතින් ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ ඊළඟ අඹ ගහ ගාවට වඩිනවා. මේවා පුදුම සහගත දේවල්. මෙහෙමත් පින් කලානෙ පින්වතුනි. මේ දෙවියාගේ දිව්‍ය සැපසම්පත් වචනයෙන් කියලා නිම කරන්න බෑ, ඒ දෙවියාගේ දිව්‍ය සම්පත්තිය, ඒ විමානය ඉර මඬල හඳ මඬල වගේ කියනවා. සියලු දිව්‍ය අප්සරාවන් ලක්ෂ ගාණක් ඔහුට යටත්. එච්චර ආනුභාව සම්පන්න පිනක් කලේ. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ එහෙම්මම සිවුර පොරවගෙන වැඩම කලා, සෙත් ප්‍රාර්ථනා කරලා. ඉතින් ඒ

පුණ්‍යානුභාවයට සාරිපුත්ත මහරහතන් වහන්සේ වෙනුවෙන් ඒ කල පුණ්‍යානුභාවයේ විස්තරයේ මුගලන් මහරහතන් වහන්සේට එයා පස්සෙ කාලෙ මැරිලා දිව්‍ය ලෝකෙ ඉපදිලා ඒ විස්තරය කියනවා. මේ බලන්න ඒ විස්තරය, ඒ කාලෙ ඉර සැරට පායනවා. පායන කාලෙ අන්තිම මාසෙ අනුන්ට බැලමෙහෙවර කරන පුද්ගලයෙක් හිටියා. ඔහු අඹ වනයකට වතුර දැම්මා. එතකොට ඒ දිසාවෙන් වැඩියා ඉතා ප්‍රසිද්ධ වූ සාරිපුත්ත මහරහතන් වහන්සේ. කායික වශයෙන් කලන්තෙ ස්වභාවයක් පෙනුනා. නමුත් මානසික වශයෙන් කලන්තෙ ස්වභාවයක් තිබුනෙ නෑ. අඹ වනයට වතුර දදා හිටපු මං ඒ වනයට වඩින උන්වහන්සේ දැක්කා. ස්වාමීනී ඔබ වහන්සේට පැන් පහසු කරනවා නම් ඒක මට සැපයට හේතුවෙනවා. එතකොට උන්වහන්සේ මා කෙරෙහි අනුකම්පා කලා. පාසිවුරු පැත්තකින් තැබුවා. අඳනය විතරක් ඇඳගෙන රුක් සෙවනේ වාඩි වුනා. මං එතකොට හිත පහදවාගත්තා. රුක් සෙවනේ අඳනය පිටින් වැඩ සිටි උන්වහන්සේව පිරිසිදු ජලයෙන් නැහැවෙව්වා. අඹ ගහටත් මං වතුර ඉස්සා. ශ්‍රමණයන් වහන්සේත් පැන් පහසු කෙරෙව්වා. මං රැස් කරගත්තෙ සුලුපටු පිනක් නම් නෙවෙයි. ඒ ප්‍රීතියෙන් තමන්ගේ මුළු කයම සීතල වෙලා ගියා කියනවා. මේවා අහනකොට මේවා කියනකොට අපේ ඇඟ සීතල වෙලා යනවා නම් ඒ පින කරපු කෙනා කොහොම ඉන්න ඇතිද. මං ඒ මනුස්ස ජීවිතේට කරගත්තෙ ඔය පිනම විතරයි. මිනිස් සිරුර අතහැරියට පස්සෙ මං උපන්නෙ මේ නන්දන උයනෙ. මේ රම්‍ය වූ නන්දන වනයේ නොයෙක් කුරුළු කොබෙයියන් පිරිවරාගෙනයි තියෙන්නෙ. දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන මම නැටුම් ගැයුම් වලින් ගොඩාක් සතුටු වෙනවා. බලන්න කරපු පින. සමහර මම දැකලා තියෙනවා සමහර පන්සල් වල වයසක හාමුදුරුවරු ඉන්නවා ඉතින් ඔය ලෙඩ වෙලා උපස්ථාන කරන්නත් කවුරුවක්වත් නෑ, ඔන්න ගමේ තරුණ කොල්ලො ටිකට ගොඩාක් පිනක් කරගන්න අවස්ථාවක්. ඉතින් ගිහිල්ලා නායක හාමුදුරුවනේ කියලා වැඳලා උන්වහන්සේව හොඳට දවල් කාලෙක බලන්න කොහොමද උන්වහන්සේගේ ලෙඩදුක් වලට හොඳයිද කියලා බලලා ඒ කාමරේ අස් කරලා සුද්ධ කරලා වැසිකිලි කැසිකිලි සුද්ධ කරලා පිරිසිදු කරලා ඊටපස්සෙ නාවලා සිවුරු හෝදවලා ඒ වාගෙ පින් කරගන්න ඇත්නම් කොච්චර එකක්ද. අපිත් ඉස්සර කරපු පින් තියෙනවා. දැන් අපේ මට මතකයි, අපෙ ගෙවල්වලට පහලින් අපේ ගමේ පොදු ළිඳක් පොදු පීල්ලක් තියෙන්නෙ. පන්සලේ හාමුදුරුවො අපි නාන පීල්ලටම තමයි පැන් පහසුවෙන්න වඩින්නෙ. ඉතින් අපි ගෙවල් වල ඉද්දි පොඩි ළමයි. අපි දකිනවා හාමුදුරුවරු දෙනමක්

විතර පැන් පහසුවෙන්න වඩිනවා. ඉතින් අපි දුවගෙන යනවා පීල්ලට. ගිහිල්ලා ස්වාමීන් වහන්සේලා පැන් පහසුවෙනකල් අපි සිවුරු හෝදලා, සබන් ගාලා හෝදලා ඒවා කරලා දෙනවා ස්වාමීන් වහන්සේලා පැන් පහසු වෙන අතරෙ. මං හිතනවා අපිට මේ බුද්ධ ශාසනේ පිහිට ලබන්න ඒ පිනත් උපකාරී වෙන්න ඇති කියලා. ඒ නිසා ඔයාලත් ඒ පින්කම් කරන්න. ගමේ පන්සලේ ස්වාමීන් වහන්සේලාට උපස්ථාන කරන්න. ඒවා ගොඩාක් වටිනවා පින්වත්නි. අපිට පස්සෙ කාලෙක හිතලා සතුටු වුනැහැකි. ඊටපස්සෙ පුංචි කොල්ලො කාලේ අපි ඒ කරපු පින්කම් අපි සතුටින් සිහි කරනවානෙ. මේවා අහනකොට අපිට සන්තෝෂයිනෙ. ඉතින් ඒ නිසා ඔබත් පින්කරගන්න. ඊටපස්සෙ තියෙනවා පින්වතුනි තව දිව්‍ය විමානයක්. දැන් ඇත්තටම මේ කාරණාව කල්පනා කරලා බලනකොට සාරිපුත්ත මහරහතන් වහන්සේ ඇත්තටම පැන් පහසු වෙන්න උවමනාවට නෙවෙයි මේ. සාරිපුත්ත මහරහතන් වහන්සේ ඇත්තටම මේ කරලා තියෙන්නෙ අර උපාසකයාට අනුකම්පා කලා. මේ ලෝකෙ රහතන් වහන්සේලා වැඩ ඉන්නෙ මේ ලෝක සත්ත්වයාට අනුකම්පා පිණිස. යහපත පිණිස. හිතසුව පිණිස. කොච්චර භාග්‍යයක්ද මේ උතුම් රහතන් වහන්සේලා. ඒ කාලෙ කොච්චර මිනිස්සු පින් කරගන්න ඇතිද. එක රහතන් වහන්සේ නමකගේ ජීවිත කාලෙට උන්වහන්සේලා වළඳන පිණ්ඩපාත, ඒ කියන්නෙ ගෙවල් කීයකින් උන්වහන්සේලා දන්වළඳනවාද. ඒ මිනිස්සුන්ට කොච්චර යහපතක්ද. රහතන් වහන්සේලා ලක්ෂ ගාණක් වැඩ ඉන්නවා කියන්නෙ. රහතන් වහන්සේලා ලක්ෂ ගාණක් පිණ්ඩපාතෙ යනවා කියන්නෙ. ගෙවල් කීයක්ද. ඒ දන්පැන් බෙදපු මිනිස්සු දැන් කොහෙද ඉන්නෙ පින්වතුනි. ඒ මිනිස්සු ඉන්නෙ දෙව්ලොවනෙ. පොඩ්ඩක් කල්පනා කරලා බලන්න. ඉතින් ඒ නිසා අපි බලමු ඊළඟ දිව්‍ය විමානය, පුදුම සහගත දිව්‍ය විමානයක්. අනන්ත අප්‍රමාණ සැප සම්පත් භුක්ති විඳිමින් ඉන්නෙ. මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ කාරණාව ඇහුවෙ. මුගලන් මහරහතන් වහන්සේ ඇහුවා ඔබ කරපු පින මොකක්ද කියලා. මං ඉස්සර මිනිස් ලොව මනුස්සයෙක් වෙලා හිටියා. මං කලේ අනුන්ගෙ ගවදෙනුන් එක්රැස් කරලා ආරක්ෂා කරන එක. එදා ශ්‍රමණයන් වහන්සේ නමක් මං ළඟට වැඩියා. මේක හරි පුදුම කතාවක්. පින්වතුනි මේකත් අපූරු කතාවක්. මේ තමයි පින්වත්නි එක හරක් බලන මනුස්සයෙක් පිට්ටුවකුත්, පොඩි පිට්ටු ටිකකුත් ඉනේ ගහගෙන මල්ලෙ දාගෙන දවල් කෑමට, හරක් ටිකත් දක්කාගෙන කැලේට යනවා. ඒ යනකොට මුගලන් මහරහතන් වහන්සේ වඩිනවා දැක්කා. ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේ වඩිනවා

දැකලා අර ගොපල්ලා කල්පනා කරනවා, අනේ මට විටින් විට ශ්‍රමණයන් වහන්සේලා මුණ ගැහෙනවා. කවදාවත් දෙන්න දෙයක් නෑ, අද මං ගාව පිට්ටු ඩිංගිත්තක් තියෙනවා. ඉතින් මං ඒක මුන්නාන්සේට පූජා කරන්න ඕන කියලා, දැන් හරක් ටිකත් අරන්නෙ එන්නෙ. දැන් හරක් ටික අතෑරලා අර ස්වාමීන් වහන්සේ වැඩ ඉන්න පැත්තට ගියා. ඒ යනකොට ශ්‍රමණයන් වහන්සේත් මග වඩිනවා. ස්වාමීන් වහන්සේ ළඟට යනකොට හරක් ටික ළඟ තිබ්බ මෑ ටික කන්න ගියා. හරක් ටික මෑ ගොයමකට පැන්නා. ඊටපස්සෙ ස්වාමීනී මට දැන් වැඩ දෙකක් පේනවා. දෙකම කරන්න ඕන. ඉතින් ස්වාමීනී මං නුවණින් කල්පනා කරනකොට මට මේ අදහස හිතුනා. ඇයි දැන් දෙකක් තියෙන්නෙ මොකක්ද. ස්වාමීන් වහන්සේට දානෙ පූජා කරන්නත් ඕන. හරක් ටික බලාගන්නත් ඕන. නුවණින් කල්පනා කරනකොට මෙයාට හිතුනා මං මේ දෙකම කරගන්න ඕන. ඊටපස්සෙ මං මොකක්ද කලේ තමන්ගෙ ඉණේ තිබ්බ පිට්ටු මල්ල අරගෙන ස්වාමීනී මේක ඔබවහන්සේට කියලා මෙහෙම දාලා හරක් ටික පැන්න කෙතට දිව්වා. මං එහෙම දුවනකොට ස්වාමීනී මං මේක පූජා කලා කියලා රෙද්දෙන් ඔතාගෙන හිටපු පිට්ටුව අත්හැරියා. මේ ගවරැල අනුන්ගේ ධනය වන මෑ ටික කන්න ඉස්සරවෙලා මං ඒ මෑ කෙතට දුවගෙන ආවා. මං එහෙම වේගෙන් යනකොට මහා විෂ ඇති දරුණු සර්පයෙක් මගේ කකුලට දෂ්ට කලා. කෙතට දුවනකොට එතන හිටපු මහා සර්පයෙක් දෂ්ට කලා. ඉස්සර සර්ප විෂ කියන්නෙ ඒ දෂ්ට කරපු ගමන්ම වැටෙනවා කටෙන් සුදු පාට පෙණ වැටෙනවා. එතකොට මං සර්ප විෂ නිසා අධික දුකෙන් පෙළෙන්න වුනා. ස්වාමීන් වහන්සේ මා කෙරෙහි අනුකම්පා කලා. මොකද කලේ, රෙදිකඩ බැහැර කරලා පිට්ටුව වැළඳුවා. මං මැරුණා. මං චුත වුනා. මං දෙවියන් අතර ඉපදුනා. මුගලන් මහරහතන් වහන්සේ දුවගෙන ගිහිල්ලා අනේ උපාසකය මොකක්ද වුනේ. පොඩ්ඩක් ඉන්න මගේ සෘද්ධියෙන් විෂ මරන්නම් කියලා මේවා පුදුම ලෝක පින්වත්නි. මේ රහතන් වහන්සේලා මේවට මැදිහත් වෙන්නෑ, උන්වහන්සේලා මේ ලෝකෙ දුකයි කියලා අවබෝධ කලා. උපන් සත්ත්වයා මැරෙනවා කියලා අවබෝධ කලා. උන්වහන්සේ අරයා වැටිච්ච ගමන් ඒ ලැබිච්ච පිට්ටුව එයාට පේන්න වැළඳුවා. එයා මෙහෙම්මම වැඳගෙන ඇස් දෙක පියාගත්තා. බේරන්න බෑ, අද කාලෙ ඔහොම එකක් වුනොත් එහෙම මගෙ අම්මෝ කොයි තරම් ගරහයිද. ෆේස්බුක් පිටු පිටින් යයි. මේ මනුස්සයා තමන්ට දානෙ දුන්නු මනුස්සයා ගැන හිතන්නැතිව මේං වැළඳුවා කියලා. උන්වහන්සේලාට වළඳනවා හැර වෙන එකක් නෑ කියලා. පිටු ගණන් යයි. අද

වාගේ අසත්පුරුෂයෝ ඒ කාලෙ නෑ, තිබ්බෙ සත්පුරුෂයන්ගේ ලෝකයයි පින් කරන අයගේ ලෝකයයි. දැන් බලන්න දිව්‍ය ලෝකෙ ඉපදිලා අදටත් ඉන්නවානෙ. දැන් එදා බේරගත්තත් අර දානෙ වැළඳීමක් නෑ, පැහැදීමක් නෑ, ඊටපස්සෙ මොකද වෙන්නෙ, මොකක් හරි දේකින් එයත් දුගතියට වැටෙන්න තිබ්බා. ඇයි වෙන පින් කරගෙනත් නෑ, සංසාරෙත් ලොකු පිනක් නැති නිසානෙ මේ ගවයන් බලන කුලේ ඉපදුනේ. නමුත් බලන්න රහතන් වහන්සේලා කොච්චර ලෝකෙට අනුකම්පා කලාද කියලා. මේවා නම් ආශ්චර්‍යයී පුදුම සහගත දේවල්. ඊටපස්සෙ කියනවා මටකරගන්න ලැබුනේ ඒ පින විතරයි. ස්වාමීනී, ඔබවහන්සේ මට ගොඩාක් අනුකම්පා කලා. මුගලන් මහරහතන් වහන්සේටම වැඳලා කියන්නෙ ඇවිල්ලා දෙවියා විමානය පිටින්. මං මේ පින්කමින් සැප විඳින්නෙ. මං කෙලෙහිගුණ දන්න නිසා ඔබවහන්සේට වන්දනා කරනවා. බලන්න තමන්ට පිහිට වුන කෙනාට වන්දනා කරන්න දෙව්ලොව ඉඳලා හරි එනවා. තමන්ට පිහිට වෙච්ච කෙනාට වන්දනා කරන්න දෙව්ලොව ඉඳලා හරි එනවා කෘතඥතාවය, කෙළෙහිගුණ තියෙන කෙනා. කෙළෙහිගුණ නැති කෙනා ළඟ ඉඳලාවත් වඳින්න නම් එන්නෑ, දැන් බලන්න කෙළෙහිගුණේ ස්වභාවය. ඊටපස්සෙ දෙවියන් සහිත වූ මරුන් සහිත වූ ලෝකයේ ඔබවහන්සේ තරම් අනුකම්පා කරන වෙන මුණිවරයෙක් නම් නෑ කියනවා. බලන්නකො ඔබවහන්සේ තරම් - අර පිට්ටු වළඳපු එකට මේ කියන්නෙ - දෙවියන් මරුන් සහිත ලෝකයේ වෙන නම් ඔහොම අනුකම්පාවක් නම් වෙන කෙනෙක් දෙන්නෑ කියනවා. දැන් බලන්න සත්පුරුෂ ලෝකයේ අනුකම්පාව කියන එකයි අද කාලෙ මිනිස්සුන්ගෙ ලෝකයි කොච්චර වෙනස්ද. ගොඩාක් අය පින්වතුනි මේ ලෝකය විතරයි හිතන්නෙ. පරලොවක් ගැන හිතන්නෑ, ඊටපස්සෙ කියනවා ස්වාමීනී, ඔබ වහන්සේ ගොඩාක්ම සානුකම්පිතයි. ඔන්න අනුකම්පාව. දැන් අද කාලෙනම් කියන්නෙ කිසි මෛත්‍රියක් කරුණාවක් දයාවක් නෑ, අර මනුස්සයෙක් මැරෙනවා පෙනි පෙනී මේක කෑවනේ කියලා කියයි. අර දෙවියා ඒකට ලක්වුන එක්කෙනා කියනවා ඔබ වහන්සේ තරම් සානුකම්පිත කෙනෙක් නම් තවත් නෑ කියනවා. කියනවා මං කෙළෙහිගුණ දන්න නිසා ස්වාමීනී මං ඔබ වහන්සේට වඳිනවා කියනවා. තව තව කියනවා කෙළෙහිගුණ ගැන. එහෙනම් දෙවියන්ගේ තියෙන උත්තරීතර ගුණයක් තමයි මොකක්ද, කෙළෙහිගුණ. එහෙනම් දෙවියන් අතරට යන්න මතක තියාගන්න විශේෂ ගුණයක් ඕන, කෙළෙහිගුණ. තමන්ට උදව් කරපු අය, තමන්ට පිහිට වෙච්චි අය, තමන්ට ධර්මය දුන්නු අය, තමන්ගෙ දෙමව්පියෝ, ගුරුවරු ඒ අය

ගැන කෙළෙහිගුණය ඕන. ඒ නිසා කෘතගුණ කියන එක සුලු දෙයක් නෙවෙයි. මොකද කෙළෙහිගුණ තියෙන්නෙම සත්පුරුෂයට. දෙව්ලොව වනාහි කේවල සත්පුරුෂ භූමි. සම්පූර්ණයෙන්ම සත්පුරුෂයන්ගේ භූමියයි. ඊටපස්සෙ පින්වතුනි මේ ලෝකයේවත් වෙනත් ලෝකයකවත් ඔබවහන්සේ තරම් අනුකම්පා කරන වෙන මුණිවරයෙක් ඇත්තෙ නෑ, ආයෙ කියනවා. ස්වාමීනී ඔබ වහන්සේ ගොඩාක්ම සානුකම්පිතයි. මං කෙළෙහිගුණ දන්න නිසා ඔබවහන්සේට වඳින්න ආවෙ. ඔබවහන්සේගේ සිරිපා කමල මම වන්දනා කරගන්නවා කියලා පුදුම විදියේ සන්තෝසෙකින් ඒ දෙවියා මුගලන් මහරහතන් වහන්සේව වන්දනා කළේ. එතකොට කොයි තරම් මේ දෙවියන්ට තියෙනවද කියලා බලන්න පින්වතුනි කෙලෙහිගුණ. ඒ වගේම ඒ කාලෙ පින් කරපු විදිය, මරණය පෙනි පෙනී. උපන් සත්ත්වයා කොහොමටත් මැරෙනවා පින්වතුනි. ඊටපස්සෙ ඊළඟ දිව්‍ය විමානය මුගලන් මහරහතන් වහන්සේ දැකලා තියෙන්නෙ දැන් මේක මෙහෙමයි මේ එක රවුමක්ම යන එකක් නෙවෙයි. කාලෙන් කාලෙට මුගලන් මහරහතන් වහන්සේගේ ජීවිත කාලයේ විටින් විට දිව්‍ය ලෝකෙ ගිහිල්ලා ඒ මුගලන් මහරහතන් වහන්සේ දැක්ක දේවල් බුදුරජාණන් වහන්සේට ඇවිල්ලා කියා හිටිනවා. බුදුරජාණන් වහන්සේ තමයි මේ කරුණු ඇසුරෙන් දහම් දෙසන්නෙ. ඊටපස්සෙ ඒක බුද්ධ භාෂිතයක් වෙලා අද වෙනකොට ශ්‍රී සද්ධර්මය විදියට අපිට මිහිඳු මහරතන් වහන්සේ දායාද කලා. තාරකාවන්ට අධිපති වෙලා සස ලකුණ ඇතිව ඉන්න සඳක් වගේ, පුර පසළොස්වක දවසට නැකැත් තරු පිරිවරාගෙන බබලන සඳක් වගේ හාත්පසින් ගමන් කරන්නෙ ඒ විදියටයි. මෙන්න දෙවියාගෙ විමානය. මේ දිව්‍ය පුරයේ තියෙන දිව්‍ය විමානය ඒ වගේ. හිරු වගේ බබලනවා. අතිශයින් බබලනවා. ඉතින් මේ අනන්ත අප්‍රමාණ දිව්‍ය පොකුණු සැප සම්පත් දිව්‍ය අප්සරාවො, මල්, ඒ වගේම දිව්‍ය ආසන, ඊළඟට දිව්‍ය ආසන හරි මොළොක් කියනවා. දිව්‍ය සළුවලින් සැරසිලා සක්දෙව් රජු වගේ ඔබ දිව්‍ය අප්සරාවො පිරිවරාගෙන ඉන්නවා. කියනවා මෙච්චර සැප සම්පත් වලින් මාලාභරණ දාලා, ඊළඟට පංචතූර්ය නාදය නැටුම් ගැයුම් වැයුම් ඒ සහිතව ඔබ මෙච්චර සැප විඳින්නෙ ඇයි කියලා අහනවා. මොකක්ද ඔබ කරපු පින කියලා අහනවා. ඔබගේ විමානයේ ප්‍රභාව හැමතැනම විසිරිලා තියෙනවා. මේ පුණ්‍ය විපාකය කොහොම ලැබුනු එකක්ද. මුගලන් මහරහතන් වහන්සේ මෙහෙම අහන්නෙ. ශාක්‍යවරුන්ගේ උතුම් නගරය කපිලවස්තුවයි. කිඹුල්වත් නුවර. මං එහේ හිටියේ. සුද්ධොදන රජ්ජුරුවන්ගේ පුතනුවන් වහන්සේගේ ඉපදීමයි මගේ

ඉපදීමයි වුනේ එකම දවසෙ. මේ අප්‍රමාණ සැප විඳින දිව්‍ය රාජයා කවුරු වෙන්න ඇතිද. කියනවා සිදුහත් කුමාරයා ඉපදුනු දවසෙමයි මමත් ඉපදුනේ කියලා. මුගලන් මහරහතන් වහන්සේට මුණගැහුනෙ දිව්‍ය ලෝකෙදි. කවුරු වෙන්නැතිද. ස්වාමීනී, කන්ථකෝ සහජෝ අහං. මම කන්ථක අශ්වයා. බුදුරජාණන් වහන්සේ මනුස්ස ලෝකෙ ඉපදෙනකොටම මවු කුසින් බිහිවෙනකොටම ලෝකයේ කාරණා හතක් පහළ වුනා. ඒ තමයි, කන්ථක අශ්වයා, කාළුදායි අමාත්‍ය, ඡන්න අමාත්‍ය, ආනන්ද ස්වාමීන් වහන්සේ, යශෝදරා, ඊළඟට උතුම් ජයසිරිමහා බෝධීන් වහන්සේ, ඊළඟට සතර මහා නිධාන පහළ වුනා. මේවාට කියනවා සහජාත වස්තු හත කියලා. දැන් ආනන්ද ස්වාමීන් වහන්සේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන්පානකොට අඬනවා කියනකොට අපිට හිතෙන්නේ පොඩි හාමුදුරු නමක් අඬනවා වගේනෙ. නෑ, එදාට ආනන්ද ස්වාමීන් වහන්සේට වයස අවුරුදු අසූවයි. ඉතින් මේ කන්ථකයන් මහාබෝධිසත්ත්වයන්ට ගොඩාක් ඇළුම් කරපු කෙනෙක්. අපි බලමු කොච්චර ඇලුම් කලාද කියලා. එදා සිද්ධාර්ථ කුමාරයා මැදියම් රැයේදී බුදු බව පිණිස අභිනික්මන් කලේ කුමාරයන් වහන්සේ ඉතා හොඳින් හසුරුවන අත්වලින්, ඒ තඹ පාට නියපොතු තියෙන මොලොක් අත්වලින් මගේ කලවයට තට්ටු කලා. යාළුවා මං උතුම් සම්බෝධියට පත්වෙලා දෙව් මිනිස් ලෝකයාටත් මේ සංසාරෙන් එතරෙ කරවන්නයි මං මේ යන්නෙ. මාව උසුලාගෙන යන්න පුලුවන්නෙ. කන්ථකගෙන් ඇහුවා. මට ඒ වචන ඇහෙනකොට මහා ලොකු සතුටක් දැනුනා. මගේ හිත පිනා ගියා. මගේ ශරීරය සීතල වුනා. මං ඒ සතුටු සිතින්මයි ඒ සිද්ධාර්ථ කුමාරයා මගේ පිටේ තියාගෙන ගියේ. මහා යසස් ඇති ශාක්‍ය පුත්‍රයන් වහන්සේ මගේ පිටේ නැංගා. මගේ සිත පිනා ගියා. හරීම සතුටෙන් මං සත්පුරුෂයාව උසුලාගෙන ගියා. දැන් බලන්න සතෙක්ගේ හිත. කන්ථක අශ්වයා. සිද්ධාර්ථ කුමාරයන් වහන්සේ වෙන රජෙකුගේ රාජධානියටයි ගියේ. හිරු උදාවෙනකොට මාවත් ඡන්නවත් අත්හැරලා කිසී බලාපොරොත්තුවක් නැතිව පිටත් වුනා. මේ ඇහින් දැක්ක කෙනෙක් කියන්නෙ. මං සිද්ධාර්ථ කුමාරයන් වහන්සේගේ තඹ පාට නියපොතු ඇති ඒ පායුග දිවෙන් ලෙවකෑවා. කොච්චර ආදරයක්ද. මහා වීරයන් වහන්සේ වන පියසට වඩිද්දි මං බලාගෙන හිටියා. මගේ ඇස් වලින් උල්පතකින් වගේ කඳුළු වැටුනා. තේරෙනවා පින්වතුනි මේ සත්තුන්ට පවා. ශ්‍රීමත් වූ ශාක්‍ය පුත්‍රයන් වහන්සේ  මට නොපෙනී ගියා. එතකොට මට ලොකු අසනීපයක් හැදුනා. ඉක්මණින්ම මගේ මරණය සිද්ධ වුනා. ඒ පුණ්‍ය කර්මයේ ආනුභාවයෙන් තමයි

මං මේ දිව්‍ය විමානය මට ලැබුනෙ. බෝධිසත්ත්වයෙක් උසුලාගෙන යෑමේ පින. මම හිතනවා දළදා වහන්සේ ගෙනියන ඇත් රජාට පුණ්‍ය සංස්කාර රැස්වෙනවා කියලා. මේ තියෙන්නෙ. සුලුපටු නෑ, ඉතින් ඊටපස්සෙ පින්වතුනි කන්ථක අශ්වයා නැතිවුනා. ඊටපස්සෙ මේ සැපසම්පත් ලැබුනා. ඒ කන්ථක අශ්වයාගේ දේහය ආදාහනය කරලා ඒ භෂ්මාවශේෂ තැන්පත් කරලා නේපාලයේ තියෙන කපිලවස්තු මාළිගාවට ඇතින් ස්තූපයක් හදලා තියෙනවා, මම දැකලා තියෙනවා ඒක. කන්ථක ස්තූථය කියලා අදටත් මිනිස්සු කියනවා. ඒවා කැණීම් කරලා මතු කරගෙන නෑ, ස්තූපය වල් බිහිවෙලා තියෙනවා. ඒ ගම්වල මිනිස්සු කතාවෙනවා කන්ථක ස්තූප කියලා. සිදුහත් කුමාරයා හිටපු මාළිගාව අදටත් තියෙනවා. ඒ ප්‍රාකාර ගරා වැටිලා තියෙනවා. දිය අගල තියෙනවා. අභිනිෂ්ක්‍රමණය කරපු දොරටුව තියෙනවා. පැන් පොකුණු තියෙනවා. ඒවා හොඳට අපි ඇහින් දැක්කා පින්වත්නි. ඒවා දැකලා ඒවා පැහැදිලා තියෙද්දි ඒ භූමි ළඟට යනකොට හදවතට දැනෙද්දි මේ මොකක්වත් දන්නැති මිනිස්සු කියනවානේ මෙහෙ බුදුන් උපන්නා කියලා. ඊළඟට මහාමායා දේවිය කළුරිය කලාට පස්සෙ භෂ්මාවශේෂ තැන්පත් කරපු ස්තූපය. සුද්ධෝදන මහරහතන් වහන්සේගේ ධාතු ස්තූපය අදටත් කපිලවස්තුවේ තියෙනවා. නිග්‍රෝධාරාමයේ රාහුල ස්වාමීන් වහන්සේ පැවිදි කරපු තැන තියෙනවා. ඉතින් මේ කන්ථක දිව්‍ය රාජයා කියනවා මහා බෝධි සත්ත්වයෝ උසුලාගෙන ගිය පින් බලයට බලන්න තිරිසන් සතෙක් කියන්නෙ වෙන මොන පින්ද. මහා බෝධි සත්ත්වයෝ උසුලාගෙන ගිය පින් බලයට දිව්‍ය ලෝකෙ ඉපදුනා කියනවා. බුදුරජාණන් වහන්සේලා ලෝකෙට ශ්‍රේෂ්ටයි පින්වත්නි. ඊටපස්සෙ කියනවා මම සම්බුද්ධත්වය අවබෝධ කලා. මාගේ ඒ උතුම් පුණ්‍ය කර්මයේ ආනුභාවයෙන් මේ දිව්‍ය විමානයේ ඉපදිලා සියලු දේටම අධිපති වෙලා මම සිටිනවා. සම්බුද්ධත්වය අවබෝධ කලා කියන දහම් ඝෝෂාව දිව්‍යලෝකෙ පුරාම පැතිරිලා ගියා. එතකොට මට ඇඟ සීතල වුනා. මට පුදුම සතුටක් දැනුනා. ඒ කුසලයෙන්මයි අමා නිවන සාක්ෂාත් කරන්න ඕන. කියනවා ඒ සම්බුද්ධත්වය අවබෝධ කලා කියලා ඇතිවුනානෙ හඬක්. ඒකේ ඇතිවුනු පින් බලයෙන් මම අවබෝධ කරන්න ඕන කියනවා ඔය නිවනම. ස්වාමීනී අපගේ ශාස්තෘ වූ බුදුරජාණන් වහන්සේ වෙත වඩිනවා නම් මගේ වචනෙනුත්, මගේ සිරසෙනුත් උන්වහන්සේ වන්දනා කරන්න. සැල කරන්න, කන්ථක දිව්‍ය පුත්‍රයා හම්බවුනා කියලා. බුදුරජාණන් වහන්සේට කියන්න කිව්වා. ඒ හා සමාන වෙනත් කෙනෙක් නැති ජිනරාජයාණන් වහන්සේව බැහැදකින්න මමත් යනවා.

අටලෝ දහමින් කම්පා නොවූ ලෝකවිදූ බුදුරජාණන් වහන්සේ මමත් දකිනවා. කෙළෙහිගුණ දන්නා වූ කෙළෙහි ගුණ හඳුනන ඒ කන්ථක දිව්‍ය පුත්‍රයා ශාස්තෲන් වහන්සේ වෙත එළඹුනා. සදහම් ඇස් ඇති බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහලා ධර්මචක්කය උපදවා ගත්තා. සෝවාන් වුනා ඒ කන්ථක දිව්‍ය පුත්‍රයා. බුදුරජාණන් වහන්සේ කොච්චර කරුණාවෙන් දහම් දෙසන්න ඇතිද. සක්කායදිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස නැති කරලා දැම්මා. ශාස්තෲන් වහන්සේගේ සිරිපා සඟල එදා දිවෙන් ලෙවකාපු තඹපාට නියපොතු තියෙන රත්තරන් සිරිපා සඟල දිව්‍ය අත්දෙකෙන් ස්පර්ශ කරලා වැඳලා එහෙම්මම අතුරුදහන් වෙලා ගියා. පුදුම සහගතයි. ඔය තමයි කන්ථක විමානය. පින් කරපු අය දෙව්ලොව සතුටු වෙනවා. තව්තිසාවෙ අදටත් ඒ දෙවියා සිටිනවා. ඇයි මේ මිනිස්සු දිව්‍ය ලෝකෙට බනින්නෙ. ඉතින් ඒ නිසා අපි තවත් විස්තර ටිකක් ඊළඟ වැඩසටහනින් ඊළඟ දහම් වැඩසටහන විශේෂ වැඩසටහනක් අනිවාර්යයෙන් ශ්‍රවණය කරන්න. ඉතින් අපි අද දවසේ මේ දහම් වැඩසටහනින් රැස් වෙච්ච පින් බලය අපිටත් සසර දුකින් නිදහස් වෙන්න ලැබේවා කියලා පුණ්‍ය ප්‍රාර්ථනා කරමු.

පින්වත් ප්‍රසන්න සංජය පෙරේරා මහත්මයා තමයි අද දවසේ දායකත්වය දරන්නෙ. ඉතින් මේ පින් බලයෙන් ලෝකයේත් ඒ වගේම අපගේ මව් රටේත් සියලු ව්‍යසන දුරුවෙලා, සියලු රැකවරණය මනුෂ්‍යයන්ට ආරක්ෂාව සැලසේවා කියලා අපි සෙත් පතමු. කන්ථක දිව්‍ය පුත්‍රයා ඇතුළු සියලු දෙවියන්ට මේ පින් අනුමෝදන් වේවා. බුදුසසුන ආරක්ෂා කරත්වා. දෙවියෝ ශ්‍රාවක පිරිස ආරක්ෂා කරත්වා. මේ පින් අනුමෝදන් වෙත්වා කියලා පින් පමුණුවමු. ඒ වගේම ප්‍රසන්න සංජය පෙරේරා මහත්මයා නමින් ඔබ කවුරුත් නමින් මියගිය ඥාතීන්ට පින් අනුමෝදන් වෙත්වා. පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. සියලු ස්වාමීන් වහන්සේලාටත් සිල් මෑණිවරුන්ටත් ඒ වගේම අනගාරිකා පින්වතුන්ටත් සියලු දෙනාට ධර්මාවබෝධයම සැලසේවා. ප්‍රසන්න සංජය පෙරේරා මහත්මයා, ඒ වගේම ආර්.ඒ.සී, පෙරේරා සීයාට, ඒවගේම දුල්ෂි අමරසිංහ මහත්මියට සහ දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. ගෞතම බුදු සසුනේ පිහිට ලැබේවා. සසර දුකින් අත්මිදේවා. ඒ වගේම සංජය පෙරේරා මහත්මයාගේ හිතවතුන්ටත්, ඔබ කාටත්, ධර්මය ඇසූ සියලු දෙනාටත්, මව්

දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් අපි කාටත් මේ පින් බලයෙන් සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=nEE87r6g6A0&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=18

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ දිව්‍යසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන, අද මේ වැඩසටහනේ විශේෂත්වයක් තියෙනවා. වැඩසටහන අවසානයේදී ඔබට තේරෙයි මොකක්ද ඒ විශේෂත්වය කියලා. ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දානය සඳහා දායකත්වය දරන්නේ යොහාන් ඉන්දික මහත්මයා, ඒ වගේම සමන් බණ්ඩාර මහත්මයා සහ විජිත කාලිංග මහත්මයා. මීට මාස හතරකට පෙර මියපරලොව ගිය ඊ.එම්.කේ. බණ්ඩාර පියාණන්ට පින් දෙන්නත් ඒ වගේම බිසෝමැණිකේ මෑණියන්ටත් පුංචි මහත්තයා අත්තම්මාටත් සෙත් ප්‍රාර්ථනා කරන්නත් මූලික කරගෙන අද දවසේ ධර්ම දානය සිද්ධ කරනවා. ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා මේ ධර්මය මේ ලෝක සත්ත්වයාට බෙදා දීමේ පින්කමක කොටස්කරුවන් බවට පත්වීමේ භාග්‍යය. මෙලොවත් පරලොවත් ඒ වගේම අමා නිවන පිණිසත් මේ පින ඒකාන්තයෙන් හේතු වාසනා වෙනවා. ඉතින් ඒ ගැන හිතලා ඔබ සන්තෝසයට පත්වෙන්න. අපි මීට කලින් වැඩසටහනේ කන්ථක විමානවත්ථුව ඇතුලු ඒ දෙවිවරුන්ගේ ස්වභාවවල් කතාකලා. ඒ කන්ථක දෙවියන්ගේ කතාවේ තියෙනවා අර ලොව්තුරා සම්මා සම්බුද්ධත්වයට පත් වුනා කියලා බුදුරජාණන් වහන්සේ ගයාවේ වජිරාසනයේ දෙව්ලොව පැතිරිලා යනකොට අප්‍රමාණ සතුටට පත්වුනා කියනවා කන්ථක දිව්‍යපුත්‍රයා. ඔහුනේ ඔසවාගෙන ගියේ මහාබෝධි සත්ත්වයෝ අනෝමා ගඟෙන් එතෙරට. පුදුම සන්තෝෂයකට

පත්වුනා කියනවා සම්බුදු වුනා කියලා අහලා. අන්න ඒ ලොව්තුරා සම්මා සම්බුදු වුනා කියලා අහලා සන්තෝෂයට පත්වෙච්ච පින තමයි කියනවා ඒ ජීවිතේම සෝවාන් වෙන්න මුල්වුනේ. ඒ ජීවිතේම සෝතාපන්න වෙන්න හේතුවුනේ ඒ පිනකියලා. මේ විමානවත්ථුවේ ඒක තියෙනවා. ඉතින් පින්වත්නි, ඒ නිසා බුදුවරුන්ගේ සම්බුද්ධත්වය ගැන, බුදුවරුන්ගේ අසිරිමත් ඥාන සමුදාය ගැන, සන්තෝසයට පත්වීම අපිට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. අද අපි බලමු කුමක්ද අද අපිට ඉගෙනගන්න තියෙන දිව්‍ය විමානය කියලා. අනේකවර්ණ දිව්‍යවිමානය කියලා තියෙනවා. මේ දිව්‍යවිමානය හරී ආනුභාවසම්පන්නයි. ඒ වගේම බොහෝ සැප සම්පත් තියෙන, දිව්‍ය අප්සරාවන් පිරිවරාගත්ත, ආනුභාවසම්පන්න, මහා අධිපතිකම් දරන මහා දිව්‍යරාජයෙක් වාසය කරන්නෙ. මුගලන් මහරහතන් වහන්සේ තමයි ඒ දෙවියන්ගෙන් ඒ ප්‍රශ්නය ඇහුවේ. ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේ කුමක්ද ඔබ කරපු පින කියලා අහපු ප්‍රශ්නයට ඒ දිව්‍ය රාජයා මේ විදියට උත්තර දුන්නා. ස්වාමීනී, මං ඉස්සර සුමේධ නම් ශාස්තෘන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වෙලා හිටියා. මං මාර්ගඵල අවබෝධ රහිත පෘථග්ජන කෙනෙක්වයි හිටියෙ. ඒ මං සත් අවුරුද්දක් මහණ වෙලා හිටියා. අටලෝදහමින් කම්පා නොවන, සසර සැඩ පහරින් එතෙරවුන මාර සෙනඟ ජයගත් ඒ සුමේධ ශාස්තෘන් වහන්සේ පිරිනිවන් පා වදාළා. උන් වහන්සේගේ ධාතූන් වහන්සේලා තැන්පත් කරන ලද රන් දැලෙන් කරන ලද මැණික් ඔබ්බපු ස්තූඵයට මං පහන් සිතින් යුතුව වන්දනා කලා. මං පූජා කරගත්තු දානයක් නෑ, දන් දෙන්න තරම් දෙයක් මට තිබුනෙත් නෑ. නමුත් මං අනෙක් අයව දන්දීමේ සමාදන් කෙරෙව්වා. පිදිය යුතු උතුමන්ගේ ධාතූන් වහන්සේලාට පූජා පවත්වන්න. එතකොට මෙලොවින් චුතව ස්වර්ගයේ උපදින්න පුලුවන්. මං කරගත්තෙ ඒ පින්කම විතරයි. ඒ පුණ්‍ය විපාකයෙන් තමයි මං මේ දිව්‍ය සැප විඳින්නෙ. තව්තිසා දෙව්පිරිස මැද මං සතුටුවෙනවා. ඒ පිනේ විපාක තවමත් අවසන් වුන්නෑ. මෙයා මහණ වෙලා ඉඳලා තියෙන්නෙ මේ දිව්‍ය රාජයා, සුමේධ බුදුරජාණන් වහන්සේගේ කාලෙ කල්ප තිස්දාහකට කලින්. ඊටපස්සේ අවුරුදු හතක් තමයි හොඳට මහණකම කරගන්න ලැබිලා තියෙන්නෙ. ඊටපස්සෙ මෙයාට විශාල මානසික වික්ෂිප්ත බවක් ඇවිල්ලා මෙයාට සිවුරු අරින්න සිද්ධ වෙලා. ඊටපස්සෙ කවදාවත් සිවුරු ඇරපු එක ගැන මෙයා සතුටු වෙලා නෑ. හැබැයි මෙයා සිවුරු ඇරපු දවසේ ඉඳලම එක දිගටම තමන් රැක්ක සීලයක් තියෙනවානම් සීලය අඩු කරලා නෑ. බ්‍රහ්මචාරීවම ඉඳලා තියෙනවා. ඊටපස්සෙ කරලා තියෙන්නෙ හිත

සනසගන්න, හිතට සිවුරු ඇරපු එක ගැන මොහොතක්වත් ජීවිතේට හොඳයි කියලා හිතිලා නෑ. ඉතින් ඒ නිසා මෙයා කරලා තියෙන්නෙ සම්පූර්ණයෙන්ම සුමේධ තථාගතයන් වහන්සේගේ චෛත්‍යයට වන්දනා කර කරම ඉඳලා. මෙයාට මල් පූජා කරන්න, පිරිකර පූජාකරන්න, තෙල් පහන් දල්වන්න, කිසිම දෙයක් මෙයාට කරගන්න බෑ, එච්චරම මෙයා නැතිබැරි කෙනෙක්. ඊටපස්සේ මොනවහරි සංසාරෙ කරපු දෙයක් වෙන්න ඇති, අවුරුදු හතයි මහණකම කරගන්න පුලුවන් වුනේ. ඊටපස්සෙ මොකද වුනේ මෙයා අන් අයට දන්දීමේ සමාදන්කෙරෙව්වා. මිනිස්සුන්ට කියනවා මෙහෙම දන්දෙන්න, මෙහෙම විපාක තියෙනවා කියලා අන් අය පින් කරන්න යොමු කරවලා. මෙයාට දෙන්න කියන්න මොකුත් නෑ, අන් අය යොමුකරවලා. ඒකෙ විපාක වශයෙන් ඒ ජීවිතෙන් චුත වෙලා දෙව්ලොව ඉපදුනා. කල්ප තිස්දාහක් දෙව් මිනිසුන් අතර ඉපදි ඉපදි එනවා. ගෞතම බුද්ධ ශාසනෙත් දිව්‍ය ලෝකෙ. තවම ආයුෂ ඉවරයක් නෑ කියනවා. කල්ප තිස්දාහක්. මෙහෙමත් පින්වල විපාක තියෙනවා පින්වතුනි. ඉතින් ඔය අවුරුදු හතක් මහණකම හොඳට කරලා ඒවාගේ විපාක නම්, මුළු ජීවිත කාලෙම උතුම් පැවිදි ජීවිතය ආරක්ෂා කරගත්තොත් ඒ තෙරුන් වහන්සේලාට කොච්චර ආනුභාවයක්ද. ඒ ආනුභාවයෙන් බොහෝ දෙනා සසරින් එතෙර වෙනවා. ඒ වගේම බොහෝ සැප සම්පත්තියට යහපතට පත්වෙනවා. ඉතින් ඒ නිසා පින්වත්නි ඔබත් ඒ කරුණු කාරණා තේරුම් ගන්න ඕන. ඊළඟට තමයි ඒ දෙවියා කාරණාවක් කියනවා සතුටුදායක, පිදිය යුතු උතුමන්ගේ ධාතූන් වහන්සේලාට පූජා පවත්වන්න. එතකොට මෙලොවින් චුතව ස්වර්ගයේ උපදින්න පුලුවන්. ධාතූන් වහන්සේලාට හෙඳට වන්දනමාන පුද සත්කාර කරන අයට දෙව්ලොව වෙනම වෙන්වෙලා තියෙනවා ඒ අයට. ඒ නිසා ධාතූන් වහන්සේලාට වන්දනා කරගන්න ලැබුනහම, මං හිතනවා ගොඩාක් අපේ ලංකාවේ මිනිස්සුන්ට ලොකු යහපතක් වෙනවා ධාතූන් වහන්සේලා වඳින්න ලැබෙන එක. මිනිස්සු ඇත්තටම තෘප්තිමත් නැතිවම ධාතූන් වහන්සේලා වඳිනවා. හේතුව කොයි තරම් ධාතු ප්‍රදර්ශන තියෙනවා කීවත් සෑහීමකට පත්වෙන් නැතිව, යම් තාක් වේද ඒ තාක් දුර ගිහිල්ලා මිනිස්සු ධාතූන් වහන්සේලා වන්දනා කරනවා. ඒක මේ ලංකාවේ සිංහල ජනතාවට ලැබිච්ච විශාල වරප්‍රසාදයක්. අනෙක ද්‍රෝණයක් සේ සර්වඥ ධාතූන් වහන්සේලා වැඩ සිටින ස්වර්ණමාලී මහාසෑය වැඳගන්න ලැබෙනවා. ඔබ කී ගමනක් නම් වැඳලා තියෙනවාද, ඔබට කොච්චර වාසනාවක්ද ඒක. උතුම් දළදා වහන්සේ, ග්‍රීවා ධාතූන් වහන්සේ, ලලාට ධාතූන් වහන්සේ ආදී උතුම් ධාතූන්

වහන්සේලා කොයිතරම් ඔබ වැඳලා තියෙනවද. උතුම් ධාතු ප්‍රදර්ශන වලදී කොච්චර මලින් පහනින් පූජා පවත්වලා තියෙනවාද. ධාතූන් වහන්සේලා ගැන කවර කතාද. රන්මැලිසෑයේ කොත් වහන්සේ චූඩාමාණික්‍යය වඩම්මනකොටත් ලක්ෂ සංඛ්‍යාත පිරිස් චූඩාමාණික්‍යයටත් වන්දනාමාන කරනවා. ඒ නිසා ඒවා සුලුපුටු දේවල් නෙවෙයි. ඉතින් මේ බලන්න මේ ධාතු වන්දනාව, ස්තූප වන්දනාව කොයිතරම් නම් මේ මනුෂ්‍යයාට යහපත පිණිස පැවතුනාද. මේ උතුම් දිව්‍යරාජයා එයයි ඒ කියෙන්නෙ. ඉතින් ඒ නිසා ඔන්න ඒ දිව්‍යවිමානය. අපි ඊළඟ දිව්‍ය විමානය ගැන බලමු. මේ දිව්‍ය විමානයේ විස්තර බුදුරජාණන් වහන්සේගේ කාලයේ සිද්ද වෙච්ච අපි කවුරුත් දන්න කාරණාවක්. ඒ තමයි මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයා. මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයා පින්වත්නි, ඒ මට්ටකුණ්ඩලී කතා වස්තුව සම්පූර්ණයෙන්ම දිවැසින් දුටු බියකරු සසර සතර අපාය ගැන විස්තර කරද්දි ඒ කතාව අපි ඔබට කියලා දුන්නා. දැන් සුලුවෙන් මතක් කරන්නම්. මේ බ්‍රාහ්මණයා මට්ටකුණ්ඩලී පුතාගෙ තාත්තා අදින්නපුබ්බක. දෙන්නැති කෙනා. ඉතින් මෙයාගෙ පුතාට අසනීපයක් හැදුනා. ඒ අසනීපෙ හැදුනට පස්සෙ වෛද්‍යවරු ගෙන්නුවා, වෛද්‍යවරු කිව්වා මෙයා බේරගන්න අමාරුයි, නමුත් බෙහෙත් නැද්ද කියලා ඇහුවා. ඊටපස්සෙ මෙයාගෙ තියෙන ලෝභකමටම දොස්තරලත් ලෙඩේ වැඩිවෙන විදියට බෙහෙත් කීවෙ, ඇයි අපි ළඟට ආයෙ අරන් එයි කියලා. නමුත් ලෙඩේ වැඩිවුනාට අදින්නපුබ්බක මට්ටකුණ්ඩලීව අරගෙන ගියෙනෑ. ඔහුට ඇයි මට්ටකුණ්ඩලී කියන්නෙ. කණට පළඳලා තිබ්බ ආභරණය රන්කරුවෙකුට දීලා හැදුවෙ නෑ. තියෙන රත්තරන් ටිකක් තලලා මොට්ට කරලා ඒකට පොඩි සිදුරක් හදලා කණට පැළඳුවා. එච්චර ලෝභයි මේ මනුස්සයා. ඊටපස්සෙ අදින්නපුබ්බක දරුවා මැරෙයි කියලා මිනිස්සු මළගමට ආවොත් එහෙම ගේ ඇතුලට එන නිසා ගේ ඉස්සරහ පිලේ අයිනක් තියලා තිබ්බා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මහා කරුණා සමාපත්තියෙන් එදා දුටුවා, මට්ටකුණ්ඩලී අද මැරෙනවා, දුගතියේ උපදින්න තියෙන්නෙ. හැබැයි මට්ටකුණ්ඩලීට විශේෂ හැකියාවක් තියෙනවා බුදුරජාණන් වහන්සේට පහදින්න පුලුවන් දැක්කොත්. ඒ නිසා බුදුරජාණන් වහන්සේ මට්ටකුණ්ඩලී එළියෙ ඉද්දින් ඒ නිවසට වැඩම කලා. මිනිස්සු ඇතුලෙ. ඊටපස්සෙ මට්ටකුණ්ඩලී බිත්තිය පැත්තට හැරිලා ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ සවණක් ගණ බුද්ධ රශ්මි ධාරාව බිත්තියට හෙලුවා. ඒ බිත්තියේ දිදුලන ඒ රශ්මි ධාරාව දැකලා කවුද මේ කියලා අමාරුවෙන් අනිත් පැත්ත බලනකොට දෙතිස් මහා පුරුෂ ලක්ෂණයෙන් හෙබි අසූ අනු

ව්‍යඤ්ජනයන්ගෙන් සුසැදි තථාගත සම්බුදු රජාණන් වහන්සේ දිලෙන රන් පර්වතයක් වගේ, දිලිසෙන රන් සිලුවක් වගේ ගිනි සිලුවක් වගේ බුදුරජාණන් වහන්සේ ආනුභාවසම්පන්නව වැඩ සිටිනවා දුටුවා. උන්වහන්සේ ඉන්න දිසාවට සාදූ කියලා වන්දනා කරගත්තා. බුදුරජාණන් වහන්සේ එහෙම්මම වැඩම කලා. බුදුරජාණන් වහන්සේ නොපෙනී ගියේ යම් තැනකද ඉන්පස්සේ මේ මට්ටකුණ්ඩලී එතනින් මියගියා. මියගිහිල්ලා මහානුභාවසම්පන්න විශාල සැප සම්පත් වලින් සුසැදි දිව්‍ය අප්සරාවන් ලක්ෂ ගාණක් පිරිවරාගත්ත දිව්‍ය විමානයක පහළ වුනා. ඊටපස්සෙ ඒ අතරතුර දැන් මට්ටකුණ්ඩලී මැරුනට පස්සෙ අදින්නපුබ්බක බමුණා සොහොනට ගිහිල්ලා පුතාව වලේ දාලා ඒ සොහොනෙ පස් බදාගෙන අඬනවා, මට්ටකුණ්ඩලී අනේ නැගිටපන් මගේ පුතේ කියලා. එයාටත් ශෝකය ගැහුවේ පුතා මැරුනට පස්සෙ. ඊටපස්සෙ මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයා මේක දිවැසින් දැක්කා. දැකලා කල්පනා කලා මේ මනුස්සයා ඉන්නතාක් කල් බෙහෙතක්වත් දුන්නෑ, එච්චර ලෝභකමින් හිටියා. දැන් පස් ටිකක් බදාගෙන අඬනවා. නමුත් පව්, මේ මනුස්සයාට මං මොකක්හරි පිළිසරණක් වෙන්න ඕන කියලා ඒ මට්ටකුණ්ඩලීගේ ස්වභාවයම වෙස් මාරු කරගෙන ආභරණ පළඳගෙන ඇවිල්ලා අර සොහොනෙම එහා පැත්තෙ හයියෙන් අඬන්න ගත්තා ඉකි ගගහ. අනේ ඉර, අනේ හඳ, අනේ ඉර, අනේ හඳ කිය කියා අඬනවා. ඊටපස්සෙ අදින්නපුබ්බක දැන් අඬ අඬා කඳුළුනෙ. ඉතින් රූපයක් දිහා බලන්නවත් විදියක් නෑ, ළඟ කවුරුහරි පොඩි එකෙක් අඬනවා වගේ දැනුනා. ඉතින් තමන් සොහොන බදාගෙන අඬන ගමන් කවුද ඔය අඬන කෙනා. උඹ මොකද අඬන්නෙ. ඊටපස්සෙ කිව්වා අඬන උඹ මං දරුවා නැති ශෝකයෙන් මං අඬ අඬා ඉන්නෙ. මගේ දරුවා නැති ශෝකෙ, මට දරුවා නැතිවුනාට පස්සෙ ලෝකෙ කිසිදෙයක් ඕනනෑ මගේ සකල වස්තුවම උඹට දෙන්නම්, උඹත් අඬන එක නතරකරපන් කියලා අර ළඟ ඉන්න එක්කෙනාට කියනවා අදින්න පුබ්බක. ඊටපස්සෙ කියනවා අනේ මං මේ අඬන්නේ මට කරත්තයක් රත්තරනින් හම්බුනා. ඒකට රෝද දෙකක් ඕන. අදින්නපුබ්බක කිව්වා මං එහෙනම් රත්තරනින් මැණික් ඔබ්බලා රෝද දෙකක් උඹට හදලා දෙන්නම්. ඊටපස්සෙ කිව්වා අනේ මට එපා, මට එපා මට ඕන මගෙ කරත්තෙට ඉරයි හඳයි දෙක තමයි රෝද දෙකට ඕනවෙන්නෙ. ඊටපස්සෙ මට්ටකුණ්ඩලී අඬන එක නැවැත්තුවා, නවත්තලා කිව්වා ඒයි මෝඩයො, උඹ නම් අඬලාම මැරිලා යනවා, උඹට කවදාවත් ඉර හඳ දෙක ගන්න පුලුවන්ද මනුස්සයො කිව්වා. ඊටපස්සෙ කිව්වා, එම්බා බ්‍රාහ්මණය, ඉර හඳ දෙක අපිට ඇස් දෙකට

පේනවා, ඒ පේන දෙක ඉල්ලලා තමයි මං මේ අඬන්නෙ. ඔහේ මේ පුතා නැගිටපන් පුතා නැගිටපන් කියන්නෙ දැන් මොකක්ද ඇහුවා ඔහේට පේන්නෙ. නොපෙනෙන දේකට අඬන ඔහේද, පෙනෙන ඉර හඳ දෙකට අඬන මං ද මෝඩ කියලා ඇහුවා. ඒක කියනකොටම අර ශෝක උල කියන එක ගැලවුනොත් එහෙම්මම ශෝකය නැතිවෙනවා. ඒ අදින්නපුබ්බකගේ ශෝක හුල නැතිවුනා. ඊටපස්සෙ අදින්නපුබ්බක සම්පූර්ණයෙන් වෙනස්වුනා. ඊටපස්සෙ කිව්වා හරි පුදුම වැඩක්නෙ මගේ හිතේ තිබ්බ ශෝකය නැතිවුනානෙ උඹ ඕක කියපු ගමන්. එම්බා පුත්‍රය නුඹ හරි සුන්දරයි. උඹ අපේ පුත්‍රයා වගේමයි. උඹ දෙවියෙක්ද, කවුද මනුස්සයෙක්ද. ඊටපස්සෙ කිව්වා මං තමයි ඔබගේ නැතිවෙච්ච පුතා. දිව්‍ය විමානයෙන් පෙනී හිටියා. ඊටපස්සෙ කිව්වා මං ඉපදුනේ තව්තිසාවෙ කිව්වා. ඊටපස්සෙ කිව්වා මේක විශ්වාස කරන්න අමාරුයි. ඔබ දීපු දානයක්, රැකපු සීලයක් කරපු පිනක් අපි ජීවිතේට දැකලා නෑ, ඉතින් මට හරි පුදුමයිනෙ කියලා කිව්වා. ඊටපස්සෙ කිව්වා ඒ මහාකාරුණික වූ තථාගතයන් වහන්සේ මං මියයන වේලාවේ අපගේ ගෙදර මිදුලට වැඩම කලා. උන්වහන්සේගේ රශ්මි ධාරාවෙන් සතුටු වුන මම උන්වහන්සේ දෙස බලලා වන්දනා කලා. බලන්න කිව්වා එක වන්දනාවක එක චිත්තප්‍රසාදයක තියෙන ආනුභාවය. මං දැන් දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන ආනුභාවසම්පන්නව බැබැලි බැබැලි ඉන්න දිව්‍ය රාජයෙක් කිව්වා. ඊටපස්සෙ කිව්වා එක වන්දනාවකින් එක පැහැදීමකින් ඔහොම වෙනවද. ඊටපස්සෙ කිව්වා මේවා පුදුම සහගත නෑ කිව්වා. ඒ මහා කාරුණික අපමණ ගුණයෙන් බබලන තථාගත බුදුරජාණන් වහන්සේ තුන්ලෝකෙටම ශ්‍රේෂ්ටයි. අග්‍ර දේකට පැහැදුනාට පස්සෙ අග්‍ර විපාකය ලැබෙනවා. එම්බා ගෘහපතිය, මං නුඹටද කියන්නෙ මේකයි, බුදුන් සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝ රත්නය සරණ යන්න. දිවිහිමියෙන් ඔබත් තෙරුවන් සරණ යන්න. ඔබගේ පරලොව ජීවිතේ දුගතියක් වෙන්නෑ, මමත් සුලු මොහොතක් පැහැදිලා මට මෙච්චර සම්පත්තියක් ලැබුනේ. එම්බා බ්‍රාහ්මණය මං නුඹට කියන්නෙ සත්තු මරන්න එපා. සොරකම් කරන්න එපා. වැරදි කාමසේවනයේ යෙදෙන්න එපා. බොරු කියන්න එපා. මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්න එපා. ඔය පඤ්චසීලයේ ඔබ හික්මෙන්න. ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ආන්න වෙහෙරෙ වැඩ සිටිනවා, එම්බා බ්‍රාහ්මණය නුඹ යන්න, ඊටපස්සෙ අදින්නපුබ්බක කිව්වා මං දැන්ම යනවා. ඒ තථාගත බුදුරජාණන් වහන්සේ සරණ යනවා. මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයා කියනවා ඔබ ද යන්න. මාත්

ඒ තථාගත බුදුරජාණන් වහන්සේ මුණගැහෙන්න එනවා. ඉතින් මහා සේනාවක් එක්ක අදින්නපුබ්බක බුදුරජාණන් වහන්සේ මුණගැහෙන්න ගිහිල්ලා වන්දනා කලා. ස්වාමීනී, එකම වන්දනාවකින් එකම චිත්තප්‍රසාදයකින් දුගතියේ යන්න පවා ඉන්න සත්ත්වයෝ සුගතියේ යනවාද. ඇයි අදින්නපුබ්බක ඔබ අද දුටුවේ නැද්ද, ඔබත් එක්ක මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයා කතා කලේ නැද්ද. ස්වාමීනී කතා කලා. ඒ වෙලාවෙ මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයා බුදුරජාණන් වහන්සේට පිටිපස්සෙන් පෙනී හිටියා. අනිත් අයට පේන්නෙ නෑ, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අදින්නපුබ්බකයන්ට ධර්මය දේශනා කලා. ඒ මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයාත් අදින්නපුබ්බකත් ඒ පිරිවරත් සියලූම දෙනා සෝවාන් වුනා. ආරම්භය මොකක්ද බුදුන් සරණ යෑම. දැන් තේරෙනවද මේ කට කැඩෙනකල් තෙරුවන් සරණ පලයල්ලා කියන එකේ අර්ථය. සුගති රැකවරණයත් සැලසෙනවා ගෞතම බුද්ධ ශාසනයේ සනාතන රැකවරණයත් සැලසෙනවා. මේ තෙරුවන් සරණ යන එක, පන්සිල් රකින එක, සුලු දෙයක් නෙවෙයි, ඒක හැල්ලු කරන්න එපා. ඒක සුලු දෙයක් කියලා හිතන්න එපා. ඒක පුදුම සහගත රැකවරණයක් මේ තෙරුවන් සරණ යෑමයි, පඤ්චසීලය සුරකින් එකයි. ඉතින් ආන්න ඒ සිද්ධිය තමයි මට්ටකුණ්ඩලී විමානවත්ථුවේ අද අපිට ඒ විදියට කියවන්න ලැබෙන්නෙ. තවත් තියෙනවා විමානවත්ථුවක්, මේ විමානවත්ථුවත් අපි මීට කලින් කියවලා තියෙන එකක්. ඒ තමයි සේරිස්සක විමානවත්ථුව. මේක දිවැසින් දුටු බියකරු සසර කියන දහම් වැඩසටහනේ අපි මේ කතාව කිව්වා. ඒ තමයි පායාසි කියලා රජ කෙනෙක් හිටියා. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ ඒ පායාසි රජ්ජුරුවො හිටපු රාජ්‍යයට කුමාර කාශ්‍යප මහරහතන් වහන්සේ වැඩම කලා. ඒ පායාසි රජ්ජුරුවො මෙලොවක් පරලොවක් පිළිගන්න කෙනෙක් නෙවෙයි. පිනක් දහමක් පිළිගන්න කෙනෙක් නෙවෙයි. කර්මයේ විපාක තමන් කරා එනවා කියලා පිළිගන්න කෙනෙකුත් නෙවෙයි. මැරිලා උපදිනවා කියලා පිළිගන්න කෙනෙකුත් නෙවෙයි. ඉතින් කුමාරකාශ්‍යප මහරහතන් වහන්සේ ගමට වැඩිය ගමන් ඒ රජ්ජුරුවො හිතුවා දැන් මේ ශ්‍රමණයා ඇවිල්ලා මිනිස්සුන්ට කියයි මෙලොවක් තියෙනවා, පරලොවක් තියෙනවා, පින් තියෙනවා, පව් තියෙනවා, ආයෙ උපදිනවා කියලා. ඒවා කොහෙද අපේ පැතිවල ඒ බණ නම් බෑ කිව්වා. මං දැන් ගිහිල්ලා ආපු තැනම කට ලොක් කරන්න ඕන කියලා පිරිස පිරිවරාගෙන ගිහිල්ලා කුමාර කාශ්‍යප මහරහතන් වහන්සේට කියා හිටියා ශ්‍රමණය, මෙලොවක් පරලොවක් තියෙනවා කියලා බණ කියනවා එහෙම නෙවෙයි කියලා. ඊටපස්සෙ කිව්වා ඔබ

මෙලොවක් පරලොවක් පිළිගන්නැද්ද, නෑ කිව්වා. කොහෙද ඇහුවා පරලොව කියලා එකක් තියෙන්නෙ. ඊටපස්සෙ ඉර හඳ දෙවිවරු ගැන මිනිස්සු කතා වෙනවා ඇහිලා නැද්ද, ඉර දෙයියො, සඳ දෙයියො ගැන. ආ ඒවානම් ඉස්සර ඉඳලා අපේ පරම්පරාවල තියෙනවා ඉර දෙවියො, හඳ දෙවියො කියලා. ඉරහඳ දෙවිවරු ඉන්නෙ මේ ලෝකෙද, පර ලෝකෙද, පරලෝකෙ කියන්නෙ පේන්නෙ නැති ලෝකෙ කියලා. ඊටපස්සෙ කිව්වා පරලෝකෙ කියලා. ඉතින් එහෙනම් දැන් ඉස්සෙල්ලා කිව්වෙ පරලොවක් නෑ කියලා. ඉතින් දැන් මෙලොවක් පරලොවක් තියෙනවා කියන එක ඔබගේ කටින්ම ඔප්පු වෙනවානෙ. ඒ වචනෙන්ම රජ්ජුරුවන්ගේ හිත වෙනස්වුනා සම්පූර්ණයෙන්ම. ඒත් කුමාර කාශ්‍යප මහරහතන් වහන්සේ කතා කරන විලාශය සහ ලස්සන නිසා රජ්ජුරුවෝ කිව්වා ඔය කිව්වට මං පිළිගන්නෙ නෑ කියලා ඒ පායාසි රජ්ජුරුවො තව තව ඇහුවා, ඒක පායාසිරාජඤ්ඤ සූත්‍රය කියලා දීඝ නිකායේ තියෙනවා, ඒක බලන්න, හරි ලස්සනයි. ඊටපස්සෙ කොහොමහරි කුමාර කාශ්‍යප මහරහතන් වහන්සේ නිසා දමනය වෙලා මොහු තෙරුවන් සරණ ගියා. ගිහිල්ලා දන් දුන්නා. උත්තර විමානවත්ථුවේදී අපි ඒක කිව්වා මීට කලින්. දන්ශාලාව උත්තර මානවකයාට බාර දුන්නෙ. තමන් දන්ශාලාවට ගියෙත් නෑ, තමන් අතින් දන් දුන්නෙත් නෑ. කොහොමහරි තෙරුවන් සරණ ගිය පිනටයි, දන්දීමට යොමු කරපු පිනටයි, චාතුම්මහාරාජික දෙවියන් අතර සෙන්පතියෙක් වෙලා ඉපදුනා. ඊටපස්සෙ වෙසමුණි දිව්‍ය රාජයා ඔහු කාන්තාරයේ ඒ කියන්නෙ අරාබි රටවල, මැදපෙරදිග ඒ අරාබිරටවල් වල තෙරුවන් සරණ ගිය අය ආරක්ෂා කරන්න පත්කලා වෙනම සෙන්පතියෙක් විදියට. අදටත් අරාබියේ මැදපෙරදිග රටවල් වල වාසය කරන අය ඔය සේරිස්සක දෙවියන්ට පින් දෙන්න ඕන. ඒ දෙවියන්ගේ නම සේරිස්සක. ඉතින් සේරිස්සක දෙවියා ඒ දිව්‍ය විමානෙ පහළ වුනා. ඒ දෙවියා ගවම්පති මහරහතන් වහන්සේට මුණගැහුනා. මොකද හේතුව සේරිස්සක කියන්නෙ මහරි වෘක්ෂයට. මහරි ගස්වලින් සම්පූර්ණයෙන්ම ඒ දිව්‍ය විමානය බබලනවා. ඒකයි සේරිස්සක විමානය කියන්නෙ. මේ විමානය මොහුටම පහළ වෙච්ච එකක් නෙවෙයි. මේ විමානයේ මීට කලින් දෙවියෙක් හිටියා.ඒ දෙවියා ඒ විමානෙන් චුතවෙලා මනුස්ස ලෝකෙ ඉපදිලා ගවම්පති කියලා. විමල සුභාහු පුණ්ණජි ගවම්පති කියලා යසකුල පුත්‍රයාගෙ යාළුවො හතර දෙනාගෙන් එක්කෙනෙක්. ගවම්පති ස්වාමීන් වහන්සේ අර්හත්වයට පත්වුනා. ගවම්පති මහරහතන් වහන්සේ හරි ඍද්ධි සම්පන්නයි. ගවම්පති මහරහතන් වහන්සේ දවසක් ගඟක් ළඟ වැඩ ඉන්නකොට උන්වහන්සේ

දිවැසින් දැක්කා ඒ ගඟේ උඩ ආරම්භයේ මහා විශාල වර්ෂාවක් එනවා. ඊටපස්සෙ උන්වහන්සේ දැක්කා ගඟේ පහළ ගඟ අයිනෙ මිනිස්සු උත්සවයක් කරනවා. කෝටි ගාණක් මිනිස්සු ඒ උත්සවයේ ඉන්නවා. ඉතින් ගවම්පති මහරහතන් වහන්සේ දැක්කා ඒ ගඟේ වතුර ටික ආවොත් අර මිනිස්සු ඔක්කොම ගහගෙන යනවා. උන්වහන්සේ කරුණාවෙන් මොකක්ද කලේ, ඍද්ධියක් කලා. ගඟ ගලන්නෑ, ගඟ තියෙන විදියටම තියෙනවා, ගලන්නෑ පහලට. යම්කිසි භික්ෂුවක් ඍද්ධි බලයෙන් ගලන ගඟ නැවතුවා නම් ඒ භික්ෂුවට කියන්නේ ගවම්පති මහරහතන් වහන්සේ කියලා. ගවම්පති මහරහතන් වහන්සේ විවේක වෙලාවට ඒ සේරිස්සක විමානෙට වඩිනවා. ඉතින් උන්වහන්සේ, බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ ඒ විමානෙට වඩිනකොට දුටුවා දිව්‍ය රාජයෙක් පහළ වෙලා ඉන්නවා. ඔබ කවුද. මං අර පායාසි රජ්ජුරුවෝ. ආ පින්දහම් කලේ නැනෙ. අනේ ස්වාමීනී මිත්‍යා දෘෂ්ටියෙන් හිටියේ නමුත් කුමාර කාශ්‍යප මහරහතන් වහන්සේ මාව බේරගත්තා. ඊටපස්සෙ තමයි කිව්වෙ උත්තර මානවකයා දැන් ඉපදිලා ඉන්නෙ තව්තිසාවෙ. මං මේ චාතුම්මහාරාජිකයේ ඉපදිලා ඉන්නෙ. ඉතින් හැබැයි තව විස්තරයක් තියෙනවා, ගවම්පති මහරහතන් වහන්සේ කලින් ජීවිතේ ඒ විමානෙ පහළ වුනේ අතීතයේ බුදුරජාණන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වඩිනකොට, මං හිතන්නෙ පසේ බුදුරජාණන් වහන්සේ නමක්, උන්වහන්සේට මහරි ගස්වලින් මණ්ඩපයක් හදලා දීලා, උන්වහන්සේ පිණ්ඩපාතෙ ගිහිල්ලා ආවට පස්සෙ විවේකයෙන් ඉන්න මහරි ගහක් හදනවා. ඉක්මණට හැදිලා හෙවණ එන්න. ඒ පින් බලේට තමයි ඒ දිව්‍ය විමානය ලැබුනෙ. දැන් බලන්න හෙවණට ගහක් හිටවීමේ පුණ්‍ය විපාකය. ඉතින් ඊටපස්සෙ මේ විදියට ඒ දිව්‍ය විමානයේ පහළ වෙලා ඒ සේරිස්සක දෙවියා ගවම්පති මහරහතන් වහන්සේට මුණගැහිලා ඒ කතා බහ කරපු එකත් ඒ සේරිස්සක දෙවියාට වැලිකතරේදී මිනිස්සු මුණගැහිලා ඒ මිනිස්සු ටික තෙරුවන් සරණ ගියෙ එතන කරණවැමියෙක් ඉදලා ඒ මිනිස්සු බේරගත්ත විස්තරය අපි දිවැසින් දුටු බියකරු සසර දහම් වැඩසටහනේ කතා කලා. ඒ සේරිස්සක දෙවියන් දිව්‍යලෝකෙ ඉපදිලා තමන්ගෙ පුණ්‍ය මහිමය කියන විස්තරය තමයි සේරිස්සක විමානවත්ථුවෙ තියෙන්නෙ. තව එක විමානවත්ථුවක් තියෙනවා. මේ දිව්‍ය විමානය මැණික් වලින් කරලා තියෙන්නෙ. යොදුන් දොළහක් පැතිරිලා තිබෙනවා. කාමර හත්සීයක මැණික් මාළිගාවක් ඒ දෙවියන්ට පහළ වෙලා තියෙනවා. දිව්‍ය වීණා සහිත පංචතූර්ය නාදයෙන් අනෙක් දෙව්වරු

දිව්‍යාංගනාවො ඒ දෙවියන්ව සතුටු කරවනවා. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ තමයි මේ කාරණාව ඇහුවෙ. මෙච්චර අධිපතිව විඳින පුණ්‍ය කර්මය මොකක්ද කියලා. ඊටපස්සෙ ඔහු මෙහෙම කියනවා. සුගතයන් වහන්සේගේ ස්තූපයට පිළිවෙලක් නැතිව මල් පූජා කරලා තිබුනා. මං ඒවා ලස්සනට සකස් කලා. බුදුගුණ මනසිකාරය හිතේ පිහිටුවාගත්තා. ඒ මං මහා ඍද්ධි ඇතිව මහා ආනුභාව ඇතිව දිව්‍ය වූ කාම ගුණයන්ගෙන් මං දැන් සතුටු වෙනවා. ඒ පිනෙන් තමයි මෙවැනි ලස්සනක් මට ලැබුනෙ. ඒ පිනෙන් මේ සම්පත් ලැබුනෙ. සිතට ප්‍රීතිය උපදවන මේ සැප සම්පත් ඔක්කොම ලැබුනෙ ඒ නිසාමයි. මහානුභාවසම්පන්න වූ පින්වත් ස්වාමීන් වහන්ස, මිනිස් ලෝකෙදි ඕක තමයි මං කරගත්තෙ. ආනුභාව සම්පන්නව බැබැලි බැබැලි ඉන්න පින ඕකයි. මගේ සිරුරෙන් විහිදෙන එළියෙන් හැම දිසාවම බබලනවා. කාශ්‍යප තථාගත බුදුරජාණන් වහන්සේගේ රන්වන් සෑයේ මල් ආසනය මළුවේ තැන් තැන්වල තිබිලා මිනිස්සු ගිහිල්ලා ඔහේ තියනවානෙ මල්, දැන් තමයි යාන්තම් මල් ටිකක් වත් පිළිවෙලට තියෙන්නෙ. ඉස්සර මම දැකලා තියෙනවා මිනිස්සු ෂොපින් එකේ මල් ටිකක් ගෙනල්ලා ෂොපින් එකේ කට වටේට මෙහෙම කරලා එහේම්මම මල් ආසනේ තියනවා. ඊටපස්සෙ මොකක්හරි කොළගොට්ටකට මල් ටිකක් ගන්නවා. ඒ කොළ ගොට්ට පිටින්ම තියනවා. දැන් තමයි ටික ටික අර කට්ටිය පිළිවෙලකට ලස්සනට මල් ටිකක් තියන්න ඉගෙන ගෙන තියෙනවා යාන්තම් දැන්නම්. ඉතින් කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කාලෙත් අපිළිවෙලට මල් එහෙම ආසනේ තියෙනවා දැකලා මේ මානවකයා මේ තරුණයා කරලා තියෙන්නෙ ඒ සෑය වන්දනා කරලා බුදු ගුණ සිහි කර කර, ඉතිපිසෝ ගාථාව සිහි කර කර, වෙන කතා වෙන දේවල් නෑ, ඒක සිහි කර කර ලස්සනට පාඩුවෙ වෙන ඒවා නෑ, දැන් අද එහෙම නෙවෙයි චෛත්‍යය මළුවකට මල් තියන්න ගියාම කවුද යන්නෙ කවුද ආවෙ, අරයද මෙයාද මෙලෝ සිහි කල්පනාවක් නෑනෙ. තමන් කරන වන්දනාව හරියට කරන්නෑනෙ. තමන් පාඩුවෙ කරන්නෑ. ඊටපස්සෙ තමන් මල් තිය තියා ඉන්නකොට ළඟ කවුරුහරි ගියොත් ආ එන්න එන්න ඔයාලත් මල් තියන්නෙ, තමන්ගෙ වැඩේට සිහිය පිහිටුවන්නෑ. ඊටපස්සෙ දැන් මෙයා කලේ හොඳට ඒ මල් ටික බුදු ගුණ සිහිකර කර පාඩුවේ ලස්සනට තිබ්බා, තියලා වැඳලා ආවා. මෙයාට ඒක තමයි මතක. බලන්න කාශ්‍යප බුද්ධ ශාසනයේ දෙව්ලොව උපන්නෙ. අපේ බුද්ධ ශාසනෙත් දිව්‍ය ලෝකෙ. මේ පොළොව ගව් හතක් වැඩෙනකල් දෙව්ලොව. කොච්චර පැහැදීමක්, කොච්චර මනසිකාරයක් ඔහු තුළ තියෙන්න ඇතිද. ඉතින් ඒ නිසා

අප්‍රමාණ දිව්‍ය සැප සම්පත් විඳිමින් ඔහු සිටිනවා. මුගලන් මහරහතන් වහන්සේ ඇවිත් මේ විස්තරය බුදුරජාණන් වහන්සේට වදාළා, බුදුරජාණන් වහන්සේ මේ කතාව අර්ථෝත්පත්ති වශයෙන් රැගෙන කර්මඵලය ගැන භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසුවා. ඒ විදියට තමයි විමානවත්ථුව තියෙන්නෙ. මොකක්ද මම අද කිව්වෙ මේ දහම් වැඩසටහනේ විශේෂත්වය කියලා. ඊළඟට තියෙන්නෙ විමානවත්ථු නිජ්ජිතා. විමානවත්ථුව අවසන්. මේ වෙනකොට විමානවත්ථුවේ දේවතාවුන් වහන්සේලා අසූපස් දෙනෙක්ගේ දිව්‍ය විමානකතා ඔබ මේ වනවිට ඉගෙනගෙන තියෙනවා. කොච්චර වාසනාවක්ද. ඊටපස්සෙ ඒ නිසා, මේක සුලුපටු වාසනාවක් නම් නෙවෙයි, මේ දෙවියන්ගේ සම්පූර්ණ විස්තරය ඔබට ඉගෙන ගන්න ලැබීම. නමුත් හැබැයි මෙපමණකින්ම සම්පූර්ණයෙන්ම අද වැඩසටහන ඉවරයි කියලා එකක් නෑ, ඔබට තව කියලා දෙනවා තව විස්තර ටිකක්. ඒ තමයි රහතන් වහන්සේලා අතීතයේ මොනවද කරලා තියෙන පින්, ඊළඟට දිව්‍ය ලෝකයේ යන මාවත, මාවත් ගොඩ තියෙනවානේ සුගති මාර්ගයෙ, ඊළඟට තමයි බ්‍රහ්මලෝක පිළිබඳව යම්කිසි විස්තරයක්, ඔබට තව වැඩසටහන් කිපයකින් තව කියලා දෙන්න බලාපොරොත්තු වෙනවා. නමුත් දැන් සන්තෝෂයට පත්වෙන්න, මැත භාගයේ ඔබට ලැබිච්ච පරම දුර්ලභ ලාභයක් තමයි මේ ඛුද්දක නිකායේ දෙවෙනි පොත් වහන්සේ වන පේතවත්ථු විමානවත්ථු පාලිය සම්පූර්ණයෙන් අටුවා සහිතව ඉගෙන ගන්න ලැබීම. සාමාන්‍යයෙන් ගිහි මනුස්සයෙකුට මේ වාගේ ලාභයක් ලැබෙන්නෙ නැති තරම්. සියලුම කතා, ඒ වගේම තමයි ඊට සාපේක්ෂව වෙනත් සූත්‍ර දේශනා වෙනත් කතා සහිතව. ඊළඟට මම ඔබට විටින් විට මතක් කරනවා අද කාලෙ දිව්‍ය ලෝකෙ ගිය අය ගැන විස්තර කියන්නම් කියලා. පින්වතුනි අද කාලයේ දිව්‍ය ලෝකයේ ගිය අය ගැන කියනවා නම් සාමාන්‍යයෙන් අපි අහලා තියෙන විදියට, අපිට දිවැසක් නෑ, නමුත් අහලා තියෙන විදියට අපි කියමුකො මිනිස්සු හෝ අපි දන්න දාහක් විතර මැරිලා තියෙනවානම් ඒ අතරින් අපි අහලා තියෙනවා පස්දෙනෙක් විතර දිව්‍ය ලෝකෙ ගිය ඒවා. අනිත් ගොඩාක් අය නාග ලෝක වල, යක්ෂ ලෝක වල, භූත ලෝකෙ, ප්‍රේත ලෝකෙ, ඉතින් සමහර අය ගැන නම් හාවක් හූවක් නෑ, හාවක් හූවක් කොහෙන් හොයාගන්නද සමහර විට නිරයේද කියලා කවුද දන්නෙ. මිනිස්සු සිතෙන් කයෙන් වචනයෙන් කරන කර්ම වල විපාක. ඊළඟට පින්වතුනි ඔය අද කාලෙ විස්තර, නමුත් යම් යම් අය දෙව්ලොව ගිය බව, සමහර අයගෙ ඉෂ්ටදේවතාවො ඉන්නවා, අදටත් මනුස්සයන්ගෙ ඉෂ්ටදේවතාවො ඉන්නවා දෙව්ලොව ඉඳලා ඇවිල්ලා ඔවුන්ට උපකාර කරන

ධර්මයට යොමු කරන අය. සමහර වෙලාවට ධර්මය අහන්න ඒ දෙවිවරුම තමන්ගෙ පවුල්වල අය යොමු කරපුකතා අපි අදත් අහලා තියෙනවා. ඉතින් ඒ නිසා දෙවියන් එක්ක සම්බන්ධතා තියෙන අය, සැබෑ දෙවියන් එක්ක. ඒ අය ගැන අපි අහලා තියෙනවා. ඊළඟට පින්වතුනි දෙව්ලොව ගිය අය ගැන වංශකතා වල තියෙන විස්තර අපි ගත්තොත් එහෙම සන්නාලිතිස්ස, සන්නාලිතිස්ස ඇඳුම් මහන්නෙ ශරීරය දෙකඩ කරලා. ඒ කියන්නෙ හම්බෙන ශරීරයෙන් එක භාගෙකින් මව්පියන් පෝෂණය කරනවා, එක කොටසකින් පින් දහම් කරගන්නවා. එහෙම කියලා තමයි ඇඳුම් මහන්නෙ. එතකොට පින්වත්නි ඒ සන්නාලිතිස්ස කය බිඳිලා මරණින් මත්තෙ ඉපදුනේ තුසිත දෙව්ලොව. ඊළඟට ඔබ අහලා ඇති හරිතාලතිස්ස. හරිතාලතිස්ස පින්වතුනි පින්වතුනි දෙව්ලොව ඉපදුනා, එයා ඉස්සෙල්ලාම කොළ වර්ගනෙ දානෙ දුන්නෙ. දුප්පත් කෙනෙක්. ඊටපස්සෙ ඔහු කොහොමහරි ගිහිල්ලා වෙළෙඳ ව්‍යාපාර කරලා සංඝයා සිය ගණන් දානෙ දෙන්න පටන් ගත්තා. මුළු ජීවිතේම හම්බකරන්නෙ සංඝයාට දන් දෙන්න. ඊටපස්සෙ සක්දෙවිඳු මෙයාගෙ දානෙ චේතනාව බලලා වෙස් මාරුකරගෙන භික්ෂුවක් විදියට ඇවිල්ලා, එතකොට ඔහු මිනිස්සු ගඟෙන් එතෙර කරන කෙනෙක්. ඊටපස්සෙ මොකද කලේ දානෙ වළඳලා ඇවිල්ලා ගඟෙන් මෙගොඩට ඇවිල්ලා කිව්වා අනේ මේ හරිතාලතිස්ස මගේ කුඩේ ගේන්න බැරිවුනා, ඊටපස්සෙ ආයෙ අරයා ගිහිල්ලා කුඩේ අරන් එනවා. ඊටපස්සෙ කිව්වා අනේ මගේ පාවහන් දෙක බැරිවුනා. රෑ එළිවෙනකල් ගඟේ එහෙමෙහෙ ගිහිල්ලා තියෙනවා තරහක් ඇවිල්ලා නෑ හරිතාලතිස්සට. දැන් තුසිතයේ ඉන්නෙ. පින්වතුනි පජ්ජුනජේතෝ දියණිය කියනවා, පජ්ජුන දෙවියන්ගේ දියණිය යමෙක් මේ ආර්ය ධර්මය තුළ සන්සිඳීමයි ඉවසීමටයි පත්වෙලා තියෙනවා නම් ඒ අයගෙන් දෙව්ලොව පිරෙනවා කියලා. හරිතාලතිස්සට ඉවසීම තිබ්බා. සංසිඳීම තිබ්බා. රෑ එළිවෙනකල් අර ගඟෙන් එගොඩ මෙගොඩ අර හාමුදුරුවො ගෙනියනවා, තරහ එන්නෑ, මතක තියාගන්න ඉවසීමයි සංසිඳීමයි තියෙන අය දෙව්ලොව උපදිනවා. ඒකනෙ අර කැවුම් ගෙඩියක් පූජා කරලා නැන්දම්මා ගහලා මැරෙද්දින් දෙව්ලොව ඉපදුනේ. ඉවසුවා සංසිඳුනා. ආයෙ ඇවිස්සුන් නෑ, තරහෙන් ඇවිස්සිලා බනින්න ගත්තෙ නෑ. එතකොට හොඳට මතක තියාගන්න දෙව්ලොව යෑමේ පෙරනිමිත්තක් තමයි ඉවසීම තියෙනවා නම්. සංසිදෙනවා නම්. වහා ඇවිස්සෙන් නෑ, දමනය වෙලා එයා. හිතට ආපු පලියට කියන්නෑ. ඊළඟට දැක්ක පලියට කියන්නෑ, ඊළඟට කේලම් වලින් ඇවිස්සෙන් නෑ, ගොඩාක් ඉවසනවා. කාන්තාවන් එහෙම

දෙව්ලොව යන්න ඉතාමත් පහසු එකක් තමයි ඉවසීමයි, සංසිදීමයි. කාන්තාවන්ට ගොඩාක් ඉවසන්න කරුණු යෙදෙනවා. ඒ ඉවසීම තියෙනවා නම් සංසිදෙනවා නම් ඒ අයගෙන් දෙව්ලොව පිරෙනවා. ඒ අය මනුස්ස ශරීරය අත්හැරපු ගමන් දෙව්ලොව පිරෙනවා. ඒ නිසා ඉවසීමයි සංසිදිමයි. දැන් සක්දෙවිදු හරිතාලතිස්සගේ පරීක්ෂා කලේ ඉවසීමයි, සංසිදීමයි තියෙනවද කියලා. සක්දෙවිදුටවත් හිතාගන්න බෑ, හරිතාලතිස්සගේ ඉවසීමයි, සංසිදීමයි. හරිතාලතිස්ස කය බිදිලා මරණින් මත්තෙ ඉපදුනේ තුසිතයේ. ලංකාවෙ කීදෙනෙකුට නම් මැරෙන වෙලාවේ දිව්‍ය රථ ආකාසයේ පහළ වුනාද. මේ කරුණු දෙක හිතට ගොඩාක් ගන්න. දෙව්ලොව උපදින මූලික කාරණාවක් තමයි ඉවසීමයි, සංසිදීමයි. සමහර විට ඔබ මැරෙන මොහොතක ඔබ ගොඩාක් වේදනාවල් ගොඩාක් දේවල් සිද්ධ වෙන්න පුලුවන් සමහර අයට. මතක තියාගන්න ඉවසන්න. ගොඩාක් ඉවසන්න. සංසිදෙන්න. ඇවිස්සෙන්න එපා, අනේ අනේ ඇයි මට මෙහෙම වුනේ, අනේ දෙයියනේ කිය කියා කෑගහන්නැතිව සංසිදෙන විදියට හදාගන්න. ඉවසීමයි, සංසිදීමයි කෙනෙක්ගෙ ජීවිතේ පිහිටලා තියෙනවා නම් එයා අනිවාර්යයෙන් මැරුණට පස්සෙ දෙව්ලොව තමයි උපදින්නෙ. ඊටපස්සෙ චුල්ලි උපාසිකාව ගොඩාක් සංඝෝපස්ථාන කරලා ඒ වගේම සද්ධාතිස්ස රජතුමා, සාලිය කුමාරයා, ඊළඟට විහාර මහා දේවි, කාවන්තිස්ස රජ්ජුරුවෝ, ඔය සියලු දෙනා දෙව්ලොව ඉපදිලා තියෙන්නෙ. පරාක්‍රමබාහු රජ්ජුරුවො, ඊළඟට විජයබාහු රජ්ජුරුවෝ ඔය ගොඩාක් අය දෙව්ලොව ඉපදිලා තියෙන්නෙ. අපේ රටේ රජවරුම කීදෙනෙක් දෙව්ලොව ඉපදිලා තියෙනවාද. මේවා පිළිබඳව විස්තර ඉගෙන ගන්න පින්වතුනි ඔබ කියවන්න ඉතා පැරණි බණකතා. ඉතින් අපගේ පින්වත් සහෝදර ස්වාමීන් වහන්සේ නමක් ඉතා පැරණි සිංහල බණකතා ගැන යනවනෙ දහම් වැඩසටහනක්, ශ්‍රද්ධා රූපවාහිනියේ. ඒ දහම් වැඩසටහනෙනුත් ඉගෙන ගන්න පුලුවන්. ඒ වගේම අටුවාවල ඉතා පැරණි බණකතා, ඒ වගේම සිහලවත්ථුවේ, ඒ වගේ පොත් වහන්සේලා තුළ තියෙනවා ගොඩාක් විස්තර, වංශකතා වලත් තියෙනවා. කොහොමහරි දෙව්ලොව යන ප්‍රතිපදාව තමයි ඉවසීමත්, සංසිදීමත්. ඒ වගේම කායසුචරිතය, වචීසුචරිතය, මනෝසුචරිතය, ආර්යය උපවාද නොකිරීම, සම්මා දිට්ඨිය සම්මා දිට්ඨික කර්ම සමාදන් වීම, මේවා තමයි දෙව්ලොව යන විස්තර. ඉතින් ඒ නිසා අපි කියලා දෙන්න කල්පනා කරනවා ඊළඟ දවසේ රහතන් වහන්සේලා කරපු පින්දහම් මොනවාද, ඒ රහතන් වහන්සේලාගේ සංසාරයේ නිවන පිණිස කොහොමද පුණ්‍ය ධර්ම රැස්

කරලා තියෙන්නෙ කියලා, ඔබට අමතර වැඩසටහනක් විදියට, අමතර දහම් කරුණක් විදියට ඊළඟ දහම් වැඩසටහනේ කියලා දෙන්න කල්පනා කරනවා. නමුත් ඔබ ගොඩාක් සතුටු වෙන්නෙ ඕන. මේ වෙනකොට අද මේ මොහොත වෙනකොට සම්පූර්ණයෙන් පේතවත්ථු විමානවත්ථු ඒ ත්‍රිපිටකයේ ඒ ඛුද්දක නිකායේ දෙවෙනි පොත් වහන්සේ අටුවා සහිතවම ඉගෙන ගන්න ලැබීම ඔබගේ සසරටම අතිශයින් මහත් වූ භාග්‍යයක් සේ සලකන්න. ඇත්තටම සිතාගත නොහැකි වාසනාවක් ඒක. අවසාන වශයෙන් කාරණාවක් කියලා දෙන්නම්, අද දහම් වැඩසටහන අවසන් කරන්න කලින්. බුදුරජාණන් වහන්සේ වදාළා ඔන්න යම්කිසි භික්ෂුවක් ඉන්නවා. එතකොට මේ භික්ෂුව ශ්‍රද්ධාවන්තයි, සීලවන්තයි, හොඳට දහම් දැනුම තියෙනවා, දන් දෙනවා, ත්‍යාගයි, ඊළඟට නුවණින් කල්පනා කරන කෙනෙක්. ප්‍රඥාවන්තයි. ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා, මේ කාරණා පහට කියනවා සේඛබල. මේ කාරණාවෙන් යුතු භික්ෂුවට හිතෙනවා රජ පවුල් තියෙනවා, ඒ රජ පවුල් වල සැප සම්පත් තියෙනවා, මටත් රජ පවුලේ ඉපදෙන්න ඇත්නම් කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඒ භික්ෂුව ඒක හිතලා ඒකෙම හිත පිහිටුවාගෙන ඊට අනුවම කය යබිඳිලා මරණින් මත්තෙ රජ පවුලෙම ඉපදෙනවා. හේතුව මොකද, ඔහු ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන ගුණධර්ම පහෙන් යුක්ත නිසා. ඒ සංස්කාරය ඒ විදියටයි හැදුනෙ. ඊළඟට යම්කිසි භික්ෂුවකට හිතෙනවා, භික්ෂුවකට කියනකොට ඔබ තේරුම් ගන්න ඔබ ගැන. ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා, වලින් යුක්ත කෙනෙකුට හිතෙනවා මට චාතුම්මහාරාජික දිව්‍ය ලෝකෙ යන්න ඇත්නම්. එහෙ ඉන්නවා දතරාෂ්ට්‍ර විරූඪ විරූපාක්ෂ වෛශ්‍රමණ කියලා සතරවරම් දෙවියො. ඒ දිව්‍ය ලෝකෙ මට යන්න ඇත්නම් කියලා එයාට හිතෙනවා. ඒ සංස්කාරය හිතේ වැඩ කරනවා. ඒකෙම හිත පිහිටනවා. ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා, කියන ගුණධර්ම පහෙන් යුක්ත නිසා එයා මැරුණට පස්සෙ චාතුම්මහාරාජිකයේ උපදිනවා. කෙනෙකුට, ඔන්න කෙනෙක් ඉන්නවා ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා, කියන ගුණධර්ම පහෙන් යුක්තයි. එයාට කල්පනා වෙනවා මට සක්දෙව්දුගේ ලෝකෙට යන්න ඇත්නම්, තව්තිසාවෙ. ඒ තව්තිසාවෙ යන්න ඇත්නම් කියලා එයා සිහි කරනකොට ඒකෙම හිත බැසගන්නකොට ඒකෙම හිත පිහිටනකොට ඔන්න සංස්කාරය එයාට වැඩ කරනවා, එයාට කය බිඳිලා මරණින් මත්තේ එයා ගිහිල්ලා සක්දෙව්දුගේ ලෝකෙ උපදිනවා. ඊළඟට තව කෙනෙක් ඉන්නවා, එයාට යාම ලෝකය, ඊළඟට තුසිතයේ, නිම්මාණරතියෙ, පරනිම්මිත වසවර්තියෙ, එයාගෙ හිත

බැසගන්නවා. තමන්ගේ චේතනාව වැඩකරන එකත් එක්ක එහෙ උපදිනවා. හැබැයි මේ මූලික කාරණා පහ තියෙනවානම්. ඒ තමයි ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා. ශ්‍රද්ධාව කියන්නෙ, තුණුරුවන් ගැන තියෙන පැහැදීම. සීලය කියන්නෙ භික්ෂුවකගේ නම් දස සීලය හෝ උපසම්පදා සීලය, ගිහි කෙනෙකුගේ නම් පඤ්චසීලය, ඊටපස්සෙ සුත කියලා කියන්නෙ දහම් දැනුමට. ඊළඟට ත්‍යාගය කියන්නෙ දන් දෙන එකට. ප්‍රඥාව කියන්නෙ නුවණින් විමසන එක. ඔහු මරණය ගැන සිහි කරනවා. අනිත්‍යය ගැන සිහි කරනවා. එහෙම ඉන්න කෙනෙක්ගෙ හිත පිහිටියොත් එහෙම බ්‍රහ්ම ලෝකෙක ඒ බ්‍රහ්මලෝකෙ ඔහුගේ හිත වැඩ කරනවා. ඒ කියන්නෙ මෙයා බ්‍රහ්මලෝකෙ පතනවා විතරක් නෙවෙයිනේ, නුවණින් යුක්තයිනෙ. ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා. නුවණ තියෙන නිසා ඒ බ්‍රහ්මලෝකෙට ඕන විදියට එයාගෙ හිතේ ධ්‍යාන වැඩ කරනවා. ඒ ධ්‍යාන සිත වඩලා ඕනම කෙනෙක් දන්නවා, ප්‍රඥාව තියෙන කෙනෙක් දන්නවා ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා, ප්‍රඥාව තියෙන අය දන්නවා බ්‍රහ්ම ලෝකෙ උපදින්නෙ බ්‍රහ්ම විහාර තුළ මනාව හිත පිහිටවීම, හිතේ සමාධිය ධ්‍යාන තුල හිත පිහිටීම, මේවා තමයි උපකාර වෙන්නෙ බ්‍රහ්ම ලෝකෙ ගමනට. ඉතින් අර එයාගේ හිතේ ප්‍රාර්ථනාවක් තියෙන නිසා එයාගෙ හිතත් ඒ විදියට වැඩ කරන නිසා එයාගෙ හිත බ්‍රහ්ම ලෝකෙට හැදෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා යම්කිසි කෙනෙක් ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන ගුණධර්ම තුළ පිහිටලා එයාට මාර්ගඵල ගැන නැවත නැවත හිතිලා මාර්ගඵල කෙරෙහි හිත පිහිටෙව්වොත් ඔහුට මාර්ගඵල අවබෝධ කරන්න පුලුවන් කියනවා. සෝතාපන්න, සකදාගාමී, අනාගාමී, අර්හත් මාර්ගඵල දියුණු කරන්න පුලුවන් කියනවා. එතකොට බලන්න ශ්‍රද්ධාව කියන එක සුලු දෙයක්ද. රකින සීලය සුලු දෙයක්ද. දහම් දැනුම තියෙන එක සුලු දෙයක්ද. දන්දෙන එක සුලු දෙයක්ද. ඊටපස්සෙ ප්‍රඥාව අනිත්‍යය සිහි කරන එක, මරණය සිහි කරන එක, ඊළඟට මේ ලෝකෙ අස්වැසිල්ලක් නැති බව සිහි කරන එක, ඊළඟට සතර අපාය, පින් පව්, මෙලොව පරලොව, සසර ගමන ගැන අයිති ප්‍රඥාවට පින්වත්නි. සතර අපාය, මෙලොව පරලොව, දෙව්ලොව, ඕපපාතික උපත් මේවා තේරුම් ගන්න එක අයිතියි පින්වතුනි ප්‍රඥාවට. දැන් ඔන්න මම ඔබට දෙව්ලොව ගැන කියලා දුන්නා. ඔබ හිතන්නේ මම ඔබට දෙව්ලොව ගැන කියලා මං මේ පින් බලයෙන් දෙව්ලොව යන්න හිතන කෙනෙක් කියලද. පින්වතුනි මේ උගුර ලේ රහවෙනකල් එකදිගට මේ දහම් වැඩසටහන් මේ කලබල අස්සෙ කලේ පින්වතුනි මේ ලංකාවෙත් ලෝකෙත් ව්‍යසන ගොඩේ, උගුර සමහර වෙලාවට ලේ රහ වෙනවා, රිදෙනවා.

එච්චර දහම් දේශනා කරන්නෙ මේ දුකෙන් නිදහස් වෙන්න ඇත්නම් කියන අදහසින්. එතකොට ඒ ඔක්කෝම ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන කාරණා පහටම කෙනෙක් කරන පින් ගොනුවෙනවා. ඊටපස්සෙ එයාගෙ හිත බලවත්ව වැඩ කරන්නෙ මොකද ඊට අනුව ඒ සංස්කාර හැදීගෙන යනවා. ඕක තමයි සංස්කාර හැදෙන විදියට උත්පත්තිය සිද්ධ වෙනවා කියන්නෙ. සංකාරඋප්පත්ති සූත්‍රය කියලා මජ්ඣිම නිකායේ සූත්‍ර දේශනාවක් තියෙනවා. ඒ දේශනාවෙන් ඔය කාරණා තේරුම් ගන්න. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා පින්වතුනි ඔබට පින්කම් ගැන කියනකොට දෙව්ලොව ගැන කියනකොට ඔබටත් හිතනෙවානෙ ඔය පින් මාත් කරලා තියෙනවානෙ, මාත් කරලා තියෙනවානෙ කියලා. එතකොට ඔබගේ හිත ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන ගුණධර්ම වල ඔබගේ හිත යම් විදියකට තියෙනවා නම්, ඒ වගේම දැන් කියපු සූත්‍ර දේශනාව අනුව ඔබටත් හිතෙනවා නම් ඒ බුද්ධ වචනය ඔබ පිළිගන්නවානම් දෙව්ලොව උපදින්නෙ ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා ගුණධර්ම නිසා කියලා බුදුරජාණන් වහන්සේ වදාළා ඕක භාවනාවක් කරගන්න පුලුවන්. ඕකම භාවනා අරමුණක් විදියට වඩන්න පුලුවන් කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. කොහොමද එයා විවේකෙන් කල්පනා කරනවා චාතුම්මහාරාජික දෙවියෙන්ගේ ලෝකයේ චාතුම්මහාරාජික දෙවියෝ උපදින්නේ ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන ගුණධර්ම මුල් කරගෙන නම් ඒවා මා තුලත් තියෙනවානේ. ඒ කියන්නෙ දෙවියෙක් වෙන්න ඕන ගුණධර්ම මා තුල තියෙනවානේ මනුස්සයෙක් වෙලාම. එය මා හට කොයි තරම් යහපතක් ද, භාග්‍යයක්, එය මට මහා ලැබීමක්, යහපතක් කියලා හිත සුතුටු වෙන්න. ඊටපස්සෙ තාවතිංස දෙවියොන්ගේ ලෝකෙයේ උපදින්නේ ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා මුල් වෙලානම් මා තුලත් ඒවා තියෙනවානේ කියලා සිහි කරනවා. සිහි කරලා ඒක කොච්චර ලාභයක්ද කියලා සිහි කරනවා. ඒ විදියට දිව්‍ය ලෝකෙ හය ගැනම චාතුම්මහාරාජිකය, තාවතිංසය, යාමය, තුසිතය, නිම්මාණරතිය, පරනිම්මිතවසවර්තිය. ඉතින් මේ දිව්‍යලෝක හය ගැනම හිතනවා මට යන්න තියෙන ඒ දිව්‍ය ලෝක වල දෙවියො ඉපදුනේම ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා මුල්වෙලා. මා තුලත් ශ්‍රද්ධාව තියෙනවා. මා තුලත් සීලය තියෙනවා. මා තුලත් ත්‍යාගය තියෙනවා. මා තුලත් සුතය, ප්‍රඥාව තියෙනවා. ඒ නිසා මට ඒක කොයිතරම් ලාභයක්ද. මට කොයිතරම් ලාභයක්ද කියලා හිත හිතා ඉන්නෙකාට බුදුරජාණන් වහන්සේ වදාළා ඒක තමයි දේවතානුස්සති භාවනාව කියෙන්නෙ. බුදු කෙනෙක් වදාළේ මේ භාවනාව. ලොව්තුරා සම්මා

සම්බුදුරජාණන් වහන්සේ මේ භාවනාව වදාළේ. එහෙම ඉන්නෙකොට එයාගෙ හිත ඒකෙම එකඟ වෙනවා. එකඟ වෙලා සමහර කෙනෙකුට ඒක හොඳට මනසිකාර කරගන්න ලැබුනොත් හිත ධ්‍යාන මට්ටමට පත්වෙනවා. හිත ධ්‍යාන මට්ටමට පත්වුනාට පස්සෙ ධ්‍යානයේ තියෙන රූප වේදනා සංඥා සංස්කාර විඤ්ඤාණ කියන පංචුපාදානස්කන්ධය අනිත්‍යය වශයෙන්, දුක් වශයෙන්, අනාත්ම වශයෙන් මනසිකාර කරලා එයාට සසර දුකින් නිදහස් වෙන්න පුලුවන්. ඒ නිසා ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන ගුණධර්ම කියන ඒවා පින්වතුනි ලෝකෝත්තරයි. ඒක මහා ආනුභාවසම්පන්නයි. ඒ නිසා දැන් දිව්‍ය ලෝක කතාව ඔබ අහපු නිසා ඔබ තුලත් දැන් ගුණධර්ම තියෙන නිසා මං හිතනවා ඔබ පින්වන්තයි. පින්වන්ත නැත්නම් මෙහෙම ධර්මය අහන්න බෑ ඔබට. මේ ධර්ම දේශනාවෙ ඉන්නවා මුල ඉඳලා එක හුස්මට අහපු අය. ආසාවෙන් අහපු අය. ඊළඟ දහම් කාරණාව ඇහෙනකල් ආසාවෙන් හිටපු අය. ඒවා සුලුපටු පින් නෙවෙයි පින්වත්නි. ඉතින් ඒ නිසා පින්වතුනි ඔබට පින තියෙනවා. ඒ නිසා මතක තියාගන්න මේ අපි ජීවත් වෙන ටික දොහේ ඔබ කරන පින් ශ්‍රද්ධාවෙන් කරන්න. ඔබපඤ්චසීලයේ පිහිටලා ඉන්න. හොඳට ධර්මය අහන්න. දන් දෙන්න. ඊළඟට ඔබ අනිත්‍යය, මරණ සතිය, ඒ වගේ කරුණු සිහි කරන්න. මේ දහම් කරුණු නුවණින් තේරුම් ගන්න. ඒක ප්‍රඥා සම්පත්තියට අයිතියි. ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන ගුණධර්ම දෙව්ලොවේ මාවතයි. ඒ වගේම තමයි අමා මහ නිවන පිණිස සේඛ පුද්ගලයාව බලගන්වලා ගෙනියන්නේ ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන ගුණධර්ම පහ. දෙව්ලොව උපදිනවා නම් යම්කිසි ශ්‍රද්ධාවකින් නිවන් දකිනවා නම් යම්කිසි ශ්‍රද්ධාවකින්, ශ්‍රද්ධාව, ශ්‍රද්ධාවමයි. ඒ ශ්‍රද්ධාවේ මට්ටම අනුවයි ඔහු දෙව්ලොව යනවාද, බ්‍රහ්ම ලෝකෙ යනවාද, ඔහු නිවන් දකිනවාද කියන එක තීරණය වෙන්නෙ ඒ ශ්‍රද්ධාවේ මට්ටම අනුවයි. එතකොට අපිට ඕනවෙන්නෙ ශ්‍රද්ධාව හොඳට දියුණු කරගන්න එකයි. එතකොට අපේ මට්ටමට යා යුතු තැනට යනවා. සීලයත් ඒ වගේ තමයි, බුදුරජාණන් වහන්සේ වදාළා පදේසකාරං පදේසකාරේ ආරාදේති, සිල් කොටසයි නම් රකින්නෙ මාර්ගඵලයත් කොටසයි. පරිපූරක්කාරි පරිපූරකං, පූර්ණව සිල් පද රැකෙනවා නම් මාර්ගඵලත් සම්පූර්ණ වෙනවා කිව්වා. එහෙනම් සීලයේ මට්ටම අනුවයි දෙව්ලොව යනවද, බඹ ලොව යනවද, නිවන් දකිනවාද කියන එක තීරණය වෙන්නෙ. දහම් දැනුමත් ඒ වගේ. දහම් දැනුම ඇතිවෙලා ඒ දහම් දැනුම මනසේ පිහිටන්න පිහිටන්න, කෙලෙස් දුරුවෙන්න, දුරුවෙන්න, ඔහුගේ සිත මාර්ගඵල අවබෝධ වලට හැදෙනවා.

එහෙනම් ඔබගේ දහම්දැනුමත් ඔබ දෙව්ලොව යනවද, බඹ ලොව යනවද, නිවන් දකිනවාද කියන එක තීරණය කරනවා. ඊළඟට පින්වතුනි ත්‍යාගය, ත්‍යාගයත් එහෙමයි, කෙනෙක් පින්වතුනි බඩුවක් අත්හැරියොත්, ඒ කියන්නෙ අපි කියමු පිරිකරක් පූජාකරොත් ඒකත් අත්හැරීමක්. හිතට එන රාගය අත්හරිනවා, ඒකත් අත්හැරීමක්. එතකොට ත්‍යාගය කියන්නෙ අත්හැරීම. එක්කො ඔහු ආමිසය අත්හරිනවා, එක්කො කෙලෙස් අත්හරිනවා. එතකොට අත්හැරීමේත් මට්ටම අනුව දෙව්ලොව යනවද, බඹ ලොව යනවද, මාර්ගඵල ලබනවාද කියන එක තීරණය වෙනවා. ප්‍රඥාව, පින්වතුනි ප්‍රඥාව කියන්නෙ පින් පව් විශ්වාස කරන එකත් ප්‍රඥාවක්. ඊළඟට රූප වේදනා සංඥා සංකාර විඤ්ඤාණ කියන පංචුපාදානස්කන්ධයේ උදයව්‍යය ඒ කියෙන්නෙ හට ගැනීම නැතිවීම උත්පාද ඨිතිභංග ආදී වශයෙන් මේ කරුණු කාරණා තේරුම් ගැනීමත් ප්‍රඥාව. මෙලොව පරලොව තේරුම් ගන්න එකත් ප්‍රඥාව. දැන් මට පිටරට මිනිස්සු මුණ ගැහිලා තියෙනවා මහා උපාධි තියෙන, මැරුණට පස්සෙ යන්න කැමති තිරිසන් ලෝකෙ. මට ඒ හැම මොහොතකම සිහිවුනා, අපේ ලංකාවෙ ආච්චි අම්මලාට කොච්චර ප්‍රඥාවක් තියෙනවාද, අපේ ලංකාවෙ මිනිස්සු මැරිලා තිරිසන් ලෝකෙට යන්න කැමති නෑ. තිරිසන් ලෝකෙ දුකක් කියන එක ගැනි පිළිගැනීමක් තියෙනවා. බලන්න ලංකාවෙ මිනිස්සුන්ට ප්‍රඥාව තියෙනවා. හැබැයි පින්වතුනි ඒ ප්‍රඥාවෙ මට්ටම් තියෙනවා. ඒ ප්‍රඥාවෙන් තමයි තීරණය කරන්නෙ ඒ මට්ටම් අනුව ඔබ දෙව්ලොව ගෙනියනවද, බ්‍රහ්ම ලෝකෙ ගෙනියනවද, මාර්ගඵල ලබනවද කියලා. ඒ නිසා මේ ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන ගුණධර්ම පහ අතිශයින් ශ්‍රෙෂ්ටයි. දැන් මං ඔය ටික කියනකොට ඔබට හිතුන්නැද්ද පහුගිය කාලෙ හැම දේශනාවකින්ම තිසරණය ගැන සීලය ගැන ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා කියන සේඛ බල ගැන කොච්චර කියලා දුන්නාද. මරණය ගැන කොච්චර කියලා දුන්නද. අනිත්‍යය ගැන කොච්චර කියලා දුන්නාද. පින්වතුනි ඉරහඳ සේ ප්‍රකටයි. මේ මහමෙව්නාවෙන් තථාගත ශ්‍රී සද්ධර්මය මැනැවින් දේශනා කල බව. ඒකෙනම් කිසිම දෝෂයක් පේන්නෙ නෑ. බුදුරජාණන් වහන්සේ වදාළ ධර්මය මැනැවින් ඉරහඳ සේ ප්‍රකට කරලා දේශනා කලා. විවර කලා. මේ උතුම් ශ්‍රී සද්ධර්මය ඕනම කෙනෙකුට ත්‍රිපිටකය බලන්න පුලුවන් විදියට. හංගලා නෑ සූත්‍ර. ඔබගේ මට්ටමට, ඔබගේ නුවණ අනුව, ඔබට තේරෙන විදිය අනුව ඔබ ඒ ධර්මය ගන්නවා. එකම සූත්‍රය අහලා එක්කෙනෙක් සෝවාන් වෙනවා, එක්කෙනක් සකදාගාමී වෙනවා, එක්කෙනෙක් අනාගාමී වෙනවා. එක්කෙනෙක් රහත් වනවා. හැබැයි එකම

දේශනාව. එකම දේශනාව නම් හතර දෙනා මාර්ග ඵල හතරක් ලැබුවේ. ඔවුන්ගේ ප්‍රඥාව. ඒ නිසා මේ කරුණු කාරණා තේරුම් ගන්න. ඉතින් මේ දේශනාව අහලා එක්කෙනෙක් පහදිනවා, එක්කෙනෙක් බනිනවා, එක්කෙනෙක් තොරතුරු හොයනවා, ඒ වාගේ එක එක්කෙනා ඉන්නවා. ඉතින් ඒවා අපිට අදාළ නෑ, ඒ කෙනාගේ නුවණ අනුවයි ඒක කරන්නෙ. ඉතින් ඒ නිසා එක සිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා, ඔබ වාසනාවන්තයි, භාග්‍ය සම්පන්නයි. අද වෙනකොට ඔබ සම්පූර්ණයෙන් පේතවත්ථු විමානවත්ථු සම්පූර්ණයෙන් ඉගෙන ගෙන අවසන්. අපි ඊළඟ දවසේ ඉගෙන ගන්නවා රහතන් වහන්සේලා සංසාරයේ කරපු පින්කම්. ඒ පින්කම් ගැන අහලා හිත පහදවගන්න. සතුටින් කැමැත්තෙන් වාසය කරන්න. ඔබ සියලු දෙනාට තෙරුවන් සරණයි.

ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ පින්වත් යොහාන් ඉන්දික මහත්මයා, සමන් බණ්ඩාර මහත්මයා සහ විජිත කාලිංග මහත්මයා. ඉතින් මේ පින්වතුන් ඉතාම සන්තෝසයෙන් මේ පින රැස් කරගන්නෙ. ඉතින් අද දවස වෙනකොට පේතවත්ථු විමානවත්ථු ඒ උතුම් දහම් පරියාය දේශනා කරපු පින, ඇසූ පින, දායකත්ව දැරූ පින ඒ සම්පූර්ණ අප්‍රමාණ පුණ්‍යානුභාව බලයෙන් මේ ලෝකෙටත් මේ රටටත් ව්‍යසනයක්ව පවතින ඒ කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා. මානව සංහතියට සියලුම යහපත වේවා. මේ අපගේ මාතෘභූමිය සුරැකේවා. ගෞතම බුද්ධ ශාසනය හිරුසඳු සේ ලෝකයේ බබලත්වා. ඔබ සියලු දෙනාට මේ ගෞතම සාසනයේ පිහිට ලබාගන්න මේ සියලු උවදුරු දුරු වෙලා සියලු රැකවරණය සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. පින් කැමැති සියලු දෙවියෝ මේ පින සතුටින් අනුමෝදන් වේවා. සක්දෙවිඳු, සතරවරම් දෙවියන්, ආලවක දෙවියන් ඇතුලු සෙන්පති දෙවිවරු, බුදුසසුනේ දියුණුව කැමැති දෙවිවරු, ඉෂ්ටකාමී දෙවිවරු, ලක්වැසි දෙවිවරු මේ පින් අනුමෝදන් වී ගෞතම බුදුසසුනේ දියුණුවට කටයුතු කරත්වා. මාතෘභූමිය රැකගනිත්වා. ඒ වාගේම මීට මාස හතරකට පෙර මියපරලොව ගිය ඊ.එම්.කේ. බණ්ඩාර පියාණන්ට මේ පින් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. කවුරුත් නමින් මියගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒවගේම පරම පූජනීය ගුරුදේවොත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන්වහන්සේට නිසයි අපි මේ පින්දහම් රැස් කරගත්තෙ. මාව මේ ධර්ම දේශනා කරන්න යොමු කරවලා ඊළඟට පේතවත්ථු විමානවත්ථු මේ සැදැහැවතුන්ට කියලා දීලා පින් කුසල් දහම් ගැන මේ පින්වතුන් තුළ ප්‍රඥාව ඇති කරන්න කියලා උන්වහන්සේ අපිට

උපදෙස් දුන්නෙ. මේ දහම් වැඩසටහන සඳහා දිවැසින් දුටු දෙව්ලොව සැප කියන නාමය පවා උන්වහන්සේමයි යොදලා මා හට ආශිර්වාද කලේ. ඉතින් මගේ ගුරුදෙවිඳුන්ට මේ පින් අනුමෝදන් වේවා. අනුමෝදන් වේවා. අපි කවුරුත් රැස් කරගත්ත පින් බලයෙන් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, සියලු ස්වාමීන් වහන්සේලාත්, අනගාරිකා මෑණිවරුනුත්, පැවිදි අපේක්ෂක දරුවනුත් සියලු දෙනාට බුදුසසුනේ ධර්මාවබෝධය ලැබේවා කියලා පින් පමුණුවමු. ඒ වගේම දායකත්වය දැරූ යොහාන් ඉන්දික මහත්මයාටත්, සමන් බණ්ඩාර මහත්මයාටත්, විජිත කාලිංග මහත්මයාටත් අද අප්‍රමාණ පිනක් රැස් වුනා. මේ දහම් වැඩසටහන පරිපූර්ණ කරවලා දායකත්වය දරලා ලෝක සත්ත්වයන්ට අහන්න සැලැස්වීම තුලින්. එතුමන්ලාට සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු උපකාර වේවා. ඒ වගේම සුජීවත්ව සිටින ඩබ්ලිව්.එම්. බිසෝ මැණිකේ මෑණියන්ට සෙත්වේවා නිදුක් වේවා නිරෝගී සුව වේවා. පුංචි මහත්තයා අත්තම්මාට නිදුක් නිරෝගී සුවපත්භාවය සැලසේවා. ඔබ සියලු දෙනාට ධර්මය අවබෝධ කරගන්න ලැබේවා. අප හැදු වැඩූ දෙමව්පියන්ට අකුරු කෙරවූ ගුරුවරුන්ට ඥාති බන්ධුමිත්‍රාදීන්ට සෙත් වේවා, ලක්විරු ගුවන්විදුලිය, ශ්‍රද්ධා රූපවාහිනියේ දායකත්වය දරණ සියලු දෙනාට සෙත් වේවා, ඒ වගේම අපේ ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ දරුවන් හරියට ඇප කැපවෙලා කටයුතු කරනවා. ඒ දරුවන් සියලු දෙනාට සෙත්වේවා. අපි කාටත් සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=cSu8wYlRXhY&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=19

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපි මීට කලින් වැඩසටහන වෙනකොට වැඩසටහන් දහඅටක් පුරාවට විමානවත්ථුව, දෙවියන්ගේ කතාව, ඒ වගේම පින් සහ පිනේ

විපාක ඒ වගේම මිහිඳු මහරහතන් වහන්සේ ලංකාවට වැඩම කරද්දි ලංකාවට වැඩම කරලා හාහාපුරා කියලා ලක්වැසියන්ට දේශනා කල විමානවත්ථු පේතවත්ථු සම්පූර්ණයෙන්ම ඒ ත්‍රිපිටකාගත දහම් පරියාය මේ වෙනකොට අපි ඉගෙන ගත්තා. එතකොට තවත් මෙච්චරත් බණ අහලා කෙනෙකුට තවත් මේවා මොනවද මොනවද කියලා හිතෙනවා නම් ඒ අයට තව තවත් කරුණු දැනගැනීම පිණිස තව ඉදරියට දහම් කරුණු කිහිපයක් ඔබට කියලා දෙන්න කල්පනා කලා. දිවැසින් දුටු දෙව්ලොව සැප ඒ උතුම් දහම් වැඩසටහන අද දවසේ ශ්‍රද්ධා රූපවාහිනියෙනුත් ලක්විරු ගුවන් විදුලියෙනුත් විකාශනය කරවලා ඒ සඳහා ධර්මදාන දායකත්වය සලසන්නෙ ගිරාඳුරුකෝට්ටේ වටරවුම් පාර අංක 6 නිවසේ පදිංචි පින්වත් ආර්.එම්. ඥාණවතී මහත්මිය විසින්. ඉතින් තමන්ගේ ස්වාමියා, 2006.07.01 වෙනිදින ත්‍රස්ත ප්‍රහාරයෙන් යුද හමුදාවේ සේවයේ යෙදී සිටිද්දීත් මියපරලොව ගිහිල්ලා තියෙනවා. එතුමාට පින් අනුමෝදන් කරන්නටත්, දරුවනට සෙත් පිණිසත් සියලු දෙනාට යහපත පිණිසත් තමයි අද දවසේ ධර්ම දානය සිද්ධ කරන්න බලාපොරොත්තු වෙන්නෙ. ඉතින් පින්වතුනි දිවැසින් දුටු දෙව්ලොව සැප බුදුරජාණන් වහන්සේ ඒ වගේම මුගලන් මහරහතන් වහන්සේ, ඒ වගේම නාරද මහරහතන් වහන්සේ, වංගීෂ මහරහතන් වහන්සේ, ගවම්පති මහරහතන් වහන්සේ ආදී උතුම් රහතන් වහන්සේලා දිවැසින් දැකලා වදාරපු දේශනා අපි ඉගෙනගත්තා. අද අපි මම කල්පනා කලා කියලා දෙන්න කියලා රහතන් වහන්සේලා දිවැසින් දකින දේවල් ආපස්සට, දෙව්ලොව සහ පිනේ විපාක. එතකොට මේ පිළිබඳව රහතන් වහන්සේලා දහස් නමකට ආසන්න ප්‍රමාණයකගේ ජීවිත කතා තියෙනවා පින්වතුනි අපදාන පාලිය කියලා ඛුද්දක නිකායේ දහම් පරියායක්. ඉතින් ඒ දහම් පරියාය පුරාවට අපි පෙළ වශයෙනුත් අටුවා වශයෙනුත් අපි කියවලා ඒ කරුණු අධ්‍යයනය කලා. එතකොට පින්වතුනි තේරෙනවා මෙහෙම කාරණාවක්. ඒ තමයි සියලුම රහතන් වහන්සේලා ජීවිතේ ආපස්සට බලනකොට නිර්වාණය පිළිබඳව තමන් කරපු පින ස්ථාන හයක කරලා තියෙන්නෙ. ස්ථාන හයක තමයි පින් කරලා තියෙන්නෙ. ඒ එකක් තමයි බුදුරජාණන් වහන්සේ විෂයෙහි තමයි පින් කරලා තියෙන්නෙ. ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ සම්මුඛව හෝ එහෙම නැත්නම් බුදුරජාණන් වහන්සේගේ ධාතූන් වහන්සේ නමක්, එක්කො බුදුරජාණන් වහන්සේගේ සිරිපා සටහනක්, ඒ වාගේ ස්ථානයක කරපු පින. බුදුරජාණන් වහන්සේ ඉදිරියේ. බුදුරජාණන් වහන්සේ විෂයෙහි කරපු පින් තමයි නිවනට උපකාරී

වෙලා තියෙන්නෙ. ආයෙ උපකාරී වෙලා තියෙන්නෙ රහතන් වහන්සේලාගේ පින් ධර්මය අහලා බුදුරජාණන් වහන්සේලාගේ හෝ රහතන් වහන්සේලාගේ ධර්මය අහලා පැහැදිච්ච පින උපකාරී වෙලා තියෙනවා. ඊළඟට උපකාරී වෙලා තියෙනවා ආර්ය සංඝයාට, රහතන් වහන්සේලාට දන් බෙදීම, ඊළඟට රහතන් වහන්සේලාට කරපු උපස්ථාන. ඒ සංඝයා විෂයෙහි කරපු පින් උපකාරී වෙලා තියෙනවා, නිවනට. දැන් මේ කියන්නෙ රහතන් වහන්සේලාගේ ජීවිත කතා දහස් ගාණක සංක්ෂිප්තය මේ කියන්නෙ. ඊළඟට උපකාරී වෙලා තියෙනවා පසේ බුදුරජාණන් වහන්සේලා ළඟ කරපු පින්. ඊළඟට උපකාරී වෙලා තියෙනවා ස්තූප වන්දනා. චෛත්‍යය වන්දනා සහ ඒ චෛත්‍යය වහන්සේලාට කරපු සත්කාර සම්මාන වල පින. ඊළඟට උපකාරී වෙලා තියෙනවා බෝධීන් වහන්සේලා විෂයෙහි කරපු පින්. බෝධීන් වහන්සේලා ඇසුරු කරගෙන කරගත්ත පින් නිවනට උපකාරී වෙලා තියෙනවා. ඔන්න ඔය කාරණා හය පැහැදිලිවම තියෙනවා, ඒ රහතන් වහන්සේලාගේ ජීවිතයේ නිර්වාණ බීජය ඉපදිච්ච තැන්. ඉතින් ඒ පින් බලයෙන් තමයි ඒක මෝරා ගිහිල්ලා අපේ ගෞතම බුද්ධ ශාසනයේ විපාක දෙන්නෙ. එතකොට ඒකට තේරුම් ගන්න උපමාවක් කියන්නම්. පින්වතුනි අනිවාර්යයෙන් බුද්ධ ශාසනයක කරන පින තමයි බුද්ධ ශාසනයක විපාක දෙන්නෙ. ඒක උපමාවකින් ගත්තොත් එහෙම, කෙකණිය පිරිමියෙක් නිසා නෙවෙයි ගැබ් ගන්නෙ කෙකණිය, කෙකණිය ගැබ් ගන්නෙ වළාකුළු හඬට. විදුලි කොටන හඬට. මේඝ ඝර්ජනාවට තමයි කෙකණිය ගැබ් ගන්නෙ. ඊටපස්සෙ ඒ කෙකණිය ගැබ්ගත්තට පස්සේ ඒ කෙකණිය වදන්නෙ නෑ, අවුරුදු දහයක් හරි ආයෙත් මේඝ ඝර්ජනාවක් ඇහුන්නැත්නම්, අවුරුදු දහයක් හරි ගියාට පස්සෙ ආයෙ මේඝ ඝර්ජනාවක් ඇහුනට පස්සෙ තමයි කෙකණිය වදන්නෙ. එතොකට ඈ ගැබ් ගන්නෙත් මේඝ ඝර්ජනාවට. වදන්නෙත් මේඝ ඝර්ජනාවට. ආන්න ඒ වගේ තමයි නිවන් පිණිස පුණ්‍ය සංස්කාර රැස්වෙන්නෙ බුද්ධ ශාසනේට. ඒක විපාක දෙන්නෙත් බුද්ධ ශාසනේට. ඒ නිසා දැන් මේ ජීවිතේ තමාට ධර්මය අවබෝධ කරන්න පුලුවන්ද, දහමෙහි පිහිටාගන්න පුලුවන්ද කියන එක තීරණය වෙන්නෙ කලින් බුද්ධ ශාසනවල අපි කරපු පිනත් එක්ක. මෛත්‍රී බුද්ධ ශාසනේ නිවන් දකිනවාද, මාර්ගඵල ලබනවාද කියන එක තීරණය වෙන්නෙ දැන් අපි මේ බුද්ධ ශාසනේ දහමෙහි හැසිරෙන විදියත් එක්ක. පින්වතුනි බලන්න ගොඩාක් අය මෛත්‍රී බුදුන් දකින්වා මෛත්‍රී බුදුන් දකින්වා කිය කියා ඉන්නවා මිසක්කා තමන් ප්‍රතිපත්තියක යෙදෙන්නෑ, අඩුම ගානෙ තිසරණේවත් නැනෙ. පඤ්චසීලයේවත්

නෑනෙ. පහන් සිතකින් සෑයක්වත් වඳින් නෑනෙ. පහන් සිතකින් බෝධියක්වත් වඳින්නෑනෙ. නමුත් කට වචනෙට කියනවා මෛත්‍රී බුදුන් දැක නිවන් දකිත්වා කියලා. ඉතින් ඒ නිසා මේවා අධ්‍යයනය කරලා බලනකොට නම් පින්වතුනි නිකං බොරුවට මුලාවෙලා, අපි අර පුණ්‍ය වාක්‍යය කියනකොට විශාඛා සුමනා සුජාතා බන්දුලමල්ලිකා වාගේ උපබෝග පරිබෝග වස්තු ඇතිව මෙහෙම වෙන්න ඕන, මෙහෙම වෙන්න ඕන, මෙහෙම වෙලා එකම දම් සභා මණ්ඩපයක නිවන් දකිත්වා කියනකොට ආච්චිඅම්මලාට එතනින් එහාට දෙයක් නෑ, ඔක්කොමලා සාදු කියනවා. නමුත්, ප්‍රායෝගිකව බලනකොට සහ ධර්මයේ තියෙන විස්තර දිහා බලනකොට ප්‍රාර්ථනාවකින් නෙවෙයි මේක සිද්ධවෙන්නෙ ප්‍රතිපත්තියකින්. මේ බුද්ධ ශාසනේ යම් විදියකට දහමෙහි හැසිරිලා, දහමෙහි පිහිට පිළිසරණ ලබාගන්න කැමති සහ උත්සාහ කරන පිරිසට තමයි ඉදිරියට යන්න අවස්ථාවක් සැලසෙන්නෙ. දැන් සමහර ගොඩාක් රහතන් වහන්සේලා කලින් ජීවිත වල මහණ වෙලා හිටපු අය. ඒ වගේම උපාසක උපාසිකාවෝ ගොඩාක් වෙහෙස මහන්සිවෙලා පින් කරගත්ත අය. උතුම් ආර්යයන් වහන්සේලාට දන් දුන්නු අය, ප්‍රතිපත්තියේ හැසිරුණු අය තමයි මේ ජීවිතේ මාර්ගඵල ලබලා තියෙන්නෙ. ඉතින් ඒ නිසා ඒක තේරුම් ගන්න ඕන. ඒ නිසා පින්වතුනි කාරණා කෙටියෙන් එකක් දෙකක් විතර වගේ විස්තර කරලා දෙන්නම්. රහතන් වහන්සේලා කලින් කරපු පින්, දැන් අපි ගත්තොත් එහෙම සාරිපුත්ත මහරහතන් වහන්සේ කලින් ජීවිතේ ඉස්සෙල්ලාම කරපු පින තමයි බුදුරජාණන් වහන්සේගේ බුදු නුවණ වර්ණනා කලා. අනෝමදස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ බුදුරජාණන් වහන්සේගේ ගුණ වර්ණනා කලා. ඥාණයට ප්‍රශංසා කලා. ඊටපස්සෙ තමයි දවස් හතක් දන් පූජා කරලා අග්‍රශ්‍රාවක පදවිය පතන්නෙ. මුගලන් මහරහතන් වහන්සේත් උතුම් මල් මණ්ඩපයක් තනවලා භාග්‍යවතුන් වහන්සේ වඩා හින්දලා තමන් දැක්ක දේ අනුව ඍද්ධියෙන් අග්‍ර තනතුර පතන්නෙ කල්ප අසංඛෙය්‍යකට කලින්. ඉතින් ඒ අග්‍රශ්‍රාවකයන් වහන්සේලා. යශෝදරාව අසංඛෙය්‍ය හතරක්. දීපංකර පාද මූලයේ සුමේධ තාපසතුමා විවරණ ගන්නකොටමයි ප්‍රාර්ථනා කලේ උපනූපන් ජීවිතේ මේ උත්තමයා සමග මම යනවා නිවන දක්වාම කියලා. ඊටපස්සෙ, යශෝධරා තමයි එපමණ කාලෙක එකට එන්නෙ. අසංඛෙය්‍ය හතරක්. අපේ සාරිපුත්ත මොග්ගල්ලාන මහරහතන් වහන්සේලා එක අසංඛෙය්‍යයක්. ඉතුරු සියලුම රහතන් වහන්සේලා, අසූ මහා ශ්‍රාවකයන් බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මාර්ගඵල අවබෝධ කරගන්න කල්ප ලක්ෂයක් යනවා පදුමුත්තර බුදුරජාණන්

වහන්සේගේ කාලෙ ඉඳලා. එතනින් මෙහා අනිකුත් සියලු රහතන් වහන්සේලා එච්චර දීර්ඝ කාල නෙවෙයි. සමහර රහතන් වහන්සේලා කාශ්‍යප බුද්ධ ශාසනයේ කරපු පින් බලයකින් මේ බුද්ධ ශාසනේ නිවන් දැකලා තියෙනවා. සමහර විට විපස්සී බුදුරජාණන් වහන්සේ කල්ප අනූ එකකට කලින් පහල වුන, විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලෙ කරපු පින් බලයකට මේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වෙලා තියෙනවා. මේ බුද්ධ ශාසනේ මේ කල්පය ආරම්භයේ කකුසඳ බුදුරජාණන් වහන්සේගේ කාලයේ කරපු පින් බලයකට මේ කල්පයේම මාර්ග ඵල ලබලා තියෙනවා. ඒ පිනේ තීව්‍රතාවය. ඉතින් බලන්න එක මලක් පූජා කරලා, බුදු කෙනෙක්ගේ ශාසනයේ පාරමී පුරාගෙන ඊළඟ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වී මේ ලෝක සත්ත්වයා සසරින් එතෙර වෙවී එතෙර වෙවී යද්දි අසංඛෙය්‍ය හතරක් පාරමී ධර්මයන් පුර පුරා ලෝකයා ගොඩාක් සසරින් එතෙර වෙද්දි පාරමී පුර පුරා ලොව්තුරා සම්මා සම්බුදු රජාණන් වහන්සේ ගයාවේ වජිරාසනයේ සම්බුදු වුනේ. එතකොට එක මලක් පූජා කරලත් රහත් වෙද්දි මල් කෝටි ප්‍රකෝටි ගාණක් පුද පුදා ලොව්තුරා සම්බුදු බව පැතුවා. එතකොට එක මලක් පූජා කරපු පින් බලෙනුත් රහත් වෙලා තියෙනවා. නමුත් මල් අසංඛෙය්‍ය ගණන් පූජා කරලාවත් සම්බුදු බව ලැබුන් නෑ. එතකොට සම්මා සම්බුදුවරයෙක්ගේ පින් බලය කියන එක සහ පාරමී ධර්මයන් කොයිතරම්ද කියලා කල්පනා කරන්න ඒක අවස්ථාවක් කරගන්න. ඒක නිසා අපි ඒ කරුණු කාරණා තේරුම් ගන්න කලින් බුද්ධ ශාසන වලදී කරපු පින් ගැන, බලමු බුදුරජාණන් වහන්සේ විෂයෙහි, ගොඩ තියෙනවා පින්වතුනි, එකක් දෙකක් කියන්නම් රහතන් වහන්සේලාගේ කලින් ජීවිත වල විස්තර. එක රහතන් වහන්සේ නමක් ආපස්සට බලනවා උන්වහන්සේ අර්හත්වයට පත්වෙන්න පින හැදිච්ච විදිය පේනවා. එතකොට පුණ්‍ය බීජය නිර්වාණ බීජය කියලා එකක් කෙනෙක්ගේ ජීවිත වල ඇතිවෙනවා. උන්වහන්සේට පේනවා උන්වහන්සේට ඒ පින ලැබුනේ විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ මෙයා මහණ වෙන්න ආස තරුණයෙක්. නමුත් මහණ වෙන්න ආසා වුනාට මෙයාට අම්මා විතරයි ඉන්නෙ. ඒ නිසා අම්මව දාලා මහණ වෙන්න විදියක් නෑ, එයා ඒ නිසා කල්පනා කලා මම මැරෙනකල්ම තුණුරුවන් සරණ යනවා, සරණට හානියක් කරගන්නෑ කියලා අම්මත් බලාගෙන තිසරණය රැකගෙන හිටියා, ඒ පින් බලයෙන් දෙව්ලොව ගියා. දුගතියකට වැටුන්නෑ, කල්ප අනූ එකක් සුගතියේ දෙව් මිනිසුන් අතර සැප විඳලා සක්විති රජ ආදී සැප සම්පත් විඳලා තිසරණ සරණ ගිය පින් බලයට අපේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වුනා. තව එක රහතන් වහන්සේ

නමක් ඉන්නවා, උන්වහන්සේ අනෝමදස්සී භාග්‍යවතුන් වහන්සේගේ කාලයේ කල්ප අසංඛෙය්‍යකට කලින් මහණ වෙන්න ආසයි, නමුත් මහණ වෙන්න ඕන දාසකමෙන් ඉවත්වෙලා. ඒ කියන්නෙ ගෙදරක සේවකයෙක් විදියට ඉඳලා මහණ වෙන්න බෑ. මහණ වුනත් උපසම්පදා වෙනකොට අහනවා ඔබ දාසයෙක්ද තවත් කෙනෙක්ගෙ කියලා. ඉතින් ඒ නිසා මෙයි මහණ වෙන්න ආසයි, නමුත් වැඩ කරපු ගෙදරින් මෙයා දාසකමෙන් අයින් කරන්නෑ, ඒ නිසා මෙයා මොකද කලේ. මට මහණ වෙන්නත් බැරි එකේ දිවිහිමියෙන් මම පඤ්චසීලය රකිනවා කියලා මැරෙනකල් පඤ්චසීලය රැකලා. ඒ මැරෙනකල් පඤ්චසීලය ආරක්ෂා කරලා කල්ප අසංඛෙය්‍යක් දෙවියන් මිනිසුන් අතර සැරිසරලා ඒ පිනේ අග්‍රඵලය විදියට අපේ ගෞතම බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වුනා. බලන්න තෙරුවන් සරණ යන එක, පඤ්චසීලය හොඳට ආරක්ෂා කරගන්න එක කොයිතරම් නම් යහපතක් සලසනවද ඒ පුද්ගලයාට. ඊටපස්සෙ තව තියෙනවා පින්වතුනි ඒ කාලෙ සතා සීපාවගෙ ඉඳලා පවා කරගත්ත පින් තියෙනවා. දැන් අපේ බුද්ධ ශාසනයේ හිටපු උත්ථිය මහරහතන් වහන්සේ කලින් චන්ද්‍රභාගා කියන නදියේ කිඹුලෙක්ව ඉඳලා බොහෝ කාලෙකට කලින් බුදුරජාණන් වහන්සේ ගඟ අයිනට ආවට පස්සෙ අනේ මගේ පිට උඩින් වාඩිවෙන්න කියලා හිතලා. බුදුරජාණන් වහන්සේ කිඹුලගේ පිට උඩට නැගලා ඒ කිඹුලා වතුරෙන් එතෙර කෙරෙව්වා බුදුරජාණන් වහන්සේ. ඒ පින් බලයට අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වුනා. ඔහොම තියෙනවා තව කැස්බෑවෙක් වෙලා එගොඩ කරපු ඒවා. ඉතින් අර කැස්බෑවෙක් වෙලා එගොඩ කරපු එයා අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙලා කියනවා මෙච්චර කල්ප ගාණක් මං දෙවියන් මිනිසුන් අතර සැප වින්දා කියනවා බුදුරජාණන් වහන්සේ ගඟෙන් එතෙරට වඩම්මපු පින් බලයට. හැබැයි යම් දෙයක් කියන්න තියෙනවා. එදා බුදුරජාණන් වහන්සේ මම කැස්බෑවෙක්ව ඉදිද්දි බුදුරජාණන් වහන්සේ මගේ පිට උඩ අඩිය තියනකොට මට යම් සැපක් ඇතිවුනාද, දෙවියන් මිනිසුන් අතර ඉපදෙද්දි දිව්‍ය සැප ඉදිරියේදිවත්, මනුස්ස සැපවත් එදා අර බුදුරජාණන් වහන්සේ මගේ පිට උඩ තියෙනකොට ඇතිවෙච්ච සැපය මේ නිවන් දකිනකල් ඇතිවුන් නෑ කියනවා දෙවියන් මිනිසුන් අතර ඉඳලාවත්. එතකොට බුදුරජාණන් වහන්සේගේ සිරිපා පහස කොච්චර සැනසිලිදායකයිද කියලා බලන්න. ඊටපස්සෙ තියෙනවා බුදුගුණ කියලා ගොඩාක් අය. බුදුරජාණන් වහන්සේගේ ගුණ වලට ප්‍රශංසා කරලා ඒ පින් බලයට මේ බුද්ධ ශාසනේ නිවන් දැකලා තියෙනවා. ඒ වගේම මී පැණි පූජා

කරලා, මණ්ඩප හදලා, උක්පැණි පූජා කරලා, පුටු පූජා කරලා, මල් - මල් වර්ග වල නම් ගොඩාක් තියෙනවා - සමහරවිට එක මලක්, කිණිහිරියා මලක් එහෙම නැත්නම් සපු මලක්, එක්කො අශෝක මලක්, එක්කො දියබෙරලිය මලක්, එක්කො නිල් මානෙල් මලක්, ඉතින් ඒ වාගේ පූජා කරපු පින් බලයෙන් අපේ බුද්ධ ශාසනේ නිවන් දැකලා තියෙනවා. ඊටපස්සෙ විජිනිපත්, ඊළඟට තව එක්කෙනෙක් අශ්වයෙක් පිටින් යනකොට බුදුරජාණන් වහන්සේ දැකලා බුදුරජාණන් වහන්සේට පැහැදිලා අශ්වයා පූජා කලා. ඉතින් බුදුරජාණන් වහන්සේට මොකටද අශ්වයෙක්. ඉතින් එයා බුදුරජාණන් වහන්සේට අශ්වයා පූජා කරලා ඒ අශ්වයා විකුණලා ඒ මුදල් වලින් ආරාමයක් හදලා. පිරිකර පූජා කරලා. ඊටපස්සෙ සතා සිව්පාවා වෙලත්, දැන් සක්වාලිහිණියෙක් වෙලා බුදුරජාණන් වහන්සේ ළඟට මලක් පූජා කරලා ඒ පින් බලයෙන් අපේ ගෞතම බුද්ධ ශාසනේ නිවන් දැකපු සිද්ධි තියෙනවා. වඳුරෙක් වෙලා අඹ පූජා කරලා, ඒ වගේම ගුරුළෙක් වෙලා දිව්‍ය සළු පූජා කරලා, ඊළඟට තව එක්කෙනෙක් තියෙනවා, එක වැද්දෙක් කැලේ යනවා, බුදුරජාණන් වහන්සේ දැක්කා මෙයාට ලොකු පිනක් කරගන්න විදියක් නෑ, පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ කාලෙ වගේ. එතකොට බුදුරජාණන් වහන්සේ ඔහු එන පාරෙ තමන්ගෙ සිවුර ගලවලා අත්තක වැනුවා. වනලා බුදුරජාණන් වහන්සේ වෙන රුක්ෂයක් යට භාවනා කලා. ඒක වැද්දට පෙනුන්න නෑ, වැද්දට පෙනුනෙ සිවුර. දැක්ක ගමන් අනේ මේ බුදු කෙනෙක්ගේ සිවුරක් නේද කියලා වැන්දා දුර ඉඳලා. ඊටපස්සෙ එයා එහෙම්මම ගියා. ඒ පින් බලයට අපේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වෙලා තියෙනවා. සිවුරට වැඳලා. තව එක තැනක තියෙනවා හීනෙන් බුදුරජාණන් වහන්සේ දැකලා ඒකට සතුටු වෙලා ඒ පින් බලේට අපේ බුද්ධ ශාසනේ නිවන් දැකලා. හැබැයි ඒ පින කරගත්ත දවසේ ඉඳලා සුගතියෙ තමයි සැරිසරලා තියෙන්නෙ. ඊටපස්සෙ තව තියෙනවා බුදුරජාණන් වහන්සේගේ රැස් මාලාවට පැහැදිලා, බුදුරජාණන් වහන්සේ දැකලා සක් පිඹලා, එයාට ඉතින් සසරේ ගොඩාක් සැරයක් මධුර ස්වරය, මේවගේ ඉතින් විපාක තියෙනවා. සක් පිඹීමේ ආනිසංස මොනවද ඒ වගේ විපාක තියෙනවා ඉතින්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ පාලමකින් එතෙර කරවලා. බුදුරජාණන් වහන්සේට තූර්ය නාද තියලා, බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී දේහය දැවෙන චිතකයට මල් පූජා කරලා. සුවඳ ඉහිරවලා ඒ පින් බලයෙන් දෙවියන් අතරට ගිහිල්ලා අපේ ගෞතම බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වෙලා. තව එක්කෙනෙක් ඉන්නවා හරි පුදුමයි, එක දෙවියෙක් තමන්ගෙ දිව්‍ය විමානය සලිත වෙනවා දැකලා. ඊටපස්සෙ අහනවා

ඇයි මේ දිව්‍ය විමානය සලිත වුනේ. අනිත් දෙව්වරු කියනවා බුදුරජාණන් වහන්සේ ආයු සංස්කාරය අත්හැරියා කියලා. අහෝ ලෝකයට කලාතුරකින් පහළ වන සම්මා සම්බුදුරජාණන් වහන්සේ මෙච්චර ඉක්මණට පිරිනිවන් පෑවද, ලෝකයේ දහම් ඇස අතුරුදහන් වුනාද. පහන නිවී ගියාද, ඒ ශෝකයෙන් මේ දෙවියා චුත වෙලා. ඒ ශෝකයෙන්ම චුත වෙලා දෙවියා. ආපහු දෙව්ලොව ඉපදුනා. අපේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වුනේ ආයු සංස්කාරය වෙලාවෙ බුදු ගුණ හිතලා සංවේගයට පත්වෙච්ච ඒ කුසල කර්මය මුල් කරගෙන. ඊටපස්සෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ වැඩිය දිශාව කට්ටිය කියනවානෙ භාග්‍යවතුන් වහන්සේ වැඩියා. බුදුරජාණන් වහන්සේ වැඩිය දිශාවට මල් ඉහලා වැඳලා. ඒ පින් බලයට අර්හත්වයට පත්වෙලා. මළුවක් පූජා කරලා. පසැඟිලි දීලා. පසැඟිලි කියන්නෙ තමන්ගෙ ඇඟිලි පහේ සුවඳ වර්ග පහක් ගාගෙන බුදුරජාණන් වහන්සේගේ සිරිපතුල වන්දනා කරලා. ආන්න ඒ පින් බලයට ඊටපස්සෙ තියෙනවා, තව තියෙනවා විපස්සි බුදුරජාණන් වහන්සේ ඉපදුනාට පස්සෙ, ඒ විපස්සී කුමාරයා බුදුවෙනවා කියලා අහලා උපස්ථාන කරලා ළඟට ගිහිල්ලා මාළිගාවට. හැබැයි ඒ විපස්සී කුමාරයා සම්බුදු වෙනකොට මෙයා ඒ කාලෙ වසංගතයක් හැදිලා මැරිලා. එතකොට අර බුදුවෙන නිසානෙ උපස්ථාන කලේ. ඒ පින් බලේට අපේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වුනා. ඊටපස්සෙ තියෙනවා මල් ස්තූප හදලා, කිරිපිඬු පූජා කරලා, මීපැණි සමඟ පලවැල, පලවැල වලට මීපැණි දාලා පූජා කරලා, ඊටපස්සෙ දැන් තව එක්කෙනෙක් වැලි තලාවක් දැකලා බුදු ගුණ හිතලා, අම්මෝ මෙච්චර වැලිතලාව පිරිසිදු නම් අනන්ත බුදුගුණයෙන් යුතු සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් චිත්ත සන්තානය කොයිතරම් සොඳුරු ඇතිද කියලා සිහිකරලා. ඒ පින් බලේට අපේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වෙලා. ඊළඟට බෝධිසත්ත්වයන්ගේ උපත සිද්ධවෙන වෙලාවෙ, අතීතයේ බුදුරජාණන් වහන්සේ නමකගේ ශාසනයේ බෝධිසත්ත්වයන්ගේ උපත සිද්ධ වෙන වෙලාවෙ අසිරිමත් දේවල් සිද්ධ වෙනවානෙ. පොළොව සෙලවිලා, ආලෝකය විහිදිලා, මෙයා තාපසයෙක් ඒ කාලෙ. ඉතින් ඒ තාපසයා මේ විස්තර දැකලා තමන්ගෙ ගෝලයන්ට කියනවා බලන්න අනාගතේ ලෝකෙ සම්මා සම්බුදු කෙනෙක් පහල වෙනවා, ශ්‍රේෂ්ට කෙනෙක් කියලා ගෝලයෝ පැහැදෙව්වා සම්බුදු බව පිණිස. ඉතින් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වෙන කාලෙ ඒ තාපසයා මැරිලා. නමුත් අර ගෝලයෝ සම්බුදු බවට පහදවපු පින් බලයට මේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වුනා. ඉතින් ඒ වගේම තව එක තාපසයෙක් හිටියා, ඒ තාපසයාට ගොඩාක්

අය වන්දනා කරනවා. ඉතින් එයා තනියෙන් කල්පනා කලා, අනේ ඔක්කෝම මට වදිනවා මට වදින්න කෙනෙක් නෑනෙ. එහෙම කියලා කල්පනා කරලා මෙයා සමාධියෙන් සසර දිහා බලලා ලොව්තුරා සම්මා සම්බුදුවරු ලෝකයේ පහළ වෙලා ඉන්න බව දැකලා, අනේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේට මාගේ නමස්කාරය වේවා කියලා බුදුගුණ හිත හිතා ඒ පළඟයෙන්ම එහෙම්මම මැරිලා. ඒ පින් බලේට අපේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වුනා. ඉතින් ඒ කාලෙ ඉඳලම දෙව් මිනිසුන් අතර සුගතියේ තමයි සැරිසරන්නෙ. ඊටපස්සෙ තව අපූරු සිද්ධියක් තියෙනවා. එක වැද්දෙක් අතීතෙ බුදුරජාණන් වහන්සේ නමක් දැකලා මොරගෙඩි පූජා කරලා. ඉතින් බුදුරජාණන් වහන්සේ ගැන පැහැදිලා එයා එදා ඉඳලා එයා මං නම් ආයෙ සත්තු මරන්නෑ කියලා, මේ පලවැල ගෙඩි මුල් අල ඒවා විතරක් කකා ජීවත්වෙලා අර ප්‍රාණඝාතෙ අත්හැරලා. ඒ පින් බලේට අපේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වෙලා. මේ බලන්න ඒ බුද්ධ ශාසනවල කරපු පින්කම්, ඊටපස්සෙ තව තියෙනවා බුදුරජාණන් වහන්සේට සඳුන් පූජා කරලා පෙර ගමන් ගිහිල්ලා ඒ වගේම බුදුරජාණන් වහන්සේට ඖෂධ පූජා කරලා, කුටි පූජා කරලා, ඊටපස්සෙ තව එක්කෙනෙක් දැකලා තියෙනවා අනෝමදස්සී බුදුරජාණණ් වහන්සේ සක්මන් කරනකොට සිරිපා සක්මනේ තියලා උස්සනකොට ඒ පා වලින් මල් වැටෙනවා. ඒ සක්මන් කරනකොට. ඔසවන සිරිපා වලින් මල් වැටෙනවා. ඒක දැකලා පුදුම පැහැදීමක් ඇතිවෙලා එයා මල් අරන් ඇවිල්ලා සක්මනට ඉහලා. ඒ පින් බලේට අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වුනා. ඒවා ඔක්කොම පැහැදීමත් එක්ක එන්නෙ. දැන් මේවා කියනකොට තේරෙනවා නේද නිහතමානී අහිංසක වෙන්න ඕන කියලා. පණ්ඩිත වෙලා නම් මේවා, තර්ක විතර්ක කරලා වාද විවාද කරලා නම් මේ ලෝකයේ අර්හත්වයට පත්වෙච්ච කෙනෙක්, මගඵල ලබපු කෙනෙක් කොහෙවත් නෑ හොයාගන්න. ඊටපස්සෙ තියෙනවා තිස්ස භාග්‍යවතුන් වහන්සේ අතීතයේ කැලේ වඩිනකොට දැක්කා එක්තරා මානවකයෙක් හිටියා, එයාට බුදුරජාණන් වහන්සේ දැකලා වැඳ පුදාගන්න පුණ්‍ය සංස්කාරය නෑ, ඒ නිසා බුදුරජාණන් වහන්සේ එයා එන මාවතේ සිරිපා සටහන තිබ්බා. ඊටපස්සෙ අරයා දැකලා අම්මො පුදුම සහගත පා සටහනක් නේද මේක කියලා, මේක නම් සුලුපටු කෙනෙක්ගේ නෙවෙයි කියලා සිරිපා වලට වැඳලා. ඒ පින් බලයෙන් අර්හත්වයට පත්වෙලා අපේ බුද්ධ ශාසනයේ. සිරිපා මලින් පුදලා, සිරිපා ළඟ මල් මිටක් ඉහලා, ඊළඟට පක්ෂියෙක් වෙලා ඉඳලා සිරිපා ළඟ මලක් පුදලා, ඒ වගේ අර්හත්වයට පත්වෙච්ච පින්කම් තියෙනවා

පින්වතුනි. ඒ විදියට අප්‍රමාණ පින් කරගෙන තියෙනවා. මං ඔය පොඩ්ඩක් මතක් කලේ. ගොඩාක් බුදුරජාණන් වහන්සේලා ඇසුරේ පින් කරලා තමයි අපේ බුද්ධ ශාසනේ මාර්ගඵල ලබලා තියෙන්නෙ. ධර්මයේ, මං කිව්වෙ ධර්මය ඇසුරු කරගෙන පින් කලා කියලා, ධර්මය අහලා හිත පැහැදිච්ච අය ඒ කාලේ, ධර්මය අහලා පිරිකර පූජා කරගත්ත අය, දවසක් බුදුරජාණන් වහන්සේ නමක් අතීතයේ ධර්මය දේශනා කර කර ඉන්නකොට යක්ෂයෙක් ඒ බණ අහගෙන ඉඳලා සතුටට අත්පුඩි ගහලා සන්තෝෂයට. ඒ යක්ෂයාගේ ස්වභාවයනේ. ඒ පින් බලේට අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙලා තියෙනවා. ඒ වගේම සංඝයා ඇසුරේ පින් කරගත්ත ඒවා තමයි අතීතයේ රහතන් වහන්සේලාට දාන ශාලා හදලා දීලා, දැන් රට්ඨපාල මහරහතන් වහන්සේ අතීතයේ ආරාම පූජාවක් කරලා තියෙනවා කුටි පනස් හතරදාහක් හදලා සංඝයාට පූජා කරලා තියෙනවා රට්ඨපාල රහතන් වහන්සේ සංසාරෙ. ආරාම පූජාවක්. ඊටපස්සෙ සෝපාක ස්වාමීන් වහන්සේ අතීතයේ සංඝයාට කිරිබත් සහිත මහා සංඝදානයක් දීලා තියෙනවා. ඊටපස්සෙ තව එක්කෙනෙක් අර්හත්වයට පත්වෙලා ඒ රහතන් වහන්සේ ආපස්සට බලනකොට මම මොකක්ද කලේ කියලා, රහතන් වහන්සෙලාට පාර කියලා. ස්වාමීනී මේ පැත්තෙන් වඩින්න කියලා. පාරක් කියන එක කොච්චර පින් බලයක්ද කියලා බලන්න පින්වත්නි. ඊටපස්සෙ තව එක්කෙනෙක් අර්හත්වයට පත්වෙලා වෙස්සභූ බුදුරජාණන් වහන්සේගේ දවස ආරාමිකයෙක් ඒ කියන්නෙ දන් පැන් බෙදලා, අපි කියන්නෙ ඇබිත්තයා කියලා ආරාමෙ ඉන්න. ඒ ආරමයා අවංකවම ඇබිත්තකම කරලා. දානශාලාව පිරිසිදුව තියාගන්නවා. කුටි සෙනසුන් අස්පස් කරලා තියාගන්නවා. නිකාං පින් බත් කකා ඉන්නෑ, හොඳට වැඩ කරනවා. ඒ හොඳට වත් පිළිවෙත් කරපු විපාකෙට අපේ බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වුනා. ඒකයි සේවා වත්පිලිවෙත් කිරීමේ විපාක තියෙනවා හරියට. ඊටපස්සෙ දෙවියෝ වෙස් වළාගෙන ඇවිල්ලා දන්දීපු ඒවා. ඊටපස්සෙ තව තියෙනවා ඔය වගේ සංඝයාට මාංශ පූජා කරලා ඒ පින් බලයෙන් අර්හත්වයට පත්වෙච්ච අය. පසේ බුදුරජාණන් වහන්සේලා ගැන තියෙනවා දැන් අපේ මහාකාශ්‍යප මහරහතන් වහන්සේට ඔච්චර චීවර ලාභයක් ලැබුනේ, භාග්‍යවතුන් වහන්සේගේ උතුම් සිවුර පවා දරාගන්න ලැබුනනේ. ඒකට හේතුව තමයි අතීතයේ පසේ බුදුරජාණන් වහන්සේ නමකගේ සිවුරක් ඒ පසේ බුදුරජාණන් වහන්සේ මහද්දි රෙදි මදිවෙලා. මේ මානවකයා මේක දැකලා තමන්ගේ සළුව දීලා සිවුරේ ඉතුරු කොටස කරන්න. පසේ බුදුරජාණන් වහන්සේ නමකට. ඒ පින් බලයට අපේ

බුද්ධ ශාසනේ අර්හත්වයත්, වගේම බුදුරජාණන් වහන්සේගේ චීවර ධාතුව පොරවාගැනීමේ වාසනාවත් මහා කාශ්‍යපයන් වහන්සේට ලැබුනා. මහාකාශ්‍යප මහරහතන් වහන්සේ සංසාරෙ වැඩිපුරම ගොඩක් සිවුරු පූජා කරලා තියෙනවා පින්වත්නි. ඊටපස්සෙ පසේ බුදුරජාණන් වහන්සේලාට මල් පූජා කරපු ඒවා, ඊළඟට පසේ බුදුරජාණන් වහන්සේලාට පාවහන් පූජා කරපු ඒවා, ඊටපස්සෙ අපේ නන්දක ස්වාමීන් වහන්සේ, නන්දක භික්ෂුණීන්ට අවවාද කිරීමේ අග්‍රයි, නන්දක තෙරුන් වහන්සේ. ඒ නන්දක තෙරුන් වහන්සේ කරලා තියෙන්නෙ සංසාරේ, ඒ පසේ බුදුරජාණන් වහන්සේ නමක් වැඩ ඉන්න කැලේ මොණරෙක් වෙලා ඉඳලා තියෙන්නෙ. හැමදාම උදේට කුටිය ළඟට ඇවිල්ලා නාද කරනවලු සන්තෝසෙට. ඒ පින් බලේට තමයි අර්හත්වයට පත්වෙලා තියෙන්නෙ. මේ බලන්න පින්කම්. ඊටපස්සෙ ස්තූප සම්බන්ධයෙන් පින් කරලා තියෙනවා කියලා කිව්වනෙ මං රහතන් වහන්සේලා අතීතයේදී, ඒ කරලා තියෙන ඒවා තමයි බුදුරජාණන් වහන්සේගේ ස්තූප වලට මල් පූජා කරලා, ඊළඟට කච්චායන මහරහතන් වහන්සේ එච්චර ශරීරය රන්වන් වුනේ කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ සෑයට රන් ගඩොලක් පූජා කරලා. කිණිහිරියා මල් පූජා කරලා. සමහර අය ධාතු ගර්භයට ධර්මචක්‍රයක් පූජා කරලා. කොණ්ඩඤ්ඤ මහරහතන් වහන්සේට ඔච්චර ආනුභාවයක් එන්න හේතුව තමයි අතීතයේ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ ධාතු සෑයක ගර්භයේ මැණික් අල්ලලා. ඒ වගේම තමයි අතීතයේ එක සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ මට නම මතක නෑ, මගේ හිතේ විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලෙ. ඉස්සෙල්ලාම ඒ කාලෙ දෙවියෙක් වෙලා ඉඳලා තියෙන්නෙ කොණ්ඩඤ්ඤ රහතන් වහන්සේ. ඉස්සෙල්ලාම දානෙ පූජා කරලා තියෙන්නෙ උන්වහන්සේ. ඒ පින් බලය සහ ඒ වගේම විශේෂ අග්‍රශෂ්‍ය දාන නවයක් කරලා තියෙනවා බුද්ධ ශාසනයක, ඒවා මුල් කරගෙන තමයි ඉස්සෙල්ලාම ධර්මය අවබෝධ කරපු කෙනා බවට පත්වුනේ. ඉතින් ඒ වගේම සෑයට මල් පුදලා මල් ඉහලා මල් වලින් වහලා ආසන පූජා කරලා, පිලින්දවච්ඡ මහරහතන් වහන්සේ අතීතයේ ස්තූප පූජා ගොඩාක් කරලා තියෙනවා, ස්තූප හදලා තියෙනවා. සාමාන්‍යයෙන් සෑයක් හැදීමේ පින තමයි අග්‍රම පින එයාට මාර්ගඵල අවබෝධයට ඒ පින උපකාරී වෙනවාමයි. කොඩිවැල් පුදලා, මල් වැල් පුදලා, සෑ මළුවක් හදලා, සඳුන්වලින් චෛතියඝරයක් හදලා, දියබෙරලියා මලක් පුදලා, ඊළඟට තව තියෙනවා පරණ සෑයක වල් ඉවත් කරලා, ඒ සෑය ප්‍රතිසංස්කරණය කරලා, සෑයෙ හුණු ගාලා, ඒ පින් බලයට රහත් වෙච්ච අය ඉන්නවා. සෑය සළු

වලින් වහලා, ඊළඟට සෑයෙ තියෙන කුණුරොඩු ඉවත් කරලා, ඊළඟට බෝධීන් වහන්සේලා සම්බන්ධයෙන් කරපු පින් තියෙනවා. සුවඳ පැන් වලින් නහවලා, එක අතීතයේ මනුස්සයෙක් බෝධීන් වහන්සේ නමක් සුවඳ පැන් වලින් නාවලා වැඳගෙන ඉන්නකොට හෙණයක් වැදිලා මැරිලා එතනම, අදකාලෙ එහෙම වුනානම් මොනවා කියයිද. ඊටපස්සෙ ඒ මොහොතෙම චුතවෙලා දිව්‍ය රාජයෙක් වෙලා එයා කියනවා, අර කුණු කයට හෙණ වැදුනත් මොකද, මම දැන් දිව්‍ය රාජයෙක්නෙ. කියනවා. ඉතින් ඊටපස්සෙ තියෙනවා, බෝධිය ළඟ පහන් දල්වලා ඒ පහන් දල්වපු කෙනාට උපනුපන් සංසාරයේ මිත්‍යාදෘෂ්ටියක් ඇතිවෙලා නෑ, මොනවාහරි දෙයක් වැරදියි කියලා හිතෙනවා නම් එයාට තේරෙනවා වැරදි දේ. මිත්‍යා දෘෂ්ටියට යන්නෑ, ඊටපස්සෙ බෝධියක් රෝපණය කරලා ඒ පින් බලයට අර්හත්වයට පත්වෙලා. ඊටපස්සෙ මල් පූජා කරලා, තූර්යවාදනය කරලා, තව එක්කෙනෙක් බෝධීන් වහන්සේ නමකට තූර්ය වාදනය කරලා ඒ පින් බලයෙන් නිම්මාණරතියෙ ඉපදිලා. ඊටපස්සෙ තියෙනවා බෝධි මණ්ඩපයක් හදලා පිරියම් කරලා, ඊළඟට තව පුදුම සිද්ධියක් තියෙනවා, එක හොරෙක් හොරකමක් කරලා අහුවෙලා මිනිස්සු පන්නනවා. දැන් මෙයා බඩු දාලා කැලේ දුවනවා. දුවනකොට දුවනකොට එක් තැනක බුදු කෙනෙක්ගේ බෝධීන් වහන්සේ නමක් දැකලා. මෙයා මොකද කරලා තියෙන්නෙ කැලෑ මල් කඩලා බෝධීන් වහන්සේට පූජා කරලා වැඳලා ඇයි දැන් කල්පනා කරලා මෙයාට ජීවිතේම එපා වුනා, ඇයි දැන් ගමකටවත් කොහෙවත් යන්න බෑ. හොරකම අහුවුනා. ඉතින් මොකද කලේ, අර වැටුනු හිත තිබ්බෙ. මල් ටික ඔක්කෝම කඩලා බෝධියට පූජා කරලා මේ පිනම ඇති මට සංසාරයට කියලා වැඳගෙන ඉන්නකොට අර මිනිස්සු පිටිපස්සෙන් ආවා, ඇවිල්ලා ඔලුවටම ගැහුවා. ඒ වෙලාවෙ මැරුනා. සුගතියෙ උපන්නෙ බෝධීන් වහනසේට මල් පුදපු හින්දා. හොරකමේ කර්මය යට ගියා. එදා ඉඳලා සුගතියේ ඉපදුනේ දෙව් මිනිසුන් අතර, ඊළඟට අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වුනා. ඊළඟට දොලොස් මහේ පහනක්, ස්තීරසාර පහනක් පූජා කරලා, ඊළඟට ලස්සනට බෝමලුවේ ලස්සනට මල් තියලා, ඊටපස්සෙ බුදු ගුණ සිහි කරලා. ඊටපස්සෙ විශේෂ කාරණාවක් මම සටහන් කරගත්තා ඔය ඇත්තන්ට කියන්න කියලා, ඒ තමයි මේ බෝධීන් වහන්සේගේ මළුව ශුද්ධ කිරීමේ බෝපත් ඉවත් කිරීමේ පුණ්‍ය විපාක විස්සක් තියෙනවා. ඒ එකක් තමයි සම මෘදු වෙනවා, මොලොක් වෙනවා, සිනිඳු වෙනවා, සියුම් වෙනවා, සියුමැලි වෙනවා. ඒ බෝධීන් වහන්සේගේ බෝමළුවේ බෝපත් ඉවත් කිරීමේ පින, සිනිඳු ලස්සන හමක්

ලැබෙනවා. ඊළඟට ඇඟ කිලිටි වෙන්නෑ, දැන් ඔය සමහර අයගෙ බලන්න ඇඳුම් එහෙම තත්පරේට කිලිටි වෙනවානෙ. කිලිටි වෙන්නෑ, දාඩියෙන් ශරීරය කිලිටි වෙලා ගන්දස්සාරෙ ගහන්නෑ බෝමළුව ශුද්ධ කරපු පින් බලය තියෙනවා නම්. ඊළඟට චර්ම රෝග හැදෙන්නෑ, කුෂ්ඨ, ගඩු ලපකැලැල් පිළිකා දද ඒ වගේ ඒවා හැදෙන්නෙ නෑ, ඒ පින් බලය තියෙන තාක් කල්. ශාරීරික රෝග, මානසික පීඩා, ඔය මානසික පීඩා ආතති ඔයාලා ඒවට කියන්නෙ ස්ට්‍රෙස් කියලා, ඒවාගේ මොනවහරි තියෙනවා නම් ඔය වාගේ මොනවාහරි ජාතියක් බෝධීන් වහන්සේලාට දවස් හතක් එක දිගට උපස්ථාන කරන්න. බෝ මළුව ශුද්ධ කරන්න. වල් ගලවන්න. බෝපත් ඉවත් කරන්න. වැටුනු ඒවගේ. ඉතින් ඒ වගේ පින් කරලා දවස් හතක් විතර එක දිගට කරනකොට එහෙම්මම හිත සන්සිඳෙනවා. දැන් අපි සාමාන්‍යයෙන් අපි ළඟට ප්‍රශ්න කියාගෙන ආපු අයට විසඳුම් පිණිස මේවා බලලා අපි ඒවාට යොමු කරලා තියෙනවා හරියටම හරි. එක ළමයෙක්ගේ මූණේ ගොඩාක් දද දාලා මං ඒ ළමයා යොමු කලා බෝධිය අතුගාන්න. දවස් හතරක් එකදිගට ඒ බෝමළුවෙ වත් කරනකොට ඒ දද නැතිවෙලා ගියා. ඊටපස්සෙ එක ළමයෙක්ගේ ඇඟේ කුෂ්ඨයක් දාලා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ යොමු කරලා තිබ්බා සෑයට සුවඳ පැන් ඉහලා අතුපුතු ගාන්න. දවස් පහෙන් කුෂ්ටය නැතිවෙලා තිබුනා. මේ වගේ විපාක තියෙනවා. ඊටපස්සෙ සතුරෝ ඇතිවෙන්නෑ, බෝග සම්පත් වලට හානි වෙන්නෑ, ගිනි රජ සොර බිය ඒවගේ දේවල් ඇතිවෙන්නෑ, දැසි දස්සන්ගෙන් පරිවාර ජනයාගෙන් හිතට කරදර එන්නෙ නෑ, ඊළඟට එයාට කවුරුත් ඊර්සියා කරන්නෑ, ඊළඟට එයාට දීර්ඝායුෂ ලැබෙනවා. බෝග යසස කීර්තිය පැතිරෙනවා. ඊළඟට භය ඇතිවෙන්නෑ, අමනුෂ්‍යයන්ගෙන් හානිවෙන්නෑ, බෝධීන් වහන්සේලාට උපස්ථාන කරන අයට. ඒකයි ඔය අමනුෂ්‍ය ප්‍රශ්න තියෙන අය එක දිගට මාස තුනක් විතර බෝධීන් වහන්සේලාට උපස්ථාන කරන්න ඕන. එතකොට නැතිවෙලා යනවා ඒක. ඊළඟට නිවනට උපකාරී වෙලා තියෙනවා, ඒ වගේම දෙවියන් අතර උපදින්න උපකාරී වෙලා තියෙනවා. මේ විදියට පින්වතුනි බුදුරජාණන් වහන්සේ විෂයෙහි ශ්‍රී සද්ධර්මය විෂයෙහි ආර්ය මහා සංඝ රත්නය විෂයෙහි පසේ බුදුරජාණන් වහන්සේලා විෂයෙහි බෝධීන් වහන්සේලා විෂයෙහි, සෑරදාණන් වහන්සේලා විෂයෙහි ගොඩාක් පින්දහම් කුසල් දහම් රැස්කරලා තමයි නිර්වාණ බීජය ඇතිකරගෙන තියෙන්නෙ. ඉතින් මේ වෙනකොට ඔබ සංසාරයේ පින් කරගෙනත් ඇති. නමුත් මේ ජීවිතෙත් ඒ පින්දහම් කුසල් දහම් රැස් කරගන්න. මං මේවා කිව්වෙ ඇයි. සමහර අය

ඇත්තටම අහනවා පින්වතුනි, ස්වාමීන් වහන්ස කොහොමද පින් කරන්නෙ කියලා. එතකොට සමහර අයට කරන්න පිනක් තේරෙන්නෙත් නෑ. ඒ නිසා තමයි හැමදෙයක්ම මේ විදියට කියලා දුන්නෙ. එතකොට ඔබට ඒ කරුණු කාරණා තේරුම් ගන්න පුලුවන්. පින්වතුනි අපි අද වැඩසටහන අවසන් කරන්න කලින් අපි ඔබට කියලා දෙන්නම් එක්තරා සූත්‍ර දේශනාවක්. මේ දේශනාවෙන් ඔබට තේරුම් ගන්න පුලුවන් දිව්‍ය ලෝකයක උත්පත්තියක් කරා යන්නෙ කොහොමද කියලා. දැන් අපි දෙව්ලොව කතාවනෙ යන්නෙ. මම ඉතින් අර අතීතයේ රහතන් වහන්සේලාගේ ජීවිත තේරෙන්න තමයි අර වගේ විස්තරයක් කියලා දුන්නෙ. අපි දැන් බලමු පින්වතුනි තවත් විස්තරයක්. ඒ තමයි දිවැසින් දුටු දෙව්ලොව සැපනේ මේ කියන්නෙ. අපි බලමු කොහොමද මේ උත්පත්තිය සකස් වෙන්නෙ කියලා. බුදුරජාණන් වහන්සේ පුණ්‍යකිරිවත්ථු අංගුත්තර නිකායේ පහේ ඒ දේශනාවෙ වදාළා පිනට මුල්වෙන කරුණු තුනක් තියෙනවා. ඒ එකක් තමයි දාන සීල භාවනා, ඔය කාරණා තුන. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මෙහිලා කෙනෙක් දානය මුල් වී කරන ලද පුණ්‍ය ක්‍රියාව ස්වල්ප වශයෙන් කරලා, දානමය පින පොඩ්ඩයි කරලා තියෙන්නෙ. සීලයේ පිනත් පොඩ්ඩයි කරලා තියෙන්නෙ. ඒ වගේම භාවනාව මුල් වී කරන ලද පුණ්‍ය ක්‍රියාව නොසැපයෙන ලද්දේ, භාවනාවක් කරලම නෑ. එතකොට දානයේ පින පොඩ්ඩයි සීලයේ පින පොඩ්ඩයි භාවනා කරලා නෑ. මෙයා මිනිස්සු අතරට එනවා. ආවට පස්සෙ දුප්පත් වෙලා ඉපදෙන්නෙ. පින් නෑ, දුප්පත් වෙලා උපදිලා තියෙන්නෙ පින් නෑ. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ වදාළා කෙනෙක් ඉන්නවා දානය මුල් වී කරන ලද පුණ්‍ය ක්‍රියාව ප්‍රමාණවත්. ප්‍රමාණවත් මට්ටමට දානය කරලා. සීලයත් ප්‍රමාණවත් මට්ටමට සිලුත් රැකලා. හැබැයි භාවනාව කරලා නෑ. මෙයා මරණින් මත්තේ මිනිස්සු අතර ඉපදෙනවා හැබැයි ධනවත්. වාසනාවන්තයි, පින් තියෙනවා එයාට. කෙනෙක් දානය මුල් වී කරන ලද පුණ්‍ය ක්‍රියාව අධික ලෙස කරලා, සීලයේ පිනත් අධික ලෙස, පන්සිල් සමාදන් වෙනවා, හතරපෝයට සිල් ගන්නවා, පෝයට උපෝසථය සමාදන් වෙනවා, සීලය අධික කරලා, හැබැයි භාවනාමය පින කරලා නෑ. භාවනාමය පින කියන්නෙ පින්වතුනි භාවනාව ධ්‍යාන මට්ටමට එනකල් සමාධිගත කරලා නෑ. මෙයා මැරුණට පස්සෙ උපදිනවා චාතුම්මහාරාජිකයේ. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, චාතුම්මහාරාජිකයේ ඉන්නවා දතරාෂ්ට්‍ර, විරූඩ, විරූපාක්ෂ, වෛශ්‍රමණ කියලා දෙවිවරු හතර දෙනෙක්. ඒ චාතුම්මහාරාජිකයේ ඉන්න අනිත් දෙවිවරුන්ට වැඩිය මේ දෙවිවරුන් හතරදෙනා ඔය පින්කම් වැඩිපුර

කරගෙන තියෙනවා. ඒ නිසා තමයි අනෙක් දෙවිවරුන්ට වැඩිය දිව්‍ය ආයු වර්ණ සැප බල අධිපති සහ දිව්‍ය රූප ශබ්ද ගන්ධ රස පහසෙන් අනෙත් දෙවිවරුන්ට වැඩිය වැඩියි. එතකොට එහෙනම් ඒ දිව්‍ය ලෝකයේ නායකකම ප්‍රධාන කම එන්නෙ පින වැඩි නිසා. ආයෙ ඡන්ද නෑ, ඒ මොනවත් නෑ ඒ ලෝක වල. ඊළඟට පින්වතුනි ඔන්න කෙනෙක් දානමය පින හොඳට කරනවා. සීලමය පිනත් හොඳට කරනවා. හැබැයි භාවනා පින කරලා නෑ, ඒ වාගේ කෙනෙක් මැරුණට පස්සෙ උපදිනවා තව්තිසාවෙ. සක්දෙවිඳුගෙ ලෝකෙ. පින්වතුනි, බුදුරජාණන් වහන්සේ වදාළා, එහි සක්‍රදේවේන්ද්‍ර තෙමේ දානය මුල්ව කරන ලද පුණ්‍ය ක්‍රියාව පමණට වැඩියෙන් කරපු නිසා, සීලයේ පින පමණට වැඩියෙන් කරපු නිසා, අනිත් දෙවිවරු ඒ තව්තිසාවෙ අනිත් දෙවිවරුන්ට වඩා දිව්‍ය ආයු වර්ණ සැප බල රූප ශබ්ද ගන්ධ රස පහස අධිපතිකමින් වැඩියි. ඒ නිසා තමයි සක්දෙවිඳු ඒ ලෝකයේ ප්‍රධානියා වුනේ. ඒ ඉන්න අනිත් අයට පින වැඩියි. බුදුරජාණන් වහන්සේ වදාළා කෙනෙක් ඔන්න දානමය හොඳට දන්දෙනවා. හොඳට සිල් රකිනවා. ඊටපස්සෙ මොකද වුනේ. ඒ විදියට හොඳට පුණ්‍ය ධර්මයන් රැස් කරලා හැබැයි භාවනාව දියුණු කරන්නෑ, මෙයා මැරිලා ගිහිල්ලා යාම දිව්‍යලොකෙ උපදිනවා. පින්වත් මහණෙනි, යාම දෙවියන් අතර සුයාම කියලා දිව්‍ය රාජයෙක් ඉන්නවා. ඒ තමයි ප්‍රධානිය. එයා එච්චර ප්‍රධානියෙක් වුනේ, අධිපති වුනේ එයා ඒ පින්කම් අනිත් අයට වැඩිය වැඩිපුර කරලා. දැන් ජේනවා නේද දිව්‍ය ලෝක වල ස්වභාව. ඊටපස්සෙ තියෙනවා මෙහි යම්කිසි කෙනෙක් දානය මුල් වී කරන පින වැඩිපුර කරනවා. සීලයේ පින වැඩිපුර කරනවා. හැබැයි භාවනාවේ පින කරලා නෑ. එතකොට මේ දිව්‍ය ලෝක වල අය භාවනාවේ පින රැස් කරලා නෑ, ඊටපස්සෙ මෙයා උපදිනව තුසිත දෙවියන් අතර. තුසිත දිව්‍ය ලෝකයේ ඉන්නවා සන්තුසිත කියලා දිව්‍යරාජයෙක්. ඒ තමයා ප්‍රධානියා. පින්වත් මහණෙනි, ඔහු එච්චර අධිපති වුනේ තුසිත දිව්‍යලෝකෙ අනිත් අයට වැඩිය දානයෙන් සීලයෙන් පින වැඩියි එයාට. අනිත් දෙවිවරුන්ට වැඩිය දානයේ පින වැඩියෙන් කරලා. සීලමය පින වැඩියෙන් කරලා. හැබැයි භාවනාවේ පින මේ අය රැස් කරගෙන නෑ. මෙතන භාවනාමය දේවල් කියලා කියන්නෙ පින්වත්නි, ඒක මං අවසානෙට විස්තර කරලා දෙන්නම් මොකක්ද කියලා. ඊළඟට පින්වත්නි තියෙනවා ඔන්න තව කෙනෙක් ඉන්නවා දානමය පින වැඩිපුර කරනවා, දන්දෙනවා ගොඩ. ගොඩ සිල් රකිනවා. ඊටපස්සෙ මෙයා, හැබැයි භාවනාමය පින රැස් කරගෙන නෑ, මෙයා ගිහිල්ලා උපදිනවා නිම්මාණරතියෙ. නිම්මාණරතියේ ඉන්නවා ප්‍රධානියෙක් සුනිම්මිත කියලා දිව්‍ය රාජයෙක්.

සුනිම්මිත දිව්‍ය රාජයා අනෙක් දෙවිවරුන්ට වැඩිය අධිපතිකමින් දිව්‍ය රූප ශබ්ද ගන්ධ රස පහස දිව්‍ය ආයු වර්ණ සැප බල අධිපති කියන ඒ කාරණා දහයෙන් අග්‍ර වුනේ අනිත් අයට වැඩිය ඒ පින් වැඩිපුර කරලා තියෙන නිසා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා, තව කෙනෙක් ඉන්නවා එයා සීලමය පින වැඩිපුර කරනවා, දානමය පින වැඩිපුර කරනවා, භාවනාව මුල් වී කරන ලද පුණ්‍ය ක්‍රියාව නොසැපයෙන ලද්දේ වේ. ඔහු කය බිඳී මරණින් මතු පරනිම්මිතවස්වර්තියේ දෙවියන් අතරට යයි. මහණෙනි, එහි වසවර්ති දිව්‍ය පුත්‍ර තෙමේ දානය මුල් වී කරන ලද පුණ්‍ය ක්‍රියාව පමණට වැඩියෙන් කලා. සීලය මුල් වී කරන පුණ්‍ය ක්‍රියාව පමණට වැඩියෙන් කරපු නිසා තමයි අනිත් දෙවිවරුන්ට වැඩිය අධිපති වෙලා වාසය කරන්නේ කියලා දිව්‍ය ලෝක හයේ විස්තර කිව්වා. පින්වතුනි පුණ්‍ය සංස්කාර නැත්නම් මේ කර්ම වල ස්වභාවවල් තුනකට තියෙනවා. එකක් තමයි පුඤ්ඤාභිසංස්කාර, අනිත්එක තියෙනව අපුඤ්ඤාභිසංස්කාර, අනිත් එක තමයි ආනිඡ්ජාභිසංස්කාර කියලා. එතකොට ආනිඡ්ජාභිසංස්කාර කියන එක රැස් වෙන්නෙ භාවනාව තුල. සමාධිය තුළ, ධ්‍යානය තුළ. එතෙකොට අකුසල, අපුඤ්ඤාභිසංස්කාර වලින් තමයි සතර අපායට වැටෙන්නෙ. පුඤ්ඤාභිසංස්කාර වලින් තමයි මනුෂ්‍ය දිව්‍ය උපත් සකසන්නෙ. ආණිඡ්ජාභිසංස්කාර වලින් තමයි බ්‍රහ්ම ලෝක වල උප්පත්තිය සකසන්නෙ. එතකොට බ්‍රහ්ම ලෝක වල උත්පත්තිය පිණිස නම් භාවනාවේ නොපිරිහුණු සමාධිය, නොපිරිහුණු ධ්‍යාන, නොපිරිහුණු බ්‍රහ්මවිහරණ ඕන. ඉතින් ඒ නිසා බ්‍රහ්ම ලෝක වල ස්වභාවවල් මීට වැඩිය පින්වතුනි පුදුම විදියට වෙනස්. ඒ නිසා අපි ඊළඟ දවසේ වැඩසටහනේ, ඊළඟ දවසේ වැඩසටහනේදි බ්‍රහ්ම ලෝක සහ මේ ලෝක තල ඉහළටම කොච්චර තියෙනවද කියලා පුදුම හිතෙනවා පින්වතුනි බුදුරජාණන් වහන්සේ විස්තර කරලා තියෙන විස්තර. අපි ඊළඟ වැඩසටහනේදි ඒ බ්‍රහ්ම ලෝක වල විස්තර ඉගෙන ගන්නවා. ඊළඟට තවත් කාරණාවක් කියන්න තියෙනවා මේ දිව්‍ය ලෝක වල උපදින්නෙ කොහොමද කියලා බුදුරජාණන් වහන්සේ වදාළා සැප ලබාදෙන්නා වූ සැප විපාක ඇති ස්වර්ගයෙහි උපත පිණිස පවතින්නා වූ, ස්වර්ගය කියන්නෙ දෙව්ලොවනෙ, ඉෂ්ට වූ කාන්ත වූ මනාප වූ, හිත සුව පිණිස පවතින්නා වූ මේ පූණ්‍ය ගංගාවෝ කුසල් ගංගාවෝ අටකි. ඒ කවර කරුණු අටක්ද, කාරණා අටක් තියෙනවා ඒ අටෙන් තමයි දිව්‍ය ලෝක උප්පත්තිය හදලා දෙන්නෙ. ඒ දිව්‍ය ලෝක උප්පත්තියට පින එනවා ගඟකින් වගේ. මොනවද ඒ කාරණා අට, මහණෙනි මෙහිලා ආර්ය ශ්‍රාවකයා බුදරජාණන් වහන්සේ සරණ

ගියා නම් අන්න පළවෙනි කුසල් ගඟ. දෙවෙනි එක ශ්‍රී සද්ධර්මය සරණ ගියා නම්, තුන්වෙනි එක ආර්ය මහා සංඝරත්නය සරණ ගියා නම්, හතරවෙනි එක තමයි පින්වත් මහණෙනි මේ ලෝකෙ බුදුවරු ප්‍රශංසා කරපු අග්‍ර දාන තියෙනවා, මොනවද ඒ පළවෙනි දානය තමයි සත්තු නොමරා ඉන්න එක. සත්තු නොමරා හිටියට පස්සෙ අන් අයට අභය අවෛරය දන්දෙනවා. එතකොට ලෝකෙ මිනිස්සුන්ට බයක් වෛරයක් නැතිව ඉන්න පුලුවන්. ඒක හරියට උපකාරී වෙනවා කිව්වා සුගතියේ උපදින්න. ඒකෙන් පින් ගලන්න ගන්නවා කිව්වා සත්තු නොමරා ඉන්නෙකොට. හතර වෙනි එක තමයි ඒ. පස්වෙනි එක තමයි සොරකම් නොකර ඉදීම. ඊළඟට වැරදි කාම සේවනය නොකර ඉදීම. මුසා බොරු කියන්නැතිව ඉන්න එක. සුරාව පානය නොකරන එක. ඔන්න කාරණා අට. තුණුරුවන් සරණයි, පන්සිල් පද පහයි. මේකෙන් තමයි කිව්වා පින් උනන්නෙ, පින් ගලන්නෙ. දෙව්ලොව සුගතිය උපත පිණිස ඉෂ්ටකාන්ත මනාප සැප සම්පත් උපද්දනවා කිව්වා. දැනුත් මේ කාරණාවෙනුත් තේරුම් ගන්න පින්වතුනි බුදුරජාණන් වහන්සේ මේ තෙරුවන් සරණයි පඤ්චසීලයයි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයාට වදාළේ කොච්චර අනුකම්පාවෙන්ද කියලා. කොච්චර කරුණාවෙන්ද මෛත්‍රියකින්ද කියලා තේරුම් ගන්න. මේ විදියට මේ ත්‍රිපිටකාගත ධර්මය පුරාවටම සුගති සම්පත්තිය පිණිස කරුණු තියෙනවා. සමහර අය සුගතිය ගැන අහනකොට දන්නෑ වගේ. දැන් ඔය පහුගිය කාලේ අපිට සුගතිය ගැන කියනකොට කෝ සුගතියට ටිකට් එකක් දීපල්ලා කියලා කට්ටිය කෑගැහුවා. මේ ත්‍රිපිටකාගත ධර්මයේ කොච්චර සුගතියට යන වැඩපිළිවෙලවල් තියෙනවාද. ඒවා තවත් කෙනෙක් තවත් කෙනෙකුට දෙන්න බෑ, තමන් විසින් උපද්දවාගත යුතුයි. තුණුරුවන් සරණයි, සිල්වත් බවයි, ශ්‍රද්ධා සීල සුත ත්‍යාග ප්‍රඥා ආදී ගුණධර්ම. ඒනිසා වාද විවාද නැතිව අපි පින්වතුනි අපි කවුරුවත් ඒ හැටි කාලයක් ඉන්නෑ. අපි ටික කාලයකින් අපි ජීවිතේ අත්හරිනවා. ඒ නිසා මේ ජීවිතයේ අපි එකිනෙකා වාද විවාද නොකරගෙන මේ බුද්ධ ශාසනයේ අහිංසකව පිහිටක් පිළිසරණක් ලබාගන්න අපි උත්සාහ කරමු. ශාස්තෘන් වහන්සේගේ ශ්‍රී සද්ධර්මය නැමැති අණබෙරය මම මේ ශක්ති පමණින් නුඹලාට මේ පින්වතුන්ට මේ කියලා දුන්නේ අණබෙර පණිවිඩය අරන් ආවෙ. මගේ කෘත්‍යය මං කලා. ඒ නිසා ඔබ කැමති නම් ඒවා පිළිපදින්න. තමන්ගේ සුගතිය තමන්ගේ සසර ගමන, ගැන ඔබම කල්පනා කරලා බලන්න. ඉතින් ඒ නිසා පින්වතුනි අපි ඒ විදියට තමයි අද දවසේ ඔය දහම් කාරණා මේ පින්වතුන්ට කියලා දෙන්නෙ.

අපේ ඊළඟ වැඩසටහන තමයි දිව්‍යැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහනේ අවසාන වැඩසටහන ඊළඟ දවසෙ තියෙන්නෙ. ඒ ඊළඟ දවසෙ අපි කරන වැඩසටහනින් සියලු බ්‍රහ්ම ලෝක සහ සියලු ලෝක ධාතු පිළිබඳව බුදුරජාණන් වහන්සේ දේශනා කරපු කරුණු යම් පමණකින් කියලා දෙනවා. ඒ නිසා අවසාන වැඩසටහනට එකතු වෙන්න. එපමණකින් දිවැසින් දුටු දෙව්ලොව දහම් වැඩසටහන අවසන් වෙනවා. ඉතින් අද දවසේ මේ උතුම් දහම් වැඩසටහන එක්ක ඔබ සම්බන්ධ වුනා. ඒ නිසා පින්වතුනි මෙතෙක් දුරට ඒ ධර්මය ශ්‍රවණය කලා වගේ බලමු අපි ඊළඟට බුදුරජාණන් වහන්සේ බ්‍රහ්ම ලෝක ගැන විස්තර කරපු දේශනාත් අපි අහලා ඉමු. හොඳයි ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දැරුවේ ගිරාදුරුකෝට්ටේ වටරවුම් පාරේ අංක 6 නිවසේ පදිංචි පින්වත් ආර්.එම්. ඥාණවතී මහත්මිය විසින්. ඉතින් මේ පින්වතුන් අප්‍රමාණ පින් රැස් කරගත්තා. ඒ වගේම අපිත් බොහෝ කාලයක් ධර්ම දේශනා කරමින් පින් රැස් කරගත්තා. ඔබත් ධර්මය ශ්‍රවණය කරලා පින් කරගත්තා. අපි සියලු දෙනාම පතමු ලක්දෙරණට ව්‍යසනයක් වූ මේ ලෝකෙට ව්‍යසනයක් වූ ඒ වසංගත තත්ත්ව ලෝකෙන් තුරන් වේවා. මේ මනුස්ස වර්ගයාට සැනසිල්ලේ ජීවත් වෙන්න සියලු ආරක්ෂාව මේ පින් බලයෙන් සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම පින්වතුනි අපි විශේෂයෙන් සියලුම දෙවි දේවතාවුන් වහන්සේලාට පින් අනුමෝදන් කරනවා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා, දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වෙන දෙවියෝ මේ පින්වතුනුත් සියලුම සත්ත්වයිනුත් ආරක්ෂා කරත්වා සියලු දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම මේ සියලු පින් අනුමෝදන් වෙත්වා 2006.07.01 වෙනි දින යුද හමුදාවේ සේවයේ යෙදී සිටියදී ත්‍රස්ත ප්‍රහාරයකින් මියගිය සරත් වීරකෝන් බණ්ඩාර ස්වාමිපුරුෂයාට මේ පින් අනුමෝදන් වෙත්වා කියලා එතුමිය බලාපෙරොත්තු වෙනවා ඥාණවතී මහත්මිය. ඉතින් ඒ ක්‍රියාන්විත රාජාකාරියේ යෙදී සිටියදී ඒ ත්‍රස්ත ප්‍රහාරයකට අහුවුන ඒ අකාලයේ මියපරලොව ගිය මහත්මයාට මේ සියලුම පින් අනුමෝදන් වී මෙවැනි වූ අකල් මරණ මේ ව්‍යසන තියෙන මේ සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු වාසනා වේවා කියලා ඒ පරලොව ඥාතීන්ට අපි පින් අනුමෝදන් කරමු. ඒ වගේම පරමපූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ පූර්ණ ආශිර්වාදයෙන් අනුකම්පාවෙන් අපි මේ දහම් වැඩසටහන මේ විදියට කරන්නෙ. ඉතින් පරමපූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු

ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලු ස්වාමීන් වහන්සේලාට අනගාරිකා මෑණිවරුන්ට පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පින්වත් ආර්.එම්. ඥාණවතී මහත්මියට ගිරාදුරුකෝට්ටේ වටරවුම් පාර අංක 6 නිවසේ, එතුමියටත් ඒ වගේම කෞෂික ශෙහාන් චාමර වීරකෝන් පුතාටත්, කාවින්දයා කෞමිණී විරකෝන් දියණියටත් අධ්‍යාපන කටයුතු ආදිය සාර්ථක කරගැනීම පිණිස තුණුරුවන්ගේ ආශිර්වාදය මේ පින් බලය දෙවියන්ගේ රැකවරණය සැලසේවා. ධර්මාවබෝධයට මේ පින් උපකාර වේවා. ඒ වගේම පැවිද අපේක්ෂක පින්වත් ශෂික ඉෂාර පුතාට මේ පින් අනුමෝදන් වී ඒ දරුවාගේ පැවිදි ජීවිතය සම්පූර්ණයෙන් සර්වප්‍රකාරයෙන් සත්පුරුෂ ඇසුරේ ගුරු ඇසුරේ සාර්ථක වේවා. ඒ වගේම සුජීවත්ව සිටින මෑණිවරුන් දෙපළට පියවරුන් දෙපළට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. ගෞතම බුද්ධ ශාසනයේම ධර්මය අවබෝධ කරගන්න මේ ඇත්තන්ට මේ පින් උපකාර වේවා. ඒ වාගේම අද දවසේ රැස්කරගත්ත පින ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන් විදුලියේ ධර්ම දායකත්ව පවත්වන සියලු දෙනාට ඒ වගේම කාර්ය මණ්ඩලයේ දරුවන් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙත්වා, අපිව හැදූ වැඩූ දෙමව්පියන්ට අකුරු කෙරූ ගුරුවරුන්ට පින්සිදු වේවා. මේ ධර්මය ශ්‍රවණය කළ ඔබ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා, අපි කාටත් සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=A3Y3PWxfVoY&list=PLaIyA_suCnHwSfuuqV9wbDravUtImd91s&index=20

නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස

තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වතුනි, දිවැසින් දුටු දෙව්ලොව සැප උතුම් දහම් වැඩසටහන ආරම්භ කරලා දැන් බොහෝ දවසක් ගතවුනා. ඉතින් අපි ශක්ති පමණින් ඔබට

ඒ තථාගත ශ්‍රී සද්ධර්මය කියලා දුන්නා. ඔබට භාග්‍යය ලැබුනා බුදුරජාණන් වහන්සේ වදාළ ඒ උතුම් ශ්‍රී සද්ධර්මය පේතවත්ථු විමානවත්ථු පාලිය සම්පූර්ණයෙන්ම ඉගෙන ගන්න අටුවා සහිතව භාග්‍යය ලැබුනා. ඒ විතරක් නෙවෙයි ඒ දේශනා වලට සමගාමී සූත්‍ර දේශනා වෙනත් සූත්‍ර දේශනාත් ඉගෙන ගන්න ලැබුනා. අද මේ දහම් වැඩසටහනේ විශේෂත්වයක් තියෙනවා. ඒ තමයි අපි මෙතෙක් කරගෙන ආ දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහනේ අවසාන කොටසයි අද. අද ඔබට ගොඩාක් විස්තර ඉගෙන ගන්න ලැබෙනවා. ඒ වගේමයි මෙතෙක් ඔබ ඉගෙන ගත්ත දේවල් වල සංක්ෂිප්තය ගොනු කරගන්න ලැබෙනවා. ඒ නිසා කන් යොමුකරගෙන අහන්න ඕන. ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර මහමෙව්නා භාවනා අසපුවේ සාමාජිකාවක් වන පින්වත් කරුණා කුමාරගේ  මහත්මිය විසින්. ඉතින් එතුමිය තමයි අද වාසනාවන්ත වෙන්නෙ අපි මෙතෙක් කරගෙන ආ දහම් වැඩසටහනේ පරිසමාප්තිය කරා ගෙනිහිල්ලා ඒ දහම් වැඩසටහන ගොනු කරගන්න. ඒ වගේම ගොඩාක් අද දවසේ බ්‍රහ්ම ලෝක ගැන සහ ගොඩාක් ලෝක ධාතු ගැන ඔබට ඉගෙන ගන්න ලැබෙනවා. එතකොට ඒ ධර්මය ශ්‍රද්ධා රූපවාහිනිය ලක්විරු ගුවන්විදුලිය ඔස්සේ විකාශනය කරවන පින, ධර්ම දානය දෙන පින මේ පින්වතුන්ට සැලසෙනවා. ඉතින් පින්වතුනි අපි අද දහම් දේශනාව ආරම්භ කරමු. බුදුරජාණන් වහන්සේ තුල තිබුනු, මේ දිවැසින් දුටුව බුදුරජාණන් වහන්සේගේ ලෝකය පිළිබඳව තියෙන දැනුම, ඥාණය, අවබෝධය, සිතාගත නොහැකි දෙයක්. අපේ පුංචි සිත්වලට දරාගත නොහැකියි. සිතා ගත නොහැකියි. ඉතින් ඒ නිසා බොහෝ දේවල්, බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ බොහෝ දේවල් උපමාවලින් තමයි පින්වතුනි කියන්න සිද්ධ වෙලා තියෙන්නෙ. හේතුව උපමාවක්වත් නැතිව හිතාගන්න බෑ, ඉතින් බුදුරජාණන් වහන්සේ සියලු ලෝක ධාතු දැකලා තමයි මේ නිරය තිරිසන් ලෝක ප්‍රේත ලෝකය, අසුර ලෝක, ඒ වගේම දෙව්මිනිස් ලෝක, බ්‍රහ්ම ලෝක ගැන වදාළේ. බුදුරජාණන් වහන්සේගේ ලෝකධාතු පිළිබඳ තියෙන ඥාණයත් දිවැසත් ඒ වගේම දිව්‍ය ශ්‍රවණයත් අනේකවිධ බුද්ධ ඥාණත් තේරුම් ගන්න කාරණාවක් කියන්නම්. ඒ තමයි පින්වතුනි බුදුරජාණන් වහන්සේගෙන් දවසක් ආනන්ද ස්වාමීන් වහන්සේ ඇහුවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස සිඛී බුදුරජාණන් වහන්සේගේ අග්‍රශ්‍රාවකයන් වන අභිබූ මහරහතන් වහන්සේ බ්‍රහ්ම ලෝකෙ ඉඳලා ලෝකධාතු දාහකට සහස්සී ලෝක ධාතුවටම ලෝක ධාතු දාහකට ඇහෙන්න

කතා කලා කියලා බුදුරජාණන් වහන්සේ අපිට කියලා තියෙනවා. ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස, අපේ බුදුරජාණන් වහන්සේට කොච්චර පුලුවන්ද. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් ආනන්ද අභිබූ භික්ෂුව කියන්නෙ ශ්‍රාවකයෙක්. අප්පමේය ආනන්ද තථාගතා. ආනන්ද තථාගතයන් වහන්සේගේ ඒ හැකියාව අප්‍රමාණයි. අනේ ස්වාමීනී අපි දැනගන්න කැමතියි, මේ විදියට තුන්පාරක් ආරාධනා කළාට පස්සෙ බුදුරජාණන් වහන්සේ එහෙනම් වදාළා ආනන්ද චූලනිකා ලෝකධාතුව දන්නවද. චූලනිකා සහස්සී ලෝකධාතුව දන්නවද කියලා ඇහුවා. අනේ ස්වාමීනි, ඒතස්ස භගවා කාලෝ, ඒතස්ස සුගත කාලෝ භාග්‍යවතුන් වහන්සේ මේ එයට කාලයයි, සුගතයන් වහන්ස මේ එයට කාලයයි. ඉතින් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන සේක්වා අපි ඒවා දරාගන්නවා. බුදුරජාණන් වහන්සේ වදාළා ආනන්ද මේ හිරුගෙන් සඳුගෙන් ආලෝකමත් වන ලෝක තියෙනවානෙ, එවැනි ලෝක දාහක් තියෙනවා. එවැනි ලෝක ධාතු දාහක් තියෙනවා. එතකොට ඒ ලෝක ධාතු දාහෙ ආනන්ද ඉරවල් දාහක් තියෙනවා. හඳවල් දාහක් තියෙනවා. ඊළඟට ජම්බුද්වීප, පූර්වවිදේහ, අපරගොයාන, උතුරුකුරුදිවයින කියලා සතර මහා දිවයින් තියෙනවානෙ, ඒවා දාහ බැගින් තියෙනවා. ආනන්ද, සිව් මහා සමුදුරු තියෙනාවානෙ. ඒ ලෝක ධාතු දාහෙ සාගර හාරදාහක් තියෙනවා. ආනන්ද, ඒ ලෝක ධාතු වල චාතුම්මහාරාජික දාහ ගානෙ තියෙනවා. ආනන්ද, තාවතිංස ලෝක දාහයි, යාම ලෝක දාහයි, ඊළඟට තුසිත දාහයි, නිම්මාණරති දාහයි, ආනන්ද පරිනිම්මිත වසවර්ති දාහක් තියෙනවා ඒ ලෝක ධාතුවෙ. ආනන්ද බ්‍රහ්ම ලෝක දාහ ගානෙ තියෙනවා. ආනන්ද ඒ වාගේ ඒ ලෝක ධාතු සියල්ලටම කියනවා සහස්සී චූලනිකා ලෝක ධාතුව කියලා. ආනන්ද ඒ සහස්සී චූලනිකා ලෝකධාතු දාහක්, එවැනි ලෝක ධාතු දාහක් තියෙනවා, ඒකට කියනවා ද්විසහස්සී මජ්ඣිමා ලෝකධාතුව කියලා. එතකොට හිතාගන්නකො අර වගේ ඒවා දාහක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඒ ද්විසහස්සී මජ්ඣිමා ලෝක ධාතු වගේ තව දාහක් තියෙනවා. ඒකට කියනවා ආනන්ද ත්‍රිසහස්සී මහාසහස්සීලෝක ධාතුව කියලා ආනන්ද තථාගතයන් වහන්සේට පුලුවන් ඒ දක්වා කතා කරන්න, ඕන නම් එතනටත් එහා. පින්වතුනි මේවා දන්න එක දකින එකනෙ ආනුභාවය, කතා කිරීම ගැන කවර කතාද. ආනන්ද ස්වාමීන් වහන්සේ අහනවා, ස්වාමීනි භාග්‍යවතුන් වහන්ස එච්චර ඈතට එතනිනුත් එහාට මගේ ශාස්තෘන් වහන්සේ කතා කරන්නෙ කොහොමද, හඬ පතුරන්නෙ කොහොමද. ආනන්දය ඉස්සෙල්ලා මම

ආලෝකයක් පතුරවනවා. ඒ ආලෝකය පතුරවනකොට ඒ ලෝක ධාතුවල ඉන්න සත්ත්වයෝ ඒ ආලෝක කෙරෙහි හිත පිහිටුවනවා මොකක්ද මේ ආලෝකය කියලා. එතකොට තථාගතයන් වහන්සේ කතා කරනවා, ඒ විදියටයි ආනන්ද ඒ ලෝක ධාතු කෙරෙහි ස්වරය විඥ්ඥාපනය කිරීම තියෙන්නෙ. අච්චරියං වත බෝ අද්භූතං වත බෝ යාවඡ්ජීතං අලමේව සත්තා ඒවං මහිද්දිකෝ හෝතිං මහානුභාවො, ආශ්චයර්යයි ආනුභාවයි මාගේ ශාස්තෘන් වහන්සේ මෙච්චර ආනුභාව සම්පන්න මහා ඍද්ධිමත් උත්තමයෙක්නේ කියලා සාධුකාර දුන්නා ආනන්දයන් වහන්සේ. උදායි හාමුදුරුවො ළඟ ඉඳලා කියනවා, ආනන්ද මොකෝ කෑගහන්නෙ ඔහේගෙ එකක්යැ බුදුරජාණන් වහන්සේගෙනෙ. මා ඒවං උදායී, උදායී එහෙම කියන්න එපා. බුදුරජාණන් වහන්සේ වදාළා. උදායී එහෙම කියන්න එපා. ඔය ආනන්දට මේ මොහොතට ඇතිවුනු ප්‍රසාදයෙන් ආනන්ද හත් වතාවක් සක්‍ර පදවිය ආනන්ද ධර්මය අවබෝධ නොකර, කාම රාගය දුරු නොකර මැරුණොත් එහෙම හත් වතාවක් සක්‍ර පදවිය ලැබෙනවා. හත් වතාවක් සක්විති රජ වෙනවා කිව්වා ඒ මොහොතේ ඇතිවුනු චිත්ත ප්‍රසාදයට. බුදුගුණ අහලා ඇතිවුනු චිත්ත ප්‍රසාදය, ඒවගේ පින් ගැන කියලා නිමකරන්න බෑ. බුදුරජාණන් වහන්සේ අචින්තනීය ගුණ වලින් යුක්තයි. විපාකෝ හෝති අචින්තියෝ, පැහැදුනොත් විපාක අග්‍රයි, අචින්තනීයයි. ඊටපස්සෙ ඉතින් බලන්න නමුත් බුදුරජාණන් වහන්සේ වදාළා ආනන්ද මේ ජීවිතේම පිරිනිවන් පානවා. ඉතින් බුදුරජාණන් වහන්සේගේ ලෝක ධාතු පිළිබඳ දැනුම, මේක කියනකොට කෙනෙකුට පිටසක්වලවල් වගේ එක එක ඒවා හිතෙන්න පුලුවන්. පින්වතුනි එකයි ඒක ගැන හිතන්න තියෙන්නෙ. කොයි ලෝක උපන්නත් ජාති පච්චයා ජරා මරණං සෝක පරිදෙව දුක්ඛ දෝමනස්සුපායාසා සම්භවන්ති. මේ දුක් කන්දරාව කොයි ලෝක ධාතුවේ ඉපදුනත් තියෙනවා. කොයි ලෝක ධාතුවක ඉපදුනත් තියෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ අපි ජීවත් වෙන ලෝකය ගැන ඒ වගේම මේ ලෝකධාතු ගැන බුදුරජාණන් වහන්සේ වදාළා. අපි දන්නවා බුදුරජාණන් වහන්සේ දිවැසින් දැක්කා නරක තිරිසන් ප්‍රේත අසුර කියන සතර අපාය. අනේකවිධ විස්තර බුදුරජාණන් වහන්සේ වදාළා. බුදුරජාණන් වහන්සේ දැක්කා දිව්‍යලෝක හයක් තියෙනවා. භූමාටු දෙවියන්ගේ පටන් චාතුම්මහාරාජිකය, යාමය, තාවතිංස, තුසිත, නිම්මාණරති, පරනිම්මිත වසවර්තිය කියලා. ඒවගේ ආයුෂ පවා බුදුරජාණන් වහන්සේ වදාළා. චාතුම්මහාරාජිකයේ ආයුෂ මනුස්ස අවුරුදු ලක්ෂ අනූවයි. තාවතිසංයේ ආයුෂ

මනුස්ස අවුරුදු තුන්කෝටි හැටලක්ෂයයි. යාම ලෝකයේ ආයුෂ මනුස්ස අවුරුදු තුදුස් කෝටි හතලිස් ලක්ෂයයි. තුසිතයේ ආයුෂ පනස්හත් කෝටි හැටලක්ෂයයි. නිම්මාණරතියේ ආයුෂ දෙසිය තිස්කෝටි හතළිස් ලක්ෂයයි. පරනිම්මිත වසවර්තියේ ආයුෂ දෙඅනූ කෝටි සොළොස් ලක්ෂයයි. බුදුරජාණන් වහන්සේ ආයුෂ ගැන වදාළා. බ්‍රහ්ම ලෝක ගැනත් බුදුරජාණන් වහන්සේ වදාළා. බුදුරජාණන් වහන්සේ වදාළා බ්‍රහ්ම පාරිසජ්ජ, බ්‍රහ්ම පුරෝහිත, මහා බ්‍රහ්ම, පරිත්තාභා, අප්පමාණාභ, ආභස්සර, පරිත්තසුභ, අප්පමාණසුභ, සුභකින්න, වේහප්පල, සුදස්ස, සුදස්සි, අකනිට්ටා කියන බ්‍රහ්ම ලෝක තියෙනවා. ධම්මචක්කය ඔබ කියවලා තියෙනවා නම් මේ ගැන විස්තර තියෙනවා. ආයුෂ පවා වදාළා. බුදුරජාණන් වහන්සේ වදාළා බ්‍රහ්ම පාරිසජ්ජයේ ඉපදුනොත් එහෙම අසංඛෙය්‍යයෙන් තුනෙන් එකක් ආයුෂ තියෙනවා. එහෙම නැත්නම් කල්ප එකක්. එහෙම නැත්නම් බ්‍රහ්ම පුරෝහිතයෙත් තියෙනවා කල්ප දෙකක්. ඊළඟට මහාබ්‍රහ්ම ලෝකෙ තියෙනවා කල්ප එකක්. ඒ වගේම පරිත්තාභ ලෝකෙ තියෙනවා මහා කල්ප දෙකක්. අප්පාමාණාභ ලෝකයේ තියෙනවා මහා කල්ප හතරක්. ආභස්සර ලෝකෙ තියෙනවා කල්ප අටක් ආයුෂ. පරිත්තසුභ ලෝකෙ තියෙනවා කල්ප දාසයක්. අප්පමාණසුභ ලෝකයේ තියෙනවා කල්ප තිස්දෙකක්. සුභකින්න ලෝකෙ තියෙනවා කල්ප හැටහතරක්. වේහප්පල ලෝකෙ තියෙනවා කල්ප පන්සීයක්. මෙතනින් මේ ලෝකවල ධර්මය අවබෝධ නොකරපු අය පවා ඉන්නවා. ධර්මය අවබෝධ කරපු අයත් ඉන්නවා, නොකරපු අයත් ඉන්නවා. ඊළඟට පින්වතුනි ලෝකයක් තියෙනවා අසංඥ කියලා. ඒ අසංඥ ලෝකයේ ධර්මය අවබෝධ කරපු අය නෙවේ ඉන්නෙ. අසංඥ සමාධිය කියලා එකක් වඩලා තමයි ඒ ලෝකෙ ඉපදෙන්නෙ. ඒ ලෝකෙ ඉපදුනොත් කල්ප පන්සීයක් ආයුෂ. භාග්‍යවතුන් වහන්සේ මේ ලෝක දුටුවා. හැබැයි ඒ කල්ප පන්සීයක් ආයුෂ තියෙන මේ කාලෙ පින්වතුනි ඒ කල්ප පන්සීයම බාහිර ලෝකෙට හිත යැවීමක් නෑ, රූප කාය ප්‍රකට වෙන්නෙ නෑ, අසංඥයි. නිදාගත්තා වගේ. පින්වතුනි මේ අහසට ගලක් විසික්කා කලොත් කොච්චර උස ගියත් ඒ ගලේ අවසානය තමයි ආපහු බිමට වැටෙන එක. ඒ වගේ තමයි මේ අසංඥ ලෝක වල ඉපදුනාට පස්සෙ කල්ප පන්සීයම අසංඥව ඉඳලා ආපහු සංඥාව ආපු ගමන් කොහෙහරි එක්කො නිරයේ, එක්කො පෙරේත ලෝකෙ එක්කො අසුර ලෝකෙ. ඔබ අහලා ඇති භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ පාරෙ යනකොට ඊරි පැටියෙක් දැකලා ආනන්ද ස්වාමීන් වහන්සේට දේශනා කරනවා. ආනන්ද මේ බලන්න සසරේ

ස්වභාවය. කලින් බ්‍රහ්ම ලෝකෙ කිව්වා හිටියෙ. මේ ඊරි වැටිච්ච කලින් ජීවිතේ බ්‍රහ්ම ලෝකෙ හිටියේ. දැන් බලන්න කිව්වා තිරිසන් ලෝකට වැටිලා කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ සසර ගැන එහෙම වදාළා. මේ සියල්ල බුදුරජාණන් වහන්සේ අවබෝධ කලානෙ. ඊළඟට තියෙනවා අනාගාමී උත්තමයො උපදින සුද්දාවාස බ්‍රහ්ම ලෝකෙ. අවිහ ලෝකෙ ඉපදුනොත් සම්පූර්ණ ආයුෂ ගතකලොත් කල්ප දාහයි. අතප්ප ලෝකෙ කල්ප දෙදාහයි. සුදස්ස ලෝකෙ කල්ප හාරදාහයි. සුදස්සි ලෝකෙ කල්ප අටදාහයි. අකනිට්ඨා ලෝකෙ කල්ප දාසයදාහක් ආයුෂ තියෙනවා. අපේ තථාගත අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේ බ්‍රහ්ම ලෝකයට වැඩියා. අකනිට්ඨා. ඒ අකනිට්ඨා බ්‍රහ්ම ලෝකයේ ඉන්න අවි අතප්පි සුදස්ස සුදස්සි අකනිට්ඨා කියන බ්‍රහ්ම ලෝක පහේම වැඩම කලා සුද්දාවාසෙ, බුදුරජාණන් වහන්සේට බ්‍රහ්ම ලෝක පහේම මුණගැහුනා, විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ අනාගාමී වෙලා බ්‍රහ්ම ලෝකෙ ගිය අය. ඊළඟට සිඛී, වෙස්සභූ, කකුසඳ, කෝණාගමන, කාශ්‍යප අපගේ බුදුරජාණන් වහන්සේගේ ගෞතම බුදුරජාණන් වහන්සේගෙ කාලෙ, සත් බුදුරජාණන් වහන්සේලාගෙම කාලෙ බ්‍රහ්ම ලෝකෙ ගිය අය අනාගාමී වෙලා අදටත් අකනිට්ඨා බ්‍රහ්ම ලෝකෙ ඉන්නවා. හේතුව ඇයි ඒ කල්ප දාසයදාහක් ආයුෂ තියෙනවා. දාසයදාහක්. මොකද පින්වතුනි, බුදරජාණන් වහන්සේලායි මේවා දන්නෙ දකින්න. ඉසිසත්තම, සත්වෙනුව විපස්සී බුදුරජාණන් වහන්සේගේ ඉඳලා සත්වෙනුව තමයි අපේ බුදුරජාණන් වහන්සේ පහළ වුනේ. ඊටපස්සෙ පින්වතුනි ධ්‍යාන අනුවත් බ්‍රහ්ම ලෝක තීරණය වෙනවා. ඒ කියන්නෙ පළවෙනි ධ්‍යානය අනුව උපදින බ්‍රහ්ම ලෝකයේ ආයුෂ සමහර විට කල්පයයි, දෙවෙනි ධ්‍යානය අනුව කල්ප දෙකයි, තුන්වෙනි ධ්‍යානය අනුව කල්ප හතරයි, හතරවෙනි ධ්‍යානය අනුව කල්ප පන්සීයයි, ඒ විදියට දික්වෙවී යනවා. එක එක තැන්වල එක එක විදියට විස්තර තියෙනවා පින්වතුනි. ඊළඟට මට හිතුනා ඒ වගේම තව තියෙනවා බ්‍රහ්ම ලෝක වල විස්තර ආකාසානංචායතන කියන සමාධිය වඩලා ඒ බ්‍රහ්ම ලෝකෙ ඉපදුනාට පස්සෙ අරූප ධ්‍යානයක් වඩලා කල්ප විසිදාහක් ආයුෂ තියෙනවා. විඤ්ඤාණංචායතනයක් වඩලා ඒ බ්‍රහ්ම ලෝකෙ ඉපදුනාට පස්සෙ කල්ප හතලිස්දාහක් තියෙනවා. ඒ ධ්‍යානය නොපිහිරි මැරෙන්න ඕන. ඊළඟට කියනවා ආකිංචංයාතන ලෝකයේ ඉපදුනොත් එහෙම කල්ප හැටදාහක් ආයුෂ තියෙනවා. නෙවසඤ්ඤානාසඤ්ඤායතන ලෝකයේ ඉපදුනොත් කල්ප අසූහාරදාහක්. පුදුම සහගතයි කියන්නෙ පින්වතුනි, සංසාරයේ කල්ප

අසූහාරදාහක් ඒ විදියට අරූප ලෝකවල ඒ බ්‍රහ්මයෝ ඉඳලා ආපහු මේ මනුස්ස ලෝකෙට එනවා, නැත්නම් සතර අපායට වැටෙනවා. ආයෙත් ජාති, ජරා, මරණ, සොක පරිදෙව. ජාති ජරා මරණ කියන්නෙ කුමක්ද පින්වතුනි. යම් තැනක උපදිනවා නම් ඒක තමයි උපත. යම් එතැනින් චුතවෙනවා නම් ඒක තමයි මරණය. ඒ අතර කාලෙ තමයි ජරාව කියන්නෙ. ජාති ජරා මරණ සියලු සත්ත්වයන්ට තියෙන්නෙ. ඊටපස්සෙ පින්වතුනි මේ විදියට බ්‍රහ්මලෝක වල විස්තර තියෙනවා. ඊළඟට මට කල්පනා වුනා ගොඩක් ලෝක ධාතු ගැන කියද්දි සමහර මිනිස්සු කියනවා අනේ තුන් ලෝකෙම හෙව්වා කියනවා. හොයන්න තුන්ලෝකෙ මොකක්ද කියලා ඇහුවොත් දන්න ලෝකයක් නෑ. ඒ නිසා ගොඩක් අයගෙන් අහනකොට එක එක විදියට කියනවා. මට හිතුනා බුද්ධ දේශනාවෙ සහ අටුවාවල තියෙන විස්තර ඇසුරෙන් මොනවද මේ තුන්ලෝකෙ කියන වචන ටික හරි කියලා දෙන්නම් කියලා. සාමාන්‍යයෙන් ගොඩාක් දුරට අපි තුන්ලෝකය කියන එක ධර්මය විමසනකොට ගන්නෙ කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියලා. කාම ලෝක කියලා කියන්නෙ ඉඳුරන් සහිතව ලෝකෙ වාසය කරද්දි ඒ ඉඳුරන්ට ගෝචර වන ලෝකය, කාම ලෝක. රූප ලෝක කියලා කියන්නෙ බ්‍රහ්ම ලෝකවලට. ඒ කියන්නෙ රූපාවචර ධ්‍යාන පළවෙනි ධ්‍යානය, දෙවෙනි ධ්‍යානය, තුන්වෙනි ධ්‍යානය, හතරවෙනි ධ්‍යානය මුල්කරගෙන යම්කිසි බ්‍රහ්මලෝකයකට යනවා නම් ඒකට කියනවා රූපාවචර ලෝක කියලා. ඊළඟට අරූප ලෝක කියලා කියන්නෙ ආකාසංචායතනය, විඤ්ඤාණංචායතනය, අංකිංචංයාතනය, නෙවසඤ්ඤානාසඤ්ඤායතනය කියන අරූප ධ්‍යාන මුල්වෙලා ඊළඟට අසංඥ්‍යය ඒවා මුල්වෙලා යන ලෝක වලට කියනවා අරූපාවචර ලෝක කියලා. ඊළඟට තියෙනවා සාමාන්‍යයෙන් තුන් ලොව කියලා, තුන්ලෝකෙන් පිදුම් ලබන බුදුරජාණන් වහන්සේ කියනකොට දැන් අරූප ලෝකෙන් කවුරුත් ඇවිල්ල වඳින්න කෙනෙක් නැනෙ. එතකොට එතන ගන්නෙ දේව මනුස්ස නාග, එතකොට බ්‍රහ්මයො අයිති වෙන්නෙත් දෙවියන්ට. ඒ විදියට තුන් ලෝකය ගන්නවා. තව මං දැක්කා විස්තර කරලා තියෙන තැනක් තුන් ලෝකය ගැන, ස්කන්ධ ලෝක, ධාතු ලෝක, ආයතන ලෝක කියලා. එතකොට ස්කන්ධ කියලා කියන්නෙ පඨවි ආපෝ තේජෝ වායෝ කියන ආකාශ විඤ්ඤාණ කියන ඒවා මුල් කරගෙන, පඤ්චුපාදානස්කන්ධ. පඤ්චුපාදානස්කන්ධ ලෝකෙට ස්කන්ධ ලෝකෙ කියනවා. ඊළඟට ධාතු ලෝක වලට තමයි පඨවි ආපෝ තේජෝ වායෝ ආකාශ විඤ්ඤාණ කියන්නෙ. ආයතන ලෝක කියන්නෙ ඇස කණ නාසය දිව කය

මනස. මොනවා කිව්වත් පටිච්චසමුප්පාදයෙන් හැදිච්ච ජීවිතේට තමයි කියන්නෙ මේ. ඊළඟට තියෙනවා තව ලෝක ස්වභාවයක්. ඒ ලෝකයේ, මිනිස්සු තුන් ලෝකය කියලා කතා කරන තැනක්. ඒ තමයි සංස්කාර, සත්ත්ව ලෝක. ඒ සත්ත්ව ලෝක කියලා කියනකොට මේ සත්ත්වයෝ සැරිසරන ලෝක. ඊළඟට සංස්කාර ලෝක. සංස්කාර ලෝක කියන්නෙ හේතුඵල දහමින් හටගත්ත සියලු ලෝක. ඊළඟට තියෙනවා ආකාශ ලෝක කියලා මේ අවකාශය ඇතුලත තියෙන සියලුම ලෝක. ඔය විදියටත් විස්තර කරනවා. ඔය මම කිව්වෙ තුන් ලෝකය ගැන. ඉතින් බුදුරජාණන් වහන්සේ තවත් ලෝකය ගැන වදාළා. දැන් මේ බලන්න මේ කොයි ලෝකෙ ඉපදුනත් ජාති ජරා මරණ සොක පරිදෙව දුක්ඛ දොමනස්සයො. ඊළඟට අපේ බුදුරජාණන් වහන්සේ දිවැසින් දැක්ක ලෝකධාතුව ගැන බලන්න. මේ සිත පහදවා ගැනීම පිණිසයි කියන්නෙ. ඊටපස්සෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ දැක්කා මේ සත්ත්වයා උපදිනවා සත්තාවාස නවයක. ඒකට කියනවා නවසත්තාවාස. ඒ මොනවද නවසත්තාවාස කියන්නෙ නානත්තකාය, නානත්තසංඥා. ඇඟවල් වෙනයි, සංඥාවලුත් වෙනස්. සිතන පතන විදියත් වෙනස්. දෙවියෝ මිනිස්සු මේ සතර අපායේ ඉන්න මිනිස්සු මේ ඔක්කොම ඇඟවලින් වෙනස්, හිතන විදියත් නෙස්. ඊළඟට තියෙනවා නානත්ත කායා ඒකත්ත සංඥා, ඇඟවල් වෙනස් එක සංඥාවකින් ඉන්නවා. ඒ තමයි මහා බ්‍රහ්මයෝ. ඊටපස්සෙ ඒකත්ත කායා නානත්ත සංඥා, එක ඇඟක් සංඥාවල් වෙනස්. ආභස්සර බ්‍රහ්මලෝකෙ. ඒකත්තකායා ඒකත්ත සංඥා, ඇඟවලුත් එක වගේ, සංඥාවත් එක වගේ. සුභකින්න. ඒ කියන්නෙ ඔක්කෝම මෛත්‍රිය නම් ඒ ලෝකෙ ඔක්කොම මෛත්‍රිය පතුරුවන්නේ. ශරීරත් ඒ වගේ. ඊටපස්සෙ තියෙනවා, ඒකත්ත කාය ඒකත්ත සංඥා, ඊළඟට ආකාසංචායතන ලෝකය, විඤ්ඤාණංචායතන ලෝකය, අංකිංචායතන ලෝකය, නෙවසඤ්ඤානාසඤ්ඤායතන ලෝකය, අසංඥ ලෝකය කියලා, ඔය නවසත්තාවාස. ඔහොමත් සත්ත්වයෝ මැරිලා ගිහිල්ලා උපදිනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා සත්ත්වයෝ උපදිනවා අණ්ඩජ - බිත්තර අස්සෙ, ජලාබුජ- මව්කුසක, සංසේදජ - තෙත් පරිසරයේ, ඕපපාතික - අර ක්‍රම තුනෙන් තොරව උපදිනවා. එහෙමත් මේ ලෝකෙ සත්ත්වයෝ ඉන්නවා. බුදුරජාණන් වහන්සේ මේ ලෝකය දිවැසින් දුටු සේක. ඊළඟට තියෙනවා, භවය ගැන තියෙනවා සංඤී භව අසඤ්ඤී භව, නෙවසඤ්ඤාසාඤ්ඤීභව කියලා. සංඥා සහිත ලෝක තියෙනවා, සංඥාව නැති ලෝක තියෙනවා, සංඥාව ඇත්තෙත් නැති නැත්තෙත් නැති ලෝක

තියෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ මේ ලෝක ගැන වදාළා මේ ලෝක විනාශ වෙන ක්‍රමේකුත් තියෙනවා. ඉරවල් හතක් පායලා මේ ලෝකය විනාශ වෙලා යන හැටි. ලෝකය හැදෙන ක්‍රමේකුත් තියෙනවා. ඒ තමයි අග්ගඤ්ඤ සූත්‍රයේ තියෙන්නෙ. ලෝක විනාශ වෙන හැටි තියෙන්නෙ සත්තසූජවිභංග සූත්‍රයේ. ඊළඟට අග්ගඤ්ඤ සූත්‍රයේ තමයි ලෝකෙ හට ගන්න හැටි තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ලෝකයේ හටගන්න හැටිත් දන්නවා. බුදුරජාණන් වහන්සේ ලෝකෙ නැතිවෙන හැටිත් දැක්කා. බුදුරජාණන් වහන්සේ දැක්කා ලෝකය විනාශ වෙනවා කියලා මේ ලෝකය විනාශ වෙන එකකුත් තියෙනවා. සත්ත්වයා විනාශ වෙනවා කියලා සත්ත්ව විනාශයකුත් තියෙනවා. දැන් පින්වතුනි අපි ගත්තොත් එහෙම මේ සත්ත්වයාගෙ ආයුෂ අවුරුදු දහයට අඩුවෙලා මෘග සංඥාව ඇවිල්ලා දවස් හතක් වැහැලා අර තරහා ඇවිල්ලා අතට ආයුධ අහුවෙලා ඉන්න ඉන්න ඔක්කොම මරාගන්න සිද්ධියක් තියෙනවානෙ, චක්කවත්තිසීහනාද සූත්‍රයේ තියෙන්නෙ. ආන්න ඒකට කියන්නෙ සත්ත්ව විනාශය කියලා. ඉරවල් හතක් පායලා මේ ලෝකය ගිනිගෙන යන එකට කියන්නෙ ලෝක විනාශය කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝක විනාශය වුනත් හැම සසරෙ හැම කාලෙකම ගින්දරින්ම නෙවෙයි විනාශ වෙන්නෙ. මේ ලෝක සත්ත්වයාගේ ජීවිතේ ලෝභය වැඩිවෙච්ච කාලෙක සත්ත්ව විනාශය වෙන්නෙ රෝගයෙන්. ද්වේෂය වැඩිවෙච්ච කාලෙක සත්ත්ව විනාශය වෙන්නෙ ආයුධ වලින්. මෝහය වැඩිවෙච්ච කාලෙක සත්ත්ව විනාශය වෙන්නෙ දුර්භික්ෂ වලින්. දැන් අර කෙලෙස් අනුවත් ඒක සිද්ධ වෙනහැටි. ඊටපස්සෙ තියෙනවා ඒ රාග ද්වේෂ මෝහ උත්සන්න වෙනහැටියට ඒ ලෝකයේ සත්ත්වයාගේ ලෝක විනාශය වෙන්නෙත් කාලයක ගින්නෙන් විනාශ වෙනවා, කාලකෙ වාතයෙන් විනාශ වෙනවා. කාලෙක ජලයෙන් විනාශ වෙනවා. මේ විදියට බුදුරජාණන් වහන්සේ ලෝකය දුටු සේක. ඊළඟ තව මම දැක්කා සංකාරෝප්පත්ති සූත්‍රයේ අපි මීට කලින් ඉගෙන ගත්ත ඒකෙ තියෙනවා බ්‍රහ්ම ලෝක වල ස්වභාවය, සහස්සී බ්‍රහ්ම ලෝකය. ඒ කියන්නෙ බ්‍රහ්මලෝක දාහක් අතේ තියෙන නෙල්ලි ගෙඩියක් වගේ හොඳට බලලා තමන්ගේ බලය පිහිටුවන්න පුලුවන්, තොරතුරු හොයාගන්න පුලුවන්, සිත මෙහෙයවන්න පුලුවන් බ්‍රහ්ම ලෝකයක් තියෙනවා. ඒකට කියනවා සහස්සරී බ්‍රහ්ම ලෝකය කියලා. ඒකෙත් මෙහෙන් සත්ත්වයා චුත වෙලා එහෙ උපදිනවා. ඊටපස්සෙ තියෙනවා ද්විසහස්සී, ත්‍රිසහස්සි, චතුසහස්සි, පංචසහස්සි, දසදහස්සි, සතසහස්සි ලෝක ධාතු සියදහසක් තමන්ගේ අතේ තියෙන නෙල්ලි ගෙඩියක්

වගේ, රතු පලසක් උඩ තියෙන වෛරෝඩි මාණික්‍යයක් වගේ හොඳට පේන, තේරෙන, චිත්ත බලය පතුරවන බ්‍රහ්ම ලෝක තියෙනවා. බුදුරජාණන් වහන්සේ දිවැසින් දුටු සේක. ඊළඟට බුදුරජාණන් වහන්සේ දැක්කා මේ ලෝකධාතු මෛත්‍රිය මුල්වෙලා ඉපදෙන දිව්‍ය ලෝක වෙනස්. කරුණාව මුල් වෙලා ඉපදෙන බ්‍රහ්ම ලෝක වෙනස්. මුදිතාව, උපෙක්ෂාව. මෛත්‍රියෙන් එක කල්පයයි. මුදිතාවෙන් කල්ප දෙකයි, කරුණාවෙන් කල්ප හතරයි. උපෙක්ෂාව, පින්වතුනි උපේකෂා භාවනාව වඩපු කෙනෙක් ඒ සමාධියෙන් ධ්‍යානයෙන් මැරුණොත් එහෙම චුත වුනොත් එහෙම උපදින බ්‍රහ්ම ලෝකෙ ආයුෂ අවුරුදු කල්ප පන්සීයයි. එච්චර මේ උපෙක්ෂාව, මධ්‍යස්ථව ඉන්න එක ආනුභාවසම්පන්න සංස්කාරයක්. එතකොට සාමාන්‍යයෙන් ප්‍රශ්නෙකදි කලබල වෙන්නැතිව කෙනෙක් උපෙක්ෂාව පුරුදු කරනවා කියන්නෙ කල්ප පන්සියයක් නොගියත් ජීවිත පන්සියයක් හරි සුගතියෙ යනවනෙ. උපෙක්ෂාව කියන එක එච්චර උපකාරීයි. මෛත්‍රිය තියෙන කෙනා කල්පයක් බ්‍රහ්ම ලෝකෙ ඉන්නවා. එතකොට පින්වතුනි සාමාන්‍ය මෛත්‍රියක් තිබ්බත් ජීවිත සීයක්හරි සුගතියෙ ඉන්න පුලුවන්නෙ. කරුණාව තියෙන කෙනාට ජීවිත දෙසීයක් හරි සුගතියෙ ඉන්න පුලුවන්නෙ. සාමාන්‍ය කරුණාවක් තිබ්බත්. ඒ නිසා මෙත්තා, කරුණා, මුදිතා, උපෙක්ඛා කියන එක සුලුපටු දේවල් නෙවෙයි පින්වත්නි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා පුඤ්ඤාභිසංස්කාර මුල් වෙලා ලෝක වල උපදිනවා, පින. අපුඤ්ඤාභිසංස්කාර, පින් නොවන අකුසල් සහගත දේවල් මුල්වෙලා උපදින ලෝක තියෙනවා. ඊළඟට ආනිඤ්ජාභි, ධ්‍යාන මුල් වෙලා උපදින ලෝක තියෙනවා. ඉතින් පින්වතුනි මේ ඔක්කොම සංස්කාර නැති කලා කියන්නෙ විසංකාරගතං චිත්තං තණ්හානං කයමජ්ඣගාති, ඒ සිත විසංකාරගත වුනාට පස්සෙ මේ සංසාර දුකින් නිදහස් වෙනවා. එතකොට මං මේච්චර වෙලාවක් දැන් ඔය මෙහෙම ලෝක තියෙනවා, මෙහෙම ලෝක තියෙනවා කියලා බුදුරජාණන් වහන්සේ බ්‍රහ්ම ලෝක ගැන ඒ තියෙන නාමික වශයෙන් හරි ඔබට දැන් කිව්වා. දැන් අවසානෙ බලන්න පින්වතුනි මේ සියල්ලක්ම බුදුරජාණන් වහන්සේ දැක්කා. මේ සියල්ලක්ම බුදුරජාණන් වහන්සේ ප්‍රඥාවෙන් දැක්කා. මේ සියලුම රූප කයින් යන්න පුලුවන්, මනෝ කයින් යන්න පුලුවන්, ඍද්ධියෙන් යන්න පුලුවන් සෑම ලෝකයකටම බුදුරජාණන් වහන්සේ වැඩියා. ඒ සෑම ලෝකයකටම බුදුරජාණන් වහන්සේ වැඩලා සෑම ලෝකයකම ස්වභාවවල් දැනගෙන, අතීතය වර්තමානය අනාගතය සෑමදෙයක්ම දැනගත්ත නිසා, දැක්ක නිසා කිසිම ලෝකයක

බුදුරජාණන් වහන්සේ නැවත උපදින්නේ නැති නිසා ලෝකවිදූ වන සේක කියලා කියනවා. ලෝකවිදූ කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේට නිකන් නෙවෙයි පින්වතුනි. එහෙව් සියලූම ලෝකයන් අවබෝධ කරපු බුදුරජාණන් වහන්සේ වදාළා අනවතග්ගෝ යං භික්ඛවෙ සංසාරෝ, මේ හැම ලෝකෙකම උපදිනවා නමුත් මේ සංසාරෙ කෙළවරක් අගක් පේන්නෙ නෑ. පුබ්බාකෝටි නපඤ්ඤායෙ, පටන් ගත්ත තැනක් පෙන්නෙ නෑ, කෙළවරක් පේන්නෑ. මේ සංසාරෙ සැරිසරන සත්ත්වයා ගියෙ නැති තැනක් තියෙනවා නම් සුද්දාවාස බ්‍රහ්මලෝකෙ විතරයි. ඇයි ඒ සුද්දාවාස බ්‍රහ්මලෝකෙ යන්නෙ අනාගාමී වුන අය. අනාගාමී වුනානම් මේ ලෝකෙට ආපහු එන්නෙ නෑ, ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඇයි මෙහෙම වෙන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාලා අවිජ්ජා නීවරණානං තණ්හා සංයෝජනානං සත්තානං සංදාවිතං සංසරිතං, අවිද්‍යාවෙන් වැහුනා, තණ්හාවෙන් බැඳුනා, ඒ නිසා දුව දුවා යනවා සංසාරේ. මොකක්ද අවිද්‍යාවෙන් වැහුනෙ, ඇහැ අවිද්‍යාවෙන් වැහුනා, රූප අවිද්‍යාවෙන් වැහුනා. කණ අවිද්‍යාවෙන් වැහුනා, ශබ්ද අවිද්‍යාවෙන් වැහුනා, නාසය අවිද්‍යාවෙන් වැහුනා, ගඳ සුවඳ අවිද්‍යාවෙන් වැහුනා, දිව අවිද්‍යාවෙන් වැහුනා, රසය අවිද්‍යාවෙන් වැහුනා, කය අවිද්‍යාවෙන් වැහුනා, පහස අවිද්‍යාවෙන් වැහුනා, මනස අවිද්‍යාවෙන් වැහුනා, මනසට සිතෙන සිතුවිලි සම්පූර්ණයෙන් වහලා තියෙන්නෙ අවිද්‍යාවෙන්. අවිද්‍යාවෙන් වැහුන නිසා තණ්හා සංයෝජනානා. තණ්හාවෙන් බැඳුනා. රූපෙට ආසයි. සද්දෙට ආසයි, ගඳ සුවඳට ආසයි, රසයට ආසයි, පහසට ආසයි, අරමුණු වලට ආසයි. මේ ලෝකෙටම ආසයි. මේ කුෂ්ට හැදිච්ච බල්ලට ගහන්න යනකොට මේ කුෂ්ට ඇඟ බේරගන්න ඒ බල්ලා දුවනවා. තිරිසනාව කඩුවෙන් කපනකොට ඒ සතාව උල්වලින් ඇන ඇන තියෙනාකොට එහෙට මෙහෙට ඇඹරි ඇඹරි අර තිරිශරීරය රැකගන්න ඒ තිරිසතා දඟලනවා. ප්‍රේතයා බඩගින්නෙන් පිපාසෙන් ඉඳලා වතුර හොයාගෙන අර ප්‍රේත ඇඟ රැකගන්න දඟලනවා. ඇයි මේ. අවිද්‍යාවෙන් වැහිච්ච නිසා පෙරේත ඇඟටත් ආසයි. තිරිසන් සතාගෙ ඇඟටත් ආසයි. තිරිසතාගෙ ඇඟටත් ආසයි. මිනිස්සු, අපි ඇඟටත් ආසයි. ඒ ඇඟට ආස නිසා නේද අපි මෙච්චර ඇඟ රැකගන්න හදන්නෙ. ලෙඩක් වෙන්න දෙන්නැතිව, තුවාලයක් වෙන්න දෙන්නැතිව, ගඳ ගහන්න දෙන්නෙ නැතිව අපි කොච්චර ඇඟට ආසයිද. අපි මේ හුස්ම ඇද ඇදා අවසාන හුස්ම රැල්ල දක්වාම අපි ට්‍රයි කරන්නෙ මොකකටද. උත්සාහ කරන්නෙ මොකකටද. මේ ශරීරය රැකගන්නෙ නෙවෙයිද. බෙහෙත් බිබී, නාව නාව කව කවා, මේ කටවල් වහගෙන, ඒ වගේම

බෙහෙත් බිබී එහෙ මෙහෙ යන්නැතිව කාමරේකට වෙලා අපි මේ රැකගන්න හදන්නෙ අපේ මේ ශරීරය නෙවෙයිද. අවිද්‍යාවෙන් වැහුනු නිසා අපි කවුරුත් මේ ලෝක සත්ත්වයා තණ්හාවෙන් බැඳුනා මේ ජීවිතේට. අවිද්‍යා නීවරණානං තණ්හා සංයෝජනනාං සන්දාවතං සංසරිතං, කොහෙද ඇවිදින්නෙ, කොහෙද දුවන්නෙ මේන්න මේ කියපු තැන් ටිකට. දැන් ඔය කිව්වෙ. ඔන්න ඔය කියපු හැම තැනම ඇවිදිනවා. එහෙ දුවනවා, මෙහෙ දුවනවා, ඉහළට යනවා, කඩාගෙන බිමට වැටෙනවා, අර බ්‍රහ්ම ලෝකෙ ඉඳලා ඊරියෙක් වුනේ. එහෙ දුවනවා, මෙහෙ දුවනවා, දිව්‍ය ලෝකෙන් නිරයට යනවා, නිරයෙන් දිව්‍ය ලෝකයට යනවා, මනුස්ස ලෝකෙන් සතර අපායට යනවා, සතර අපායෙන් උඩට යනවා, දුවනවා එහෙ මෙහෙ දුව දුව යනවා. අවසානෙ ලැබිච්ච දෙයක් නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඒවං දීඝරත්තං වො දුක්ඛං භික්ඛවේ පච්චනුභූතං, අවසානෙ වුනේ මොකක්ද මෙච්චර දීර්ඝ වූ සංසාරෙ ගිහිල්ලා දුක් විඳපු එක විතරයි. දුක් විඳපු එක විතරයි වුනේ. මේ බුද්ධ වචනය. දුක්ඛං පච්චනුභූතං, ගොඩාක් දුක් වින්දා. තිබ්බං පච්චනුභූතං, තීව්‍ර දුක් වින්දා. පින්වතුනි දැන් ඔය කොරෝනා වෛරසයෙන් මැරෙද්දි අර වතුරෙ ගිලුනා වගේ හුස්ම හිරවෙලා එහෙම මැරෙනවා කියන්නෙ. එතකොට කොච්චර දුකක්ද, හුස්ම ගන්න බැරිවුනාට පස්සෙ. වතුරෙ ගිලිලා විඳින දුක. අවිආයුධයෙන් පහර කාලා විඳින දුක, දරාගන්න බැරි දුක්. ඊටපස්සෙ පවුලේ සියලු දෙනා මැරෙද්දින් ඉතුරු වෙච්ච එක්කෙනා උඩ තට්ටුවෙන් පැනලා මැරෙන්නෙ, තට්ටු ගොඩනැගිල්ලෙන් පැනලා මැරෙන්නෙ, දුක දරාගන්න පුලුවන් වෙලාද, බැරිවෙලාද, දුක දරාගන්න බැරිවෙච්ච තැන නේද. ඒ දුක සාමාන්‍ය දුකක්ද, තීව්‍ර දුකක්. ඕවා තමයි අපි සංසාරෙ වින්දෙ. ඔය තට්ටු ගණන් උඩට මිනිස්සු පැනලා මැරෙනකොට මොහොතක් කල්පනා කරන්න ඔබ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් නම් මමත් සංසාරයේ මේ විදියට දුක් වින්දා කියලා. ඔය රෝගියෝ මැරෙන විදිය දැක්කට පස්සෙ හිතන්න මමත් සංසාරෙ මේ විදියට වද වින්දා කියලා. කුණුවෙලා පණුවො ගහලා මැරෙනවා දැක්කට පස්සෙ හිතන්න මමත් මේ වාගේ සංසාරෙ දුක් වින්දා කියලා. අත පය කැපිලා ඔය ඇක්සිඩන්ට් වෙලා ඇඟ චප්ප වෙලා දකිනකොට හිතන්න මමත් සංසාරේ මේ විදියට දුක් වින්දා, කෙලවරක් නැතිව. තිබ්බං පච්චනුභූතං, දරාගන්න බැරිව. සියදිවි හානිකරගන්න මට්ටමට දරාගන්න බැරිව දුක් විඳලා තියෙනවා සංසාරෙ අපි. හේතුව අවිද්‍යාවෙන් වැහිලා තණ්හාවෙන් බැඳිලා මේ ලෝකධාතුව තුළ සැරිසර සරා සැරිසර සරා යන නිසා. දිව්‍ය ලෝකෙ සැපක් තියෙන බව හැබෑව. ස්ථිර නෑ,

මේ ඔක්කෝම මේ ලෝකයේ ස්ථිර නෑ පින්වතුනි. දුක්ඛං පච්චනුභූතං, ව්‍යසනං පච්චනුභූතං, ඔය ව්‍යසන දැන් කොරෝනා වසංගතය කියන්නෙ රෝග ව්‍යසනයක්නෙ. මගෙ අම්මෝ බලන්න ලෝකධාතු වලා පැතිරිලා යන හැටි මේක. මිනිස්සුන්ගෙ ශෝක සංතාප. ඉතින් ඔය ඉතාලියෙ සිද්ධියෙන් අද මෙච්චර මැරුනා, අද මෙච්චර මැරුනා කියනකොට අපිට හිතෙනවා මැරෙන්න තව ඉන්නවද, ඒච්චර මැරෙනවා. ඇමරිකාවෙ එච්චර මැරෙනවා. චීනෙ මෙච්චර මැරෙනවා. එක එක රටවල් වල. ස්පාඤ්ඤයේ මෙච්චර මැරෙනවා. ඉතින් අම්මෝ මෙහෙමත් මිනිස්සු මැරෙනවානෙ. ඊටපස්සෙ ඉතින් මිනිස්සු බල්ලො උඟරො කකුළො ගානට රොත්ත පිටින් වළේ දානවනෙ, ගිනි තියනවනෙ. මොකද කරන්නෙ මේ සංසාරෙට අපි. මේවා දකිනකොට හිතන්න මටත් මේවා වෙලා තියෙනවා කියලා සංසාරෙ. මේ එකක් අපි දැක්කා විතරයි. දැන් මේ සිද්ධියත් එක්කම එක්දහස් නවසිය විසි ගණන් වල, එක්දහස් නවසිය දහඅටේ විතර කාලෙ වෙච්ච රෝග ව්‍යසනයක ෆොටෝස් සහිතව විස්තර වගයක් පහුගිය කාලෙ මාධ්‍යවලින් පෙන්නුවා. ඕකෙ සාක්ෂියක් තියෙන නිසා. මගේ අම්මෝ සාක්ෂියක් නැතිව පින්වතුනි, මේ විදියට එක දිගට, දැන්නම් තාක්ෂණය තියෙන නිසා මෙහෙම ලෙඩ බෝවෙනවා, මෙහෙම බෝවෙනවා කියලා කියනවා. ඉස්සර මිනිස්සු ඕවා දන්නැතිව ලෙඩා අල්ලනවා, ලෙඩාට උපස්ථාන කරනවා, ලෙඩා ළඟ ඉන්නවා, බදාගෙන අඬනවා දාලා යන්න එපා කියලා, ඊටපස්සෙ එයාට හැදෙනවා, එයාගෙන් අනිත් එක්කෙනාට හැදෙනවා. කොච්චර ව්‍යසනද. මේ ලංකාවෙ කෝටි ගාණක් පරාක්‍රමබාහු මිනිස්සු ඉඳලා තියෙනවා. දැන් කෝ මිනිස්සු. ඒ ඔක්කොම නැතිවෙලා ගියානෙ. අනුරාධපුරෙන් පින්වතුනි ගේක වහළෙකට කකුළෙක් නැග්ගට පස්සෙ වහළෙන් පැන පැන, වහළෙන් පැන පැන ඒ කුකුලා බහින්නෙ පොළොන්නරුවෙන් කියනවා. කෝ ඒවා දැන්. සැවැත් නුවර කෝටි හතක් ජනතාව හිටියා කියනවා කෝ දැන්. ව්‍යසන වලට පත්වෙවී පත්වෙවී මැරිලා ගියා. රෝග ව්‍යසන, බෝග ව්‍යසන, බෝග නැතිවුනා. දුර්භික්ෂ, විසිහතර දාහක් මහරහතන් වහන්සේලා එකතැනක පිරිනිවන් පෑවා. කොච්චර ලක්ෂ ගණන් රහතන් වහන්සේලා පිරිනිවන් පෑවා. මේ ඔක්කොම පින්වතුනි දුක්ඛං පච්චනුභූතං ව්‍යසනං පච්චනුභූතං නෙවෙයිද. සුරංගනා කතාවක් වගේ වුනා කැලණිතිස්ස රජ්ජුරුවන්ගේ කාලෙ මුහුද ගොඩගැලුවා, විහාරමහාදේවි මුහුදට දැම්මා, දැනුනෙවත් නෑ මිනිස්සුන්ට. සුනාමි ඇවිල්ලා මේක යට කරගෙන යනකොට තමයි සිහිවුනේ අනේ මෙහෙම දේවල් තිබ්බනේ කියලා.

ජාතක කතාවකත් තියෙනවා. සමුද්‍රවානිජ ජාතකය. එතකොට ජාතක කතාත් තියෙනවා මුහුද ගොඩ ගලනවා කියලා. දැනෙන් නෑ. වංශකතාවලත් තියෙනවා මෙහෙම මුහුද ගොඩ ගැලුවා කියලා. දැනෙන් නෑ. ඔන්න දැන් දැක්කා. දැන් ඉදිරි පරම්පරාවට දැන් අවුරුදු පහළොවක් විතර ගියානෙ, පහළොවක් විස්සක් විතර ඔය සිද්ධියට. එතකොට දැන් අවුරුදු දහයෙ දොළහෙ ළමයි සුනාමියක් දන්නෑ, ෆොටෝ පෙන්නුවත් හා මෙහෙමද, එච්චරයි. මේ ඔක්කොම ව්‍යසන. මිනිස්සු රොත්ත පිටින් මැරෙනවානෙ. ඔක්කොම ගහගෙන යනවා. මේක පුදුම දුකක් පින්වතුනි මේ සංසාරෙ. නිත්‍ය නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඕක තමයි ඉතින් සංසාරෙ වුනේ කියලා. පොඩ්ඩක් කල්පනා කරන්න කියලා වදාළා. කටසිවග්ගිතා, අපි කලේ පොළොවට පස් එකතු කරපු එක විතරයි අවසානයේ. එක කල්පයක් ඇතුලත අපේ ඇටසැකිලි ටික එකතු කරන්න පුලුවන්නම්. වේපුල්ල පර්වතය වගේ කියලා වදාළා. අපි ගත කරපු කල්ප ගංගා නම් ගඟේ වැලි වලට වැඩියි කිව්වා. ගංගා නම් ගඟේ වැලි කැටයක් ගානෙ වේපුල්ල පර්වතය තරම් ඇටසැකිලි තැන් තැන්වල ගොඩ ගැහුවොත් අවසානෙ අපිටම තේරෙනවා නේද මේ සංසාරෙ අපි කලේ පොළොවට පස් එකතු කර කර ආව එක විතරයි කියලා. මේ පාරත් ඇවිල්ලා මේ කිලෝ ගාණක පස් ටිකක් පොළොවට දාලා යනවා. ආයෙ තැනක සංසරණය වෙනවා අර කියපු ලෝක ධාතුටිකේ. කටසිවග්ගිතා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා යාවචිතං භික්ඛවෙ යලමේව සබ්බ සංකාරේසු නිබ්බිද්දතිං, සියලුම සංස්කාර ගැන කළකිරෙන්නයි වටින්නෙ. මේ සියලුම ලෝක ධාතු. දැන් ඔය කිව්වෙ ලෝක ධාතු. නැත්නම් හිතයි වෙන සක්වලකට ගිහිල්ලා බේරුණහැකි. වෙන චක්‍රාවාටයකට ගිහිල්ලා බේරුණැහැකි. සක්වලේ කෙළවරට ගිහිල්ලා බේරුණැහැකි. එහෙම නෑ, සියලුම සංස්කාර ඒවං අනිච්ඡා භික්ඛවේ සංකාරා. මේ සියලු සංස්කාර අනිත්‍යයි. දැන් බලන්නකො ඔය දැන් මිනිස්සු මැරිලා බල බලා ඉද්දි මැරිලා ගිය රටවල් මේ ව්‍යසන අයින් වෙලා ටික ටික වෙලා ආයෙත් පරණ පුරුදු වලටම යනවා. රාගයේ අඩුවක් නෑ මොන ව්‍යසන ආවත්. ද්වේෂය අඩුවක් නෑ මොන ව්‍යසන ආවත්. මෝහයේ අඩුවක් නෑ මොන ව්‍යසන ආවත්. කළකිරෙන්නමයි වටින්නෙ. මේක අස්සෙත් රාග ඇවිස්සිලා. මේ කලබල අස්සෙත් මේ ව්‍යසන අස්සෙ මිනිස්සුන්ගෙ තරහ වෛර, ෆේස්බුක් එකෙන් මේ මිනී පෙනි පෙනී, මේ මරණ ගැන කතා කර කර රටවල් වල ව්‍යසන කතා කර කර යන ෆේස්බුක් එකත් ඒක අස්සෙ තවත් කාට හරි බැනලා දාලා. මේ කලබල අස්සෙ. ඒක අස්සෙත් දේශපාලනය වෙනම යනවා. වෙනම දේශපාලන අරමුණු

යනවා. පුදුම සහගතයි. ඒක අස්සෙත් කුඩු විකුණනවා. ඒක අස්සෙත් සල්ලාලකම්. මේ මිනිස්සු මැරි මැරී යනවා. කළකිරෙන්නමයි වටින්නේ පින්වතුනි. සුනාමියෙන් මිනිස්සු දහස් ගාණක් වතුරෙ ගිලිලා කුණුවෙලා මිනී ඉදිමිලා තියෙද්දින් හොරු පැනලා මුද්ද ගන්න ඇඟිලි කප කපා මුදු ගත්තනෙ පින්වත්නි. මොකටද මේ. යාවචිතං අලමේව සබ්බ සංකාරේසු නිබ්බින්දිතු. කළකිරෙන්නමයි වටින්නෙ මේ සියලු සංස්කාර ධර්මයන් ගැන. මොන ලෝකෙ ඉපදුනත්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා එලං විරජ්ජිතෝ, නොඇලෙන්නමයි වටින්නෙ කිව්වා. මොකටද, ඇලෙන්නෙ මොකටද, මේවා තේරුම් ගන්න කිව්වා මේක අනිත්‍යයි කියලා. අලං විමුච්චිතුන්ති, නිදහස් වෙන එකමයි වටින්නෙ. ඔන්න ඔය බණ පදටික හිත්වල රැව්දීගන්න පින්වතුනි. නිදහස් වෙන්නමයි වටින්නෙ මේ සංස්කාර ලෝකෙන්. හේතුඵල දහමෙන් හටගත්ත ලෝකෙ. අද හිනාවෙන කෙනා හෙට අඬනවා. නොසිතූ විදියට ජීවිතේ දුක එනවා. ඔබටත් තේරෙයි ඔබ පටාචාරාවක් වූ දවසට ඔබගේ දුක. මේ ව්‍යසන තමා කරා ආවට පස්සෙ තේරෙයි දුක කියන එක. මේ හදවතට දරාගන්න බැරිවීම. ලොකු දුකක් පුංචි සතුටකින් වහලා දානවා. අම්මා කෙනෙක් බඩේ දරුවා තියාගෙන දසමසක් විදින දුක ඒ දරුවා ඉපදිලා චෑස් ගාලා අඬනකොට අර දුක නැතිවනවා. මාස දහයක දුකක් තත්පරේක දරුවාගේ හඬින් නැතිවුනා. දුක් කරදර තුලින් සුලු සතුටක් ලබනවා. ඒකට සතුටට ආසා කලා. ළමයි ස්කෝලෙ දාලා කෑම හදලා දීලා ස්කෝලෙට ගෙවලා ඒ ළමයි ස්කෝලෙ යවලා ශිෂ්‍යත්වෙ ලියලා ලකුණු වැඩියි කියලා එනවා. අවුරුදු පහක් දුක් විදපු එකෙන් අර ළමයා ශිෂ්‍යත්වෙ ලකුණු වැඩියි කියන සතුටින් හිනාවෙනවා. දුක් කරදර තුලින් සුලු සතුටක් ලබනවා. ඊටපස්සෙ සාමාන්‍ය පෙළ ලියනවා. ටියුෂන් යනවා පාඩම් කරනවා එහෙ යනවා මෙහෙ යනවා පොත් ලියනවා, ඊළගට පේපර් කරනවා, එහෙම කරලා කරලා කරලා අම්මේ බෝධිපූජා තියනවා, දේවාල ගානෙ යනවා, ඔක්කෝම කරලා විභාග ලියනවා. ඒ නවයක්, ඒ දහයක් එනවා. විෂයන් නවයක් නම් ඒ නවයක්, විෂයන් දහයක් නම් ඒ දහයක්. ආපු ගමන් හිනාවෙනවා. අවුරුදු එකොළහක දුක අමතක වෙලා රිසාල්ට් එක නැමැති සතුට උපදිනවා. දුක් කරදර තුළින් සුලු සතුටක් ලබනවා. ඊටපස්සෙ ආයෙ අවුරුදු තුනක් දැන් උසස් පෙළට ගාටනවා. පන්තිවලට අම්මෝ ළමයි කීයටද නැගිටින්නෙ, කොච්චර ලියනවාද, කොච්චර බලනවාද, කොච්චර පන්ති උදේ ඉදලා හැන්දෑ වෙනකල් පොඩි බංකු කෑල්ලෙ ඉදගෙන ඉන්නවානෙ. එහෙම ඉදලා ඉදලා අම්මා තාත්තට තුරුල් වෙලා ඉන්න

දරුවන්ට වෙලාවක් නෑ. එහෙම දුක් විඳලා දුක් විඳලා සමහර ළමයින්ට කන්න නෑ, ගැස්ට්‍රයිටිස්, පාඩම් කරලා ගැස්ට්‍රයිටිස්. බඩ පපුව දනවා. කල්පනා කරලා ස්ට්‍රෙස් එනවා. එහෙම වෙලාවට රිසල්ට් එක එනවා. එහෙම වුනාට පස්සෙ රිසල්ට් එක එනවා. ඒ තුනයි. හිනාවෙනවා. අර අවුරුදු තුනක දුක. දුක් කරදර තුලින් සුලු සතුටක් ලබනවා. ඊටපස්සෙ කැම්පස් එකට ගිහිල්ලා පොල් මිරිකපු සම්බල් එක කකා පොඩි හොද්දක් කකා අම්මගෙන් තාත්තගෙන් ලැබෙන කෑම, අර අම්ම උයන කෑම බත් කටක රහ, ඒ කෑම වේල් දාහක නෑ අම්මගේ එක බත් කටක රහ. ඔක්කෝම විඳලා අවසාන වෙච්චි ගමන් උපාධිය හම්බවෙලා හිනාවෙනවා. දුක් කරදර තුලින් සුලු සතුටක් ලබනවා. ආයෙ මං වැඩිය විස්තර කරන්න ඕන නෑ පින්වතුනි. ඕවා ටික තමයි සංසාරෙ දිගටම යන්නෙ. ඊටපස්සෙ කෙල්ලෙක් ගෙදරින් පැනලා ගියාට පස්සෙ දුක් විඳ විඳා අඬ අඬා ඉඳලා ආයෙ පැටියෙක් එක්ක ගෙදර ආව ගමන් අනේ මුණුබුරා කියලා හිනාවෙනවා. දරුවො බලන්නෑ මෙහෙම බලන්නෑ අනේ කියලා ඊළඟට වයසක උන්දලා මුණුබුරෝ ටික ළඟ තිබ්බ ගමන් හිනාවෙනවා. උදේ ඉඳලා දුක් විඳලා විඳලා හැන්දෑවෙලා ටීවී එක දාලා නාට්ටියක් බලපු ගමන් හිනාවෙනවා. දුක් කරදර තුලින් සුලු සතුටක් ලබනවා. ඒ නිසා අවිද්‍යාවෙන් වැහුනා, තණ්හාවෙන් බැඳුනා. පුලුවන්නම් මේ ධර්මය තේරුම් ගන්න. පින් පව් ගැනත් කියලා දුන්නා. මේක අනිත්‍යයි කියලත් කියලා දුන්නා. මේවා වෙනස් වෙනවා කියලත් කියලා දුන්නා. ඉතින් ඒ නිසා පින්වතුනි බුදුරජාණන් වහන්සේ යම්කිසි කෙනෙකුට අනුකම්පා කරනවා නම් ඒ අනුකම්පාවෙන් බුදු කෙනෙක් දේශනා කරන්න ඕන ධර්මය බුදුරජාණන් වහන්සේ වදාළා. ඉතින් ඒ නිසා ඔබ භාග්‍යවන්තයි, වාසනාවන්තයි. මොහොතක්වත් අනිත්‍යය කියලා මේ ලෝකෙ ව්‍යසන දැකලා කල්පනා කරන්න. මොකටද මේවා කියලා හිතන්න. මේ මහපොළොව බදාගෙන ඉන්න එපා. මේ ගෙවල් බදාගෙන ඉන්න එපා. දරුමල්ලො බදාගෙන ඉන්න එපා. යනලෝකෙට ප්‍රඥාවක් අරගෙන යන්න. යන ලෝකෙට පින්වතුනි ප්‍රඥාවක් අරගෙන යන්න. ඒ ප්‍රඥාව තමයි සත්‍යය අවබෝධය. ඇත්ත අවබෝධ වීම. අනිත්‍යයි කියලා තේරුම් ගන්න එක, වෙනස් වෙනවා කියලා තේරුම් ගන්න එක. තෘෂ්ණාව අත්හරින එක. මම මගේ කියන හැඟීම අත්හරින එක. සත්පුරුෂයන් ඇසුරු කරන එක. තථාගත ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන එක. ඔබ කොච්චර වාසනාවන්තයිද, මේ ඛුද්දක නිකායේ පේතවත්ථු විමානවත්ථු ඒ උතුම් සද්ධර්මය ඔබ ශ්‍රවණය කලානෙ. මේක සුලුපටු ලාභයක්ද පින්වතුනි. මිහිඳු මහරහතන් වහන්සේගේ සුන්දර නිකෙලෙස් හද මඬලෙ නේද මේ ඛුද්දක

නිකායෙ ජේතවත්ථු පාලිය දරාගෙන ආවෙ. ඒ ධර්මය ඔබ ඇහුවානෙ. කොච්චර වාසනාවක්ද, කොච්චර පිනක්ද. අනේ පින්වතුනි තිසරණය රැකගන්න. පඤ්චසීලය රැකගන්න. ඔය තිසරණයයි පඤ්චසීලයයි පුදුම යහපතක් කරනවා ඔබට. ඊටපස්සෙ සත්පුරුෂ ඇසුරෙන් නිතර ධර්මය අහගෙන ඉන්න. තරහ එන එක ඉවසන්න. තරහව දුරු කරන්න. රාගය එන එක ඉවසන්න, නොමනා කටයුතු වෙන්න දෙන්නැතිව. ඊටපස්සෙ මෝඩකම් දුරලන්න, තථාගත ශ්‍රී සද්ධර්මය ඉගෙනගෙන. ඉතින් ඒ නිසා පින්වතුනි අපිට උතුම් සත්පුරුෂයන් වහන්සේ නමක් ලැබුනා. පින්වත්නි අපේ ලොකු ස්වාමීන් වහන්සේ පහළ නොවුනා නම් අපි ඉවරයි. ලොකු ස්වාමීන් වහන්සේ විඳපු දුක් කන්දරාව කෙළවරක් නෑ. සේරුවිල පන්සලේ තමයි උන්වහන්සේ මහණ වුනේ. මහණ වෙච්ච කාලෙ ලයිට් නෑ පින්වතුනි. මදුරු දැල් නෑ පින්වතුනි. සේරුවිල කියන්නෙ තනිකර මදුරුවො. ඊටපස්සෙ මදුරුවො කකා ෆෑන් නෑ, මදුරුවො කකා දාඩිය දදා පොඩි නින්දක් සහිතව පොඩි හාමුදුරුවො ගත කළේ. ඊටපස්සෙ එහෙ කනකොට පොඩ්ඩක් ඔය කැකිරියි සම්බෝලයි ඕවා තමයි එහෙ තියෙන කෑම. ඉතින් ඒවා කකා තියෙන පොතක් පතක් බලාගෙන උන්වහන්සේ රෑ වැඳගෙන හිටියෙ. ඊටපස්සෙ අනන්ත දුක් වින්දා. දුක් විඳලා විඳලා ඊටපස්සෙ ඉගෙන ගෙන කොටි කලබල කාලෙ ගස් උඩ ඉඳලා, ලඳු කැලෑ වල ඉඳලා ජීවිතේ බේරගත්තෙ. එහෙම ඉඳලා තමයි විශ්වවිද්‍යාල අධ්‍යාපනය කරන කාලෙ කොළඹට ඇවිල්ලා සමහර කොළඹ විහාර වල ඉඳලා තියෙන්න පිළිකන්නෙ. ඇතුලට අරගෙනත් නෑ මේවගේ ඉඩ නෑ කියලා. අවුරුදු තුනක් පිළිකන්නෙ පුංචි ලැල්ලක ඉඳලා තියෙනවා ලොකු ස්වාමීන් වහන්සේ. ඉතින් ලොකු ස්වාමීන් වහන්සේ එහෙම ඉන්නවා දැකපු හාමුදුරුවරු අපිට කිව්වා ඔබ වහන්සේලාගේ ගුරු හාමුදුරුවො දැන් ඔහොම හිටියට අවුරුදු මෙච්චර කාලෙකට කලින් පිළිකන්නෙ හිටියා, එච්චර දුක් වින්දා කියලා. ඊටපස්සෙ තමයි කැම්පස් යනකාලේ උන්වහන්සේ මේ ත්‍රිපිටක පොතක් දැකලා කියවලා, හොය හොයා ලංකාවෙ හැමතැනම ත්‍රිපිටක පොත් නෑ එතකොට, තියෙන කෙනෙක් දෙන්නෙත් නෑ, පොත් ප්‍රදර්ශන වල කාවො කාලා විසික්කා කරලා තියෙනවා. ඒ කොල එකතු කරලා කරලා හදපු අදටත් පොල්ගහවෙල තියෙනවා. පොත් නැතිව ඒවගෙන් ෆොටෝකොපි කරලා හදපු පොත් අදටත් පොල්ගහවෙල තියෙනවා. උන්වහන්සේ ත්‍රිපිටක පොත් ටික හොයාගත්තෙ එහෙම. ඒවා කියවලා කියවලා විවේකෙන් බණ භාවනා කරන්න කියලා කැම්පස් එකේ සියලු සහතික ටික ඉරලා දාලා උන්වහන්සේ ඉන්පස්සේ

ආරණ්‍යයක් ආරණ්‍යයක් ගානෙ ගියා. ඊටපස්සෙ මේක මෙහෙ කරගන්න අමාරුයි කියලා උන්වහන්සේ හිමාලයට ගියා. හිමාලෙට ගිහිල්ලා උන්වහන්සේ ඔක්කොම අයින් කරලා කොටි වළස්සු සිංහයො ඉන්න වනයකට යනකොට දෙවි කෙනෙක්ගේ මාර්ගයෙන් තමයි ගමන වළක්වලා හීනෙන් පෙන්නුම් කලේ මෙහෙ එන්න එපා යන්න ලංකාවට කියලා. ඒ දෙවි කෙනෙක් අපේ වාසනාවකට, ලොකු ස්වාමීන් වහන්සේටත් වැඩිය අපේ වාසනාවකට ඒ දෙවියා පෙනී හිටියේ. ඊටපස්සෙ ලොකු ස්වාමීන් වහන්සේ ලංකාවට ඇවිල්ලා ඒත් සිරීපාද කැලේ ආයෙ මං මනුස්ස ආශ්‍රයක් නෑ, කොළ කාලා ජීවත් වෙනවා කියලා යන්න හදනකොට යන යන පාර වැහෙනවලු. ඒකත් අපේ වාසනාවට. ඊටපස්සෙ තමයි කොළඹට ඇවිල්ලා ධර්මය දේශනා කරන්න ගත්තෙ. අපි දැන් මේ ලක්ෂ සංඛ්‍යාත පිරිසකට බණ කිව්වට ලොකු ස්වාමීන් වහන්සේ ඉස්සෙල්ලාම බණ කිව්වෙ හතර නමකට. හතර දෙනෙකුට. ඒ කාලෙ ටීවී නෑ, බෆල් නෑ, මොකක්වත් නෑ, අපි දැන් මේ වාගේ සුන්දර මණ්ඩප වල බණ කිව්වට උන්වහන්සේ අනිත් අයගෙන් බැණුම් අහ අහා තමයි උන්වහන්සේ පොඩි ටකරන් මඩුවක බණ කිව්වෙ. ඊටපස්සෙ මෙහෙ බණ කියනකොට අහරෙන් ටකරන් වලට ගල් ගහනවලු. ඊළඟට ළඟ සද්දෙට කෑ ගහනවා. ඇයි මේ බණ නතර කරන්න. බැරිම තැන තමයි පොල්ගහවෙල ගිහිල්ලා පොඩි පොල් අතු පැලවල් පහක පොඩි ආරාමයක් හදාගත්තෙ. බිමට ඉටිරෙදි දැම්මෙ වටේට ඉටිරෙදි ගහගත්තෙ. එහෙමවත් කරගන්න විදියක් නෑ. ඊටපස්සෙ උන්වහන්සේ ළඟ ගෙදරකින් වතුර ඉල්ලලා හා හාමුදුරුවනේ ගන්න කියලා. පහුවදා යනකොට ඒ පාරට කටුකම්බි ගහලා. ඊටපස්සෙ උන්වහන්සේ කැලේ ඇවිදලා ඇවිදලා යනකොට වතුර උල්පතක් හොයාගෙන. ඒ වතුර උල්පතෙන් තමයි අද ලක්ෂ සංඛ්‍යාත පිරිසක් පොල්ගහවෙල වතුර බොන්නෙ. ඊටපස්සෙ උන්වහන්සේට පැන් පහසු වෙනකොට තව හිටපු ස්වාමීන් වහන්සේ නමක් හෝස් බටය අල්ලගෙන ඉන්නවා උන්වහන්සේ පැන්පහසු වෙනවා. ඒ හාමුදුරුවෝ පැන් පහසු වෙනකල් ලොකු ස්වාමීන් වහන්සේ හෝස් බටය අල්ලගෙන ඉන්නවා. එහෙම අතීතයක් තියෙන්නෙ. මිනිස්සු හිතන්නෙ මේවා ආකාසෙන් පහළ වුනා කියලා. ඊටපස්සෙ පොල්ගහවෙල ඉඳලා උන්වහන්සේ අලව්වට යන්නෙ පාගමනින්. උන්වහන්සේ පයින් ගිය පාරවල් දැන් කාපට් වෙලා. ඉතින් ඒ නිසා ඔය වාගේ දේවල් තියෙනවා. ගෝලයෝ ටික හදාගෙන මුලු ලංකාවෙම ධර්ම දේශනා කරලා පිටරටත් ධර්ම දේශනා කරලා ආයතනත් හදාගෙන සූත්‍ර කියලා දීලා කටපාඩම් කරවලා ත්‍රිපිටක පොතුත් ලියලා මේ

ආයතනත් ඔක්කෝම ටික කරගෙන පොතුත් පරිවර්තනය කලා කියන්නෙ ආශ්චර්යයි පින්වතුනි, අද්භූතයි. ඒ උත්තමයන් වහන්සේලා බොහෝ කාලයක් ජීවත් වෙන්න ඕන. සක්දෙව්දුගෙ ලෝකෙ සක්දෙව්දු බුදුවරු ගැන කතා කරනකොට අනිත් දෙව්වරු කිව්වා ඔය වාගේ උත්තමයො හතර දෙනෙක් හිටියා නම් හොඳයි නේද ලෝකෙට කියලා. තව එක්කෙනෙක් කීවා, නෑ ඔය වගේ දෙන්නෙක් හිටියොත් හොඳයි. තව එක්කෙනෙක් කියනවා, තුන්දෙනෙක්. සක්දෙව්දු කිව්වා නෑ එක ලෝක ධාතුවකට එක්කෙනයි පහළ වෙන්නෙ. ඒ නිසා පින්වත් දෙව්වරුනි නුඹලා නිතර ප්‍රාර්ථනා කරන්න ඒ තථාගත බුදුරජාණන් වහන්සේ නිදුක් නිරෝගීව දීර්ඝායුෂ ලබත්වා බොහෝ කලක් වැඩ සිටිත්වා කියලා. මමත් පින්වතුනි නුඹලාට එහෙමයි කියන්නෙ. මේ වාගේ උතුම් සත්පුරුෂයො හැම තැනම පහළ වෙන්නෑ. ලෝකෙට උතුම් අය එකයි. ඒ නිසා අපි සියලුදෙනාම නිතර සිහි කරන්න ඕන මේ උත්තමයන් වහන්සේලා නිදුක් නිරෝගීව දීර්ඝායුෂ ලබන්න ඕන, බොහෝ කාලයක් වැඩි සිටින්න ඕන කියලා. ඒ උන්වහන්සේලාගේ ඒ කරුණාව නිසා නේද, මම හිතලා මෙහෙම කරනවා කියලා මේ ධර්ම දේශනාව කරන්න මම තීරණය කලේ නෑ, ලොකු ස්වාමීන් වහන්සේයි කිව්වෙ මිනිස්සුන්ට පින් පව් ගැන කියලා දෙන්න, මේ මිනිස්සුන්ට යහපත ඇති කරවන්න. උන්වහන්සේම මේවට නම් දාලා මේ නමින් කරගෙන යන්න. පුදුම සහගතයි. තමන් දුක සේ හදාගත්තා වූ මේ දහම් ප්‍රචාරක වැඩපිළිවෙලට ශිෂ්‍යයන් යොමුකර කර ලෝකයට ධර්මය දෙන්නෙ අව්‍යාජ සිතකින්. ඊර්ෂ්‍යා නැති සිතකින්. ඒ නිසා පින්වතුනි බොහෝ අයගෙ ගුණ කියවෙන්නෙ ඒ අය නැතිවුනාට පස්සෙ. ධර්මපාලතුමා ඉන්නකල් මරාගන්න හැදුවා. දැන් උපහාර තියනවා, පිළිම හදනවා. ඔය වගේ සෝම හාමුදුරුවෝ ඉන්නකල් බැන බැන හිටියා. දැන් උපහාර තියනවා. අරියධම්ම හාමුදුරුවො ඉන්නකල් බැන බැන හිටියා, දැන් උපහාර තියනවා. ඉතින් ඒ නිසා දැන් ගොඩාක්, පානදුරේ අරියධම්ම ස්වාමීන් වහන්සේගේ බෝධි පූජාවට මිනිස්සු ඒ කාලෙ ගැරහුවා. ඒ නිසා බලන්න නැති කාලෙක හැම කඩේකම ඇහෙනවා. ඒ නිසා නිකං පුහු වැඩ ඕන නෑ පින්වතුනි. ඉන්න කාලෙ තමන්ගේ මුළු හදවතින්ම අවංකවම සත් පුරුෂයන්ට පැහැදිලා අනේ මේ උත්තමයන් වහන්සේලාට දීර්ඝායුෂ ලැබේවා කියලාවත් මනසිකාර කරගන්න ලැබුනොත් කොයිතරම් වාසනාවක්ද. අපි සත්පුරුෂයන්ගේ පැවැත්ම ලෝකෙ කැමති වුනොත්, අපිට කොච්චර සැනසිල්ලක්ද. සසර ගමනට උපකාරී වෙනවා. සත්පුරුෂයෝ යම් තැනක නම් අපේ උපත එතැන වේවා පින්වත්නි. සත්පුරුෂයො නැති තැනක

අපේ ජීවිතයක් ඕන නෑ. සත්පුරුෂයෝ යම් තැනකද මාගේ උපත එතැන වේවා. නිරන්තරයෙන්ම නිවන් දකිනා මොහොත දක්වා සත්පුරුෂයෝ ඇසුරු කරන්න ලැබේවා. නිවන්දකිනා මොහොත දක්වා සත්පුරුෂයන්ගේ හඬම ඇසේවා. නිවන්දකිනා මොහොත දක්වා සත්පුරුෂයන්ට දමනය වෙන්න ලැබේවා. ඒවා තමයි උත්තරීතර ප්‍රාර්ථනා. ඉතින් ඒ නිසා මම ඔච්චර විස්තරයක් කිව්වෙ අද මේ උතුම් දහම් වැඩසටහනේ අවසන් දවස නිසා. ඉතින් අපි දැන් මාස ගණනාවක් පුරාවට මේ තථාගත ශ්‍රී සද්ධර්මය ඔය විදියට නොකඩවා ශ්‍රවණය කලා. ඔබද පින් කරගත්තා. මමද පින් කරගත්තා. මේ සියලූම පින් බලයෙන් අපිට ඒකාන්තයෙන් සසර දුකින් නිදහස් වීමේ වාසනාව ලැබේවා. සාදූ සාදූ සාදූ!!!

ඉතින් පින්වතුනි අද මේ උතුම් දහම් වැඩසටහන දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර මහමෙව්නා භාවනා අසපුවේ සාමාජිකාවක් වන පින්වත් කරුණා කුමාරිගේ මහත්මිය තමයි මේ වැඩසටහනට දායකත්වය දැරුවේ. එතුමිය තමයි අද මේ දහම් වැඩසටහන අවසන් කරන කටයුත්තේ පුණ්‍ය හිමිකාරිය බවට පත්වෙන්නෙ. ඉතින් සියලූම පින් බලයෙන් අපි සෙත් ප්‍රාර්ථනා කරමු පින්වතුනි දැන් මේ වෙනකොට දිවැසින් දුටු බියකරු සසර අපි දහම් වැඩසටහන් තිස්පහක් කලා. ඒ වගේම දිවැසින් දුටු දෙව්ලොව සැප දහම් වැඩසටහන් අපි විස්සක් කලා. එතකොට ධර්ම දේශනා පනස් පහක්. ඒ ධර්ම දේශනා පනස්පහ තුලම තථාගත ශ්‍රී සද්ධර්මය කතාවුනේ. පේතවත්ථු විමානවත්ථු සම්පූර්ණයෙන්ම අටුවා සහිතව අවශේෂ සූත්‍ර සහිතව කතාබහ කලා. ඉතින් ඒ කොච්චර වාසනාවනක්ද, කොච්චර පිරිසිදු දහමක්ද අපි කතා කලේ. අපිට කොයිතරම් නම් පින් රැස් වුනාද ඔබටත් අපිටත් කාටත්. ඉතින් ඒ සියලු පින් බලයෙන් ඒකාන්තයෙන් සත්පුරුෂ අදහසින් වෙනත් අරමුණු නැතිව යහපත් අදහසින් මේ ධර්ම ප්‍රචාරක කටයුතු අපි සිදු කලේ. ඉතින් ඒ පින් බලෙන් ඒ සත්‍යානුභාව බලයෙන් මේ ලෝකයේ ව්‍යසන දුරින්ම දුරු වේවා. බුද්ධානුභාවයෙන්, ධම්මානුභාවයෙන්, සංඝානුභාවයෙන්, රුවන්වැලිමහාසෑයේ ආනුභාවයෙන්, ජයශ්‍රීමහා බෝ සමිඳුගේ ආනුභාවයෙන්, දළදා වහන්සේගේ ආනුභාවයෙන්, ශ්‍රී පාද පද්මයේ ආනුභාවයෙන්, මියුගුණ සෑයේ සිළුමිණි සෑයේ ආනුභාවයෙන්, කිරිවෙහෙරේ ආනුභාවයෙන්, සියලූම ආනුභාව ශක්තියෙන් ඒ වාගේම පින්වතුනි නවලෝකෝත්තර ශ්‍රී සද්ධර්මයේ ආනුභාව බලයෙන්, තථාගත ශ්‍රී සද්ධර්මය කිව්ව ආනුභාවයේ බලයෙන්, අංගුලිමාල මහරහතන් වහන්සේගේ

තේජානුභාව බලයෙන්, බක්කුල මහරහතන් වහන්සේගේ නිරෝගී බවේ තේජානුභාව බලයෙන් මේ ලෝකය සුවපත් වේවා, සුවපත් වේවා. මේ ව්‍යසන දුරින්ම දුරු වෙලා මේ මනුස්ස වර්ගයාට යහපත සැලසේවා. ආරක්ෂාව සැලසේවා. පින් දහම් කුසල් දහම් කරන්න බුදු සසුනේ පිහිට ලබාගන්න අවස්ථාව සැලසේවා. සියලු දෙනාට සියලු යහපත සැලසේවා, ලොවට යහපත සැලසේවා, සෙත් වේවා, සුඛී දීඝායුකෝ භව කියලා අපි ලෝකෙට සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු යහපත සැලසේවා. ඒ වගේම පින්වතුනි රැස් කරගන්නට යෙදුනා වූ සියලූම පින්, පින් කැමැති සියලු දෙවියන්ට අනුමෝදන් කරමු. සක්දෙවිඳුන්ට, ඒ වගේම දතරාෂ්ට්‍ර, විරූඪ, විරූපාක්ෂ, වෛශ්‍රමණ කියන සතරවරම් සිව්මහාරජ දරුවන්ට පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම විස්කම් දෙව්පුතුට, මාතලී දෙව්පුතුට ඒ වගේම ඉන්ද සෝම වරුණෝව ආදී සෙන්පති දෙවිවරුන්ට, ආලවක දිව්‍ය රාජයාට, ඒ වගේම කතරගම, සමන් ආදී ලක්වැසි සියලු දෙවිවරුන්ට, ඒ වගේම ඉෂ්ටකාමී දෙවිවරුන්ට පින් අනුමෝදන් වේවා. ලෝක පාලක දෙවිවරුන්ට පින් අනුමෝදන් වේවා. සියලු ඒ වාගේම සත්පුරුෂ සියලු දෙවිවරුන්ට, අපිව ආරක්ෂා කරන දෙවිවරුන්ට, පින්සිදු වේවා. ඒ සියලූම දෙවිවරු මේ උතුම් සත්කාර්යය මේ උතුම් ධර්ම වැඩපිළිවෙලේ, මේ ධර්ම ප්‍රචාරක කටයුතු වල, මේ ඇසූ ධර්මයේ පින් බලය අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා. ඒ දෙවිවරු මේ සියලු දෙනා ආරක්ෂාකරත්වා. පරමපූජනීය ගුරු දෙවිඳුන් ඇතුළු සඟරුවන ආරක්ෂා කරත්වා. මේ උපාසක උපාසිකාවො ආරක්ෂා කරත්වා. දෙවියෝ සතුටින් පින් අනුමෝදන් වෙත්වා. සාදු සාදු සාදු!!! ඒ වාගේම මියපරලොව ගිය ඥාතීන්ට අනුමෝදන් වේවා, පින්වත් කරුණා කුමාරගේ නමින් මියගිය දෙමව්පියන් ඇතුලු සියලු ඥාතීන්ට පින් අනුමෝදන් වේවා, ඔබ කවුරුත් නමින් අපගේ පවුල්වල අපගේ ඥාතීන්, ඔබ කාගේත් ඥාතීන්, මියගිය ඥාතීන් මේ පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා. ඒ වගේම පින්වතුනි මා මුලින් සඳහන් කලා වගේ අවසානෙට සඳහන් කලා වගේ මේ සියලූම ලාභය ලැබුනේ ඇත්තටම ඉස්සෙල්ලාම ශ්‍රද්ධාව ඇතිවුනේ ලොකු ස්වාමීන් වහන්සේට. උන්වහන්සේයි අප තුල ශ්‍රද්ධාව ඇතිකලේ. ලොකු ස්වාමීන් වහන්සේයි ඉස්සෙල්ලාම ධර්මය කියෙව්වෙ. ඒ නිසයි අපිට කියවන්න ලැබුනේ. ලොකු ස්වාමීන් වහන්සේයි පරිවර්තනය කලේ. ඒ නිසයි අපිට සරලව කියන්නෙ. ඒ නිසා මේ සෑම දෙයකම මූලික වුන අපගේ පරම පූජනීය ගුරුමුනිඳුන් ඒකාන්තයෙන් මේ පින් බලයෙන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා,

දීර්ඝායුෂම ලබත්වා. බොහෝ කලක් අපි අතර වැඩ සිටිත්වා. මේ පින් බලයෙන් නිවනින්ම සැනසෙත්වා. සාදු සාදු සාදූ!!! ඒ වගේම ගරුතර මහා සංඝරත්නයට, අපගේ අල්දෙණියේ සුබෝධි පින්වත් ස්වාමීන් වහන්සේ ඇතුලු ඒ කටයුතු සොයාබලන සියලු ස්වාමීන් වහන්සේලාට පින් අනුමෝදන් වේවා. ඒ වගේම මේ කටයුතු කරද්දි අපිට මේ දහම් වැඩසටහන් පහසුවෙන් කරන්න ඇප උපස්ථාන කල ධර්මය හොයලා දිලා උදව් උපකාර කල ඒ වගේම මේ දහම් කරුණු ගොනු කරගැනීමේදී උපකාර කල සියලු සබ්‍රහ්මචාරී ස්වාමීන් වහන්සේලාට පින් අනුමෝදන් වේවා. සකලලෝක සඝරුවනට පින් අනුමෝදන් වේවා. අනගාරිකා මෑණිවරුන්ට පින් අනුමෝදන් වේවා. සකලලෝකවාසී සිල්මාතාවරු මේ පින් අනුමෝදන් වේවා. පැවිදි වීමට කැමැත්තෙන් සිටින දූවරුන්ට, පුතාලට පින් අනුමෝදන් වේවා. ඒ සියලු දෙනා ගෞතම සසුනේ මේ දුක් විඳින සංසාරෙන් නිදහස් වෙත්වා. සාදු සාදු සාදූ!!! ඒ වගේම රැස් කරගන්නට යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අද දවසේ මේ ධර්ම දායකත්වය සලසන ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර මහමෙව්නා භාවනා අසපුවේ සාමාජිකාවක් වන පින්වත් කරුණා කුමාරගේ මෑණියන්ටත්, ඒ වගේම එතුමියගේ පවුලේ දූපුතුන්ට, සියලු ඥාතීන්ටත්, ඒ වගේම විශේෂයෙන් මත්තනගොඩ අරියරතන ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ පිණිසත් උතුම් ධර්මාවබෝධය පිණිසත් මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම මහමෙව්නා අසපු සංචිතයට ඇප උපකාර කරන සියලු දෙනාට පින්සිදු වේවා. ඉතින් මේ ධර්ම දාන මෙතෙක් ධර්ම දාන දැක්වූ සියලු දෙනාටත්, ඒ වගේම මේ වැඩසටහන වෙනකොට මේ වැඩසටහන් එක දිගට ක්‍රියාත්මක වෙච්චි නිසා බොහෝ පිරිසක් ධර්ම දායකත්වය පිණිස ඉදිරිපත් වෙලා ශ්‍රද්ධා රූපවාහිනියට දැනුම් දීලා තියෙනවා බොහෝ පිරිසක් අපිත් මේ ධර්ම දානය දෙන්න ඕන කියලා. ඉතින් ඒ පින්වතුන් සියලුදෙනාම මේ පින් සතුටින් අනුමෝදන් වෙන්න. අපි ඉදිරියට අපිට ශක්ති පමණින් විවේකය තියෙන විදියට අපි හෝ වෙනත් ස්වාමීන් වහන්සේලා හෝ දහම් වැඩසටහන් කරනවා. එයට ඔබට ශක්ති පමණින් ඒ ධර්ම දායකත්ව දරන්න පුලුවන්. ඉතින් නොමසුරුව ශ්‍රද්ධාවෙන් සසර දුකින් නිදහස් වෙන්න කැමති සැප කැමති සියලු දෙනා ධර්ම දාන පැවැත්වූවා. ඒ ධර්ම දාන පැවැත්වූ සියලු දෙනාට බලාපොරොත්තු වුන සියලු දෙනාට, ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ දායකත්ව පැවැත්වූ සියලු දෙනාට, මාධ්‍යය පවත්වාගෙන යන සියලු දෙනාට පින් සිදු වේවා. මාව බුද්ධ ශාසනයට පූජාකල මගේ අම්මාට තාත්තාට පවුලේ සියලු දෙනාට අපමණ පින් සිදු වේවා. නිදුක් නිරෝගී සුව, දහමේ පිහිට

